THE

# NEW TESTAMENT

OF

# OUR LORD AND SAVIOUR

# JESUS CHRIST.

TRANSLATED INTO SINGHALESE, AND PRINTED UNDER THE DIRECTION OF THE COLOMBO AUXILIARY BIBLE SOCIETY.

---

අපගේ ගැලවුන්කාර ස්වාමිවූ

# යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ අළුත් ගිවිසුමය.

කොළඹ බයිබල් සමාගම වෙනුවෙන්

සිංහල භාෂාවට පිටපත්කොට අච්චුගසනලදී.

---

**Colombo:**

PRINTED AT THE WESLEYAN MISSION PRESS.

1860

# මතෙවු විසින් ලියනලද

# සුභාරචිය

1. පරිච්ඡෙදය. අබ්‍රහම්ගේ පුත් දා
විත්ගේ පුත්වූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ පරම්පරාවේ පොතය.
2 අබ්‍රහම්ට දාව ඊසාක් උපන්නේය ඊ
සාක්ට දාව යාකොබ් උපන්නේය යා
කොබ්ට දාව යූදස්ද ඔහුගේ සහෝදර
3 යෝද උපන්නෝය. යූදස්ට දාව පාරෙස්ද
සාරද තාමර්ගෙන් උපන්නෝය පාරෙස්ට
දාව එස්‍රොම් උපන්නේය එස්‍රොම්ට දාව අ
4 රම් උපන්නේය. අරම්ට දාව අමිනාදබ් උ
පන්නේය අමිනාදබ්ට දාව නාස්සොන් උ
පන්නේය නාස්සොන්ට දාව සල්මොන්
5 උපන්නේය. සල්මොන්ට දාව බෝවස්
රකබ්ගෙන් උපන්නේය බෝවස්ට දාව
ඕබැත් රූත්ගෙන් උපන්නේය ඕබැත්ට
දාව යෙස්සේ උපන්නේය යෙස්සේට දා
ව දාවිත් රජ උපන්නේය.
6 දාවිත් රජුට දාව පළමුවෙන් ඌරියස්ට
භාර්යාව සිටියාවූ ස්ත්‍රීගෙන් සාලමොන්
7 උපන්නේය. සාලමොන්ට දාව රෙහබෝ
වම් උපන්නේය රෙහබෝවම්ට දාව අබි
යා උපන්නේය අබියාට දාව ආසා උප
8 න්නේය. ආසාට දාව යෝසාපත් උපන්
නේය යෝසාපත්ට දාව යෝරම් උපන්
නේය. යෝරම්ට දාව ඔසියස් උපන්නේ
9 ය. ඔසියස්ට දාව යොවාතම් උපන්නේය
යොවාතම්ට දාව ආබස් උපන්නේය ආ
10 බස්ට දාව එසෙකියස් උපන්නේය. එ
සෙකියස්ට දාව මනස්සෙස් උපන්නේය
මනස්සෙස්ට දාව ආමොන් උපන්නේය
11 ආමොන්ට දාව යෝසියස් උපන්නේය. බ
බිලෝනියට යන අතර යෝසියස්ට දාව
යෙබෝනියස්ද ඔහුගේ සහෝදරයෝද
උපන්නෝය.
12 බබිලෝනියට ගිය පසු යෙබෝනියස්
ට දාව සලාතියෙල් උපන්නේය සලාති
යෙල්ට දාව සොරොබාබල් උපන්නේය.
13 සොරොබාබල්ට දාව අබියුත් උපන්නේ
ය අබියුත්ට දාව එලියාකිම් උපන්නේ
ය එලියාකිම්ට දාව ආසෝර් උපන්නේ
14 ය. ආසෝර්ට දාව සදොක් උපන්නේය
සදොක්ට දාව ආකිම් උපන්නේය ආකිම්ට
15 දාව එලියුත් උපන්නේය. එලියුත්ට දාව
එලෙයාසර් උපන්නේය එලෙයාසර්ට දා
ව මත්තාන් උපන්නේය මත්තාන්ට දාව යා
16 කොබ් උපන්නේය. යාකොබ්ට දාව යෝ
සැප් උපන්නේය. යෝසැප්ද මරියාගේ
ස්වාමිපුරුෂ වූයේය. මරියාගෙන් ක්‍රිස්
තුස් නම්වූ යේසුස්වහන්සේ උපන්සේක.
17 මෙසේ අබ්‍රහම් පටන් දාවිත් දක්වා සිය
ළු පරම්පරා දහසතරෙක. දාවිත් පටන්
බබිලෝනියට ගෙනයාම දක්වා පරම්ප
රා දහසතරෙක. බබිලෝනියට ගෙන
යාමෙහි පටන් ක්‍රිස්තුස්වහන්සේ දක්වා
පරම්පරා දහසතරෙක.
18 යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ උත්පත්
තිය මෙසේ විය. උන්වහන්සේගේ මව්වූ
මරියා යෝසැප්ට විවාහ බස් දී සිටින අ
තර ඔවුන්ගේ සංවාසයට පළමුවෙන් ශු
ද්ධාත්මය කරණකොටගෙන ගර්භිනී වූ
19 වාය. එකල ඇගේ ස්වාමි පුරුෂවූ යෝ
සැප් ධර්මිෂ්ඨයෙක් බැවින් ඈ නින්දාවට
පමුණුවන්ට නොකමැතිව රහසින් හ
20 රින්ට සිතුයේය. ඔහු මෙසේ සිතූ කල්හි
ස්වාමින්වහන්සේගේ දූතයෙක් ස්වප්න
යෙන් ඔහුට පෙනී දාවිත්ගේ පුත්‍රවූ යෝ
සැප් තාගේ භාර්යාවූ මරියා පාවාගන්ට
භය නොවව මක්නිසාද ඇගේ ගර්භ
යෙහි පිළිසිඳගත් යමක් ඇද්ද ඒකා ශු
21 ද්ධාත්මය කරණකොටගෙනය. ඇද පුත්‍ර
යකු වදන්නීය උන්වහන්සේ තමන්ගේ
සෙනග ඔවුන්ගේ පාපවලින් ගලවන
හෙයින් උන්වහන්සේට යේසුස් යන නා
22 මය තබවයි කීයේය. ස්වාමින්වහන්සේ අ
නාගතවක්තෲහු ලවා කියවනලද කාර
ණාව සම්පූර්ණවෙන පිණිස මේ සියල්ල
23 සිදුවූයේය. ඔහුද කන්‍යාවක් ගර්භි
නීව පුත්‍රයෙක් වදන්නීය උන්වහන්සේ
ට එම්මානුවෙල් යන නාමය තබතිසි කී
යේය. එහි අර්ථය නම් දෙවියන්වහන්සේ

24 අපහා සමගය. එවිට යෝසැප් නින්දෙන්
පිබිද ස්වාමින්වහන්සේගේ දූතයා තමාට
කී ලෙසම තමාගේ භාර්‍යාව පාවාගත්
25 තේය. එහෙත් ඈගේ කුළුඳුල්වූ පුත්‍රයා
වදනතුරු ඔහු ඈ නොහැඳිනෙත්ය. ත
වද උන්වහන්සේට යේසුස් යන නාමය
තැබිය.

2. පරිච්ජ. හෙරෙද්නම් රජහුගේ
කාලයෙහි යුදයේ බෙත්ලෙහෙම්හි යේ
සුස්වහන්සේ උපන්කල පූර්වදිසාවෙන්
2 ශාස්ත්‍රවන්තයෝ යෙරුසලමට ඇවිත් යු
දෙව්වරුන්ට රජව උපන් උන්වහන්සේ
කොතැන්හිද උන්වහන්සේගේ තාරුකා
ව පූර්ව දිසාවෙහිදී දැක උන්වහන්සේට න
3 මස්කාරකරණ පිනිස ආවෙමුයයි කීවෝ
ය. හෙරෙද් රජ ඒ ඇසූකල්හි ඔහුද යෙ
4 රුසලමේ සියල්ලෝද කැලඹුනෝය. එ
විට ඔහු සියළු නායක පූජකයන්ද සෙනග
ගේ ලියනනන්ද රැස්කරවා ක්‍රිස්තුස්වහන්
සේ කොතැන්හි උපදනේදැයි ඔවුන්
5 ගෙන් ඇසුයේය. ඔවුන් උත්තර දෙමින්
යුදයේ බෙත්ලෙහෙම්හිය කුමක්හෙයි
6 ද යුදයේ දේසයෙහිවූ බෙත්ලෙහෙම
මාගේ ඊශ්‍රායෙල් සෙනගට අධිපතිකම්
කරණ උත්තමයෙක් තී කෙරෙන් නික්
මෙන බැවින් තී යුදයේ උත්තමයන් අ
තරෙහි ඉතා කුඩා නොවන්නීයයි අනා
7 ගතවක්තෘහු විසින් ලියා තිබෙනේය
යි කීවෝය. එකල හෙරෙද් ශාස්ත්‍රවන්ත
යන් රහසින් කැඳවා තාරුකාව කොයි
වේලෙහි පෙනුනේදැයි හරියාකාර ඔ
8 වුන්ගෙන් අසාගෙන තුඹලා ගොස් ඒ බි
ළිඳු උත්සාහයෙන් සොයාපල්ලාය තුඹ
ලාට සම්භවූනාම මමත් ගොස් උන්වහන්
සේට නමස්කාර කරණ පිනිස මට දන්වා
9 පල්ලායයි කියා බෙත්ලෙහෙමට ඔවුන්
යවිය. ඔවුන් රජහුගේ බස් අසා පිටත්ව
ගියෝය. පූර්ව දිසාවෙහිදී ඔවුන් දුටු තාරු
කාව ඒ බිළිඳු විසූ තැන මුදුනට ඇවිත්
නවතිනාතුරු ඔවුන්ට පෙරටුව පෙරටුව
10 ගියේය. ඔවුන් ඒ තාරුකාව දැක බො
11 හෝසේ ප්‍රීති සන්තෝස වූවෝය. ඔවුන්
ගෙට වැද බිළිඳුත් උන්වහන්සේගේ මව්
වූ මරියාත් දැක බිමවැටී උන්වහන්සේට
නමස්කාරකොට තමන්ගේ කරඬු හැර
රන්ද කට්ටකුමංචල්ද සුවඳ ලාටුද යන මේ
12 පඬුරු උන්වහන්සේට පූජකලෝය. නව
ද හෙරෙද් වෙතට නැවත නොයන පි
නිස දෙවියන්වහන්සේ විසින් ස්වප්නය
කින් දන්වනු ලැබ ඔවුන් අන් මගකින් ත
මන් රටට ගියෝය.
13 ඔවුන් ගිය කල්හි ස්වාමින්වහන්සේ
ගේ දූතයා ස්වප්නයෙන් යෝසැප්ට පෙ
නී නැගිට බිළිඳු සහ උන්වහන්සේගේ
මෑනියන්ද කැඳවාගෙන මිසරනම් දේසය
ට පලා ගොස් මම තට දන්වන තෙක් එ
හිම සිටුව මක්නිසාද බිළිඳු නසන පිනිස
14 හෙරෙද් සොයනේයයි කීය. එවිට ඔහු
නැගිට රාත්‍රියෙහි බිළිඳු සහ උන්වහන්
15 සේගේ මෑනියන්ද කැඳවාගෙන මිසරයට
ගොස් හෙරෙද් මැරෙණතුරු එහිම විසූ
යේය. මිසරයෙන් මාගේ පුත්‍රයා කැඳවා
ගතිමි කියා ස්වාමින්වහන්සේ අනාග
තවක්තෘහු ලවා කියවනලද කීම සම්පූ
ර්ණවෙන පිනිස මේ දේ සිද්ධවූනේය.
16 එකල හෙරෙද් ශාස්ත්‍රවන්තයන්ගෙන්
තමා රැවටුනු බව දැන ඉතා කෝපව ඔ
වුන්ගෙන් හරියාකාර අසාගත් කල් ග
නනේ ප්‍රකාරයට බෙත්ලෙහෙම්හිද එහි
සියළු සීමාවලද සිටි දෑවුරුදු වයස්වූද ඊ
ට බාලවූද සියළු දරුවන් මිනිහුන් යවා
17 මැරෙව්වේය. එකල යෙරෙමියා අනාග
තවක්තෘහු විසින් කියනලද කීම සම්පූ
ර්ණවිය. ඔහුද රාමායෙහි විලපීම් හැ
ඬීම් ඉතා සෝකවීම් සහිතවූ හඬක් අස
18 නු ලැබිය. රාබෙල් ඈගේ දරුවන් නිසා
හඬමින් ඔවුන් නැති බැවින් සැනසෙන්
ට නොකමැතිව සිටියායයි කීයේය.
19 හෙරෙද් මැරුණ පසු ස්වාමින්වහන්
සේගේ දූතයෙක් මිසරයෙහිදී යෝසැප්
20 ට ස්වප්නයෙන් පෙනී නැගිට බිළිඳු ස
හ උන්වහන්සේගේ මෑනියන්ද කැඳවා
ගෙන ඊශ්‍රායෙල් දේසයට යව මක්නිසා
ද බිළිඳුගේ ප්‍රාණය නසන්ට සෙව්වෝ
21 මලෝයයි කීයේය. එකල ඔහු නැගිට බි
ළිඳුද උන්වහන්සේගේ මෑනියන්ද කැඳ
22 වාගෙන ඊශ්‍රායෙල් දේසයට ගියේය. එ
හෙත් අකේලාවුස් තමාගේ පියවූ හෙ
රෙද්ගේ ඇවෑමෙන් යුදයෙහි රජකම
ට පැමිනි බව ඔහු අසා ඒ දිසාවට යන්ට
භයව දෙවියන්වහන්සේ විසින් ස්වප්න
23 යෙන් දන්වනු ලැබ ගලිල දේසයට
ගොස් උන්වහන්සේ නාසරුත් කෙනෙ
ක යන නාමය ලබන්නේයයි අනාගත
වක්තෘන් විසින් කියනලද කාරණාව
සම්පූර්ණවෙන පිනිස නාසරුත්නම් නු
වරට පැමින එහි වාසය කලේය.

3 පරිච්ඡෙ. ඒ කාලයෙහිදී යොහන්
බව්තීස්ත ඇවිත් යුදයේ වනාන්තරයෙහි
දේශනාකරමින් ස්වර්ගරාජ්‍යය ළඟය
2 ඉන්නිසා පසුතැවිලි වෙයල්ලායයි කීයේ
3 ය. ස්වාමින්වහන්සේගේ මාවත සාදව් උ
න්වහන්සේගේ මාර්ග ඇදහරිව් කියා ව
නාන්තරයෙහි හඬගසනතැනකුගේ ශබ්ද
යයි යෙසයියා අනාගතවක්තෘහු විසින්
4 කියා තිබුණේ මොහු ගැනය. ඒ යො
හන් ඔටුවරෝම වස්ත්‍ර හැඳ කටියෙහි සම්
5 පටියක් බැඳ සිටියේය. ඔහු පලගැටියන්ද
වනමීද කෑයේය. එවිට යෙරුසලමෙන්ද
යුදයේ සියළු තැන්වලින්ද යොර්දන් ළඟ
6 සියළු රටවලින්ද මනුෂ්‍යයෝ ඔහු වෙතට
ගොස් තමන්ගේ පව් කියාදෙමින් යො
ර්දනේදී ඔහුගෙන් බව්තීස්ම ලැබුවෝය.
7 එහෙත් ඔහු තමාගෙන් බව්තීස්ම ලබ
න පිණිස එරිසිවරුන් සහ සද්දුසිවරුන්
ගෙන් බොහෝ දෙනෙක් එනවා දැක
ඔවුන්ට කියනෙත් පොලොං වංශය පැමි
ණෙනතාවූ උදහසින් පලායන්ට නුඹලා
8 ට දන්නුවේ කවරෙක්ද? ආබ්‍රහම් අප
ගේ පියාණෝයයි කියන්ට නොසිතා ප
සුතැවිල්ලට සුදුසුවූ ඵල උපදවාපල්ලා
9 ය. මක්නිසාද මේ ගල්වලින් පවා ආබ්‍ර
හම්ට දරුවන් උපදවන්ට දෙවියන්ව
හන්සේට පුළුවනැයි කියමි. දැන් ගස් මු
10 ල පොරොව තබා තිබෙයි. එබැවින් ය
හපත් ඵල නොදෙන සියළු ගස් කපනු
11 ලැබ ගින්නෙහි දමනු ලැබෙත්. මම ප
සුතැවිල්ල පිණිස වතුරෙහි නුඹලා බව්
තීස්ම කෙරෙමි එහෙත් මට පසුව එන
තැනැත්තේ මට වඩා බලවත් කෙනෙ
ක. මම උන්වහන්සේගේ වහංසගල උසු
ලන්ටත් නොවටිමි උන්වහන්සේ ශුද්ධාත්
මයෙන්ද ගින්නෙන්ද නුඹලා බව්තීස්මක
12 රණසේක. උන්වහන්සේ කුල්ල අතෙහි
ඇතිව තමන්ගේ කලවිට හොඳ ලෙස
ශුද්ධකරණසේක ධාන්‍ය අටුවට රැස්කො
ට බොල් නොනිවෙන ගින්නෙන් දවන
සේකැයි කීයේය.
13 එකල යේසුස්වහන්සේ ගලිලයෙහි
සිට යොහන්ගෙන් බව්තීස්ම ලබන පි
14 ණිස යොර්දනට ගියසේක. එහෙත් යො
හන් උන්වහන්සේ වලක්වමින් ඔබවහන්
සේගෙන් බව්තීස්ම ලබන්ට මට යුතුව
තිබෙද්දී ඔබවහන්සේ මා වෙතට එන
15 සේක්දැයි කීයේය. එවිට යේසුස්වහන්
සේ ඔහුට උත්තරදෙමින් දැනට එසේම
වෙන්ට අවකාශ හැරපනව මෙලෙස් සියළු
ධර්මිෂ්ඨකම් සම්පූර්ණකරන්ට අපට සුදු
16 සුයයි කීසේක. එවිට ඔහු උන්වහන්සේට
අවකාශ හැරියේය. යේසුස්වහන්සේ බව්
තීස්ම ලැබ එකෙනෙහිම දියෙන් ගොඩ
නැගුනුසේක. එකල්හි අහස ඇරී දේ
වාත්මයානන්වහන්සේ පරවියකු මෙන්
බැස තමන්වහන්සේ පිටට එන බව දුටු
17 සේක. එවිට මොහු මාගේ ප්‍රිය පුත්‍රයා
ය මොහු කෙරෙහි ඉතා සතුටුයෙමියි අ
හසෙන් හඬක් විය.

4. පරිච්ඡෙ. එකල යේසුස්වහන්සේ
සාතන් විසින් පරීක්ෂාකරනු ලබන පිණි
ස ආත්මයානන්වහන්සේ විසින් වනාන්
තරයට පමුණුවනු ලැබ දවල් සතලිසක්ද
2 රෑ සතලිසක්ද නිරාහාරව උන් පසු උන්
3 වහන්සේට බඩගිනිවිය. එවිට පරීක්ෂක
යා උන්වහන්සේ ළඟට ඇවිත් නුඹවහන්
සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්නම් මේ
ගල් රොටිවෙනතාට අණකලමැනවයි කී
4 ය. උන්වහන්සේ උත්තරදෙමින් මනුෂ්‍ය
යා දෙවියන්වහන්සේගේ මුඛයෙන් නික්
මෙන සියළු වචනවලින් ජීවත්වෙනවා
මිස රොටි පමනකින් ජීවත් නොවන බ
5 ව ලියා තිබෙනෙත්යයි කීසේක. එකල
සාතන් උන්වහන්සේ ශුද්ධ නුවරට පමුනු
6 වා දේවමාලිගාව මුදුනේ හිඳුවා නුඹව
හන්සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්නම්
පහතට පැනනමැනව. මක්නිසාද උන්ව
හන්සේ තමන්ගේ දූතයන්ට නුඹවහන්
සේ බාරදෙනසේක කියාත් ඔවුන් නුඹ
වහන්සේගේ පය කිසි කලෙක ගලක
නොවදින පිණිස තමන්ගේ අත්වලින්
නුඹවහන්සේ උසුලාගනිතියි කියාත් ලි
යා තිබෙන්නේයයි උන්වහන්සේට කීය.
7 යේසුස්වහන්සේ තාගේ ස්වාමිවූ දෙවිය
න්වහන්සේ පරීක්ෂා නොකරව කියාත් ලි
8 යා තිබෙනෙත්යයි ඔහුට කීසේක. නැව
තත් සාතන් උන්වහන්සේ ඉතා උස් ප
ර්වතයකට ගෙනගොස් ලෝකයෙහි සිය
ළු රාජ්‍යවල්ද එහි තිබෙනතාවූ ඓශ්ව
9 ර්යද උන්වහන්සේට පෙන්වා නුඹ බිම
වැටී මට නමස්කාරකරණවානම් මේ සි
යල්ල නුඹට දෙනෙනාමියි උන්වහන්සේ
10 ට කීය. එවිට යේසුස්වහන්සේ සාතන්
අහක්ව යව මක්නිසාද තාගේ ස්වාමිවූ
දෙවියන්වහන්සේට නමස්කාර කරව
උන්වහන්සේට පමනක් සේවයකරවයි

11 ලියා තිබෙනේය්යයි ඔහුට කීසේක. එ
කල සාතන් උන්වහන්සේ හැර ගියේය.
දේවදූතයෝ ඇවිත් උන්වහන්සේට උප
ස්ථාන කලෝය.
12 යොහන් හිරගෙයි ඒ බව යේසුස්ව
හන්සේ අසා ගලිලයට පැමිණ නාසරත්
13 නුවර හැර සාබුලොන් සහ නප්තලිමේ
ද සීමාවලට ලංවූ මුහුදු කරේ කපණාවූ
14 මට ගොස් එහි වාසයකලසේක. එසේ
සිඛවූනේ යොදීන් එගොඩ මූදබඩට ලං
වූ සාබුලොන් රටෙහිද නප්තලීම් රටෙ
හිද අන්‍යජාතීන්ගේ ගලිලයෙහිද අඳු
රෙහි උන් මනුෂ්‍යයෝ මහත් එලියක්
15 දුටුවෝය කියාත් මරහුගේ දේසයෙහිද
සෙවනැල්ලෙහිද සිටියවුන්ට එලියක් ප
16 හලවූයේය කියාත් යෙසයියා අනාගත
වක්තෘහු විසින් කියනලද කාරණාව සම්
පූර්ණවීම පිණිසය.
17 එතැන් පටන් යේසුස්වහන්සේ දේස
නාකරන්ට පටන්ගෙන ස්වර්ගරාජ්‍යය
ලඟය ඉන්නිසා පසුතැවිලි වෙයල්ලාය
18 යි කීසේක. උන්වහන්සේ ගලිලයේ මූද
බඩ ඇවිදිද්දී මසුන් අල්ලනාන් වන
පේත්‍රුස්නම් සිමොන්ද අන්ද්‍රෑද යන ස
හෝදරයන් දෙදෙන මූහුදේ දැලක් හෙ
19 ලනවා දැක මා පස්සේ වරෙල්ලාය මම
තුබලා මිනිසුන් අල්ලනාන් කෙරෙමියි
20 ඔවුන්ට කීසේක. එකෙනෙහිම ඔවුන්
තමන්ගේ දැල් හැර උන්වහන්සේ පස්
21 සේ ගියෝය. උන්වහන්සේ එසින් පිටත්
ව ගොස් තවත් සහෝදර දෙදෙනෙක්
වූ සෙබදිගේ පුත් යාකොබ්ද ඔහුගේ ස
හෝදරවූ යොහන්ද තමන් පියවූ සෙබදි
සමග නැවක දැල් අළුත්කරණවා දැක ඔ
22 වුන්ට අඬගැසූසේක. ඔවුන් එකෙනෙහි
ම නැවද තමන් පියාද හැර උන්වහන්
සේ පස්සේ ගියෝය.
23 ඉන්පසු යේසුස්වහන්සේ සිනගෝග
වලදී උගන්වමින් රාජ්‍යයෙහි සුභාරංචිය
ප්‍රකාශකරමින් සෙනග අතරෙහි සියළු
රෝග පීඩා සුවකරමින් ගලිලය මුළුල්
24 ලෙහි ඇවිද්දසේක. උන්වහන්සේගේ
කීර්තිය සිරියා රට මුළුල්ලෙහි පතලවිය.
එබැවින් නොයෙක් රෝග පීඩාවලින්
පීඩිතවූ සියළු රෝගාතුරයන්ද යක්ෂාවේස
වූවන්ද මීමස්මුර රෝගීන්ද අඟභාග රෝ
ගීන්ද උන්වහන්සේ වෙතට ගෙනාවෝය.
25 උන්වහන්සේද ඔවුන්ට සුවකලසේක. ග
ලිලයෙන්ද දෙකාපොලිසෙන්ද යෙරුසල
මෙන්ද යුදයෙන්ද යොදීනේ එගොඩින්ද
බොහෝ ජන සමූහයෝ උන්වහන්සේ
පස්සේ ගියෝය.

5. පරිච්ජ. උන්වහන්සේ සමූහයන්
දැක පර්වතයකට නැගී එහි හිඳගත් කල්
හි උන්වහන්සේගේ ගෝලයෝ උන්ව
2 හන්සේ වෙතට පැමිණියෝය. එවිට උ
න්වහන්සේ ශබ්ද නගා ඔවුන්ට උගන්ව
3 මින් මෙසේ කීසේක. සිතින් දිලින්දෝ
වාසනාවන්තයෝය. මක්නිසාද ස්වර්ග
4 රාජ්‍යය ඔවුන්ගේය. සෝකවෙනෝතෝ
වාසනාවන්තයෝය මක්නිසාද ඔවුන්
5 සනසනු ලබනවා ඇත. මොලොක් ගු
න ඇත්තෝ වාසනාවන්තයෝය මක්නි
6 සාද ඔවුන්ට රට උරුමවෙනවා ඇත. ධ
ර්මිෂ්ඨකමට සාපිපාස ඇත්තෝ වාසනා
වන්තයෝය මක්නිසාද ඔවුන් තෘප්තිය
7 ට පැමිණෙනවා ඇත. දයාබරකම ඇත්
තෝ වාසනාවන්තයෝය මක්නිසාද ඔ
8 වුන් දයාව ලබනවා ඇත. පවිත්‍ර සිත් ඇ
ත්තෝ වාසනාවන්තයෝය මක්නිසාද
ඔවුන් දෙවියන්වහන්සේ දකිනවා ඇත.
9 සමගිකරන්නෝ වාසනාවන්තයෝය
මක්නිසාද ඔවුන් දෙවියන්වහන්සේගේ
පුත්‍රයෝයයි කියනු ලබනවා ඇත. ධර්මි
10 ෂ්ඨකම නිසා පීඩා ලබනෝතෝ වාසනා
වන්තයෝය මක්නිසාද ස්වර්ගරාජ්‍යය
11 ඔවුන්ගේය. මනුෂ්‍යයෝ මා නිසා තුබ
ලාට නින්දා පීඩාකොට තුබලාට විරුඬව
බොරුවෙන් සියළු ආකාර අගුණ කියන
12 කල තුබලා වාසනාවන්තයෝය ස්වර්ග
යෙහිදී තුබලාට මහත් විපාක ලැබෙ
න හෙයින් සතුටුව ඉතා ප්‍රීතිවෙයල්
ලාය. තුබලාට පලමුවෙන් සිටියාවූ අනා
ගතවක්තෘන්ටත් ඔවුන් එසේම පීඩාක
ලෝය.
13 තුබලා පොලොවෙහි ලුනුය එහෙත්
ඒ ලුනෙහි රස නැතිවීනම් ඒ කුමකින්
රස කරනු ලැබේද? එසින් පසු ඒ ලුනු
පිටත දමනු ලබන්ටද මනුෂ්‍යයන්ගේ ප
යින් පාගනු ලබන්ටද මිස අන් කිසිවක
14 ට නොවටනේය තුබලා ලෝකයෙහි
ආලෝකය වෙති. පර්වතයක් මුදුනෙහි
තිබෙන නුවරක් සඟවන්ට නොහැකි
15 වෙයි මනුෂ්‍යයෝ පහනක් දල්වා කුරු
නියක් යට නොව පහන්තාන්ක් උඩ තා
බති එවිට එසින් ගෙයි සිටිනා සියල්ලන්
16 ටම ආලෝකය ලැබෙයි. එසේම මනුෂ්‍ය

# මතෙවු විසින් ලියනලද

# සුභාරචිය

1. පරිච්ඡෙදය. අබ්‍රහම්ගේ පුත් දා
වීත්ගේ පුත්වූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ පරම්පරාවේ පොතය.
2 අබ්‍රහම්ට දාව ඊසාක් උපනෙත්ය ඊ
සාක්ට දාව යාකොබ් උපන්නේය යා
කොබ්ට දාව යූදස්ද ඔහුගේ සහෝදර
3 යෝද උපනෙත්ය. යූදස්ට දාව පාරස්ද
සාරද ථාමර්ගෙන් උපනෙත්ය පාරස්ට
දාව එස්‍රොම් උපනෙත්ය එස්‍රොම්ට දාව අ
4 රම් උපනෙත්ය. ආරම්ට දාව අම්නදබ් උ
පනෙත්ය අම්නදබ්ට දාව නාස්සොන් උ
පනෙත්ය නාස්සොන්ට දාව සල්මොන්
5 උපනෙත්ය. සල්මොන්ට දාව බෝවස්
රකබ්ගෙන් උපනෙත්ය බෝවස්ට දාව
ඕබෑත් රූත්ගෙන් උපනෙත්ය ඕබෑත්ට
දාව යෙස්සේ උපනෙත්ය යෙස්සේට දා
ව දාවිත් රජ උපනෙත්ය.
6 දාවිත් රජුට දාව පලමුවෙන් ඌරියස්ට
භාර්‍යාව සිටියාවූ ස්ත්‍රීගෙන් සාලමොන්
7 උපනෙත්ය. සාලමොන්ට දාව රෙබෝ
වම් උපනෙත්ය රෙබෝවම්ට දාව අබි
යා උපනෙත්ය අබියාට දාව ආසා උප
8 නෙත්ය. ආසාට දාව යෝසාඵත් උපන්
නේය යෝසාඵත්ට දාව යෝරම් උපන්
නේය. යෝරම්ට දාව ඔසියස් උපනෙත්
9 ය. ඔසියස්ට දාව යොවාතම් උපනෙත්ය
යොවාතම්ට දාව ආබස් උපන්නේය ආ
10 බස්ට දාව එසෙකියස් උපනෙත්ය. එ
සෙකියස්ට දාව මනස්සෙස් උපනෙත්ය
මනස්සෙස්ට දාව අමොන් උපනෙත්ය
11 අමොන්ට දාව යෝසියස් උපනෙත්ය. බ
බිලෝනියට යන අතර යෝසියස්ට දාව
යෙබෝනියස්ද ඔහුගේ සහෝදරයෝද
උපනෙත්ය.
12 බබිලෝනියට ගිය පසු යෙබෝනියස්
ට දාව සලාතියෙල් උපන්නේය සලාති
යෙල්ට දාව සොරොබාබල් උපනෙත්ය.
13 සොරොබාබල්ට දාව අබියුත් උපනෙත්
ය අබියුත්ට දාව එලියාකිම් උපනෙත්
ය එලියාකිම්ට දාව ආසෝර් උපන්නේ
14 ය. ආසෝර්ට දාව සදොක් උපන්නේය
සදොක්ට දාව ආකිම් උපනෙත්ය ආකිම්ට
15 දාව එලියුත් උපනෙත්ය. එලියුත්ට දාව
එලෙයාසර් උපනෙත්ය එලෙයාසර්ට දා
ව මත්තන් උපනෙත්ය මත්තන්ට දාව යා
16 කොබ් උපනෙත්ය. යාකොබ්ට දාව යෝ
සෑප් උපනෙත්ය. යෝසෑප්ද මරියාගේ
ස්වාමිපුරුෂ වූයේය. මරියාගෙන් ක්‍රිස්
තුස් නම්වූ යේසුස්වහන්සේ උපන්සේක.
17 මෙසේ අබ්‍රහම් පටන් දාවිත් දක්වා සිය
ළු පරම්පරා දහසතරෙක. දාවිත් පටන්
බබිලෝනියට ගෙනයාම දක්වා පරම්ප
රා දහසතරෙක. බබිලෝනියට ගෙන
යාමෙහි පටන් ක්‍රිස්තුස්වහන්සේ දක්වා
පරම්පරා දහසතරෙක්.
18 යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ උත්පත්
තිය මෙසේ විය. උන්වහන්සේගේ මව්වූ
මරියා යෝසෑප්ට විවාහ බස් දී සිටින අ
තර ඔවුන්ගේ සංවාසයට පලමුවෙන් ශු
ද්ධාත්මය කරණකොටගෙන ගර්භිනී වූ
19 වාය. එකල ඈගේ ස්වාමි පුරුෂවූ යෝ
සෑප් ධර්මිෂ්ඨයෙක් බැවින් ඈ නින්දාවට
පමුණුවන්ට නොකමැතිව රහසින් හ
20 රින්ට සිතුයේය. ඔහු මෙසේ සිතූ කල්හි
ස්වාමින්වහන්සේගේ දූතයෙක් ස්වප්න
යෙන් ඔහුට පෙනී දාවිත්ගේ පුත්‍රවූ යෝ
සෑප් තාගේ භාර්‍යාවූ මරියා පාවාගන්ට
භය නොවව මක්නිසාද ඈගේ ගර්භ
යෙහි පිලිසිඳගත් යමක් ඇද්ද ඒක ශු
21 ද්ධාත්මය කරණකොටගෙනය. ඈද පුත්‍ර
යකු වදන්නීය උන්වහන්සේ තමන්ගේ
සෙනග ඔවුන්ගේ පාපවලින් ගලවන
හෙයින් උන්වහන්සේට යේසුස් යන නා
22 මය තබවයි කීයේය. ස්වාමින්වහන්සේ අ
නාගතවක්තෘහු ලවා කියවනලද කාර
ණාව සම්පූර්ණවෙන පිනිස මේ සියල්ල
23 සිදුවූයේය. ඔහුද කන්‍යාගනාවක් ගර්භි
නීව පුත්‍රයෙක් වදන්නීය උන්වහන්සේ
ට එම්මානුවෙල් යන නාමය තබතිසී කී
යේය. එහි අර්ථයනම් දෙවියන්වහන්සේ

24 අපහා සමගය. එවිට යෝසැප් නින්දෙන්
පිබිද ස්වාමින්වහන්සේගේ දූතයා තමාට
කී ලෙසම තමාගේ භාර්යාව පාවාගත්
25 තේය. එහෙත් ඇගේ කුළුදුල්වූ පුත්‍රයා
වදනතුරු ඔහු ඇ නොහැඳිනෙත්ය. ත
වද උන්වහන්සේට යේසුස් යන නාමය
තැබීය.

2. පරිච්ඡේ. හෙරොද්නම් රජහුගේ
කාලයෙහි යුදයේ බෙත්ලෙහෙම්හි යේ
සුස්වහන්සේ උපන්කල පූර්වදිසාවෙන්
2 ශාස්ත්‍රවන්තයෝ යෙරුසලමට ඇවිත් යු
දෙව්වරුන්ට රජව උපන් උන්වහන්සේ
කොතැන්හිද උන්වහන්සේගේ තාරුකා
ව පූර්ව දිසාවෙහිදී දැක උන්වහන්සේට න
3 මස්කාරකරණ පිනිස ආවෙමුයයි කීවෝ
ය. හෙරොද් රජ ඒ ඇසූකල්හි ඔහුද යෙ
4 රුසලමේ සියල්ලෝද කැලඹුනෝය. එ
විට ඔහු සියළු නායක පූජකයන්ද සෙනග
ගේ ලියනනන්ද රැස්කරවා ක්‍රිස්තුස්වහන්
සේ කොතැන්හි උපදනේදැයි ඔවුන්
5 ගෙන් ඇසුයේය. ඔවුන් උත්තර දෙමින්
යුදයේ බෙත්ලෙහෙම්හිය කුමක්හෙයි
6 න්ද යුදයේ දේශයෙහිවූ බෙත්ලෙහෙම
මාගේ ඊශ්‍රායෙල් සෙනගට අධිපතිකම්
කරණ උත්තමයෙක් තී කෙරෙන් නික්
මෙන බැවින් තී යුදයේ උත්තමයන් අ
තරෙහි ඉතා කුඩා නොවන්නීයයි අනා
7 ගතවක්තෘහු විසින් ලියා තිබෙනේය
යි කීවෝය. එකල හෙරොද් ශාස්ත්‍රවන්ත
යන් රහසින් කැඳවා තාරුකාව කොයි
වේලෙහි පෙනුනේදැයි හරියාකාර ඔ
8 වුන්ගෙන් අසාගෙන තුඹලා ගොස් ඒ බි
ළිඳු උත්සාහයෙන් සොයාපල්ලාය තුඹ
ලාට සම්භවූනාම මමත් ගොස් උන්වහන්
සේට නමස්කාර කරණ පිනිස මට දන්වා
9 පල්ලායයි කියා බෙත්ලෙහෙමට ඔවුන්
යැවීය. ඔවුන් රජහුගේ බස් අසා පිටත්ව
ගියෝය. පූර්ව දිසාවෙහිදී ඔවුන් දුටු තාරු
කාව ඒ බිළිඳු විසූ තැන මුදුනට ඇවිත්
නවතිනාතුරු ඔවුන්ට පෙරටූ පෙරටුව
10 ගියේය. ඔවුන් ඒ තාරුකාව දැක බො
11 හෝසේ ප්‍රීති සන්තෝෂවූවෝය. ඔවුන්
ගෙට වැද බිළිඳුත් උන්වහන්සේගේ මව්
වූ මරියාත් දැක බිමවැටී උන්වහන්සේට
නමස්කාරකොට තමන්ගේ කරඬු හැර
රන්ද කට්ටකුමවල්ද සුවඳ ලාටුද යන මේ
12 පඬුරු උන්වහන්සේට පූජාකලෝය. තව
ද හෙරොද් වෙතට නැවත නොයන පි
නිස දෙවියන්වහන්සේ විසින් ස්වප්නය
කින් දන්වනු ලැබ ඔවුන් අන් මගකින් ත
මන් රටට ගියෝය.
13 ඔවුන් ගිය කල්හි ස්වාමින්වහන්සේ
ගේ දූතයා ස්වප්නයෙන් යෝසැප්ට පෙ
නී නැගිට බිළිඳු සහ උන්වහන්සේගේ
මෑනියන්ද කැඳවාගෙන මිසරනම් දේශය
ට පලා ගොස් මම තට දන්වන තෙක් එ
හිම සිටුව මක්නිසාද බිළිඳු නසන පිනිස
14 හෙරොද් සොයනේයයි කීය. එවිට ඔහු
නැගිට රාත්‍රියෙහි බිළිඳු සහ උන්වහන්
15 සේගේ මෑනියන්ද කැඳවාගෙන මිසරයට
ගොස් හෙරොද් මැරෙණතුරු එහිම විසූ
යේය. මිසරයෙන් මාගේ පුත්‍රයා කැඳවා
ගතිමි කියා ස්වාමින්වහන්සේ අනාග
තවක්තෘහු ලවා කියවනලද කීම සම්පූ
ර්ණවෙන පිනිස මේ දේ සිඩවූනේය.
16 එකල හෙරොද් ශාස්ත්‍රවන්තයන්ගෙන්
තමා රැවටුනු බව දැන ඉතා කෝපව ඔ
වුන්ගෙන් හරියාකාර අසාගත් කල් ග
නනේ ප්‍රකාරයට බෙත්ලෙහෙම්හිද එහි
සියළු සීමාවලද සිටි දැවුරුදු වයස්වූද ඊ
ට බාලවූද සියළු දරුවන් මිනිසුන් යවා
17 මැරෙව්යේය. එකල යෙරෙමියා අනාග
තවක්තෘහු විසින් කියනලද කීම සම්පූ
ර්ණවිය. ඔහුද රාමායෙහි වැලපීම් හැ
ඬීම් ඉතා සෝකවීම් සහිතවූ හඬක් අස
18 නු ලැබිය. රාබෙල් ඇගේ දරුවන් නිසා
හඬමින් ඔවුන් නැති බැවින් සැනසෙන්
ට නොකමැතිව සිටියායයි කීයේය.
19 හෙරොද් මැරුණ පසු ස්වාමින්වහන්
සේගේ දූතයෙක් මිසරයෙහිදී යෝසැප්
20 ට ස්වප්නයෙන් පෙනී නැගිට බිළිඳු ස
හ උන්වහන්සේගේ මෑනියන්ද කැඳවා
ගෙන ඊශ්‍රායෙල් දේශයට යව මක්නිසා
ද බිළිඳුගේ ප්‍රාණය නසන්ට සෙව්වෝ
21 මලෝයයි කීයේය. එකල ඔහු නැගිට බි
ළිඳුද උන්වහන්සේගේ මෑනියන්ද කැඳ
22 වාගෙන ඊශ්‍රායෙල් දේශයට ගියේය. එ
හෙත් අකෙලාවුස් තමාගේ පියවූ හෙ
රොද්ගේ ඇවෑමෙන් යුදයෙහි රජකම
ට පැමිණි බව ඔහු අසා ඒ දිසාවට යන්ට
භයව දෙවියන්වහන්සේ විසින් ස්වප්න
23 යෙන් දන්වනු ලැබ ගලිල දේශයට
ගොස් උන්වහන්සේ නාසරැත් කෙනෙ
ක යන නාමය ලබන්නේයයි අනාගත
වක්තෘන් විසින් කියනලද කාරණාව
සම්පූර්ණවෙන පිනිස නාසරැත්නම් නු
වරට පැමිණ එහි වාසය කෙලේය.

3 පරිච්ඡෙ. ඒ කාලයෙහිදී යොහන්
බව්තීස්ත ඇවිත් යූදයේ වනාන්තරයෙහි
දේසනාකරමින් ස්වර්ගරාජ්‍යය ළඟය
2 ඉන්නිසා පසුතැවිලි වෙයල්ලායයි කීයේ
3 ය. ස්වාමීන්වහන්සේගේ මාවත සාදව් උ
න්වහන්සේගේ මාර්ග ඇඳහරිව් කියා ව
නාන්තරයෙහි හඬගසනෙනෙකුගේ ශබ්ද
යයි යෙසයියා අනාගතවක්තෲ විසින්
4 කියා තිබුණේ මොහු ගැනය. ඒ යො
හන් ඔටුරෝම වස්ත්‍ර හැඳ කටියෙහි සම්
5 පටියක් බැඳ සිටියේය. ඔහු පලගැටියන්ද
වනමීද කෑයේය. එවිට යෙරුසලමෙන්ද
යූදයේ සියළු තැන්වලින්ද යොර්දන් ළඟ
6 සියළු රටවලින්ද මනුෂ්‍යයෝ ඔහු වෙතට
ගොස් තමන්ගේ පව් කියාදෙමින් යො
ර්දනේදී ඔහුගෙන් බව්තීස්ම ලැබුවෝය.
7 එහෙත් ඔහු තමාගෙන් බව්තීස්ම ලබ
න පිණිස ඵරිසිවරුන් සහ සද්දුසිවරුන්
ගෙන්ද බොහෝ දෙනෙක් එනවා දැක
ඔවුන්ට කියනොත් පොලොං වංශය පැමි
ණෙනනාවූ උදහසින් පලායන්ට නුඹලා
8 ට දැන්නුවේ කවරෙක්ද? ආබ්‍රහම් අප
ගේ පියානෝයයි කියන්ට නොසිතා ප
සුතැවිල්ලට සුදුසුවූ ඵල උපදවාපල්ලා
9 ය. මක්නිසාද මේ ගල්වලින් පවා ආබ්‍ර
හම්ට දරුවන් උපදවන්ට දෙවියන්ව
හන්සේට පුළුවනැයි කියමි. දැන් ගස් මු
10 ල පොරොව තබා තිබෙයි. එබැවින් ය
හපත් ඵල නොදෙන සියළු ගස් කපනු
11 ලැබ ගින්නෙහි දමනු ලැබෙත්. මම ප
සුතැවිල්ල පිණිස වතුරෙහි නුඹලා බව්
තීස්ම කෙරෙමි එහෙත් මට පසුව එන
තැනැත්තෙන් මට වඩා බලවත් කෙනෙ
ක. මම උන්වහන්සේගේ වහංසගල උසු
ලන්ටවත් නොවටිමි උන්වහන්සේ ශුද්ධාත්
මයෙන්ද ගින්නෙන්ද නුඹලා බව්තීස්මක
12 රණසේක. උන්වහන්සේ කුල්ල අතෙහි
ඇතිව තමන්ගේ කලවිට හොඳ ලෙස
සුද්ධකරණසේක ධාන්‍ය අටුවට රැස්කො
ට බොල් නොනිවෙන ගින්නෙන් දවන
සේකැයි කීයේය.
13 එකල යේසුස්වහන්සේ ගලිලයෙහි
සිට යොහන්ගෙන් බව්තීස්ම ලබන පි
14 ණිස යොර්දනට ගියසේක. එහෙත් යො
හන් උන්වහන්සේ වලක්වමින් ඔබවහන්
සේගෙන් බව්තීස්ම ලබන්ට මට සුදුසුව
තිබෙද්දී ඔබවහන්සේ මා වෙතට එන
15 සේක්දැයි කීයේය. එවිට යේසුස්වහන්
සේ ඔහුට උත්තරදෙමින් දැනට එසේම
වෙන්ට අවකාශ හැරපන්න මෙලෙස් සියළු
ධර්මිෂ්ඨකම් සම්පූර්ණකරන්ට අපට සුදු
16 සුයයි කීසේක. එවිට ඔහු උන්වහන්සේට
අවකාශ හැරියේය. යේසුස්වහන්සේ බව්
තීස්ම ලැබ එකෙණෙහිම දියෙන් ගොඩ
නැගුනුසේක. එකල්හි අහස ඇරී දේ
වාත්මයානන්වහන්සේ පරවියකු මෙන්
බැස තමන්වහන්සේ පිටට එන බව දුටු
17 සේක. එවිට මොහු මාගේ ප්‍රිය පුත්‍රයා
ය මොහු කෙරෙහි ඉතා සතුටුවෙමියි අ
හසෙන් හඬක් විය.

4. පරිච්ඡෙ. එකල යේසුස්වහන්සේ
සාතන් විසින් පරීක්ෂාකරනු ලබන පිණි
ස ආත්මයානන්වහන්සේ විසින් වනාන්
තරයට පමුණුවනු ලැබ දවල් සතලිසක්ද
2 රෑ සතලිසක්ද නිරාහාරව උන් පසු උන්
3 වහන්සේට බඩගිනිවිය. එවිට පරීක්ෂක
යා උන්වහන්සේ ළඟට ඇවිත් නුඹවහන්
සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්නම් මේ
ගල් රොටිවෙනනට අණකලමැනවයි කී
4 ය. උන්වහන්සේ උත්තරදෙමින් මනුෂ්‍ය
යා දෙවියන්වහන්සේගේ මුඛයෙන් නික්
මෙන සියළු වචනවලින් ජීවත්වෙනවා
මිස රොටි පමණකින් ජීවත් නොවන බ
5 ව ලියා තිබෙනෙන්යයි කීසේක. එකල
සාතන් උන්වහන්සේ ශුද්ධ නුවරට පමුණු
6 වා දේවමාළිගාව මුදුනේ හිඳුවා නුඹව
හන්සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්නම්
පහතට පැනනමැනව. මක්නිසාද උන්
වහන්සේ තමන්ගේ දූතයන්ට නුඹවහන්
සේ බාරදෙනසේක කියාත් ඔවුන් නුඹ
වහන්සේගේ පය කිසි කලෙක ගලක
නොවදින පිණිස තමන්ගේ අත්වලින්
නුඹවහන්සේ උසුලාගනිතියි කියාත් ලි
යා තිබෙන්නේයයි උන්වහන්සේට කීය.
7 යේසුස්වහන්සේ තාගේ ස්වාමිවූ දෙවිය
න්වහන්සේ පරීක්ෂා නොකරව කියාත් ලි
8 යා තිබෙනෙන්යයි ඔහුට කීසේක. නැව
තත් සාතන් උන්වහන්සේ ඉතා උස් ප
ර්වතයකට ගෙනගොස් ලෝකයෙහි සිය
ළු රාජ්‍යවල්ද එහි තිබෙනනාවූ ඓශ්ව
9 ර්යද උන්වහන්සේට පෙන්වා නුඹ බිම
වැටී මට නමස්කාරකරණවානම් මේ සි
යල්ල නුඹට දෙනෙනමියි උන්වහන්සේ
10 ට කීය. එවිට යේසුස්වහන්සේ සාතන්
අහක්ව යව මක්නිසාද තාගේ ස්වාමිවූ
දෙවියන්වහන්සේට නමස්කාර කරව
උන්වහන්සේට පමණක් සේවයකරවයි

11 ලියා තිබෙනෙන්යයි ඔහුට කීසේක. එ
කල සාතන් උන්වහන්සේ හැර ගියේය.
දේවදූතයෝ ඇවිත් උන්වහන්සේට උප
ස්ථාන කලෝය.
12 යොහන් හිරගෙයි ඒ බව යේසුස්ව
හන්සේ අසා ගලිලයට පැමිණ නාසරෙත්
13 නුවර හැර සාබුලොන් සහ නප්තලිමේ
ද සීමාවලට ලංවූ මුහුද කරේ කපර්නාවූ
14 මට ගොස් එහි වාසයකලසේක. එසේ
සිඩවූයේ යොදීන් එගොඩ මූදබඩට ලං
වූ සාබුලොන් රටෙහිද නප්තලීම් රටෙ
හිද අන්‍යජාතීන්ගේ ගලිලයෙහිද අඳු
රෙහි උන් මනුෂ්‍යයෝ මහත් එලියක්
15 දුටුවෝය කියාත් මරහුගේ දේසයෙහිද
සෙවනැල්ලෙහිද සිටියවුන්ට එලියක් ප
16 හලවූයේය කියාත් යෙසයියා අනාගත
වක්තෘහු විසින් කියනලද කාරණාව සම්
පූර්ණවීම පිනිසය.
17 එතැන් පටන් යේසුස්වහන්සේ දේස
නාකරන්ට පටන්ගෙන ස්වර්ගරාජ්‍යය
ලඟය ඉන්නිසා පසුතැවිලි වෙයල්ලාය
18 යි කීසේක. උන්වහන්සේ ගලිලයේ මූද
බඩ ඇවිදිද්දී මසුන් අල්ලනවුන් වන
පේතෘස්නම් සීමොන්ද අන්ද්‍රෑද යන ස
හෝදරයන් දෙදෙන මුහුදේ දැලක් හෙ
19 ලනවා දැක මා පස්සේ වරෙල්ලාය මම
තුඹලා මිනිසුන් අල්ලනවුන් කෙරෙමියි
20 ඔවුන්ට කීසේක. එකෙනෙහිම ඔවුන්
තමන්ගේ දැල් හැර උන්වහන්සේ පස්
21 සේ ගියෝය. උන්වහන්සේ එසින් පිටත්
ව ගොස් තවත් සහෝදර දෙදෙනෙක්
වූ සෙබදිගේ පුත් යාකොබ්ද ඔහුගේ ස
හෝදරවූ යොහන්ද තමන් පියවූ සෙබදි
සමග නැවක දැල් අළුත්කරණවා දැක ඔ
22 වුන්ට අඬගැසූසේක. ඔවුන් එකෙනෙහි
ම නැවද තමන් පියාද හැර උන්වහන්
සේ පස්සේ ගියෝය.
23 ඉන්පසු යේසුස්වහන්සේ සිනගෝග
වලදී උගන්වමින් රාජ්‍යයෙහි සුභාරංචිය
ප්‍රකාශකරමින් සෙනඟ අතරෙහි සියළු
රෝග පීඩා සුවකරමින් ගලිලය මුළුල්
24 ලෙහි ඇවිද්දසේක. උන්වහන්සේගේ
කීර්තිය සිරියා රට මුළුල්ලෙහි පතලවිය.
එබැවින් නොයෙක් රෝග පීඩාවලින්
පීඩිතවූ සියළු රෝගාතුරයන්ද යක්ෂාවේස
වූවන්ද මීමස්මර රෝගීන්ද අඟභාග රෝ
ගීන්ද උන්වහන්සේ වෙතට ගෙනාවෝය.
25 උන්වහන්සේද ඔවුන්ට සුවකලසේක. ග
ලිලයෙන්ද දෙකාපොලිසෙන්ද යෙරුසල

මෙන්ද යුදයෙන්ද යොදීනේ එගොඩින්ද
බොහෝ ජන සමූහයෝ උන්වහන්සේ
පස්සේ ගියෝය.

5. පරිච්ඡෙ. උන්වහන්සේ සමූහයන්
දැක පර්වතයකට නැගී එහි හිඳගත් කල්
හි උන්වහන්සේගේ ගෝලයෝ උන්ව
2 හන්සේ වෙතට පැමිණියෝය. එවිට උ
න්වහන්සේ ශබ්ද නගා ඔවුන්ට උගන්ව
3 මින් මෙසේ කීසේක. සිතින් දිලින්දෝ
වාසනාවන්තයෝය. මක්නිසාද ස්වර්ග
4 රාජ්‍යය ඔවුන්ගේය. සෝකවෙනෝ
වාසනාවන්තයෝය මක්නිසාද ඔවුන්
5 සැනසුම් ලබනවා ඇත. මොලොක් ගු
න ඇත්තෝ වාසනාවන්තයෝය මක්නි
6 සාද ඔවුන්ට රට උරුමවෙනවා ඇත. ධ
ර්මිෂ්ඨකමට සාපිපාස ඇත්තෝ වාසනා
වන්තයෝය මක්නිසාද ඔවුන් තෘප්තිය
7 ට පැමිණෙනවා ඇත. දයාබරකම ඇත්
තෝ වාසනාවන්තයෝය මක්නිසාද ඔ
8 වුන් දයාව ලබනවා ඇත. පවිත්‍ර සිත් ඇ
ත්තෝ වාසනාවන්තයෝය මක්නිසාද
ඔවුන් දෙවියන්වහන්සේ දකිනවා ඇත.
9 සමගිකාරන්නෝ වාසනාවන්තයෝය
මක්නිසාද ඔවුන් දෙවියන්වහන්සේගේ
පුත්‍රයෝයයි කියනු ලබනවා ඇත. ධර්මි
10 ෂ්ඨකම නිසා පීඩා ලබන්නෝ වාසනා
වන්තයෝය මක්නිසාද ස්වර්ගරාජ්‍යය
11 ඔවුන්ගේය. මනුෂ්‍යයෝ මා නිසා තුඹ
ලාට නින්ද පීඩාකොට තුඹලාට විරුඬව
බොරුවෙන් සියළු ආකාර අගුන කියන
12 කල තුඹලා වාසනාවන්තයෝය ස්වර්ග
යෙහිදී තුඹලාට මහත් විපාක ලැබෙ
න හෙයින් සතුටුව ඉතා ප්‍රීතිවෙයල්
ලාය. තුඹලාට පලමුවෙන් සිටියාවූ අනා
ගතවක්තෘන්ටත් ඔවුන් එසේම පීඩාක
ලෝය.
13 තුඹලා පොලොවෙහි ලුනුය එහෙත්
ඒ ලුනුහි රස නැතිවිනම් ඒ කුමකින්
රස කරනු ලැබේද? එසින් පසු ඒ ලුනු
පිටත දමනු ලබන්ටද මනුෂ්‍යයන්ගේ ප
යින් පාගනු ලබන්ටද මිස අන් කිසිවක
14 ට නොවටනේය තුඹලා ලෝකයෙහි
ආලෝකය වෙති. පර්වතයක් මුදුනෙහි
තිබෙන නුවරක් සඟවන්ට නොහැකි
15 වෙයි මනුෂ්‍යයෝ පහනක් දල්වා කුරු
ණියක් යට නොව පහන්කනුක් උඩ තා
බති එවිට එසින් ගෙහි සිටින සියල්ලෝ
16 ටම ආලෝකය ලැබෙයි. එසේම තුඹලාගේ

යෙන් තුබලාගේ යහපත් ක්‍රියාවල් දැක
ස්වර්ගයෙහි වැඩසිටින තුබලාගේ පියා
ණන්වහන්සේට ප්‍රසංසාකරණ පිනිස තු
බලාගේ ආලෝකය ඔවුන් ඉදිරියෙහි බ
බලාවා.
17 ව්‍යවස්ථාවවත් අනාගත වාක්‍යවත්
නැතිකරන්ට ආයෙමියි නොසිතල්ලාය
සම්පූර්ණකරන්ට මිස නැතිකරන්ට මම
නාවෙමි. සැබවක් තුබලාට කියමි අහස
18 පොලොව නැතිවෙනතුරු ව්‍යවස්ථාවෙ
හි සියල්ල සිද්ධවෙනතෙක් එක් අකුරක්
වත් බිංදුවක්වත් නැති නොවනෙන්මය.
19 එබැවින් මේ ආඥාවන් අතරෙන් ඉතා
කුඩා එකක්වත් කඩකරනතාවූ කඩකර
ණ ලෙස මනුෂ්‍යයන්ට උගන්වනතාවූ ය
මෙක් ඇද්ද ඔහු ස්වර්ග රාජ්‍යයෙහිදී
ඉතා කුඩායයි කියනු ලබන්නේය. එ
හෙත් ඒ ආඥාවන් පවත්වනතාවූ උගන්ව
නතාවූ යමෙක් ඇද්ද ඔහු ස්වර්ගරාජ්‍ය
යෙහිදී උත්තමයයි කියනු ලබනෙන්ය.
20 තවද තුබලාට මම කියමි තුබාගේ ධ
ර්මිෂ්ඨකම ලියනතාන්ගේද ඵරිසිවරුන්
ගේද ධර්මිෂ්ඨකමට වැඩිනොවිනම් තු
බලා ස්වර්ගරාජ්‍යයට ඇතුල් නොවන්
නෙන්මය.
21 මිනී නොමරව මිනී මැරූ කවරෙක්
තුමුත් නඩු විනිශ්චයෙහි දඬුවමට සුදුස්
සෙකැයි පූරාතනයන්ට කී බව තුබලා
22 ඇසුවෝය. එහෙත් තුබලාට මම කියමි
තමාගේ සහෝදරයාට නිස්කාරණයේ
කෝපවෙනතාවූ කවරෙක් තුමුත් නඩු
විනිශ්චයෙහි දඬුවමට සුදුස්සෙක. තමා
ගේ සහෝදරයාට මෝඩයායයි කිවාවූ
කවරෙක් තුමුත් උතුම් නඩු සභාවෙහි
දඬුවමට සුදුස්සෙක. තෝ ජඩයායයි කි
වාවූ කවරෙක් තුමුත් නිරා ගිනෙනහි ද
23 ඬුවමට සුදුස්සෙක. එබැවින් තුබේ පඬු
ර පූජාසනයට ගෙනා කල්හි තුබේ ස
හෝදරයා තුබ කෙරෙහි යම් විරුද්ධයක්
24 ඇති බව තුබට සිහිවීනම් තුබේ පඬුර
පූජාසනය ඉදිරියෙහි තබා ගොස් පලමු
කොට සහෝදරයා හා සමගිව පසුව ඇ
25 වින් පඬුර පූජාකරපතනා. තුබේ විරුද්ධ
කාරයා සමග පාරේ යමින්ම ඉක්මනින්
ඔහු හා සමගිවෙයනනා නැත්නම් ඔහු
තුබ අල්ලා නඩු විනිශ්චයකාරයාට පාවා
දෙනෙන්ය. ඔහුද තුබ සේවකයාට පා
වා දෙනෙන්ය. තුබද හිරගෙයි දමනු ල
26 බනෙන්ය. සැබවක් තුබට මම කියමි

අන්තිම සල්ලිය ගෙවනතුරු තුබ එයින්
නොනික්මෙනෙන්ය.
27 පරදාර කර්මය නොකරවයි පූරාතන
28 යන්ට කී බව තුබලා ඇසුවෝය. එ
හෙත් තුබලාට මම කියමි යම් කිසිවෙක්
රාගයෙන් ස්ත්‍රියක් දෙස බලාද ඔහු එව
ලේම සිතින් ඈ හා සමග පරදාර කර්මය
29 කොලේය. තුබේ දකුනැස තුබට බාධා
කෙරේනම් ඒක උගුලාදමාපතනා මක්
නිසාද තුබේ මුළු ශරීරය නිරයෙහි හෙළ
නු ලබනවාට වඩා තුබේ අවයවවලින්
30 එකක් නැතිවීම තුබට යහපත. තුබේ
දකුනත තුබට බාධාකෙරේනම් ඒක ක
පාදමාපතනා. මක්නිසාද තුබේ මුළු ශරී
රය නිරයෙහි හෙලනු ලබනවාට වඩා
තුබේ අවයවවලින් එකක් නැතිවීම තු
බට යහපත.
31 යමෙක් තමාගේ භාර්යාව හරිනෙන්
නම් ඈට අත්හැරීම් පත්‍රයක් දේවයි කි
32 යා තිබෙනෙන්ය. එහෙත් තුබලාට මම
කියමි වෙශ්‍යාකමට මිස වෙන කාරණ
යකට තමාගේ භාර්යාව හරින්නාවූ ය
මෙක් ඇද්ද ඔහු ඈ පරදාර කර්මයට ප
මුනුවනෙන්ය. යමෙක් ඒ ස්ත්‍රිය විවාහක
රගනෙන්නම් ඔහුද පරදාර කර්මය කර
නෙන්ය.
33 නැවතද බොරු නොදිව්රව ස්වාමීන්
වහන්සේ ඉදිරියෙහි දිව්ල දිව්රීම් ඉෂ්ටක
රවයි පූරාතනයන්ට කී බව තුබලා ඇසු
34 වෝය. එහෙත් කිසි දිව්රුමක් නොදිව්
රන්ට තුබලාට කියමි. දෙවියන්වහන්
සේගේ සිංහාසනය බැවින් අහස ගැන
35 වත් උන්වහන්සේගේ පාපුටුව බැවින්
පොලොව ගැනවත් මහ රජහුගේ නුව
ර බැවින් යෙරුසලම ගැනවත් නොදිව්
36 රල්ලාය. එක් ඉසකෙසක් සුදුකරන්ට
වත් කළුකරන්ටවත් නොහැකි බැවින්
37 ඉස ගැනද නොදිව්රල්ලාය. එහෙත් තු
බේ වචනය එසේය එසේය කියාද නැත
නැතැයි කියාද වේවා මෙයට වැඩිවූ සි
යල්ල නපුරෙන් හටගනෙන්ය.
38 ඇසට ඇස දතට දතයයි කී බව තුබ
39 ලා ඇසුවෝය. එහෙත් තුබලාට මම කි
යමි නපුරුකම් කරනතා සමග පොරට
නොසිටිල්ලාය. යමෙක් තුබේ දකුනු
කම්මුලට ගැසිනම් අනික් කම්මුලද හර
40 වාපතනා. යමෙක් තුබේ අඳනා රෙද්ද
ගනතා පිනිස නඩු සභාවෙහි පැමිනිලි
කරන්ට කැමතිවීනම් ඔහුට උතුරු සළ

41 වත් ගන්ට අවසර දීපනන. යමෙක් එක්
හැතැක්මක් යන්ට නුඹට බලාත්කාර
කලේනම් ඔහු සමග හැතැක්ම දෙකක්
42 පලයනන. නුඹෙන් ඉල්ලනනාට දීපනන
නුඹෙන් නය ගන්ට කැමැත්තාට පිට
නොපානන.
43 තමාගේ අසල්වාසියාට ප්‍රේම කරව
සතුරාට වෛරවෙවයි කී බව නුඹලා ඇ
44 සුවෝය. එහෙත් නුඹලාට මම කියමි නු
ඹලාගේ සතුරන්ට ප්‍රේම කරපල්ලාය නු
ඹලාට සාපකරනනාවුන්ට ආශිර්වාද කරප
ල්ලාය නුඹලා කෙරෙහි වෛර බඳින්
නන්ට යහපත්කම් කරපල්ලාය නුඹලා
ට නින්දා පීඩා කරනනන් උදෙසා යාඥා
45 වෙයල්ලාය. එසේ කලොත් යහපතුන්
ටත් අයහපතුන්ටත් තමන් ඉර උදාකර
නනාවූ සත්පුරුෂයන්ටත් අසත්පුරුෂ
යන්ටත් වැසි වස්වනනාවූ ස්වර්ගයෙහි
වැඩසිටින නුඹලාගේ පියානන්වහන්සේ
46 ගේ දරුවෝ වෙනවා ඇත. නුඹලාට
ප්‍රේමකරනනන්ටම නුඹලාත් ප්‍රේම කර
ණවානම් නුඹලාට මොන විපාකයක්
වේද? සුංගම් අයකරනනෝ පවා එසේ
47 නොකෙරෙද්ද? නුඹලාගේ සහෝදර
යන්ට පමනක් ආචාර කරණවානම් මො
න උතුම් ක්‍රියාවක් කරණවාද? සුංගම්
අයකරනනෝ පවා එසේ නොකෙරෙද්
48 ද? එබැවින් ස්වර්ගයෙහි වැඩසිටින නු
ඹලාගේ පියානන්වහන්සේ ගුණයෙන්
සම්පූර්ණව සිටිනනාක්මෙන් නුඹලාත්
ගුණයෙන් සම්පූර්ණව සිටපල්ලාය.

6. පරිච්ඡේ. මනුෂ්‍යයන්ට පෙනෙනන
පිනිස ඔවුන්ගේ ඉදිරියෙහි නුඹලාගේ
දානය නොදෙන්ට ප්‍රවේසම්වෙයල්ලාය
නැත්නම් ස්වර්ගයෙහි වැඩසිටින නුඹ
ලාගේ පියානන්වහන්සේගෙන් නුඹලාට
විපාකයක් නැතෙත්ය.
2 එබැවින් නුඹ දන් දෙන කල මනුෂ්‍ය
යන්ගෙන් ප්‍රසංසා ලබන පිනිස සිනගෝ
ග සහ වීථිවලදීත් වංචාකාරයෝ කරන්
නාක්මෙන් නුඹ ඉදිරියෙහි හොරනෑ
නොපිඹවන්න. සැබවක් නුඹලාට කිය
3 මි ඔවුන්ගේ විපාකය ඔවුන්ට ලැබුනේ
4 ය. නුඹ දන් දෙන කල නුඹේ දානය ර
හස්ව තිබෙන පිනිස දකුනත කරණ දේ
වමත නොදනීවා. එවිට රහසිගතව ද
කින නුඹේ පියානන්වහන්සේ ප්‍රසිද්ධ
යෙන් නුඹට විපාක දෙනසේක.

5 නුඹ යාඥාකරණ කල්හි මනුෂ්‍යයන්ට
පෙනෙනන පිනිස සිනගෝග සහ මාර්ග
සන්ධිවලද සිට යාඥාකරන්ට කැමතිවූ
වංචාකාරයන් මෙන් නොවෙනන. සැබ
වක් නුඹලාට කියමි ඔවුන්ගේ විපාකය
ඔවුන්ට ලැබුනේය.
6 නුඹ යාඥාකරණකල නුඹේ ඇතුල්
ගෙට වැද දොර වසා රහසිගතව වසන
නුඹේ පියානන්වහන්සේට යාඥාකරපන්
න එකල රහසිගතව දකින නුඹේ පියා
නන්වහන්සේ ප්‍රසිද්ධයෙන් නුඹට විපාක
7 දෙනසේක. නුඹලා යාඥාකරණකල අ
න්‍යජාතීන් මෙන් කී බස් නිෂ්කාරණයේ
නැවත නැවත නොකියල්ලාය. ඔවුන්
තමන්ගේ බොහෝ කීම් නිසා අසනු ල
8 බනවා ඇතැයි සිතති. ඔවුන්ට සමාන
නොවෙල්ලාය මක්නිසාද නුඹලාගේ පි
යානන්වහන්සේගෙන් යමක් ඉල්ලන්ට
පලමුවෙන් මොන දේ නුඹලාට නිසිදැයි
9 උන්වහන්සේ දනනාසේක. එහෙයින්
මෙසේ යාඥාකරපල්ලාය. ස්වර්ගයෙහි
වැඩසිටින අපගේ පියානන්වහන්ස ඔබව
හන්සේගේ නාමය සුද්ධව පවත්වනු ලැ
10 බේවා. ඔබවහන්සේගේ රාජ්‍යය ඒවා ඔ
බවහන්සේගේ කැමැත්ත ස්වර්ගයෙහි
11 මෙන් භූමියෙහිද කරනු ලැබේවා. අපේ
12 දවස්පතා භෝජනය අපට අද දුනමැන
ව. අපේ නයකාරයන්ට අපි ක්ෂමාවෙන්
නාක්මෙන් අපේ නයත් අපට ක්ෂමාවූව
13 මැනව. අප පරීක්ෂාවට නොපමුනුවා නපු
රෙන් අප ගලවාගනමැනව. මක්නිසාද
රාජ්‍යයත් බලයත් මහිමයත් සදාකල්හිම
14 ඔබවහන්සේගේමය ආමෙන්. නුඹලා ම
නුෂ්‍යයන්ට ඔවුන්ගේ වරදවල් ක්ෂමා
වෙනවානම් නුඹලාගේ ස්වර්ගීයවූ පියා
නන්වහන්සේ නුඹලාටත් ක්ෂමාවනසේ
15 ක. එහෙත් නුඹලා මනුෂ්‍යයන්ට ඔවුන්
ගේ වරද ක්ෂමා නොවනවානම් නුඹලා
ගේ පියානන්වහන්සේත් නුඹලාගේ වර
ද නුඹලාට ක්ෂමා නොවනසේක.
16 නුඹලා නිරාහාරයෙන් ඉනනාකල ව
ංචාකාරයන් මෙන් දුක්ඛිතවූ මුහුනු ඇති
ව නොසිටිල්ලාය. ඔවුන් නිරාහාරයෙන්
ඉනන බව මනුෂ්‍යයන්ට පෙනෙනන පිනි
ස තමන්ගේ මුහුනු මලානික කරගනිති.
සැබවක් නුඹලාට කියමි ඔවුන්ගේ විපා
17 කය ඔවුන්ට ලැබුනේය. නුඹලා නිරාහා
රයෙන් ඉනනකල රහසිගතව වසන නු
ඹේ පියානන්වහන්සේට මිස මනුෂ්‍යයන්

ට නුඹ නිරාහාරව ඉන්න බව නොපෙ
නෙන පිණිස නුඹේ හිස තෙල් ගා මූහුණ
18 සෝදගන්න. එවිට රහසිගතව දකින නු
ඹේ පියාණන්වහන්සේ ප්‍රසිද්ධයෙන් නුඹ
ට විපාක දෙනසේක.
19 භූමියෙහි තමන්ට වස්තු රැස්කර නො
ගනිල්ලාය. එහිදී කාවෝද මලකඩද ඒ
වා විනාසකරති එහිදී සොරු උමන්කෑ
20 න ගනිති. එහෙත් ස්වර්ගයෙහි තමන්ට
වස්තු රැස්කරගනිල්ලාය එහිදී කාවෝද
මලකඩද ඒවා විනාස නොකරති එහිදී
21 සොරු උමන්කෑන නොගනිති. මක්නි
සාද නුඹලාගේ වස්තු යම් තැනෙක්හිද
22 නුඹලාගේ සිතත් එහිම වන්නේය. ඇස
ශරීරයේ පහන වේ එහෙයින් නුඹේ ඇ
ස යහපත්ව තිබේනම් නුඹේ මුළු ශරීර
23 ය එළිය වේ. නුඹේ ඇස අයහපත්ව ති
බේනම් නුඹේ මුළු ශරීරය අඳුරුවේ එබැ
වින් නුඹ ඇතුලත තිබෙන එළිය අඳුරු
24 වීනම් ඒ අඳුර කොපමන මහත්වේද?
ස්වාමිවරුන් දෙදෙනෙකුට මෙහෙකිරී
ම කාටවත් නුපුළුවන. එසේ කලොත්
එක්කෙනෙකුට අප්‍රියව අනික් අයට ප්‍රි
යවන්නේය නොහොත් එක්කෙනෙකු
ට ඇළුම්ව අනික් අය නොසලකන්නේ
ය. නුඹලා විසින් දෙවියන්වහන්සේටද
වස්තුවටද මෙහෙකිරීම නොහැක්කේ
25 ය. එහෙයින් නුඹලාට කියමි ජීවත්වීම
ගැන කුමක් කමුද කුමක් බොමුද කි
යාත් ශරීරය ගැන කුමක් අඳිමුද කියාත්
කල්පනාකර කනගාටු නොවෙල්ලාය.
කෑමට වඩා ජීවිතයද ඇඳුමට වඩා ශරී
රයද උතුම් නොවේද? ආකාසයෙහි ප
26 ක්ෂීන් බලාපල්ලාය: උන් වපුරන්නෝද
නොවෙති කපන්නෝද නොවෙති අටු
වෙහි රැස්කරන්නෝද නොවෙති එසේ
නුමුත් නුඹලාගේ ස්වර්ගීයවූ පියාණන්ව
හන්සේ උන් පෝෂ්‍යකරණසේක: නුඹ
ලා උන්ට වඩා උතුම්නොවෙද්ද? කන
27 ගාටු සිතීමෙන් තමාගේ උසට වඩා එක
රියනක්වත් වැඩිකරගන්ට නුඹලා අත
28 රෙන් කවරෙකුට පුළුවන්ද? නුඹලා වස්
ත්‍ර ගැන කුමක් පිණිස කනගාටුවෙද්ද?
කෙතෙහි මානෙල් කෙසේ වැඩෙත්දැයි
කල්පනාකරපල්ලාය. ඒවා වෙහෙසෙන්
29 නේවත් නූල් කටින්නේවත් නැත. එ
හෙත් නුඹලාට කියමි තමාගේ සියළු ඉ
සුරෙන් යුක්තවූ සලමොන් පවා ඒ ම
30 ලක් ලෙස අලංකාර නොවූයේය. විස්
වාස මදි තැනැත්තනි අද තිබී සෙට උ
දුනෙහි දමනුලබනනාවූ කෙතෙහි මල්
දෙවියන්වහන්සේ මෙසේ සරසනසේක්
නම් උන්වහන්සේ නුඹලා වැඩියෙන්
31 නොසරසනසේක්ද? එසේහෙයින් කු
මක් කමුද කුමක් බොමුද කුමක් අඳිමුදැ
යි කියමින් කනගාටු නොවෙල්ලාය. මේ
32 සියල්ල අන්‍යජාතියෝ සොයති. මේ සි
යල්ල නුඹලාට ඕනෑ බව නුඹලාගේ ස්ව
ර්ගීයවූ පියාණන්වහන්සේ දන්නාසේක.
33 ඉන්නිසා පලමුවෙන් දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයද උන්වහන්සේගේ ධර්මිෂ්ඨ
කමද සොයාපල්ලාය එවිට මේ සියල්ලත්
34 නුඹලාට දෙනු ලබන්නේය. එබැවින්
සෙට දවස නිසා කනගාටු නොසිතල්ලා
ය සෙට දවස තමාගේ දේ ගැන සිතන්
නේය. දවසෙහි දුස්කරය ඒ දවසට
සෑහෙයි.

7. පරිච්ඡ. නුඹලා විනිශ්චයකරනු
නොලබන පිණිස විනිශ්චය නොකරල්
2 ලාය. යම් විනිශ්චයකින් නුඹලා විනිශ්ච
යකරණවානම් එයින්ම නුඹලාත් විනිශ්
චයකරනු ලබනවා ඇත. යම් මිම්මකින්
නුඹලා මැන දෙනවානම් එයින්ම නැව
ත නුඹලාටත් මැනදෙනු ලැබෙන්නේය.
3 නුඹේ ඇසේ තිබෙන දූවිය නොසලකා
සහෝදරයාගේ ඇසේ තිබෙන පතුර බ
4 ලනේ මක්නිසාද? නොහොත් නුඹේ
ඇසේ දූවිය තිබෙද්දී නුඹේ ඇසේ ති
බෙන පතුර පහකරන්ට අවසර දියනෑ
යි සහෝදරයාට කියනේ කොහොම
5 ද? වංචාකාරය පලමුකොට නුඹේ ඇ
සේ තිබෙන දූවිය පහකරගන්න එවිට
සහෝදරයාගේ ඇසේ තිබෙන පතුර ප
හකරන්ට හොඳට පෙනෙනවා ඇත.
6 පිරිසිදු දේ බල්ලන්ට නොදෙල්ලාය.
නුඹලාගේ මුතු ඌරන් ඉදිරියෙහි නො
දමල්ලාය සමහරවිට උන් ඒවා පයින් පා
ගා පසුව හැරී නුඹලා හපාකනවා ඇත.
7 ඉල්ලාපල්ලාය එවිට නුඹලාට දෙනු
ලැබේ සොයාපල්ලාය එවිට නුඹලාට
සම්භවේ තට්ටුකරපල්ලාය එවිට නුඹලා
8 ට දොර හරිනු ලැබේ. මක්නිසාද ඉල්ල
න්නාවූ සියල්ලෝ ලබති සොයන තැනැ
ත්තාට සම්භවේ තට්ටුකරණ තැනැත්
9 තාට දොර හරිනු ලැබේ. නුඹලා අත
රෙන් යම් මනුෂ්‍යයෙක් තමාගේ පුත්‍රයා
රොටියක් ඉල්ළුකල ඔහුට ගලක් දේද?

10 නොහොත් මත්ස්‍යයකු ඉල්ලූකල ඔහුට
11 සර්පයකු දේද? නපුරුවූ තුඹලා පවා
තමන් දරුවන්ට යහපත් දේ දෙන්ට ද
න්නහවානම් ස්වර්ගයෙහි සිටින තුඹලා
ගේ පියානන්වහන්සේ තමන්ගෙන් ඉල්
ලන්නන්ට යහපත් දේ කොපමන වැඩි
12 තරම්ව නොදෙනසේක්ද? එබැවින් ම
නුෂ්‍යයෝ තුඹලාට යමක් යමක් කරණ
වාට තුඹලා කැමතිනම් ඒ ඒ දේ ඔවුන්
ටත් කරපල්ලාය. ව්‍යවස්ථාව සහ අනාග
ත වාක්‍යය මේය.
13 පටු දොරකඩින් ඇතුල්වෙයල්ලාය
මක්නිසාද විනාසයට යන දොරකඩ ම
හත්ය පාර පලලය එයින් ඇතුල්වෙන්
14 නෝ බොහෝය. එහෙත් ජීවනයට ය
න දොරකඩ පටුය පාර නුපුළුල්ය ඒක
සම්භවෙනෝ ස්වල්ප දෙනෙකුටය.
15 බොරු අනාගතවක්තෘන්ගෙන් ප්‍ර
වේසම් වෙයල්ලාය මක්නිසාද ඔවුන් බැ
ටළුවන්ගේ ස්වරූපයෙන් තුඹලා ලඟට
පැමිනෙති නුමුත් ඔවුන් ක්‍රූර සිත් ඇති
වෘකයෝය. ඔවුන්ගේ ඵලයෙන් තුඹලා
16 ඔවුන් අඳුනනවා ඇත. මනුෂ්‍යයෝ ක
ටුවලින් මුද්‍රිකද හොකටුවලින් දිඹුල්ද
17 නෙලාගනිද්ද? එසේම හොඳ ගස් සිය
18 ල්ල හොඳ පල දෙනෝය. නරක ගහ
නරක ඵල දෙනෝය. හොඳ ගහේ න
රක ඵලවත් නරක ගහේ හොඳ පලවත්
19 හටගන්ට නුපුළුවන. හොඳ ඵල නො
දෙන සියළු ගස් කපනු ලැබ ගින්නෙහි
20 දමනු ලැබෙත්. එබැවින් ඔවුන්ගේ ඵ
ලයෙන් තුඹලා ඔවුන් අඳුනනවා ඇත.
21 ස්වර්ගයෙහි වැඩසිටින මාගේ පියානන්
වහන්සේගේ කැමැත්ත කරණෙක් මි
ස ස්වාමිනි ස්වාමිනියි මට කියන්නාවූ සිය
ල්ලෝම ස්වර්ගරාජ්‍යයට ඇතුල් නොව
22 න්නෝය. ඒ දවසේදී ස්වාමිනි ස්වාමිනි
ඔබවහන්සේගේ නාමයෙන් දේසනා
නොකෙලෙමුද? ඔබවහන්සේගේ නා
මයෙන් යක්ෂයන් දුරු නොකෙලෙමුද?
ඔබවහන්සේගේ නාමයෙන් නොයෙක්
ආශ්චර්‍ය්‍ය නොකෙලෙමුදැයි නොයෙක්
23 දෙන මට කියනවා ඇත. එවිට මම කි
සි කලෙකත් තොප නොහැඳිනෙමි
නපුරු ක්‍රියාකාරයෙනි මා කෙරෙන් ප
හව යව්යයි ඔවුන්ට කියනෙමි.
24 එහෙයින් යම් කිසිවෙක් මාගේ මේ
වචන අසා එලෙස පිළිපදිද ඒ පුරුෂයා
පර්වතයක් පිට ගේ සාදගත් නුවන ඇති
25 මනුෂ්‍යයෙකුට උපමා කෙරෙමි. වැසි
වැස වතුර ගලා හුළඟ හමා ඒ ගෙට ගැ
සූයේය. ඒ ගේ පර්වතය පිට පිහිටුවූ බැ
26 වින් නොවැටුනේය. යමෙක් මාගේ මේ
වචන අසා ඒවා පිළිනොපදීද ඔහු වැලි
මත්තෙහි ගෙයක් සාදගත් නුවන නැති
27 මනුෂ්‍යයෙකුට උපමාකරනු ලැබේ. වැ
සි වැස වතුර ගලා හුළඟ හමා ඒ ගෙට
ගැසූයේය ඒක වැටුනේය. ඒ වැටීමද බ
ලවත් විය.
28 යේසුස්වහන්සේ මේ වචන කියා නිම
වූ කල්හි උන්වහන්සේගේ ඉගැන්වීමට
29 සමූහයෝ පුදුම වූවෝය. මක්නිසාද උ
න්වහන්සේ ලියන්නන් මෙන් නොව බ
ලසම්පන්න කෙනෙක් මෙන් ඔවුන්ට ඉ
ගැන්වූසේක.

8. පරිච්ඡෙ. උන්වහන්සේ පර්වතයෙන්
බැස්සකල බොහෝ සමූහයෝ උන්ව
2 හන්සේ පස්සේ ගියෝය. එවිට කුෂ්ට
රෝගාතුරයෙක් ඇවිත් උන්වහන්සේට
වැඳ ස්වාමිනි ඔබවහන්සේ කැමතිනම්
මා පිරිසිදුකරන්ට ඔබවහන්සේට පුළුව
3 නැයි කීය. යේසුස්වහන්සේද අත දිගු
කොට ඔහුගේ ශරීරයෙහි තබා කැමැත්
තෙමි පිරිසිදුවෙයන්නැයි කීසේක. එ
කෙනෙහිම ඔහු කුෂ්ටයෙන් පිරිසිදුවීය.
4 එවිට යේසුස්වහන්සේ මේ බව කාටවත්
නොකියන්ට බලාගනින්න එහෙත්
ගොස් පූජකයාට පෙනී ඔවුන්ට සාක්ෂි
පිනිස මෝසෙස් විසින් අනකල පඬුර පූ
ජාකරපන්නැයි ඔහුට කීසේක.
5 යේසුස්වහන්සේ කපර්ණාවූමට ඇතුල්
වූ කල්හි සියේකට මූලාදැනියෙක් උන්
6 වහන්සේ වෙතට පැමින උන්වහන්සේ
ගෙන් පිහිට ඉල්ලමින් ස්වාමිනි මාගේ
මෙහෙකරුවා අඝභාග රෝගීව බල
වත් වේදනා විඳිමින් ගෙයි ඔත්පලව ඉ
7 න්නාවායයි කීය. යේසුස්වහන්සේ මම
8 ඇවිත් ඔහු සුවකෙරෙමියි කීසේක. සි
යේකට මූලාදැනියා උත්තර දෙමින් ස්වා
මිනි මාගේ පියස්ස යටට ඔබවහන්සේ
ගේ ඊමට මම නොවටිමි වචනය පම
නක් කිව්මැනව එවිට මාගේ මෙහෙක
9 රුවාට සුවවෙනෝය. මමත් ආඥාවට ය
ටත් මිනිහෙක මා යටතෙහිද භේවායෝ
සිටිති. එකෙකුට යවයි කී කල ඔහු යන්
නේය අනිකකුට එවයි කීකල ඔහු එන්
නේය. මාගේ මෙහෙකරුවාට මේකා

කරවයි කී කල ඔහු ඒක කරන්නේයයි
10 කීය. යේසුස්වහන්සේ ඒ අසා පුදුමව පස්
සේ යනහන්ට කථාකොට සැබවක් නු
ඹලාට කියමි ඊශ්‍රායෙල්හි පවා මෙබඳු
11 මහත් ඇදහිල්ලක් හුදුට්මි. තවද නුඹ
ලාට කියමි නැගෙන ඉරින්ද බස්නා ඉ
රින්ද බොහෝ දෙනා ඇවිත් ආබ්‍රහම් ඊ
සාක් යාකොබ් සමග ස්වර්ග රාජ්‍යයෙහි
12 හිඳිනෝය. එහෙත් රාජ්‍යයෙහි දරු
වෝ පිටත අඳුරෙහි දමනු ලබනවා ඇ
ත. එහිදී හැඬීමද දත්මිටි කෑමද වන්
13 නේයයි කීසේක. පසුව යේසුස්වහන්සේ
කථාකොට පලයනත නුඹ අදහගත්සේ
ම නුඹට වේවයි සියේව මුලාදෑනියාට කී
සේක. එකෙණෙහිම ඔහුගේ මෙහෙක
රුවාට සුවවිය.
14 යේසුස්වහන්සේ පේත්‍රුස්ගේ ගෙදර
ට ඇතුල්වූකල ඔහුගේ භාර්‍ය්‍යාවගේ මව්
උන ලෙඩින් ඔත්පලව ඉනනවා දැක
ඇගේ අත ඇල්ලූසේක. එවිට උන ලෙ
15 ඩ සුවවිය. ඈද නැගිට ඔවුන්ට උපස්ථා
16 න කලාය. සවස්වූවිට යක්ෂාවේසවූ බො
හෝ දෙනෙක් උන්වහන්සේ ලගට ගෙ
නාවෝය. උන්වහන්සේද තමන්ගේ වච
නයෙන්ම යකුන් දුරුකොට රෝගාතු
17 රවූ සියල්ලන්ට සුවකලසේක. උන්වහන්
සේ අපේ දුර්වලකම් රැගෙන අපේ රෝ
ග උසුලාගත්සේකැයි යෙසයියා අනාග
තවක්තෘහු විසින් කී වචනය මෙසේ සම්
පූර්ණවිය.
18 යේසුස්වහන්සේද බොහෝ සමූහ
යන් විසින් තමන් පිරිවරා සිටින බව දැ
19 ක එගොඩ යමුයයි කීසේක. එවිට එක්
ලියනෙතක් ඇවිත් ආචාරීනි ඔබවහන්
සේ යන තැනකට මමත් ඔබවහන්සේ
20 පස්සේ එමියි උන්වහන්සේට කීය. එවිට
යේසුස්වහන්සේ සිවලුන්ට බිලත් ආකා
සයෙහි පක්ෂීන්ට කූඩුත් ඇත එහෙත්
මනුෂ්‍ය පුත්‍රයාට හිස තබන්ටවත් තැ
21 නක් නැතැයි ඔහුට කීසේක. උන්වහන්
සේගේ ගෝලයන්ගෙන් අනිකෙක් ස්වා
මීන්වහන්ස මාගේ පියා තැන්පත්කරණ
පිනිස පලමුවෙන් යන්ට මට අවසර දුන
22 මැනවයි කීය. යේසුස්වහන්සේ මා පස්
සේ වරෙනහ මලාහු තමන්ගේ මලවුන්
තැන්පත් කෙරෙතවයි ඔහුට කීසේක.
23 උන්වහන්සේ නැවට නැගුනුකල ගෝ
24 ලයෝ උන්වහන්සේ සමග ගියෝය. මුහු
දේ මහත් කුළගක් විය නැව රළව
ලින් වැහුනේය. උන්වහන්සේ නිදාහුන්
25 සේක. එවිට ගෝලයෝ ලගට ඇවිත් උ
න්වහන්සේ පුබුදුවා ස්වාමීනි අප ආරක්
26 ෂාකල මැනව අපි විනාසවෙමුයයි කී
වෝය. එවිට උන්වහන්සේ විස්වාස මදි
තැනැත්තනි භයව සිටිනෙත් මක්නි
සාදයි කියා සුලඟටත් මුහුදටත් තරවටු
කලසේක. එවිට මහත් නිශ්චලයක් වී
27 ය. මනුෂ්‍යයෝ පුදුමව මුන්වහන්සේ
කෙබදු කෙනෙක්ද සුලඟත් මුහුදත් මු
න්වහන්සේට කීකරු වෙතියි කීවෝය.
28 උන්වහන්සේ එගොඩ ගර්ගසේන
යන්ගේ රටට පැමිනිකල යක්ෂාවේසවූ මි
නිස්සු දෙනෙතක් සොහොන් ගෙවැ
ලින් පිටත්ව උන්වහන්සේගේ පෙරමග
ට ආවෝය. ඔවුන් ඉතා රෞද්‍ර නිසා ඒ
මාර්ගයෙහි යන්ට කිසිවෙකුට නුපුළු
29 වන්විය. ඔවුන් දෙවියන්වහන්සේගේ පු
ත්‍රවූ යේසුස්වහන්ස ඔබවහන්සේට අ
පෙන් කම මොකද? නියම කාලයට ඉස්
සර අපට පීඩාකරන්ට මෙහි ආසේක්ද
30 යි මුරගා කීවෝය. ඔවුන්ට දුරින් මහත්
ඌරු රැලක් ගොදුරු කමින් සිටියේය.
31 යක්ෂයෝද අප දුරුකරණසේක්නම් ඒ
ඌරු රැලට වැදෙන්ට අපට අවසර දු
නමැනවයි උන්වහන්සේගෙන් ඉල්ලූ
32 වෝය. උන්වහන්සේ ඔවුන්ට පලයව්ය
යි කීසේක. එවිට ඔවුන් දුරුව ගොස්
ඌරු රැලට වැදුනෝය. ඒ මුළු ඌරු
රැල වේගයෙන් දිවගොස් උස්වූ තැන
33 කින් මුහුදට වැටී දියෙහි මලේය. එවිට
ඌරු රැකවල්ලූ පලාගොස් නුවරට පැ
මිනෙ ඒ සියල්ලත් යක්ෂාවේසවූවන්ට සිදු
34 වූ දේත් කීවෝය. සියළු නුවර වැසියෝ
යේසුස්වහන්සේගේ පෙරමගට ඇවිත්
උන්වහන්සේ දැක තමන් රටින් යන ලෙ
ස ඉල්ලූවෝය.

9. පරිච්. එවිට උන්වහන්සේ නැ
වට නැගී එගොඩව තමන් නුවරට පැ
2 මිනිසේක. එවිට ඔත්පලවූ අඟහාග රෝ
ගාතුරයෙක් උන්වහන්සේ ලගට ඇඳ
කින් ගෙනාවෝය. යේසුස්වහන්සේ ඔ
වුන්ගේ ඇදහිල්ල දැක පුත්‍රය භයනො
වෙනත නුඹේ පව් සමාවූනේයයි රෝ
3 ගාතුරයාට කීසේක. ලියනහන්ගෙන්
සමහරෙක් මොහු දෙවියන්වහන්සේට
4 අපහාස කරනෙත්යයි සිතුවෝය. යේ
සුස්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැක

තුබලා නපුරු සිතිවිලි සිතනෙත් මක්
5 නිසාද? තුබේ පව් තුබට ක්‍ෂමාවූනේය
යි කීමෙනුත් නැගිට ඇවිදපන්නැයි කී
6 මෙනුත් වඩා පහසු කෝකද? එහෙත් ම
නුෂ්‍ය පුත්‍රයාට පව් ක්‍ෂමාකරන්ට මෙලො
වදී බලය ඇති බව තුබලාට දැනෙන පි
ණිසයයි කියා නැගිට ඇඳ රැගෙන තු
බේ ගෙදරට පලයන්නැයි අඝභාග රෝ
7 ගාතුරයාට කීසේක. එවිට ඔහු නැගිට
8 තමාගේ ගෙදරට ගියේය. සමූහයෝ ඒ
දැක පුදුමව මෙබඳු බලය මනුෂ්‍යයන්
ට දුන් දෙවියන්වහන්සේට ප්‍රසංසා ක
ලෝය.

9 යේසුස්වහන්සේ එසින් යන අතර සුං
ගම් අයකරණ තැනක උන්නාවූ මතෙව්
නම් මනුෂ්‍යයෙක් දැක මා පස්සේ වරෙ
න්නැයි ඔහුට කීසේක. එවිට ඔහු නැගි
10 ට උන්වහන්සේ පස්සේ ගියේය. ඉන්පසු
යේසුස්වහන්සේ ගෙයි කෑමට හිඳගත්
විට බොහෝ සුංගම් අයකරන්නෝද
පව්කාරයෝද ඇවිත් උන්වහන්සේ සහ
උන්වහන්සේගේ ගෝලයන් සමගද හි
11 ඳගත්තෝය. ඵරිසිවරු ඒ දැක තුබලා
ගේ ආචාරීන්වහන්සේ සුංගම් අයකරන්
නන්ද පව්කාරයන්ද සමග කන්නේ මක්
නිසාදැයි ගෝලයන්ගෙන් ඇසුවෝය.
12 යේසුස්වහන්සේ ඒ අසා ඔවුන්ට කථා
කොට රෝගීන්ට මිස නිරෝගීන්ට වෙ
13 දුගෙන් කම්නැත. තුබලා ගොස් මම
කරුණාව මිස යාගය නොකමැත්තෙමියි
යන බසෙහි අර්ථය කිමෙක්දැයි ඉගනග
නිල්ලාය. මම පව්කාරයන් මිස ධර්මිෂ්ඨ
යන් පසුතැවිලිවීමට කැඳවන්ට නාවෙ
මියි කීසේක.

14 එකල යොහන්ගේ ගෝලයෝ උන්ව
හන්සේ වෙතට ඇවිත් අපිත් ඵරිසිව
රුත් නොයෙක්වර නිරාහාරයෙන් සිටි
මුව ඔබවහන්සේගේ ගෝලයෝ නිරා
හාරයෙන් නොසිටිනෙත් මක්නිසාදැයි
15 ඇසුවෝය. යේසුස්වහන්සේ ඔවුන්ට ක
ථාකොට මගුල් ගෙයි සිටින්නන් සමග
මනමාලයා සිටින කාලයෙහි ඔවුන්ට
ශෝකවෙන්ට පුළුවන්ද? නුමුත් මනමාල
යා ඔවුන්ගෙන් බැහැරගන්නා දවස් පැ
මිනෙනෙත්ය. එකල්හි ඔවුන් නිරාහාර
16 යෙන් ඉන්නාවා ඇත. කවුරුවත් අළුත්
පිලිකඩක් පරණ වස්ත්‍රයක් සමග නො
මහන්නේය. මැහුවොත් ඒ පිලිකඩින්
ඒ වස්ත්‍රය ඉරෙනෙත්ය ඉරුමද වැඩිවෙ
17 යි. අළුත් මුද්‍රිකපානය පරණ සම්භාජන
වල නොවත්කෙරෙති වත්කලොත් භා
ජන පැලී මුද්‍රිකපානය වැගිර ගොස් භා
ජනත් විනාසවෙනෙත්ය. එහෙත් අළුත්
මුද්‍රිකපානය අළුත් භාජනවල වත්කෙ
රෙති එවිට දෙවගේම රක්‍ෂාවෙනෙත්යයි
කීසේක.

18 උන්වහන්සේ මේ කාරණ කියමින් සි
ටිද්දී එක් මූලාදෑනියෙක් ඇවිත් උන්ව
හන්සේට වැඳ මාගේ දුව මේ දැන් මලා
ය. එහෙත් ඔබවහන්සේ ඇවිත් ඈ පිට
අත් තැබුවමැනව එවිට ඈ ජීවත්වන්නී
19 යයි කීය. යේසුස්වහන්සේද නැගිට ඔහු
එක්ව ගියසේක. ගෝලයෝද උන්වහන්
20 සේ කැටුව ගියෝය. එකල දොළොස්
අවුරුද්දක් මහලේ රෝගයෙන් පීඩිත
වූ ස්ත්‍රියක් මම උන්වහන්සේගේ ඇඳුම
ට පමනවත් අත ගැසුවොත් මට සුවවෙ
21 යි සිතාගෙන උන්වහන්සේ පස්සේ ඇ
විත් උන්වහන්සේගේ වස්ත්‍ර කෙලවරට
22 අතගැසුවාය. යේසුස්වහන්සේ ආපසු හැ
රී ඈ දැක දුවණියෙනි භයනොවෙන්න
තුබේ ඇදහිල්ල තුබ සුවකෙලේයයි කී
23 සේක. එවලේම ඈට සුවවිය. යේසුස්ව
හන්සේ මූලාදෑනියාගේ ගෙට පැමින න
24 ලාකාරයන්ද ශෝකාකරන්නන්ද දැක පල
යල්ලාය යෞවනී නැසුනේ නැත ඈ නි
දන්නීයයි ඔවුන්ට කීසේක. එහෙත් ඔ
25 වුන් උන්වහන්සේට සිනාසුනෝය. සමූ
හයා පිටත්කලාම උන්වහන්සේ ගෙට
ඇතුල්ව යෞවනීගේ අත ඇල්ළුසේක.
26 එවිට ඈ නැගිසිටියාය. ඒ කීර්තිය ඒ ර
ට මුළුල්ලෙහි පතලවිය.

27 යේසුස්වහන්සේ එසින් යනකල අන්
ධයෝ දෙදෙනෙක් උන්වහන්සේ පසුපස්
සෙහි යමින් දාවිත්ගේ පුත්‍රය අපට අනු
28 කම්පා කලමැනවයි හඬහැවෝය. උන්
වහන්සේ ගෙට පැමිනිකල ඒ අන්ධයෝ
උන්වහන්සේ වෙතට ආවෝය. යේසුස්ව
හන්සේද මට ඒක කරන්ට පුළුවන් බව
තුබලා අදහනවාදැයි ඔවුන්ගෙන් ඇසු
29 සේක. එසේය ස්වාමිනියි කීවෝය. එවි
ට උන්වහන්සේ ඔවුන්ගේ ඇස් අතගා
තුබලාගේ ඇදහිල්ලේ ප්‍රකාරයට වේව
30 යි කීසේක. එකල ඔවුන්ගේ ඇස්වලට
පෙනීම ලැබුනේය. යේසුස්වහන්සේ ඒ
බව කාටවත් නොදන්වන හැටියට බ
ලාගනිල්ලායයි තදින් අනදුන්සේක.

31 එහෙත් ඔවුන් ගොස් උන්වහන්සේගේ
කීර්තිය ඒ රට මුළුල්ලෙහිම පතලකළෝය.

32 ඔවුන් පිටත්ව ගියවිට යක්ෂාවේශවූ
ගොළුවෙක් උන්වහන්සේ වෙතට ගෙ
33 නාවෝය. යක්ෂයා දුරුකළාසින් පසු
ගොළුවා කථාකෙළේය. එකල සමූහ
යෝ පුදුමව මෙබඳු දෙයක් ඊශ්‍රායෙල්හි
කිසි කලක දකින්ට නොලැබුණේයයි
34 කීවෝය. එරිසිවරු මොහු යක්ෂ මූලාදෑ
නියා කරණකොටගෙන යකුන් දුරුක
රනේයයි කීවෝය.

35 යේසුස්වහන්සේ සිනගෝගවලදී උග
න්වමින් ස්වර්ග රාජ්‍යය ගැන සුභාරංචිය
ප්‍රකාශකරමින් මනුෂ්‍යයන් අතරෙහි සි
යළු ආකාර රෝග පීඩා සුවකරමින් සිය
36 ළු නුවරවලද ගම්වලද ඇවිද්දසේක. එ
විට උන්වහන්සේ සමූහයන් දැක ඔවුන්
එඬේරා නැති බැටළුවන් ලෙස විසිර
ගොස් ක්ලාන්තව සිටින බැවින් ඔවුන්
37 කෙරෙහි අනුකම්පාකළසේක. එවිට උ
න්වහන්සේ තමන්ගේ ගෝලයන්ට කථා
කොට ඒකාන්තයෙන් ගොයම බො
38 හෝය ගොවියෝ ස්වල්ප දෙනෙක ඉන්
නිසා ගොයමට ගොවීන් යවනලෙස
ගොයමේ ස්වාමියාගෙන් ඉල්ලාපල්ලාය
යි කීසේක.

10. පරිච්ඡේ. එවිට උන්වහන්සේ ත
මන්ගේ ගෝලයන් දොළොස් දෙනා කැ
ඳවා අශුද්ධාත්මයන් දුරුකරන්ටද සියළු
ආකාර රෝග පීඩා සුවකරන්ටද ඔවුන්
ට බලය දුන්සේක.

2 ප්‍රේරිතයන් දොළොස් දෙනාගේ නා
මවල්නම් පළමුකොට පේතෘස්යයි කිය
නලද සීමොන් සහ ඔහුගේ සහෝදරවූ
අන්ද්‍රෑද සෙබදිගේ පුත් යාකොබ් සහ ඔ
3 හුගේ සහෝදරවූ යොහන් පිලිප් සහ
බතෝලොමෙවූද තෝමස් සහ සුංගම්
අයකරනනාවූ මතෙව්ද අල්පෙවුස්ගේ
පුත් යාකොබ් සහ තද්දියස් නම්ලත්
4 ලැබ්බියස්ද කනාන්හි සීමොන් සහ උ
න්වහන්සේ පාවාදුන් යූදස් ඉස්කාරි
යොත්ද යන මොවුය.

5 යේසුස්වහන්සේ මේ දොළොස් දෙන
යවමින් ඔවුන්ට අනකොට අන්‍යජාතීන්
ගේ ස්ථානවලට නොගොස් සමාරිය වා
6 සීන්ගේ නුවරකට ඇතුල්නොවී ඊශ්‍රා
යෙල්ගේ වංශයෙහි නැතිවූ බැටළුවන්
7 වෙතටම පලයල්ලාය. නුබලා යමින් ස්ව
ර්ගරාජ්‍යය ළඟයයි ප්‍රකාශකරපල්ලාය.
8 ලෙඩුන් සුවකරපල්ලාය කුෂ්ඨරෝගීන්
පවිත්‍රකරපල්ලාය මලවුන් නැගිටුවාපල්
ලාය යකුන් දුරුකරපල්ලාය නොමිල
යේ ලැබුවාවූ නුබලා නොමිලයේ දීපල්
9 ලාය. නුබලාගේ ඔඩොක්කුවලට රන්
10 වත් රිදීවත් පිත්තලවත් ගමනට පසුම්බිය
වත් ඇඳුම් දෙක දෙකවත් වහන් සඟල්
වත් සැරමිටිවත් සපයා නොගනිල්ලාය.
මක්නිසාද මෙහෙකරුවාට තමාගේ කෑ
11 ම ලැබෙන්ට යුතුය. යම් නුවරකටවත්
ගමකටවත් ඇතුල්වූනාම එහි සුදුස්සා
කවුදැයි විභාගකොට එසින් යනතුරු ඔ
12 හු ළඟ වාසයකරපල්ලාය. ඔහුගේ ගෙද
රට ඇතුල්වෙමින් ආචාර කරපල්ලාය.
13 එහි වැසියෝ සුදුසුනම් නුබලාගේ සමා
දානය ඔවුන්ට පැමිණේවා නුසුදුසුනම්
නුබලාගේ සමාදානය හැරී නුබලා වෙ
14 තටම පැමිණේවා. යමෙක් නුබලා පිළි
ගනොත්වත් නුබලාගේ වචන අසනොත්
වත් නැත්නම් ඒ ගෙදරින්ද නුවරින්ද පිට
ව යනකල නුබලාගේ පාදවල දූවිලි
15 ගසාදමාපල්ලාය. සැබවක් නුබලාට කි
යම් විනිශ්චය දවසේදී ඒ නුවර දඬුවම
ට වඩා සොදොම් සහ ගොමෝරා යන
රටවල දඬුවම ඉවසිය හැකිවනේය.

16 වෘකයන් මැදට බැටළුවන් යවනාක්
මෙන් නුබලා යවමි. එහෙයින් සර්පයන්
මෙන් නුවණ ඇතිව පරෙවියන් මෙන් අ
17 හිංසකව සිටපල්ලාය. මනුෂ්‍යයන්ගෙන්
ප්‍රවේසම්වෙයල්ලාය මක්නිසාද ඔවුන්
නුබලා නඩුසභාවලට පාවාදී තමන්ගේ
සිනගෝගවලදී නුබලාට තලවනවා ඇ
18 ත. නුබලා මා නිසා ඔවුන්ටද අන්‍යජා
තීන්ටද සාක්ෂි පිණිස අධිපතීන්ගේද ර
ජුන්ගේද ඉදිරියට ගෙනයනු ලබනවා
19 ඇත. ඔවුන් නුබලා පාවාදෙන කල කෙ
සේ කියමුද කුමක් කියමුදැයි සිතා කන
ගාටු නොවෙල්ලාය. මක්නිසාද කියයුතු
දේ ඒ වේලාවටම නුබලාට දෙනුලැබේ.
20 කථාකරනොත් නුබලා නොව නුබලා ල
වා කථාකරවන නුබලාගේ පියානන්ව
21 හන්සේගේ ආත්මයය. තවද සහෝදර
යා විසින් සහෝදරයාද පියා විසින් පුත්‍ර
යාද මරණට පාවාදෙනු ලබනවා ඇත.
දරුවෝ මව්පියන්ට විරුද්ධව නැගිට ඔ
22 වුන් මරණට පත්කරවනවා ඇත. මා
ගේ නාමය නිසා සියල්ලන්ගෙන් නුබලා

ෂේවර ලබනවා ඇත. එහෙත් කෙලවර
දක්වා ඉවසන තැනැත්තේම ගැලවෙන්
23 නේය. එක් නුවරකදී නුබලාට පීඩාකර
ණ කල වෙන නුවරකට පලයල්ලාය. සැ
බවක් නුබලාට කියමි මනුෂ්‍ය පුත්‍රයා එ
නතෙක් නුබලා ඊස්‍රායෙල්ගේ සියළු නු
24 වරවල ඇවිද නිමාවූ නොවෙත්. ගෝල
යා ගුරුවරයාටවත් වැඩකාරයා ස්වාමියා
25 ටවත් උතුම් නැත. ගෝලයා ගුරුවරයා
මෙන්ද වැඩකාරයා ස්වාමියා මෙන්ද වූ
නොත් ඔවුන්ට ඇත. ගෙයි ස්වාමියාට
බෙල්සෙබුල්යයි කීවොත් ඔහුගේ ගෙ
යි වැසියන්ට කොපමන වඩා නොකිය
26 ද්ද? එබැවින් ඔවුන්ට භයනොවෙල්ලා
ය. මක්නිසාද මතු ප්‍රකාශ නොවන්නාවූ
වැසී තිබෙන දෙයක්වත් මතු දැන නො
ගන්නාවූ සැඟවී තිබෙන දෙයක්වත් නැ
27 ත. මම නුබලාට අඳුරෙහි කියන දේ එ
ළියේදී කියාපල්ලාය නුබලා රහසින් අ
සන දේ ගෙවල් උඩදී ප්‍රකාශකරපල්ලා
28 ය. ශරීරය නසනත් ආත්මය නසන්ට නු
පුළුවන්වූවන්ට භයනොවෙල්ලාය. එ
හෙත් ආත්මයද ශරීරයද නිරයේ හෙළා
විනාශකරන්ට පුළුවන්වූ උන්වහන්සේ
29 ට භයවෙල්ලාය. ගේ කුරුල්ලන් දෙන්
නෙක් තුට්ටුවකට නොවිකුනද්ද? එ
හෙත් එයින් එකෙක්වත් නුබලාගේ පි
යානන්වහන්සේ නොදැනුවත්ව බිම නො
30 වැටෙයි. නුබලාගේ සියළු ඉසකෙස්ම ග
ණන්කර තිබෙන්නේය එබැවින් භය
31 නොවෙල්ලාය. නුබලා බොහෝ ගේකු
32 රුල්ලන්ට වඩා අගේ ඇත. එහෙයින් ම
නුෂ්‍යයන් ඉදිරියෙහි මා පිලිගන්නාවූ ය
මෙක් ඇද්ද ස්වර්ගයෙහි සිටින මාගේ
පියානන්වහන්සේ ඉදිරියෙහිදී මමත් ඔහු
33 පිලිගන්නෙමි. එහෙත් මනුෂ්‍යයන් ඉදි
රියෙහි මා පිලිනොගන්නාවූ යමෙක් ඇ
ද්ද ස්වර්ගයෙහි සිටින මාගේ පියානන්
වහන්සේගේ ඉදිරියෙහිදී මමත් ඔහු පි
ලිනොගන්නෙමි.

34 පොලවට සමාදානය දෙන්ට ආයෙ
මියි නොසිතල්ලාය කඩුව මිස සමාදානය
35 දෙන්ට මම නාවෙමි. මක්නිසාද මනුෂ්‍ය
යා ඔහුගේ පියා සමගද දුව ඇගේ මව්
සමගද යෙහෙලි ඇගේ නැන්දා සමගද
36 භේදකරවන්ට ආයෙමි. මනුෂ්‍යයාට ස
තුරෝනම් තමාගේම ගෙයි වැසියෝය.
37 මට වඩා පියාටවත් මව්ටවත් ස්නේහ ඇ
ත්තා මට සුදුසු නොවෙයි. මට වඩා පුතා
ටවත් දුවටවත් ස්නේහ ඇත්තා මට සුදු
38 සු නොවෙයි. තමාගේ කුරුසිය රැගෙ
න මා පස්සේ නේන තැනැත්තාද මට
39 සුදුසු නොවෙයි. තමාගේ ප්‍රාණය රක්ෂා
කරගන්නා ඒක නැතිකරගන්නේය. මා
නිසා තමාගේ ප්‍රාණය නැතිකරගන්නා
ඒක රක්ෂාකරගන්නේය.

40 නුබලා පිලිගන්නා තැනැත්තා මා පි
ලිගන්නේය. මා පිලිගන්නා තැනැත්තා
මා එව් තැනන්වහන්සේ පිලිගන්නේය.
41 අනාගතවක්තෘ කෙනෙකුගේ නාමින්
අනාගතවක්තෘ කෙනෙක් පිලිගන්නා
තැනැත්තා අනාගතවක්තෘ කෙනෙකු
ගේ විපාක ලබන්නේය. ධර්මිෂ්ඨයෙකු
ගේ නාමින් ධර්මිෂ්ඨයෙක් පිලිගන්නා තැ
නැත්තා ධර්මිෂ්ඨයෙකුගේ විපාක ලබන්
42 නේය. යමෙක් ගෝලයකුගේ නාමින්
මේ බාලයන්ගෙන් එකෙකුට ඇල්වතු
ර විකක්වත් බොන්නට දුනොත්නම් සැ
බවක් නුබලාට කියමි ඔහුගේ විපාක
නොනසින්නේයයි කීසේක.

11. පරිච්ඡ. තවද යේසුස්වහන්සේ
තමන් ගෝලයන් දොලසට අනකොට
නිමවා එහි නුවරවල උගන්වන්ටද දේශ
නාකරන්ටද එයින් ගියසේක.
2 සිරගෙයි සිටි යොහන් ක්‍රිස්තුස්වහන්
3 සේගේ ක්‍රියාවන් අසා එන්නාවූ තැනැ
ත්තේ ඔබවහන්සේද නොහොත් වෙන
කෙනෙක් බලා සිටිමුද්දැයි උන්වහන්සේ
ගෙන් අහන පිනිස තමාගේ ගෝලයන්
4 ගෙන් දෙදෙනෙක් යැවූයේය. යේසුස්ව
5 හන්සේ උත්තර දෙමින් නුබලා ගොස් අ
න්ධයෝ පෙනීම ලබති. කොරු ඇවිදිති
කුෂ්ඨරෝගීහු පවිත්‍රවෙති බිහිරෝ අසති
මලාහු නැගිසිටිති දිලිඳුන්ට සුභාරචිය ප්‍ර
කාශකරනු ලැබෙයි යන මේ නුබලා අ
සන දකින දේ යොහන්ට දන්වාපල්ලාය.
6 මා කෙරෙහි බාධා නොවෙන්නා වාස
නාවන්තයෙකැයි කීසේක.
7 ඔවුන් ගියවිට යේසුස්වහන්සේ යො
හන් ගැන සමූහයාට කථාකරන්ට පටන්
ගෙන නුබලා කුමක් බලන්ට වනාන්
තරයට ගියෝද? සුලඟින් සෙලවෙන බ
8 ටගසක්ද නොහොත් කුමක් බලන්ට ගි
යෝද? සිහින් වස්ත්‍ර ඇන්දවූ මනුෂ්‍ය
යෙක්ද? සිහින් වස්ත්‍ර අඳින්නෝ රජ
ගෙවල්වල ඇත. නොහොත් කුමක් බ
9 ලන්ට ගියෝද? අනාගතවක්තෘ කෙ

නෙක්ද? එසේය නුඹලාට කියමි අනා
ගතවක්තෘ කෙනෙකුටත් වඩා උතුම්
10 කෙනෙක. මක්නිසාදමම මාගේ දූතයා
නුඹට පෙරටුව යවමි ඔහු නුඹ ඉදිරියෙ
හි නුඹේ මාර්ගය සාදනෙන්යයි ලියා ති
11 බෙනෙත් මොහු ගැනය. සැබවක් නුඹ
ලාට කියමි ස්ත්‍රීන්ගෙන් උපනනවුන් අ
තුරෙන් යොහන් බව්තීස්තට වඩා උ
තුම් කෙනෙක් නූපනෙන්ය. එසේවී නු
මුත් ස්වර්ගරාජ්‍යයෙහිදී කුඩා තැනැත්
12 තා ඔහුට වඩා උතුම්ය. යොහන් බව්තී
ස්තගේ කාලයෙහි පටන් දැන් දක්වා ස්ව
ර්ගරාජ්‍යය බලාත්කාරයෙන් ගනනා ලැ
බේ බලාත්කාරකරනෙනෝ ඒක අල්ලා
13 ගනිති. මක්නිසාද සියළු අනාගතවක්තෘ
වරුද ව්‍යවස්ථාවද යොහන් දක්වා අනා
14 ගතවාක්‍ය කීවෝය. නුඹලා පිළිගන්ට
කැමතිනම් එන්ට සිටිය එලියස් මොහු
15 ය. ඇසිමට කන් ඇතෙනැක් අසාවා. එ
16 හෙත් දැන් සිටින මනුෂ්‍යයන් කුමකට උ
පමාකෙරෙම්ද? නුඹලාට නලා පිඹෙමු
17 ව නුඹලා නැටුවේ නැත නුඹලාට විලාප
කීමුව නුඹලා ඇඬුවේ නැතැයි කඩපිල්
වල හිඳ තමන්ගේ යහළුවන්ට හඬගසා
18 කියනනාවූ ළදරුවන් හා සමානය. මක්
නිසාද යොහන් ඇවිත් කමින් බොමින්
නොසිටියේය. ඔහු යක්ෂාවේශ කෙනෙ
19 කැයි ඔවුන් කියති. මනුෂ්‍ය පුත්‍රයා ඇවිත්
කමින් බොමින් සිටියේය. ඔහු කෑමෙහි
ද මුද්‍රිකපානය බීමෙහිද ලොල්වූ තැනැ
ත්තෙක නූංගම් අයකරනනන්ගේත් පව්
කාරයන්ගේත් මිත්‍රයෙකැයි ඔවුන් කිය
ති. එහෙත් ප්‍රඥාව තමාගේ දරුවන් ක
රණකොටගෙන නිර්දෝෂව පෙනෙන්
නේයයි කීයේක.
20 එකල උන්වහන්සේ විසින් කරණලද
බොහෝ ආශ්චර්ය්‍ය ඇති නුවරවල් පසු
තැවිලලට නොපැමුනුන බැවින් ඒවාට
සැරකරන්ට පටන්ගෙන එඩා කොරා
21 සින් තිට දුකනෙන්ය එඩා බැත්සෙද
තිට දුක්වනෙන්ය. තොප ඇතුලේ කර
ණලද ආශ්චර්ය්‍යවල් තීර් සහ සිදොන්හි
කරණලද්දේනම් ඒ නුවරවල් මීට පල
මු ගෝනි රෙද්දෙනුද අළුවෙනුද පසුතැවි
22 ලලට පැමුනුනෝ වෙත්. එහෙත් විනිශ්
චය දවසේදී තොපගේ අඬුවමට වඩා
තීර් සහ සිදොන්ගේ අඬුවම ඉවසන්ට
23 පුළුවනැයි කියමි. එඩා කපර්ණවුම ස්ව
ර්ගය දක්වා උසව සිටින තී නිරය දක්වා
පහතට හෙළනු ලබන්නීය. තී ඇතුලේ
කරණලද ආශ්චර්ය්‍යවල් සොදොම් ඇතු
ලේ කරණලද්දේනම් අද දක්වා ඒක ප
24 වත්නේය. එහෙත් විනිශ්චය දවසෙහිදී
තිගේ අඬුවමට වඩා සොදොම්ගේ අඬුව
ම ඉවසන්ට පුළුවනැයි කියමියි කීයේක.
25 එකල්හි යේසුස්වහන්සේ උත්තර දෙ
මින් කියනසේක් අහසටත් පොලවටත්
ස්වාමිවූ පියාණෙනි ඔබවහන්සේ ප්‍රඥා
වන්තයන්ටද සමර්ථයන්ටද මේ කාර
ණයන් සඟවා බාලයන්ට ප්‍රකාසකල බැ
26 වින් ඔබවහන්සේට ස්තුති කෙරෙමි. පි
යාණෙනි ඔබවහන්සේ එසේ විමට සතු
27 ටුවූ බැවින් එසේම වේවා. මාගේ පියාන
න්වහන්සේ සියල්ල මට භාරදුන්සේක.
පියානන්වහන්සේ මිස කිසිවෙක් පුත්‍රයා
නොහඳුනනෙන්ය පුත්‍රයාත් පුත්‍රයා වි
සින් යමෙකුට පියානන්වහන්සේ ප්‍රකාස
කරන්ට කැමතිද ඔහුත් හැර කිසිවෙක්
පියානන්වහන්සේ නොහඳුනනෙන්ය.
28 වෙහෙසවෙනනාවූ ඉතා බර උසුලන්
නාවූ සියල්ලෙනි මා වෙතට වරෙල්ලාය
29 මම නුඹලාට නිවාඩු දෙමි. මම මොලො
ක්වූ යටහත්වූ සිත් ඇතෙනැක් බැවින් මා
ගේ වියගහ උසුලා මාගෙන් ඉගෙනගනි
ල්ලාය. එවිට නුඹලාගේ ආත්මවලට
30 නිවාඩු ලැබෙනෙන්ය. මාගේ වියගහ
උසුලන්ට ලේසිය මාගේ බරද සැහැල්
ලුයයි කීසේක.

12. පරිච්ඡ. යේසුස්වහන්සේ සබත්
දවසක ගොයම් කෙතක් මැදින් යනක
ල උන්වහන්සේගේ ගෝලයෝ බඩගිනි
ව කරල් කඩාගෙන කන්ට පටන්ගත්
2 තෝය. ඵරිසිවරු ඒ දැක ඔබවහන්සේ
ගේ ගෝලයෝ සබත් දවසේදී කරන්ට
3 නුසුදුස්සක් කරතීයි කීවෝය. එවිට උ
න්වහන්සේ ඔවුන්ට කථාකොට දාවිත් ත
මාටද තමා සමග සිටියවුන්ටද බඩගිනිවූ
4 කල දෙවියන්වහන්සේගේ ගෙට ඇතුල්
ව පූජකයන්ට මිස තමාටවත් තමා සම
ග සිටියන්ටවත් කන්ට නුසුදුසුවූ පිදූ රො
5 ටි කෑහැටි නොකියවූද? නොහොත් පූ
ජකයෝ සබත් දවස්වල දේවමාලිගාවේ
දී සබත් කඩකොට නිවැරදි වෙන බව
6 ව්‍යවස්ථාවෙහි නොකියවූද? එහෙත් නු
බලාට කියමි දේවමාලිගාවට වඩා උ
7 තුම් කෙනෙක් මෙහි සිටිනෙන්ය. තව
ද මම කරුණාව මිස යාගය නොකැමැත්

තෙම් යන කිමෙ අර්ථය නුබලා දැනග
තා සිටියෝනම් නිවැරදිකාරයන් වරදට
8 පත්නොකරන්නෝ වෙත්. මක්නිසාද ම
නුෂ්‍ය පුත්‍රයා සබත් දවසටත් ස්වාමියයි
කීසේක.
9 උන්වහන්සේ එසින් ගොස් ඔවුන්ගේ
10 සිනගෝගයට ඇතුල්වූසේක. එහි අව
ලංගු අතක් ඇති මනුෂ්‍යයෙක් සිටියේ
ය. එවිට ඔවුන් උන්වහන්සේ වරදට පත්
කරණ පිනිස සබත් දවසේදී සුවකරන්
ට සුදුසුදැයි උන්වහන්සේගෙන් ඇසුවෝ
11 ය. උන්වහන්සේද ඔවුන්ට කථාකොට නු
බලා අතරෙහි එක් බැටළුවෙක් ඇති
මනුෂ්‍යයෙක් ඇද්ද ඒ බැටළුවා සබත්
දවසේ වලක වැටුනොත් ඔහු ඒකා අල්
12 වා ගොඩ නොගන්නේද? එසේනම් බැ
ටළුවෙකුට වඩා මනුෂ්‍යයෙක් කොපම
න උතුම් නැද්ද? එබැවින් සබත් දව
සේදී යහපත්කම් කරන්ට සුදුසුයයි කි
13 යා නුබේ අත දිගුකරපනැයි ඒ මනු
ෂ්‍යයාට කීසේක. ඔහු අත දිගුකෙළේ
ය එවිට ඒක අනිත් අත මෙන් සුවවිය.
14 එකල එරිසිවරු පිටත්ව ගොස් උන්ව
හන්සේ නසන පිනිස මන්ත්‍රනය කළෝ
15 ය. යේසුස්වහන්සේ ඒ දැන එසින් ගිය
සේක. බොහෝ සමූහයෝ උන්වහන්සේ
16 පස්සේ ගියෝය. උන්වහන්සේද සියල්
ලන්ට සුවකොට මා ප්‍රකාශ නොකරල්
17 ලායයි ඔවුන්ට අඥකලසේක. යෙසායි
යා අනාගතවක්තෘහු විසින් කියනලද
කිම සම්පූර්ණවෙන පිනිස මෙසේ සිදු
18 වූනේය. ඒ මෙසේය මා විසින් තෝරා
ගත් මෙහෙකරුවූ මාගේ සිත සතුටුකර
ණ මාගේ ප්‍රේමවන්තවූ තැනැත්තා බ
ලව් මාගේ ආත්මය ඔහු කෙරෙහි තබ
මි ඔහු අන්‍යජාතීන්ට විනිශ්චය දන්වන්
19 නේය. ඔහු දබරවත් කෝලාහලවත්
නොකරන්නේය. ඔහුගේ හඩ වීදිවල
20 කිසිවෙකුට නොඇසෙන්නේය. ඔහු වි
නිශ්චය ජයට පමුනුවනතුරු තලාපු බට
ලීයක් බිඳින්නේවත් දුම් නගින පහන්
21 තිරයක් නිවන්නේවත් නැත. ඔහුගේ
නාමය කෙරෙහි අන්‍යජාතිහු විශ්වාසක
රණවා ඇත.
22 එවිට යක්ෂාවේසවූ අන්ධ ගොළුවෙක්
උන්වහන්සේ ලඟට ගෙනාවෝය උන්ව
හන්සේද ඔහුට සුවකලසේක. එහෙ
සින් ඒ අන්ධ ගොළුවා දකින්ටද කථාක
23 රන්ටද හැකිවූයේය. සියළු ජනයෝ
පුදුමව මූන්වහන්සේ දාවිත්ගේ පුත්‍රයා
24 නොවේදැයි කීවෝය. එහෙත් එරිසිවරු
ඒ අසා මොහු යක්ෂාධිපතිවූ බෙල්සෙබුල්
ගේ බලයෙන් මිස වෙන බලයකින් ය
කුන් දුරු නොකරන්නේයයි කීවෝය.
25 යේසුස්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැන
ඔවුන්ට කථාකොට තමතමාටම විරුද්ධ
ව භේදවූනාවූ යම් රාජ්‍යයක් ඇද්ද ඒක
වනාන්තර බවට පැමිණෙයි. තමතමාටම
විරුද්ධව භේදවූනාවූ යම් නුවරක්වත්
ගෙයක්වත් ඇද්ද ඒක නොපවතී. සා
26 තන් විසින්ම සාතන් දුරුකරනු ලැබේ
නම් ඔහු තමාට විරුද්ධව භේදවෙන්නේය.
එසේවීනම් ඔහුගේ රාජ්‍යය පවතින්නේ
27 කෙසේද? මම බෙල්සෙබුල්ගේ බල
යෙන් යකුන් දුරුකෙරෙම්නම් නුබලා
ගේ පුත්‍රයෝ කාගේ බලයෙන් ඔවුන්
දුරුකෙරෙද්ද? එබැවින් ඔවුන් නුබලා
ගේ විනිශ්චයකාරයෝ වෙනවා ඇත.
28 එහෙත් මම දෙවියන්වහන්සේගේ ආත්
මයේ බලයෙන් යකුන් දුරුකෙරෙම්
නම් දෙවියන්වහන්සේගේ රාජ්‍යය නුබ
29 ලා වෙතට පැමිණියේය. තවද කිසි
වෙක් පලමුකොට බලවන්තයා නො
බැඳ ඔහුගේ ගෙට වැද ඔහුගේ වස්තු
කොල්ලගන්ට කෙසේ හැකිවේද? ඔහු
බැඳලාම ඔහුගේ ගෙය කොල්ලගන්නේ
30 ය. යමෙක් මාගේ පක්ෂයට නැත්තේද
ඔහු මට විරුද්ධ වන්නේය. යමෙක් මා ස
මග රැස්නොකෙරේද ඔහු විසුරුවන්
31 නේය. එබැවින් නුබලාට කියමි සියළු
ආකාර පව්ද අපහාසද මනුෂ්‍යයන්ට ක්ෂ
මාකරනු ලැබේත් එහෙත් ශුද්ධාත්මයාන
න්වහන්සේට විරුද්ධව කරණ අපහාසය
මනුෂ්‍යයන්ට ක්ෂමාකරනු නොලැබේ.
32 යමෙක් මනුෂ්‍ය පුත්‍රයාට විරුද්ධව වචන
යක් කියාද ඔහුට ක්ෂමාකරනු ලැබේ.
එහෙත් යමෙක් ශුද්ධාත්මයානන්වහන්
සේට විරුද්ධව කථාකෙරේද ඔහුට මෙ
ලොවදීවත් පරලොවදීවත් ක්ෂමාකරනු
33 නොලැබේ ගසේ ගුන ගෙඩිවලින් අඳු
නනු ලැබේ එහෙයින් ගසත් ඒ ගසේ
ගෙඩිත් යහපත්කරපල්ලාය. නොහොත්
ගසත් ඒ ගසේ ගෙඩිත් අයහපත්කරප
34 ල්ලාය. පොළොං වශයෙනි නපුරුවූ නු
බලාට යහපත් දේ කියන්ට පුළුවන් වෙ
න්නේ කෙසේද? සිතේ පිරීමෙන් මුඛය
35 කථාකරන්නේය. සත්පුරුෂයා හෘදයෙහි
වූ යහපත් නිධානයෙන් යහපත් වස්තූන්

අසත්පුරුෂයා අයහපත් නිධානයෙන් අ
36 යහපත් වස්තූන් පිටතට ගෙනෙත්ය. තව
ද නුබලාට කියමි මනුෂ්‍යයෝ කියනනා
වූ නිරර්ථක යම් වචනයක් ඇද්ද ඒ ගැ
න විනිශ්චය දවසේදී කාරණ කියයුතු
37 ය. මක්නිසාද නුබේ වචනවලින් නිවැ
රදි බවටවත් නුබේ වචනවලින් වැර
දි බවටවත් පත්කරනු ලබන්නේයයි
කීසේක.
38 එවිට ලියනනන්ගෙනු ඵරිසින්ගෙනු
සමහරෙක් කථාකොට ආචාරිනි ඔබව
හන්සේගෙන් ලකුනක් දකින්ට කැමැ
ත්තෙමුයයි කීවෝය. උන්වහන්සේද උ
ත්තර දෙමින් දුෂ්ටවූ පරදාරිකවූ ජාතිය
39 ලකුනක් සොයනෙත්ය. එහෙත් යෝ
නා අනාගතවක්තෘහුගේ ලකුන හැර
වෙන ලකුනක් ඔවුන්ට දෙනු නොලැ
40 බේ. මක්නිසාද යෝනා මහ මත්ස්‍යයා
ගේ ගැබේ දවහල් තුනක්ද රෑ තුනක්
ද සිටියාක්මෙන් මනුෂ්‍ය පුත්‍රයා පො
ලෝ ගැබේ දවල් තුනක්ද රෑ තුනක්ද
41 සිටිනවා ඇත. නිනිවේ මනුෂ්‍යයෝ මේ
ජාතිය සමග විනිශ්චයෙහි නැගිට ඔවුන්
වරදට පත්කරණවා ඇත. මක්නිසාද
යෝනාගේ දේසනාවෙන් ඔවුන් පසුතැ
විල්ලට පැමිනියෝය. එහෙත් යෝනාට
42 වඩා උත්තමයෙක් මෙහි ඇතෙත්ය. ද
කුනුදික්හි බිසව මේ ජාතිය සමග වි
නිශ්චයෙහිදී නැගිට ඔවුන් වරදට පත්
කරන්නීය මක්නිසාද ඈ සාලමොන්
ගේ ප්‍රඥා අසන්ට පොලවේ දුරු ඉඩම්
වලින් ආවාය. එහෙත් සාලමොන්ට ව
43 ඩා උත්තමයෙක් මෙහි ඇතෙත්ය. මනු
ෂ්‍යයෙකුගෙන් දුරුව ගියාවූ අශුඩාත්ම
යා නිරූදක තැන්වල ඇවිදිමින් නිවාඩු
සොයා නොලැබ මම පිටත්ව ආ මාගේ
ගෙට නැවත යෙමියි කියා එහි පැමිනි
44 කල ඒ ගෙ හිස්ව අතුගා සරහා තිබෙ
න බව දක්නේය. එකල්හි ඔහු ගොස්
තමාට වඩා දුෂ්ටවූ වෙන ආත්මයන් සත්
දෙනෙක් තමා කැටුව ගෙන එනෙත්ය
45 ඔවුනු ඇතුල්ව එහි වාසයකරති. ඒ මනු
ෂ්‍යයාගේ පලමු ස්වභාවට වඩා අන්තිම
ස්වභාව නපුරු වෙනෙත්ය. මේ නපුරුවූ
මනුෂ්‍ය ජාතියටද එසේම වෙනෙත්යයි කී
සේක.
46 උන්වහන්සේ සමූහයාට කථාකරමින්
සිටිද්දීම උන්වහන්සේගේ මෑනියෝද ස
හෝදරයෝද උන්වහන්සේ සමග කථා
47 කරන්ට කැමතිව පිටත සිටියෝය. එවි
ට එක්කෙනෙක් ඔබවහන්සේගේ මෑ
නියෝද සහෝදරයෝද ඔබවහන්සේ
සමග කථාකරන්ට කැමතිව පිටත සිටි
48 තියි උන්වහන්සේට කීය. උන්වහන්සේ
ද එපවත් කී මනුෂ්‍යයාට උත්තර දෙ
මින් මාගේ මෑනියෝ කවුද? මාගේ ස
හෝදරයෝ කවුරුදැයි කියා තමන්
49 ගෝලයන් දෙසට අත දිගුකොට මාගේ
මෑනියනු සහෝදරයනු බලාපනන. ය
මෙක් ස්වර්ගයෙහි වැඩසිටින මාගේ පි
යානන්වහන්සේගේ කැමැත්ත කෙරේද
50 ඔහුම මාගේ සහෝදරයත් සහෝදරිත්
මෑනියොත්යයි කීසේක.

13. පරිච්ඡ. එදවස්හි යේසුස්වහන්
සේ ගෙදරින් පිටත්ව මූද අද්දර වැඩ
2 උන්සේක. බොහෝ සමූහයෝද උන්ව
හන්සේ ලඟට රැස්වූ බැවින් උන්වහන්
සේ නැවට නැගී වැඩඋන්සේක. සියළු
3 ජනයෝද වෙරලෙහි සිටියෝය. එවිට
උන්වහන්සේ ඔවුන්ට නොයෙක් කාර
ණයන් උපමාවලින් කියනසේක් වපුර
4 නෙනක් වපුරන්ට ගියේය. ඔහු වපුරණ
කල්හි සමහරක් මාවත වැටුනේය පක්
5 ෂීහු ඇවිත් ඒවා අවුලා කෑවෝය. සමහ
රක් බොහෝ පස් නැති ගල් බිමක වැ
ටී පස් ගනව නැති බැවින් වහාම පැල
6 වී ඉර උදාවූ කල අව්වෙන් දා මුල් නැති
7 බැවින් වියලී ගියේය. සමහරක් කටු අ
තරෙහි වැටුනේය කටු වැවී යටකිරී
8 මෙන් ඒවා නැසුනේය. තවත් සමහරක්
සරු බිමෙහි වැටී සමහරක් එකෙන් සි
යයක්ද සමහරක් එකෙන් සැටක්ද සම
හරක් එකෙන් තිසක්ද ඵල දුන්නෝ
9 ය. ඇසීමට කන් ඇත්තෝ අසාවයි කී
සේක.
10 එවිට ගෝලයෝ ඇවිත් ඔබවහන්සේ
ඔවුන්ට උපමාවලින් කථාකරනෙත් මක්
11 නිසාදැයි ඇසුවෝය. උන්වහන්සේ උත්
තර දෙමින් ස්වර්ග රාජ්‍යයෙහි රහස් දැ
නගැනීම නුබලාට මිස ඔවුන්ට දෙනු
12 නොලැබේ. මක්නිසාද යමෙකුට ඇත්
තේද ඔහුට දෙනු ලැබේ ඔහුට වැඩිද
වෙනෙත්ය. යමෙකුට නැත්තේද ඔහුට
ඇති දේත් ඔහුගෙන් පැහැරගනනා ලැ
13 බේ. එසේහෙයින් දකිමින්ම නොදක්
නාවූ අසමින්ම නොඅසනනාවූ තේරුම්
නොගනනාවූ ඔවුන්ට උපමාවලින් කථා

14 කරමි. තවද යෙසයියාගේ අනාගත ව
චනය ඔවුන් කෙරෙහි සම්පූර්ණවෙයි
ඔහු කියනුයේ තොපි කනින් අසති නු
15 මුත් තේරුම් නොගණිති ඇසින් දකිති
නුමුත් දූන නොගනිති. ඇසින් නොද
කින පිනිසත් කනින් නොඅසන පිනි
සත් සිතෙන් තේරුම්නොගනනා පිනි
සත් නොහැරෙණ පිනිසත් මා විසින් සු
වකරණු නොලබන පිනිසත් මේ ජන
යන්ගේ හ්‍රදය දූඩිව කන් හොඳට නැසි
තමන්ගේ ඇස් පියාගනෙතෝයයි කියේ
16 ය. එහෙත් තුබලාගේ ඇස් පෙනෙති
කන් ඇසෙති එබැවින් ඒවා වාසනාවන්
17 තය. සැබවක් තුබලාට කියමි බොහෝ
අනාගතවක්තෘවරුද ධර්මිෂ්ඨයෝද තු
බලා දක්නා දේ දකින්ටද තුබලා අස
න දේ අසන්ටද ආසාවෙන් සිටියෝය නු
මුත් ඒ දේ දුටුවේවත් ඇසුවේවත් නැත.
18 එහෙයින් වපුරනනාගේ උපමාව අ
19 සාපල්ලාය. යමෙක් රාජ්‍යයාගේ වචන
ය අසා තේරුම් නොගනෙනාද එකල දු
ෂ්ටයා ඇවිත් ඔහුගේ සිතේ වපුල දේ
උදුරාගනෙනේය බිත්තර වැටුන මාවත
20 නම් ඔහුය. බිත්තර වපුල ගල් බිම
නම් වචනය අසා එකෙනෙහිම සන්
තෝසයෙන් පිලිගෙන තමා කෙරෙහි
21 මුල් නැති බැවින් මද කලක් පැවත ව
චනය නිසා පීඩාවක්වත් හිංසාවක්වත් පැ
මුනුනාම වහාම බාධාවට පැමිනෙනනා
22 වූ තැනැත්තේය. බිත්තර වපුල කටු බිම
නම් වචනය අසනාවූ මේ ලෝකයෙහි
වෙහෙසවලින්ද වස්තුවේ වචාවෙන් ව
චනය යටකරනනා හෙයින් ඵල නො
23 ධරනනාවූ තැනැත්තේය. බිත්තර වපුල
සරු බිමනම් වචනය අසා තේරුම්ගෙ
න ඵල ධරමින් සමහරකින් සියයක්ද ස
මහරකින් සැටක්ද සමහරකින් තිහක්
ද අස්වැන්න උපදවනනාවූ තැනැත්ත
යැයි කීසේක.
24 උන්වහන්සේ තවත් උපමාවක් දක්ව
මින් තමාගේ කෙතේ හොඳ බිත්තර ව
පුල මනුෂ්‍යයෙකුට ස්වර්ගරාජ්‍යය උපමා
25 කරනු ලැබේ. මනුෂ්‍යයන් නිදගත් අත
ර ඔහුගේ සතුරා ඇවිත් හොයම් අතරේ
26 කිරිඳි වපුර ගියේය. කොල වැවී කරල්
27 හටගත්කල කිරිඳිත් පෙනුනේය. එවිට
ගෙදර මුලාදැනියාගේ වැඩකාරයෝ ඇ
විත් ස්වාමිනි තුබවහන්සේගේ කෙතේ
හොඳ බිත්තර වපුලේ නැද්ද? එසේ
නම් කිරිඳි කොයින්දැයි ඔහුට කීවෝය.
ඔහුද සතුරෙක් ඒක කෙලේයයි ඔවුන්
28 ට කීයේය. එවිට වැඩකාරයෝ කථා
කොට එසේවීනම් අප විසින් ඒ කිරිඳි
උදුරාදමනවාට කැමතිදැයි ඔහුගෙන් ඇ
29 සුවෝය. ඔහු උත්තර දෙමින් තුබලා කි
රිඳි උදුරණකොට ගොයමත් ඒ සමග ඉ
දිරෙන්ට පුළුවන් නිසා එසේ නොකරල්
30 ලාය. කපන කාලය දක්වා දෙවර්ගේම එ
කට වැඩෙන්ට ඇරපල්ලාය. කපනකල්
හි පලමුකොට කිරිඳි එකතුකර දවන්ට
මිටි බැඳපල්ලාය ධාන්‍ය මාගේ අටුවෙ
හි රැස්කරපල්ලායයි කපනනන්ට කිය
මියි කීයේයයි කීසේක.
31 තවත් උපමාවක් ඔවුන්ට දක්වමින් ම
නුෂ්‍යයෙක් විසින් තමාගේ කෙතෙහි ව
පුල අබ ඇටයකට ස්වර්ගරාජ්‍යය සමා
32 නය. ඒක සියළුම බීජ ජාතීන්ට වඩා කු
ඩාය. නුමුත් වැඩුනුකල සියළු කුඩා ගස්
වලට මහත්ව පක්ෂීන් ඇවිත් එහි අතු
වල ලගින තරම ගසක් වන්නේයයි කී
සේක.
33 තවත් උපමාවක් ඔවුන්ට කියමින් පි
ටි නැලි තුනක් මැද ඒ සියල්ල පිපෙන
තුරු ස්ත්‍රියක් විසින් දැමූ මුහුනවලට ස්ව
34 ර්ගරාජ්‍යය සමානයයි කීසේක. යේසුස්
වහන්සේ මේ සියළු කාරණ සමූහයාට
35 උපමාවලින් කථාකලසේක. උපමාව
ලින් කථාකරනෙනමි ලෝකේ පටන්
ගැන්මේ සිට සැගවී තිබෙන කාරණ එ
ළිදරව්කරනෙනමියි අනාගතවක්තෘන්
ලවා කියවනලද කාරණව සම්පූර්ණ
වෙන පිනිස උපමාවක් නැතුව උන්ව
හන්සේ ඔවුන්ට කථානොකලසේක.
36 එවිට යේසුස්වහන්සේ සමූහයා යවා
ගෙට ගියසේක. ගෝලයෝ උන්වහන්
සේ ලගට ඇවිත් කුඹුරේ වල් ගස්වල
උපමාව අපට තෝරාදුනමැනවයි කී
37 වෝය. උන්වහන්සේ උත්තර දෙමින්
හොඳ බිත්තර වපුරණ තැනැත්තේනම්
38 මනුෂ්‍ය පුත්‍රයාය. කෙතනම් ලෝකයය.
හොඳ බිත්තරනම් රාජ්‍යයාගේ දරුවෝ
39 ය. කිරිඳිනම් දුෂ්ටයාගේ දරුවෝය. ඒ
වා වපුල සතුරානම් සාතන්ය. කපන
40 කාලයනම් ලෝකාන්තිමය. කපනනෝ
නම් දේව දූතයෝය. එබැවින් කිරි
ඳි එක්කොට ගින්නෙන් දවන්නාක්
මෙන් මේ ලෝකයේ අන්තිමේදීත් වේ
41 ය. මනුෂ්‍ය පුත්‍රයා තමන්ගේ දූතයන්

එවනසේක. ඔවුන් උන්වහන්සේගේ රා
ජ්‍යයෙන් බාධාකරණ සියල්ලන්ද නපුරු
කම් කරන්නන්ද එක්කොට ගිනි උදුනෙ
හි දමනවා ඇත. එහිදී හැඬීමද දත්මිටි
42 කෑමද වන්නේය. එවිට ධර්මිෂ්ඨයෝ ත
43 මන් පියානන්ගේ රාජ්‍යයෙහි සූර්‍ය්‍යයා
මෙන් බබලනවා ඇත. ඇසීමට කන් ඇ
ත්තෙක් අසාවා.
44 තවද කෙතක සඟවා තිබුන වස්තුව
කට ස්වර්ගරාජ්‍යය සමානය. මනුෂ්‍ය
යෙක් ඒ දැක සඟවා තබා සන්තෝෂව
ගොස් තමා සතු සියල්ල විකුන ඒ
කෙත මිල දී ගන්නේය.
45 තවද හොඳ මුතු සොයන්නාවූ වෙළෙ
46 න්දෙකුට ස්වර්ගරාජ්‍යය සමානය. ඔහු අ
නර්ඝ මුතු ඇටයක් දැක ගොස් තමා
සන්තක සියල්ල විකුණා ඒක මිලදී ගත්
තේය.
47 තවද මුහුදේ හෙළා සියළු වර්ගවල මසුන්
48 එකතුකල දැලකට ස්වර්ගරාජ්‍යය සමාන
ය. ඒ දැල පිරුනුකල වෙරළට ඇද හිඳ
ගෙන හොඳවුන් භාජනවලට එකතුකර
49 නරකවුන් අහක දැමුවෝය. ලෝකාන්
තිමෙහිදී එසේම වන්නේය. දේවදූතයෝ
පිටත්ව ඇවිත් ධර්මිෂ්ඨයන් අතරෙන් අ
ධර්මිෂ්ඨයන් වෙන්කොට ගිනි උදුනෙහි
දමනවා ඇත. එහිදී හැඬීමද දත්මිටිකෑ
50 මද වන්නේයයි කීසේක. ජේසුස්වහන්
සේ මේ සියල්ල තේරුම්ගත්තෝදැයි ඔ
51 වුන්ගෙන් ඇසූසේක. ඔවුන්ද එසේය ස්වා
52 මිනියි උන්වහන්සේට කීවෝය. එවිට උ
න්වහන්සේ කථාකොට එහෙයින් ස්වර්ග
රාජ්‍යය ගැන උගත් යම් ලියන්නෙක් ඇ
ද්ද ඔහු ගබඩාවෙන් අළුත් බඩුත් පරණ
බඩුත් පිටතට ගන්නාවූ ගෙදර මූලාදෑනි
යෙකුට සමානයයි කීසේක.
53 ජේසුස්වහන්සේ මේ උපමා කියා නි
මවා එයින් ගොස් තමන්ගේ රටට පැ
මින සිනගෝගයෙහිදී මිනිසුන්ට ඉගැන්
54 වූසේක. ඔවුන්ද විස්මපත්ව මොහුට මේ
55 බඳු ප්‍රඥාවත් ආනුභාවත් කොයින්ද? මො
හු වඩුවාගේ පුත්‍රා නොවේද? මොහුගේ
මව්ගේ නම මරියා නොවේද? මොහු
ගේ සහෝදරයෝ යාකොබ් යෝසෙස්
සීමොන් යූදස් නොවෙත්ද? මොහුගේ
සියළු සහෝදරියෝ අප අතරෙහි නො
56 වෙත්ද? එසේවිනම් මේ සියල්ල මොහු
ට කොයින්දැයි කියා උන්වහන්සේ කෙ
57 රෙහි බාධාවූවෝය. එවිට ජේසුස්වහන්

සේ අනාගතවක්තෘ කෙනෙකුට තමා
ගේ රටේදීත් තමාගේ ගෙදරදීත් මිස
අන් තැනකදී අගෞරව නැතැයි ඔවුන්
ට කීසේක. උන්වහන්සේ ඔවුන්ගේ ඇ
දහිලි නැතිකම නිසා එහිදී බොහෝ
ආශ්චර්‍ය්‍යවල් නොකලසේක.

14. පරිච්ඡ. ඒ කාලයෙහි රාජ්‍යයේ
සතරෙන් කොටසකට අධිපතිවූ හෙ
රොද් ජේසුස්වහන්සේගේ කීර්තිය අසා
2 මොහු යොහන් බව්තීස්තය ඔහු මල
වුන්ගෙන් නැඟී සිටියේය. ඉන්නිසා
ඔහු ආශ්චර්‍ය්‍ය කරන්නේයයි තමාගේ වැ
3 ඩකාරයන්ට කීය. මක්නිසාද ඒ හෙ
රොද් තමාගේ සහෝදර වන පිලිප්ගේ
භාර්‍ය්‍යාවූ හෙරොදියස් නිසා යොහන්
4 අල්වා බැඳ හිරගෙයි දැමුයේය. මක්නි
සාද ඇ පාවාගැන්ම යුතුබට නුසුදුසුයයි
5 යොහන් කීයේය. එවිට හෙරොද් යො
හන් මරන්ට කැමතිවූයේය. නුමුත් යො
හන් අනාගතවක්තෘ කෙනෙකැයි සිතූ
6 වාවූ සමූහයාට භයව සිටියේය. එහෙත්
හෙරොද්ගේ උපන් දවස මංගල්‍යය පැ
මිනිකල හෙරොදියස්ගේ දූවනියෝ පිරි
ස මැද නටා හෙරොද් සන්තෝෂ කලා
7 ය. එහෙයින් ඈ ඉල්ලන යමක් ඇද්ද ඒ
ඈ ඇට දෙන්ට දිව්රමින් පොරොන්දු
8 වූයේය: ඈද තමාගේ මව් විසින් පලමු
වෙන් උගන්වනලද්දී යොහන් බව්තීස්
තගේ හිස තැටියක ලා මෙහිදී දුනමැ
9 නවැයි කීවාය: එවිට රජ ශෝකයට පැ
මුනුනේය. නුමුත් දිවුරුම නිසාත් ඔහු
සමග කමින් උන්නාවූන් නිසාත් ඒක
දෙන්ට අඥාකොට මිනිසුන් යවා හිර
ගෙයිදී යොහන්ගේ හිස කැප්පවූයේය:
10 ඒ හිස තැටියක ලා ගෙනවුත් ඒ කුමාරි
11 කාවට දෙනලද්දේය. ඈද ඒක තමාගේ
12 මෑණියන් ලඟට ගෙන ගියාය. යොහන්
ගේ ගෝලයෝ ඇවිත් මලකඳ ගෙන
තැන්පත්කොට ගොස් ජේසුස්වහන්සේ
ට එපවත් දැන්වූවෝය.
13 ජේසුස්වහන්සේ ඒ අසා එයින් පිටත්
ව නැවකට නැඟී තනියම සිටිනු පිනිස
ශූන්‍යස්ථානයකට ගියසේක. සමූහ
යෝ ඒ අසා නුවරවලින් පිටත්ව පයින්
14 උන්වහන්සේ පස්සේ ගියෝය. ජේසුස්ව
හන්සේ ගොඩ බැස බොහෝ සමූහයන්
දැක ඔවුන් කෙරෙහි අනුකම්පාකොට ඔ
15 වුන්ගේ රෝගීන්ට සුවකලසේක. සවස්

වූකල ගෝලයෝ උන්වහන්සේ ළඟට
ඇවිත් මේ වනාන්තරස්ථානයක වේලාව
ද ඉක්ම ගියේය. සමූහයා ගම්වලට
ගොස් තමන්ට කෑම මිලදී ගන්නා පිනි
16 ස ඔවුන් හැරියමැනවැයි කීවෝය. යේ
සුස්වහන්සේද ඔවුන් යන්ට කමක් නැ
ත ඔවුන්ට කෑම දීපල්ලායයි කීසේක.
17 ගෝලයෝද රොටි පසකුත් මසුන් දෙ
නෙනකුත් හැර වෙන මොකවත් මෙහි
18 අපට නැතැයි කීවෝය. උන්වහන්සේද
19 ඒවා මා වෙතට ගෙනෙල්ලායයි කියා
සමූහයාට තනකොළ පිට ඉඳගන්ට අණ
කොට රොටි පසද මසුන් දෙනනද රැ
ගෙන ස්වර්ගය දෙස බලා ස්තුතිකොට
රොටි කඩා ගෝලයන්ට දුන්සේක. ගෝ
ලයෝද සමූහයාට දුන්නෝය. ඒ සියල්
20 ලෝකා තෘප්තියට පැමිණියෝය. ඔවුන්
ඉතිරිවූ කෑබලිවලින් පැස් දොළසක් පුර
21 වාගත්තෝය. ස්ත්‍රීන් ළදරුවන් හැර කෑ
වාවූ පුරුෂයෝම පන්දහසක් පමණය.
22 එකෙනෙහිම යේසුස්වහන්සේ ගෝල
යන් නැවට නංවා මම සමූහයා යවන අ
තර මට ඉස්සරව එගොඩට පලයල්ලාය
23 යි අණකළසේක. උන්වහන්සේ සමූහයා
යවා යාඥාකරණ පිණිස තනියම කන්ද
ට නැගී සවස් වේලෙහි එහි විසේකව සි
24 ටිසේක. එවිට හුළඟ ඉදිරියට ගැසූ බැ
වින් නැව රැලවලින් සෙලවි සෙලවී මූද
25 මැද තිබුණේය. රෑ සතරවෙනි යාමයෙ
හි යේසුස්වහන්සේ මූද පිට ඇවිදිමින් ඔ
26 වුන් වෙතට ගියසේක. ගෝලයෝ මූද
පිට ඇවිදින්නාවූ උන්වහන්සේ දැක තැති
ගෙන මේ අවතාරයකැයි කියා භයින් මු
27 රගෑවෝය. එකෙනෙහිම යේසුස්වහන්
සේ ඔවුන්ට කථාකරමින් ධෛර්ය සිතින් සි
ටපල්ලාය මමය භයනොවෙල්ලායයි කී
28 සේක. පේත්‍රුස් උත්තර දෙමින් ස්වාමිනි
ඔබවහන්සේනම් වතුර පිටින් ඔබවහන්
සේ කරා එන්ට මට කිවමැනවැයි කීය. උ
29 න්වහන්සේද වරෙනැයි කීසේක. එවිට
පේත්‍රුස් නැවින් බැස යේසුස්වහන්සේ
වෙතට යන පිණිස වතුර පිට පයින් ගි
30 යේය එහෙත් හුළඟ තද බව දැක භය
පත්ව ගිලෙන්ට පටන්ගෙන ස්වාමිනි මා
31 රැකගතමැනවැයි මූරගෑයේය එකෙනෙ
හිම යේසුස්වහන්සේ අත දිගුකොට ඔ
හු අල්වාගෙන විශ්වාස මදි තැනැත්ත
32 මක්නිසා සැකවූයේදැයි කීසේක. ඔවුන්
නැවට නැඟුනුකල හුළඟ නැවැතුණේය.
33 එවිට නැවෙහි සිටියෝ උන්වහන්සේ
වෙතට ඇවිත් ඔබවහන්සේ ඒකාන්ත
යෙන් දෙවියන්වහන්සේගේ පුත්‍රයායයි
කියා උන්වහන්සේට නමස්කාර ක
ළෝය.
34 පසුව ඔවුන් එගොඩට ගොස් ගෙන
35 සරත් රටට පැමිණියෝය. ඒ රටේ මනු
ෂ්‍යයෝ උන්වහන්සේ ඇඳින වටකර සි
36 යළු ගම්වලට කියා යවා සියළු රෝගීන්
ගෙන්වා උන්වහන්සේගේ වස්ත්‍ර කෙළව
රකවත් තැවරෙන්ට උන්වහන්සේගෙන්
ඉල්ලුවෝය. තැවරුණාවූ සියල්ලෝද සු
වවූවෝය.

15. පරිච්ඡේ. එකල යෙරුසලමෙහි
ලියන්නෝද ඵරිසිවරුද යේසුස්වහන්
සේ වෙතට ඇවිත් ඔබවහන්සේගේ
2 ගෝලයෝ කෑම කනකොට අත් නො
සේදීමෙන් වැඩිමහල්ලන්ගේ නියෝග
වල් කඩකරන්නේ මක්නිසාදැයි කීවෝ
3 ය. උන්වහන්සේ උත්තර දෙමින් තුඹලා
ද තුඹලාගේ නියෝගවලින් දෙවියන්ව
හන්සේගේ ආඥාව කඩකරන්නේ මක්
4 නිසාද? තාගේ පියානන්ටද මෑණියන්
ටද ගෞරව කරව පියානන්ටවත් මෑණි
යන්ටවත් සාපකරන්නාවූ යමෙක් ඇද්
ද ඔහු මැරිය යුතුයයි දෙවියන්වහන්සේ
5 අණකළසේක. එහෙත් කවරෙක් නුමුත්
පියානන්ටවත් මෑණියන්ටවත් මාගෙන්
තුඹට ප්‍රයෝජන වියයුතුවූ යමක් ඇද්ද
6 ඒක පඬුරක කියා තමාගේ පියානන්ට
වත් මෑණියන්ටවත් ගෞරව නොකරණ
නුමුත් ඔහු නිවරුදිකාරයෙකැයි තුඹලා
කියති. මෙසේ තුඹලාගේ නියෝගව
7 ලින් දෙවියන්වහන්සේගේ අණ අවලංගු
කළෝය. වංචාකාරයෙනි යෙසායියා ම
නාකොට තුඹලා ගැන අනාගතවාක්‍ය
8 ය කියමින් මේ සෙනග තමන්ගේ ක
ටින් මට ලංව තොල්වලින් මට ගෞරව
කෙරෙති නුමුත් ඔවුන්ගේ සිත මා කෙ
9 රෙන් දුරුව තිබෙයි. එහෙත් මනුෂ්‍ය
යන්ගේ ආඥාවල් සික්ෂාවන්කොට උග
න්වමින් නිෂ්ප්‍රයෝජනව මට නමස්කාර
කරතියි කීයේයයි කීසේක.
10 එවිට උන්වහන්සේ සමූහයා කැඳවා අ
11 සා තේරුම්ගනිල්ලාය. කටින් පිටත්වෙ
න දෙය මනුෂ්‍යයා කිළුටුකරණවා මිස
කටට ඇතුල්වෙන දේ මනුෂ්‍යයා කිළුටු
12 කරන්නේ නැතැයි කීසේක. එවිට උන්ව

හන්සේගේ ගෝලයෝ ඇවිත් ඵරිසිවරු
ඒ වචනය අසා බාධාවූහු බව දන්නා
13 සේක්දැයි කීවෝය. උන්වහන්සේ උත්
තර දෙමින් ස්වර්ගයෙහි සිටින මාගේ
පියානන්වහන්සේ විසින් නොසිටු සියළු
14 ගස් උදුරනු ලැබෙත්. ඔවුන් සිටිනා ඔ
වුන් අන්ධයන්ට මග පෙන්වන අන්ධයෝ
ය. අන්ධයෙක් අන්ධයෙකුට මග පෙන්ව
මින් යනොත් දෙන්නම අගලක වැටෙ
15 නවා ඇතැයි කීසේක. එවිට පේතෘස් උ
ත්තර දෙමින් මේ උපමාව අපට තේරු
16 දුනමැනවැයි කීයේය. යේසුස්වහන්සේ
කියනසේක් තුබලාත් තවම තේරුම්
17 නොගෙන සිටිනෙහුද? කටට ඇතුල්
වෙන සියල්ල බඩට පැමින වැසිකිළිය
18 ට යන බව දනොත් නැද්ද? එහෙත් ක
ටින් පිටත්වෙන දේ සිතින් පිටත්ව ම
19 නුෂ්‍යයා කිළුටුකරනොව්ය. මක්නිසාද
නපුරු සිතීම් මිනිමැරීම් පරදාරකම් වෙ
ශ්‍යාකම් සොරකම් බොරු සාක්ෂි කීම් අ
පහාසකිරීම් යන මේවා සිතින් පිටත්ව
20 මනුෂ්‍යයා කිළුටුකරන්නේය. එහෙත්
නොසේදූ අතින් කෑවාට මනුෂ්‍යයා කි
ළුටුවෙනොත් නැතැයි කීසේක.
21 යේසුස්වහන්සේ එසින් පිටත්ව තීර්
22 සහ සිදොන්හි සීමාවලට ගියසේක. එවි
ට කානාන්හි ස්ත්‍රියක් එම සීමාවලින් පිට
ව ඇවිත් දාවිත්ගේ පුත්‍රවූ ස්වාමිනි මට අ
නුකම්පාකලමැනව මාගේ දුව යක්ෂාවේ
ශව බලවත් පීඩා විඳින්නීයයි මොරගා කී
23 වාය. නුමුත් උන්වහන්සේ ඇට වචනය
ක්වත් කීවේ නැත. උන්වහන්සේගේ
ගෝලයෝ ඇවිත් මෑ අප පස්සෙහි මොර
ගාන බැවින් ඈ හැරියමැනවැයි උන්ව
24 හන්සේගෙන් ඉල්ලුවෝය. එහෙත් උ
න්වහන්සේ උත්තර දෙමින් ඊශ්‍රායෙල්
වංශයෙහි නැතිවූ බැටළුවන් ළඟට පම
25 ණක් එවනලද්දෙමියි කීසේක. ඈද ළ
ඟට පැමින උන්වහන්සේට වැඳ ස්වාමිනි
26 මට පිහිටවූවමැනවැයි කීවාය. උන්වහන්
සේ උත්තර දෙමින් දරුවන්ගේ රොටි
ගෙන බල්ලන්ට දැමීම සුදුසු නැතැයි කී
27 සේක. ඈද සැබෑය ස්වාමිනි නුමුත් බල්
ලෝ තමන්ගේ ස්වාමිවරුන්ගේ මේ
සෙන් වැටෙන කෑබලි කතියි කීවාය.
28 එවිට යේසුස්වහන්සේ උත්තර දෙමින්
ස්ත්‍රිය තුබේ ඇදහිල්ල මහත්ය තුබේ
කැමැත්ත ලෙසම තුබට වේවයි කීසේ
ක. එවේලේම ඇගේ දුවට සුවවූනාය.

29 යේසුස්වහන්සේ එසින් පිටත්ව ගලි
ලයේ මුහුද ළඟට ගොස් කන්දකට නැගී
30 එහි වැඩහුන්සේක. බොහෝ සමූහයෝ
ද කොරුන් අන්ධයන් ගොළුවන් පිළුන්
සහ වෙනත් බොහෝ දෙනද රැගෙන
යේසුස්වහන්සේ ළඟට ඇවිත් උන්වහන්
සේගේ පාමුල තැබූවෝය. උන්වහන්සේ
31 ද ඔවුන්ට සුවකලසේක. එවිට ගොළු
වෝ කථාකරණ බවත් පිළුන්ට සුවවූහු
බවත් කොරු ඇවිදින බවත් අන්ධයන්ට
පෙනෙන බවත් සමූහයෝ දැක පුදුමව
ඊශ්‍රායෙල්ගේ දෙවියන්වහන්සේට ප්‍රසං
සා කලෝය.
32 එවිට යේසුස්වහන්සේ ගෝලයන් කැ
දවා සමූහයා කෙරෙහි අනුකම්පා ඇත්
තෙමි. ඔවුන් දැනට තුන් දවසක් මා ළ
ඟ සිටියෝය. ඔවුන්ට කන්නට මොක
වත් නැත. ඔවුන් නිරාහාරයෙන් යවන්
ට නොකමැත්තෙමි හැරියෙම්නම් සමහ
රවිට මාර්ගයේදී ඔවුන් ක්ලාන්ත වෙති
33 යි කීසේක. එවිට උන්වහන්සේගේ ගෝ
ලයෝ මෙපමන සමූහයකට ඇගෙන
පමන රොටි වනාන්තරයේ අපට කො
34 සින්දැයි කීවෝය. යේසුස්වහන්සේ තුබ
ලා ළඟ කොපමන රොටි ඇද්දැයි ඔවුන්
ගෙන් ඇසූසේක. ඔවුන් රොටි සතකුත්
කුඩා මත්සුන් ස්වල්පයකුත් ඇතැයි කීවෝ
35 ය. එවිට උන්වහන්සේ සමූහයාට බිම ඉ
36 න්නට අනදී රොටි සතද මත්සුන්ද අරගෙන
ස්තුතිකොට කඩා තමන් ගෝලයන්ට
දුන්සේක. ගෝලයෝද සමූහයාට දුන්
37 නෝය. සියල්ලෝම කා තෘප්තියට පැමි
ණුනෝය. ඉතිරිවූ කෑබලිවලින් පැස් ස
38 තක් පුරවාගත්තෝය. ස්ත්‍රීන්ද දරුවන්
39 ද හැර කෑවාවූ පුරුෂයෝම සාරදහස
ක. උන්වහන්සේද සමූහයා යවා නැව
ට නැගී මග්දලායෙහි රටවලට පැමිනි
සේක,

16 පරිච්. එවිට ඵරිසිවරුද සද්දු
සිවරුද ඇවිත් උන්වහන්සේ පරීක්ෂාකර
මින් ඔවුන්ට අහසෙන් ලකුනක් දක්වන්
2 ට උන්වහන්සේගෙන් ඉල්ලුවෝය. උන්
වහන්සේ උත්තර දෙමින් සවස් වේලෙ
හි අහස රතු පාට නිසා හොඳ කාලය
3 වේයයි කියාද පෙරවරු වේලෙහි අහස
රතු පාටින්ද වලාපටලයෙන්ද වැසී තිබෙ
න බැවින් අද දුර්දින වේයයි කියාද තු
බලා කියති. වංචාකාරයෙනි තුබලාට

අහසේ නිමිත්ත දැනගන්නට පුළුවන්නම්
කාලයන්ගේ ලකුණු දැනගන්නට බැරි
4 ද? නපුරුවූ පරදාරිකවූ ජාතිය ලකුණක්
සොයන්නෝය. නුමුත් යෝනා අනාගත
වක්තෘහුගේ ලකුණ හැර ඔවුන්ට වෙන
ලකුණක් දෙනු නොලැබේයි කියා ඔ
වුන් හැර ගියසේක.
5 උන්වහන්සේගේ ගෝලයෝද රොටි
ගෙනයන්ට මතකනැතිව එගොඩට ගි
6 යෝය. එකල යේසුස්වහන්සේ ඵරිසිව
රුන්ගේද සද්දුසිවරුන්ගේද මුහුන්ව
7 ලින් ප්‍රවේසම්වෙයල්ලායයි කීසේක. එ
විට අපි රොටි නොගෙනා නිසා මෙසේ
කීසේකැයි ඔවුනොවුන් කථාකරගත්
8 තෝය. යේසුස්වහන්සේ ඒ බව දැන වි
ස්වාස මදි තැනැත්තනි නුබලා රොටි
නොගෙනා නිසා ඔවුනොවුන් කථාකර
9 ගන්නේ මක්නිසාද? නුබලා තවම තේ
රුම්නොගෙන සිටිනවාද? රොටි පස්ප
න්දහසකට දී ඉතිරිවූ කැබලිවලින් පැස්
10 කීයක් පුරවාගත්තෝද කියාත් රොටි ස
ත සාරදහසකට දී ඉතිරිවූ කැබලිවලින්
පැස් කීයක් පුරවාගත්තෝද කියාත් සි
11 හි නැද්ද? ඵරිසිරුන්ගේද සද්දුසිවරුන්
ගේද මුහුන්වලින් ප්‍රවේසම්වෙයල්ලාය කි
යා රොටි ගැන නොකී බව නුබලා තේ
රුම් නොගන්නේ කෙසේදැයි කීසේක.
12 එවිට උන්වහන්සේ ඵරිසිවරුන්ගේද සද්
දුසිවරුන්ගේද ගුරුකමෙන් මිස රොටි
වල මුහුන්වලින් ප්‍රවේසම්වෙන්ට නොකී
බව ඔවුන් තේරුම්ගත්තෝය.
13 යේසුස්වහන්සේ පිලිප්පි කෙසාරියෙ
හි සීමාවලට පැමිණිකල මනුෂ්‍ය පුත්‍රවූ
මා කවුරුය කියා මනුෂ්‍යයෝ කියද්දැයි
තමන්ගේ ගෝලයන්ගෙන් ඇසූසේක.
14 ඔවුහු සමහරෙක් යොහන් බව්තීස්තය
යි කියාද සමහරෙක් එලියස්යයි කියාද
සමහරෙක් යෙරමියා නොහොත් අ
නාගතවක්තෘන්ගෙන් එක්කෙනෙකැ
15 යි කියාද කියතියි කීවෝය. නුබලා මා
කවුරුය කියනවාදැයි ඔවුන්ගෙන් ඇසූ
16 සේක. එවිට සීමොන් පේත්‍රුස් උත්තර
දෙමින් ඔබවහන්සේ ජීවමාන දෙවියන්
වහන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්වහන්සේ
17 යයි කීයේය. යේසුස්වහන්සේ කියන
සේක් යෝනාගේ පුත්‍රවූ සීමොන් නුබ
වාසනාවන්තයෙක. ස්වර්ගයෙහි සිටින
මාගේ පියානන්වහන්සේ මිස මාංශ රුධි
රය මේ බව නුබට ප්‍රකාශකලේ නැත.
18 තවද නුබට කියමි නුබ පේත්‍රුස්ය.*
මේ පර්වතය පිට මාගේ සභාව පිහිටුවමන්
නෙම් මරණ වාරය ඒක මැඩපවත්වන්
19 නේ නැත. තවද ස්වර්ගරාජ්‍යයෙහි ය
තුරු නුබට දෙමි. නුබ භූමියෙහිදී ය
මක් බදිනෙත්ද ඒක ස්වර්ගයෙහිදීත් බ
දිනා ලැබේ නුබ භූමියෙහිදී යමක් මුද
නෙත්ද ඒක ස්වර්ගයෙහිදීත් මුදනු ලැ
20 බේයයි කීසේක. එකල තමන්වහන්සේ
ක්‍රිස්තුස් බව කාටවත් නොකියන ලෙස
ගෝලයන්ට අණකලසේක.
21 එතැන් පටන් යේසුස්වහන්සේ යෙරූ
සලමට යාමත් ප්‍රධානින්ගෙන්ද නායක
පූජකයන්ගෙනු ලියනන්නන්ගෙනු බො
හෝ පීඩා විඳීමත් මරනු ලැබීමත් තුන්
වෙනි දා නැවත නැගිටීමත් තමන්වහන්
සේට නියම බව ගෝලයන්ට දක්වන්ට
22 පටන්ගත්සේක. එකල පේත්‍රුස් උන්ව
හන්සේ කැඳවාගෙන උන්වහන්සේට අ
වවාදකරන්ට පටන්ගෙන ස්වාමිනි එ
සේ නොවේවා ඒ දේ ඔබවහන්සේට සි
23 ද නොවන්නේයයි කීයේය. උන්වහන්
සේද හැරී පේත්‍රුස්ට කථාකොට සාතන්
මා පස්සට යව තෝ මට බාධාවක. තෝ
මනුෂ්‍යයන්ගේ කාරණ මිස දෙවියන්ව
හන්සේගේ කාරණ නොසිතන්නේයයි
24 කීසේක. එවිට යේසුස්වහන්සේ ගෝල
යන්ට කථාකොට යමෙක් මා පස්සේ
එන්ට කැමතිනම් ඔහු තමාගේ කැමැත්
ත අත්හැර තමාගේ කුරුසිය අරගෙන
25 මා පස්සේ ඒවා. මක්නිසාද යමෙක් ත
මාගේ ප්‍රාණය රක්ෂාකරගන්ට කැමති
වේද ඔහු ඒක නැතිකරගන්නේය. ය
මෙක් මා නිසා තමාගේ ප්‍රානය නැතික
රගන්නේද ඔහු ඒක සම්භකරගන්නවා
26 ඇත. යම් මනුෂ්‍යයෙක් මුළු ලෝකය ල
බාගත්තත් තමාගේ ප්‍රාණය නැතිකරග
න්නේනම් ඔහුට කවර ලාභයක්ද? නො
හොත් මනුෂ්‍යයෙක් තමාගේ ප්‍රාණය සි
27 ලව්වට කුමක් දේද? මක්නිසාද මනුෂ්‍ය
පුත්‍රයා තමන්ගේ පියානන්වහන්සේගේ
තේජසින් තමන්ගේ දූතයන් සමග ඇ
විත් සියළු මනුෂ්‍යයන්ට තමතමන්ගේ
ක්‍රියාවලට සුදුසු විපාක දෙනවා ඇත.
28 සැබවක් නුබලාට කියමි මනුෂ්‍ය පුත්‍රයා
තමන්ගේ රාජානුභාවයෙන් එනවා දකි
නතෙක් මෙහි සිටිනාවූ සමහරෙක් ම
රණ රසය නොවිඳිතියි කීසේක.

* හෙවත් ගලය.

17. පරිච්ජ. සදවසකට පසු ජේසුස්
වහන්සේ පේතෘස්ද යාකොබ්ද ඔහුගේ
සහෝදරවූ යොහන්ද කැඳවාගෙන විවේ
ක පිනිස උස්වූ කන්දකට නැගී ඔවුන් ඉ
2 දිරියේ අන් වෙසක් වූසේක. උන්වහන්
සේගේ මුහුන සූර්‍ය්‍යයා මෙන් බැබළුනේ
ය. උන්වහන්සේගේ වස්ත්‍රද ආලෝකය
3 මෙන් සුදුවිය. උන්වහන්සේ සමග කථා
කරන්නාවූ මෝසෙස්ද එළියස්ද ඔවුන්ට
4 පෙනුනෝය. එවිට පේතෘස් ජේසුස්ව
හන්සේට කථාකොට ස්වාමිනි අපට මෙ
හි සිටීම යහපත. ඔබවහන්සේ කැමති
නම් ඔබවහන්සේටද මෝසෙස්ටද එළි
යස්ටද එක එක බැගින් මෙහි පැල් තු
5 නක් සාදමුයයි කීයේය. ඔහු කථාකරද්
දීම දීප්තිමත්වූ වලාපටලයකින් ඔවුන්
වැසුනෝය. එවිට මොහු මාගේ ප්‍රිය පු
ත්‍රයාය මොහු කෙරේ ඉතා සතුටුවෙමි
මොහුගේ බස් අසව්යයි වලාපටලයෙන්
6 හඬක් විය. ගෝලයෝ ඒ අසා බොහෝ
සෙයින් භයපත්ව මුහුනින් වැටී සිටියෝ
7 ය. ජේසුස්වහන්සේද ඇවිත් ඔවුන්ට අ
තගසා භයනොවී නැගිට්ටලායයි කීසේ
8 ක. ඔවුන් තමන්ගේ ඇස් ඔසවා බලා
ජේසුස්වහන්සේ හැර වෙන කිසිවෙක්
9 නුදුටුවෝය. ඔවුන් කන්දෙන් බසිනකල
මනුෂ්‍ය පුත්‍රයා මළවුන්ගෙන් නැගිටින
තුරු මේ දර්ශනය කාටවත් නොකියලා
යයි ජේසුස්වහන්සේ ඔවුන්ට අණකල
10 සේක. උන්වහන්සේගේ ගෝලයෝ එ
සේනම් එළියස් පලමුවෙන් එන්ට ඕනෑ
යයි ලියන්නෝ කියන්නේ මක්නිසාදැයි
11 උන්වහන්සේගෙන් ඇසුවෝය. ජේසුස්
වහන්සේ උත්තර දෙමින් එළියස් පල
මුවෙන් ඇවිත් සියල්ල නැවත පිහිටුවන්
12 නේමය. නුමුත් තුබලාට කියමි එළියස්
ඇවිත් සිටියේය. ඔහු නාඳින යමක් ය
මක් කැමතිද ඒ ඒ දේ ඔහුට කලෝය.
එසේම මනුෂ්‍ය පුත්‍රයාද ඔවුන්ගෙන් පී
13 ඩා ලබන්නේයයි ඔවුන්ට කීසේක. එක
ල උන්වහන්සේ යොහන් බව්තීස්ත ගැ
න කථාකල බව ගෝලයෝ තේරුම්ග
ත්තෝය.

14 ඔවුන් සමූහයා ළඟට ආකල එක් මනු
ෂ්‍යයෙක් ඇවිත් උන්වහන්සේ ඉදිරියේ
15 දනින් ඉඳ ස්වාමිනි මාගේ පුත්‍රයාට අනු
කම්පාකලමැනව ඔහුට වස්මර රෝග
යක් වැලඳී නොයෙක් වර ගිනෙහිද
වතුරෙහිද වැටෙමින් බොහෝ වේදනා
16 විඳින්නේය. ඔබවහන්සේගේ ගෝලයන්
ළඟට ඔහු ගෙනාවෙමි ඔහුට සුවකිරීම ඔ
17 වුන්ට නුපුළුවන්වියැයි කීයේය. ජේසුස්
වහන්සේ උත්තරදෙමින් ඇදහිලි නැති
වංකවූ මනුෂ්‍යයෙනි මම තුබලා සමග
කොපමන කල් සිටිම්ද? කොපමනකල්
තුබලා කෙරෙහි ඉවසම්ද? මෙහි මා ළ
18 ඟට ඔහු ගෙනෙල්ලායයි කීසේක. ජේසු
ස්වහන්සේ යක්ෂයාට සැරකල කල්හි ඔ
19 හු ළමයාගෙන් දුරුව ගියේය. එවෙලේම
ඒ ළමයාට සුවවිය. එවිට ගෝලයෝ ත
නියම හුන් ජේසුස්වහන්සේ ළඟට පැමි
න ඒ යක්ෂයා දුරුකරන්ට අපට බැරිවූ
20 යේ මක්නිසාදැයි ඇසුවෝය. ජේසුස්ව
හන්සේ කියනසේක් තුබලාගේ ඇදහි
ලි නැතිකම නිසාය. සැබවක් තුබලාට
කියමි අබ ඇටයක් පමන ඇදහිල්ල තුබ
ලාට ඇත්නම් මේ කන්දට මෙතනින් අ
තනට යවයි කීකල ඒක යන්නේය. ඈ
රත් තුබලාට බැරිවූ දෙයක් නොවන්
21 නේය. එසේ නුමුත් යාඥාවීමෙන්ද නිරා
හාරව ඉඳීමෙන්ද මිස මේ ජාතිය දුරුවෙ
න්නේ නැතැයි කීසේක.

22 ඔවුන් ගලීලයෙහි හැසිරෙනකල ජේ
සුස්වහන්සේ ඔවුන්ට කථාකොට මනුෂ්‍ය
පුත්‍රයා මිනිසුන්ගේ අතවලට පාවාදෙනු
23 ලැබේ. ඔවුන්ද ඔහු මරණවා ඇත. තුන්
වෙනි දා ඔහු නැවත නැගිටින්නේයයි කී
සේක. එවිට ඔවුන් බොහෝසෙයින්
සෝකවූවෝය.

24 ඔවුන් කපර්නාවුමට ආකල පඩුරු අය
කරන්නෝ පේතෘස් ළඟට ඇවිත් තුබලා
ගේ ආචාරීන්වහන්සේ පඩුරු දෙනෙන්
25 නැද්දැයි කීවෝය. දෙනසේකැයි කීයේ
ය. ඔහු ගෙට ඇතුල්ව කථාකරන්ට ප
ළමුවෙන් ජේසුස්වහන්සේ ඔහුට කථා
කොට සීමොන් තුබ කුමක් සිතනවාද?
පොළොවේ රජදරුවෝ ආදායම් නො
හොත් සුංගම් කාගෙන් ගනිද්ද? තමන්
පුත්‍රයන්ගෙන්ද නොහොත් අනුන්ගෙන්
26 දැයි ඇසුසේක. පේතෘස්ද අනුන්ගෙනැ
යි කීයේය. ජේසුස්වහන්සේ එසේවීනම්
27 දරුවෝ නිදහස්ය. නුමුත් ඔවුන්ට බාධා
වක් නූපදවන පිනිස මුහුදට ගොස් බිලී
යක් බහා පලමුකොට නැගූ මත්ස්‍යයා
අරගෙන උගේ කට ඇරියකල එක් මි
ලයක් සමගවේ ඒක ගෙන මා සහ තුබ
උදෙසා ඔවුන්ට දීපන්නැයි කීසේක.

18. පරිච්ඡෙ. එකල ගෝලයෝ යේ
සුස්වහන්සේ ළඟට ඇවිත් ස්වර්ගරාජ්‍ය
2 යෙහිදී කවුරු උතුම්දැයි ඇසුවෝය. යේ
සුස්වහන්සේද ළදරුවෙක් ළඟට කැඳ
3 වා ඔවුන් මැද සිටුවා සැබවක් නුඹලාට
කියමි. නුඹලා හැරී ළදරුවන් ලෙස නු
නොත් ස්වර්ගරාජ්‍යයට ඇතුල් නො
4 වෙත්. එබැවින් මේ ළදරුවා ලෙස ය
මෙක් යටත්වෙතොත් ඔහු ස්වර්ග රාජ්‍ය
5 යේදී උතුම්වන්නේය. යමෙක් මාගේ
නමින් මෙබඳු ළදරුවෙක් පිළිගනීද ඔ
6 හු මා පිළිගන්නේය. එහෙත් මා අදහ
න මේ බාලයන්ගෙන් එකෙකුටවත් බා
ධාකරණ යමෙක් ඇද්ද ඔහුගේ බෙල්
ලේ ඇඹරුම් ගලක් එල්වා මූදේ ගැඹු
7 රක ගල්වා මැරීම ඔහුට යහපත. බා
ධා නිසා ලොවට දුක්වේ. බාධා පැමි
ණෙනවාම ඇත. නුමුත් යමෙක් කරණ
කොටගෙන බාධාව පැමිණේද ඔහුට
8 දුක් වේ. එහෙයින් නුඹේ අතවත් පය
වත් නුඹට බාධාකරතොත් ඒවා කපාද
මාපන්න. දෑත දෙපය ඇතුව සදාකාල
ගිනෙහි හෙළනු ලැබීමට වඩා අතවත්
පයවත් නැතුව ජීවනයට පැමිණීම නුඹ
9 ට යහපත. නුඹේ ඇස නුඹට බාධාකර
තොත් ඒක උගුලා දමාපන්න. ඇස් දෙ
කක් ඇතුව නිරා ගිනෙහි හෙළනු ලැ
බීමට වඩා එක් ඇසක් ඇතුව ජීවනයට
10 පැමිණීම යහපත. මේ බාලයන්ගෙන් එ
කෙකුටවත් හෙළා නොදක්නට ප්‍රවේ
සම්වෙයල්ලාය. මක්නිසාද නුඹලාට කි
යමි ස්වර්ගයේදී ඔවුන්ගේ දේවදූතයෝ
ස්වර්ගයේ සිටින මාගේ පියානන්වහන්
11 සේගේ මුහුණ නිතරම දකිති. මක්නිසා
ද නැතිවූනාවූ දේ ගලවාගන්ට මනුෂ්‍ය පු
12 ත්‍රයා ආයේය. නුඹලා කුමක් සිතනවාද?
මනුෂ්‍යයෙකුට බැටළුවන් සියයක් ඇත්
තේවීනම් උන්ගෙන් එකෙක් නැතිවූ
නොත් ඔහු ඉතිරි අනූ නවදෙන හැර
කඳුවල ඇවිද නැතිවූනු එකා සොයන්
13 නේ නැද්ද? සැබවක් නුඹලාට කියමි
ඌ සම්භවූනොත් නැතිනූනාවූ අනූ න
වදෙනාටම වඩා ඌ ගැන සන්තෝස ව
14 නෙත්ය. එසේම මේ බාලයන්ගෙන් එ
කෙක්වත් විනාසවෙනවාට ස්වර්ගයේ
සිටින නුඹලාගේ පියානන්වහන්සේ
නොකමැතිසේක.
15 නුඹේ සහෝදරයා නුඹට විරුඬව ව
රද කලොත් ගොස් ඔහු සමග තනිව සිට
ඔහුගේ වරද ඔහුට කියාපන්න. නු
බ කී දේ ඔහු පිළිගන්තොත් නුඹේ ස
16 හෝදරයා නුඹට ලැබුනේය. පිළිනො
ගන්තොත් සාක්ෂිකාරයන් දෙදෙනෙකු
ගේ නොහොත් තුන්දෙනෙකුගේ කටින්
සියළු වචන ස්ථිරවෙන පිණිස නුඹ සම
ග එකෙක් නොහොත් දෙදෙනෙක් කැ
17 දවාගනින්න. ඔවුන්ගේ වචනත් පිළි
නොගන්තොත් සභාවට කියාපන්න. ස
භාවෙන් කී වචනත් පිළිනොගන්තොත්
ඔහු නුඹට අන්‍යජාතියෙක් මෙන්ද සුංගම්
18 අයකරන්නෙක් මෙන්ද වූනාවේ. සැබ
වක් නුඹලාට කියමි නුඹලා පොළොවේ
දී යමක් බඳිනවානම් ඒක ස්වර්ගයේදීත්
බඳිනු ලබන්නේය. පොළවේදී යමක්
මුදනවානම් ඒක ස්වර්ගයේදීත් මුදනු
19 ලබන්නේය. නැවතත් නුඹලාට කියමි
පොළවේදී නුඹලාගෙන් දෙදෙනෙක් ත
මන් ඉල්ලන යමක් ගැන එක්සිත් වූ
නොත් ස්වර්ගයේ සිටින මාගේ පියාන
න්වහන්සේගෙන් ඒ දේ ඔවුන්ට ලැබේ
20 ය. මක්නිසාද දෙදෙනෙකුත් තුන්දෙනෙ
කුත් මාගේ නමින් යම් තැනක රැස්වී
සිටිත්නම් මමත් එතන ඔවුන් මැද ඇත්
තෙමියි කීසේක.
21 එවිට පේත්‍රුස් උන්වහන්සේ ළඟට ඇ
විත් ස්වාමිනි මාගේ සහෝදරයා මට විරු
ඬව වරද කලොත් කී වරක් ඔහුට ක්ෂමා
වෙම්ද? සත් වරක්දැයි ඇසුවේය. යේසු
22 ස්වහන්සේ උත්තර දෙමින් සත් වරකැයි
නුඹට නොකියමි එහෙත් ඇත්තෑවරක්
23 සතක. එබැවින් තමන්ගේ වැඩකාර
යන් සමග ගනන් බලනනට සෑදූ එක්
රජෙකුට ස්වර්ගරාජ්‍යය උපමාකරනු
24 ලැබේ. ගනන් බලන්ට පටන්ගත්කල
තලෙන්ත දසදහසකට නයවූ එකෙක්
ඔහු ළඟට ගෙනෙනලද්දේය. නය ගෙ
25 වන්නට ඔහුට කිසිවක් නැති බැවින්
ඔහුගේ ස්වාමියා ඔහුද ඔහුගේ අඹුදරු
වන්ද ඔහු සන්තක සියල්ලද විකුන න
26 ය අයකරන්ට අණකෙලේය. එවිට ඒ
වැඩකාරයා බිම වැටී වැඳ ස්වාමිනි ඉ
වසුවමැනව නුඹවහන්සේට ඒ සියල්ල
27 ගෙවමියි කීයේය. ඒ වැඩකාරයාගේ
ස්වාමියා අනුකම්පාකොට ඔහු මුදා හැර
28 ඒ නයෙන් නිදහස්කෙලේය. එහෙත්
ඒ වැඩකාරයා පිටත්ව ගොස් තමා සම
ග වැඩකරණ වැඩකාරයන්ගෙන් තමා
ට මසු සියයකට නයවූ එකෙක් දැක

ඔහුගේ බෙල්ල අල්ලාගෙන ගෙවිය යුතු
29 නය ගෙවාපන්නැයි කීයේය. එවිට ඔහු
සමග වැඩකරණ ඒ වැඩකාරයා ඔහුගේ
පාමුල වැටී ඉවසුවමැනව ඒ සියල්ල තු
30 බට ගෙවම්යි කියා ඉල්ලාසිටියේය. එ
හෙත් ඔහු අකමැතිව ගොස් ඒ නය ගෙ
වනතුරු ඔහු හිරගෙයි දැම්මේය. ඔහු ස
31 මග වැඩකරණ වැඩකාරයෝ ඒ දැක ඉ
තා ශෝකයට පැමිණ ඇවිත් ඒ සිඩවුනා
32 වූ සියල්ල තමන් ස්වාමියාට කීවෝය. එ
විට ස්වාමියා ඔහු කැඳවා දුෂ්ට වැඩකා
රය තෝ මගෙන් ඉල්ළු නිසා ඒ නය සිය
33 ල්ලන් තෝ නිදහස්කෙලෙමි. මා විසින්
තට අනුකම්පාකලසේම තා විසිනුත් තා
සමග වැඩකරණ වැඩකාරයාට අනුකම්
34 පා කරන්ට යුතු නොවේදැයි කියා කෝ
පව ඒ නය සියල්ල ගෙවනතුරු ඔහු වධ
35 කයන්ට පාවාදුන්නේය. නුබලාත් නුබ
ලාගේ සහෝදරයන්ට ඔවුන්ගේ වරද
සිතින් ක්ෂමා නොකරණවානම් ස්වර්ග
යෙහි සිටින මාගේ පියානන්වහන්සේ
ද නුබලාට එසේම කරණසේකැයි කී
සේක.

19. පරිච්ජ. යේසුස්වහන්සේ මේ
කාරණ කියා නිමවා ගලිලයෙන් පිටත්ව
යොර්දනින් එගොඩව යුදයේ රටවලට
2 පැමිනිසේක. බොහෝ සමූහයෝ උන්ව
හන්සේ පස්සේ ගියෝය. උන්වහන්සේ
ද එහිදී ඔවුන්ට සුවකලසේක.
3 එරිසිවරු උන්වහන්සේ ලඟට පැමි
ණ උන්වහන්සේ පරීක්ෂාකරමින් පුරුෂ
යෙක් විසින් තමාගේ භායිසාව යම් කිසි
කාරණයක් නිසා අත්ඇරීම යුතුදැයි උන්
4 වහන්සේගෙන් ඇසුවෝය. උන්වහන්
සේ උත්තර දෙමින් පටන්ගැන්මේදී ම
නුෂ්‍යයන් මැවූ තැනැන්වහන්සේ පුරුෂ
5 යෙක්ද ස්ත්‍රියෙක්ද වසයෙන් ඔවුන් මැ
වූ බවත් ඒ කාරණයෙන් පුරුෂයා මව්පි
යන් හැර තමාගේ භායිසාවට ඇළුම්වන්
නේය කියාද ඔවුන් දෙදෙන එක ශරීර
යක් වන්නේය කියාද කී බවත් නුබලා
6 කියෙව්වේ නැද්ද? එහෙයින් එතැන්ප
ටන් ඔවුන් දෙදෙනෙක් නොව එකම ශ
රීරයක් වෙති. එබැවින් දෙවියන්වහන්
සේ එකතුකල යමක් මනුෂ්‍යයා වෙන්
7 නොකෙරේවයි කීසේක. ඔවුන් කථා
කොට එහෙනම් අත්ඇරීම් පත්‍රයක් දී
භායිසාවන් අත්හැරීම මෝසෙස් විසින්
මක්නිසා අඥාකෙලේදැයි උන්වහන්සේ
8 ට කීවෝය. උන්වහන්සේ කථාකොට නු
බලාගේ සිත් දැඩි බැවින් මෝසෙස් නු
බලාගේ භායිසාවන් හරින්ට අවසර දු
න්නේය. එහෙත් පටන්ගැන්මේ සිට එ
9 සේ වූනේ නැත. නුබලාට මම කියමි ය
මෙක් වේශ්‍යාකමට මිස තමාගේ භායිසා
ව අත්හැර වෙන ස්ත්‍රියක් සරණපාවාග
න්නාත් ඔහු පරදූර කරන්නේය අරින
ලද ඒ ස්ත්‍රිය සරනපාවාගන්නා තැනැත්
10 තේද පරදූර කරන්නේයයි කීසේක. උ
න්වහන්සේගේ ගෝලයෝ භායිසාව ඇ
ති පුරුෂයාට මෙසේ වේනම් සරණපා
වා නොගැන්ම යහපතැයි උන්වහන්සේ
11 ට කීවෝය. උන්වහන්සේද මේ කිම පිලි
ගන්ට පුළුවන්කම ලැබූවන් විසින් මිස
සියල්ලන් විසින්ම පිලිගන්ට නුපුළුවන.
12 මක්නිසාද මව් කුසින් උපන් නපුංසක
යොත් ඇත. මිනිසුන් විසින් කරණලද
නපුංසකයොත් ඇත. ස්වර්ගරාජ්‍යය නි
සා තමන්ම නපුංසක වූවොත් ඇත. ඒ
ක ලබන්ට පුළුවන් තැනැත්තොත් ලබාව
යි කීසේක.
13 ළදරුවන් පිට අත් තබවා යාඥාකර
වන පිනිස ඔවුන් උන්වහන්සේ ලඟට
ගෙනාවෝය. ගෝලයෝ ඔවුන්ට සැර
14 කලෝය. යේසුස්වහන්සේද ළදරුවන්
නොවලකා මා ලඟට එන්ට අවකාස හැ
15 රපල්ලාය. මක්නිසාද ස්වර්ගරාජ්‍ය මෙබ
දුවූවන්ගේමයයි කියා ඔවුන් පිට අත් ත
බා එතනින් පිටත්ව ගියසේක.
16 තවද එක් මනුෂ්‍යයෙක් ඇවිත් යහ
පත් ආචාරීන්වහන්ස සදාකාල ජීවනය ල
බන පිනිස මොන යහපතක් කරම්දැයි
17 උන්වහන්සේගෙන් ඇසුයේය. උන්වහන්
සේ මට යහපතැයි කියන්නේ මක්නිසා
ද? දෙවියන්වහන්සේ හැර වෙන කවුරු
වත් යහපත් නොවේ. නුබ ජීවනයට පැ
මිනෙන්ට කැමතිනම් අඥාවන් රක්ෂාක
18 රපන්නැයි කීසේක. ඔහු මොන අඥා
වන්දැයි උන්වහන්සේගෙන් ඇසුයේය.
යේසුස්වහන්සේ කියනසේක් මිනී නො
මරව පරදූර නොකරව සොරකම් නො
19 කරව බොරු සාක්ෂි නොකියව දෙමවු
පියන්ට ගෞරව කරව තමාට මෙන් ත
මාගේ අසල්වාසියාට ආදරේ වෙව යන
20 මේයයි කීසේක. ඒ යෞවනයා මම ළද
රු කාලේ පටන් මේ සියල්ල රක්ෂාකර
මි තව මට අඩු කිමෙක්දැයි උන්වහන්

21 සේට කීයේය. යේසුස්වහන්සේද තුඹ
සම්පූර්ණවෙන්ට කැමතිනම් ගොස් තු
ඹ සන්තක දේවිකුන දුප්පතුන්ට දීපන්
න. ස්වර්ගයේදී තුඹ වස්තු ලබනවා ඇ
ත. තවද මා පස්සේ එරෙතනැයි ඔහුට
22 කීසේක. යෞවනයා ඒ අසා තමාට බො
හෝ වස්තු ඇති බැවින් සෝක ඇතිව
පහව ගියේය.
23 එවිට යේසුස්වහන්සේ ගෝලයන්ට
කථාකොට සැබවක් තුඹලාට කියමි ව
ස්තුකාරයෙකුට ස්වර්ගරාජ්‍යයට ඇතුල්
24 වීම අමාරුය. නැවතත් තුඹලාට කියමි
දෙවියන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකා
රයාගේ ඇතුල්වීමට වඩා ඉදිකටු සිදු
රෙන් ඔටුවාගේ ගමන ලේසියයි කීසේ
25 ක. උන්වහන්සේගේ ගෝලයෝ ඒ අසා
ඉතා පුදුමව එසේනම් ගැලවෙන්ට කාට
26 පුළුවන්දැයි කීවෝය. යේසුස්වහන්සේ
ඔවුන් දෙස බලා ඒක මනුෂ්‍යයන්ට තු
පුළුවන තුමුත් දෙවියන්වහන්සේට සියල්
ලම පුළුවනැයි කීසේක.
27 එවිට පේත්‍රුස් අපි සියල්ල අත්ඇර ඔ
බවහන්සේ පස්සේ ආවෙමුව එබැවින්
අපට ලැබෙනෙත් කුමක්දැයි ඇසුයේය.
28 යේසුස්වහන්සේද ඔවුන්ට කථාකොට
සැබවක් තුඹලාට කියමි සියල්ල නැවත
උත්පාදකිරීමේදී මනුෂ්‍ය පුත්‍රයා තමන්
ගේ තේජවන්ත සිංහාසනයේ වැඩහිඳි
නකල් මා පස්සේ ආවාවූ තුඹලාත් ඊස්‍රා
යෙල්ගේ ගෝත්‍රයන් දොළස විනිශ්චය
29 කරමින් සිංහාසන දොළසක් පිට හිඳින
වා ඇත. තවද මාගේ නාමය නිසා ගෙ
වල්වත් සහෝදරයන්වත් සහෝදරීන්වත්
පියානන්වත් මෑනියන්වත් භායිඛාවවත්
දරුවන්වත් ගම්බිම්වත් අත්ඇරියාවූ ය
මෙක් ඇද්ද ඔහු සියක් ගුණයක් ලබන්
නේය. සදාකාල ජීවනයටත් උරුමක්
30 කාරයා වන්නේය. තුමුත් ප්‍රථමයෝ බො
හෝ දෙන අන්තිමයෝද අන්තිමයෝ
බොහෝ දෙන ප්‍රථමයෝද වෙනවා ඇ
තැයි කීසේක.

20. පරිච්ඡෙ. තවද තමන්ගේ මිදිව
තෙත් වැඩම් වැඩකාරයන් ගනනා පිනි
ස අළුයම් පිටත්ව ගිය ගෙදර මූලාදෑනි
2 යෙකුට ස්වර්ගරාජ්‍යය සමානය. ඔහු ද
වසකට මස්සක් බැගින් දෙන ලෙස වැ
ඩකාරයන් සමග පොරොන්දුව මිදිවත්ත
3 ට ඔවුන් යැවීය. තුනෙවනි හෝරාව පම
නෙත් පිටත්ව ගොස් කඩපිල්වල නිකම්
සිටිය වෙන මිනිසුන් දැක තුඹලාත් මිදි
4 වත්තට පලයල්ලාය. ලැබෙනනට යුතු
කුලී තුඹලාට දෙනෙනම්යි කීයේය. ඔ
5 වුන්ද ගියෝය. නැවතත් ඔහු දවල් හයවෙ
නි නවවෙනි හෝරා පමනෙත් පිටත්ව
6 ගොස් එසේම කෙලේය. එකොලොස්
වෙනි හෝරාව පමනෙත් ඔහු පිටත්ව
ගොස් වෙනත් නිකම් සිටිනනන් දැක තු
ඹලා මෙතන දවස මුළුල්ලේ නිකම් සිටි
නෙත් මක්නිසාදැයි ඔවුන්ගෙන් ඇසු
7 යේය. කවුරුවත් අප වැඩට නොගත් නි
සායයි ඔවුන් කීවෝය. එවිට ඔහු තුඹ
ලාත් මිදිවත්තට පලයල්ලාය ලැබෙනන
ට යුතු කුලී තුඹලාටත් ලැබෙනවා ඇතැ
8 යි කීයේය. සවස්වූකල මිදිවත්තෙත් ස්වා
මියා තමාගේ වැඩ බලනනාට කථාකො
ට කුලීකාරයන් කැඳවා අන්තිමයා ප
ටන් පලමුවෙනියා දක්වා ඔවුන්ට කුලී
9 දීපනනැයි කීයේය. එවිට එකොලොස්
වෙනි හෝරාව පමනේදී වැඩට ගනෙතතා
ඇවිත් එකඑකා මස්ස බැගින් ලැබුවෝ
10 ය. පලමුවෙනියෝ ඇවිත් අපි වැඩියෙන්
ලබමුයයි සිතුවෝය. ඔවුහුත් එක එකා
11 මස්ස බැගින්ම ලැබුවෝය. එසේ ලැබූ
කල ඔවුන් ගෙදර මූලාදෑනියා සමග විවා
12 ද කරමින් පසුව ආ මොවුන් එක හෝරා
වක් පමන වැඩකලෝය තුමුත් දවස මු
ළුල්ලෙහි වැඩකරමින් අව්වේ සිට වෙ
හෙස වින්දවූ අපට ඔවුන් සමාන කලේ
13 යයි කීවෝය. ඔහු ඔවුන්ගෙන් එකෙකු
ට උත්තර දෙමින් යහළුව මම තුඹට අ
යුක්තක් නොකෙලෙමි. තුඹ මා සමග
14 මස්සකට පොරොන්දුවූනේ නැද්ද? තුඹ
සන්තක දෙය අරගෙන පලයනන තුඹ
ට දුන් හැටියටම මේ අන්තිමයාටත් දෙ
15 නෙනමි. මා සන්තක දෙයින් මට කැමැ
ත්තක් කරන්ට යුතු නොවේද? මම යහ
පත් නිසා තුඹේ ඇස නපුරුදැයි කීයේ
16 ය. එසේම අන්තිමයෝ ප්‍රථමයෝද ප්‍රථ
මයෝ අන්තිමයෝද වෙනවා ඇත. මක්
නිසාද කැඳවනු ලැබුවෝ බොහෝය
තෝරාගනු ලැබුවෝ ස්වල්පයයි කී
සේක.
17 යේසුස්වහන්සේ යෙරුසලමට යමින්
18 ගෝලයන් දොලොස්දෙන මගදී ඉවතට
කැඳවා අපි යෙරුසලමට යමුව මනුෂ්‍ය
පුත්‍රයා නායක පූජකයන්ටත් ලියනනන්
19 ටත් පාවාදෙනු ලබනෙනේය. ඔවුන් ඔහු

මරණට නියමකොට නින්දාකිරීමත් තැ
ළීමත් කුරුසියෙහි ඇනගැසීමත් ලබන
පිණිස පරදේසීන්ට පාවාදෙනවා ඇත.
තුන්වෙනි දා ඔහු නැවත නැගිටිනවා ඇ
තැයි කීසේක.
20 එකල සෙබදීගේ පුත්‍රයන්ගේ මව් ඇ
21 ගේ පුත්‍රයන් සමග උන්වහන්සේ ළඟට
ඇවිත් වැඳ වරයක් ඉල්ලුවාය. උන්වහන්
සේ කුමක් කැමතිදැයි ඈගෙන් ඇසූසේ
ක. ඈද ඔබවහන්සේගේ රාජ්‍යයේදී
මේ මාගේ පුත්‍රයන් දෙන්නාගෙන් එ
කෙක් ඔබවහන්සේගේ දකුණු පැත්තෙත්
දඑකෙක් වම් පැත්තේද ඉන්ට නියමක
22 ළමැනවැයි කීවාය. නුමුත් යේසුස්වහන්
සේ උත්තරදෙමින් නුබලා ඉල්ලන්නේ
මොනවාදැයි නුබලාම නොදනිති. මා වි
සින් බොන්නට නියම කුසලානෙන්
බොන්ටත් මම ලබන බව්තීස්මය ලබන්
ටත් නුබලාට පුළුවන්දැයි ඇසූසේක. ඔ
23 වුන් අපට පුළුවනැයි කීවෝය. එවිට උ
න්වහන්සේ ඒකාන්තයෙන් නුබලා මා
ගේ කුසලානෙන් බොනවා ඇත. මම
ලබන බව්තීස්මය ලබනවා ඇත. නුමුත්
මාගේ දකුණු පැත්තේද වම් පැත්තේද
හිඳීම මාගේ පියානන්වහන්සේ විසින් ය
මෙක් උදෙසා පිළියෙළකරණලද්ද ඔහු
ට මිස වෙන කෙනෙකුට දෙන්ට මට නු
24 පුළුවනැයි කීසේක. අනික් දස දෙන ඒ
අසා ඒ සහෝදර දෙන්නා කෙරේ කිපු
25 ණෝය. යේසුස්වහන්සේද ඔවුන් කැඳ
වා අන්‍යජාතීන්ගේ රජදරුවන් අන්‍යජා
තීන් කෙරේ අධිපතිකම් කරණ බවත් ම
හත්වරුන් ඔවුන් කෙරේ බලය පවත්ව
26 න බවත් නුබලා දනිති. නුබලා අතරේ එ
සේ නොවේවා. නුබලා අතරේ යමෙක්
උතුම්වෙන්නට කැමතිනම් ඔහු නුබලා
27 ගේ උපස්ථායක වේවා. නුබලා අතරේ
යමෙක් ප්‍රධානවෙන්ට කැමතිනම් ඔහු
28 නුබලාගේ වැඩකාරයා වේවා. එසේම
මනුෂ්‍ය පුත්‍රයා බොහෝ දෙනා වෙනුවට
මිදීමේ වස්තුවක් කොට තමන්ගේ ජීවි
තය දෙන්ටද උපස්ථාන ලබන්ට නොව
උපස්ථාන කරන්ටද ආයේයයි කීසේක.
29 ඔවුන් යෙරිකෝවෙන් පිටත්ව යනකා
ල බොහෝ සමූහයක් උන්වහන්සේ පස්
30 සේ ගියේය. මග අසල උන් අන්ධයෝ
දෙන්නෙක් යේසුස්වහන්සේ ඒ මගින්
යන බව අසා ස්වාමිනි දාවිත්ගේ පුත්‍රය
අපට අනුකම්පාකළ මැනවයි හඬගැසූ
31 වෝය. එකල සමූහය ඔවුන්ට සැරකො
ට මුරනොගසල්ලායයි කීවෝය. නුමුත්
ඔවුන් ස්වාමිනි දාවිත්ගේ පුත්‍රය අපට අ
නුකම්පාකළමැනවැයි වඩ වඩා මුරගැසූ
32 වෝය. එවිට යේසුස්වහන්සේ නැවතී
සිට ඔවුන් කැඳවා මා ලවා කුමක් කර
33 වාගන්නට කැමතිදැයි කීසේක. ස්වාමිනි
අපේ ඇස් එළියකරවාගැන්මටයයි කී
34 වෝය. යේසුස්වහන්සේ ඔවුන්ට අනුකම්
පාකොට ඔවුන්ගේ ඇස්වල අත තැබූ
සේක. එකෙනෙහිම ඔවුන් පෙනීම ලැබ
උන්වහන්සේ පස්සේ ගියෝය.

21. පරිච්ඡේ. ඔවුන් යෙරුසලම් ළ
ගට පැමින ඔලීව කන්දට කිට්ටුවූ බැත්පා
2 ජයට ආවෝය. එවිට යේසුස්වහන්සේ
ගෝලයන් දෙන්නෙක් යවමින් නුබලා
ඉදිරියේ තිබෙන ගමට පලයල්ලාය. එහි
බැඳලා සිටින කොටළු දෙනෙක්ද ඈ ස
මග වස්සෙක්ද නුබලාට සම්භවෙනවා
ඇත. උන් මුදා මා වෙතට ගෙනෙල්ලාය.
3 යමෙක් නුබලාට කිසිවක් කියතොත්නම්
උන්ගෙන් ස්වාමින්වහන්සේට වැඩ ඇත්
තේයයි කියාපල්ලාය. එවිට ඔහු උන් ව
4 හාම එවනවා ඇතැයි කීසේක. මේ සිය
5 ල සිධවූනේ කොටළුවා සහ කොටළු
වස්සා පිට හිඳ මොලොක් සිත් ඇති තී
ගේ රජ්ජුරුවෝ තී ළඟට එනසේකැයි
සියොන්ගේ දුවට කියාපල්ලායයි අනාග
තවක්තෘහු විසින් කියනලද කීම සම්පූ
6 ර්ණවෙන පිණිසය. එවිට ගෝලයෝ
ගොස් යේසුස්වහන්සේ අණකල ලෙස
කොටළු දෙනත් වස්සත් ගෙනත් ත
7 මන්ගේ වස්ත්‍ර උන් පිට ලා උන්වහන්සේ
8 එහි හිඳෙව්වෝය. බොහෝ දෙනා ත
මන්ගේ ඇඳුම් මග අතුලෝය. තවත් ස
මහරු ගස්වල අතු කඩා මග අතුලෝය.
9 පෙර පසුව යන සමූහයෝද දාවිත්ගේ පු
ත්‍රයාට හෝසන්නාය කියාත් ස්වාමින්ව
හන්සේගේ නාමයෙන් එන්නාවූ තැනැ
ත්තාට ආශිර්වාද වේවයි කියාත් උස් තැ
න්වල හෝසන්නායයි කියාත් හඬගැ
සූවෝය.
10 උන්වහන්සේ යෙරුසලමට ඇතුල්වූ
11 කල මොහු කවුද කියා නුවර මුළුල්ලම
කැළඹුනේය. සමූහයෝද මොහු ගලිල
යේ නාසරෙත්හි අනාගතවක්තෘවූ යේසු
12 ස්වහන්සේයයි කීවෝය. යේසුස්වහන්
සේ දේවමාලිගාවට ඇතුල්ව එහි ගනු

දෙනු කිරණ සියළු දෙන බැහැරකොට
13 මිල මාරුකරනනන්ගේ මේසද පරවි
යන් විකුනනවුන්ගේ ආසනද පෙරලා
දමා මාගේ ගෙය යාඥකරණ ගේයයි කි
යනුලැබේයයි ලියා තිබෙනෙත්ය නු
මුත් නුබලා ඒක සොරුන්ගේ ගුහාවක්
14 කලෝයයි ඔවුන්ට කීසේක. තවද අන්
ධයෝද කොරුද දේවමාලිගාවේ සිටියා
වූ උන්වහන්සේ වෙතට ආවෝය. උන්ව
15 හන්සේද ඔවුන්ට සුවකලසේක. නායක
පූජකයොත් ලියනෙනාත් උන්වහන්සේ
කරණ පුදුමවල්ද දාවිත්ගේ පුත්‍රයාට
හෝසනනාය කිය කියා දේවමාලිගාවේ
16 මුරගසන බාලයන්ද දැක ඉතා කෝපව
මොවුන් කියන දේ ඇසෙනෙත් නැද්දැ
යි උන්වහන්සේට කීවෝය. යේසුස්ව
හන්සේ එසේය බාලයන්ගේද කිරි බො
න දරුවන්ගේද කටින් ස්තුති පිලියෙල
කලසේකැයි කිසි කලක නුබලා කියෙව්
17 වේ නැද්දැයි ඔවුන්ට කීසේක. උන්වහන්
සේ ඔවුන් හැර නුවරින් පිටත බෙතානි
යට ගොස් එහි රෑ විසූසේක.
18 අළුයම උන්වහන්සේ නුවරට යන අත
19 ර බඩගිනි විය. එවිට මාවත අද්දර ති
බෙන දිඹුල් ගහක් දැක ලඟට ගොස් එ
හි කොල මිස වෙන කිසිවක් නොදැක
මින් මතු කිසි කලෙකත් එල නොදරව
යි ඒ ගසට කීසේක. එවලේම ඒ ගස වි
20 යළුනේය. ගෝලයෝ ඒ දැක දිඹුල් ගස
කොපමන ඉක්මනින් වියළුනාද කියා පු
21 දුමවූවෝය. යේසුස්වහන්සේ උත්තරදෙ
මින් සැබවක් නුබලාට කියමි නුබලා සැ
ක නොකොට ඇදහිලි ඇතුව සිටිනවා
නම් දිඹුල් ගසට කල දේ කරණවා පම
නක්නොව ඉදිරී මුහුදේ වැටේවයි මේ
22 පර්වතයට කීවත් සිඩවෙනවා ඇත. තව
ද නුබලා ඇදහිලි ඇතුව යාඥාවීමෙන් ය
මක් ඉල්ළුවොත් ඒ සියල්ලම ලබනවා ඇ
23 තැයි කීසේක. පසුව උන්වහන්සේ දේව
මාලිගාවට ඇතුල්වූ කල්හි නායක පූජ
කයෝද සෙනගගේ වැඩිමහල්ලෝද උ
ගන්වමින් සිටි උන්වහන්සේ ලඟට ඇවිත්
නුබ කවර බලයකින් මේ දේ කරණවා
ද? මේ බලය නුබට දුනෙත් කව්දැයි කී
24 වෝය. යේසුස්වහන්සේ උත්තර දෙමින්
මමත් නුබලාගෙන් එකක් අසමි ඒක ම
ට කීවොත් මමද මේ කාරණ අසවල් බ
ලයෙන් කරමියි නුබලාට කියනෙනාම්.
25 යොහන් කල බව්තීස්මය වූනේ කොත
නින්ද? ස්වර්ගයෙන්ද නොහොත් මනුෂ්‍ය
යන්ගෙන්දැයි ඇසූසේක. ඔවුන් ස්වර්ග
යෙනැයි කීවුනම් ඔහු අදහා නොගත්
තේ මක්නිසාදැයි අපට කියනවා ඇත.
26 මිනිසුන්ගෙනැයි කීවුනම් යොහන් අනා
ගතවක්තෘ කෙනෙක් කොට සියල්ලන්
විසින් සිතන හෙයින් සමූහයාට භයවෙ
මුයයි තමතමන් අතරෙහි කථාකරගෙ
27 න අපි නොදනිමුයයි යේසුස්වහන්සේට
උත්තර දුනෙනාය. උන්වහන්සේද මේ
කාරණ අසවල් බලයකින් කරමැයි ම
මත් නුබලාට නොකියමියි කීසේක.
28 එහෙත් නුබලා සිතනෙත් කෙලෙස
ද එක් පුරුෂයෙකුට පුත්‍රයෝ දෙන්
නෙක් සිටියෝය. ඔහු පලමුවෙනියා ල
ගට ගොස් පුත්‍රය අද මාගේ මිදිවත්තේ
29 වැඩකරන්ට පලයනාැයි කීයේය. ඔහු
උත්තර දෙමින් මම නොයමියි කීයේය
නුමුත් පසුතැවිලිව ගියේය. දෙවෙනියා
30 ලඟට ගොස් එසේම කීයේය. ඔහු ස්වා
මිනි මම යමියි කීයේය නුමුත් නොගියේ
31 ය. ඒ දෙනනාගෙන් පියාගේ කැමැත්ත
කෙලේ කවුදැයි ඇසූසේක. ඔවුන් පලමු
වෙනියායයි කීවෝය. යේසුස්වහන්සේ
ඔවුන්ට කියනසේක් සැබවක් නුබලාට
කියමි සුංගම් අයකරනෙනාත් වෛශ්‍යා
වොත් නුබලාට පලමු දෙවියන්වහන්
32 සේගේ රාජ්‍යයට පැමිනෙති. මක්නිසාද
යොහන් ධර්මිෂ්ඨ මාර්ගයෙන් නුබලා ල
ගට ආයේය නුබලා ඔහු අදහගතෙත් නැ
ත. සුංගම් අයකරනෙනාත් වෛශ්‍යා
වොත් ඔහු අදහගතෙත්ය නුබලා ඒ දැ
කත් ඔහු අදහාගන්නා පිනිස පසුතැවිලි
වූනේ නැත.
33 තවත් උපමාවක් අහපල්ලාය. එක්
ගෙදර මූලාදෑනියෙක් මිදිවත්තක් වවා
වටේට වැටබැද එහි මුද්‍රික මිරිකන යන්
ත්‍රයක් පිහිටුවා කොටුවක් ඉදිකොට
34 ගොයින්ට බදු දී දුරු රටකට ගියේය.
එල නෙලන කාලය ලංවූකල එල ලබා
ගන්නට තමාගේ වැඩකාරයන් ගොයින්
35 ලඟට යැවූයේය. එවිට ගොවියෝ ඔවුන්
අල්ලා එකෙකුට තැළුවෝය එකෙක් මැ
36 රුවෝය අනිකාට ගල් ගැසුවෝය. නැ
වතත් පලමුවෙනි වරට වඩා තවත් වැ
ඩකාරයන් යැවූයේය. ඔවුන්ටත් එසේම
37 කලෝය. අන්තිමේදී ඔහු මාගේ පුත්‍රයා
ට ඔවුන් ගෞරව කරතියි සිතා තමාගේ
38 පුත්‍රයා ඔවුන් ලඟට යැවීය. එහෙත් ගො

වියෝ පුත්‍රයා දැක මොහු උරුමක්කාර
39 යාය වරෙල්ලාය මොහු මරා උරුමය ග
නිමුයයි කථාකොට ඔහු අල්වා මිදිවත්
40 තෙන් පිටත දමා මැරුවෝය. එබැවින්
මිදිවතෙත් ස්වාමියා ආකල ඒ ගොයින්ට
41 කුමක් කරන්නේදැයි ඇසූසේක. ඒ නපු
රු මිනිසුන් රෞද්‍ර ලෙස විනාශකොට
නියම කාලයෙහි තමාට ඵල දෙන වෙ
න ගොයින්ට තමාගේ මිදිවතත බදුදෙ
42 නවා ඇතැයි ඔවුන් කීවෝය. යේසුස්ව
හන්සේ ඔවුන්ට කියනසේක් ගෙවල් සා
දන්නන් විසින් එපාකොට ඇරදමනල
ද ගලම කොනෙහි ප්‍රධාන ගල වූනේය
ඒ ස්වාමීන්වහන්සේගේ ක්‍රියාවය ඒ අපේ
ඇස්වලට පුදුමයයි ලියවිලිවල කවදාවත්
43 නුබලා කියෙව්වේ නැද්ද? එබැවින් නු
බලාට කියමි දෙවියන්වහන්සේගේ රාජ්‍ය
ය නුබලාගෙන් පැහැර ගෙන එහි ඵල
44 උපදවන ජාතියකට දෙනු ලැබේ. ඒ ග
ල පිට යමෙක් වැටුනොත් ඔහු කැබලි
වෙයි යමෙක් පිට ඒ ගල වැටුනොත් ඔ
45 හු සුනුකරනු ලැබේයයි කීසේක. නාය
ක පූජකයෝත් ඵරිසියෝත් උන්වහන්
සේගේ උපමා අසා තමන් ගැන කී බව
46 දැනගෙන උන්වහන්සේ අල්ලන්ට කැම
තිවූවෝය. නුමුත් උන්වහන්සේ අනාග
තවක්තෘ කෙනෙකැයි සිතූ සමූහයාට භ
යවූවෝය.

22. පරිච්ඡේ. යේසුස්වහන්සේ නැව
2 තත් උපමාවලින් ඔවුන්ට කියනසේක්
තමාගේ පුත්‍රයාට සරණ මංගල්‍යයක් පි
ලියෙලකල රජෙකුට ස්වර්ගරාජ්‍යය උප
3 මා කරනු ලැබේ. ඔහු සරණ මංගල්‍යය
ට නිමන්ත්‍රන ලැබූවන් කැඳවන පිනිස
තමාගේ වැඩකාරයන් යැවූයේය. එ
4 හෙත් ඔවුන් එන්ට අකමැති වූවෝය.
නැවතත් ඔහු මාගේ මංගල්‍යයට කෑම
පිලියෙලකරණ ලද්දේය මාගේ ගොනු
තර සතුනු මරා සියල්ල සාදන ලද්දේය
මංගල්‍යයට වරෙල්ලායයි නිමන්ත්‍රන ලැ
බූවන්ට කියාපල්ලාය කියා වෙන වැඩ
5 කාරයන් යැවූයේය. ඔවුන් ඒ නොසල
කා සමහරු තමන්ගේ කෙතවලටත් සම
6 හරු තමන්ගේ වෙලඳම්වලටත් ගියෝ
ය. සෙස්සෝද ඔහුගේ වැඩකාරයන්
7 අල්වා නින්දාකොට මැරුවෝය. රජ්ජුරු
වෝ ඒ අසා කිපී තමාගේ සේනාව යවා
ඒ මිනීමරුවන් විනාශකොට ඔවුන්ගේ
8 නුවර ගිනි ලැවූයේය. එවිට ඔහු වැඩකා
රයන්ට කථාකොට මංගල්‍යය පිලියෙල
කර තිබෙනවාය. නිමන්ත්‍රන ලැබූවෝ
9 වටින්නෝ නොවෙත්. ඒ නිසා මහමාව
තවලට ගොස් සම්භවෙන සියල්ලන් මං
ගල්‍යයට කැඳවාගෙන වරෙල්ලායයි කී
10 සේය. එවිට වැඩකාරයෝ මහමාවත්
වලට ගොස් තමන්ට සම්භවූන යහපත්
අයහපත් සියල්ලන් රැස්කලෝය. කෑම
11 ට ආවුන්ගෙන් මඟුල්ගෙය පිරුණේය. ර
ජ්ජුරුවෝද කෑමට ආවුන් දකින්නට පැ
මිනිකල සරණ මංගල්‍යයට යුතු වස්ත්‍ර
12 යක් නැඳ සිටි මනුෂ්‍යයෙක් දැක යහළුව
මංගල්‍යයට යුතු වස්ත්‍රයක් නැඳ මෙතන
ට ආවේ කුමටදැයි ඔහුගෙන් ඇසූයේය.
13 ඔහු කථානොකර සිටියේය. එවිට රජ්ජු
රුවෝ මොහුගේ අත් පා බැඳ මොහු
ගෙනගොස් පිටත අන්ධකාරයේ දමාපල්
ලාය. එහිදී හැඬීමත් දත්මිටිකෑමත් වෙ
නවා ඇතැයි උපස්ථායකයන්ට කීයේ
14 ය. එසේම කැඳවනු ලැබූවෝ බොහෝ
ය තෝරාගනු ලැබූවෝ ස්වල්පයයි කී
සේක.
15 එවිට ඵරිසිවරු ගොස් වචනයෙන් උ
න්වහන්සේ කොහොම අසුකරගනිමුදැයි
16 මන්ත්‍රනයකොට තමන්ගේ ගෝලයන්
හෙරොදිවරුන් සමග උන්වහන්සේ ලඟ
ට යැව්වෝය. ඔවුහු ආචාරීනි ඔබවහන්
සේ සැබෑ කෙනෙක් බවත් දෙවියන්ව
හන්සේගේ මාර්ගය සැබෑ ලෙස උගන්
වන කෙනෙක් බවත් මනුෂ්‍යයන්ගේ ත
රම් නොබලන බැවින් කාටවත් භය
නොවෙන කෙනෙක් බවත් අපි දනිමු
17 ව. එබැවින් කායිසර්ට ආදායම් දීම යුතු
ද අයුතුද? ඔබවහන්සේ සිතන්නේ කෙ
ලෙසදැයි අපට කිවමැනවයි කීවෝය.
18 යේසුස්වහන්සේ ඔවුන්ගේ දුෂ්ටකම දැ
න වංචාකාරයෙනි නුබලා මා පරීක්ෂාක
රන්නේ මක්නිසාද ආදායම් මිලයක් මට
19 පෙන්වාපල්ලායයි කීසේක. ඔවුන් උන්ව
හන්සේට මිලයක් ගෙනවිත් දුන්නෝය.
20 උන්වහන්සේද මෙහි කොටනලද රූප
යත් නමත් කාගේදැයි ඔවුන්ගෙන් ඇසූ
සේක. ඔවුහු කායිසර්ගේයයි කීවෝය.
21 එසේනම් කායිසර්ගේ දේ කායිසර්ටත්
දෙවියන්වහන්සේගේ දේ දෙවියන්වහන්
සේටත් දීපල්ලායයි ඔවුන්ට කීසේක.
22 ඔවුන් ඒ අසා පුදුමව උන්වහන්සේ හැර
ගියෝය.

23 මලවුන්ගෙන් නැගිටීමක් නැතැයි කි
24 යන සද්දුසිවරු එදා උන්වහන්සේ ළඟට
ඇවිත් ආචාරිනි යමෙක් දරුවෙක් නො
ලැබ මලොත් ඔහුගේ සහෝදරයා වි
සින් මළහුගේ භාර්යාව සරණ පාවාගෙ
න මලාවූ සහෝදරයා නමට දරුවෙක්
උපදවන්ට යුතුයයි මෝසෙස් කීයේය.
25 අප අතරේ සහෝදරයෝ සත් දෙනෙක්
සිටියෝය. වැඩිමහල්ලා භාර්යාවක් සර
ණ පාවාගෙන දරුවෙක් නොලැබ මැ
රුණේය. ඔහුගේ භාර්යාව මලයාට වූ
26 වාය. දෙවෙනි තුන්වෙනි සත්වෙනියා
27 දක්වා එසේමය. සියල්ලන්ට පසු ස්ත්‍රීද නැ
සුනාය. එහෙයින් මලවුන්ගේ නැගිටී
28 මේදී ඇ කාට භාර්යා වන්නීද? ඒ සිය
ල්ලෝම ඇ සරණ පාවාගත්තෝයයි කි
29 වෝය. යේසුස්වහන්සේ උත්තර දෙමින්
තුඹලා සුබ ලියවිලිද දෙවියන්වහන්සේ
30 ගේ බලයද නොදන මුළාවෙති. මක්නි
සාද මලවුන්ගෙන් නැගිටීමේදී ඔවුන්
සරණපාවා නොගනිති සරණපාවා නො
දෙති එහෙත් ස්වර්ගයේ දේවදූතයන්
31 සමානවෙති. තවද මලවුන්ගේ නැගිටීම
ගැන ආබ්‍රහම්ගේ දෙවියන්වහන්සේත් ඊ
සාක්ගේ දෙවියන්වහන්සේත් යාකොබ්
ගේ දෙවියන්වහන්සේත් මමයයි දෙවිය
න්වහන්සේ කී බව තුඹලා කියෙවූයේ නැ
32 ද්ද? දෙවියන්වහන්සේ මලවුන්ගේ නො
ව ජීවත්වෙන්නන්ගේ දෙවියන්වහන්
33 සේයයි කීසේක. සමූහයෝ ඒ අසා උන්ව
හන්සේගේ ඉගැන්වීමට පුදුමවූවෝය.
34 උන්වහන්සේ සද්දුසිවරුන් නිශ්ශබ්ද
කල බව ඵරිසිවරු අසා එතනට රැස්වූ
35 වෝය. ඔවුන් අතරෙන් ව්‍යවස්ථාවේ ස
36 මර්ථයෙක් උන්වහන්සේ පරීක්ෂාකරමින්
ආචාරිනි ව්‍යවස්ථාවේ කොයි ආඥාව ප්‍රධා
37 නදැයි ඇසුවේය. යේසුස්වහන්සේ උත්
තර දෙමින් තාගේ මුළු හෘදයෙන්ද තා
ගේ මුළු ප්‍රාණයෙන්ද තාගේ මුළු සිතින්ද
තාගේ ස්වාමිවූ දෙවියන්වහන්සේට ස්නේ
හකරවයි යන ආඥාව පළමුවෙනි ප්‍රධාන
38 වූ ආඥාවය. තාගේ අසල්වාසියාට තට
39 මෙන් ස්නේහකරවයි යන දෙවෙනි ආ
40 ඥාවද මෙසේය. මේ ආඥා දෙකට සිය
ළු ව්‍යවස්ථාවත් අනාගතවක්තෘවරුත් ඇ
තුලත්යයි කීසේක.
41 ඵරිසිවරු රැස්ව සිටිද්දී යේසුස්වහන්
42 සේ කථාකොට ක්‍රිස්තුස් ගැන තුඹලා සි
තන්නේ කෙලෙසද? උන්වහන්සේ කා
ගේ පුත්‍රයාදැයි ඔවුන්ගෙන් ඇසූසේක.
දාවිත්ගේ පුත්‍රයායයි ඔවුන් කීවෝය.
43 උන්වහන්සේ කියනසේක් එසේවීනම්
දාවිත් ආත්මයානන්වහන්සේ කරණකො
ටගෙන කථාකරමින් උන්වහන්සේට
ස්වාමින්වහන්සේයයි කියන්නේ කෙලෙ
44 සද? ස්වාමින්වහන්සේ මම තුඹේ සතු
රන් තුඹේ පාපුටුව කරණතුරු මාගේ ද
කුණු පැත්තේ ඉඳගන්නැයි මාගේ ස්වා
මින්වහන්සේට කීසේකැයි දාවිත්ම කියේ
45 ය. දාවිත් උන්වහන්සේට ස්වාමිනියි කිය
න්නේනම් උන්වහන්සේ ඔහුගේ පුත්‍රයා
46 වෙන්නේ කොහොමදැයි ඇසූසේක. උ
න්වහන්සේට උත්තරයක් දෙන්ට කාට
වත් පුළුවන්වූයේ නැත. එදා පටන් උ
න්වහන්සේගෙන් ප්‍රශ්ණ අහන්ට කිසි
වෙක් ධෛර්යයී ඇතිව නොසිටියෝය.

23. පරිච්ඡේ. එකල යේසුස්වහන්සේ
2 සමූහයාටත් තමන් ගෝලයන්ටත් කථා
කොට ලියන්නෝද ඵරිසිවරුද මෝ
3 සෙස්ගේ ආසනයේ හිඳිති. එබැවින් ඔ
වුන් තුඹලාට පවසනතාට ආඥාකරණ
සියල්ලම පවසමින් කරපල්ලාය. ඔවුන්
කියන තුමූත් නොකරණ හෙයින් ඔවුන්
4 ගේ ක්‍රියාවල් ලෙස නොකරල්ලාය. තව
ද ඔවුන් උසුලන්ට අමාරුවූ බර බැඳ ම
නුෂ්‍යයන්ගේ කරේ තබති තුමූත් තමන්
ඇඟිල්ලකින්වත් ඒ බර සොලවන්ට කැ
5 මති නොවෙති. ඔවුන් තමන්ගේ සියළු
ක්‍රියාවල් මනුෂ්‍යයන්ට පෙනෙන පිණිස
කරති. ඔවුන් තමන්ගේ පිලාක්තරින්
පලල්කොට තමන්ගේ වස්ත්‍රවල දවළු ම
6 හත්කරති. මංගල්‍යවලදී උතුම් ස්ථානව
7 ලටද සිනගෝගවලදී ප්‍රධාන ආසනවල
ටද කඩපිල්වලදී වැඳුම් ලැබීමටද මනු
ෂ්‍යයන්ගෙන් ආචාර්නි ආචාරිනියි කිය
8 නු ලැබීමටද කැමතිවෙති. තුමූත් තුඹ
ලා ආචාරිනියි කියවා නොගනිල්ලාය තු
ඹලාගේ ආචාරිවහන්සේ එක්කෙනෙ
කා ඒ ක්‍රිස්තුස්වහන්සේය තුඹලා සියල්
9 ලෝම සහෝදරයෝය. පොලවේ කාට
වත් පියානෝයයි නොකියල්ලාය. තුඹ
ලාගේ පියානෝ එක්කෙනෙකා ඒ ස්ව
ර්ගයෙහි වැඩසිටින උන්වහන්සේමය.
10 තුඹලා උපාධ්‍යවරුයයි කියවා නොග
නිල්ලාය. තුඹලාගේ උපාධ්‍යයා එක්කෙ
11 නෙකා ඒ ක්‍රිස්තුස්වහන්සේමය. තුඹලා
අතරෙන් වඩා උත්තමයා තුඹලාගේ උ

12 පක්ෂායක වන්නේය. යමෙක් තමාම උ
තුම්කරගනීද ඔහු යටත්කරනු ලැබේ.
යමෙක් තමාම යටත්කරගනීද ඔහු උ
තුම්කරනු ලැබේ.
13 වංචාකාරවූ ලියන්නෙනි වංචාකාරවූ ඵ
රිසියෙනි තුඹලාට දුක් වන්නේය. මක්
නිසාද තුඹලා මනුෂ්‍යයන්ට ස්වර්ගරාජ්‍ය
ය වසති තුඹලාත් ඇතුල්නොවෙති ඇ
තුල්වෙනනවුන්ටත් අවසර නොදෙති.
14 වංචාකාරවූ ලියන්නෙනි වංචාකාරවූ ඵරිසි
යෙනි තුඹලාට දුක්වන්නේය. මක්නිසා
ද තුඹලා වැන්දඹුවන්ගේ ගෙවල් කො
ල්ලකති වමා පිනිස ඉතා දීර්ඝවූ යාඥා
වල් කරති. එහෙයින්ම තුඹලා වැඩිවූ ද
15 ඬුවමට පැමිනෙනවා ඇත. වංචාකාරවූ
ලියන්නෙනි වංචාකාරවූ ඵරිසියෙනි තුඹ
ලාට දුක්වන්නේය. මක්නිසාද තුඹලා
ගේ ආගමට එකෙක් හරවාගන්ට. මුහු
දත් ගොඩත් හාත්පස ඇවිදිති හරවාග
තතාම තුඹලාට වඩා දෙගුනයක් ඔහු නි
16 රයේ පුත්‍රයා කරති. මග පෙන්වන අන්ධ
යෙනි තුඹලාට දුක් වන්නේය. මක්නි
සාද යමෙක් දේවමාලිගාව ගැන දිව්
ලොත් එයින් කිසිත් නැත. තුඹුත් ය
මෙක් දේවමාලිගාවේ රත්‍රන් ගැන දිව්
ලොත් ඔහු බැදී සිටිනෙන්යයි තුඹලා කි
17 යති. මෝඩයෙනි අන්ධයෙනි රත්‍රනෙන්
වත් රත්‍රන් පිරිසිදුකරණ දේවමාලිගා
18 වෙනවත් උතුම් කුමක්ද? තවද යමෙක්
පූජාසනය ගැන දිව්ලොත් එයින් කිසිත්
නැත. යමෙක් එහි පිට තිබෙන පඩුරු
ගැන දිව්ලොත් ඔහු බැඳී සිටිනෙන්යයි
19 තුඹලා කියති. මෝඩයෙනි අන්ධයෙනි
පඩුරෙහුත් පඩුර පිරිසිදුකරණ පූජාසන
20 යෙහුත් උතුම් කුමක්ද? එබැවින් ය
මෙක් පූජාසනය ගැන දිව්ලොත් ඔහු ඒ
ක ගැනද ඒක පිට තිබෙන සියල්ල ගැ
21 නද දිව්රන්නේය. යමෙක් දේවමාලිගා
ව ගැන දිව්ලොත් ඔහු ඒක ගැනද එහි
වසන තැනන්වහන්සේ ගැනද දිව්රන්
22 නේය. යමෙක් ස්වර්ගය ගැන දිව්ලොත්
ඔහු දෙවියන්වහන්සේගේ සිංහාසනය
ගැනද එහි වැඩවසන තැනන්වහන්
23 සේ ගැනද දිව්රන්නේය. වංචාකාරවූ ලි
යන්නෙනි වංචාකාරවූ ඵරිසියෙනි තු
ඹලාට දුක් වන්නේය. මක්නිසාද තුඹ
ලා සුවඳතලා සතපුස්ප සුදුදුරුවලින්
දසයෙන් කොටසක් දෙති තුඹුත් සාධා
රණකමත් දයාවත් ඇදහිල්ලත් යන
ව්‍යවස්ථාවේ ඉතා වැදගත් කාරණාවල්
අත්හරිති. ඒ දේත් නැර මේ දේත් ක
24 ටයුතුය. මග පෙන්වන අන්ධයෙනි තුඹ
25 ලා මදුරුවා බේරා දමා ඔටුවා ගිලිති. ව
ංචාකාරවූ ලියන්නෙනි වංචාකාරවූ ඵරිසි
යෙනි තුඹලාට දුක් වන්නේය. මක්
නිසාද තුඹලා කුසලානත් තැටියත් පි
ටින් සුඩකරති තුඹුත් ඇතුලේ කොල්ල
යෙහුත් අධර්මයෙහුත් පිරී තිබෙනෙන්
26 ය. අන්ධවූ ඵරිසිය කුසලානත් තැටියත්
පිටින් සුඩවෙන්ට ඒවා ඇතුල පලමු
27 කොට සුඩකරපනන. වංචාකාරවූ ලියන්
නෙනි වංචාකාරවූ ඵරිසියෙනි තුඹලාට
දුක් වන්නේය. මක්නිසාද තුඹලා සුදුක
රපු සොහොන් ගෙවලට සමානය. ඒවා
පිටින් ලක්ෂණව පෙනෙන තුඹුත් ඇතු
ලේ මිනී ඇටවලින්ද සියළු කුණුවලින්ද පිරී
28 තිබෙයි. තුඹලාත් එසේම පිටින් මනුෂ්‍ය
යන්ට ධර්මිෂ්ඨයන්ව පෙනෙති තුඹුත් ඇ
තුලේ වංචාවෙන්ද අධර්මිෂ්ඨකමෙන්ද පි
29 රී සිටිති. වංචාකාරවූ ලියන්නෙනි වංචා
කාරවූ ඵරිසියෙනි තුඹලාට දුක්වන්නේ
ය. මක්නිසාද තුඹලා අනාගතවක්තෘන්
ගේ සොහොන් ගෙවල් සාදා ධර්මිෂ්ඨ
30 යන්ගේ සොහොන් ගෙවල් සරසා අ
පේ පියවරුන්ගේ කාලයේදී අපි සිටියෙ
මුනම් ඔවුන් සමග අනාගතවක්තෘන්
31 ගේ මැරීමට එකතුනොවෙමුයයි කියති.
එහෙයින් තුඹලා අනාගතවක්තෘන් මැ
රූවන්ගේ පුත්‍රයෝයයි තුඹලාටම විරු
32 ඬව සාක්ෂි දෙති. තුඹලාගේ පියවරුන්
33 ගේ මිම්ම සම්පූර්ණ කරපල්ලාය. සර්පයෙ
නි පොලොං වශයෙනි තුඹලා නිරයෙහි
දඬුවමින් ගැලවෙනෙන් කොහොමද?
34 එබැවින් මම තුඹලා ලඟට අනාගතවක්
තෘන්ද පඬිතයන්ද ලියන්නන්ද එවමි. තුඹ
ලා ඔවුන්ගෙන් සමහරෙක් මරා සමහ
රෙක් කුරුසියෙහි ඇනගසනවා ඇත.
සමහරෙකුට තුඹලාගේ සිනගෝගවල
දී තලා නුවරින් නුවරට එලවමින් පීඩා
35 කරණවා ඇත. මෙසේ ධර්මිෂ්ඨවූ ආබෙල්
ගේ ලේ පටන් දේවමාලිගාවටත් පූජාස
නයටත් අතරේ තුඹලා විසින් මරණලද
බාරඛිය පුත්‍රවූ සඛාරියස්ගේ ලේ දක්වා
බිම වගුරුවනලද සියළු ධර්මිෂ්ඨයන්ගේ
ලේ තුඹලා කෙරේ පැමිනෙනවා ඇත.
36 සැබවක් තුඹලාට කියමි මේ සියල්ල
දැන් සිටින මනුෂ්‍යයන්ට පැමිනෙනෙන්
37 ය. අනාගතවක්තෘන් මරනනාවූ තී ල

ඟට එවූවන්ට ගල් ගසනනාවූ යෙරුසල
ම යෙරුසලම කිකිලි ඇගේ පැටියන් පි
යාපත් යටට එකතුකරණ ලෙස තීගේ
දරුවන් එකතුකරන්ට මම කී වරක් කැ
මතිවූනෙම්ද? නුඹුත් තොපි කැමතිවූ
38 ණේ නැත. තොපේ ගෙය පාළු බවට
39 හරිනු ලැබේ. තවද තොපට මම කියමි
ස්වාමින්වහන්සේගේ නාමයෙන් එන තැ
නැත්තා ආශිර්වාදලත් කෙනෙකැයි තො
පි කියනතුරු මෙතැන් පටන් තොපි මා
නොදක්නෝයයි කීසේක.

24. පරිච්ඡේ. යේසුස්වහන්සේ දේව
මාලිගාවෙන් නික්ම යනකල මාලිගා
වේ කර්මාන්ත උන්වහන්සේට පෙන්වන
පිනිස ගෝලයෝ උන්වහන්සේ ළඟට
2 ආවෝය. යේසුස්වහන්සේ ඔවුන්ට කථා
කොට මේ සියල්ල නුඹලාට පෙනෙන
වා නොවේද? සැබවක් නුඹලාට කිය
මි කඩා නොදමා ගලක් පිට ගලක් මෙ
3 හි තිබෙනෙත් නැතැයි කීසේක. උන්ව
හන්සේ ඔලිව කන්දෙහි ඉඳගත්විට ගෝ
ලයෝ පමනක් ළඟට ඇවිත් ඒ කාරණ
කොයි කලෙක සිධවේද? ඔබවහන්
සේගේ ඊමෙත් ලෝකේ කෙළවරවී
මෙත් ලකුන කිමෙක්දැයි අපට කිවමැ
4 නවයි කීවෝය. යේසුස්වහන්සේ ඔවුන්
ට උත්තර දෙමින් නුඹලා කිසිවෙකු
ගෙන් නොරැවටෙන ලෙස බලාගනිල්
5 ලාය. මක්නිසාද මාගේ නමින් නො
යෙක් දෙන ඇවිත් තමන් ක්‍රිස්තුස්යයි කි
6 යා බොහෝ දෙන රවටනවා ඇත. යු
ඔත් යුඩ කථාත් නුඹලා අසනවා ඇත.
මේ සියල්ල වෙන්ට ඕනෑය නුඹුත් ඒ ක
ලට ත්නුව නැත. ඒ නිසා නොකැලඹෙ
7 ල්ලාය. තවද ජාතිය ජාතියටත් රාජ්‍යය
රාජ්‍යයටත් විරුඬව නැගිටිනවා ඇත.
නොයෙක් තැන්වල දුර්භික්ෂත් වසංග
තත් පොලෝ කම්පාත් වෙනවා ඇත.
8 මේ සියල්ල දුක් විඳීම්වල පටන්ගැන්ම
9 ය. එවිට නුඹලා පීඩා විඳීමටත් මරණය
ටත් පාවාදෙනු ලබනවා ඇත. මාගේ
නාමය නිසා සියළු ජාතීන්ගෙන් වෛර
10 ලබනවා ඇත. බොහෝ දෙනාද බාධා
වට පැමින ඔවුනොවුන් විරුඬකාරයන්
ට පාවාදෙමින් ඔවුනොවුන්ට වෛර වෙ
11 නවා ඇත. නොයෙක් බොරු අනාගත
වක්තෘවරු නැගිට බොහෝ දෙන රව
12 ටනවා ඇත. අධර්මිෂ්ටකම බෝවෙන
බැවින් බොහෝ දෙනාගේ ආදරය අඩු
13 වනෙත්ය. නුඹුත් කෙලවර දක්වා ඉව
14 සනනාම ගැලවෙනවා ඇත. සියළු මනු
ෂ්‍යජාතීන්ට සාක්ෂි පිනිස රාජ්‍යයෙහි සු
භාරචිය ලොව මුළුල්ලේ ප්‍රකාශකරනු
ලැබේ එවිට කෙලවර පැමිනෙනෙත්ය.
15 එබැවින් දානියෙල් අනාගතවක්තෘනු
විසින් කියනලද විනාශයේ පිලිකුල ශු
ඬ ස්ථානයෙහි තිබෙන බව නුඹලා යම්
කලෙක දකිද්ද (කියවන තැනැත්තා
තේරුම් ගනීවා) එකල යූදයේ සිටින්
16 නෝ කඳුවලට පලායෙත්වා. ගේ උඩ
17 සිටිනෙනක් තමාගේ ගෙයින් කිසිවක්
18 ගෙනයන්ට නොබසීවා. කෙතේ සිටින්
නෙක්ද තමාගේ වස්ත්‍රය ගන්ටවත් ආ
19 පසු නොහැරේවා. ඒ දවස්වල ගර්භිනීන්
ටත් කිරි දෙන ස්ත්‍රීන්ටත් දුක් වනෙත්
20 ය. වර්ෂා කාලයේවත් සබත් දවසකවත්
නුඹලාගේ පලායාම නොවෙන පිනිස
21 යාඥාකරපල්ලාය. මක්නිසාද ලෝකේ
පටන්ගැම්මේ සිට අද දක්වා නූනාවූ ම
තු කොයි කලකවත් නොවෙනනාවූ ම
22 හත් දුකක් ඒ කාලයෙහි වනෙත්ය. ඒ
දවස් එහුඹු නූනොත් කිසි කෙනෙක්
ගැලවෙනෙත් නැත. නුඹුත් තෝරාගනු
ලැබූවන් නිසා ඒ දවස් එහුඹුවනෙත්ය.
23 එවිට යමෙක් ක්‍රිස්තුස් මෙතනය නො
හොත් එතනයයි නුඹලාට කියන්නේ
24 නම් අදහ නොගනිල්ලාය. මක්නිසාද
බොරු ක්‍රිස්තුස්වරුද බොරු අනාගත
වක්තෘවරුද නැගිට පුළුවනනම් තෝරා
ගනු ලැබූවන් පවා මුලාකරවන තරම් ම
හත් ලකුනුද පුදුමද පෙන්වනවා ඇත.
25 කලින් මම මේ කාරණයන් නුඹලාට කී
26 යෙමි. එබැවින් උන්වහන්සේ වනාන්ත්‍ර
යෙහි සිටිනසේකැයි කියත්නම් පිටත්ව
නොයල්ලාය. උන්වහන්සේ ඇතුල් ගේව
ල සිටිනසේකැයි කියත්නම් අදහ නො
27 ගනිල්ලාය. මක්නිසාද විදුලිය පෙරදිග
සිට පශ්චිම දිග දක්වා යම්සේ දිලිසේද ම
නුෂ්‍ය පුත්‍රයාගේ ඊමත් එසේම වනෙත්
28 ය. තවද යම් තැනක මලකුන ඇතොත්
ද එතනම ගිජුලිහිණිත් එක්වෙති.
29 ඒ දවස්වල දුක් පසුවුනු වේලේම සූ
ර්‍යයා අඳුරුවනෙත්ය චන්ද්‍රයාත් එලිය
නොදෙනෙත්ය. තාරකාවොත් අහසින්
වැටෙනවා ඇත. අහසේ බලපරාක්‍රමද
30 සෙලවෙනවා. ඇත. එකල මනුෂ්‍ය පුත්‍ර
යාගේ ලකුන අහසේ පෙනෙනවා ඇත.

එවිට පොලොවේ සියළු ජාතීහු හඬා
බලයෙන්ද මහත් තේජසින්ද අහසේ වලා
කුලෙන් එනනාවූ මනුෂ්‍ය පුත්‍රයා දකින
31 වා ඇත. උන්වහන්සේ මහත් හොරනෑ
ශබ්දයකින් තමන් දූතයන් එවනසේක.
ඔවුන් අහසේ එක් කෙලවරක සිට අ
නික් කෙලවර දක්වා සතර දිගින්ම උ
න්වහන්සේගේ තෝරාගතනාවුන් රැස්ක
රණවා ඇත.
32 දිඹුල් ගහේ උපමාව ඉගනගනිල්
ලාය. ඒ ගහේ රිකිලි සහ දළු ලනකල
33 ග්‍රීෂ්ම කාලය ලඟයයි නුඹලා දනිති. එ
සේම නුඹලා මේ සියල්ල දකිනකල ඒ
ඊම දොරකඩට කිට්ටුවූයයි දැනගනිල්ලාය.
34 සැබවක් නුඹලාට කියමි මේ සියල්ල සි
ද්ධවෙනතුරු මේ මනුෂ්‍ය ජාතිය නැති
35 වෙනෙන් නැත. අහසත් පොලොවත්
නැතිවෙනවා ඇත. නුමුත් මාගේ වච
36 නය නැතිවෙනෙන් නැත. ඒ දවසත් ඒ
පැයත් මාගේ පියානන්වහන්සේ හැර ස්ව
ර්ගයේ දේවදූතයෝවත් වෙන කොයි
37 කෙනෙක්වත් නොදනිති. නෝවාගේ
දවස් යම්සේ වූයේද එසේම මනුෂ්‍ය පු
38 ත්‍රයාගේ ඊමත් වනෙන්ය. ජලගැල්මට
පලමු දවස්වල නෝවා මහත් නැවට න
ගින දවස දක්වා මනුෂ්‍යයෝ කමින් බො
39 මින් සරණ පාවා ගනිමින් සරණ පාවා
දෙමින් ජලගැල්ම පැමින සියල්ලන්ම
නාස්තිවෙනතෙක් නොදැන සිටියෝය.
එලෙසම මනුෂ්‍ය පුත්‍රයාගේ ඊමත් වන්
40 නේය. එකල දෙදෙනෙක් කෙතේ සිටි
ති එකෙක් ගෙනයනු ලැබේ එකෙක්
41 හරිනු ලැබේ. ස්ත්‍රීන් දෙදෙනෙක් අඹ
රණ ගලේ අඹරමින් සිටිති එකියක් ගෙ
නයනු ලැබේ එකියක් හරිනු ලැබේ.
42 එබැවින් අවදිව සිටපල්ලාය. මක්නි
සාද නුඹලාගේ ස්වාමියා කොයි පැයේ
43 එනවාදැයි නුඹලා දනෙන් නැත. සොරා
කොයි යාමයේ එනවාදැයි ගෙයි ස්වාමි
යා දැනගෙන සිටියොත් අවදිව සිද න
මාගේ ගෙය උමන්කනින්ට නොදෙන
44 බව දැනගනිල්ලාය. එබැවින් මනුෂ්‍ය පු
ත්‍රයා නුඹලා නොසිතන පැයකදී එන නි
45 සා නුඹලාද සෑදී සිටපල්ලාය. ස්වාමියා
විසින් තමාගේ පිරිවරට සුදුසු කලට කෑ
ම දෙන්ට ඔවුන් කෙරේ පත්කල විශ්වාස
46 වූ නුවන ඇතිවූ වැඩකාරයා කවුද? ස්වා
මියා ඇවිත් ඒ වැඩකාරයා එසේම කර
ණවා දක්නේද ඒ වැඩකාරයා වාසනා
47 වන්තයෙක. සැබවක් නුඹලාට කියමි
ඒ ස්වාමියා තමාගේ සියළු වස්තුවට ඔහු
48 ප්‍රධාන කරනෙන්ය. එහෙත් යම් දුෂ්ට වැ
ඩකාරයෙක් මාගේ ස්වාමියාගේ ඊම ප්‍ර
මාදයයි සිතා තමන් සමග සිටින වැඩකා
49 රයන්ට තලන්ටත් බේබද්දන් සමග
50 කනනට බොන්නටත් පටන්ගන්නේ
නම් ඒ වැඩකාරයා බලා නොසිටින දව
සක නොදනනා පැයක ඔහුගේ ස්වාමි
51 යා ඇවිත් ඔහු පහකොට වංචාකාරයන්
සමග කොටසක් ඔහුටත් නියමකරන්
නේය. එහිදී හැඬීමත් දත්මිටිකෑමත් ව
නෙන්ය.

25. පරිච්ඡ. එකල තමන්ගේ පහන්
රැගෙන මනමාලයාගේ පෙරමගට ගිය
කන්‍යාවන් දසදෙනෙකුට ස්වර්ගරාජ්‍ය
2 ය උපමාකරනු ලැබේ. ඔවුන්ගෙන් පස්
දෙනෙක් නුවන ඇත්තියෝය පස් දෙ
3 නෙක් නුවන නැත්තියෝය. නුවන නැ
ති කන්‍යාවෝ තමන්ගේ පහන් ගෙන
4 ගියා මිස තෙල් ගෙනගියේ නැත. නු
මුත් නුවන ඇති කන්‍යාවෝ තමන්ගේ
පහන් සමග භාජනවල තෙල් ගෙනගි
5 යෝය. මනමාලයාගේ ඊම ප්‍රමාදවූ කල
ඒ සියල්ලෝම නිදිබරව නිදාගත්තෝය.
6 මධ්‍යම රාත්‍රියේ මනමාලයා එනෙන්ය ඔ
හුගේ පෙරමගට පලයල්ලායයි හඬක්
7 වූයේය. එකල ඒ සියළු කන්‍යාවෝම නැ
8 ගිට තමන්ගේ පහන් හරිගැස්සුවෝය.
එවිට නුවන නැත්තියෝ අපේ පහන්
නිවුනේය නුඹලාගේ තෙලින් අපටත් දි
යල්ලායයි නුවන ඇත්තියන්ට කීවෝ
9 ය. නුවන ඇත්තියෝ උත්තරදෙමින් අ
පටත් නුඹලාටත් මදිනොවෙන පිනිස
විකුනනවුන් ලඟට ගොස් මිල දී ගනිල්
10 ලායයි කීවෝය. මිලේට ගන්ට ඔවුන්
ගිය අතර මනමාලයා ආයේය. එකල
සෑදී සිටියෝ ඔහු සමග සරණ මංගල්‍ය
යට ඇතුල්වූවෝය. දොරද වසනලද්දේ
11 ය. පසුව අනික් කන්‍යාවෝද ඇවිත් ස්වා
මිනි ස්වාමිනි අපට දොර ඇරිය මැනවැ
12 යි කීවෝය. නුමුත් ඔහු උත්තර දෙමින්
සැබවක් නුඹලාට කියමි නුඹලා නාඳුනා
13 මියි කීයේය. එසේම මනුෂ්‍ය පුත්‍රයා එන
දවසවත් පැයවත් නුඹලා නොදනනා
නිසා අවදිව හිඳිල්ලාය.
14 තාවද තමාගේ වැඩකාරයන් කැඳවා
තමාගේ වස්තුව ඔවුන්ට භාරදී දුර රට

කට ගිය පුරුෂයෙකුට මනුෂ්‍ය පුත්‍රයා
15 ගේ ඊම සමානය. ඔහු එකෙකුට ත
ලෙන්ත පහක්ද එකෙකුට දෙකක්ද
තවත් එකෙකුට එකක්ද ඔවුනොවුන්
ගේ සමර්ත්‍යකමට සෑහෙන ලෙස දී ගි
16 යේය. එවිට තලෙන්ත පහ ලැබූ තැනැ
ත්තා ගොස් එයින් වෙළඳාම්කොට ත
17 වත් තලෙන්ත පහක් උපදවිය. එසේම
දෙක ලැබූ තැනැත්තාද තවත් දෙකක්
18 උපදවිය. එහෙත් එක ලැබූ තැනැත්තා
ගොස් බිම හාරා තමාගේ ස්වාමියාගේ
19 මිල සඟවා-තැබීය. බොහෝ කලකට ප
සු ඒ වැඩකාරයන්ගේ ස්වාමියා ඇවිත්
20 ඔවුන් සමග ගනන් බැලීය. එවිට ත
ලෙන්ත පහ ලැබූ තැනැත්තා තවත් ත
ලෙන්ත පහක් ගෙනත් ස්වාමිනි නුබව
හන්සේ මට තලෙන්ත පහක් භාරදුන්
නේය. මම එයින් තවත් තලෙන්ත ප
21 හක් උපදවීමියි කීයේය. ඔහුගේ ස්වාමි
යා උතුම්වූ විශ්වාසවූ වැඩකාරය නුබ ක
ල දේ යහපත නුබ ස්වල්ප දේ ගැන වි
ශ්වාසයෙක බොහෝ දේවලට නුබ අධි
පති කරනෙනම් නුබේ ස්වාමිහුගේ ප්‍රිති
22 යට ඇතුල්වෙයනැයි ඔහුට කීයේය.
තලෙන්ත දෙක ලැබූ තැනැත්තාද ඇ
විත් ස්වාමිනි නුබවහන්සේ මට තලෙන්
ත දෙකක් භාරදුනෙන්ය එයින් තවත්
23 තලෙන්ත දෙකක් උපදවීමියි කීයේය.
ඔහුගේ ස්වාමියා උතුම්වූ විශ්වාසවූ වැඩ
කාරය නුබ කල දේ යහපත නුබ ස්වල්ප
දේ ගැන විශ්වාසයෙක බොහෝ දේව
ලට නුබ අධිපතිකරනෙනම්. නුබේ ස්වා
මිහුගේ ප්‍රිතියට ඇතුල්වෙයනැයි ඔහු
24 ටත් කීයේය. එවිට එක් තලෙන්තය ලැ
බූ තැනැත්තා ඇවිත් ස්වාමිනි නුබවහන්
සේ නොවපුල තැනින් කපනනාවූ නො
ඉස්ස තැනින් රැස්කරනනාවූ කකිස
25 පුරුෂයෙකැයි දනිමි. එබැවින් භයව
ගොස් නුබවහන්සේගේ තලෙන්තය
පොලවේ සඟවා තැබීමි. නුබවහන්සේ
26 ගේ දේ මේයයි කීයේය. ඔහුගේ ස්වාමි
යා උත්තර දෙමින් දුෂ්ටවූ අලසවූ වැඩ
කාරය මම නොවපුල තැනින් කපන බ
වත් නොඉස්ස තැනින් රැස්කරණ බ
27 වත් නුබ දනෙන්ද? එහෙනම් මාගේ මු
දල මිල මාරුකරනනන්ට නුබ විසින් දි
යයුතුය. එසේ කෙලෙහිනම් මම ඇවිත්
28 ලාබත් සමග මාගේ දේ ලබමි. එහෙ
යින් ඔහු අතින් තලෙන්තය ගෙන ත
29 ලෙන්ත දසය ඇත්තාට දීපල්ලාය. මක්
නිසාද ඇත්තාවූ සියල්ලන්ටම දෙනු ලැ
බේ ඔවුහු සම්පූර්ණකමට පැමිනෙති.
නැති තැනැත්තාගෙන් ඔහුට ඇති දේත්
උදුරාගනු ලැබේ. ඒ නිෂ්ප්‍රයෝජන වැ
30 ඩකාරයා පිටත අන්ධකාරයෙහි දමාපල්
ලාය. එහිදී හැඬීමත් දත්මිටිකෑමත් වන්
නේයයි කීයේය.
31 තවද යම් කලෙක මනුෂ්‍ය පුත්‍රයා ප
විත්‍රවූ සියළු දේවදූතයන් සමග තමන්
ගේ තේජසින් එනසේක්ද එකල තමන්
ගේ තේජවත්තවූ සිංහාසනය පිට හිඳී
32 නසේක. එවිට සියළු මනුෂ්‍යයෝ උන්ව
හන්සේ ඉදිරියට රැස්කරනු ලබනෙනෝ
ය. උන්වහන්සේද එඬේරෙක් එළුවන්
ගෙන් බැටළුවන් වෙන්කරන්නාක්
33 මෙන් ඔවුන් වෙන්කොට බැටළුවන් ත
මන්ගේ දකුනු පැත්තේද එළුවන් වම්
34 පැත්තේද සිටුවනසේක. එවිට රජ්ජුරු
වෝ දකුනේ සිටිනනන්ට කියනසේක්
මාගේ පියානන්ගෙන් ආශිර්වාද ලත් තැ
නැත්තනි වරෙල්ලාය ලෝකය මැවූ
තැන් පටන් නුබලාට සාදා තිබෙන රා
35 ජ්‍යය උරුමවෙයල්ලාය. මක්නිසාද මම
බඩගිනි ඇතිවීමි නුබලා මට කෑම දු
නෙනෝය. පිපාස ඇතිවීමි නුබලා මට
බොනනට දුනෙනෝය. ආගන්තුකවීමි නු
36 බලා මට වාසස්ථාන දුනෙනෝය. අඳින්ට
නැතිවීමි නුබලා මට ඇඳුම් දුනෙනෝය.
රෝගාතුරවීමි නුබලා මා බලනනට ආ
වෝය. හිරගෙයි සිටියෙමි නුබලා මා
37 වෙතට ආවෝයයි කියනසේක. එකල
ධර්මිෂ්ටයෝ උත්තර දෙමින් ස්වාමිනි
කොයි කලෙක බඩගිනි ඇතිවූ ඔබව
හන්සේ දැක කෑම දුනිමුද? කොයි ක
ලෙක පිපාස ඇතිවූ ඔබවහන්සේ දැක
38 බොනනට දුනිමුද? කොයි කලෙක ආ
ගන්තුකවූ ඔබවහන්සේ දැක වාසස්ථාන
දුනිමුද? කොයි කලෙක ඇඳුම් නැත්තා
වූ ඔබවහන්සේ දැක ඇඳුම් දුනිමුද?
39 කොයි කලෙක රෝගාතුරවවත් හිර
ගෙයිවත් සිටියාවූ ඔබවහන්සේ දැක ඔ
බවහන්සේ ලඟට ආවෙමුදැයි කියනවා
40 ඇත. එවිට රජ්ජුරුවෝ උත්තරදෙමින්
සැබවක් නුබලාට කියමි මාගේ සහෝ
දරවූ මොවුන්ගෙන් ඉතා කුඩා එකෙකු
ටවත් නුබලා යමක් කලොත් ඒක මට
41 කලෝයයි කියනසේක. පසුව වම් පැත්
තේ සිටිනනන්ට කියනසේක් සාපලත්

නැනැත්තෙනි මා කෙරෙන් පහව සා
තන්ටත් ඔහුගේ දූතයන්ටත් සාදා ති
බෙන සදාකාල ගින්නට පලයල්ලාය.
42 මක්නිසාද බඩගිනි ඇතිවීම් නුබලා මට
කෑම දුන්නේ නැත. පිපාස ඇතිවීම් නු
බලා මට බොන්නට දුන්නේ නැත. ආ
43 ගන්තුක වීම් නුබලා මට වාසස්ථාන දුන්
නේ නැත. අඳින්ට නැතිවීම් නුබලා ම
ට ඇඳුම් දුන්නේ නැත. රෝගාතුරවද
හිරගෙයිද සිටියෙම් නුබලා මා බලන්න
44 ට ආවේ නැතැයි කියනසේක. එවිට ඔ
වුහුත් උත්තර දෙමින් ස්වාමිනි කොයි
කලෙක බඩගිනි ඇතිවූවත් පිපාස ඇති
වූවත් ආගන්තුකවූවත් ඇඳුම් නැතිවූ
වත් රෝගාතුරවූවත් හිරගෙයි සිටියාවූ
වත් ඔබවහන්සේ දැක උපස්ථාන නො
45 කලෙමුදැයි කියනවා ඇත. එවිට උන්ව
හන්සේ උත්තර දෙමින් සැබවක් නුබ
ලාට කියම් මොවුන්ගෙන් ඉතා කුඩා එ
කෙකුටවත් යමක් නොකර ඇරීයොත්
ඒක මට නොකලෝයයි කියනසේක.
46 ඔවුන් සදාකාල දඬුවමටත් ධර්මිෂ්ඨයෝ
සදාකාලවූ ජීවනයටත් යනවා ඇතැයි
කීසේක.

26. පරිච්ඡේ. ජේසුස්වහන්සේ මේ සි
යළු වචන කියා නිමවා තමන්ගේ ගෝ
ලයන්ට කථාකොට දෙදවසකින් පසු
2 පාස්කුව වෙන බව නුබලා දනිති. එවි
ට මනුෂ්‍ය පුත්‍රයා කුරුසියෙහි ඇනගැසී
3 මට පාවාදෙනු ලැබේයයි කීසේක. එක
ල නායක පූජකයෝද ලියන්නෝද සෙ
4 නගේ වැඩිමහල්ලෝද කායාපානම්
නායක පූජකයාගේ සාලාවට එකතුව
ජේසුස්වහන්සේ ප්‍රයෝගයෙන් අල්වා ම
5 රන්ට මන්ත්‍රණය කලෝය. නුමුත් සමු
දුව අතරේ පෙරලියක් නොවෙන පිනි
ස මංගල්‍යයේදී නුසුදුසුයැයි කීවෝය.
6 ජේසුස්වහන්සේ බෙතානියේ කුෂ්ඨ
7 රෝගිවූ සීමොන්ගේ ගෙයි සිටිකල ස්ත්‍රි
යක් අනර්ඝවූ තෙලින් පිරෙව් සුදු ගල්
කරඬුවක් ගෙන කෑමට ඉඳගත්තාවූ උ
න්වහන්සේ ලඟට ඇවිත් උන්වහන්සේ
8 ගේ හිසේ වත්කලාය. උන්වහන්සේගේ
ගෝලයෝ ඒ දැක කිපී මේ අලාභය කෙ
9 ලේ කුමටද? මේ තෙල බොහෝ මිලට
විකුන දිළිඳුන්ට දෙන්ට පුළුවන්ව තිබු
10 ණේයයි කීවෝය. ජේසුස්වහන්සේ ඒ දැ
න මේ ස්ත්‍රීට කනගාටුකරනේත් මක්නි
11 සාද? මෑ මට හොඳ ක්‍රියාවක් කලාය. දි
ළින්දෝ නුබලා සමග නිතරම ඇත. ම
12 ම නුබලා සමග නිතරම නැත. මා තැන්
පත්කිරීමට මෑ මේ තෙල මාගේ ශරීර
13 යේ වත්කලාය. සැබවක් නුබලාට කිය
මි මේ සුභාරංචිය ලෝව මුළුල්ලේ යම්
තැනෙක ප්‍රකාසකරද්ද එතනදී මේ ස්ත්‍රි
ය විසින් කල මේ ක්‍රියාවත් මෑ සිහිවීම
පිනිස කියනු ලැබේයයි කීසේක.
14 එවිට දෙළොස් දෙනාගෙන් එකෙක්
15 වූ යූදස් ඉස්කාරියෝත් නායක පූජක
යන් ලඟට ගොස් මම නුබලාට ඔහු පා
වා දෙම්නම් නුබලා මට කුමක් දෙනවා
දැයි කිය. ඔවුහු රිදී මිල තිහක් දෙන්න
16 ට ඔහු සමඟ ගිවිසගත්තෝය. එතැන් ප
ටන් ඔහු ජේසුස්වහන්සේ පාවාදෙන්ට
ප්‍රස්ථාවක් සෙවීය.
17 තවද මුහුන් නොදැමූ රොටි කන පල
මුවෙනි දවසේ ගෝලයෝ ජේසුස්වහන්
සේ ලඟට ඇවිත් පාස්කු මංගල්‍යය ඔබව
හන්සේට අප විසින් කොතන සාදන්ට
18 කැමතිදැයි ඇහුවෝය. එවිට උන්වහන්
සේ නුවර අසවලා ලඟට ගොස් මාගේ
කාලය ආසන්නය නුබේ ගෙයි මාගේ
ගෝලයන් සමග පාස්කුව පවත්වම් කි
යා ආචාරීන්වහන්සේ කියනසේකැයි ඔහු
19 ට කියාපල්ලායයි කීසේක. ගෝලයෝද
ජේසුස්වහන්සේ තමන්ට නියමකල ලෙ
ස කොට පාස්කු මංගල්‍යය පිළියෙල ක
20 ලෝය. සවස්වූ කල්හි උන්වහන්සේ දෙ
ළොස් දෙනා සමග කෑමට හිඳගත්සේ
21 ක. ඔවුන් කමින් සිටියදීම සැබවක් නු
බලාට කියම් නුබලාගෙන් එකෙක් මා
22 පාවාදෙන්නේයයි කීසේක. එවිට ඔවුන්
බොහෝසෙයින් ශෝකව එකෙක් එ
කෙක් බැගින් ස්වාමිනි මමද මම්දැයි අ
23 හන්ට පටන්ගත්තෝය. උන්වහන්සේ උ
ත්තර දෙමින් මා සමග තලියේ අත ල
24 න තැනැත්තාම මා පාවාදේය. මනුෂ්‍ය
පුත්‍රයා තමා ගැන ලියා තිබෙන හැටියට
යන්නේය. නුමුත් මනුෂ්‍ය පුත්‍රයා පාවා
දෙන්නාට දුක්වන්නේය. ඒ මනුෂ්‍යයා නු
පන්නානම් ඔහුට යහපතැයි කීසේක.
25 එවිට උන්වහන්සේ පාවාදෙන යූදස්ද ආ
චාරිනි මමදැයි ඇහුයේය. උන්වහන්සේ
නුඹ කීයේයයි කීසේක.
26 ඔවුන් කෑම කමින් ඉන්නාකල ජේසු
ස්වහන්සේ රොටි ගෙන ස්තුතිකොට ක
ඩා ගෝලයන්ට දී අරගන කාපල්ලාය

27 මේ මාගේ ශරීරයයි කීසේක. පසුව උ
න්වහන්සේ කුසලාන ගෙන ස්තුතිකො
ට ඔවුන්ට දී තුඹලා සියල්ලෝම මෙයින්
28 බිපල්ලාය මේක පව්වලින් මිදීම පිනිස
බොහෝ දෙනා වෙනුවට වගුරවන අ
29 ළුත් ගිවිසුමේ මාගේ ලේය. තවද තුඹ
ලාට කියමි මාගේ පියානන්වහන්සේගේ
රාජ්‍යයේදී තුඹලා සමග අළුත් මුද්‍රිකරස
ය බොන දවස දක්වා මෙතැන් පටන් මේ
මුද්‍රික ඵල රසය නොබොමියි කීසේක.
30 ඔවුන් ගීතිකාවක් කියා පිටත්ව ඔලි
31 ව කන්දට ගියෝය. එවිට යේසුස්වහන්
සේ කියනසේක් තුඹලා සියල්ලෝම අ
ද රාත්‍රියේ මා කෙරෙහි බාධාවෙති. මක්
නිසාද මම රැකවලාට පහර දෙනෙනම්
එවිට රැලේ බැටළුවෝ කඩින් කඩ යන
වා ඇතැයි ලියා තිබෙනේය. නුමුත්
32 මම නැගුටුනු පසු තුඹලාට ඉස්සරව ග
33 ලිලයට යමියි කීසේක. පේත්‍රුස්ද සියල්
ලෝම ඔබවහන්සේ කෙරෙහි බාධා වෙ
තත් මම කවදාවත් බාධා නොවෙමියි උ
34 න්වහන්සේට කීයේය. යේසුස්වහන්සේ
ද සැබවක් තුඹට කියමි අද රාත්‍රියේ කු
කුළා හඬලන්ට පළමුවෙන් ඔහු නාඳුන
මියි මා ගැන තුඹ තුන් වරක් කියනෙන්
35 යයි කීසේක. පේත්‍රුස් මම ඔබවහන්සේ
සමග නසිතත් ඔබවහන්සේ ගැන ඔහු
නාඳුනමියි නොකියමියි කීයේය. සියළු
ගෝලයෝත් එසේම කීවෝය.
36 එවිට යේසුස්වහන්සේ ඔවුන් සමග
ගෙත්සෙමනේ යන ස්ථානයට පැමින ම
ම ඈතට ගොස් යාඥාකරණතුරු තුඹ
ලා මෙහි ඉඳිල්ලායයි ගෝලයන්ට කියා
37 පේත්‍රුස් සහ සෙබදීගේ පුත්‍රයන් දෙදෙ
නත් කැඳවාගෙන ගොස් ශෝකවෙන්
වත් අතිසෙයින් දුකෙවන්වත් පටන්ගත්
38 සේක. එකල උන්වහන්සේ මාගේ ප්‍රාණ
ය යන තරම් මාගේ සිතට ඉතා ශෝක
වනේය. තුඹලා මෙහි මා සමග අවදි
ව සිටිල්ලායයි කියා මදක් ඈතට ගොස්
මුහුනින් තලාව මාගේ පියානෙනි මේ
කුසලාන මාගෙන් පහවෙන්ට පුළුවන්
39 නම් එසේ වේවා. නුමුත් මාගේ කැමැත්
ත නොව ඔබවහන්සේගේ කැමැත්තම
40 වේවයි යාඥාකලසේක. පසුව උන්වහන්
සේ ගෝලයන් ලඟට ඇවිත් ඔවුන් නි
දා ඉන්නවා දැක පේත්‍රුස්ට කථාකොට
කිමෙක්ද ! මා සමග එක් පැයක්වත් නි
දානොගෙන ඉන්ට තුඹලාට බැරිද?

41 තුඹලා පරීක්ෂාවට නොපැමිනෙන පිනි
ස නිදා නොගෙන යාඥාකරපල්ලාය. ඒ
කාන්තයෙන් ආත්මය කැමතිය නුමුත්
42 ශරීරය බෙලහීනයයි කීසේක. උන්ව
හන්සේ දෙවෙනි වරත් ඈතට ගොස්
මාගේ පියානෙනි මේ කුසලාන මා වි
සින් නොබොනලදුව පහව යනනට බැ
රිනම් ඔබවහන්සේගේ කැමැත්ත වේව
43 යි යාඥාකලසේක. උන්වහන්සේ ඇවිත්
ඔවුන්ගේ ඇස් නිදිබරවූ බැවින් ඔවුන්
44 නැවත නිදා ඉන්නවා දැක ඔවුන්ගෙන්
නැවතත් අහක ගොස් තුන්වෙනි වරත්
45 එම වචනම කියා යාඥාකලසේක. එවිට
උන්වහන්සේ තමන් ගෝලයන් ලඟට
ඇවිත් දැන් තුඹලා නිදාගෙන නිස්කලං
ක ගනිල්ලාය. මනුෂ්‍ය පුත්‍රයා පව්කාර
යන්ට පාවාදෙනු ලබන පැය ඇසන්නය.
46 නැගිටිල්ලාය අපි යමුව මා පාවාදෙන්
නා ලඟයයි කීසේක.
47 උන්වහන්සේ කථාකරද්දීම දොලොස්
දෙනාගෙන් එකෙක්වූ යූදස් ආයේය
ඔහු සමග නායක පූජකයන්ගෙන් හා
සෙනගගේ වැඩිමහල්ලන්ගෙන් මහත්වූ
ජනසමූහයක්ද කඩු මුගුරු රැගෙන ආ
48 වෝය. උන්වහන්සේ පාවාදෙනනා මම
යමෙක් සිඹගනිම්ද ඒ ඔහුමය ඔහු අල්ලා
ගනිල්ලාය කියා ඔවුන්ට ලකුනක් දුන්
49 නේය. එවලේම ඔහු යේසුස්වහන්සේ ල
ඟට ගොස් ආචාරිනි සුවසේ සිටිනසේක්
වයි කියා උන්වහන්සේ සිඹගත්තේය.
50 යේසුස්වහන්සේ යහළුව තුඹ මේ ගැන
ආයේදැයි ඇසූසේක. එවිට ඔවුන් ඇවිත්
51 යේසුස්වහන්සේ අල්ලාගත්තෝය. තවද
යේසුස්වහන්සේ සමග සිටිය වුන්ගෙන්
එකෙක් අත දිගුකොට කඩුව ඇද නා
යක පූජකයාගේ වැඩකාරයාට ගසා ඔ
52 හුගේ කන කපාදැමීය. එවිට යේසුස්ව
හන්සේ තුඹේ කඩුව කොපුවේ දමාපන්
න. කඩු ගන්නා සියල්ලෝම කඩුවෙන්ම
53 නැසෙනවා ඇත. මාගේ පියානන්ට දැන්
යාඥාකෙලෙම්නම් උන්වහන්සේ දූත
යන්ගෙන් ලෙජියොන් දොළසකට වඩා
මා ලඟට නොඑවනසේක්දැයි සිතනෙන්
54 ද ! නුමුත් මෙයාකාර සිඩවෙන්ටම යුතු
යයි ලියනලද ලියවිලි සම්පූර්ණවෙන්
55 නේ කෙලෙසදැයි කීසේක. එවලේම
යේසුස්වහන්සේ සමූහයාට කථාකොට
තුඹලා සොරෙක් අල්ලන්ට එනනාක්
මෙන් කඩු මුගුරු ගෙන මා අල්ලන්ට

ආවෝද? දවස්පතා දේවමාලිගාවේ උ
ගන්වමින් තුබලා සමග ඉන්දද්දී තුබලා
56 මා ඇල්ලුවේ නැත. නුමුත් අනාගතවක්
තෘන්ගේ ලියවිලි සම්පූර්ණවෙන පිනිස
මේ සියල්ල සිදුවූයේයයි කීසේක. එවිට
සියළු ගෝලයෝ උන්වහන්සේ හැර ප
57 ලාගියෝය. පසුව යේසුස්වහන්සේ ඇල්
ලුවාවූ අයවල් කායාපානම් නායක පූජක
යා ලඟට උන්වහන්සේ ගෙන ගියෝය.
එතැන්හි ලියනෙනාත් වැඩිමහල්ලොත්
58 රැස්වී සිටියෝය. පේත්‍රුස්ද නායක පූජ
කයාගේ සාලාව දක්වා දුරින් උන්වහන්
සේ පස්සේ ගොස් ඇතුල්ව තීන්දුව දක්
නා පිනිස සේවකයන් සමග උන්නේය.
59 එවිට නායක පූජකයෝද වැඩිමහල්ලෝ
ද සභාවේ සියල්ලෝද යේසුස්වහන්සේ
මරණට පමුනුවන පිනිස උන්වහන්සේට
විරුඩව බොරු සාක්ෂි සෙව්වෝය. නු
60 මුත් සම්භවූනේ නැත. නොයෙක් බො
රු සාක්ෂිකාරයෝ ආ නුමුත් ඒක ඉඟවූ
61 නේ නැත. අන්තිමේදී බොරු සාක්ෂිකා
රයෝ දෙදෙනෙක් ඇවිත් දේවමාලිගා
ව විනාසකොට තුන් දවසකින් නැවත
සාදන්ට හැකිවෙමියි මොහු කීයේයයි කී
62 වෝය. එවිට නායක පූජකයා නැගිට
තුබ කිසි උත්තරයක් දෙනෙත් නැද්ද?
මොවුන් තුබට විරුඩව කියන මේ සාක්
ෂි කිමෙක්දැයි උන්වහන්සේට කීයේය.
63 නුමුත් යේසුස්වහන්සේ කථා නොකර සි
ටිසේක. එවිට නායක පූජකයා තුබ ජී
වමාන දෙවියන්වහන්සේගේ නාමයෙන්
දිව්රවම් තුබ දෙවියන්වහන්සේගේ පුත්‍ර
වූ ක්‍රිස්තුස්ද නැද්දැයි අපට කියාපනානැ
64 යි උන්වහන්සේට කීයේය. එවිට යේසුස්
වහන්සේ තුබම කීයේය තවද තුබලා
ට කියම් මෙයින් පසු මනුෂ්‍ය පුත්‍රයා පරා
ක්‍රමයානන්ගේ දකුනු පැත්තේ වැඩසි
ටින බවත් අහසේ වලාකුලෙන් එන බ
වත් තුබලා දකිනවා ඇතැයි ඔහුට කී
65 සේක. එවිට නායක පූජකයා තමාගේ
වස්ත්‍ර ඉරාගෙන මොහු දෙවියන්වහන්
සේට අපහාස වචන කීයේය. වෙන සා
ක්ෂිවලින් අපට කම්කිම්ද? මොහුගේ අ
66 පහාස බස් දැන්ම තුබලා ඇසුවෝය. තු
බලා සිතනෙත් කිමෙක්දැයි කීයේය. ඔ
වුන් උත්තර දෙමින් මොහු මැරිය යුතු
67 යයි කීවෝය. එවිට ඔවුන් උන්වහන්
සේගේ මූහුනට කෙලගසා ගුටි ඇන්
68 නෝය. සමහරෙක් අතුල්පහර ගසා
ක්‍රිස්තුස් තට ගැසුවේ කව්දැයි දිවසින් අ
පට කියවයි කීවෝය.

69 සාලාවේ උන් පේත්‍රුස් ලඟට යව්වනි
යක් ඇවිත් තුබ ගලිලයේ යේසුස් සම
70 ග සිටියේයයි කීවාය. ඔහුද නැත තු
බ කියන දේ නොදනිම්යි සියල්ලන්ගේ
71 ඉදිරියේ කීයේය. ඔහු පිටත්ව මඩුවට ගි
යකල තව යව්වනියක් ඔහු දැක මොහු
ද නාසරත්හි යේසුස් සමග සිටියේයයි
72 එතන සිටියවුන්ට කීවාය. ඔහු නැවතත්
මම ඒ මනුෂ්‍යයා නාඳුනම්යි දිව්රමින් කී
73 යේය. ස්වල්ප වේලාවකට පසු එතන සි
ටි මිනිස්සු ඇවිත් සැබැවටම තුබත් ඔ
වුන්ගෙන් එකෙක ඒ බව තුබේ කථා
වෙන්ම දැනෙනවායයි පේත්‍රුස්ට කීවෝ
74 ය. එවිට ඔහු ඒ මිනිහා නාඳුනම්යි කියා
දෙස් තිබාගන්ටද දිව්රන්ටද පටන්ගු
75 ත්තේය. එවලේම කුකුලා හඬලීය. එවි
ට කුකුලා හඬලනනාට පලමුවෙන් තුන්
වරක් ඔහු නාඳුනම්යි මා ගැන තුබ කි
යනවා ඇතැයි යේසුස්වහන්සේ කී වච
න පේත්‍රුස් සිහිකොට පිටත්ව ගොස් බ
ලවත් දුකින් හැඬුයේය.

27. පරිච්ඡ. උදයවූකල සියළු නාය
ක පූජකයොත් සෙනගගේ වැඩිමහල්
ලොත් යේසුස්වහන්සේ මරණට පත්ක
රවන පිනිස උන්වහන්සේට විරුඩව මන්
2 ත්‍රනයකොට උන්වහන්සේ බැඳගෙන
ගොස් පොන්තියුස් පිලාත්නම් අධිපති
3 යාට පාවාදුනෙනාය. එවිට උන්වහන්සේ
පාවාදුන් යූදස් උන්වහන්සේ මරණට නි
යමකල බව දැක පසුතැවිලිව ඒ රිදී මිල
තිහ නායක පූජකයන්ගේත් වැඩිමහල්
ලන්ගේත් ලඟට නැවත ගෙනැවිත් නි
වැරදිකාරයෙක් මරණට පාවාදීමෙන්
4 පව්කෙලෙම්යි කීයේය. එවිට ඔවුන් අ
පට කිමෙක්ද? තුබම බලාගනිනාැයි
5 කීවෝය. එවිට ඔහු ඒ රිදී මිල තිහ දේව
මාලිගාවෙහි දමා පිටත්ව ගොස් බෙල්
ලේ වැල් ලාගෙන මැරුණේය. නායක
6 පූජකයෝ ඒ මිල අරගන මේවා ලේවල
මිල බැවින් දිව්‍ය ගබඩාවේ තිබනනාට
7 සුදුසු නැතැයි කීවෝය. ඔවුන් මන්ත්‍රන
යකොට එයින් විදේසින් වලලන පිනිස
8 කුම්භකාරයාගේ බිම ගනෙනාය. එහෙ
යින් ඒ බිමට අද දක්වා ලේවල බිමයයි
9 කියනු ලැබේ. එකල ඊස්‍රායෙල්ගේ පු
10 ත්‍රයන් විසින් මිලකරණලද තැනැත්තා

ගේ අගයවූ රිදී මිල තිහ ගෙන ඒවා ස්වා
මිවහන්සේ මට නියෝගකල ලෙස
කුම්භකාරයාගේ බිමට දුනෝයයි අ
නාගතවක්තෘහු විසින් කියනලද කීම
සම්පූර්ණවිය.
11 යේසුස්වහන්සේද අධිපතියාගේ ඉදි
රියේ සිටිසේක. එවිට අධිපතියා තුබ යු
දෙව්වරුන්ගේ රජදැයි උන්වහන්සේ
ගෙන් ඇසුයේය. යේසුස්වහන්සේ තුබ
12 ම කියේයයි කීසේක. නායක පූජකයෝ
ද වැඩිමහල්ලෝද උන්වහන්සේට වැරදි
තැබූ විට උන්වහන්සේ කිසි උත්තරයක්
13 නොදී සිටිසේක. පිලාත්ද මොවුන් තුබ
ට විරුඬව සාක්ෂිදෙන කාරණ කොපම
14 නද ඇසෙනොත් නැද්දැයි කීයේය. තු
මුත් උන්වහන්සේ කිසි වචනයකටත් උ
ත්තර නුදුන්සේක. එහෙයින් අධිපතියා
15 බොහෝසෙයින් පුදුම වූයේය. ඒ මංග
ල්‍ය සමයෙහි සමූහයාට කැමතිවූ සිර
කාරයෙක් මුදා හරින්ට අධිපතියාගේ සි
16 රිතක් තිබුනේය. එවිට දුෂ්ටයයි ප්‍රසිඬවූ
17 බරබ්බානම් සිරකාරයෙක් සිටියේය. එ
හෙයින් ඔවුන් රැස්වූකල පිලාත් ඔවුන්
ට කථාකොට මා විසින් තුබලාට කවරෙ
කු මුදා අරිනවාට තුබලා කැමතිද? බ
රබ්බාද ක්‍රිස්තුස්යයි කියනලද යේසුස්
18 දැයි ඔවුන්ගෙන් ඇසුයේය. මක්නිසාද
ඔවුන් විසින් උන්වහන්සේ ඊර්ෂ්‍යාවෙන්
19 පාවා දෙන ලදැයි ඔහු දැනගත්තේය. ත
වද ඔහු තබූ ආසනයෙහි උන්කල ඔහු
ගේ භාර්යාව ඔහු වෙතට දූතයෙක් යවා
ඒ ධර්මිෂ්ඨයාට කිසිවක් නොකලමැන
ව ඔහු නිසා අද ස්වප්නයෙන් බොහෝ
20 දුක් විඳෙම්යයි කියෙව්වාය. එහෙත් නා
යක පූජකයෝද වැඩිමහල්ලෝද බරබ්
බා ඉල්ලන්ටත් යේසුස්වහන්සේ මරන්
ටත් සමූහයා කැමතිකරවා ගත්තෝය.
21 අධිපතියා ඔවුන්ට කථාකොට මේ දෙන්
නාගෙන් කවරෙකු තුබලාට මුදා හරින්
වාට කැමතිදැයි ඔවුන්ගෙන් ඇසුවිට ඔ
22 වුන් බරබ්බායයි කීවෝය. පිලාත්ද එ
සේවීනම් ක්‍රිස්තුස්යයි කියනලද යේසුස්
ට කුමක් කෙරෙම්දැයි ඔවුන්ගෙන් ඇසු
යේය. කුරුසියෙහි ඇනගසාවයි ඔවුන්
23 සියල්ලෝම ඔහුට කීවෝය. එවිට අධිප
තියා කිමෙක්ද? මොහු කවර වරදක්
කොලේදැයි කීයේය. තුමුත් ඔහු කුරුසි
24 යෙහි ඇනගසාවයි කියා වැඩි වැඩිව හ
ඬගැසුවෝය. පිලාත් කෝලාහල හටග
න්නාවා මිස එයින් කිසි ප්‍රයෝජනයක්
නැති බව දැන වතුර ගෙන සමූහයාගේ
ඉදිරියේ අත් සෝදා මේ ධර්මිෂ්ඨයාගේ
ලෙයින් මම නිදොස්වෙමි තුබලාම බලා
25 ගනිල්ලායයි කීයේය. එවිට සියළු සමූ
හයෝ උත්තර දෙමින් ඔහුගේ ලේ අ
26 ප කෙරේද අපගේ දරුවන් කෙරේද
වේවයි කීවෝය. එකල ඔහු බරබ්බා ඔ
වුන්ට මුදා හැර යේසුස්වහන්සේට තල
වා කුරුසියෙහි ඇනගසන්ට පාවාදුන්
නේය.
27 පසුව අධිපතියාගේ සේවායෝ යේසු
ස්වහන්සේ ප්‍රෙතෝරියම්නම් සාලාවට
ගෙනගොස් සියළු සේවක සමූහයෝ උ
න්වහන්සේ වෙතට රැස්කොට උන්වහන්
සේගේ වස්ත්‍ර මුදා රතු වස්ත්‍රයක් හඳවා
28 කටු ඔටුන්නක් ගොතා හිසෙහි තබා බ
29 ට දඬක් දකුනතට දී උන්වහන්සේ ඉදිරි
යෙහි දන නමා යුදෙව්වරුන්ගේ රජ්ජු
රුවන්වහන්ස සුවසේ සිටිනසේක්වයි කි
30 යා නින්දාකොට උන්වහන්සේට කෙලගා
31 සා බටදඬ ගෙන හිසට ගැසුවෝය. ඔ
වුන් නින්දාකල පසු උන්වහන්සේට ඇන්
දෙවූ වස්ත්‍රය මුදා උන්වහන්සේගේම ව
ස්ත්‍ර හඳවා කුරුසියෙහි ඇනගසන්ට ගෙ
32 නගියෝය. ඔවුන් නික්ම යමින් සිටියදී
සිරේනියෙහි සීමොන්නම් මිනිහෙක් දැ
ක ඔහු ලවා උන්වහන්සේගේ කුරුසිය
33 උසුලවාගෙන ගියෝය. ඉස්කබලස්ථාන
ය යන අර්ථ ඇති ගොල්ගොතානම් ස්ථා
නයකට පැමින තික්ත මිශ්‍රකල කාඩි උ
34 න්වහන්සේට බොන්නට දුන්නෝය. උ
න්වහන්සේ එයින් විකක් කටට ගෙන
35 බොන්නට නොකැමතිවූසේක. උන්ව
හන්සේ කුරුසියෙහි ඇනගැසූ පසු උන්
වහන්සේගේ වස්ත්‍ර දාදු දමා බෙදාගත්
තෝය. මේ සිඬවූනේ මාගේ වස්ත්‍ර බෙ
දාගෙන මාගේ සළුව පිනිස දාදු දැමූවෝ
යයි අනාගතවක්තෘහු විසින් කියනලද
36 කීම සම්පූර්ණවෙන පිනිසය. ඔවුන් එ
තැන්හි උන්වහන්සේ රැකවල්කොට උ
37 න්නෝය. තවද මොහු යුදෙව්වරුන්ගේ
රජවූ යේසුස්යයි උන්වහන්සේගේ වරද
ලියා උන්වහන්සේගේ හිසට උඩින් තැ
38 බූවෝය. එවිට සොරු දෙන්නෙක් එ
කෙක් දකුනු පැත්තෙහිද එකෙක් වම්
පැත්තෙහිද උන්වහන්සේ සමග කුරුසි
යෙහි ඇනගසනු ලැබූවෝය.
39 මඟ යන්නෝ තමන් හිස් වනා විටා

40 උන්වහන්සේට නින්දාකොට දේවමාලි
ගාව නසා තුන් දවසින් සාදන්නාවූ තෝ
තමාම ගැලවෙව දෙවියන්වහන්සේගේ
පුත්‍රයානම් කුරුසියෙන් බැසපියවයි කි
41 වෝය. එසේම නායකපූජකයොත් ලි
යන්නොත් වැඩිමහල්ලොත් උන්වහන්
සේට අපහාසකොට අනුන් ගැලවිය ත
42 මාම ගැලවිගන්නට නුපුළුවන. ඔහු ඊශ්‍රා
යෙල්ගේ රජනම් දැන් කුරුසියෙන් බ
සිවා එවිට ඔහු අදහගනිමුව. ඔහු දෙවි
යන්වහන්සේ කෙරෙහි විශ්වාස කෙළේ
43 ය. ඔහු දෙවියන්වහන්සේගේ පුත්‍රයෙමියි
කීයේය. දෙවියන්වහන්සේ ඔහුට ප්‍රිය
නම් දැන්ම ඔහු මුදා හරිණසේක්වයි කි
44 වෝය. උන්වහන්සේ සමග කුරුසියෙ
හි ඇනගසනලද්දාවූ සොරුද එසේම උ
45 න්වහන්සේට නින්දා කළෝය. තවද ස
වෙනි පැය පටන් නවවෙනි පැය දක්වා
46 රට මුළුල්ල අන්ධකාරවිය. නවවෙනි පැය
පමණේදී යේසුස්වහන්සේ ඒලි ඒලි ලා
මා සබක්තානි කියා මහත් ශබ්දයෙන්
හඬගෑසේක. එහි අර්ථනම් මාගේ දෙවි
47 යනි මාගේ දෙවියනි ඔබවහන්සේ මා
අත්ඇරියේ මක්නිසාද කියාය. එහි සිටි
යවුන්ගෙන් සමහරෙක් ඒ අසා මොහු
48 එලියස්ට අඬගසනෙත්යයි කීවෝය. එ
කනෙහිම ඔවුන්ගෙන් එකෙක් දිව
ගොස් මුදු හතුතක් ගෙන කාඩියෙන්
පොවා බටදඬක බැඳ උන්වහන්සේට
49 බොන්නට දුනෙත්ය. සෙස්සෝ සිටපන්
න මොහු ගලවා හරින්ට එලියස් එන
50 වාද කියා බලමුයයි කීවෝය. යේසුස්ව
හන්සේ නැවතත් මහත් ශබ්දයෙන් හ
ඬගා ප්‍රාණය හැරියසේක. එවිට දේවමා
51 ලිගාවේ තිරය ඉහල සිට පහළට දෙක
ඩව ඉරුනේය. පොළොවද කම්පාවිය
52 පර්වතද පැළුනෝය. සොහොන් ගෙවල්
ඇරුනෝය. උන්වහන්සේ නැගුටුනු ප
සු එහි නිදන්නාවූ නොයෙක් සුධවන්ත
53 යන්ගේ ශරීර නැගුටුනෝය. ඔවුන් සො
හොන් ගෙවලින් පිටත්ව සුධ නුවරට
ගොස් බොහෝ දෙනාට පෙනුනෝය.
54 සියේකට නායකයාද ඔහු සමග යේසු
ස්වහන්සේට රැකවල්කොට සිටියෝද
පොළොව කම්පාවත් සිදුවූ දේත් දැක
ඉතා භයපත්ව ඒකාන්තයෙන් මූන්ව
හන්සේ දෙවියන්වහන්සේගේ පුත්‍රවූ
55 සේකැයි කීවෝය. යේසුස්වහන්සේට
උපස්ථාන කරමින් ගලිලයෙහි සිට උන්ව
හන්සේ කැටුව ආවාවූ බොහෝ ස්ත්‍රීයෝ
56 දුරින් බලා සිටියෝය. ඔවුන් අතරෙහි
මග්දලායෙහි මරියාද යාකොබ් සහ
යෝසෙස්ගේ මව්වූ මරියාද සෙබදිගේ
පුත්‍රයන්ගේ මෑණියෝද සිටියෝය.
57 සවස්වූ කල්හි යේසුස්වහන්සේගේ
ගෝලවූ අරිමාතයෙහි යෝශප්නම් වස්තු
කාරයෙක් පිලාත් ලඟට ගොස් යේසුස්
58 වහන්සේගේ ශරීරය ඉල්විය. එවිට පි
ලාත් ශරීරය දෙන්ට අඥාකෙළේය.
59 යෝශප්ද ශරීරය ගෙන පවිත්‍රවූ සිහින් ව
60 ස්ත්‍රයකින් වෙලා තමන් විසින් පර්වතය
ක කප්පවනලද තමන්ගේ අළුත්වූ සො
හොන් ගෙයි තබා එහි දොරට මහත්
61 ගලක් පෙරලා ගියේය. මග්දලායෙහි
මරියාද අනිත් මරියාද සොහොන් ගේ ඉ
62 දිරිපිට උන්නෝය. මංගල්‍ය සූදානම්කිරී
මෙහි දවසට පසුව දා නායක පූජකයෝ
63 ද ඵරිසිවරුද පිලාත් ලඟට රැස්ව ඇවිත්
ස්වාමිනි ඒ වංචාකාරයා ජීවත්ව සිටිද්දී
තුන් දවසකට පසු නැගිටිමියි කී බව සි
64 හි ඇත. එහෙයින් තුන්වෙනි දවස දක්
වා සොහොන් ගෙය රක්ෂාකරන්නට අ
ඥාකලමැනව. එසේ නොකලොත් අව
සරවිට ඔහුගේ ගෝලයෝ රාත්‍රියේ ඇ
විත් මලකඳ සොරා ගෙනගොස් ඔහු ම
ලවුන්ගෙන් නැගුටුනේයයි සෙනගට
කියනවා ඇත. එසින් පලමු වංචාවට ව
ඩා අන්තිම වංචාව නපුරු වේයයි කීවෝ
65 ය. පිලාත් නුබලාට රැකවල්ළු ඇත නු
බලාට දැනෙන ලෙස ඒක රක්ෂාකරපල්
66 ලායයි ඔවුන්ට කීයේය. ඔවුන් ගොස්
ගල මුද්‍රකොට රැකවල්ළු සිටුවා සො
හොන් ගෙය රක්ෂාකලෝය.

28 පරිච්ඡ. සබත් දවසේ රාත්‍රිය ප
සුව සතියේ පලමුවෙනි දවසට එලිවෙ
න වේලෙහි මග්දලායෙහි මරියාද අනිත්
මරියාද සොහොන්ගෙය බලන්නට ආ
2 වෝය. එවිට මහත්වූ භූමි කම්පාවක් වි
ය. ස්වාමින්වහන්සේගේ දූතයෙක් අහ
සෙන් බැස ඇවිත් දොරකඩින් ගල අහ
3 කට පෙරලා එහි පිට උන්නේය. ඔහු
4 ගේ මුහුන විදුලියක් මෙන් විය. ඔහුගේ
වස්ත්‍ර හිමමෙන් සුදුය. රැකවල්ළු ඔහුට
භයින් වෙව්ලා මලවුන්සේ වූවෝය. එ
5 විට දේවදූතයා ඒ ස්ත්‍රීන්ට කථාකොට
නුබලා භයනොවෙල්ලාය. නුබලා කුරු
සියෙහි ඇනගසනලද යේසුස්වහන්සේ

6 සොයන බව දනිමි. උන්වහන්සේ මෙහි
නැත. උන්වහන්සේ කී ලෙසම නැඟුටුනු
සේක. එරෙල්ලා ස්වාමින්වහන්සේ තබන
7 ලද ස්ථානය බලා හනික ගොස් උන්ව
හන්සේ මලවුන්ගෙන් නැඟුටුනු බව උ
න්වහන්සේගේ ගෝලයන්ට කියාපල්
ලාය උන්වහන්සේ තුබලාට පලමු ගලි
ලයට යනසේක තුබලා උන්වහන්සේ එ
හිදී දක්නෝය. ඒ බව තුබලාට කීමියි
8 කීයේය. එවිට ඔවුන් භයින්ද මහත්වූ සන්
තෝසයෙන්ද සොහොන් ගෙසින් වහා
නික්ම උන්වහන්සේගේ ගෝලයන්ට ද
න්වන පිනිස දිව්වෝය.
9 තවද උන්වහන්සේගේ ගෝලයන්ට
දන්වන පිනිස ඔවුන් යනකල යේසුස්ව
හන්සේ ඔවුන්ගේ ඉදිරියට ඇවිත් සුව
සේ ඉදිල්ලායයි කීසේක. ඔවුන්ද ලඟට
ඇවිත් උන්වහන්සේගේ දෙපය අල්ලා
10 නමස්කාර කලෝය. එකල්හි යේසුස්ව
හන්සේ භයනොවෙල්ලාය මාගේ ස
හෝදරයන් ලඟට ගොස් ගලිලයට යන්
ට කියාපල්ලාය එහිදී ඔවුන් මා දකිනවා
ඇතැයි කීසේක.
11 ඔවුන් යනකල රැකවලුන්ගෙන් සම
හරෙක් නුවරට ඇවිත් සිදුවූ සියල්ල නා
12 යක පූජකයන්ට දැන්වූවෝය. එවිට නා
යක පූජකයෝ වැඩිමහල්ලන් සමග රැ
ස්ව මන්ත්‍රනයකොට සේවායන්ට බො
13 හෝ මිල දී අපි නිදාගත් කල්හි ඔහුගේ
ගෝලයෝ රෑ ඇවිත් මිනිය සොරා ගෙ
14 නගියෝයයි කියාපල්ලාය. අධිපතියාට
මේ බව ආරංචිවූනොත් අපි ඔහු සමග ක
ථාකොට තුබලා රැකගනිමුයයි කීවෝ
15 ය. ඔවුන් මිල අරගන තමන්ට ඉගැන්නූ
ලෙස කලෝය. මේ කථා ප්‍රවෘත්තිය යූ
දෙව්වරුන් අතරේ අද දක්වා ප්‍රසිද්ධව
පවත්නේය.
16 ගෝලයෝ එකොලොස් දෙන යේසු
ස්වහන්සේ නියමකල ගලිලයේ කන්දක
ට ගියෝය. එහිදී උන්වහන්සේ දැක න
17 මස්කාර කලෝය. නුමුත් සමහරෙක් සැ
18 කකලෝය. එවිට යේසුස්වහන්සේ ඔ
19 වුන් ලඟට ඇවිත් ස්වර්ගයටද භූමියටද
සියළු බලය මට දෙනලදේය. එබැවින්
තුබලා ගොස් සියළු රටවාසීන් මාගේ
ගෝලයන් කර පිතා පුත්‍ර ශුද්ධාත්ම යන
නාමයෙන් ඔවුන් බව්තීස්මකර මා විසින්
20 තුබලාට ආඥාකරණලද සියල්ලම පවත්
වන්ට ඔවුන්ට උගන්වාපල්ලාය. ලෝ
කාන්තිමය දක්වා නිරතුරුම මමත් තුබ
ලා සමග ඇතෙතම්යි කීසේක. ආමෙන්.

## මාර්ක් විසින් ලියනලද සුභාරංචිය.

1 පරිච්ඡේදය. දෙවියන්වහන්සේගේ
පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සුභා
2 රංචියෙහි පටන්ගැන්මය. මාගේ දූතයා
තුබට පෙරටුව යවමි ඔහු තුබට ඉස්සර
ව තුබේ මාර්ගය සාදනේයයි කියාත්
3 ස්වාමින්වහන්සේගේ මාවත සාදා උන්ව
හන්සේගේ මාර්ගය ඇදහැරපල්ලායයි
4 වනාන්තරයේ හඬගසනෙනකුගේ ශබ්ද
යයි කියාත් අනාගතවක්තෲහු විසින් ලි
යා තිබෙන හැටියට යොහන් වනාන්තර
යේදී බව්තීස්මකරමින් පව්වලින් මිදීම
පිනිස පසුතැවිල්ලේ බව්තීස්මය ප්‍රකාස
5 කරමින් සිටියේය. එවිට යූද රටවාසී සි
යල්ලෝද යෙරුසලමේ වැසියෝද පිටත්
ව ඔහු ලඟට ගොස් තමන්ගේ පව් කියා
ගෙමින් යොර්දන් ගඟේදී ඔහුගෙන් බව්
6 තීස්ම ලබාගත්තෝය. ඒ යොහන් ඔටු
ලොමින් කල ඇඳුම් හැද ඉගටියෙහි සම්
7 පටියක් බැඳ සිටියේය. ඔහුගේ කෑම ප
ලගැටියන් හා වනමීය. ඔහු දේසනාක
රමින් මට වඩා බලවන්තයෙක් මට පසු
ව එනසේක. මම නැමී උන්වහන්සේ
ගේ වහන්සගලේ පටිය මුදන්ටත් නො
8 වටිමි. මම තුබලා වතුරෙන් බව්තීස්ම
කෙලෙමි නුමුත් උන්වහන්සේ තුබලා
ශුද්ධාත්මයෙන් බව්තීස්ම කරනසේකැයි
කීයේය.
9 ඒ දවස්වලදී යේසුස්වහන්සේ ගලිලයෙ
හිවූ නාසරෙත්හි සිට ඇවිත් යොර්දන්හිදී
10 යොහන්ගෙන් බව්තීස්ම ලැබූසේක. උ
න්වහන්සේ වතුරෙන් ගොඩනැගුනු කෙ
නෙහිම අහස විවරව ආත්මයානන්වහන්
සේ පරවියෙකු මෙන් උන්වහන්සේ පිට
11 ට බසින බව දුටුසේක. එවිට තුබ මාගේ

ප්‍රිය පුත්‍රයාය තුඹ කෙරේ ඉතා සතුටුයෙ
මියි කියා අහසෙන් ශබ්දයක් නික්මු
12 නේය. එකෙනෙහිම ආත්මයානන්වහන්
සේ විසින් උන්වහන්සේ වනාන්තරයට ප
13 මුනුවනු ලැබූසේක. උන්වහන්සේ සා
තන් විසින් පරීක්ෂාකරනු ලබමින් ව
නාන්තරයේ සතලිස් දවසක් වනමෘගයන්
අතරේ සිටිසේක. දේවදූතයෝද උන්ව
හන්සේට උපස්ථාන කලෝය.
14 යොහන් හිරගෙයි දමනුලැබූ පසු යේ
සුස්වහන්සේ ගලීලයට ගොස් දෙවියන්
වහන්සේගේ රාජ්‍යයෙහි සුභාරංචිය ප්‍ර
15 කාසකරමින් කියනසේක් කාලය සම්පූ
ර්ණවිය දෙවියන්වහන්සේගේ රාජ්‍යය
ළංවිය පසුතැවිලිව සුභාරංචිය අදහගනි
ල්ලායයි කීසේක.
16 උන්වහන්සේ ගලීලයේ මුහුද අද්දර
හැසිරෙණසේක් මසුන් අල්ලන්නන් ව
න සීමොන්ද ඔහුගේ සහෝදරවූ අන්ද්‍රෑ
ද මුහුදේ දැලක් හෙළනවා දැක මා පස්
17 සේ වරෙල්ලාය. මම තුඹලා මිනිසුන් අ
18 ල්ලන්නන් කෙරෙමියි කීසේක. එවලේ
ම ඔවුන් තමන්ගේ දැල් හැර උන්වහන්
19 සේ පස්සේ ගියෝය. උන්වහන්සේ එ
තනින් මදක් ඈතට ගොස් සෙබදිගේ
පුත්‍රවූ යාකොබ්ද ඔහුගේ සහෝදරවූ
යොහන්ද නැවේ ඉඳගෙන තමන්ගේ
දැල් අළුත්කරණවා දැක එවලේම ඔවුන්
20 වත් අඬගැසූසේක. එවිට ඔවුන් වැඩකා
රයන් සමග නැවේ සිටිය තමන් පියවූ
සෙබදි හැර උන්වහන්සේ පස්සේ ගියෝ
21 ය ඔවුන් කපර්ණවුමට පැමිණුනෝය. උ
න්වහන්සේ සබත් දවස පැමිනිකල්හිම
සිනගෝගයට ඇතුල්ව ඉගැන්වූසේක.
22 උන්වහන්සේ ලියන්නන් මෙන් නොව
බලසම්පන්න කෙනෙක් මෙන් ඉගැන්
වූ බැවින් උන්වහන්සේගේ ඉගැන්වීමව
23 ලට ඔවුන් පුදුමවූවෝය. ඔවුන්ගේ සින
ගෝගයේ අසුබාත්මාවේස මනුෂ්‍යයෙක්
24 සිටියේය. ඔහු අහෝ නාසරීත් යේසුස්ව
හන්ස ඔබවහන්සේට අපෙන් කම මො
කද? අප නසන්ට ආසේක්ද? ඔබවහන්
සේ කවුද කියා දනිමි ඔබවහන්සේ දෙ
වියන්වහන්සේගේ පිරිසිදු තැනැත්තෙ
25 ය කියා හඬගැසූයේය. යේසුස්වහන්සේ
ද ඔහුට තරවටුකරමින් කථා නොකර
26 ව මොහුගෙන් පිටත්වයවයි කීසේක. එ
විට අසුබාත්මය ඔහු වෙවුල්වා මහත්
ශබ්දයෙන් හඬගා ඔහුගෙන් පිටත්ව
27 ගියේය. එවිට ඔවුන් සියල්ලෝම පුදුමව
මේ මොන දෙයක්ද? මේ මොන අළුත්
ඉගැන්වීමක්ද? මුන්වහන්සේ අසුබාත්
මයන්ට පවා බලයෙන් අඥාකරණසේ
ක. ඔවුහු උන්වහන්සේට කීකරු වෙ
තියි ඔවුනොවුන් අතරේ කථාකරගත්
28 තෝය. එකෙනෙහිම උන්වහන්සේගේ
කීර්තිය ගලීලය මුළුල්ලේ පතලවිය.
29 ඔවුන් සිනගෝගයෙන් පිටත්ව ආකල්
හිම යාකොබ්ද යොහන්ද සමග සීමොන්
30 හා අන්ද්‍රෑගේ ගෙදරට ගියෝය. සී
මොන්ගේ භාර්යාවගේ මව් උන රෝග
යෙන් ඔත්පලව සිටියාය. ඔවුහු ඒ බව
31 වහාම උන්වහන්සේට දැන්වූවෝය. උ
න්වහන්සේ ඈ ළඟට ගොස් ඈගේ අත
අල්වා නැගිටෙව්වසේක. එවලේම උන
රෝගය ඈ හැර ගියේය. එවිට ඈ ඔ
32 වුන්ට උපස්ථාන කලාය. සවස් වේලේ
ඉර බැස්ස කල සියළු රෝගාතුරයන්ද ය
ක්ෂාවේසවූවන්ද උන්වහන්සේ ළඟට ගෙ
33 නාවෝය. පුරවාසී සියල්ලෝ දොර ළ
34 ග රැස්ව සිටියෝය. එවිට උන්වහන්සේ
නොයෙක් රෝගවලින් පීඩිතවූ බො
හෝ දෙනාට සුවකොට නොයෙක් යක්
ෂයන් දුරුකලසේක. ඒ යක්ෂයෝ උන්
වහන්සේ හඳුනනී එබැවින් කථාකරන්
35 ට ඔවුන්ට අවසර නුදුන්සේක. අළුයම
එළිවෙන්නට බොහෝ කල්මතෙතුත් උ
න්වහන්සේ නැගිට විවේක ස්ථානයකට
36 ගොස් එහිදී යාඥාකලසේක. සීමොන්
සහ ඔහු සමග සිටියෝද උන්වහන්සේ
37 සොයමින් ගොස් උන්වහන්සේ දැක සි
යල්ලෝම ඔබවහන්සේ සොයතියි උන්
38 වහන්සේට කීවෝය. උන්වහන්සේ කි
යනසේක් මේ අසල තිබෙන ගම්වලත්
39 දේසනාකරන්ට එහි යමුව. ඒ පිනිස ම
ම පිටත්ව ආයෙමි කියා ගලීලය මුළුල්
ලෙහි ඔවුන්ගේ සිනගෝගවලදී දේස
නාකොට යකුන් දුරුකලසේක.
40 කුෂ්ට රෝගාතුරයෙක්ද උන්වහන්සේ
ළඟට ඇවිත් දනින් හිඳ යාඥාකොට ඔ
බවහන්සේ කැමතිනම් මා පවිත්‍රකරන්
41 ට පුළුවනැයි කීයේය. යේසුස්වහන්සේ
ද අනුකම්පා ඇතිව අත දිගුකොට ඔහු
ගේ ඇඟේ තබා කැමැත්තෙමි පවිත්‍රවෙ
42 යන්නැයි ඔහුට කීසේක. උන්වහන්සේ
එසේ කී කෙනෙහිම කුෂ්ටය ඔහුගෙන්
43 පහව ගියේය ඔහුද පවිත්‍ර විය. එවිට උ
න්වහන්සේ කිසිවෙකුට කිසිවක් නොකී

යන්ට බලාගනිතනෑයි අඥාකොට තුබ
44 ගොස් පූජකයාට පෙනී ඔවුන්ට සාක්ෂි
පිනිස තුබේ පවිත්‍රවීම ගැන මෝසෙස්
විසින් නියමකරණලද දේවල් පූජාකර
45 පනතෑයි කියා ඔහු යවූසේක. තුමුත් ඔ
හු පිටත්ව ගොස් ඒ කාරණාව බොහෝ
සෙයින් එළිදරව් කරන්ටත් ඒ ඒ තැන්
හි පතලකරන්ටත් පටන්ගතෙත්ය. එ
හෙයින් යේසුස්වහන්සේට ප්‍රසිද්ධයෙන්
තුවරට නැවත ඇතුල්වෙන්ට නොහැ
කිව පිටත වනාන්ත්‍ර ස්ථානවල සිටිසේ
ක. මනුෂ්‍යයෝද සියළු දිසාවලින් උන්ව
හන්සේ ලඟට ආවෝය.

2. පරිච්ඡේ. උන්වහන්සේ ස්වල්ප ද
වසකට පසු කපර්ණවුමට නැවත ගිය
2 සේක. උන්වහන්සේ ගෙයි සිටින බව
ප්‍රසිද්ධවිය. එවලේම දොරකඩවත් අවකා
ස නැතිවෙන තරම් බොහෝ දෙන රැස්
වූවෝය. උන්වහන්සේද ඔවුන්ට වචන
3 ය දේසනාකලසේක. එකල සතර දෙ
නෙකු විසින් උසුලනද අඞ්ගභාග රෝ
ගාතුරයෙක් උන්වහන්සේ වෙතට ගෙ
4 නාවෝය. සමූහය නිසා උන්වහන්සේ
වෙතට ලංවීම ඔවුන්ට නොපිළිවන්ව උ
න්වහන්සේ සිටි තැන සෙවිල්ල හැර පි
යස්ස සිදුරුකොට ඒ රෝගාතුරයා ඔත්
5 යහන බැස්සෙව්වෝය. යේසුස්වහන්
සේ ඔවුන්ගේ ඇදහිල්ල දැක පුත්‍රය තු
බේ පව් තුබට ක්ෂමාකරණලදැයි අඞ්ගභා
6 ග රෝගාතුරයාට කීසේක. එහෙත් එ
තන උන් ලියනනන්ගෙන් සමහරෙක්
මොහු මෙබඳු අපහාස වචන කියනෙන්
7 මක්නිසාද? දෙවියන්වහන්සේටම මිස
පව් ක්ෂමාකරන්ට කාට පුළුවන්දැයි ත
8 මන් සිතින් සිතුවෝය. ඔවුන් මෙසේ
සිතූ බව යේසුස්වහන්සේ තමන්ගේ
ආත්මයෙන් එකෙනෙහිම දැන ඔවුන්ට කි
යනසේක් තුබලා මෙසේ සිතනෙත් මක්
9 නිසාද? තුබේ පව් තුබට ක්ෂමාකරණල
දැයි කීමෙන්වත් නැගිට තුබේ යහන
අරගෙන ඇවිදපනතෑයි කීමෙන්වත් පහ
10 සු කෝකද? තුමුත් මෙලොවදී පව් ක්ෂ
මාකරන්ට මනුෂ්‍ය පුත්‍රයාට බලය ඇති
බව තුබලාට දැනෙන පිනිසයයි කියා
11 අඞ්ගභාග රෝගාතුරයාට නැගිට තුබේ
යහන අරගෙන තුබේ ගෙට පලයනතෑ
12 යි තුබට කියමියි කීසේක. එවලේම ඔ
හු නැගිට යහනත් අරගෙන සියල්ලන්

ගේ ඉදිරියේදී පිටත්ව ගියේය. එසින්
ඔවුන් සියල්ලෝම පුදුමව මෙබඳු දෙ
යක් කවදාවත් දුටුවේ නැතෑයි කියා දෙ
වියන්වහන්සේට ප්‍රසංසා කලෝය.
13 නැවත උන්වහන්සේ මුහුද ලඟට පි
ටත්ව ගියසේක. සියළු සමූහය උන්වහන්
සේ වෙතට ආවෝය උන්වහන්සේද ඔ
14 වුන්ට ඉගැන්වූසේක. උන්වහන්සේ ය
න අතර සුංගම් අයකරණ තැනක උන්
අල්පෙයුස්ගේ පුත්‍රවූ ලෙවී දැක මා පස්
සේ වරෙනතෑයි ඔහුට කීසේක. ඔහු නැ
15 ගිට උන්වහන්සේ පස්සේ ගියේය. බො
හෝ සුංගම් අයකරනෙනෝද පව්කාර
යෝද යේසුස්වහන්සේ කැටුව ගියහෙ
යින් උන්වහන්සේ ලෙවීගේ ගෙයි කෑම
ට උන් කල ඔවුන්ගෙන් බොහෝ දෙ
න උන්වහන්සේ සහ උන්වහන්සේගේ
16 ගෝලයන් සමග හුනෙනෝය. ලියනෙනෝ
ද ඵරිසිවරුද සුංගම් අයකරනනන් හා
පව්කාරයන් සමග උන්වහන්සේ කන
වා දැක මොහු සුංගම් අයකරනනන් පව්
කාරයන් සමග කනෙනත් බොනෙනත්
මක්නිසාදැයි උන්වහන්සේගේ ගෝල
17 යන්ගෙන් ඇසූවෝය. යේසුස්වහන්සේ
ඒ අසා ලෙඩුන්ට මිස ලෙඩ නැත්තන්ට
වෙදාගෙන් කමක් නැත. පව්කාරයන්
මිස ධර්මිෂ්ඨයන් පසුතැවිලීමට කැඳවන
පිනිස නායෙමියි ඔවුන්ට කීසේක.
18 තවද යොහන්ගේ ගෝලයෝද ඵරි
සින්ගේ ගෝලයෝද නිරාහාරයෙන් සි
ටියෝය. ඔවුන් ඇවිත් යොහන්ගේත් ඵ
රිසින්ගේත් ගෝලයෝ නිරාහාරයෙන්
සිටිති ඔබවහන්සේගේ ගෝලයෝ නි
රාහාරයෙන් නොසිටිනෙත් මක්නිසාදැ
19 යි උන්වහන්සේගෙන් ඇසූවෝය. යේසු
ස්වහන්සේ උත්තර දෙමින් මගුල් ගෙද
ර දරුවන් හා සමග මනමාලයා සිටින
තුරු නිරාහාරව සිටින්ට ඔවුන්ට පුළුව
න්ද? මනමාලයා ඔවුන් සමග සිටිනතුරු
20 නිරාහාරව සිටින්ට බැරිය. තුමුත් මන
මාලයා ඔවුන්ගෙන් බැහැරගනනා දවස්
පැමිනෙනෙත්ය. ඒ දවස්වලදී ඔවුන් නි
21 රාහාරව සිටිනවා ඇත. කවුරුවත් පර
ණ ඇඳුමකට අළුත් රෙදිකෑල්ලක් මහ
නෙත් නැත. මැහුවොත් අළුත් රෙදිකෑ
ල්ලෙන් පරණ ඇඳුමත් ඉරී ගොස් ඉරු
22 ම වැඩිවනෙත්ය. කවුරුවත් අළුත් මිදි
කපානය පරණ සම් භාජනවල වත්කර
නෙත් නැත. වත්කලොත් අළුත් මිදික

පානයෙන් සම් භාජන පැලී මුද්‍රිකපාන
ය ඉහිරී භාජනත් නාශවන්නේය. අ
ළුත් මුද්‍රික්පානය අළුත් සම් භාජනවල
වත්කරන්ට සුදුසුයයි කීසේක.
23 උන්වහන්සේ සබත් දවසක ගොයම්
කෙතක් මැදින් යන කල උන්වහන්සේ
ගේ ගෝලයෝ යමින් හිට කරල් කඩන්
24 ට පටන්ගත්තෝය. එවිට ඵරිසිවරු ස
බත් දවසෙහි නොකටයුතු දේ මො
වුන් කරනොත් මක්නිසාදැයි උන්වහන්
25 සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ උ
ත්තර දෙමින් දාවිත් තමන්ටත් තමන් ස
මග සිටියවුන්ටත් බඩගිනිව ආහර ඕනෑ
26 වූ කල ඔහු අබියාතර්නම් නායක පූජක
යාගේ කාලේ දෙවියන්වහන්සේගේ ගෙ
ට පැමිණ පූජකයන්ට මිස වෙන කාට
වත් කන්ට නුසුදුසුවූ ඉදිරිපිට පිදූ රොටි
කා තමන් සමග සිටියවුන්ටත් දුන් බව
කවදාවත් නුබලා කියෙව්වේ නැද්දැයි
27 කීසේක. තවද උන්වහන්සේ කියන
සේක්; මනුෂ්‍යයා සබත් දවස නිසා නො
ව සබත් දවස මනුෂ්‍යයා නිසා නියමවූ
28 නේය. එබැවින් මනුෂ්‍ය පුත්‍රයා සබත් ද
වසටත් ස්වාමියයි ඔවුන්ට කීසේක.

3. පරිච්. උන්වහන්සේ නැවත සි
නගෝගයට ඇතුල්වූකල අවලංගු අ
තක් ඇති මනුෂ්‍යයෙක් එහි සිටියේය.
2 එවිට සබත් දවසෙහි ඔහුට සුවකරණ
සේක්දෝ කියා උන්වහන්සේට වැරදි ත
3 බන්ට බලමින් සිටියෝය. එවිට උන්ව
හන්සේ මැද සිටපන්නැයි අවලංගු අත
ඇති මනුෂ්‍යයාට කියා සබත් දවසවලදී
4 යහපතක් කිරීමවත් නපුරක් කිරීමවත්
ප්‍රාණය රක්‍ෂාකිරීමවත් නැසීමවත් කු
මක් සුදුසුදැයි ඔවුන්ගෙන් ඇසූසේක.
5 ඔවුන් කථා නොකර සිටියෝය. උන්ව
හන්සේ කෝපයෙන් ඔවුන් වටකර බ
ලා ඔවුන්ගේ සිත් දැඩිකම නිසා දුක්ඛ නු
බේ අත දිගුකරපන්නැයි ඒ මනුෂ්‍යයාට
කීසේක. ඔහුද දිගුකෙලේය. එවිට ඒ
අත අනිත් අත මෙන් සුවවිය.
6 ඵරිසිවරුද එවේලේම පිටත්ව ගොස්
උන්වහන්සේ කෙසේ නසමුදැයි උන්ව
හන්සේට විරුද්ධව හෙරොදිවරුන් සම
7 ග මන්ත්‍රනය කලෝය. එහෙත් යේසුස්
වහන්සේ එයින් පිටත්ව තමන් ගෝල
8 යන් සමග මුහුද ලඟට ගියසේක. එවිට
ගලීලයෙන්ද යූදයෙන්ද යෙරූසලමෙන්ද
ඉදුමයෙන්ද යොදීන් එගොඩින්ද බො
හෝ සමූහයෝ උන්වහන්සේ පස්සේ ගි
යෝය. තිර් සහ සිදොන් වටකර සිටින
බොහෝ සමූහයෝද උන්වහන්සේ වි
සින් කරණලද මහත්වූ ක්‍රියාවල් අසා උ
9 න්වහන්සේ ලඟට ආවෝය. සමූහයා
ගෙන් උන්වහන්සේ නොමිරීකෙන පිනි
ස කුඩා නැවක් මා උදෙසා පිලියෙල
කොට නිතරම තැබිය යුතුයයි ගෝල
10 යන්ට කීසේක. මක්නිසාද උන්වහන්සේ
බොහෝ දෙනාට සුවකලහෙයින් රෝ
ගවලින් පීඩිතවූ සියල්ලෝම උන්වහන්
සේගේ ඇඟේ අත් තබන්ට තෙරපීග
11 න ආවෝය. අසුබාත්මයෝද උන්වහන්
සේ දුටු උන්වහන්සේගේ ඉදිරියෙහි වැ
ටී ඔබවහන්සේ දෙවියන්වහන්සේගේ පු
12 ත්‍රයයි හඬගෑවෝය. උන්වහන්සේද මා
ප්‍රසිද්ධ නොකරව්යයි බොහෝසෙසින් ඔ
වුන්ට අනකලසේක.
13 ඉන්පසු උන්වහන්සේ කන්දකට නැගී
තමන්වහන්සේට කැමතිවූවන් කැඳෙව්
සේක. ඔවුන්ද උන්වහන්සේ ලඟට ගියෝ
14 ය. එකල උන්වහන්සේ තමන් සමග සි
ටින්ටත් දේශනාකරණ පිනිස පිටත්කර
හරින්ටත් රෝග සුවකිරීමේද යකුන් දු
15 රුකිරීමේද බලය පවත්වන්ට දොලොස්
දෙනෙක් නියමකලසේක. ඔවුන් කවු
16 රුදයත් උන්වහන්සේ විසින් පේත්‍රුස්යයි
17 නම් තබනලද සීමොන්ද උන්වහන්සේ වි
සින් ගර්ජනාවේ පුත්‍රයෝය යන අර්ථ ඇ
ති බෝවනර්ගස්යයි නම් තබනලද සෙ
බදිගේ පුත්‍රවූ යාකොබ්ද ඔහුගේ ස
18 හෝදරවූ යොහන්ද අන්ද්‍රෑද පිලිප්ද බ
ර්තොලොමෙව්ද මතෙව්ද තෝමස්ද අල්
ඵෙවුස්ගේ පුත්‍රවූ යාකොබ්ද තද්දෙවුස්
ද කානාන්හි සීමොන්ද උන්වහන්සේ
පාවා දුන් යූදස් ඉස්කාරියොත්ද යන
19 මොවුන්ය. ඔවුන් ගෙදරකට ගියෝය.
එවිට ඔවුන්ට කෑම කන්නට පමනවත්
20 අවකාස නැතිවෙන තරමට සමූහයෝ
නැවත එකතුවූනෝය. උන්වහන්සේ
21 ගේ නෑයෝ ඒ අසා උන්වහන්සේට සි
හිනැතිවීයයි කියමින් උන්වහන්සේ අල්
වන්ට ගියෝය.
22 යෙරූසලමෙන් ආවාවූ ලියන්නෝ
මොහුට බෙල්සෙබුල් ඇතොත්ය. ඒ යක්
ෂ මූලාදෑනියාගේ බලයෙන් යකුන් දුරු
23 කරනොත්යයි කීවෝය. එවිට උන්වහන්
සේ ඔවුන් කැඳවා උපමාවලින් කියමින්

සාතන් දුරුකරන්ට සාතන්ටම පුළුවන්
24 කොහොමද? රාජ්‍යයක් තමන්ටම විරු
ඬව භේදවේනම් ඒ රාජ්‍යය පවතිනනට
25 නොහැකිවේ. පවුලක් තමන්ටම විරුඬ
ව භේදවේනම් ඒ පවුල පවතින්නට
26 නොහැකිවේ. සාතන් තමන්ටම විරුඬ
ව නැගිට භේදවේනම් ඔහු පවතිනනට
නොහැකිව විනාසයට පැමිනෙනෙනේය.
27 කිසිවෙකු විසින් බලවන්තයෙකුගේ
ගෙදරට වැද පලමුකොට ඔහු නොබැඳ
ඔහුගේ බඩු කොල්ලගන්ට නුපුළුවන.
බැඳලාම ඔහුගේ ගෙය කොල්ලගනෙන්
28 ය. සැබෑවටම කියමි මනුෂ්‍ය පුත්‍රයන්ට
සියළු පව්ද ඔවුන් කරණ සියළු අපහාස
29 ද ක්‍ෂමාවෙනවා ඇත. නුමුත් යමෙක්
ශුඬාත්මයානන්වහන්සේ කෙරෙහි අප
හාස කෙලේද ඔහු කොයි කලකවත්
ක්‍ෂමාව නොලැබ සදාකාල අච්චුවට සුදු
30 සුවනෙන්යැයි කීසේක උන්වහන්සේට
අශුඬාත්මයක් ඇතෙන්යයි ඔවුන් කී බැ
වින් උන්වහන්සේ එසේ කීසේක.
31 එවිට තමන්ගේ සහෝදරයෝද මෑ
නියෝද ඇවිත් පිටත සිට උන්වහන්සේ
32 කැඳවන්ට යැව්වෝය. උන්වහන්සේ පි
රිවර උනාවූ සමූහයෝ ඔබවහන්සේ
ගේ මෑනියොත් සහෝදරයොත් පිටත
සිට ඔබවහන්සේ සොයතියි කීවෝය.
33 උන්වහන්සේ උත්තර දෙමින් මාගේ ම
වුත් මාගේ සහෝදරයොත් කව්ද කියා
34 තමන් පිරිවර උනාවූන් දෙස බලා මේ
මාගේ මවුත් මාගේ සහෝදරයොත්ය.
35 මක්නිසාද යමෙක් දෙවියන්වහන්සේ
ගේ කැමැත්ත කෙරේද ඔහුම මාගේ ස
හෝදරයත් සහෝදරීත් මවුත්යයි කී
සේක.

4. පරිච්ජ. නැවතත් උන්වහන්සේ
මුහුද ලඟ උගන්වන්ට පටන්ගත්සේක.
බොහෝ සමූහයෝ උන්වහන්සේ වෙත
ට රැස්වූ බැවින් උන්වහන්සේ මුහුදේ ති
බුනු නැවට නැගී වැඩඋන්සේක. සියළු
2 සමූහයෝද මුහුදු වෙරළ සිටියෝය. එ
විට උන්වහන්සේ ඔවුන්ට බොහෝ කා
3 රණ උපමාවලින් ඉගැන්වූසේක. උන්
වහන්සේගේ ඉගැන්වීමෙහිදී ඔවුන්ට කි
යනසේක් අසාපල්ලාය වපුරනෙනක් ව
4 පුරනනට ගියේය. ඔහු වපුරණකොට ස
මහරක් මාවත වැටුනේය එවිට ආකාස
පක්‍ෂියෝ ඇවිත් ඒවා අවුලා කෑවෝය.
5 සමහරක් බොහෝ පස් නැති ගල් බිමක
වැටුනේය පස් ගැඹුරුව නැති බැවින්
6 වහා පැලවිය නුමුත් ඉර උදාවූකල අව්
වෙන් දලා මුල් නැති බැවින් වෙලී ගි
7 යේය. සමහරක් කටු අතරේ වැටුනේය
කටු වැවී යටකිරීමෙන් ඒවා නැසුයේය
එහෙයින් ඒවා කිසි පලක් දුනෙන් නැ
8 ත. සමහරක් සරු බිමේ වැටුනේය ඒවා
පැලවී වැඩී ඵල දෙමින් එකින් තිසක්
ද එකින් සැටක්ද එකින් සියයක්ද අස්
9 වැන්න ඉපදවීය. ඇසීමට කන් ඇත්
තෙක් අසාවයි කීසේක.
10 උන්වහන්සේ තනියම සිටිද්දිම දො
ලොස් දෙනා හා සමග උන්වහන්සේ පි
රිවර සිටියෝ ඒ උපමාවෙහි අර්ථ උන්
11 වහන්සේගෙන් ඇසුවෝය. උන්වහන්
සේ ඔවුන්ට කියනසේක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයෙහි රහස් දැනගැනීම තු
12 බලාට ලැබී තිබෙනෙන්ය. නුමුත් පිට
සිටිනනන්ට සියල්ලම උපමාවලින් කිය
නු ලැබේ. මක්නිසාද කිසි කලෙකත්
ඔවුන් හරවාගෙන ඔවුන්ගේ පව් ඔවුන්
ට ක්‍ෂමාකරනු නොලබන පිනිස දැක දැ
කත් නොදක්නෝය අස අසාත් තේරුම්
13 නොගන්නෝයයි කීසේක. තවද උන්
වහන්සේ ඔවුන්ට කියනසේක් මේ උප
මාව නුබලා නොදනිද්ද? එසේවිනම් සි
යළු උපමාවල් දැනගනෙන් කොහොම
14 ද? වපුරනනා වචනය වපුරනෙන්ය. ය
15 මෙක් ඒ වචනය ඇසුවෝද එකෙනෙහි
ම සාතන් ඇවිත් ඔවුන්ගේ සිතේ වපුල
වචනය අරගෙන යනෝද ඔවුන් වච
16 නය වපුරණලද මාවතයම් වෙත්. ය
මෙක් වචනය අසා වහාම සන්තෝස
17 යෙන් පිලිගනිද්ද මුල් නැති බැවින් ස්ව
ල්ප කාලයක් පැවත වචනය නිසා දුක
18 කත් පීඩාවක්වත් පැමිනිකල්හි වහාම
බාධාවෙද්ද ඔවුන් වපුරණලද ගල් බිම
19 නම් වෙත්. යමෙක් වචනය අසන නු
මුත් මෙලොව සිතිවිලිද වස්තු වචාවද
අනිකුත් කාරණවල පැවති ආසාවද ප
හලව වචනය නසද්ද එයින් ඒ වචනය
ඵල නොදේද ඔවුන් වපුරණලද කටු අ
20 තරනම් වෙත්. යමෙක් වචනය අසා පි
ලිගෙන සමහරක් එකින් තිහක්ද සම
හරක් එකින් සැටක්ද සමහරක් එකින්
සියයක්ද අස්වැන්න උපදවද්ද ඔවුන් ව
පුරණලද සරු බිම නම් වෙත්.
21 ඉන්පසු උන්වහන්සේ ඔවුන්ට කියන

සේක් පහනක් පහන් තණ්ඩක් උඩ ත
බන්ට මිස කුරුණියක් යටවත් ඇඳක් ය
22 ටවත් තබන්ට ගෙනේද? එලෙසම මතු
ප්‍රසිඬ නොවනනාවූ කිසි රහසක් නැත.
මතු ප්‍රසිඬවීමට නොපැමිණෙන්නාවූ ර
23 හස්කොට තැබූ කිසි දෙයක් නැත. ඇ
සීමට කන් යමෙකුට ඇද්ද ඔහු අසාවයි
24 කීසේක. නැවතද උන්වහන්සේ ඔවුන්
ට කියනසේක් නුඹලා අසන කාරණා හි
තට ගනිල්ලාය. යම් මිම්මකින් නුඹලා
මනිනවානම් එයින් නුඹලාටත් මනිනු
ලැබේ ඇහුම්කන් දෙන නුඹලාට වැඩි
25 කොට දෙනු ලැබේ. මක්නිසාද යමෙකු
ට ඇත්තේද ඔහුට දෙනු ලැබේ. යමෙ
කුට නැත්තේද ඔහුගෙන් ඇති දේත්
උදුරාගනු ලැබේයයි කීසේක.
26 තවද උන්වහන්සේ කියනසේක් දෙ
වියන්වහන්සේගේ රාජ්‍යය බිමෙහි බිජුව
ට වපුරණ මනුෂ්‍යයෙකුට සමානය. ඔහු
රාත්‍රියේ නිදන්නේය දවහල් නැගී සිටි
27 න්නේය. ඔහු නොදන්නා ප්‍රකාරයකින්
28 ඒ බිජුවට පැලව වැඩෙන්නේය. පො
ලොවෙන්ම ඵල හටගන්නේය. පලමු
කොට කොලත් නැවත කරළත් ඉන්පසු
කරලෙහි පැසුනු ධාන්‍යත් හටගන්නවා
29 ය. ගොයම් පැසුනුකල කපන කාලය
පැමිනුන හෙයින් දෑකැත්ත ඒවාට යො
දන්නේයයි කීසේක.
30 නැවතත් උන්වහන්සේ කියනසේක්
දෙවියන්වහන්සේගේ රාජ්‍යය කුමකට ස
මානකරමුද? නොහොත් කවර උපමා
වකින් උපමා කරමුද? අබ ඇටයකට ස
31 මානය. ඒ බීජය බිමෙහි වපුරණකල
32 පොලොවේ සියළු බීජවලට කුඩාය. නු
මුත් වපුලාට පසු වැඩී සියළු කුඩා ගස්ව
ලටම වඩා මහත් ගසක් වන්නේය. ඒ ග
ස සෙවනෙහි ආකාස පක්ෂීන්ට වසන්ට
පුළුවන් තරම් මහත් අතු විහිදෙනවාය
33 යි කීසේක. උන්වහන්සේ ඔවුන්ට තේ
රුම්ගන්ට පුළුවන් තරමින් මෙබඳුවූ
නොයෙක් උපමාවලින් වචනය කීසේ
34 ක. උපමාවක් නැතුව ඔවුන්ට කථා ක
ලේ නැත. තමන් ගෝලයෝ තනිව සි
ටිද්දී මේ සියල්ල ඔවුන්ට තෝරාදුන්
සේක.
35 එදා සවස්වූකල එගොඩට යමුයැයි උ
36 න්වහන්සේ ඔවුන්ට කීසේක. ඔවුන් සමූ
හයා යනනාට හැර උන්වහන්සේ සිටිය
නැවෙන් උන්වහන්සේ ගෙනගියෝය.
ඒ සමග වෙනත් කුඩා නැව්ද තිබුනේ
37 ය. එවිට මහත් කුනාටුවක් පැමින නැ
38 ව පිරෙන්ට පමන රළ ගැසුනේය. උන්
වහන්සේ නැවේ පසුපැත්තේ මෙට්ට
යක් පිට නිදා උන්සේක. එවිට ඔවුන් උ
න්වහන්සේ පුබුදුවා ආචාරිනි අප විනාස
වෙන බව නොසලකනසේක්දැයි ඇසු
39 වෝය. එවිට උන්වහන්සේ නැගිට හුළ
ගට තරවටුකොට මුහුදට නිශ්ශබ්දව
නිශ්චලවෙවයි කීසේක. එවිට හුලඟ සං
40 හිඳී ඉතා නිශ්චලවූනේය. උන්වහන්සේ
ද නුඹලා මෙසේ භයවූනේ මක්නිසාද?
කෙසේ නුඹලාට ඇදහිල්ල නැත්තේදැයි
41 කීසේක. ඔවුන් ඉතා භයපත්ව මූන්වහන්
සේ කෙබඳු මනුෂ්‍යයෙක්ද? හුළඟත් මු
හුදත් මූන්වහන්සේට කීකරු වෙනවාදැ
යි ඔවුනොවුන් කථාකරගත්තෝය.

5. පරිච්ඡේ. ඔවුන් මුහුදෙන් එගො
2 ඩවූ ගදරේනුන්ගේ රටට ගියෝය. උන්
වහන්සේ නැවෙන් බැස්ස කෙනෙහිම
අසුඩාත්මයෙන් ආවේසවූ මනුෂ්‍යයෙක්
සොහොන් ගෙවලින් පිටත්ව උන්වහන්
3 සේ ඉදිරියට ආයේය. ඔහු සොහොන්
ගෙවල්වල වාසයකලේය. විලංගු ලීමෙ
න්වත් ඔහු නවතන්ට කිසිවෙකුට බැරි
4 විය. මක්නිසාද යදම්වලින්ද විලංගුවලි
න්ද වරින් වර බැඳ සිටියාවූ ඔහු විලංගු
බිඳ යදම් පොඩිකලේය. කිසිවෙකුට
5 වත් ඔහු දමනයකරන්ට බැරිය. ඔහු රෑ
දවල් මූරගසමින්ද තමාගේ ශරීරය ගල්
වලින් කපාගනිමින්ද සොහොන් ගෙව
6 ලත් කඳුවලත් සිටියේය. ඔහු යේසුස්ව
හන්සේ දුරදීම දැක දුවගන ඇවිත් උන්
7 වහන්සේට නමස්කාර කලේය. යේසුස්
වහන්සේද අසුඩාත්මය මේ මනුෂ්‍යයා
8 ගෙන් අහක්වෙවයි කීසේක. එහෙ
යින් ඔහු මහෝත්තමවූ දෙවියන්වහන්
සේගේ පුත්‍රවූ යේසුස්වහන්ස මගෙන් ඔ
බවහන්සේට කම මොකද? මට පීඩා
නොකරන්ට දෙවියන්වහන්සේගේ නා
මයෙන් ඉල්ලමියි මහ හඬින් මූරගා කී
9 යේය. උන්වහන්සේ තාගේ නම කො
10 හොමදැයි ඔහුගෙන් ඇසූසේක. ඔහු අ
පි බොහෝ දෙනෙක් බැවින් මාගේ න
ම ලෙගියොන්යයි කියා රටින් තමන් දු
රු නොකරණ හැටියට බොහෝකොට
11 ඉල්ළුවේය. එකල කන්ද ළඟ මහත් ඌ
රු රැලක් ගොදුරු කමින් සිටියෝය.

12 සියළු යක්ෂයෝද ඌරන්ට වැහෙන්ට අ
පට ඇරියමැනවැයි ඉල්ලුවෝය. එවලේ
ම යේසුස්වහන්සේ ඔවුන්ට අවසර දුන්
13 සේක. එවිට ඒ අශුද්ධාත්මයෝ පිටත්ව
ගොස් ඌරන්ට වැහුනෝය. එකල දෙ
දහසක් පමණවූ ඒ ඌරු රැල වේග
යෙන් දුව ගොස් උස්වූ තැනකින් මුහු
14 දේ වැටී මෙළේය. ඌරු රැකවල්ලු ප
ලාගොස් නුවරත් ගම්වලත් එපවත් දැන්
15 වූවෝය. එවිට සිදුවූ දේ බලන පිණිස ම
නුෂ්‍යයෝ පිටත්ව යේසුස්වහන්සේ ළඟ
ට ඇවිත් ලෙගියොනනම් යකුන් වැහී
සිටිය මනුෂ්‍යයා වස්ත්‍ර ඇඳ සිහි ඇතුව
16 උන් බව දැක භයවූනෝය. එවිට ඒ දුටු
අයවල් යකුන් වැහී සිටි මිනිහාටත් ඌ
රන්ටත් සිදුවූ කාරණ ඔවුන්ට කීවෝය.
17 එකල ඔවුන් තමන්ගේ රටින් පිටත්ව ය
න හැටියට උන්වහන්සේගෙන් ඉල්ලු
18 වෝය. උන්වහන්සේ නැවට නැඟුනුවිට
යකුන් වැහී සිටි ඒ මනුෂ්‍යයා උන්වහන්
19 සේ සමග සිටින හැටියට ඉල්ලුවේය. නු
මුත් යේසුස්වහන්සේ අවසර නොදී නු
ඹේ ගෙදරට ගොස් ස්වාමින්වහන්සේ නු
ඹ කෙරේ අනුකම්පාකොට නුඹට කල
මහත් කාරණ නුඹේ මිනිසුන්ට දන්වාප
20 නැයි ඔහුට කීසේක. ඔහු ගොස් තමා
ට යේසුස්වහන්සේ කල මහත්වූ කාරණ
දෙකපොලිසෙහි ප්‍රකාශකරන්ට පටන්
ගත්තේය. සියල්ලෝද පුදුමවූනෝය.
21 යේසුස්වහන්සේ දෙවනුත් නැවෙන්
එගොඩවූකල බොහෝ සමූහය මුහුදු
වෙරලේ සිටි උන්වහන්සේ ළඟට රැස්
22 වූවෝය. සිනගෝගයෙහි මූලාදෑනින්
ගෙන් යායිරස්නම් එකෙක් ඇවිත් උන්
23 වහන්සේ දැක උන්වහන්සේගේ පාමුල
වැටී මාගේ කුඩා දුව මරණසන්නව ඉ
න්නාවාය. ඈට සුවවෙන පිණිස ඔබව
හන්සේ ඇවිත් ඈ පිට අත තැබුවමැන
ව එවිට ඈ ජීවත්වේයැයි කියා උන්වහන්
සේගෙන් බොහෝකොට ඉල්ලුවේය.
24 යේසුස්වහන්සේ ඔහු සමග ගියසේක.
බොහෝ සමූහයෝද උන්වහන්සේ පස්
සේ ගොස් උන්වහන්සේට තෙරපිගන
25 සිටියෝය දොළොස් අවුරුද්දක පටන්
මහලේ රෝගයෙන් පීඩාවූනාවූ ස්ත්‍රියක්
26 වූවාය. ඈ බොහෝ වෙදුන්ගෙන් නොා
යෙක් වෙහෙස වීඳ ඇගේ සියළු දේ
පල වියදම්කොටත් කිසි සුවයක් නො
27 ලැබ වඩා අපාසු ලැබුවාය. ඈ යේසුස්
28 වහන්සේගේ කීර්තිය අසා උන්වහන්
සේගේ වස්ත්‍රවල පමණවත් තැවරු
නොත් සුවපත්වෙමියි කියා සමූහය අත
රෙන් පසුව ඇවිත් උන්වහන්සේගේ ව
29 ස්ත්‍රයට අත ගැසුවාය. එවලේම ලේ ධා
රාව වියලී ගොස් ඒ පීඩාවෙන් ඈට සුව
ලැබුණු බව ඇගේ ශරීරයෙන්ම ඈට දැ
30 නුනාය. එකෙනෙහිම යේසුස්වහන්සේ ත
මන් කෙරෙන් ආනුභාව නික්ම ගිය බ
ව දැන සමූහයා දෙසට හැරී මාගේ වස්
31 ත්‍රයේ තැවරුණේ කව්දැයි ඇසූසේක. උ
න්වහන්සේගේ ගෝලයෝ ඔබවහන්
සේට තෙරපිගන සිටිනනාවූ සමූහයා දැ
ක දැකත් මට තැවරුණේ කව්දැයි අසන
32 සේක්දැයි කීවෝය. එවිට ඒ දේ කල
ස්ත්‍රිය දකින පිණිස වටකර බැලූසේක.
33 එහෙත් ඒ ස්ත්‍රිය ඈට සිඩවූනාවූ දේ දැ
න භයව වෙව්ලමින් ඇවිත් උන්වහන්සේ
ගේ ඉදිරියෙහි වැටී සියල්ල උන්වහන්සේ
34 ට කීවාය. උන්වහන්සේ දුවණියෙනි නු
ඹේ ඇදහිල්ල නුඹ සුවකලාය. නුඹේ
පීඩාවෙන් සුවව සමාදානයෙන් පලයන්
35 නැයි ඈට කීසේක. උන්වහන්සේ කථා
කරද්දීම සිනගෝගයෙහි මූලාදෑනියා
ගේ ගෙදරින් කෙනෙක් ඇවිත් නුඹේ
දුව නැසුනාය ආචාරීන්වහන්සේට තව
කනගාටුකරනෙත් කුමටදැයි කීයේය.
36 යේසුස්වහන්සේ ඒ බස් ඇසූ වේලේම
සිනගෝගයෙහි මූලාදෑනියාට කථාකො
ට භයනොවී ඇදහිල්ලම කරපන්නැයි
37 කියා පේත්‍රුස්ද යාකොබ්ද යාකොබ්ගේ
සහෝදරවූ යොහන්ද හැර වෙන කාට
වත් තමන්වහන්සේ කැටුව එන්ට නො
38 දී සිනගෝගයෙහි මූලාදෑනියාගේ ගෙ
ට ආසේක. එවිට කෝලාහලයද බො
හෝකොට අඬා වැලපෙනනාවුන්ද දැක
39 ගෙට ඇතුල්ව නුඹලා කෝලාහලකො
ට අඬනෙත් කුමටද? යවුවනි නිදන
වා මිස නැසුනේ නැතැයි ඔවුන්ට කී
සේක. එවිට ඔවුන් උන්වහන්සේට සි
40 නාසුනෝය. නුමුත් උන්වහන්සේ සියල්
ලන් බැහැරකොට යෞවනියගේ පියාද
මව්ද තමන්වහන්සේ සමග සිටියවුන්ද කැ
දවාගෙන යවුවනී උන් තැනට ගොස්
41 ඇගේ අත අල්වා තලිතාකුමි කියා ඈට
කීසේක. එහි අර්ථයනම් යවුවනී නුඹට
42 කියමි නැගී සිටපන්න යනුය. දොළොස්
අවුරු වයස්වූ ඒ යවුවනී එවලේම නැ
ගිට ඇවිද්දය. එවිට ඔවුන් බොහෝ

43 කොට පුදුමවූනෝය. උන්වහන්සේද
මේ කාරණාව කාටවත් දන්වන්ට එපා
යයි ඔවුන්ට තදින් අණකොට ඈට කෑ
ම දෙන්ට කීසේක.

6. පරිච්ඡේ. උන්වහන්සේ එයින් පි
ටත්ව තමන්වහන්සේගේ රටට ගියසේ
2 ක. ගෝලයෝද උන්වහන්සේ කැටුව
ගියෝය. සබත් දවස පැමිනිකල උන්
වහන්සේ සිනගෝගයේදී උගන්වන්ට ප
ටන්ගත්සේක. බොහෝ දෙන ඒ ඉ
ගැන්වීම් අසා පුදුමව මොහුට මේ දෙය
කොයින්ද? මොහුගේ අතින් මෙබඳු ආශ්
චර්යයන් කරන්ට මොහුට දෙනලද නු
3 වන කිමෙක්ද? මොහු මරියාගේ පුත්‍රවූ
ද යාකොබ් යෝසෙස් යූදස් සීමොන්
යන මොවුන්ගේ සහෝදරවූද වඩුවා
නොවේද? මොහුගේ සහෝදරියෝ
මෙහි අප සමග නොවේද්දැයි කියා උ
4 න්වහන්සේ ගැන බාධාවූනෝය. එවිට
යේසුස්වහන්සේ අනාගතවක්තෘ කෙ
නෙකුට තමන් රටේත් නෑයන් අත
රේත් තමන්ගේ ගෙයිදීත් හැර වෙන
තැනකදී අගෞරව නැතැයි කීසේක.
5 එතනදී උන්වහන්සේ රෝගාතුරයන්
ස්වල්ප දෙනෙකු පිට අත් තබා සුවක
ලා මිස වෙන කිසි ආශ්චර්යයක් කරන්ට
නොහැකිව ඔවුන්ගේ ඇදහිලි නැතික
මට පුදුමවූසේක.
6 උන්වහන්සේ ගම්වල ඇවිද ඉගැන්වූ
7 සේක. එවිට උන්වහන්සේ දොළොස්දෙ
න කැඳවා ඔවුන් දෙනාන දෙනාන යවන්
ට පටන්ගෙන අසුද්ධාත්මයන් කෙරේ ඔ
8 වුන්ට බලය දී සැරයටිය හැර පසුම්බිය
වත් රොටිවත් ඔඩොක්කුවට මිලවත්
9 වෙන කිසි දෙයකුවත් ගමනට නොගනි
ල්ලාය. වහන් පයලාගනිල්ලාය දෙපාරව
10 න රෙදි දෙකක් නොහඳිල්ලායයි අණක
ළසේක. තවද උන්වහන්සේ ඔවුන්ට කිය
නසේක් තුඹලා යම් ස්ථානයකට පැමින
ගෙයකට ඇතුල්වූනොත් ඒ ස්ථානයෙන්
11 පිටත්ව යනතෙක් එහිම සිටපල්ලාය. යම්
කෙනෙක් තුඹලා පිළිනොගන්නවා
නම් තුඹලාගේ වචනය නොඅසනවා
නම් එතනින් පිටත්ව යනකොට ඔවුන්ට
විරුද්ධව සාක්ෂි පිණිස තුඹලාගේ පාද දූවි
ලි ගසාදමාපල්ලාය. සැබවක් තුඹලාට
කියම් විනිශ්චය දවසේදී ඒ නුවර අව්වු
වට වඩා සොදොම් සහ ගොමෝරාහි අව්
ඩුව ඉවසිය හැකි වනෙන්යයි කීසේක.
12 ඔවුහු ගොස් මනුෂ්‍යයන්ගේ පසුතැවිලි
13 වීම පිණිස දේසනාකොට නොයෙක් ය
කුන් දුරුකොට නොයෙක් ලෙඩුන්ට
තෙල් ගා සුවකලෝය.
14 තවද උන්වහන්සේගේ නාමය ප්‍රසිද්ධ
වූහු බැවින් හෙරොද් රජ ඒ අසා . යො
හන් බව්තීස්ත මලවුන්ගෙන් නැගුට්
ටේය එබැවින් ඔහු ආශ්චර්යමත් ක්‍රියා
15 වල් කරනොන්යයි කීයේය. සමහරෙක්
මොහු එලියස්යයි කීවෝය. සමහරෙක්
මොහු අනාගතවක්තෘ කෙනෙක නො
හොත් අනාගතවක්තෘන්ගෙන් එක්කෙ
නෙකුට සමාන කෙනෙකැයි කීවෝය.
16 හෙරොද් ඒ අසා මොහු මා විසින් හිස
කප්පවනලද යොහන්ය ඔහු මලවුන්
17 ගෙන් නැගුට්ටේයයි කීයේය. ඒ හෙ
රොද් තමා විසින් සරණ පාවාගත් තමා
ගේ සහෝදරවූ පිලිප්ගේ භාර්යාවූ හෙ
රොදියස් නිසා මිනිසුන් යවා යොහන් අ
18 ල්ලවා හිරඅඩස්සි කළේය. මක්නිසාද නු
ඹේ සහෝදරයාගේ භාර්යාව සරණපා
වාගන්ට අසුතුයයි යොහන් හෙරොද්ට
19 කීයේය. ඒ නිසා හෙරොදියස් ඔහු කෙ
රෙහි වෛරබැඳ ඔහු මරන්ට කැමතිවූ
නාය. නුමුත් යොහන් ධර්මිෂ්ඨවූ පිරිසිදු
වූ මනුෂ්‍යයෙකැයි හෙරොද් දැන ඔහුට භ
20 යව ගෞරවකොට ඔහු කී හැටියට බො
හෝ ක්‍රියාවල් කොට ඔහුගේ බස් සන්
තෝසයෙන් ඇසූ බැවින් ඔහු මරවන්ට
21 ඈට පුළුවන්වූනේ නැත. හෙරොද් ත
මන් උපන් දවස පැමිනිකල තමන්ගේ
ඇමතියන්ටද උත්තම සේනාධිපතීන්ට
ද ගලීලයෙහි ප්‍රධානීන්ටද මංගල්‍ය කෑ
22 මක් සෑදුයේය. ඒ දවස්හි ප්‍රස්ථා ලැබ හෙ
රොදියස්ගේ දුව එතනට පැමිණ නටා
හෙරොද්ද ඔහු සමග උන්නවුන්ද සන්
තෝස කලාය. එවිට රජ නුඹ කැමති
දෙයක් මගෙන් ඉල්ලාපන්න මම ඒක නු
23 ඹට දෙමියි කීයේය. ඔහුද මාගේ රාජ්‍ය
යෙන් දෙකෙන් පංගුවක් පවා කොයි
දෙයක් නුමුත් නුඹ ඉල්ලනවානම් ඒ දේ
24 දෙමියි ඈට දිව්රුම් දුනෙන්ය. ඈද පි
ටත්ව ගොස් කුමක් ඉල්ලම්දැයි ඈගේ ම
වුගෙන් ඇසුවාය. ඈ යොහන් බව්තීස්ත
25 ගේ හිසයයි කීවාය. එකනෙහිම ඈ රජු
වෙතට දිව ගොස් යොහන් බව්තීස්ත
ගේ හිස තලියක ලා දැන්ම මට දුනමැනා
26 වැයි ඉල්ළුවාය. එවිට රජ මහත් සෝක.

යට පැමුණුණේය. එසේවී නුමුත් දිවුරුම
නිසාත් තමන් සමග උන්නාවුන් නිසාත්
27 නොපිළිවනැයි ඈට කියන්ට නොකමැ
තිව එවලේම භේවායෙක් යවා යො
හන්ගේ හිස ගෙනෙන්ට අඥාකෙළේ
28 ය. භේවායාද ගොස් හිරගෙයිදී යො
හන්ගේ හිස කපා තලියක ලා ගෙනවිත්
කුමාරිකාවට දුන්නේය. කුමාරිකාව ඒක
29 මව්ට දුන්නාය. ඔහුගේ ගෝලයෝ ඒ අ
සා ඇවිත් ඔහුගේ මිනිය අරගෙන සො
හොන් ගෙයක තැබුවෝය.
30 ප්‍රේරිතයෝ යේසුස්වහන්සේ වෙතට
රැස්ව තමන් විසින් කලාවූ ඉගැන්නුවා
වූ සියල්ල උන්වහන්සේට දැන්වූවෝය.
31 එවිට එනෝත් යනෝත් බොහෝ බැ
වින් කන්ටවත් අවකාස නොවීය. එහෙ
යින් උන්වහන්සේ තුපිලා වනාන්තරස්ථා
නයකට ඇවිත් ටිකක් පහසු ගනිල්ලාය
32 යි ඔවුන්ට කීසේක. එවිට ඔවුන් සමග
උන්වහන්සේ පමනක් වනාන්තරස්ථානය
33 කට නැවෙන් ගියසේක. මිනිස්සු ඔවුන්
යනවා දැක බොහෝ දෙන උන්වහන්
සේ හැඳින සියළු නුවරවලින් පයින් දි
ව ගොස් ඔවුන්ට පලමුවෙන් ඇවිත් උ
34 න්වහන්සේ ලඟට රැස්වූවෝය. යේසුස්
වහන්සේ නැවෙන් බැස බොහෝ සමූ
හය දැක එඬේරෙක් නැති බැටළුවන්
වැනිවූ ඔවුන් කෙරෙහි අනුකම්පාකො
ට ඔවුන්ට බොහෝ කාරණාවල් උගන්
35 වන්ට පටන්ගත්සේක. දවාල බොහෝ
සෙයින් පසුවූ කල්හි උන්වහන්සේගේ
ගෝලයෝ උන්වහන්සේ වෙතට ඇවිත්
36 මේ වනාන්තරස්ථානයක දවාල බොහෝ
සෙයින් පසුවිය ඔවුන් වටකර තිබෙන
නුවරවලටත් ගම්වලටත් ගොස් තමන්
ට කන දේ මිලදී ගන්නා පිනිස ඔවුන්
ඇරියමැනව ඔවුන්ට කන්ට මොකවත්
37 නැතැයි කීවෝය. උන්වහන්සේ උත්තර
දෙමින් තුපිලා ඔවුන්ට කෑම දීපල්ලායයි
කීසේක. එවිට ඔවුන් අපි ගොස් මසු දෙ
සියයක රොටි මිලදී ගෙනැවිත් ඔවුන්ට
38 දෙමුදැයි උන්වහන්සේට කීවෝය. උන්ව
හන්සේ තුපිලා ලඟ රොටි කීයක් ඇද්ද
කියා ගොස් බලාපල්ලායයි ඔවුන්ට කී
සේක. ඔවුන් බලා රොටි පසකුත් මසුන්
39 දෙදෙනෙකුත්යයි කීවෝය. එකල උන්
වහන්සේ තනකොල පිට සියල්ල පෙ
ළින් පෙල හිඳිල්ලායයි අනදුන්සේක.
40 ඔවුහු ක්‍රමයෙන් පේළියට සියේ සියේ
බැගින්ද පනස පනස බැගින්ද ඉඳගත්
41 තෝය. එවිට උන්වහන්සේ රොටි පසත්
මසුන් දෙදෙනාත් අරගෙන ස්වර්ගය දෙ
ස බලා ස්තුතිකොට රොටි කඩා ඔවුන්
ඉදිරියේ තිබන්ට තමන් ගෝලයන්ට දී
මසුන් දෙදෙනාත් සියල්ලන්ටම බෙදූසේ
42 ක. සියල්ලෝද සෑහෙන පමන කෑවෝ
43 ය. කැබලිවලිනුද මසුන්ගෙනුද පෙට්ටි දොළ
44 ලසක් පුරවාගත්තෝය. රොටි කෑ අය
වල් පන්දහසක් පමන පුරුෂයෝය.
45 එකෙනෙහිම යේසුස්වහන්සේ සමූහය
අරිණ අතර නැවට නැඟවා මම සමූහයා ය
වන අතර මට ඉස්සරව එගොඩව බෙත්
සෙයිදාවට පලයල්ලායයි තමන් ගෝල
46 යන්ට අනදුන්සේක. ඔවුන් ඇරියකල
උන්වහන්සේ යාඥාවීම පිනිස කන්දකට ගි
47 යසේක. රෑවූ කල්හි නැව මුහුද මැද්දේ
තිබුණේය. උන්වහන්සේද තනිව ගොඩ
48 සිටිසේක. හුලඟ ඔවුන් ඉදිරිපිටට ගැසු
බැවින් නැව පැදීමෙන් ඉතා වෙහෙසු
නාවූ ඔවුන් දැක රෑ සතරවෙනි යාමය ප
මනේදී ඔවුන් වෙතට මුහුද පිට පයින්
ඇවිදිමින් ඇවිත් ඔවුන් පසුකර යන්ට
49 කැමතිවූසේක. ඔවුන් මුහුද පිට ඇවිදින්
නාවූ උන්වහන්සේ දැක අවතාරයකැයි
සිතා මුරගෑවෝය. මක්නිසාද සියල්ලෝ
50 ම උන්වහන්සේ දැක කැලඹුනෝය. එ
කෙනෙහිම උන්වහන්සේ කථාකොට සිව්
සිතින් සිටපල්ලාය මමය භයනොවෙල්
ලායයි කියා ඔවුන් සිටි නැවට නැඟුනු
51 සේක. එවිට හුලඟ නැවතුණේය. ඔවුන්
තමන් සිතින් අතිසයින්ම අප්‍රමානව පුදු
දුමවූවෝය. ඔවුන්ගේ සිත් මෝඩවූ බැ
52 වින් රොටිවල ආශ්චර්‍ය්‍යය සිහිනොකලෝ
53 ය. ඉන්පසු ඔවුන් එගොඩව ගෙනස
54 රෙත් රටට පැමින ඉවුරෙහි සිටියෝය. ඔ
වුන් නැවෙන් බැස්ස කෙනෙහිම සමූ
හයෝ උන්වහන්සේ හැඳින එහි වටකර
55 රට මුළුල්ලෙහි දිව ගොස් උන්වහන්සේ
සිටින බව ඇසූ ඇසූ තැන්වලට රෝගාතු
රයන් යහන් පිටින් උසුලා ගෙනාවෝය.
56 උන්වහන්සේ යම් කිසි නුවරකටවත්
ගමකටවත් ජනපදයකටවත් ඇතුල්වූ
සේක්ද එතැන්හි රෝගාතුරයන් මාර්ගය
වල තබා ඔවුන් උන්වහන්සේගේ වස්ත්‍ර
යෙහි කොනක පමනවත් තැවරෙන්ට
උන්වහන්සේගෙන් ඉල්ලුවෝය. තැවරු
න සියල්ලෝම සුවවූවෝය.

7. පරිච්ඡේ. තවද යෙරුසලමෙන් ආ
වාවූ ඵරිසිවරුද ලියනනන්ගෙන් සමහ
රෙක්ද උන්වහන්සේ වෙතට රැස්වූවෝ
2 ය. එවිට උන්වහන්සේගේ ගෝලයන්
ගෙන් සමහරෙක් අපවිත්‍රවූ ඒනම් සෝ
දා නොගත් අත්වලින් කන බව දැක ඔ
3 වුන්ට දොස තැබූවෝය. මක්නිසාද ඵරි
සිවරුත් සියලු යුදෙව්වරුත් වැඩිමහල්
ලන්ගේ නියෝගවල් පවත්වමින් හො
4 දකාර අත් නොසෝදා නොකති. තවද
කඩේ ගොසින් ඇවිත් නොසෝදා නො
කති. ඔවුන් විසින් පවත්වන්ට පිලිගන්
නාලද අනිකුත් බොහෝ කාරණ ඇත්
තේය එනම් කුසලාන් කලගෙඩි පිත්ත
5 ල භාජන ඇඳන් සේදීම යන මේය. එවි
ට ඵරිසිවරුද ලියනනෝද ඔබවහන්සේ
ගේ ගෝලයෝ වැඩිමහල්ලන්ගේ සිරිත්
නොසලකා අත් නොසෝදා කෑම කන්
නේ මක්නිසාදැයි උන්වහන්සේගෙන් ඇ
6 සූවෝය. උන්වහන්සේද උත්තර දෙමින්
මේ සෙනග කටින් මට ගෞරව කරති
නුමුත් ඔවුන්ගේ හෘදය මාගෙන් දුරය
7 ඔවුන් මනුෂ්‍යයන්ගේ ආඥාවල් සිකෂා
වත් කොට උගන්වමින් නිෂ්ප්‍රයෝජනව
මට නමස්කාර කරතියි ලියා තිබෙන
ලෙස වංචාකාරවූ නුබලා ගැන යෙසායි
8 යා කී අනාගත වචනය සැබෑය. මක්නි
සාද නුබලා දෙවියන්වහන්සේගේ ආඥා
අහක දමා කලගෙඩි කුසලාන් සේදීම
ආදිවූ මනුෂ්‍යයන්ගේ නියෝගවල් පවත්
වති. මෙබඳුවූ අනිත් බොහෝ කාරණ
9 යන්ද නුබලා කරතියි කීසේක. තවද උ
න්වහන්සේ ඔවුන්ට කියනසේක් නුබලා
ගේ නියෝග පවත්වන්ට නුබලා දෙවි
යන්වහන්සේගේ අන සහමුලින්ම අව
10 ලංගු කරති. මක්නිසාද තාගේ පියාටද
මව්ටද ගෞරව කරව පියාටවත් මව්ට
වත් දෙස් කියනනා මරන්ට යුතුයයි මෝ
11 සෙස් කියේය. නුමුත් යම් මනුෂ්‍යයෙක්
පියාටවත් මව්ටවත් නුබට මාගෙන් ප්‍ර
යෝජන වියයුතුවූ යමක් ඇද්ද ඒක
12 කොර්බාන් ඒනම් පඬුරකැයි කීවොත්
නුබලා ඒ යහපතැයි කියා එතැන් පටන්
ඔහුගේ පියාටවත් මව්ටවත් කිසිවක් ක
රන්නට ඔහුට අවසර නොදී නුබලා වි
13 සින් පිහිටුවනලද නියෝගවලින් දෙවි
යන්වහන්සේගේ වචනය අවලංගුකො
ට එබඳුවූ බොහෝ කාරණයන් කරති
යි කීසේක.

14 එවිට සියලු සමූහය තමන් ලඟට කැ
දවා නුබලා සෑම දෙන මාගේ වචන අ
15 සා තේරුම් ගනිල්ලාය. පිටතින් මනුෂ්‍ය
යාට ඇතුල්ව ඔහු කිලුටුකරන්ට පුළුවන්
වූ කිසි දෙයක් නැත. එහෙත් ඔහුගෙන්
පිටත්වෙන දේම ඔහු කිලුටුකරනෙන්ය.
ඇසීමට කන් යමෙකුට ඇද්ද ඔහු අසා
16 වයි කීසේක. උන්වහන්සේ සමූහයා
17 ගෙන් අහක්ව ගෙට ගියකල තමන්
ගෝලයෝ ඒ උපමාව ගැන උන්වහන්
18 සේගෙන් ඇසූවෝය. එවිට උන්වහන්
සේ ඔවුන්ට කියනසේක් නුබලාත් එ
සේම නුවන නැත්තෝද? පිටතින් මනු
ෂ්‍යයා තුලට පැමිනෙන කිසි දේකින් ඔ
හු කිලුටුකල නොහැකි බව දන්නේ නැ
19 ද්ද? කෑම ඔහුගේ හිතට නොව බඩට ඇ
තුල්වනෙන්ය. එහි තිබෙන සියලු අපවි
20 ත්‍රය වැසිකිලියට යනෙන්ය. නුමුත් මනු
ෂ්‍යයන්ගෙන් පිටත්වෙන දෙයින් ඔහු
21 කිලුටුවනෙන්ය. මක්නිසාද ඇතුලතින්
22 එනම් මනුෂ්‍යයන්ගේ හෘදයෙන් නපුරු
සිතිවිලි පරදාරකම් වෙශ්‍යාකම් මිනිමැ
රීම් සොරකම් ලෝභකම් දුෂ්ටකම් වංචා
23 කම් කාමතෘෂ්ණා ඊර්ෂ්‍යාවෙන් බැලීම් අප
හාසකිරීම් අහංකාරකම් මෝඩකම් යන
මේ සියලු නපුරු දේ පිටත්වී මනුෂ්‍යයා
කිලුටුකරතියි කීසේක.
24 උන්වහන්සේ එතනින් පිටත්ව තීර්
සහ සිදොන්හි සීමාවලට ගොස් ගෙය
කට ඇතුල්ව කාටවත් නොදැනෙන ලෙ
ස සිටින්ට කැමතිවූසේක. නුමුත් එසේ
25 සිටින්ට පුළුවන්වූනේ නැත. මක්නිසා
ද අසුද්ධාත්මාවේසවූ කුඩා දුවක් ඇති සී
රොපිනීසියේ උපන් හෙල්ලීන ස්ත්‍රියක්
26 උන්වහන්සේ එහි සිටින බව අසා ඇවිත්
උන්වහන්සේගේ පාමුල වැටී ඇගේ දුව
ගෙන් යක්ෂයා දුරුකරන්ට උන්වහන්
27 සේගෙන් ඉල්ලුවාය. එවිට යේසුස්වහන්
සේ පලමුකොට දරුවන්ට සෑහෙන ප
මන කෑම දෙන්ට යුතුය. දරුවන්ගේ
කෑම ගෙන බල්ලන්ට දමන්ට යුතු නැ
28 තැයි ඇට කීසේක. ඈ උත්තර දෙමින්
එසේය ස්වාමිනි නුමුත් මේසේ යට සිටි
න බල්ලෝ දරුවන්ගේ කෑමෙන් වැ
ටෙන කෑබලි කතියි උන්වහන්සේට කී
29 වාය. එවිට උන්වහන්සේ උත්තර දෙමින්
මේ වචනය නිසා යුවසේ පලයන්න ය
ක්ෂයා නුබේ දුවගෙන් පිටත්ව ගියේයයි
30 ඇට කීසේක. ඈ ගෙදරට ගියකල යක්

ෂයා පිටත්ව ගිය බවද දුව ඇදේ සැත
පෙන බවද දුටුවාය.
31 නැවතත් උන්වහන්සේ තීර් සහ සී
දොන්හි සීමාවලින් පිටත්ව දෙකපොලි
සෙහි රට මැදින් ගලීලයෙහි මුහුද ලඟ
32 ට පැමුණුනුසේක. එවිට විස්කල් බිහි
රෙක් උන්වහන්සේ වෙතට ගෙනවුත්
ඔහු පිට අත තබන්ට උන්වහන්සේගෙන්
33 ඉල්ළුවෝය. එවිට උන්වහන්සේ සමූහ
යා කෙරෙන් අහකට ඔහු කැඳවාගෙන
34 ඔහුගේ කණවල ඇඟිලි එලා කෙලගසා
ඔහුගේ දිව අතගා ස්වර්ගය දෙස බලා
සුසුම්ලමින් එප්ඵාතා ඒනම් ඇරෙන්නයි
35 ඔහුට කීසේක. එවලේම ඔහුගේ කන්
ඇරී ඔහුගේ දිවේ බැඳුම් මිදී ඔහු හොඳ
36 ලෙස කථාකලේය. ඒ බව කාටවත්
නොකියන්ට ඔවුන්ට අනදුන්සේක. එ
හෙත් ඔවුන්ට යම් පමන ආඥාකලසේක්
37 ද එයට වඩා ඔවුන් ප්‍රසිඞකොට උන්වහන්
සේ සියල්ල යහපත් ලෙස කලසේක බිහි
රන්ට අසන්නසේක ගොළුවන් කථාකර
වන සේකැයි කියා ප්‍රමානයක් නැතුව
පුදුමවූනෝය.

8. පරිචෙජ. ඒ දවස්වලදී සමූහයෝ
බොහෝවූ බැවිනුද ඔවුන්ට කනනට කි
සිවක් නැති බැවිනුද යේසුස්වහන්සේ ත
2 මන් ගෝලයන් කැඳවා සමූහයා කෙ
රෙහි අනුකම්පා ඇතෙනම් මක්නිසාද
දැනට ඔවුන් තුන් දවසක සිට මා ලඟ ප්‍ර
මාදව සිටිති ඔවුන්ට කන්ට කිසිවක් නැ
3 තෝය. ඔවුන් තමන්ගේ ගෙවලට නි
රාහාරයෙන් හැරියෙම්නම් ඔවුන්ගෙන්
සමහරෙක් දුර සිට ආ නිසා ඔවුන් මාර්ග
4 යේදී කලාන්තවෙනවා ඇතැයි කීසේ
ක. උන්වහන්සේගේ ගෝලයෝ උත්
තර දෙමින් මේ වනාන්තරයේදී සෑහෙ
න පමන කෑම මොවුන්ට දෙන්ට පුළු
වන් කොහොමදැයි උන්වහන්සේට කි
5 වෝය. එකල උන්වහන්සේ නුබලාට
කොපමන රොටි ඇද්දැයි ඔවුන්ගෙන්
6 ඇසූසේක. ඔවුහු සතකැයි කීවෝය. එ
විට උන්වහන්සේ සමූහයාට බිම ඉනනට
අනදී රොටී සත ගෙන ස්තුතිකොට ක
ඩා ඔවුන් ඉදිරියේ තබන්ට තමන් ගෝ
ලයන්ට දුන්සේක. ඔවුහු සමූහයා ඉදි
7 රියේ තැබූවෝය. ඔවුන්ට කුඩා මසුන්
ස්වල්පයක්ද තිබුනේය. උන්වහන්සේ
ස්තුතිකොට ඒවාත් ඔවුන් ඉදිරියේ ත
8 බන්ට අනදුන්සේක. ඔවුන් කාලා තෘප්
තියට පැමුනුනෝය. ඉතිරිවූ කෑබලිව
9 ලින් පෙට්ටි සතක් පුරවාගත්තෝය. කෑ
10 වාවූ අයවල් හාරදහසක් පමන ඇත. උ
න්වහන්සේද ඔවුන් යවූසේක. එකෙනෙහි
ම උන්වහන්සේ තමන් ගෝලයන් සමග
නැවට නැගී දල්මනූතයේ රටවල්වලට
11 පැමුනුනසේක. එකල ඵරිසිවරු ඇවිත්
ස්වර්ගයෙන් ලකුනක් උන්වහන්සේ
ගෙන් සොයා උන්වහන්සේ පරීක්ෂාකර
12 මින් ප්‍රශ්ණ අහන්ට පටන්ගත්තෝය. එ
වීට උන්වහන්සේ තමන් සිතින් බලවත්
ලෙස සුසුම්ලා මේ මනුෂ්‍ය වර්ගයා ලකු
නක් සොයනෙත් මක්නිසාද? සැබවක්
නුබලාට කියමි ඔවුන්ට ලකුනක් දෙනු
13 නොලැබේයයි කියා ඔවුන්ගෙන් අහක්
ව දෙවනු නැවට නැගී එගොඩට ගිය
සේක.
14 ගෝලයෝ රොටි ගෙනියන්ට මතක
නැති කලෝය. නැවේදී ඔවුන්ට එක
15 රොටියකට වඩා තිබුනේ නැත. උන්ව
හන්සේ ඵරිසිවරුන්ගේ මුහුන්වලිනුත්
හෙරොද්ගේ මුහුන්වලිනුත් ප්‍රවේසම්
වෙන්ට බලාගනිල්ලායයි ඔවුන්ට අන
දුන්සේක. එවිට ඔවුන් අපට රොටී නැ
16 ති නිසායයි ඔවුනොවුන් කථාකරගත්
17 තෝය. යේසුස්වහන්සේ ඒ දැන නුබලා
අතරේ රොටි නැතැයි කථාකරගනෙත්
මක්නිසාද තවම නුබලා දැනගනෙත් නැ
ද්ද තේරුම්ගනෙත් නැද්ද? මේ වෙන
තුරු නුබලාගේ හිත් ජඩව තිබේද?
18 ඇස් ඇතිකොට නුබලාට පෙනෙනෙත්
නැද්ද? කන් ඇතිකොට නුබලාට ඇ
සෙනෙත් නැද්ද? නුබලාට මතක නැද්
19 ද? මම රොටි පහ පන්දහසකට බෙදූවි
ට ඉතිරිවූ කෑබලිවලින් පෙට්ටි කීයක්
පුරවාගත්තෝදැයි ඇසූසේක. දොලසකැ
20 යි උන්වහන්සේට කීවෝය. මම රො
ටි සත හාරදහසකට බෙදූවිට ඉතිරිවූ කෑ
බලිවලින් පිරූ පෙට්ටි කීයක් රැස්කර
21 ගත්තෝදැයි ඇසූසේක. සතකැයි කීවෝ
ය. එවිට නුබලා කොසේ තේරුම් නො
ගත්තෝදැයි ඔවුන්ගෙන් ඇසූසේක.
22 ඉන්පසු උන්වහන්සේ බෙත්සෙදව
ට පැමිනිසේක. උන්වහන්සේ වෙතට
අන්ධයෙකු ගෙනවුත් ඔහු පිට අත තබන්
23 ට උන්වහන්සේගෙන් ඉල්ළුවෝය. උ
න්වහන්සේ අන්ධයාගේ අත අල්වා ඔහු
නුවරින් පිටතට ගෙනගොස් ඔහුගේ

ඇස්වලට කෙළගසා ඔහු පිට අත් තබා
කිසිවක් පෙනේදැයි ඔහුගෙන් ඇසූසේ
24 ක. ඔහු ඇස් ඔසවා බලා ඇවිදින මිනි
25 සුන් ගස් වාගේ දක්නෙමියි කීය. උන්ව
හන්සේ ඔහුගේ ඇස් පිට නැවත අත් ත
බා ඔහු ලවා බැලෙව්වේක. එවිට ඔහුට
26 සුවව සියල්ල හොඳට පෙනුනේය. උන්ව
හන්සේ නුවරට නොයනනා නුවර කාට
වත් මේ බව නොකියනනැයි කියා ඔහු
ගේ ගෙට ඔහු යැවූසේක.
27 යේසුස්වහන්සේ තමන් ගෝලයන් ස
මග පිලිප්පිය කෙසාරියෙහි නුවරවලය
නවිට මනුෂ්‍යයෝ මා කවරෙක කියද්දැ
යි තමන් ගෝලයන්ගෙන් මගදී ඇසූසේ
28 ක. ඔවුන් උත්තර දෙමින් යොහන් බව්
තීස්තයයි කියාද සමහරෙක් එලියස්ය
යි කියාද සමහරෙක් අනාගතවක්තෘන්
ගෙන් එක්කෙනෙක කියාද කියතියි කී
29 වෝය. උන්වහන්සේ නුඹලා මා කවරෙ
ක කියනවාදැයි ඔවුන්ගෙන් ඇසූසේක.
පේත්‍රුස් උත්තර දෙමින් ඔබවහන්සේ
30 ක්‍රිස්තුස්මයයි කීයේය. එවිට උන්වහන්
සේ මේ බව කාටවත් නොකියන්ට ඔ
31 වුන්ට අනදුන්සේක. එවිට උන්වහන්සේ
ඔවුන්ට උගන්වන්ට පටන්ගෙන මනුෂ්‍ය
පුත්‍රයාට බොහෝ දුක්විඳිමත් වැඩිමහල්
ලන්ගෙන්ද නායක පූජකයන්ගෙන්ද ලිය
නනන්ගෙන්ද එපාකරනු ලැබීමත් මරණ
ට පැමිනීමත් තුන් දවසකට පසු නැවත
නැගිටීමත් නියම බව කීසේක. උන්ව
හන්සේ ඒ වචන එලිදරව්වෙන් කීසේ
32 ක. එවිට පේත්‍රුස් උන්වහන්සේ කැඳවා
ගෙන උන්වහන්සේට අවවාද කරන්ට
33 පටන්ගත්තේය. එහෙත් උන්වහන්සේ
හැරී තමන් ගෝලයන් දෙස බලා පේ
ත්‍රුස්ට අවවාදකර සාතන් මා පස්සට ය
ව තෝ මිනිසුන්ගේ කාරණ මිස දෙවිය
න්වහන්සේගේ කාරණ නොසිතනෙහ්
යයි කීසේක.
34 එවිට උන්වහන්සේ සමූහයාද තමන්
ගෝලයන්ද ලඟට කැඳවා යමෙක් මා පස්
සේ එන්ට කැමතිනම් ඔහු තමාගේ කැ
මැත්ත අත්හැර තමාගේ කුරුසිය උසු
35 ලාගෙන මා පස්සේ ඒවා. මක්නිසාද ය
මෙක් තමාගේ ප්‍රාණය රක්‍ෂාකරන්ට කැ
මතිවේද ඔහු ඒක නැතිකරගන්නේය.
යමෙක් මා නිසාද සුභාරංචිය නිසාද තමා
ගේ ප්‍රාණය නැතිකරගන්නේද ඔහු ඒක
36 රක්‍ෂාකරගන්නේය. මනුෂ්‍යයෙක් මුළු
ලෝකය ලබාගත්තත් තමාගේ ප්‍රාණය
නැතිකරගන්නේනම් ඔහුට කවර ලාභ
37 යක්ද? නොහොත් මනුෂ්‍යයෙක් තමා
38 ගේ ප්‍රාණය හිලව්වට කුමක් දේද? එ
සේහෙයින් මේ පරදාරිකවූ පව්කාර මනු
ෂ්‍ය වර්ගයා අතරෙන් යමෙක් මා ගැනත්
මාගේ වචන ගැනත් ලැජ්ජාවේද මනු
ෂ්‍ය පුත්‍රයා තමන් පියානන්ගේ තේජ
සින් සුද්ධ දේවදූතයන් සමග එනකල උ
න්වහන්සේද ඒ මනුෂ්‍යයා ගැන ලැජ්ජ
වෙනවා ඇතැයි කීසේක.

9. පරිච්. තවද උන්වහන්සේ සැබ
වක් නුඹලාට කියමි මෙහි සිටිනනන්
ගෙන් සමහරෙක් දෙවියන්වහන්සේගේ
රාජ්‍යය බලය ඇතුව එනවා දකිනතුරු
2 මරණ රසය නොවිඳිතියි කීසේක. සදව
සකට පසු යේසුස්වහන්සේ පේත්‍රුස් යා
කොබ් යොහන් පමනක් කැඳවාගෙන
ඔවුන් සමග විවේක පිනිස උස් කන්දකට
ගොස් ඔවුන් ඉදිරියේ අන් වෙසක් වූසේ
3 ක. උන්වහන්සේගේ වස්ත්‍රය පොලවෙහි
කවර අපුල්ලන්නාකුට්වත් සුදුකරන්ට
බැරි තරම් හිම මෙන් ඉතා සුදුව දීප්ති
4 මත් විය. එවිට මෝසෙස්ද එලියස්ද යේ
සුස්වහන්සේ සමග කථාකරමින් සිටි බ
5 ව ඔවුන්ට පෙනුනේය. පේත්‍රුස් කථා
කොට ආචාරීනි මෙහි සිටීම අපට යහප
තැ. ඔබවහන්සේට එකක්ද මෝසෙස්
ට එකක්ද එලියස්ට එකක්ද බැගින්
පැල් තුනක් සාදමුයයි යේසුස්වහන්සේ
6 ට කීය. ඔවුන් ඉතා භයපත්වූ බැවින් ඔ
හු කියයුතු දේ කුමක්දැයි නොදැන සිටි
7 යේය. එවිට වලාපටලයක් ඇවිත් ඔ
වුන් වසාගත්තේය. මේ මාගේ ප්‍රියපුත්‍ර
යාය මොහුගේ බස් අසව්යයි වලාපටල
8 යෙන් හඬක් නික්මුනේය. ඔවුන් වටපි
ට බැලූ වේලේම තමන් සමග යේසුස්ව
හන්සේ හැර අන් කිසිවෙක් නුදුටුවෝ
9 ය. ඔවුන් කන්දෙන් බසිනකල මනුෂ්‍ය පු
ත්‍රයා මලවුන්ගෙන් නැගිටිනතුරු නුඹ
ලා දුටු දේ කාටවත් නොකියල්ලායයි ඔ
10 වුන්ට අනදුන්සේක. ඔවුන්ද ඒ කීම ත
මන් සිතෙහි තබාගෙන මලවුන්ගෙන්
නැගිටීමනම් කිමෙක්දැයි ඔවුනොවුන්
11 කථාකලෝය. තවද ඔවුන් එලියස්ගේ
ඊම පලමුවෙන් වෙන්ට නියමයයි ලිය
නනෝ කියනෙන් මක්නිසාදැයි උන්ව
12 හන්සේගෙන් ඇසූවෝය. උන්වහන්සේ

උත්තර දෙමින් එලියස් පලමුකොට ඇ
විත් සියල්ල නැවත පිහිටුවනෙන්ය. තව
ද මනුෂ්‍ය පුත්‍රයා ගැන ලියවී තිබෙන
ලෙස ඔහු බොහෝ දුක්ද නින්දාද ලබන්
13 නේයයි ඔවුන්ට කියාදුන්සේක. තවද
උන්වහන්සේ කියනසේක් සැබෑවට එලි
යස් ආයේය. ඔහු ගැන ලියවී තිබෙන
ලෙස මිනිස්සු කැමති කැමති දේ ඔහුට
කලෝයයි තුබලාට කියමියි කීසේක.
14 ඉන්පසු උන්වහන්සේ ගෝලයන් ලඟ
ට පැමින ඔවුන් පිරිවරා බොහෝ සමූහ
යක්ද ඔවුන් සමග විවාදකරනනාවූ ලිය
15 නනාන්ද දුටුසේක. එකෙනෙහිම සියළු ස
මූහයෝ ඉතා පුදුමව දුවගන ඇවිත් උන්
16 වහන්සේට ආචාර කලෝය. උන්වන්සේ
තුබලා ඔවුන් සමග කවර විවාදයක් ක
රණවාදැයි ලියනනාන්ගෙන් ඇසූසේක.
17 එවිට සමූහයා අතරෙන් එකෙක් උත්ත
ර දෙමින් ආචාරිනි ගොළුකරණ ආත්මා
වේසවූ මාගේ පුත්‍රයා ඔබවහන්සේ ලඟ
18 ට ගෙනාවෙමි. ඒ ආත්මයා යම් තැනක
දී ඔහු අල්ලාද එහිදී ඔහු බිම හෙළනෙන්
ය. එවිට ඔහු පෙනදමා දත්මිටිකා දුර්වල
වනෙන්ය. ඒ ආත්මය දුරුකරන්ට ඔබ
වහන්සේගේ ගෝලයන්ට කීමි ඔවුන්ට
19 පුළුවන් නොවියයි කීය. උන්වහන්සේ ඔ
හුට උත්තර දෙමින් අහෝ ඇදහිලි නැ
ති මනුෂ්‍ය වර්‍ගය තුබලා සමග කොච්ච
ර කල් සිටිම්ද? කොච්චර කල් තුබලා
ගැන ඉවසම්ද? ඔහු මා වෙතට ගෙනෙ
20 ල්ලායයි කීසේක. එවිට ඔහු උන්වහන්
සේ වෙතට ගෙනාවෝය උන්වහන්සේ
දුටු විටම ආත්මයා විසින් පීඩාකරණලදු
ව ඔහු බිම වැටී පෙන දමමින් පෙරළු
21 නේය. උන්වහන්සේ මේ පීඩාව මොහුට
පැමින කොපමන කල් විදැයි ඔහුගේ පි
යාගෙන් ඇසූසේක. ඔහු උත්තර දෙමින්
22 ළදරු කාලේ පටන්ය. නොයෙක් වර
ඔහු නසන පිනිස ගිනෙන්ද වතුරේද හෙ
ළීය. අනේ ඔබවහන්සේට කිසිවක් ක
රන්ට පුළුවනනම් අපට අනුකම්පාකො
23 ට පිහිටවුවමැනවැයි කීයේය. යේසුස්ව
හන්සේ තුබට අදහගනනට පුළුවනනම් අ
දහගනනාට සියල්ල පුළුවනැයි කීසේක.
24 එවලේම බාලයාගේ පියා මුර්ගා කඳුළු
හෙළමින් ස්වාමිනි මම අදහමි මාගේ ඇ
දහිලි මදිකමට පිහිටවුවමැනවැයි කීයේ
25 ය. යේසුස්වහන්සේ රෑස්ව එනනාවූ සමූ
හයා දැක අසුද්ධාත්මයට තරවටුකරමින්
ගොළු බිහිරි ආත්මය මොහුගෙන් දුරු
වෙව මතු කවදාවත් මොහුට නොවැ
26 හෙන්ට ආඥාකරමියි කීසේක. එවිට
ආත්මයා මුර්ගා ඔහුට අතිසයින් පීඩාක
රමින් පිටත්ව ගියේය. එවිට බාලයා නැ
සුනාක් මෙන් වුන නිසා ඔහු මලේයයි
27 බොහෝ දෙන කීවෝය. එහෙත් යේසු
ස්වහන්සේ ඔහුගේ අත අල්වා ඔහු නැගි
ටවූසේක. එවිට ඔහු කෙලින් සිටියේය.
28 ඉන්පසු උන්වහන්සේ ගෙට පැමිනිකල
තමන් ගෝලයෝ ඒ ආත්මය දුරුකරන්
ට අපට බැරිවූනේ මක්නිසාදැයි රහසින්
29 උන්වහන්සේගෙන් ඇසූවෝය. එවිට
උන්වහන්සේ යාඥාකිරීමෙන් හා නිරාහා
රව ඉදිමෙන් මිස වෙන ආකාරයකින්
මේ ජාතිය දුරුකරන්ට තුපුළුවනැයි ඔ
වුන්ට කීසේක.
30 ඔවුන් එසින් පිටත්ව ගලීලය මැදින්
ගියෝය. උන්වහන්සේ ඒ බව කිසිවෙක්
31 දැනගනනාවාට නොකමැතිවූසේක. උ
න්වහන්සේ තමන් ගෝලයන්ට උගනව
නාසේක් මනුෂ්‍ය පුත්‍රයා මිනිසුන්ගේ අත්
වලට පාවාදෙනු ලබනෙන්ය. ඔවුන් ඔ
හු මරති මරනු ලැබුවායින් පසු තුන්වෙ
32 නිදා ඔහු නැගිටිනෙන්යයි කීසේක. තු
මුත් ඔවුන්ට ඒ වචනය වැටහුනේ නැ
ත. උන්වහන්සේගෙන් අහන්වද හය
වූවෝය.
33 උන්වහන්සේ කපර්ණාවූමට පැමින
ගෙයි ඉද තුබලා අතරේ මාර්ගයේදි
34 මොන වාදයක් විදැයි ඇසූසේක. තුමුත්
ඔවුන් අතරෙන් කවුරු වඩා උතුම්දැයි
මගදී ඔවුන් වාදකල බැවින් කථානො
35 කර සිටියෝය. එවිට උන්වහන්සේ හිඳ
දෙලොස් දෙන කැඳවා යම් කිසිවෙක්
පලමුවෙනියා වෙන්ට කැමතිනම් ඔහු
සියල්ලන්ට අන්තිමයත් සියල්ලන්ගේ
36 සේවකයාත් වේවයි කියා ළදරුවෙක්
37 ගෙන ඔවුන් මැද සිටුවා ඔහු වඩාගෙ
න යමෙක් මෙබඳු ළදරුවන්ගෙන් එ
කෙක් මාගේ නාමයෙන් පිලිගනීද ඔ
හු මා පිලිගනෙන්ය. යමෙක් මා පිලිගන්
නේද ඔහු මා පමනක් නොව මා එවූ උ
න්වහන්සේ පිලිගනෙන්යයි ඔවුන්ට කී
සේක.
38 එවිට යොහන් උන්වහන්සේට උත්තර
දෙමින් ආචාරිනි අප කැටුව නොඑන්
නාවූ ඔබවහන්සේගේ නාමයෙන් ය
කුන් දුරුකරනනාවූ එකෙක් දුටිමුව

ඔහු අප සැටුව නේන නිසා ඔහු වැළැක්
39 වීමුයයි කිය. එවිට ජේසුස්වහන්සේ කිය
නසේක් ඔහු නොවලක්වල්ලාය මක්නි
ද යමෙක් මාගේ නාමයෙන් ආශ්චය්‍ය්‍ය
යක් කරණවානම් නිකම් මා ගැන අගුන
40 කියන්ට ඔහුට නුපුළුවන. අපට විරුඬ
නොවූ තැනැත්තෝ අපේ පක්‍ෂයට සිටින්
41 නේය. තවද යමෙක් තුබලා ක්‍රිස්තුස්ගේ
ගෝලයෝයයි කියා මාගේ නාමයෙන්
වතුර විකක් බොනනාට දෙනොත්නම්
සැබවක් තුබලාට කියම් ඔහුගේ විපාක
42 ය නැතිවෙනොත් නැත. තුමුත් යමෙක්
මා අදහනනාවූ කුඩාවරුන්ගෙන් එකෙ
කුට බාධාකලොත් ඔහුගේ බෙල්ලේ ඇ
ඹරුම් ගලක් බැඳ මුහුදේ හෙළනු ලැබී
43 නම් ඔහුට යහපත. තුබේ අත තුබට
බාධාකරතොත් ඒක කපාදමාපනහ අත්
දෙක ඇතුව නිරයේ නොනිවෙන ගින්
නට පැමිනෙනවාට වඩා අත් නැතුව ජී
44 වනයට පැමිනීම තුබට යහපත. ඒ නිර
යේදී ඔවුන්ගේ පනුවා නැහිනොත්වත්
45 ගිනි නිවෙනොත්වත් නැත. තුබේ පය
තුබට බාධාකරතොත් ඒක කපාදමාප
නහ දෙපය ඇතුව නිරයේ නොනිවෙන
ගිනනට පැමිනෙනවාට වඩා පා නැ
තුව ජීවනයට පැමිනීම තුබට යහපත.
46 ඒ නිරයේදී ඔවුන්ගේ පනුවා නසිනොත්
47 වත් ගිනි නිවෙනොත්වත් නැත. තුබේ
ඇස නිසා තුබට බාධාවූනොත් ඒක උගු
ලා දමාපනහ ඇස් දෙක ඇතුව නිරය ගි
නොනහි හෙලනු ලැබීමට වඩා එක් ඇ
සක් ඇතුව දෙවියන්වහන්සේගේ රාජ්‍ය
යට ඇතුල්වීම තුබට යහපත. ඒ නිරයේ
48 දී ඔවුන්ගේ පනුවා නසිනොත්වත් ගිනි
49 නිවෙනොත්වත් නැත. මක්නිසාද සියල්
ලෝ ගිනෙනන් එනුලනු ලැබෙත් යාග
50 සියල්ලද එනෙන් එනුලනු ලැබෙත්. එනු
යහපත එහෙත් එනු රස නැතිවීනම් ඒ
වා කුමකින් තුබලා රසකෙරෙද්ද? තුබ
ලා ඇතුලේ එනු ධරාගනිල්ලාය ඔවුනො
වුන් සමගිව සිටපල්ලායයි කීසේක.

10. පරිච්ඡ. උන්වහන්සේ එයින් නැ
ගිට යොදීන් එගොඩවූ රටෙහි ඇවිද යූ
දයෙහි සීමාවලට පැමිනිසේක. සමූහ
යෝද උන්වහන්සේ වෙතට නැවත රැස්
වූවෝය. උන්වහන්සේද ව්‍යවහාරවූ ලෙ
2 ස නැවත ඔවුන්ට ඉගැන්වූසේක. එවිට
ඵරිසිවරු උන්වහන්සේ වෙතට ඇවිත්
උන්වහන්සේ පරීක්‍ෂාකරමින් පුරුෂයෙ
කු විසින් තමාගේ භාය්‍ය්‍යාව හැරිය යුතුද
3 යි ඇසුවෝය. උන්වහන්සේ උත්තර දෙ
මින් මෝසෙස් විසින් තුබලාට දුන් ආඥා
4 ව කිමෙක්දැයි ඇසූසේක. ඔවුනු අත්ඇ
රීම් පත්‍රයක් දී ඈ හරින්ට මෝසෙස් අව
5 සර දුනොත්යයි කීවෝය. ජේසුස්වහන්
සේ උත්තර දෙමින් තුබලාගේ සිත් දැඩි
බැවින් ඔහු මේ අන තුබලාට ලියා දුන්
6 නේය. තුමුත් මැවීමේ මුලදී දෙවියන්ව
හන්සේ එක් පුරුෂයෙකුත් එක් ස්ත්‍රියෙ
7 කුත් මැවූසේක. එබැවින් පුරුෂයෙක්
තමාගේ මව්පියන් හැර තමාගේ භාය්‍ය්‍යා
8 වට ඇළුම්වනොත්ය ඔවුන් දෙදෙනද
එකම ශරීරයක් වෙනවා ඇත. ඒ නිසා
ඔවුන් දෙදෙනෙක් නොව එක ශරීර
9 යක්ම වෙනවා ඇත. එහෙයින් දෙවිය
න්වහන්සේ එකතුකල යමක් මනුෂ්‍යයා
10 වෙන් නොකරේවයි කීසේක. ගෙයිදී
උන්වහන්සේගේ ගෝලයෝ මෙම කාර
ණය ගැන නැවතත් උන්වහන්සේගෙන්
11 ඇසුවෝය. උන්වහන්සේ ඔවුන්ට කියන
සේක් යමෙක් තමාගේ භාය්‍ය්‍යාව අත්හැ
ර වෙන ස්ත්‍රියක් සරණපාවාගනොත්නම්
ඔහු ඈට විරුඬව පරදූර කරනොත්ය.
12 ස්ත්‍රියක් තමාගේ පුරුෂයා අත්හැර වෙ
න පුරුෂයෙකු සරණපාවා ගනීනම් ඈ
ද පරදූර කර්ම්ය කරන්නීයයි කීසේක.
13 උන්වහන්සේගේ අත ළදරුවන් පිට
තබවාගන්නා පිනිස ඔවුන් උන්වහන්සේ
ළඟට ගෙනාවෝය. ගෝලයෝ ඔවුන්
14 ගෙනාවුන්ට සැරකලෝය. ජේසුස්ව
හන්සේ ඒ දැක අප්‍රසන්නව ඔවුන්ට කිය
නසේක් ළදරුවන් නොවලක්වා මා ළ
ඟට එන්ට ඉඩහැරපල්ලාය. මක්නිසාද
දෙවියන්වහන්සේගේ රාජ්‍යය මෙබඳුවූ
15 වන්ගේමය. සැබවක් තුබලාට කියම් ය
මෙක් දෙවියන්වහන්සේගේ රාජ්‍යය ළද
රුවෙකු මෙන් පිළි නොගනීද ඔහු එහි
ඇතුල්නොවනොත්යයි කියා ඔවුන් වඩා
16 ගෙන ඔවුන් පිට අත් තබා ඔවුන්ට ආශී
ර්වාද කලසේක.
17 උන්වහන්සේ පිටත්ව මාර්ගයෙහි යන
කල එක් පුරුෂයෙක් දිව ඇවිත් උන්ව
හන්සේ ඉදිරියේ දනින් හිඳ යහපත් ආ
චාරීන්වහන්ස සදාකාල ජීවනය උරුම
වෙන පිනිස මක් කරම්දැයි උන්වහන්සේ
18 ගෙන් ඇසුයේය. ජේසුස්වහන්සේ උත්
තර දෙමින් මට මක්නිසා යහපතැයි

කියනෙහිද? දෙවියන්වහන්සේ මිස වෙ
19 න කවුරුවත් යහපත් නොවේ. පරදර
නොකරව මිනී නොමරව සොරකම්
නොකරව බොරු සාක්ෂි නොකියව ව
ංචා නොකරව තාගේ පියාටද මව්ටද
ගෞරව කරවයි යන මේ අණවල් නුඹ
20 දනොත්‍යයි කීසේක. එවිට ඔහු ආචාරි
නි මේ සියල්ල මාගේ යෞවන කාලයේ ප
ටන් රක්ෂාකරම්යි උන්වහන්සේට කීයේ
21 ය. එවිට යේසුස්වහන්සේ ඔහු දෙස බ
ලා ඔහු කෙරෙහි ප්‍රේමකොට නුඹට
එක් කාරණයක් අඩුය ගොස් නුඹ සන්
තක සියල්ල විකුන දිලිඳුන්ට දීපනො.
එකල ස්වර්ගයේදී සම්පත් ලබන්නේ
ය. නුඹ ඇවිත් කුරුසිය අරගෙන මා
22 පස්සේ වරෙනැයි ඔහුට කීසේක. ඔ
හුද බොහෝ වස්තුකාරයෙක් බැවින් ඒ
වචනය නිසා කැලඹී ශෝකව ගියේය.
23 එවිට යේසුස්වහන්සේ වටකර බලා
දෙවියන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකා
රයන්ගේ ඇතුල්වීම කොපමන අමාරු
දැයි ගෝලයන්ට කීසේක. ගෝලයෝද
24 උන්වහන්සේගේ වචනයට පුදුම වූනෝ
ය. නුමුත් යේසුස්වහන්සේ නැවතත් ඔ
වුන්ට කියනසේක් දරුවෙනි වස්තුව වි
ශ්වාසකරනනන්ට දෙවියන්වහන්සේගේ
රාජ්‍යයට ඇතුල්වීම කොපමන අමාරුද?
25 දෙවියන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකා
රයෙකුගේ ඇතුල්වීමට වඩා ඉදිකටු සිදු
රෙන් ඔටුවෙකුගේ ගමන පහසුයයි කී
26 සේක. ඔවුහු ඉතා පුදුමව එසේවීනම් ගැ
ලවෙන්ට කාට පුළුවන්දැයි ඔවුනොවුන්
27 කථාකලෝය. යේසුස්වහන්සේ ඔවුන්
දෙස බලා ඒක දෙවියන්වහන්සේට මිස
මනුෂ්‍යයන්ට නුපුළුවන. මක්නිසාද දෙ
වියන්වහන්සේට සියල්ලම පුළුවනැයි කී
සේක.
28 එවිට පේත්‍රුස් අපි සියල්ල අත්හැර ඔ
බවහන්සේ පස්සේ ආවෙමුයයි උන්ව
29 හන්සේට කියන්ට පටන්ගතෙත්‍ය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින් සැබවක්
නුබලාට කියමි. යමෙක් මා නිසාද සුභා
රංචිය නිසාද ගේවත් සහෝදරයන්වත්
සහෝදරීන්වත් පියාවත් මව්වත් භා
ර්‍යාවවත් දරුවන්වත් බිම්වත් අත්හැරි
30 යොත් ඔහු දැන් මේ කාලයේ පීඩා සහි
තව ගෙවල්ද සහෝදරයනුද සහෝදරීනුද
මවුනුද දරුවනුද බිම්ද සියක් ගුනයක් ලැ
බ පරලොවදී සදාකාල ජීවනයද ලබන්
31 නේය. නුමුත් ප්‍රථමයෝ බොහෝ දෙන
අන්තිමයෝද අන්තිමයෝ බොහෝ
දෙන ප්‍රථමයෝද වෙනවා ඇතැයි කී
සේක.
32 ඔවුන් යෙරුසලමට යනකල යේසුස්
වහන්සේ මාර්ගයේදී ඔවුන්ට පෙරටුව
ගියසේක. ඔවුන් විස්මපත්ව භයව උන්
වහන්සේ පස්සේ ගියෝය. යේසුස්වහන්
සේද දොළොස් දෙන නැවත කැඳවා ත
මන්වහන්සේට සිදුවෙන්ට තිබෙන දේ
33 කියනනට පටන්ගෙන දැන් අපි යෙරුස
ලමට යමුව මනුෂ්‍ය පුත්‍රයා නායක පූජක
යන්ටද ලියනනන්ටද පාවාදෙනු ලැ
බෙයි. ඔවුහු ඔහු මරණට නියමකොට
34 අන්‍යජාතීන්ට පාවා දෙනවා ඇත. එවි
ට ඔවුන් ඔහුට නින්දාකොට තලා කෙල
ගසා ඔහු මරණවා ඇත. තුන්වෙනි ද
ඔහු නැගිටිනෙත්‍යයි කීසේක.
35 එවිට සෙබදීගේ පුත්‍රවූ යාකොබ්ද
යොහන්ද උන්වහන්සේ ලඟට ඇවිත් ආචා
රිනි අපි ඉල්ලන දේ අපට කරදුන මැනවැ
36 යි කීවෝය. උන්වහන්සේද මා විසින් නු
බලාට මක් කරණවාට නුබලා කැමතිදැ
37 යි ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන්ද ඔබව
හන්සේගේ තේජසේදී ඔබවහන්සේ
ගේ දකුණු පැත්තෙන් එකෙක්ද ඔබවහන්
සේගේ වම්පැත්තෙන් එකෙක්ද හිඳිනුට අ
38 පට දුනමැනවැයි කීවෝය. යේසුස්වහන්
සේ නුබලා ඉල්ලනෙත් කිමෙක්දැයි නො
දනිති. මම බොන කුසලානෙන් බොන්
වත් මම ලබන බව්තීස්මය ලබන්ටත් නු
බලාට පුළුවන්දැයි ඔවුන්ගෙන් ඇසූසේ
39 ක. ඔවුහු අපට පුළුවනැයි කීවෝය. යේ
සුස්වහන්සේ සැබෑවටම මම බොන කු
සලානෙන් නුබලා බොනවා ඇත මම ල
40 බන බව්තීස්මය ලබනවා ඇත. නුමුත්
මාගේ දකුණු පැත්තේද මාගේ වම් පැත්
තේද හිඳීම නියමකලවුන්ට මිස වෙන අ
41 යවලට දීම මට නුපුළුවනැයි කීසේක.
අනිත් දස දෙන ඒ අසා යාකොබ් සහ
42 යොහන්ට කිපුනෝය. යේසුස්වහන්සේ
ඔවුන් කැඳවා අන්‍යජාතීන්ගේ ප්‍රධාන
යෝ ඔවුන් මැඩපවත්වන බවත් ඔවුන්
ගේ මහතුන් ඔවුන්ට බලය පවත්වන බ
43 වත් නුබලා දනිති. නුමුත් නුබලා අත
රෙහි එසේ නොවේවා. නුබලා අතරේ
යමෙක් උතුම්වෙන්ට කැමතිවේද ඔහු
44 නුබලාගේ උපස්ථායකයා වේවා. නුබලා
අතරෙහි යමෙක් ප්‍රධානවෙන්ට කැමති

වේද ඔහු සියල්ලන්ගේම වැඩකාරයා
45 වේවා. මක්නිසාද මනුෂ්‍ය පුත්‍රයා බො
හෝ දෙනා වෙනුවට මිදීමේ වස්තුවක්
කොට තමන්ගේ ප්‍රාණය දෙන්ටද උප
ස්ථාන ලබන්ට නොව උපස්ථාන කරන්
ටද ආයේයයි කීසේක.
46 ඔවුන් යෙරිකෝවට පැමිණියෝය. උ
න්වහන්සේ තමන් ගෝලයන් සහ බො
හෝ සමූහයා සමග යෙරිකෝවෙන් පිට
ව යනකල තිමේයුස්ගේ පුත්‍රවූ බර්තී
මේයුස්නම් අන්ධයා සිඟමින් මග අසල හු
47 න්නෝය. ඔහුද නාසරත් යේසුස්වහන්
සේ යන බව අසා දාවිත්ගේ පුත්‍රවූ යේසු
ස්වහන්ස මට අනුකම්පා කලමැනවයි
48 කියා හඬගසන්ට පටන්ගත්තේය. එවිට
බොහෝ දෙන මුරනොගසවයි කියා ඔ
හුට සැරකලෝය. එසේ නුමුත් ඔහු දා
විත්ගේ පුත්‍රය මට අනුකම්පා කලමැන
49 වැයි කියා වඩ වඩා හඬගැසුයේය. යේ
සුස්වහන්සේ නැවතී සිට ඔහු කැඳවන්ට
අනදුන්සේක. ඔවුහු අන්ධයාට හඬගසා
භය නොවී නැගී සිටපන්න උන්වහන්සේ
50 නුඹ කැඳවනසේකැයි කීවෝය. ඔහු ත
මාගේ පොරවනා රෙද්ද ඉවත දමා නැ
51 ගිට යේසුස්වහන්සේ ලඟට ගියේය. යේ
සුස්වහන්සේ මා විසින් නුඹට මක්කරණ
වාට කැමතිදැයි ඔහුගෙන් ඇසූසේක. අ
න්ධයාද ආචාරිනි මම පෙනීම ලබන්ට කැ
52 මැත්තෙමියි උන්වහන්සේට කීය. එවිට
යේසුස්වහන්සේ පලයන්න නුඹේ ඇදහී
ම නුඹ සුවකලායයි ඔහුට කීසේක. එව
ලේම ඔහු පෙනීම ලැබ මාර්ගයෙහි යේ
සුස්වහන්සේ පස්සේ ගියේය.

11. පරිච්ඡේ. ඔවුන් යෙරූසලම ලඟ
ඔලීව කන්දට නුදුරුවූ බෙත්ඵාගයටද බෙ
තානියටද පැමිණිකල උන්වහන්සේ ත
මන් ගෝලයන්ගෙන් දෙදෙනෙක් ය
2 වමින් නුඹලා ඉදිරිපිට තිබෙන ගමට ප
ලයල්ලාය. එහි ඇතුල්වූකල කවදාවත්
මනුෂ්‍යයෙක් නොනැගුනු කොටළු පැ
වියෙක් බැඳලා සිටිනවා සම්භවෙනවා
3 ඇත. ඌ ලිහා ගෙනෙල්ලාය. මේක ක
රනන් මක්නිසාදැයි නුඹලාගෙන් ය
මෙක් ඇසුවොත් ස්වාමින්වහන්සේට උ
ගෙන් වැඩ ඇතැයි කියාපල්ලාය. එවිට
ඔහු එවලේම ඌ මෙහි එවනෙත්යයි කී
4 සේක. ඔවුහු ගොස් දොර ලඟ පිටත දෙ
මන් සන්ධියක බැඳලා සිටින කොටළු
5 පැටියෙක් දුටුවෝය. ඔවුන් ඌ ලිහන
අතර එහි සිටියන්ගෙන් සමහරෙක්
කොටළු පැටියා ලිහනෙන් කුමටදැයි ඔ
6 වුන්ගෙන් ඇසූවෝය. ඔවුන්ද යේසුස්ව
හන්සේ අඥාකල ලෙස කීවෝය. එවිට
7 ඔවුන් යන්ට හැරියෝය. ඔවුහු කොට
ළු පැටියා යේසුස්වහන්සේ ලඟට ගෙනැ
වින් තමන්ගේ වස්ත්‍ර ඌ පිට අතුලෝය.
උන්වහන්සේද ඌ පිට නැගී උන්සේක.
8 එවිට බොහෝ දෙන තමන්ගේ වස්ත්‍ර ම
ග අතුලෝය සමහරෙක් ගස්වලින් අතු
9 කඩා මග අතුලෝය. පෙර පසු යනෙනෝ
හෝසන්නාය කියාත් ස්වාමින්වහන්සේ
ගේ නාමයෙන් එනනාවූ තැනැත්තාට
10 ආශීර්වාද වේවයි කියාත් ස්වාමින්වහන්
සේගේ නාමයෙන් පැමිණෙනනාවූ අප
ගේ පියවූ දාවිත්ගේ රාජ්‍යයට ආශීර්වාද
වේවයි කියාත් උස් තැන්වල හෝසන්නා
11 යයි කියාත් හඬගැසුවෝය. යේසුස්ව
හන්සේ යෙරූසලමට පැමින දේවමාලි
ගාවට ඇතුල්ව වටකර සියල්ල බැලූසේ
ක. සවස්වූ බැවින් දොලොස් දෙනා ස
මග බෙතානියට පිටත්ව ගියසේක.
12 පසුව දා ඔවුන් බෙතානියෙන් යනක
13 ල උන්වහන්සේට බඩගිනි විය. කොල ඇ
ති දිඹුල් ගහක් දුරින්ම දැක ඵල නෙල
න කාලය නොපැමිනි බැවින් එයින් කි
සිවක් ලබනා අදහසින් ලඟට ගොස්
කොල මිස වෙන දෙයක් නොලත්සේ
14 ක. එවිට යේසුස්වහන්සේ කියනසේක්
මෙතැන් පටන් කිසි කලෙකත් තා
ගෙන් කිසිවෙක් ඵල නොකාවයි කීසේ
ක. ඒ බව උන්වහන්සේගේ ගෝලයෝ
අසාගෙන සිටියෝය.
15 ඔවුන් යෙරූසලමට ආවෝය. උන්ව
හන්සේද දේවමාලිගාවට ඇතුල්ව එහි
ගනුදෙනු කරනනාවුන් බැහැරකරන්ට
පටන්ගෙන මිල මාරුකරනනාන්ගේ මේ
සද පරෙවියන් විකුනනනාවුන්ගේ ආස
16 නද පෙරලාදමා දේව මාලිගාව මැදින්
කිසි භාජනයක් ගෙනියන්ට කාටවත්
17 නොදී මාගේ ගෙය සියළු ජාතීන් යාඥා
කරණ ගෙයකැයි කියනු ලැබේයයි ලි
යනලද්ද නොවේද? නුමුත් නුඹලා ඒ
ක සොරුන්ගේ ගුහාවක් කලෝයයි ඔ
18 වුන්ට කියමින් ඉගැන්වූසේක. ලියන්
නෝද නායක පූජකයෝද ඒ අසා උන්
වහන්සේ මරනනට උපායක් සෙව්වෝ
ය. නුමුත් උන්වහන්සේගේ ඉගැන්වීමට

සියළු දෙන පුදුමව සිටි බැවින් ඔවුන් උ
න්වහන්සේ කෙරෙහි භයවූවෝය. සවස්
19 වූ කල උන්වහන්සේ නුවරින් පිටත්ව ගි
යසේක.
20 ඔවුන් උදය මග යනකල දිඹුල් ගහ
මුල පටන් වේලී තිබුන බව දුටුවෝය.
21 එවිට පේතෘස් සිහිකොට ආචාරිනි ඔබව
හන්සේ විසින් සාපකල දිඹුල් ගහ වේලී
22 තිබෙනෙත්යයි කීයේය යේසුස්වහන්
සේ උත්තර දෙමින් දෙවියන්වහන්සේ
කෙරෙහි ඇදහිලි ඇතුව සිටපල්ලාය.
23 සැබවක් නුබලාට කියම් යමෙක් මේ ක
න්දට ඉගිලී මූදේ වැටේවයි කියා තමන්
සිතින් සැක නොකොට තමන් කියන
දේ සිදුවෙන බව ඇදහිලි කෙරේනම් ඔ
හු විසින් කියන යමක් ඇද්ද ඒක ඔහුට
24 සිදුවනෙත්ය. එබැවින් නුබලාට කියම්
නුබලා යාඥකොට යමක් යමක් ඉල්ව
නවානම් ඒ ඒ දේ ලබමුයයි අදහපල්ලා
25 ය එවිට නුබලාට ලැබෙයි. නුබලා යාඥ
කරමින් සිටින කල ස්වර්ගයෙහි වසන
නුබලාගේ පියානන්වහන්සේ නුබලා
ගේ වරදවල් නුබලාට ක්ෂමාකරණ පිනි
ස යමෙක් නුබලාට කරපු වරදක් ඇත්
නම් නුබලාත් ඔහුට ක්ෂමාවෙයල්ලාය.
26 නුබලා ක්ෂමා නුනොත් ස්වර්ගයෙහි වස
න නුබලාගේ පියානන්වහන්සේ නුබලා
ගේ වරදවල් නුබලාටත් ක්ෂමාවෙන්
නේ නැතැයි කීසේක.
27 ඔවුන් යෙරුසලමට නැවත ගියෝය.
උන්වහන්සේ දේවමාලිගාවෙහි ඇවිදි
න කල නායක පූජකයෝද ලියනෙනෝ
ද වැඩිමහල්ලෝද උන්වහන්සේ වෙතට
28 ඇවිත් කවර බලයකින් මේ දේ කරණ
වාද? මේ දේ කරන්ට මේ බලය නුබට
දුනෙත් කවුදැයි උන්වහන්සේගෙන් ඇසූ
29 වෝය. යේසුස්වහන්සේ උත්තර දෙමින්
මමද එක් වචනයක් නුබලාගෙන් අසම්
මට උත්තර දෙනවානම් මමත් අසවල් බ
ලයෙන් මේ දේ කරම්යි නුබලාට කියම්.
30 යොහන්ගේ බව්තීස්මය වූයේ ස්වර්ග
යෙන්ද නොහොත් මනුෂ්‍යයන්ගෙන්දැයි
31 මට කියාපල්ලායයි ඔවුන්ට කීසේක. එ
විට ඔවුන් තමන් අතරේ කථාකොට දෙ
වියන්වහන්සේගෙනැයි කීවුනම් ඔහු අද
32 හනොගත්තෙත් මන්දැයි කියනවා ඇත. ම
නුෂ්‍යයන්ගෙනැයි කීවුනම් යොහන් සැ
බැවටම අනාගතවක්තෘ කෙනෙකැයි
සියල්ලෝම සිතන නිසා සමූහයාට භය
33 වෙමුයයි කීවෝය. එහෙයින් අපි දන්
නේ නැත කියා යේසුස්වහන්සේට උත්
තර දුනෝය. එවිට යේසුස්වහන්සේ
උත්තර දෙමින් මමත් අසවල් බලයෙන්
මේ දේ කරම්යි කියා නොකියම්යි ඔවුන්
ට කීසේක.

12. පරිච්ඡේ. උන්වහන්සේ උපමාව
ලින් ඔවුන්ට කියන්ට පටන්ගෙන එක්
පුරුෂයෙක් මිදි වත්තක් වවා වට්ට වැ
ට බැඳ මිදි එල මිරිකීමට වළක් හාර
කොටුවක් බැඳ මිදිවත්ත ගොයින්ට බදු
2 දී දුරු රටකට ගියේය. එල අවස්ථාව පැ
මිනිකල මිදි වත්තෙහි එලවලින් පංගුව
ලබන පිනිස ගොවියන් වෙතට වැඩකා
3 රයෙක් යවීය. ඔවුන් ඔහු අල්ලා තලා
4 සිස් අතින් ඇරියෝය. නැවතත් ඔහු වෙ
න වැඩකාරයෙක් ඔවුන් වෙතට යවීය.
ඔවුන් ඔහුටද ගල් ගසා ඔළුව පලා නින්
5 දකොට ඇරියෝය. නැවතත් ඔහු අනි
කෙක් යවීය ඔවුන් ඔහුද මැරුවෝය.
තවද බොහෝ දෙනාගෙන් සමහරෙකු
ට තැළුවෝය සමහරෙක් මැරුවෝය.
6 ඔහුගේ ප්‍රියවූ එකම පුත්‍රයෙක් සිටියේ
ය. ඔවුන් මාගේ පුත්‍රයාට ගෞරවකරති
කියා අන්තිමේදී ඔහුද ඔවුන් වෙතට ය
7 වීය. නුමුත් ඒ ගොවියෝ මොහු උරු
මක්කාරයාය වරෙල්ලාය මොහු මරමු
8 ව එවිට උරුමය අපට වේයැයි කථාකර
ගෙන ඔහු අල්ලා මරා මිදිවත්තෙන් පිට
9 ත දැමූවෝය. එසේනම් මිදිවත්තේ ස්වා
මියා කුමක් කරනෙන්ද? ඔහු ඇවිත් ඒ
ගොවීන් නසා මිදිවත්ත අනුන්ට දෙන්
10 නේය. ගේ සාදනනන් විසින් එපාකල
ගල කොනේ ප්‍රධාන ගලම වූනේය ඒක
11 ස්වාමින්වහන්සේගේ ක්‍රියාවය ඒක අප
ගේ ඇස්වලට පුදුමයකැයි ලියා තිබෙන
12 බව නුබලා නොකියවූදැයි කීසේක. උ
න්වහන්සේ මේ උපමාව තමන්ට විරුද්ධ
ව කී බව ඔවුන් දැනගෙන උන්වහන්සේ
අල්ලන්ට සෙව්වෝය. නුමුත් සමූහයාට
භයව උන්වහන්සේ අත්ඇර ගියෝය.
13 උන්වහන්සේගේ වචනයෙන් උන්ව
හන්සේ අසුකරගන්නා පිනිස ඵරිසිව
රුන්ගෙන්ද හෙරොදිවරුන්ගෙන්ද සම
හරෙක් උන්වහන්සේ වෙතට යැව්වෝ
14 ය. ඔවුන් ගොස් ආචාරිනි ඔබහන්සේ
සැබෑවූ කෙනෙක් බවත් කාටවත් භය
නොවෙන බවත් මිනිසුන්ගේ තරම්

නොබලා දෙවියන්වහන්සේගේ මාර්ග
ය සැබෑ ලෙස උගන්වන බවත් දනිමුව.
එහෙයින් කායිසර්ට අඳයම් දෙන්ට යු
තුද අයුතුද දෙමුද නොදෙමුදැයි උන්ව
15 හන්සේගෙන් ඇසුවෝය. එවිට උන්ව
හන්සේ ඔවුන්ගේ වංචාව දැන තුබලා මා
පරීක්ෂාකරනෙත් මක්නිසාද බලනපිනි
සංමිලයක් ගෙනෙල්ලායයි කීසේක. ඔ
16 වුහු ගෙනාවෝය. එවිට උන්වහන්සේ
මෙකී කොටනලද රූපයත් නමත් කා
ගේදැයි ඇසූසේක. ඔවුහු කායිසර්ගේය
17 යි කීවෝය. එවිට යේසුස්වහන්සේ කා
යිසර්ගේ දේ කායිසර්ටත් දෙවියන්වහන්
සේගේ දේ දෙවියන්වහන්සේටත් දීපල්
ලායයි උත්තර දුන්සේක. ඔවුහු උන්ව
හන්සේ කෙරෙහි විස්මපත් වූවෝය.
18 මලවුන්ගේ නැගිටීමක් නැතැයි කි
19 යනනාවූ සද්දුසිවරු උන්වහන්සේ වෙ
තට ඇවිත් ආචාරිනි යමෙකුගේ සහෝ
දරයෙක් දරුවන් නොලැබ තමාගේ
භාර්යාව සිටිද්දී මළේනම් ඔහුගේ ස
හෝදරයා විසින් ඒ භාර්යාව සරණ පා
වාගෙන තමාගේ මලාවූ සහෝදරයා
වෙනුවට දරුවෙක් උපදවිය යුතුය කි
යා මෝසෙස් විසින් ලියා තිබෙනෙත්ය.
20 සහෝදරයෝ සත්දෙනෙක් සිටියෝය.
පලමුවෙනියා භාර්යාවක් සරණ පාවා
21 ගෙන දරුවන් නොලැබ මැරුනේය.
දෙවෙනියාත් ඈ සරණ පාවාගෙන දරු
22 වන් නොලැබ මැරුනේය. තුන්වෙනි
යාත් එසේමය. සත් දෙනාම ඈ සරණ
පාවාගෙන දරුවන් නොලැබ මැරු
23 නෝය. සියල්ලන්ටම පසු ඒ ස්ත්‍රීත් මලා
ය. එහෙයින් මලවුන්ගේ නැගිටීමෙකි
දී ඔවුන් නැගිටිනකල සත් දෙනාම ඈ
සරණ පාවාගත් බැවින් ඈ කාගේ භා
24 ර්යාව වන්නීදැයි ඇසුවෝය. යේසුස්ව
හන්සේ උත්තර දෙමින් තුබලා සුබ ලිය
විලිද දෙවියන්වහන්සේගේ ආනුභාව
ද නොදැන මුලාවෙනවා නොවෙද්ද?
25 මක්නිසාද මලවුන්ගෙන් නැගිටිනකල
ඔවුන් සරණ පාවානොගනිති සරණ පා
වා නොදෙති. ස්වර්ගයේ දේවදූතයන්
26 මෙන් වෙති. තවද මලවුන් නැගිටීම ගැ
න ආබ්‍රහම්ගේ දෙවියන්වහන්සේත් ඊ
සාක්ගේ දෙවියන්වහන්සේත් යාකොබ්
ගේ දෙවියන්වහන්සේත් මමයයි දෙවිය
න්වහන්සේ මෝසෙස්ට පඳුරේදී කී බ
ව මෝසෙස්ගේ පොතෙන් කියෙව්වේ
27 නැද්ද? උන්වහන්සේ ජීවත්වෙනනාවුන්
ගේ මිස මලවුන්ගේ දෙවියන්වහන්සේ
නොවේය. එහෙයින් තුබලා බොහෝ
කොට මුලාවෙතියි කීසේක.
28 එවිට ලියනනන්ගෙන් එකෙක් ඇ
විත් ඔවුන්ගේ කථාව අසා උන්වහන්සේ
ඔවුන්ට හොඳට උත්තර දුන් බව දැන සි
යළු ආඥාවලින් කවර ආඥාව ප්‍රධානදැයි
29 උන්වහන්සේගෙන් ඇසුයේය. යේසුස්
වහන්සේ ඔහුට උත්තර දෙමින් සියළු
ආඥාවලින් ප්‍රධාන ආඥාවනම් ඊශ්‍රායෙල්
අසව අපේ ස්වාමිවූ දෙවියන්වහන්සේ එ
30 කමවූ ස්වාමින්වහන්සේය. තාගේ මුළු හෘ
දයෙනු තාගේ මුළු ආත්මයෙනු තාගේ
මුළු සිතිනු තාගේ මුළු ශක්තියෙනු තා
ගේ ස්වාමිවූ දෙවියන්වහන්සේට ප්‍රේම ක
රව. පලමුවෙනි ආඥාවනම් මේය. දෙ
31 වෙනි ආඥාවත් එසේමය. ඒනම් තට
මෙන් තාගේ අසල්වාසියාට ප්‍රේම කර
ව. මේ ආඥාවලට වඩා මහත්වූ අන් කිසි
32 ආඥාවක් නැතැයි කීසේක. එවිට ලියනනා
යහපත ආචාරිනි ඔබවහන්සේ සැබෑව
කීසේක. මක්නිසාද එකමවූ දෙවි කෙ
නෙක් සිටිනසේක උන්වහන්සේ හැර
33 වෙන දෙවි කෙනෙක් නැත. මුළු හෘද
යෙනු මුළු නුවනිනු මුළු ආත්මයෙනු මුළු
ශක්තියෙනු උන්වහන්සේට ප්‍රේම කිරී
මත් තමාට මෙන් තමාගේ අසල්වාසියා
ට ප්‍රේම කිරීමත් සියළු දවන පූජාවලට ස
හ සියළු යාගවලටත් වඩා උතුමැයි කී
34 යේය. ඔහු නුවනින් යුක්තව උත්තර
දුන් බව යේසුස්වහන්සේ දැන තුබ දෙ
වියන්වහන්සේගේ රාජ්‍යයට නුදුරුව සි
ටිනෙත්යයි ඔහුට කීසේක. ඉන්පසු උන්
වහන්සේගෙන් ප්‍රශ්න අහන්ට සියල්
ලෝම භයව සිටියෝය.
35 යේසුස්වහන්සේ දේවමාලිගාවෙහි උ
ගන්වමින් කියනසේක් ක්‍රිස්තුස් දාවිත්
ගේ පුත්‍රයයි ලියනනෝ කෙසේ කියද්ද?
36 දාවිත්ම සුද්ධාත්මයෙන් කථාකරමින් මම
තුබේ සතුරන් තුබේ පාපුටුව කරණතු
රු මාගේ දකුණු පැත්තෙහි ඉඳගනිනැයි
ස්වාමින්වහන්සේ මාගේ ස්වාමින්වහන්
37 සේට කීසේකැයි කිය. එබැවින් දාවිත්ම
උන්වහන්සේට ස්වාමින්වහන්සේයයි කි
කල ඔහුගේ පුත්‍රවෙනෙත් කොහොමදැ
යි ඇසූසේක. සමූහයෝ උන්වහන්සේ
ගේ වචන සන්තෝෂයෙන් ඇසුවෝය.
38 උන්වහන්සේ තමන්ගේ ඉගැන්වී

මේදී ඔවුන්ට කියනසේක් දිග ඇඳුම් ඇ
ඳ ඇවිදීමටද කඩ පිල්වලදී ආචාර ලැබී
39 මටද සිනගෝගවලදී ප්‍රධාන ආසනවල
ටද මංගල්‍යවලදී උත්තම ස්ථානවලටද
කැමතිවනනාවූ වචා පිනිස දිග යාඥාවල්
කොට වැන්දඹුවන්ගේ ගෙවල් කොල්ල
කනනාවූ ලියනනන්ගෙන් ප්‍රවේසම් වෙ
40 යල්ලාය. ඔවුන් ඉතා මහත්වූ දඬුවමට පැ
මිණෙනවා ඇතැයි කීසේක.
41 යේසුස්වහන්සේ මුදල් ගබඩාව ඉදිරි
යේ වැඩ ඉඳැදී මනුෂ්‍යයෝ ගබඩාවට මු
දල් දමන බව දුටුසේක. බොහෝ වස්තු
කාරයෝ බොහෝසෙයින් මුදල් දැමූ
42 වෝය. දිලිඳු වැන්දඹුවක් ඇවිත් මස්
සෙන් සතරෙන් කොටසක් වටින කුඩා
43 මිල දෙකක් දැම්මාය. එවිට උන්වහන්
සේ ගෝලයන් කැඳවා සැබවක් නුඹලා
ට කියම් ගබඩාවෙහි මුදල් දැමූ සියල්ලන්
ට වඩා මේ දිලිඳු වැන්දඹුව මුදල් දැමුවා
44 ය. මක්නිසාද ඒ සියල්ලෝ තමන්ගේ
බොහෝ වස්තුවෙන් දැමූවෝය. මැද
ඇගේ හිඟකමින් ඇ සන්තක යමක් ඇ
ත්ද ඇගේ ඒ සියළු රක්ෂාවීම දැමුවායයි
කීසේක.

13. පරිච්ඡේ. උන්වහන්සේ දේවමාලි
ගාවෙන් යනකල ගෝලයන්ගෙන් එ
කෙක් ආචාරිනි බැළුවමැනව කෙබඳු
ගල්ද කෙබඳු ගොඩනැගිම්දැයි කීයේය.
2 යේසුස්වහන්සේ උත්තර දෙමින් මේ ම
හත් ගොඩනැගිම් දකිනවාද? මෙයින්
කඩාදමනු නොලබනනාවූ ගලක් පිට
ගලක්වත් නොතිබේයයි ඔහුට කීසේක.
3 ඉන්පසු උන්වහන්සේ දේවමාලිගාව ඉදි
රියේ ඔලීව කන්දේ වැඩඋන් කල පේ
තෘස්ද යාකොබ්ද යොහන්ද අන්ද්‍රෑද පම
4 නක් ලඟට ඇවිත් මේ දේ වෙන්නේ
කොයි කලකද? මේ සියල්ල සිඬවීමට
ලකුන කිමෙක්දැයි අපට කිවමැනවැයි
5 කීවෝය. යේසුස්වහන්සේද ඔවුන්ට උ
ත්තර දෙමින් නුඹලා කිසිවෙකුගෙන්
නොරැවටෙන ලෙස බලාගනිල්ලාය.
6 මක්නිසාද මාගේ නමින් බොහෝ දෙ
න ඇවිත් තමන් ක්‍රිස්තුස්යයි කියා බො
7 හෝ දෙන මුලාකරති. යුඬත් යුඬ කථාත්
නුඹලා අසනකල කැලඹී නොසිටිල්ලාය.
8 එබඳු කාරණා වෙන්ට ඕනෑය. නුමුත් එ
කල්හි කෙලවර නැතෙත්ය. මක්නිසාද
ජාතිය ජාතියටත් රාජ්‍යය රාජ්‍යයටත් විරු
ඬව නැගිටිනවා ඇත. නොයෙක් තැන්
වල පොලෝ කම්පාත් දුර්භික්ෂත් කැල
ඹීමවළුත් වෙනවා ඇත. මේවා දුක්වල
පටන්ගැන්මය. නුඹලා ප්‍රවේසම් වෙය
ල්ලාය මක්නිසාද ඔවුන් සභාවලට නුබ
9 ලා පාවා දෙති. සිනගෝගවලදී නුබලා
තැලීම් ලබති. මා නිසා නුබලා අධිපතීන්
ටද රජුන්ටද සාක්ෂි පිනිස ඔවුන් ඉදිරියෙ
10 හි සිටුවනු ලබති. පලමුකොට සියළු ලෝ
වැසියන්ට සුභාරංචිය එළිදරව්කල යුතු
11 ය. නුබලා පාවාදෙන්ට ගෙනියන කල
කුමක් කියමුදැයි පලමුකොට සිතා කන
ගාටු නොවෙල්ලාය. ඒ පැයෙහි නුබලා
ට යමක් දෙනු ලැබේද ඒක කියාපල්ලා
ය. මක්නිසාද ශුඬාත්මයානන්වහන්සේ
මිස නුබලා කථාකරනෙනෝ නොවෙති.
12 එකල සහෝදරයා තමාගේ සහෝදර
යාත් පියා තමාගේ පුත්‍රයාත් මරණට පා
වාදෙනෙත්ය. දරුවෝ තමන් මව්පි
යන්ට විරුඬව නැගිට ඔවුන් මරණට
13 පත්කරවති. මාගේ නාමය නිසා සියල්
ලෝ නුබලාට වෛර බඳිති නුමුත් කෙ
ලවර දක්වා ඉවසන තැනැත්තේම ගැ
ලවෙනෙත්ය.
14 දානියෙල් අනාගතවක්තෘහු විසින් කි
යනලද විනාසයේ පිළිකුල නුසුදුසු තැ
න තිබෙන බව යම් කලෙක නුබලා ද
කිද්ද (කියවනනා තේරුම් ගනීවා) එ
කල යූදයේ සිටිනෙනෝ කඳුවලට පලා
15 යෙත්වා ගේ උඩ සිටිනෙනක් ගෙට
නොබසීවා තමන්ගේ ගෙයින් කිසිවක්
ගන්නා පිනිස එහි ඇතුල් නොවේවා.
19 කෙතේ සිටිනෙනක් තමාගේ වස්ත්‍රය
17 ගෙනයන්ට අපසු නොහැරේවා. ඒ දව
ස්වලදී ගර්භිනීන්ටද කිරි දෙන ස්ත්‍රීන්ට
18 ද දුක් වනෙත්ය. වර්ෂා කාලයේදී නුබලා
ගේ පලායාම නොවෙන පිනිස යාඥා ක
19 රපල්ලාය. මක්නිසාද දෙවියන්වහන්සේ
ලෝකය මැවූ තැන් පටන් දැන් දක්වා
නූනාවූ මතු නොවෙනනාවූ දුක් එදවස්ව
20 ලදී පැමිණෙනෙත්ය. ස්වාමින්වහන්සේ
ඒ දවස් එහුඹු නොකලසේක්නම් කවු
රුවත් ගැලවෙනෙත් නැත. නුමුත් උන්
වහන්සේ තෝරාගත්තවුන් නිසා ඒ ද
21 වස් එහුඹුකලසේක. එකල යමෙක් ක්‍රිස්
තුස් මෙතනය නොහොත් අතනයයි නු
බලාට කියත්නම් අදහා නොගනිල්ලා
22 ය. මක්නිසාද බොරු ක්‍රිස්තුස්වරුද බො
රු අනාගතවක්තෘවරුද නැගිට පුළුවන්

නම් තෝරාගත්තවුන් පවා මුලාකරවන
පිණිස ලකුණුද හාස්කම්ද දක්වනවා ඇ
23 ත. නුමුත් නුබලා ප්‍රවේසම්වෙයල්ලාය.
සියල්ල නුබලාට කලින් කීමි.
24 ඒ දවස්වල ඒ දුකෙන් පසු ඉර අඳුරු
25 වෙනේය. හඳ එලිය දෙනෙන් නැත. අ
26 හසේ තාරකාවෝද වැටෙනවා ඇත. ආ
කාසයේ පරාක්‍රමද සෙලවෙනවා ඇත.
එකල මහත්වූ බලයෙන් හා තේජසින්
යුක්තව මනුෂ්‍ය පුත්‍රයා වලාකුල්වල එ
27 නවා දකිනවා ඇත. එවිට උන්වහන්සේ
තමන් දූතයන් යවා පොලොවේ කෙ
ලවර පටන් අහසේ කෙලවර දක්වා සත
ර දිගින්ම තමන්වහන්සේගේ තෝරාග
ත්තවුන් එකතුකරණවා ඇත.
28 දිඹුල් ගසේ උපමාව ඉගනගනිල්ලාය
යම් කලක ඒ ගසේ අතු මොලොක්ව
කොල උපදිද එකල ග්‍රීස්ම කාලය ලංවි
29 යයි නුබලා දනිති. එසේම මේ දේ සිද්ධ
වෙනවා නුබලා දකින කල ඒ කාරණ
30 දොරටුවටම ලංවියයි දැනගනිල්ලාය. සැ
බවක් නුබලාට කියමි මේ සියල්ල සිද්ධ
වෙන තෙක් මේ මනුෂ්‍ය වර්ගයා නැති
31 නොවනේය. අහසත් පොලවත් නැ
තිවෙනවා ඇත නුමුත් මාගේ වචන නැ
32 තිවෙනෙන් නැත. එහෙත් ඒ දවසවත්
ඒ පැයවත් පියානන්වහන්සේ හැර ස්ව
ර්ගයේ දේවදූතයෝවත් පුත්‍රයාවත් අන්
33 කිසිවෙක්වත් දනෙන් නැත. ඒ කාලය
කවදා වේදැයි නුබලා නොදන්නා බැ
වින් ප්‍රවේසම් වෙයල්ලාය අවදිව ඉඳ යා
34 ඥාකරපල්ලාය. තමන්ගේ ගෙදරින් පිට
ත්ව වැඩකාරයන්ට බලය දී එකඑකාට
තමාගේ වැඩ නියමකොට දොරටුපාල
යාට අවදිව සිටිනනැයි අනකොට දුරු ර
ටකට යනනාවූ කෙනෙකුට මනුෂ්‍ය පුත්‍ර
35 යා සමානය. එබැවින් ගෙදර මූලාදෑනි
යා හදිස්සියෙන් ඇවිත් නුබලා නිදනවා
36 නොදකින පිණිස අවදිව සිටිල්ලාය. මක්
නිසාද ඔහු සවසවත් මධ්‍යම රාත්‍රියේවත්
කුකුලා අඬලන වේලේවත් අළුයමවත්
37 කවර වේලක එනවාදැයි නොදනිති. ම
ම නුබලාට යමක් කියම්ද ඒක සියල්ලන්
ටම කියමි අවදිව සිටිල්ලායයි කීසේක.

14. පරිච්ඡේ. පාස්කුවද මුහුන් නො
දැමූ රොටි කන මංගල්‍යයද පැමිනෙන්ට
දෙදවසකට මත්තෙහි නායක පූජකයෝ
ද ලියනනෝද ඔහු කෙසේ ප්‍රයෝග
2 යෙන් අල්වා මරමුදැයි සෙව්වෝය. නු
මුත් සෙනග අතරේ කෝලාහලයක් වේ
දෝ කියා මංගල්‍ය දවසේ නුසුදුසුයයි කි
3 වෝය. උන්වහන්සේ බෙතානියේ කුෂ්
ට රෝගීවූ සීමොන්ගේ ගෙයි කෑමට
උන්කල ස්ත්‍රියක් අනර්ඝවූ ජටාමාංශ තෙ
ලින් පිරූ සුදු ගල් කරඬුවක් ගෙන ඇ
විත් ඒ කරඬුව බිඳ උන්වහන්සේගේ හි
4 සේ වත්කලාය. සමහරෙක් කිපී මේ තෙ
5 ල නාස්තිකලේ මක්නිසාද? මෙය තුන්සි
යේකට වැඩි ගනනකට විකුන දිලිඳුන්ට
දෙන්ට පුළුවන්ව තිබුනේය කියා ඈට
6 විරුඬව කථාකලෝය. ජේසුස්වහන්සේ
කියනසේක් ඈ නිකම් උනනාවේ ඈට
වෙහෙස දෙනෙන් මක්නිසාද? ඈ මට
7 කල ක්‍රියාව යහපත. මක්නිසාද දිලින්
දෝ නුබලා සමග නිතරම ඇත යම් කල
ක නුබලා කැමතිවූනම් එකල ඔවුන්ට
8 සත්කාර කරන්ට පුළුවන. මම නුබලා
වෙත නිතරම නැත. මෑ තමාට පුළුවන්
දේ කලාය. මෑ මාගේ ශරීරය තැන්පත්
කිරීම පිණිස කලින්ම ඇවිත් සුවඳ තෙල්
9 ගෑවාය. සැබවක් නුබලාට කියමි මේ සු
භාරංචිය ලොව මුළුලෙල් එලිදරව්කරණ
සියළු තැනවලදීම මෑ විසින් කලාවූ මේ
කාරණයද මෑ සිහිවීම පිණිස කියනු ලැ
බේයයි කීසේක.
10 දොලොස්දෙනාගෙන් එකෙක්වූ යූ
දස් ඉස්කාරියොත් නායක පූජකයන්ට
උන්වහන්සේ පාවාදෙනු පිණිස ඔවුන්
11 වෙතට ගියේය. ඔවුන් ඒ අසා සන්තෝ
සව ඔහුට මිල දෙන්ට පොරොන්දු වූනෝ
ය එවිට ඔහු උන්වහන්සේ පාවාදීමට සුදු
සු ප්‍රස්ථාවක් සෙව්ය.
12 මුහුන් නොදැමූ රොටි කන පලමුවෙ
නි දවසවූ පාස්කු මංගල්‍යයේ බැටළු පැ
ටවා මරනනාවූ දවසේ උන්වහන්සේගේ
ගෝලයෝ ඔබවහන්සේට පාස්කු මංග
ල්‍යය කන පිණිස අපි ගොස් පිළියෙලක
රන්ට ඔබවහන්සේ කැමති කොතනදැ
13 යි උන්වහන්සේගෙන් ඇසුවෝය. එවි
ට උන්වහන්සේ ගෝලයන් දෙදෙනෙක්
යවමින් නුබලා නුවරට යනකල එහිදී
පැන් කලයක් උසුලාගත් පුරුෂයෙක් නු
බලාගේ පෙරමගට එනේය ඔහු පස්
14 සේ පලයල්ලාය. ඔහු ඇතුල්වෙන ගෙයි
ස්වාමියාට මා විසින් මාගේ ගෝලයන් ස
මග පාස්කු මංගල්‍යය කන්නට යුතුවූ ආ
ගන්තුක සාලාව කොතනදැයි ආචාර්ය්‍ය

හන්සේ අහනසේකැයි කියාපල්ලාය. එ
15 විට ඔහු සරහා පිළියෙලකල මහත්වූ උ
ඩුමහල් ගෙයක් නුබලාට පෙන්වනෙන්
ය. එහි අපට පිළියෙලකරපල්ලායයි කී
16 සේක. එවිට උන්වහන්සේගේ ගෝල
යෝ ගොස් නුවරට පැමිණ උන්වහන්සේ
තමන්ට කී ලෙසම සම්භව පාස්කු මංග
ල්‍යය පිළියෙල කලෝය.
17 සවස්වූ කල උන්වහන්සේ දොළොස්
18 දෙන සමග ගියසේක. ඔවුන් හිඳ කෑම
කනවිට යේසුස්වහන්සේ සැබවක් නුබ
ලාට කියමි මා සමග කන නුබලාගෙන්
එකෙක් මා පාවාදෙනෙන්යයි කීසේක.
19 එවිට ඔවුන් දුකට පැමිණ එකෙක් එ
කෙක් පාසා මමද මමදැයි උන්වහන්සේ
20 ගෙන් අහන්ට පටන්ගත්තෝය. උන්ව
හන්සේද උත්තර දෙමින් දොළොස් දෙ
නාගෙන් එකෙක්වූ මා සමග තලියේ අ
21 ත ලන තැනැත්තාය. මනුෂ්‍ය පුත්‍රයා ත
මන් ගැන ලියා තිබෙන ලෙසම යනෙන්
ය. නුමුත් මනුෂ්‍ය පුත්‍රයා පාවාදෙනනාට
දුක්වනෙන්ය. ඒ මනුෂ්‍යයා නූපනනා
නම් ඔහුට යහපතැයි කීසේක.
22 ඔවුන් කෑම කන කල උන්වහන්සේ
රොටි අරගෙන ස්තුතිකොට කඩා ඔවුන්
ට දී මේක අරන් කාපල්ලාය. මේ මාගේ
23 ශරීරයයි කීසේක. උන්වහන්සේ කුසලා
න අරගෙන ස්තුතිකොට ඔවුන්ට දුන්
සේක. ඔවුන් සියල්ලෝද එයින් බීවෝ
24 ය. එවිට උන්වහන්සේ කියනසේක් මේ
ක බොහෝ දෙනා වෙනුවට වගුරුවන
25 අළුත් ගිවිසුමේ මාගේ ලේය. සැබවක්
නුබලාට කියමි මම දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයේදී අළුත් මුද්‍රික ඵල රසය
බොන දවස දක්වා මෙතැන් පටන් මු
ද්‍රික රසය නොබොමියි කීසේක.
26 පසුව ඔවුන් ගීතිකාවක් කියා ඔලීව
27 කන්දට පිටත්ව ගියෝය. එකල යේසුස්
වහන්සේ ඔවුන්ට කියනසේක් මම රැක
වලාට පහර දෙමි එවිට බැටළුවෝ ක
ඩින්කඩ යතියි ලියා තිබෙන ලෙස අද
රාත්‍රියේ නුබලා සියල්ලෝම මා කෙරේ
28 බාධාවෙති. නුමුත් මම නැගුටුනායින් ප
සු නුබලාට ඉස්සරව ගලීලයට යනෙනමි
29 යි කීසේක. එවිට පේත්‍රුස් සියල්ලෝම
බාධාවෙතත් මම බාධානොවෙමියි උන්
30 වහන්සේට කීය. යේසුස්වහන්සේ සැබ
වක් නුබට කියමි අද රාත්‍රියේම කුකුලා
දෙවරක් හඬලන්ට පලමුවෙන් ඔහු නා
දුනමියි කියා තුන් වරක් නුබ මා ගැන
31 කියනෙන්යයි ඔහුට කීසේක. නුමුත් ඔහු
මම ඔබවහන්සේ සමග නසිතත් ඔබව
හන්සේ ගැන ඔහු නාදුනමියි නොකිය
මි කියා අධිකතරව කීයේය. සියල්ලෝද
එසේම කීවෝය.
32 ඔවුන් ගෙත්සෙමනේ යන ඉඩමට පැ
මුනුනෝය. උන්වහන්සේ තමන් ගෝ
ලයන්ට කියනසේක් මම යාඥාකරණතු
33 රු නුබලා මෙහි ඉඳිල්ලායයි කීසේක. එ
විට උන්වහන්සේ පේත්‍රුස්ද යාකොබ්
ද යොහන්ද තමන් සමග කැඳවාගෙන
ගොස් බොහෝ දුක්වෙන්ටත් ශෝක
34 වෙන්ටත් පටන්ගෙන මාගේ ප්‍රාණය ම
රණට පත්වෙන තරම් ඉතා දුක් වන්
35 නේය. නුබලා මෙහි නැවතී අවදිව හිඳි
ල්ලාය කියා මඳක් ඉදිරියට ගොස් බිම
වැටී පුළුවනනම් ඒ පැය තමන්වහන්සේ
කෙරෙන් පහව යන්ට යාඥාකරමින් පි
36 යානෙනි පියානෙනි ඔබවහන්සේට සි
යල්ලම පුළුවන මේ කුසලාන මාගෙන්
අහක්කලමැනව. එසේවී නුමුත් මාගේ
කැමැත්ත නොව ඔබවහන්සේගේම කැ
37 මැත්ත වේවයි කීසේක. ඉන්පසු උන්ව
හන්සේ ඇවිත් ඔවුන් නිදාගෙන ඉන්න
වා දැක පේත්‍රුස්ට කථාකොට සීමොන්
38 නුබ නිදාගන්නවාද? එක පැයක්වත් අ
වදිව ඉන්ට බැරිද? නුබලා පරීක්ෂාවීමට
නොපැමිනෙන පිනිස අවදිව හිඳ යාඥා
කරපල්ලාය. ඒකාන්තයෙන් ආත්මය කැ
39 මතිය ශරීරය දුර්වලයයි කීසේක. උන්ව
හන්සේ නැවතත් ඉවතට ගොස් එම ව
40 චනම කියා යාඥාකලසේක. උන්වහන්
සේ හැරී ඇවිත් ඔවුන්ගේ ඇස් නිදිබර
වූ බැවින් ඔවුන් නැවතත් නිදන බව දු
ටුසේක. ඔවුන්ද උන්වහන්සේට කිසි උත්
41 තරයක් දෙන්ට නොදැන සිටියෝය. උ
න්වහන්සේ තුනෙවනි වර ඇවිත් ඔවුන්ට
කියනසේක් ඉතින් නිදාගෙන නිවාඩුග
නිල්ලාය සියල්ල කම්මුතුය පැය පැමුනු
නේය. මනුෂ්‍ය පුත්‍රයා පව්කාරයන්ගේ
42 අතට පාවාදෙනලද්දේය. නැගිටිල්ලාය
අපි යමුව මා පාවාදෙනනා ළඟයයි කී
සේක.
43 උන්වහන්සේ කථාකරමින් සිටිද්දීම
දොළසගෙන් එකෙක්වූ යූදස්ද ඔහු ස
මග නායක පූජකයන් කෙරෙන්ද ලියන්
නන් හා වැඩිමහළුන් කෙරෙන්ද බො
හෝ සමූහයෝද කඩු මුගුරු ගෙන

44 ආවෝය. උන්වහන්සේ පාවාදෙන තැ
නැත්තේ මම යම් කෙනෙක් සිඹිම්ද ඒ
ඔහුමය ඔහු අල්ලා ප්‍රවේසමෙන් රැගෙන
පලයල්ලායයි පලමුවෙන් ඔවුන්ට ලකු
45 නක් දුන්නේය. ඔහුද ඇවිත් වහාම උන්
වහන්සේ ලඟට ගොස් ආචාරිනි ආචාරි
46 නියි කියා උන්වහන්සේ සිඹගත්තේය. එ
විට ඔවුන් උන්වහන්සේ පිට අත් තබා අ
47 ල්ලාගත්තෝය. එවිට ලඟ සිටියවුන්
ගෙන් එකෙක් කඩුව ඇද නායක පූජ
කයාගේ වැඩකාරයාට ගසා කන කපා
දැමීය.
48 යේසුස්වහන්සේ ඔවුන්ට කථාකොට
තුබලා සොරෙක් අල්ලන්ට මෙන් කඩු
49 මුගුරු ගෙන මා අල්ලන්ට ආවෝද? ද
වස්පතා තුබලා වෙත දේවමාලිගාවේ
උගන්වමින් සිටිද්දී තුබලා මා ඇල්ලුවේ
නැත. නුමුත් ලියවිලි සම්පූර්ණවිය යුතු
50 යයි කීසේක. එකල සියල්ලෝම උන්ව
51 හන්සේ අත්හැර පලා ගියෝය. ඇඟෙහි
සිනිඳු සළුවක් පමනක් පෙරවාපු යව්ව
නයෙක් උන්වහන්සේ පස්සේ ගියේය.
52 යව්වනයෝ ඔහු අල්ලාගත්තෝය. ඔහු
ද සළුව අත්හැර නිවීසත්‍රුව ඔවුන් කෙ
රෙන් පලාගියේය.
53 ඔවුන් යේසුස්වහන්සේ නායක පූජක
යා වෙතට ගෙන ගියෝය. සියළු නාය
ක පූජකයෝද වැඩිමහල්ලෝද ලියන්
54 නෝද එහි රැස්ව සිටියෝය. පේත්‍රුස්
උන්වහන්සේගේ පසුපස්සෙහි දුරින්
ගොස් නායක පූජකයාගේ මාලිගාවේ
සාලාවට ඇතුල්ව ගිනි තපිමින් සේවක
55 යන් සමග උන්නේය. එවිට නායක පූජ
කයෝද සභාවේ සියල්ලෝද යේසුස්ව
හන්සේ මරණට පත්කරවන පිනිස උන්
වහන්සේට විරුඩව සාක්ෂි සෙව්වෝය
56 නුමුත් සම්භවුනේ නැත. මක්නිසාද
බොහෝ දෙන උන්වහන්සේට විරුඩව
බොරු සාක්ෂි කී නුමුත් ඔවුන්ගේ සාක්
57 ෂි මදිවිය. එවිට සමහරෙක් නැගී සිට උ
න්වහන්සේට විරුඩව බොරු සාක්ෂි කිය
මින් අතින් කරණලද මේ දේවමාලිගා
58 ව නසා අතින් නොකරණලද අනිකක්
තුන් දවසකින් සාදමියි මොහු කියන
59 වා අපි ඇසීමුයයි කීවෝය. නුමුත් ඔ
වුන්ගේ සාක්ෂිත් මදිවිය. එවිට නායක
60 පූජකයා නැගිට මැද සිට තුබ කිසි උත්
තරයක් දෙනෙත් නැද්ද? මොවුන් තු
බට විරුඩව කියන මේ සාක්ෂි කිමෙක්
61 දැයි යේසුස්වහන්සේගෙන් ඇසුයේය. උ
න්වහන්සේ කිසි උත්තරයක් නොදී කථා
නොකර සිටිසේක. නැවත නායක පූජ
කයා තුබ ප්‍රසංසනීයා තැනන්වහන්සේ
ගේ පුත්‍රවූ ක්‍රිස්තුස්දැයි උන්වහන්සේ
62 ගෙන් ඇසුයේය. එවිට යේසුස්වහන්සේ
කියනසේක් මම වෙමි. තවද මනුෂ්‍ය පු
ත්‍රයා පරාක්‍රමයානන්ගේ දකුනු පැත්තේ
වැඩහිඳින බවත් අහසෙහි වලාකුලෙන්
එන බවත් තුබලා දකිනවා ඇතැයි කී
63 සේක. එවිට නායක පූජකයා තමාගේ
වස්ත්‍ර ඉරාගෙන වෙන සාක්ෂිවලින් අප
64 ට කම මොකද? දෙවියන්වහන්සේ කෙ
රේ කල අපහාස තුබලාට ඇසුනේය. තු
බලා කුමක් සිතනෙත්දැයි ඇසුයේය. එ
විට ඔවුන් සියල්ලෝ උන්වහන්සේ මැරිය
65 යුතුයයි නියමකොට කීවෝය. එවිට ස
මහරෙක් උන්වහන්සේට කෙලගසන්
ටත් උන්වහන්සේගේ මුහුන වසන්ටත්
උන්වහන්සේට මිටින් පහර දෙන්ටත් දි
වස් කියවයි උන්වහන්සේට කියන්ටත් ප
ටන්ගත්තෝය. සේවකයෝද උන්වහන්
සේට අතුල්පහර ගැසුවෝය.
66 පේත්‍රුස් යට සාලාවේ සිටිකල නායක
පූජකයාගේ දැසින්ගෙන් එකියක් ඇවිත්
67 පේත්‍රුස් ගිනි තපිනවා දැක ඔහු දෙස බ
ලා තුබත් නාසරෙත් යේසුස් සමග සිටි
68 යේයයි කීවාය. එවිට ඔහු උත්තර දෙ
මින් නැත මම ඔහු නාඳුනමි තුබ මක්
කියනවාද මට තේරෙනෙත් නැත කි
යා පිටත මඩුවට ගියේය. එවිට කුකුලා
69 හඬලීය. නැවතත් දැසිය ඔහු දැක මො
හු ඔවුන්ගෙන් එකෙකැයි ලඟ සිටිය
වුන්ට කියන්ට පටන්ගත්තාය. නැව
70 තත් ඔහු නැත කීය. ස්වල්ප වේලාවක
ට පසු ලඟ සිටියවුන් සැබෑවටම තුබ ඔ
වුන්ගෙන් එකෙක තුබ ගලිලයෙක තු
බේ කථාවත් එසේමයයි නැවතත් පේ
71 ත්‍රුස්ට කීවෝය. ඔහු දෙස් තිබාගන්ටද
දිවුරන්ටද පටන්ගෙන තුබලා කියන
ඒ මනුෂ්‍යයා නාඳුනමියි කීයේය. එවිට
72 කුකුලා දෙවෙනි වාරයෙහි හඬලීය. එ
විට පේත්‍රුස් කුකුලා දෙවරක් හඬලන්
ට පලමුවෙන් ඔහු නාඳුනමියි තුන් ව
රක් තුබ මා ගැන කියනවා ඇතැයි යේ
සුස්වහන්සේ තමන්ට කී වචනය සිහි
කොට ඒ ගැන සිතමින් හැඬුයේය.

15. පරිච්ඡේ. අළුයම් වේලෙහිම නා

යක පූජකයෝ වැඩිමහල්ලන්ද ලියනන්
න්ද සභාවේ සියල්ලන්ද සමග මන්ත්‍රන
ය කොට යේසුස්වහන්සේ බැඳගෙන
2 ගොස් පිලාත්ට පාවාදුන්නෝය. පිලාත්
ද තුඹ යුදෙව්වරුන්ගේ රජදැයි උන්ව
හන්සේගෙන් ඇසුයේය. උන්වහන්සේ
තුඹ කියේයයි ඔහුට උත්තර දුන්සේක.
3 නායක පූජකයෝ නොයෙක් කාරණ
යෙන් උන්වහන්සේට වැරදි තැබුවෝය.
4 නුමුත් උන්වහන්සේ කිසි උත්තරයක් දු
න්නේ නැත. නැවතත් පිලාත් කථාකො
ට තුඹ කිසි උත්තරයක් දෙන්නේ නැද්
ද? තුඹට විරුඬව කොපමන කාරණාව
ලින් සාක්ෂි කියනවාදැයි උන්වහන්සේ
5 ගෙන් ඇසුයේය. නුමුත් යේසුස්වහන්
සේ වෙන කිසි උත්තරයක් දුන්නේ නැ
6 ත. ඊට පිලාත් පුදුමවූයේය. මංගල්‍ය ස
මයෙහි ඔවුන් ඉල්ලන සිරකාරයෙක් ඔ
7 වුන්ට මුදා අරින සිරිතක් විය. තමා එක්
ව කැරලිගසා මිනී මැරුවාවූ කැරලිකා
රයන් සමග බඳනා ලද්දාවූ බරබ්බස්
8 නම් කෙනෙක් විය. සමූහයෝ මුරගසා
සිරිත්ව තිබෙන ලෙස කලමැනවයි ඉල්
9 ලන්ට පටන්ගත්තෝය. නායක පූජක
10 යන් විසින් උන්වහන්සේ ඊර්ෂ්‍යාවෙන් පා
වාදෙන ලදැයි පිලාත් දැන මම තුඹලාට
යුදෙව්වරුන්ගේ රජ නිදහස්කර අරින
11 වාට තුඹලා කැමතිදැයි ඇසුයේය. නු
මුත් නායක පූජකයෝ බරබ්බස් නිදහස්
කරවාගන්ට සමූහයා කැමතිකෙරෙව්
12 වෝය. එවිට පිලාත් උත්තර දෙමින් එ
සේවීනම් යුදෙව්වරුන්ගේ රජයයි තු
ඹලා කියනාවූ මොහුට මා විසින් මක්
කරණවාට තුඹලා කැමතිදැයි නැවතත්
13 ඔවුන්ගෙන් ඇසුයේය. ඔහු කුරුසියෙ
හි ඇනගැසුවමැනවයි හඬගැසුවෝය.
14 එවිට පිලාත් කිමෙක්ද ඔහු මොන වර
දක් කෙලේදැයි ඔවුන්ගෙන් ඇසුයේය.
ඔවුන්ද ඔහු කුරුසියෙහි ඇනගැසුවමැන
15 වයි වැඩි වැඩිව මුරගැසුවෝය. එවිට පි
ලාත් සමූහයා සන්තෝසකරන්ට කැම
තිව බරබ්බස් ඔවුන්ට නිදහස්කොට
යේසුස්වහන්සේට තලවා කුරුසියෙහි
ඇනගැසීමට පාවා දුන්නේය.
16 සේවායෝද උන්වහන්සේ ප්‍රෙතෝරි
යම්නම් සාලාවට ගෙනගොස් සියළු සේ
17 වා සමූදුව රැස්කොට රත් වස්ත්‍රයක් අඳ
වා කටු ඔටුන්නක් ගොතා උන්වහන්සේ
18 ගේ හිසේ තබා යුදෙව්වරුන්ගේ රජ්ජු
රුවෙනි සුවසේ සිටියමැනවයි කියා වැ
19 ද බටදඬකින් උන්වහන්සේගේ හිසට ග
සා උන්වහන්සේට කෙලගසා දන නමා
20 උන්වහන්සේට නමස්කාර කලෝය. උන්
වහන්සේට නින්දාකලායින් පසු රත් වස්
ත්‍රය උන්වහන්සේගෙන් මුදා තමන්වහන්
සේගේම වස්ත්‍රය අඳවා කුරුසියේ ඇන
ගැසීම පිනිස උන්වහන්සේ පිටතට ගෙ
21 නගියෝය. එවිට කෙතේ සිට ඒ පාරේ
එන්නාවූ අලෙක්සන්ද්‍රගේද රූපස්ගේද
පියවූ කිරෙනියෙහි සීමොන්නම් පුරුෂ
යෙකුට උන්වහන්සේගේ කුරුසිය උසු
ලා ගෙනයන්ට බලාත්කාර කලෝය.
22 ඉස්කබලස්ථානය යන අර්ථ ඇති ගොල්
ගොතානම් ඉඩමට උන්වහන්සේ ගෙ
23 නගොස් ගන්ධරස මුසුකල මුද්‍රිකපානය
උන්වහන්සේට බොන්නට දුන්නෝය.
නුමුත් උන්වහන්සේ ඒවා පිලිගත්තේ
24 නැත. තවද උන්වහන්සේ කුරුසියෙහි
ඇනගැසුවායින් පසු උන්වහන්සේගේ
වස්ත්‍ර බෙදා ඔවුනොවුන්ගේ කොටස්ග
25 න්නා පිනිස දාදු දැම්මෝය. කුරුසියෙහි
ඇනගැසූකල තුන්වෙනි පැය පැමුනුනේ
26 ය. යුදෙව්වරුන්ගේ රජයයි උන්වහන්
සේගේ වැරදි පත්‍රය ලියා එහි තැබුවෝ
27 ය. සොරු දෙදෙනෙක් එකෙක් දකුණු
පැත්තෙහිද එකෙක් වම් පැත්තෙහිද උ
න්වහන්සේ සමග කුරුසියේ ඇනගැසු
28 වෝය. එයින් උන්වහන්සේ වරදකාර
යන් සමග ගනන් ගන්නාලදැයි යන ලි
29 යවිල්ල සම්පූර්ණවිය. මග යන්නෝ උන්
30 වහන්සේට නින්දාකොට තමන් හිස් වන
වනා අහෝ දේවමාලිගාව නසා තුන් ද
වසකින් ගොඩනගන්නාවූ තෝ තමාම
ගැලවී කුරුසියෙන් බැසපියවයි කිවෝ
31 ය. නායක පූජකයෝද ලියන්නෝද එ
සේම කවටකම්කොට ඔහු අන්‍යයන් ගැල
32 විය තමාම ගලවාගන්ට බැරිද? අප වි
සිනුත් දැක අදහන පිනිස ඊශ්‍රායෙල්ගේ
රජවූ ක්‍රිස්තුස් දැන් කුරුසියෙන් බසීවයි
කියා ඔවුනොවුන් කථාකලෝය. උන්ව
හන්සේ සමග කුරුසියෙහි ඇනගසන
ලද්දවුනුත් උන්වහන්සේට නින්දාකලෝ
33 ය. සවෙනි පැය පටන් නවවෙනි පැය
34 දක්වා ඒ රට මුළුල්ල අන්ධකාරවිය. නව
වෙනි පැය. පැමිනි කල්හි යේසුස්වහන්
සේ ඒලොයි ඒලොයි ලමා සබක්තානියි
කියා මහත් ශබ්දයෙන් හඬගැසේක. එ
හි අර්ථයනම් මාගේ දෙවියනි මාගේ

දෙවියනි ඔබවහන්සේ මා අත්ඇරියේ
35 මක්නිසාද යනුය. ලඟ සිටියවුන්ගෙන්
සමහරෙක් ඒ අසා මොහු එලියස්ට අඬ
36 ගසනෙනේයයි කීවෝය. එවිට එකෙක්
දිව ගොස් මුදු හතතක් කාඩියෙන් පො
වා බට දඬක බැඳ උන්වහන්සේට බො
නතට දී සිටපල්ලාය මොහු බස්සවාගන්
ට එලියස් එනෙත්දැයි බලමුයයි කීයේය.
37 එවිට යේසුසවහන්සේ මහත් ශබ්ද පව
38 තවා ප්‍රාණය ඇරියසේක. එකල දේවමා
ලිගාවේ තිරය උඩ පටන් යට දක්වා දෙ
39 කඩව ඉරී ගියේය. උන්වහන්සේගේ ඉදි
රියෙහි සිටියාවූ සියේකට නායකයා උ
න්වහන්සේ මෙසේ ශබ්ද පවතවා ප්‍රාණය
ඇරියබව දැක මේ මනුෂ්‍යයා සැබැවට
ම දෙවියන්වහන්සේගේ පුත්‍ර වීයයි කී
40 යේය. ස්ත්‍රියෝද දුරින් බලා සිටියෝය.
ඔවුන් අතරේ උන්වහන්සේ ගලිලයේ සි
ටිකල්හි උන්වහන්සේ කැටුව ගියාවූ උන්
වහන්සේට උපස්ථාන කලාවූ මග්දලා
41 යෙහි මරියාත් කුඩා යාකොබ්ගේද යෝ
සෙස්ගේද මව්වූ මරියාත් සලෝමිත් උ
න්වහන්සේ සමග යෙරුසලමට ආවාවූ
වෙන බොහෝ ස්ත්‍රියොත් සිටියෝය.
42 ඒ දවස සබත් දවසට ප්‍රථමවූ සූදානම්
කරණ දවස බැවින් සවස්වූකල දෙවිය
43 න්වහන්සේගේ රාජ්‍යය ගැන බලා සිටින්
නාවූ ගරුතර මන්ත්‍රීවූ අරිමාතයෙහි
යෝශප් ඇවිත් භය නැතුව පිලාත් ලඟ
ට ගොස් යේසුසවහන්සේගේ මිනිය ඉල්
44 විය. එවිට පිලාත් උන්වහන්සේ මෙපම
න ඉක්මනින් නැසුනේදැයි පුදුමව සියේ
කට නායකයා කැඳවා උන්වහන්සේ නැ
සී බොහෝ වේලා ගියේදැයි ඇසුයේය.
45 ඒ බව සියේකට නායකයාගෙන් දැන
46 ගෙන යෝශප්හට මිනිය දුනේය. ඔ
හු සිහින් රෙද්දක් මිලදී රැගෙන උන්
වහන්සේ බාගෙන ඒ රෙද්දෙන් ඔතා ප
ර්වතයෙක්හි කැපූ සොහොන් ගෙයක
තබා ඒ සොහොන් ගෙයි දොරකඩට ග
47 ලක් පෙරළුයේය. මග්දලායෙහි මරියා
ද යෝසෙස්ගේ මව්වූ මරියාද උන්වහන්
සේ තැබූ ස්ථානය දුටුවෝය.

16. පරිච්ඡෙ. සබත් දවස පසුවූ කල
මග්දලායෙහි මරියාද යාකොබ්ගේ මව්
වූ මරියාද සලෝමිද උන්වහන්සේට ආ
2 ලේපකරණ පිණිස සුවඳ ද්‍රව්‍ය මිල දී රැ
ගෙන සතියෙහි පලමුවෙනි දා ඉතා
උදය ඉර පායන වේලාවට සොහොන්
3 ගෙය ලඟට එමින් අපට සොහොන් ගෙ
යි දොරකඩින් ගල අහකට පෙරලා දෙ
නෙන් කවුදැයි ඔවුනොවුන් කථාකලෝ
4 ය. මක්නිසාද ඒ ගල ඉතා මහත්විය. ඔ
වුන් බැළූ කල්හි ඒ ගල අහකට පෙරලා
5 තිබුනා දැක සොහොන් ගෙට ඇතුල්ව
දික්වූ සුදු වස්ත්‍රයක් හඳනාලද දකුණු පැ
තෙන් උන්නාවූ තරුණයෙකු දැක භය
6 වූවෝය. ඔහු ඔවුන්ට කථාකොට භය
නොවෙල්ලාය. කුරුසියෙහි ඇනගසන
ලද නාසරීන් යේසුසවහන්සේ නුඹලා
සොයති උන්වහන්සේ නැගුටුනුසේක.
උන්වහන්සේ මෙහි නැත. උන්වහන්
7 සේ තැබූ ස්ථානය බලාපල්ලාය. උන්ව
හන්සේ නුඹලාට ඉස්සරව ගලිලයට ය
නසේක. උන්වහන්සේ නුඹලාට කී ලෙ
ස එහිදී උන්වහන්සේ දකිනවා ඇත. නු
ඹලා ගොස් මෙපවත් උන්වහන්සේගේ
ගෝලයන්ටත් පේත්‍රුස්ටත් කියාපල්ලා
8 යයි කීයේය. ඔවුහු පුදුමව වෙව්ලමින්
වහා සොහොන් ගෙයින් පලාගොස් භ
යවූ බැවින් කිසි කෙනෙකුට කිසිවක්
කීවේ නැත.
9 යේසුසවහන්සේ සතියෙහි පලමුවෙ
නි දා අළුයම් වේලේ නැගිට තමන් වි
සින් යකුන් සත්දෙනෙක් දුරුකල මග්
දලායෙහි මරියාට ප්‍රථමකොට පෙනු
10 නුසේක. ඈ ගොස් උන්වහන්සේ සමග
පලමු සිටියාවූ අය විලාප කියා හඬමින්
11 සිටිද්දී දැන්වූවාය. එහෙත් උන්වහන්සේ
ජීවත්ව සිටින බවද ඈ විසින් දුටු බවද
අසා අදහගතොත් නැත.
12 එයින් පසු ඔවුන් අතරෙන් ගමකට
යනනාවූ දෙදෙනෙකුට උන්වහන්සේ
13 අන් වෙසකින් පෙනුනුසේක. ඔවුන්
ගොස් අනුන්ට දැන්වූවෝය ඔවුනුත් අ
දහගතොත් නැත.
14 ඉන්පසු උන්වහන්සේ කෑමට හුන්නා
වූ එකොලොස් දෙනාට පෙනී තමන්
නැගුටුනු පසු තමන් දුටුවන්ගේ වචන
ඔවුන් අදහ නොගත් නිසා ඔවුන්ගේ ඇ
දහිලි නැතිකමටත් සිත් දැඩි බවටත් ඔ
වුන්ට අවවාද කලසේක.
15 තවද උන්වහන්සේ ඔවුන්ට කියන
සේක් නුඹලා ලොව මුළුල්ලේ ගොස් සි
යළු මනුෂ්‍ය ජාතියට සුභාරංචිය ප්‍රකාශ
16 කරපල්ලාය. අදහගන්නාවූ බව්තීස්ම ල
බන්නාවූ තැනැත්තෝ ගලවනු ලැබේ.

අදහනොගන්නාවූ තැනැත්තේ දඬුවම
17 ට නියමකරනු ලැබේ. අදහගන්නාවුන්
ට ඇත්තාවූ ලකුණුනම් ඔවුන් මාගේ නා
මයෙන් යකුන් දුරුකරති අන් භාෂාව
18 ලින් කථාකරති සර්පයන් ඔසවති මරණ
යට පමුණුවන කිසිවක් බිවත් එයින් හිං
සා නොලබති ලෙඩුන්ට අත් තබා සුව
කරතියි කීසේක. ස්වාමින්වහන්සේ ඔ
19 වුන්ට කථාකලායින් පසු ස්වර්ගයට ගෙ
නයනලදුව දෙවියන්වහන්සේගේ දකු
ණු පැත්තෙහි වැඩඋන්සේක. එවිට ඔ
වුන් පිටත්ව ගොස් සියළු තැන්වලම දේ
20 ශනාකලෝය. ස්වාමීන්වහන්සේ ඔවුන්ට
පිහිටවෙමින් ඒ වචනය පෙර කී ලකුණු
වලින් සවිකලසේක.

ලූක් විසින් ලියනලද සුභාරංචිය.

1. පරිච්ඡේදය. උතුම්වූ තෙයෝපි
ලස්නි අප අතරේ සැබෑවට පිලිගත් කා
රණාවල් පටන්ගැම්මේ සිට ඇසින් දුටු
වාවූ වචනයේ ගැතියන් විසින් අපට ද
2 න්වාදුන් ප්‍රකාරයට පිලිවෙල කථාවක්
3 ලියන්ට බොහෝ දෙන පටන්ගත් බැ
වින් නුඹට ඉගැන්වූ කාරණාවල සත්‍ය
කම නුඹට දැනගන්නා පිනිස මුල පටන්
සියළු කාරණා හරියාකාර විමසා දැනගත්
4 මා විසිනුත් ඒ දේ පිලිවෙලින් ලියවිය
යුතුයයි සිතුයෙමි.
5 යුදයේ රජවූ හෙරෙද්ගේ කාලයේ
අබියාගේ වර්ගයෙහිවූ සඛාරියානම් පූ
ජකයෙක් සිටියේය. ඔහුගේ භාර්‍ය්‍යාව
ඇරොන්ගේ දුවක. ඈගේ නම එලිස
6 බැත්ය. ඔවුන් දෙදෙන දෙවියන්වහන්
සේගේ ඉදිරියෙහි ධර්මිෂ්ඨව ස්වාමින්ව
හන්සේගේ සියළු අණෙහිද පනත්හිද
7 නිර්දෝෂව හැසුරුණෝය. එලිසබැත්වද
බැවින් ඔවුන්ට දරුවෙක් ලැබුනේ නැ
ත. ඔවුන් දෙන්නාද මහළු වූවෝය. ඔහු
8 වාර පිලිවෙලින් දෙවියන්වහන්සේගේ
ඉදිරියෙහි තමන්ගේ පූජක තනතුර ක
රණකල පූජකයන්ගේ ව්‍යවහාරය ලෙ
9 ස ස්වාමින්වහන්සේගේ මාලිගාවට ඇ
තුල්ව දුම් පූජාව කරණ වාරය ඔහුට පැ
10 මුණුනේය. දුම් පූජාකරණ කල සියළු ස
11 මූහය යාඥාකරමින් පිටත සිටියේය. එ
විට දුම් ආසනයට දකුණු පැත්තේ ස්වාමි
න්වහන්සේගේ දූතයෙක් සිටිනවා ඔහුට
12 පෙනුනේය. සඛාරියා ඔහු දැක කැලඹී
13 භයපත්වූයේය. දූතයා ඔහුට කථාකො
ට සඛාරිය භයනොවෙන්න මක්නිසාද
නුඹේ යාඥාව අසනලද්දේය. එලිසබැත්
නම් නුඹේ භාර්‍ය්‍යාව නුඹ නිසා පුත්‍රයෙ
කු වදන්නීය. ඔහුට යොහන් යන නම
14 තබාපන්න. නුඹට ප්‍රීති සන්තෝෂ වන්
නේය බොහෝ දෙනද ඔහුගේ ඉපදීම
15 ට සන්තෝස වෙති. ඔහුද ස්වාමින්වහන්
සේගේ ඉදිරියෙහි මහතෙක් වන්නේය.
මුද්‍රිකපානයවත් මද්‍යපානයවත් නො
බොන්නේය. මව් කුස පටන් සුධාත්ම
16 යෙන් සම්පූර්ණව ඊශ්‍රායෙල්ගේ දරු
වන්ගෙන් බොහෝදෙන ඔවුන්ගේ ස්වා
මිවූ දෙවියන්වහන්සේ වෙතට හරවන්
17 නේය. ඔහු පියවරුන්ගේ සිත් දරුවන්
දෙසටත් අකීකරුවන් ධර්මිෂ්ඨයන්ගේ
ඥානයටත් හරවන පිනිසද ස්වාමින්වහන්
සේට සෑදූ සෙනගක් සරහන පිනිසද එ
ලියස් මෙන් ආත්මයද බලයද ඇතුව උ
න්වහන්සේට ඉස්සරව යන්නේයයි කීයේ
18 ය. එවිට සඛාරියා මම මහළුය මාගේ භා
ර්‍ය්‍යාවත් වයෝවෘද්ධය. ඒ නිසා මේ දේ
දැනගන්නේ කොහොමදැයි දේවදූතයා
19 ට කීයේය. දේවදූතයා උත්තර දෙමින්
මම දෙවියන්වහන්සේ ඉදිරියෙහි සිටින්
නාවූ ගාබ්‍රියෙල්ය. නුඹ සමග කථාක
රන්ටත් නුඹට මේ සුභාරංචි දන්වන්ටත්
20 එවනලද්දෙමි. නියම කාලයට සම්පූර්ණ
වන්නාවූ මාගේ වචන නුඹ අදහ නො
ගත් බැවින් මේ කාරණා සිධවෙන දව
ස දක්වා නුඹට කථාකරන්ට බැරි ලෙ
21 ස ගොළුවෙක් වන්නේයයි කීයේය. ස
ඛාරියා එනකල් බලා සිටියාවූ සමූහය මා
ලිගාවේ ඔහු ප්‍රමාදවූ බැවින් පුදුමවිය.
22 ඔහු පිටත ආකල ඔවුන් සමග කථාක
රන්ට ඔහුට බැරිවිය. එවිට ඔහු කථාක
රන්ට නොහැකිව ඔවුන්ට සංඥාකල
බැවින් මාලිගාවේදී ඔහු දර්ශණයක් දුටු
23 යේයයි ඔවුන් දැනගත්තෝය. ඔහු තමා

ගේ මෙහෙකරණ දවස් තීසුවූකල ගෙ
24 දරට ගියේය. ඒ දවස්වලට පසු ඔහුගේ
භාර්යාවවූ එලිසබෙත් ගර්භිනීව මාගේ
25 නින්දාව මනුෂ්‍යයන් අතරෙන් පහකර
ණ පිනිස ස්වාමින්වහන්සේ මා දෙස බැ
ඈ දවස්වලදී මට මෙසේ කලසේකැයි
කියා පස් මසක් සැඟවී උන්නාය.
26 සවෙනි මාසේදී ගාබ්‍රියෙල්නම් දූත
27 යා ගලිලයෙහිවූ නාසරෙත්නම් නුවර සි
ටිනාවූ දාවිත්ගේ වංශයෙහිවූ යෝසැප්
නම් පුරුෂයාට විවාහබස් දුන්නාවූ මරි
යානම් කන්‍යාව වෙතට දෙවියන්වහන්
28 සේ විසින් එවනලද්දේය. ඒ දූතයා ඈ
සිටි තැනට පැමින බොහෝ කරුණාව
ලැබුවාවූ නුඹ සැපසේ සිටපන්න ස්වාමි
න්වහන්සේ නුඹ සමගය ස්ත්‍රීන් අතරෙහි
29 නුඹ ආශීර්වාද ලත්තියයි කීයේය. ඈ ඔ
හු දැක ඔහුගේ බසින් කැලඹී මේ කො
සි ආකාර ආචාරයක්දැයි සිතමින් උන්
30 නාය. දේවදූතයා ඈට කථාකොට මරි
යා භයනොවෙන්න නුඹ දෙවියන්වහන්
31 සේගෙන් කරුණාව ලැබුවාය. නුඹ ග
ර්භිනීව පුත්‍රයෙක් වදන්නීය උන්වහන්
32 සේට යේසුස් යන නම තබන්නීය. උන්
වහන්සේ උත්තමයෙක් වන්නේය ම
හෝත්තමයාගේ පුත්‍රයයි කියනු ලැබේ.
උන්වහන්සේගේ පියවූ දාවිත්ගේ සිංහා
සනය ස්වාමිවූ දෙවියන්වහන්සේ උන්ව
33 හන්සේට දෙනසේක. උන්වහන්සේ යා
කොබ්ගේ වංශයෙහි නිතරම රජකම් ක
රණසේක. උන්වහන්සේගේ රාජ්‍යය
කෙලවරට පැමිනෙන්නේ නැතැයි කී
34 යේය. එවිට මරියා දූතයාට කථාකොට
මම පුරුෂයෙක් නාදුනම් එබැවින් මේ
ක සිඬවෙන්නේ කොහොමදැයි කීවාය.
35 දේවදූතයා උත්තර දෙමින් ශුඬාත්මය
නුඹ කෙරෙහි බසින්නේය. මහෝත්තම
යාගේ ආනුභාව නුඹ වසාගන්නේය. එ
බැවින් නුඹෙන් උපදිනාවූ ශුඬවූ තැ
නැත්තේ දෙවියන්වහන්සේගේ පුත්‍රයයි
36 කියනු ලැබේ. තවද නුඹේ නෑවූ එලිස
බෙත් මහළු වයසෙහිදී පුත්‍ර ගර්භයක් ධ
රන්නීය. වඳියයි කියනලද ඈට දැනට
37 සවෙනි මාසය වන්නේය. මක්නිසාද
දෙවියන්වහන්සේට නුපුළුවන්වූ කිසි දෙ
38 යක් නැතැයි කීයේය. මරියාද මම ස්වා
මින්වහන්සේගේ දාසි වෙමි නුඹේ වචන
ලෙස මට වේවයි කීවාය. එවිට දේවදූ
තයා ඈ ලඟින් ගියේය.

39 ඒ දවස්වලදී මරියා පිටත්ව යූදයෙහි
40 වූ කඳුවලින් ගැවසීගත් රටේ නුවරක
ට කඩිනමින් ගොස් සඛාරියාගේ ගෙට
41 ඇතුල්ව එලිසබෙත්ට ආචාර කලාය. එ
ලිසබෙත් මරියාගේ ආචාර වචන ඇසූ
කල ඈගේ කුසේ ලමයා පැනනැංගේ
ය. එවිට එලිසබෙත් ශුඬාත්මයෙන් සම්
පූර්ණව මහත් ශබ්ද පවත්වා කියන්නී
නුඹ ස්ත්‍රීන් අතරෙන් ආශීර්වාද ලද්දීය.
42 නුඹේ ගර්භයෙහි ඵලයද ආශීර්වාද ලද්
43 දේය. මාගේ ස්වාමින්වහන්සේගේ මෑණි
යෝ මා වෙතට ආවාය. මේ කෙසේ සි
44 ඬවීද? නුඹේ ආචාර ශබ්දය මාගේ කන්
වලට වැටුන කෙණෙහිම මාගේ කුසේ
45 ලමයා ප්‍රීතියෙන් පැනනැංගේය. ස්වාමි
න්වහන්සේ විසින් කී වචනය සම්පූර්ණ
වන්නේයයි අදහගත් තැනැත්තී වාස
නාවන්තීයයි කීවාය.
46 එවිට මරියා කියන්නී මාගේ සිත ස්වා
47 මින්වහන්සේට ප්‍රසංසා කරන්නේය. මා
ගේ ආත්මය මාගේ ගැලවුන්කාර දෙවි
යන්වහන්සේ කෙරෙහි සතුටු වන්නේය.
48 උන්වහන්සේ තමන් දාසියගේ හීනකම
බැලූසේක. එබැවින් මෙතැන් පටන් සි
යළු වංශයෝ මට වාසනාවන්තීයයි කි
49 යනවා ඇත. බලවත්වූ තැනන්වහන්
සේ මහත්වූ කාරණ මට කලසේක උන්
50 වහන්සේගේ නාමය පිරිසිඬුය. උන්වහන්
සේගේ කරුණාව උන්වහන්සේට භය
වෙන්නන් කෙරෙහි පරම්පරාවෙන් ප
51 රම්පරාවට පවතින්නේය. උන්වහන්සේ
තමන්ගේ අතේ බලය දැක්වූ සේක. අ
හන්කාරකාරයන්ගේ අභිප්‍රාවල් විසිරවූ
52 සේක. උන්වහන්සේ බලවන්තයන් සිං
හාසනවලින් හෙළා යටහතුන් උසස්ක
53 ලසේක. බඩගිනිවූවන් යහපත් දෙසින්
පිනවා වස්තුකාරයන් සිස් අතින් ඇරි
54 යසේක. උන්වහන්සේ අපගේ පියව
රුන්ට කී ලෙස ආබ්‍රහම්ටද හැම කල්හි
ම ඔහුගේ වංශයටද අනුකම්පා සිත් ඇ
තුව තමන් දාසවූ ඉශ්‍රායෙල්ට පිහිටවූසේ
55 කැයි කීවාය. මරියා ඈ සමග තුන් ම
56 සක් පමන වාසයකොට නැවත ඈගේ
ම ගෙදරට ගියාය.
57 එලිසබෙත්ගේ වදන කාලය සම්පූ
ර්ණවූ කල්හි ඈ පුත්‍රයෙක් වැදුවාය.
58 ඈගේ අසල්වාසියෝද නෑයෝද ස්වාමි
න්වහන්සේ ඈ කෙරෙහි මහත් කරුණා
කල බව අසා ඈ සමග සන්තෝෂ

59 වූවෝය. අටවෙනි දා ළමයා චර්මච්ඡේදය
කරණ පිණිස ඇවිත් ඔහුගේ පියාගේ
නාමයෙන් ඔහුට සඛාරියයි නම් තබන්
60 ට කැමතිවූවෝය. එවිට ඔහුගේ මව් එ
සේ නොවේය ඔහුට යොහන් යන නම
61 තැබිය යුතුයයි කීවාය. ඔවුන්ද නුඹේ
නෑයන් අතරෙන් කවුරුවත් මේ නම
62 ලැබුවේ නැතැයි ඈට කියා ඔහුගේ පි
යා ඔහුට මොන නමක් තබන්ට කැම
63 තිදැයි ඔහුට සඥා කලෝය. ඔහු ලිය
න ලෑල්ලක් ඉල්ලාගෙන ඔහුගේ නම
යොහන්යයි ලිව්වේය. සියල්ලෝද එය
64 ට පුදුමවූවෝය. එවලේම ඔහුගේ කට
ඇරී දිවේ බැඳුම් ලිහී ඔහු කථාකරමින්
65 දෙවියන්වහන්සේට ප්‍රසංසා කලේය. එ
විට ඔවුන් වටකර විසූ සියල්ලෝ භයවූ
වෝය. මේ සියළු පවත් යුදයෙහිවූ සි
66 යළු කඳු රටවල පතලවූනේය. ඒ ඇසූ
සියල්ලෝ ඒ දේ සිතල තබාගෙන මේ
ළමයා කොයිප්‍රකාර කෙනෙක් වනෙන්
දැයි කීවෝය. ස්වාමීන්වහන්සේගේ අත
ඔහු සමග තිබුනේය.
67 එවිට ඔහුගේ පියවූ සඛාරියා ශුද්ධාත්
මයෙන් සම්පූර්ණව අනාගත වචන කි
68 යමින් ඊශ්‍රායෙල්ගේ ස්වාමිවූ දෙවියන්ව
69 හන්සේට ස්තුතිවේවා. මක්නිසාද උන්
වහන්සේ තමන්වහන්සේගේ සෙනග
බලා ඔවුන්ට මිදීම සාදදී ලෝකේ ප
ටන්ගැම්මේ සිට සිටියාවූ තමන්වහන්
70 සේගේ ශුද්ධවූ අනාගතවක්තෘන් ලවා කි
යවූ ලෙස අපේ සතුරන්ගෙන්ද අප කෙ
රේ වෛර බැඳගත් සියල්ලන්ගේ අතින්ද
41 අප ගලවන තමන්ගේ දාසවූ දාවිත්ගේ
වංශයෙන් අප උදෙසා ගැලවීම නැමති
72 අඟක් නැංගුසේක. මෙසේ උන්වහන්සේ
73 අපේ සතුරන්ගේ අතින් අප ගලවා අපි
ජීවත්ව සිටින සියළු දවස්වලදී භයක්
නැතුව ශුද්ධකම්න්නුත් ධර්මිෂ්ඨකම්න්නුත් උ
න්වහන්සේට වැඩකරන්ට සලස්වන පි
74 නිස අපේ පියවූ ආබ්‍රහම්ට දිවුල දිවිරීම
වන තමන්වහන්සේගේ ශුද්ධවූ ගිවිසුම සි
හිකොට අපේ පියවරුන්ට පොරොන්දුවූ
75 නාවූ කරුණාව ඉෂ්ටකරණසේක. එඹා
ළදරුව නුඹ මහෝත්තමයාගේ අනාග
76 තවක්තෘයයි කියනු ලැබ ස්වාමීන්වහන්
77 සේගේ මාර්ගයන් සාදන්ටද අපගේ දෙ
වියන්වහන්සේගේ මොලොක්වූ දයා
වෙන් උන්වහන්සේගේ සෙනගගේ පා
78 පවල මිදීමෙන් ඔවුන්ට ගැලවීම දන්වන්
ටද උන්වහන්සේට ඉස්සරව යන්නේය.
79 ඒ දයාවෙන් අඳුරෙහිද මරණයේ සෙව
නෙහිද සිටිනකන්ට එලිය දෙන පිණි
සත් අපේ පාද සමාදාන මාර්ගයට පමු
නුවන පිණිසත් උඩින් අරුණලෝකයක්
අපට පහලවියයි කීය.
80 ළමයාද වැඩී ආත්මයෙන් බලවත ඊ
ශ්‍රායෙල්ට තමා පෙනෙන දවස දක්වා
වනාන්තරයෙහි සිටියේය.

2. පරිච්ඡේ. ඒ කාලයෙහිදී රටවාසි
සියල්ලන් ලියාගන්නා පිණිස කායිසර් අ
2 ගොස්තු රජ අනදුනේය. මේ පලමුවෙ
නි ලිවීම කිරේනියස් සිරියායෙහි අධිප
3 තිකම් කරණ කාලයෙහි සිදුවූයේය. සි
යල්ලෝද ලියවෙන්ට තමතමන්ගේ නු
4 වරවලට ගියෝය. එවිට යෝසැප් දා
විත්ගේ පවුලෙහිද වංශයෙහිද බැවින්
තමාට විවාහ බස් දුන් ගර්භිනිවූ මරියා
නම් භාර්යාව සමග ලියවෙන්ට ගලිල
5 යෙහිවූ නාසරෙත් නුවරින් පිටත්ව යුද
යේ බෙත්ලෙහෙම්නම් දාවිත්ගේ නුවර
6 ට ගියේය. ඔවුන් එහි සිටිනකල ඈගේ
7 වදන කාලය සම්පූර්ණව කුළුඳුල් පුත්‍ර
යා වදා වස්ත්‍රයකින් වෙලා නවාතැන්
ගෙයි ඔවුන්ට අවකාස මදි නිසා ගවයින්
කන ඔරුවක බෑවූවාය.
8 ඒ දේසයෙහි රෑ තමන්ගේ බැටළු රැ
ල ප්‍රවේසම්කරනනාවූ එඬේරු කෙනෙ
9 හි සිටියෝය. ස්වාමීන්වහන්සේගේ දූත
යා ඔවුන් ලඟට ආයේය. ස්වාමීන්වහන්
සේගේ තේජසද ඔවුන් වටකර බැබළු
නේය. එවිට ඔවුන් අතිසයින් භයපත්
10 වූවෝය. දේවදූතයා ඔවුන්ට කථාකො
ට භයනොවෙල්ලාය සියළු මනුෂ්‍යයන්
ට මහත් සන්තෝෂ උපදවන සුභාරංචි
11 ය නුඹලාට දන්වමි. මක්නිසාද ස්වාමිවූ
ක්‍රිස්තුස්නම් ගැලවුන්කාර කෙනෙක්
නුඹලා සඳහා දාවිත්ගේ නුවර අද උ
12 පන්සේක. වස්ත්‍රයකින් වෙලා ගවයින්
කන ඔරුවක බාවා ඉන්න ඒ ළිළිඳා නු
13 ඹලාට සම්භවෙනවා ඇත. ඒක නුඹලා
ට ලකුනකැයි කීයේය. එවලේම ඒ දේ
වදූතයා සමග මහත් ස්වර්ගීය සේනා
14 වෝ දෙවියන්වහන්සේට ප්‍රසංසාකරමින්
ඉතා උසස්වූ ස්ථානයෙහි දෙවියන්වහන්
සේට මහිමයද පොලොවෙහි සමාදාන
යද මනුෂ්‍යයන් කෙරෙහි කරුණාවද
15 වේවයි කීවෝය. දේවදූතයෝ ඔවුන්

හැර ස්වර්ගයට ගියවිට එඬේරු ඔවු
නොවුන්ට කථාකොට දැන්ම බෙත්ලෙ
හෙමට ගොස් ස්වාමීන්වහන්සේ විසින් අ
පට එළිදරව්කළ මේ සිද්ධවූ කාරණාව
16 බලමුයයි කියා වහාම ගොස් මරියාද
යෝසෙප්ද ගවයින් කන ඔරුවේ හොවා
17 උන් බිලිඳුද දුටුවෝය. ඔවුන් ඒ දැක බි
ළිඳු ගැන තමන්ට කියනලද දේ එළිද
18 රව් කළෝය. ඒ ඇසූ සියල්ලෝ තමන්ට
එඬේරුන් විසින් කියනලද දේවලට පු
19 දුම වූවෝය. එහෙත් මරියා ඒ සියල්ල
කල්පනාකරමින් සිතේ තබාගත්තාය.
20 එඬේරුද තමන්ට කී ලෙස ඇසූ දුටු සි
යල්ල ගැන දෙවියන්වහන්සේට ස්තුති
ප්‍රශංසාකරමින් හැරී ගියෝය.
21 බිළිඳුගේ චර්මච්ඡේදනය කිරීමට අට ද
වස සම්පූර්ණවූ කල උන්වහන්සේ කු
සේ පිළිසිඳෙන්ට පළමුවෙන් දේවදූත
යා විසින් තබනලද යේසුස් යන නාම
22 ය තැබුවෝය. මෝසෙස්ගේ ව්‍යවස්ථා
වෙහි ප්‍රකාරයට ඈගේ පවිත්‍රවීමෙහි ද
23 වස් සම්පූර්ණවූ කල කුළුඳුල්වූ සියළු පිරි
මි ස්වාමීන්වහන්සේට පවිත්‍රයෝයයි කිය
නු ලබතියයි ස්වාමීන්වහන්සේගේ ව්‍යවස්
ථාවෙහි ලියා තිබෙන ලෙස උන්වහන්
සේ ස්වාමීන්වහන්සේගේ ඉදිරියෙහි ත
24 බන පිණිසද ස්වාමීන්වහන්සේගේ ව්‍යව
ස්ථාවෙහි කියා තිබෙන ලෙස කොබෙය්
යන් දෙනෙනක්වත් පරෙවි පැටවුන්
දෙනෙනක්වත් යාගයක් කොට දෙන
පිණිසද උන්වහන්සේ යෙරුසලමට ගෙ
25 න ගියෝය. යෙරුසලමෙහි සිමියොන්
නම් මනුෂ්‍යයෙක් සිටියේය. ඔහු ඊශ්‍රා
යෙල්ගේ සැනසීම බලා සිටිනාවූ ධර්මි
ෂ්ඨවූ භක්තිවන්තවූ තැනැත්තෙක. ශු
26 ද්ධාත්මයද ඔහු කෙරෙහි වූයේය. ස්වාමී
න්වහන්සේගේ ක්‍රිස්තුස් දකිනතුරු පළමු
වෙන් නුඹ මරණය දකින්නේ නැත කි
යා ශුද්ධාත්මයාණන් විසින් ඔහුට ප්‍රකාශ
27 කරණලද්දේය. ඔහු ශුද්ධාත්මයාණන් වි
සින් දේවමාලිගාවට පමුණුවන ලද්දේ
ය. ළදරුවූ යේසුස්වහන්සේට ව්‍යවස්ථා
වෙහි සිරිත් ලෙස කරන්ට මව්පියෝ උ
28 න්වහන්සේ ගෙනාවිට ඔහු උන්වහන්සේ
දෑතින් වඩාගෙන දෙවියන්වහන්සේට
29 ස්තුතිකොට කියනුයේ ස්වාමීන්වහන්ස
අන්‍යජාතීන්ට එළියකිරීමට ආලෝක
යක්ද ඔබවහන්සේගේ ඊශ්‍රායෙල් සෙ
30 නඟගේ තේජසදවූ සියළු මිනිසුන් ඉදිරී
යෙහි ඔබවහන්සේ විසින් පිළියෙලකළ
31 ගැලවීම මාගේ ඇසින් දුටු බැවින් ඔබ
32 වහන්සේගේ වචන ලෙස ඔබවහන්සේ
ගේ වැඩකාරයා දැන් සමාදානයෙන් හ
33 රිණසේකැයි කීයේය. උන්වහන්සේ ගැ
න කී කාරණාවලට යෝසෙප්ද උන්ව
හන්සේගේ මෑණියෝද පුදුමවූවෝය.
34 ඉන්පසු සිමියොන් ඔවුන්ට ආශීර්වාදකො
ට උන්වහන්සේගේ මව්වූ මරියාට කථා
කොට මේ ළදරුවා බොහෝ දෙනා
ගේ සිත්හි සිතිවිලි එළිදරව්කිරීම පිණි
සත් ඊශ්‍රායෙල්හි බොහෝ දෙනාගේ වැ
ටීම පිණිසත් නැගිටීම පිණිසත් විරුද්ධව
කියනු ලබන ලකුණක්කොට නියමකර
35 ණලද්දේය. නුඹේ හිතටද කඩුවකින්
හනිනු ලැබේයයි කීයේය.
36 ආසර්ගේ ගෝත්‍රයෙහිවූ ඵානූයෙල්
ගේ දූවූ ඉතා මහළුවූ ආනානම් අනාගත
වක්ත්‍රියක් සිටියාය. ඈ කන්‍යාවස්ථාවෙ
හි පටන් සත් අවුරුද්දක් ස්වාමි පුරුෂය
37 කු සමඟ වාසයකළාය. ඈ අවුරුදු අසූ හ
තරක් පමණ වයස් ඇති වැන්දඹු ස්ත්‍රියෙ
ක. දේවමාලිගාවෙන් නොගොස් රෑ දා
වල් දෙක්හි නිරාහාරයෙන් ඉඳ යාඥාවී
38 මෙන් මෙහෙකළාය. ඈද එවලේම ඇ
විත් ස්වාමීන්වහන්සේට ස්තුතිකොට ගැල
වීම බලා සිටියාවූ යෙරුසලමෙහි සියළු
දෙනාට උන්වහන්සේ ගැන කථාකළාය.
39 ස්වාමීන්වහන්සේගේ ව්‍යවස්ථාවෙහි
ප්‍රකාරයට ඔවුන් සියල්ල නිමකළවිට ග
ලීලයෙහිවූ නාසරත්නම් තමන්ගේ නු
40 වරට හැරී ගියෝය. බිළිඳුද වැඩී ආත්ම
යෙන් බලවත්ව නුවණින් සම්පූර්ණවිය.
දෙවියන්වහන්සේගේ කරුණාවද උන්
වහන්සේ කෙරෙහි වූයේය.
41 උන්වහන්සේගේ දෙමව්පියෝද අවු
රුදු පතා පාස්කු මංගල්‍යයට යෙරුසල
42 මට ගියෝය. උන්වහන්සේට දොළොස්
අවුරුදු වයස්වූ කල ඔවුන් මංගල්‍ය සි
43 රිත් ලෙස යෙරුසලමට ගියෝය. නිය
ම දවස් පසුවූනුවිට නැවත එද්දී බාලවූ
යේසුස්වහන්සේ යෙරුසලමෙහි සිටියේ
44 ක. යෝසෙප්ද උන්වහන්සේගේ මෑණි
යෝද ඒ බව නොදැන උන්වහන්සේ ඒ
45 නතන් හා සමඟයයි සිතා දවසක ගමන්
ගොස් නෑයන්ද අඳුනනනවුන්ද අතරෙහි
උන්වහන්සේ සොයා නොදැක සොය
46 මින්ම යෙරුසලමට ආපසු ගියෝය. තුන්
දවසකට පසු උන්වහන්සේ දේවමාලිගා

වේ පඬිතයන් මැද හිඳ ඔවුන් කියන
දේ අහන බවද ඔවුන්ගෙන් ප්‍රශ්ණ වි
47 චාරණ බවද දුටුවෝය. උන්වහන්සේ
ගේ බස් ඇසූ සියල්ලෝම උන්වහන්සේ
ගේ නුවනට හා උත්තරවලටත් විස්ම
48 පත්වූවෝය. උන්වහන්සේගේ දෙමව්
පියෝද උන්වහන්සේ දැක පුදුමවූවෝ
ය. උන්වහන්සේගේ මෑනියෝ පුත්‍රය නු
ඹ අපට මෙසේ කලේ මක්නිසාද නුඹේ
පියාණෝද මමද සෝකවෙමින් නුඹ
49 සෙව්වෙමුයයි කීවාය. එවිට උන්වහන්
සේ නුඹලා මා සෙව්වේ මක්නිසාද? මා
විසින් මාගේ පියානන්වහන්සේගේ වැ
ඩ කරන්ට යුතු බව නුඹලා දනොන් නැද්
දැයි ඔවුන්ට කීසේක. එහෙත් උන්වහන්
සේ විසින් කී වචනය ඔවුන්ට තේරුම්
50 ගියේ නැත. ඉන්පසු උන්වහන්සේ ඔ
වුන් සමග ගොස් නාසරත් නුවරට පැ
51 මින ඔවුන්ට යටත්ව සිටිසේක. උන්ව
හන්සේගේ මෑනියෝද මේ සියල්ල ත
52 මන් සිතේ තබාගත්තාය. යේසුස්වහන්
සේ ප්‍රඥාවෙන් හා උසමහතින්ද දෙවියන්
වහන්සේගේත් මනුෂ්‍යයන්ගේත් කරු
ණාවෙන්ද වැඩුනුසේක.

3. පරිච්ඡේ. තිබේරියස් කායිසර් රා
ජ්‍යයට පැමිනි පසලොස්වෙනි අවුරුද්
දේදී පොන්තියුස් පිලාත් යූදයට අධිප
තිවද හෙරොද් රටෙන් සතරෙන් කො
ටසක්වූ ගලිලයට අධිපතිවද ඔහුගේ ස
හෝදරවූ පිලිප් රටෙන් සතරෙන් කො
ටසක්වූ ඉතුරයටත් ත්‍රකොනිතිස් නම්
ලත් දේසයටත් අධිපතිවද එසානියස්
රටෙන් සතරෙන් කොටසක්වූ අබිලේ
2 නියට අධිපතිවද අනාස් සහා කායා
ඵස් නායක පූජකවද සිටි කාලයෙහි දෙ
වියන්වහන්සේගේ වචනය වනාන්ත්‍ර
යෙහිදී සඛාරියාගේ පුත්‍රවූ යොහන් වෙ
3 තට පැමුනුණේය. එවිට ඔහු පාපවලින්
මිදීම පිනිස පසුතැවිලෙල්හි බව්තීස්මය
ප්‍රකාසකරමින් යොදීන් වටකර සියළු ර
4 ටවලටම ආයේය. මක්නිසාද ස්වාමින්ව
හන්සේගේ මාර්ගය සාදා උන්වහන්සේ
5 ගේ මාවත් ඇදහැරපල්ලාය සියළු මිටි
තැන් පුරවනු ලැබේ සියළු කඳුද හෙල්
ද පහත්කරනු ලැබේ ඇද තැන් හරිගස්
සනු ලැබේ උස් මිටි මාවත් සමතලාක
6 රනු ලැබේ සියළු මනුෂ්‍යයෝ දෙවියන්
වහන්සේගේ ගැලවීම දකිනවා ඇතැයි
වනාන්ත්‍රයෙහි හඬගසන්නාහුගේ ශබ්
දයයි යෙසායියා. අනාගතවක්තෘහුගේ
7 පොතෙහි ලියනලද්දේය. එවිට යො
හන් තමාගෙන් බව්තීස්මය ලබන්නට
පිටත්ව ආවාවූ සමූහයන්ට කථාකොට
පොලොන් වශයෙනි පැමිනෙන උදහ
සින් පලායන්ට නුඹලාට දැන්නුවේ කවු
8 ද? ආබ්‍රහම් අපේ පියාණෝයයි සිතන්ට
පටන්නොගෙන පසුතැවිල්ලට සුදුසු ඵ
ල උපදවාපල්ලාහ. මක්නිසාද මේ ගල්
වලින් ආබ්‍රහම්ට දරුවන් උපදවන්ට
දෙවියන්වහන්සේට පුළුවනැයි නුඹලා
9 ට කියමි. දැන් ගස් මුල පොරව තබා
තිබෙයි. එබැවින් යහපත් ඵල නොදෙ
න සියළු ගස් කපනු ලැබ ගිනෙහි ද
10 මනු ලැබේයයි කීයේය. එවිට සමූහයෝ
එසේවීනම් කුමක් කරමුදැයි ඔහුගෙන්
11 ඇසුවෝය. ඔහු උත්තර දෙමින් ඇඳුම්
දෙකක් ඇති තැනැත්තා නැති තැනැ
ත්තාට දීපුවාවේ කෑම ඇති තැනැත්
තේද එසේම කරපුවාවේයයි ඔවුන්ට
12 කීයේය. සුංගම් අයකරන්නෝද බව්තීස්
මය පිනිස ඇවිත් ආචාරිනි අපි කුමක්
13 කරමුදැයි ඔහුගෙන් ඇසුවෝය. ඔහු නු
ඹලාට නියමකල පමනට වඩා අයනො
14 කරල්ලායයි ඔවුන්ට කීයේය. සේවා
යෝද අපි කුමක් කරමෝදැයි ඔහුගෙන්
ඇසුවෝය. ඔහුද කාටවත් බලාත්කාර
නොකරල්ලාය බොරු වැරදි නොතබ
ල්ලාය නුඹලාගේ කුලී පමනකින් සතුටු
වෙයල්ලායයි කීයේය.
15 යොහන් ක්‍රිස්තුස්වහන්සේද්‍ය නො
වේද්‍ය සමූහයා බලා සිටිද්දීත් සියල්ලෝ
තමන් සිතින් ඔහු ගැන සිතූ කල්හිත්
16 යොහන් සියල්ලන්ට කථාකොට මම ව
තුරෙන් නුඹලා බව්තීස්ම කොරෙමි. එ
හෙත් මට වඩා බලවත් කෙනෙක් එන
සේක. උන්වහන්සේගේ වහන් සගලේ
පටිය මුදන්ටවත් මම වටිනොත් නැත.
උන්වහන්සේ ශුද්ධාත්මයෙන්ද ගිනෙන්ද
17 නුඹලා බව්තීස්මකරණසේක. උන්වහන්
සේ අතේ කුල්ල ඇතිව තමන්ගේ කල
විට හොඳ ලෙස පිරිසිදුකරණසේක. ධා
න්‍ය තමන් අටුවට රැස්කොට බොල්
18 නොනිවෙන ගිනෙතාන් දවනසේකැයි
කියා අනික් බොහෝ කාරණයන්ද ගෙ
නහැරදක්වා සමූහයට සුභාරංචිය ප්‍රකා
19 ස කලේය. එහෙත් රටෙන් සතරෙන්
කොටසකට අධිපතිවූ හෙරොද් තමන්

සහෝදරවූ පිලිප්ගේ භාර්‍ය්‍යාවූ හෙරො
දියස් නිසාද තමා විසින් කල සියළු නපු
රුකම් නිසාද යොහන්ගෙන් අවවාද
20 ලැබූයේය. එසේවී නුමුත් ඒ සියළු නපු
රුකම් කලා පමනක් නොව යොහන්
හිරේද දැම්මේය.
21 සියළු සෙනග බව්තීස්ම ලබන අතර
යේසුස්වහන්සේද බව්තීස්ම ලැබ යාඥා
22 කරණ කල අහස ඇරී ශුද්ධාත්මයානන්
වහන්සේ පරවියෙකු මෙන් දෘශ්‍යමාන
රූපයෙන් උන්වහන්සේ පිටට බැස්ස
සේක. එවිට නුඹ මාගේ ප්‍රිය පුත්‍රයාය නු
ඹ කෙරෙහි ඉතා සතුටුයෙමියි අහ
සෙන් හඬක් වූයේය.
23 යෝසැප්ගේ පුත්‍රයයි සිතනු ලැබූ යේ
සුස්වහන්සේ තිස් අවුරුදු වයසට පැමි
නිසේක. යෝසැප් හේලිගේ පුත්‍රයාය.
24 ඔහු මත්තාගේ පුත්‍රයාය. ඔහු ලෙවිගේ
පුත්‍රයාය. ඔහු මෙල්කිගේ පුත්‍රයාය. ඔහු
යාන්නගේ පුත්‍රයාය. ඔහු යෝසැප්ගේ
25 පුත්‍රයාය. ඔහු මත්තතියස්ගේ පුත්‍රයාය.
ඔහු අමොස්ගේ පුත්‍රයාය. ඔහු නාහුම්
ගේ පුත්‍රයාය. ඔහු එස්ලිගේ පුත්‍රයාය.
26 ඔහු නග්ගිගේ පුත්‍රයාය. ඔහු මාත්ගේ
පුත්‍රයාය. ඔහු මත්තතියස්ගේ පුත්‍රයාය.
ඔහු සෙමෙයිගේ පුත්‍රයාය. ඔහු යෝසැප්
27 ගේ පුත්‍රයාය. ඔහු යූදාගේ පුත්‍රයාය. ඔ
හු යෝවනනාගේ පුත්‍රයාය. ඔහු රේසා
ගේ පුත්‍රයාය. ඔහු සොරොබාබෙල්ගේ
පුත්‍රයාය. ඔහු සාලාතියෙල්ගේ පුත්‍රයාය.
28 ඔහු නේරිගේ පුත්‍රයාය. ඔහු මෙල්කිගේ
පුත්‍රයාය. ඔහු අද්දිගේ පුත්‍රයාය. ඔහු
කෝසම්ගේ පුත්‍රයාය. ඔහු ඇල්මෝදම්
ගේ පුත්‍රයාය. ඔහු ඇර්ගේ පුත්‍රයාය. ඔ
29 හු යෝසේගේ පුත්‍රයාය. ඔහු ඇලියෙ
සර්ගේ පුත්‍රයාය. ඔහු යොරිම්ගේ පුත්‍ර
යාය. ඔහු මාත්තාත්ගේ පුත්‍රයාය. ඔහු
30 ලෙවිගේ පුත්‍රයාය. ඔහු සිමියොන්ගේ
පුත්‍රයාය. ඔහු යූදාගේ පුත්‍රයාය. ඔහු යෝ
සැප්ගේ පුත්‍රයාය. ඔහු යෝනන්ගේ පු
ත්‍රයාය. ඔහු එලියාකිම්ගේ පුත්‍රයාය. ඔ
31 හු මෙලියාගේ පුත්‍රයාය. ඔහු මයිනාන්
ගේ පුත්‍රයාය. ඔහු මත්තාතගේ පුත්‍රයාය.
32 ඔහු නාතන්ගේ පුත්‍රයාය. ඔහු දාවිත්ගේ
පුත්‍රයාය. ඔහු යෙස්සෙගේ පුත්‍රයාය. ඔ
හු ඕබෙත්ගේ පුත්‍රයාය. ඔහු බෝවස්ගේ
පුත්‍රයාය. ඔහු සාල්මොන්ගේ පුත්‍රයාය.
33 ඔහු නාස්සොන්ගේ පුත්‍රයාය. ඔහු අමි
නාදබ්ගේ පුත්‍රයාය. ඔහු අරම්ගේ පුත්‍ර
යාය. ඔහු එස්රොම්ගේ පුත්‍රයාය. ඔහු
ඵාරෙස්ගේ පුත්‍රයාය. ඔහු යූදාගේ පුත්‍රයා
34 ය. ඔහු යාකොබ්ගේ පුත්‍රයාය. ඔහු ඊ
සාක්ගේ පුත්‍රයාය. ඔහු ආබ්‍රහම්ගේ පුත්‍ර
යාය. ඔහු තෙරගේ පුත්‍රයාය. ඔහු නා
බොර්ගේ පුත්‍රයාය. ඔහු සාරුක්ගේ
35 පුත්‍රයාය. ඔහු රගාගේ පුත්‍රයාය. ඔහු පා
ලෙක්ගේ පුත්‍රයාය. ඔහු හෙබෙර්ගේ පු
ත්‍රයාය. ඔහු සාලාගේ පුත්‍රයාය. ඔහු කා
36 යිනන්ගේ පුත්‍රයාය. ඔහු අර්ඵාක්සද්ගේ
පුත්‍රයාය. ඔහු ෂෙම්ගේ පුත්‍රයාය. ඔහු
37 නෝවාගේ පුත්‍රයාය. ඔහු ලාමෙක්ගේ
පුත්‍රයාය. ඔහු මෙතුසලාගේ පුත්‍රයාය.
ඔහු එනොක්ගේ පුත්‍රයාය. ඔහු යාරෙද්
ගේ පුත්‍රයාය. ඔහු මලිලීල්ගේ පුත්‍රයාය.
38 ඔහු කායිනන්ගේ පුත්‍රයාය. ඔහු එනොස්
ගේ පුත්‍රයාය. ඔහු සෙත්ගේ පුත්‍රයාය.
ඔහු ආදම්ගේ පුත්‍රයාය. ඔහු දෙවියන්ව
හන්සේගේ පුත්‍රයාය.

4. පරිච්. යේසුස්වහන්සේ ශුද්ධාත්
මයෙන් සම්පූර්ණව යොර්දනෙන් හැරී
ඇවිත් ආත්මයානන්වහන්සේ විසින් ව
නාන්තරයට පමුණුවනු ලැබ සතලිස් දව
සක් සාතන් විසින් පරීක්ෂාකරනු ලැබූ
2 සේක. ඒ දවස්වලදී උන්වහන්සේ කිසි
වක් නොකා උන්සේක. ඒ දවස් ඉකුත්
3 වූ පසු උන්වහන්සේට බඩගිනි විය. එ
කල සාතන් නුඹවහන්සේ දෙවියන්
ගේ පුත්‍රවනසේක්නම් මේ ගල් රොටි
වෙන්ට අනකලමැනවයි උන්වහන්සේ
4 ට කීයේය. යේසුස්වහන්සේ උත්තර
දෙමින් මනුෂ්‍යයා දෙවියන්වහන්සේ
ගේ සියළු වචනවලින් ජීවත්වෙනවා මි
ස රොටි පමනකින් ජීවත්නොවෙන බ
5 ව ලියා තිබෙනේයයි කීසේක. එවිට
සාතන් උන්වහන්සේ උස්වූ පර්වතයක් මු
දුනට ගෙනගොස් ලෝකයෙහි සියළු
6 රාජ්‍යවල් ක්ෂණයකින් උන්වහන්සේට
පෙන්වා මේ සියළු බලයද ඓශ්වර්‍ය්‍යය
ද නුඹට දෙමි. ඒවා මට බාරදෙන ලද්
7 දේය මම කැමති කෙනෙකුට දෙමි. එ
බැවින් නුඹ මට නමස්කාර කරනොත්
ඒ සියල්ලම නුඹට දෙමියි උන්වහන්සේ
8 ට කීයේය. යේසුස්වහන්සේ උත්තර දෙ
මින් සාතන් අහක්ව යව මක්නිසාද තා
ගේ ස්වාමිවූ දෙවියන්වහන්සේට නමස්
කාර කරව උන්වහන්සේට පමනක් සේ
වය කරවයි ලියා තිබෙනේයයි ඔහුට

9 කීසේක. එවිට ඔහු උන්වහන්සේ යෙරූ
සලමට ගෙනගොස් දේවමාලිගාව මුදු
නේ සිටුවා නුඹවහන්සේ දෙවියන්ගේ
පුත්‍රවනසේක්නම් මෙතැනින් පහතට පැ
10 නනාමැනව. මක්නිසාද නුඹවහන්සේ ර
ක්‍ෂාකරණ පිණිස උන්වහන්සේ තමන්
ගේ දූතයන්ට අනදෙනසේක කියාත්
ඔවුන් නුඹවහන්සේගේ පය කිසි කලෙ
ක ගලක නොවදින පිණිස තමන්ගේ අ
11 තුලින් නුඹවහන්සේ උසුලාගණිතියි කි
12 යාත් ලියා තිබෙනෙත්යයි කීය. යේසු
ස්වහන්සේ උත්තර දෙමින් තාගේ ස්වා
මිවූ දෙවියන්වහන්සේ පරීක්‍ෂා නොකර
වයි කියා තිබෙනෙත්යයි ඔහුට කීසේ
13 ක. සාතන් සියළු පරීක්‍ෂා නිමවා කලක
ට උන්වහන්සේගෙන් අහක්ව ගියේය.
14 එවිට යේසුස්වහන්සේ ආත්මයානන්ව
හන්සේගේ බලයෙන් ගලිලයට හැරී
ආසේක. උන්වහන්සේගේ කීර්තිය වට
15 කර සියළු රටවල පතලව ගියේය. උන්
වහන්සේ ඔවුන්ගේ සිනගෝගවලදී උ
ගන්වමින් සියල්ලන්ගෙන් ප්‍රශංසා ලැ
බූසේක.
16 උන්වහන්සේ වැඩුනු නාසරුත්නම්
නුවරට පැමිණ තමන්වහන්සේගේ පුරු
දු ලෙස සබත් දවසෙහි සිනගෝගයට
ඇතුල්ව කියවන පිණිස නැගුටුනුසේක.
17 එවිට යෙසායියා අනාගතවක්තෘහුගේ
පොත උන්වහන්සේට දෙනලද්දේය.
18 උන්වහන්සේ පොත දිග ඇරලා බැලුවි
ට ස්වාමීන්වහන්සේගේ ආත්මය මා කෙ
රෙහිය මක්නිසාද දිලිඳුන්ට සුභාරංචිය
ප්‍රකාශකරන්ට මා ආලේපකලසේක, තැ
ළුනු සිත් ඇත්තන්ට සුවකරන්ටද සිර
කාරයන්ට මිදීම සහ අන්ධයන්ට නැව
ත පෙනීම ලැබෙන බව ප්‍රකාශකරන්ට
19 ද මඩනාලද්දවුන් මුදා හරින්ටද ස්වාමි
න්වහන්සේගේ ප්‍රියවූ අවුරුද්ද ප්‍රකාශක
රන්ටද උන්වහන්සේ මා එවූසේකැයි
ලියා තිබෙන ස්ථානය දැක පොත අකු
20 ලා සේවකයාට දී වැඩඋන්සේක. එවිට
සිනගෝගයෙහි සිටි සියල්ලෝ උන්ව
හන්සේ කෙරෙහි ඇස් හෙළා සිටියෝ
21 ය. එවිට උන්වහන්සේ ඔවුන්ට දේශනා
කරන්ට පටන්ගෙන නුඹලා විසින් ඇ
සූ මේ ලියවිල්ල අදම සම්පූර්ණවියයි කී
22 සේක. එකල්හි සියල්ලෝ උන්වහන්සේ
ට ප්‍රශංසාකොට උන්වහන්සේගේ මුඛ
යෙන් පිටත්වෙන කරුණාවෙහි වචන
වලට පුදුමව මොහු යෝසැප්ගේ පුත්‍ර
23 යා නොවේදැයි කීවෝය. එවිට උන්ව
හන්සේ ඔවුන්ට කියනසේක් වෛද්‍යනෙ
නි තමාම සුවකරගණිතැයි යන මේ
ව්‍යවහාර කීම මට කියමින් නුඹ විසින්
කපර්ණාවුමෙහි යමක් යමක් කරණ ල
දැයි අපි ඇසුමෝද ඒ ඒ දේ නුඹේ රට
වූ මෙහිදීත් කරපන්නැයි ඒකාන්ත
24 යෙන් මට කියනවා ඇත. සැබවක් නු
ඹලාට කියමි කවර අනාගතවක්තෘ
කෙනෙකුත් තමන් රටේදී පිළිගනු නො
25 ලබනෙත්ය. සැබවක් නුඹලාට කියමි
එලියස්ගේ අවස්ථාවෙහිදී තුන් අවුරුදු
සමසක් අහස පියවී රට මුළුල්ලෙහි ම
හත් සාගතයක් පැමිණි කල්හි ඉශ්‍රායෙල්
හි බොහෝ වැන්දඹු ස්ත්‍රියෝ සිටියෝය.
26 නුමුත් සිදොන්හිවූ සරප්තාවේ වැන්දඹු
ස්ත්‍රියක් වෙතට මිස ඔවුන්ගෙන් වෙන
කිසිවෙක් වෙතට එලියස් යවන්ට යෙ
27 දුනේ නැත. තවද අනාගතවක්තෘවූ එ
ලිසිවුස්ගේ කාලයෙහි ඉශ්‍රායෙල්හි බො
හෝ කුෂ්ඨ රෝගකාරයෝ සිටියෝය. නු
මුත් සිරියෙහි නාමන් මිස ඔවුන්ගෙන් කි
සිවෙක් පවිත්‍රකරන්ට යෙදුනේ නැතැයි
28 කීසේක. සිනගෝගයෙහි සිටි සියල්ලෝ
ඒ අසා ක්‍රෝධයෙන් පිරී නැගිට උන්ව
29 හන්සේ නුවරින් පන්නා උන්වහන්සේ
මුනින් හෙළනු පිණිස තමන්ගේ නුවර
සාදනලද කන්ද මුදුනට ගෙන ගියෝය.
30 උන්වහන්සේ ඔවුන් අතරෙන් ගොස් ග
31 ලිලයෙහිවූ කපර්ණාවුමනම් නුවරට පැ
මිණ සබත් දවස්වලදී ඔවුන්ට ඉගැන්වූ
32 සේක. උන්වහන්සේගේ වචනය ආනුභා
වයෙන් යුක්තවූ බැවින් උන්වහන්සේ
ගේ ඉගැන්වීමට ඔවුන් පුදුම්වූවෝය.
33 තවද අසූචි යක්‍ෂාවේසවූ මනුෂ්‍යයෙක්
34 සිනගෝගයෙහි සිට මහත් හඬින් හඬ
ගසා අහෝ නාසරුත් යේසුස්වහන්ස ඔ
බවහන්සේට අපෙන් කම මොකද? අප
නසන්ට ආසේක්ද? ඔබවහන්සේ කවු
ද කියා දනිමි ඔබවහන්සේ දෙවියන්ව
හන්සේගේ පිරිසිදු තැනැත්තෝයයි කී
35 යේය. එවිට යේසුස්වහන්සේ ඔහුට තර
වටුකරමින් කථානොකරව මොහුගෙන්
පිටත්ව යවයි කීසේක. එවිට යක්‍ෂයා ස
මූහයා මැද ඔහු හෙලා ඔහුට කිසි හිං
සාවක් නොකොට ඔහුගෙන් පිටත්ව ගි
36 යේය. සියල්ලෝද පුදුමව මේ මොන ව
චනයක්ද? උන්වහන්සේ බලයෙන්ද ආනු

භාවයෙන්ද අශුද්ධාත්මයන්ට අණදෙන
සේක ඔවුහු පිටත්ව යතියි ඔවුනොවුන්
37 අතරේ කථාකලෝය. උන්වහන්සේගේ
කීර්තිය රට වටකර සියලු තැන්වල ප
තලවිය.
38 යේසුස්වහන්සේ සිනගෝගයෙන්
ගොස් සීමොන්ගේ ගෙට ඇතුල්වූසේක.
සීමොන්ගේ භාය්‍යාවගේ මව් බලවත් උ
න රෝගයකින් පීඩිතව උන්නාය. ඈ
සුවකරන්ට ඔවුන් උන්වහන්සේගෙන්
39 ඉල්ලුවෝය. එවිට උන්වහන්සේ ඈ ලඟ
සිට උනට අනකලසේක. උන ලෙඩ ඈ
ගෙන් පහව ගියේය. එවලේම ඈ නැ
ගිට ඔවුන්ට උපස්ථාන කලාය.
40 ඉර බස්නා කල නොයෙක් ප්‍රකාර
රෝගවලින් පීඩිතවූ රෝගීන් ඇති සිය
ල්ලෝම උන්වහන්සේ වෙතට ඔවුන් ගෙ
නාවෝය. එවිට උන්වහන්සේ එක එ
කා බැගින් ඔවුන් පිට අත් තබා ඔවුන්
41 ට සුවකලසේක. යක්ෂයෝද ඔබවහන්
සේ දෙවියන්වහන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්
යයි කියා මහත් ශබ්ද පවත්වමින් බො
හෝ දෙනාගෙන් දුරුව ගියෝය. උන්
වහන්සේද ඔවුන්ට සැරකොට කථාක
රන්ට අවසර නුදුන්සේක. මක්නිසාද
උන්වහන්සේ ක්‍රිස්තුස්යයි ඔවුන් දැනගත්
42 තෝය. පහන්වූ කල උන්වහන්සේ ව
නාන්තරස්ථානයකට ගියසේක. සමූහ
යෝද උන්වහන්සේ සොයමින් උන්ව
හන්සේ ලඟට පැමිණ අප හැර නොයි
ය මැනවයි කියමින් උන්වහන්සේ නව
43 ත්වාගන්ට උත්සහ කලෝය. උන්වහන්
සේද මා විසින් අනිත් නුවරවලත් දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය ගැන සුභාරංචි
ය ප්‍රකාසකටයුතුය. මේ කාරණය පිනිස
44 එවන ලද්දෙමියි ඔවුන්ට කීසේක. උන්ව
හන්සේද ගලිලයෙහි සිනගෝගවලදී
දේසනාකලසේක.

5. පරිච්ජෙ. තවද උන්වහන්සේ ගෙ
නසරෙත්නම් විල ලඟ සිටිද්දී සමූහයෝ
දෙවියන්වහන්සේගේ වචන අසන්ට උ
න්වහන්සේ වෙතට තෙරපිගන ආවෝ
2 ය. එවිට විල ලඟ තිබෙන නැව් දෙකක්
දුටුසේක. මස් අල්ලන්නෝ ඒවායින් බැ
3 ස දැල් සෝදමින් සිටියෝය. එකල ඒ
නැව් දෙකෙන් සීමොන්ගේ නැවට නැ
ගී ටිකක් දියත්කරන්ට ඔහුගෙන් ඉල්වා
නැවෙහි වැඩහිඳ සමූහයාට ඉගැන්වූ
4 සේක. උන්වහන්සේ කථාකොට නිමවා
සීමොන්ට කියනසේක් ගැඹුරට ගොස්
5 මසුන් අල්ලන්ට දැල් දමාපල්ලායයි කී
සේක. සීමොන් උත්තර දෙමින් ස්වාමි
නි මුලු රාත්‍රියේම වෑයම්කොට මොක
වත් ඇල්ලුවේ නැත. එසේ නුමුත් ඔබ
වහන්සේගේ වචනය නිසා දැල දමමියි
6 කීයේය. ඔවුන් එසේ කොට මසුන් ම
හත් රසියක් ඇල්ලුවෝය. දැලත් ඉරු
7 නේය. එවිට තමන්ට උපකාර කරන්ට
එන පිනිස අනික් නැවේ සිටි පංගුකාර
යන්ට සඥා කලෝය. ඔවුහු ඇවිත් ගි
ලෙන තරම් නැව් දෙක පුරවාගත්තෝ
8 ය. සීමොන් පේත්‍රුස් ඒ දැක යේසුස්වහන්
සේ ලඟ දනින් වැටී ස්වාමිනි මා කෙ
රෙන් ගියමැනව මම පව්කාරවූ මනුෂ්‍ය
9 යෙකැයි කීයේය. මක්නිසාද ඔහුද ඔහු
සමග සිටියාවූ සියල්ලෝද ඇල්ලූ මසුන්
10 රසිය දැක පුදුමවූනෝය. එසේම සී
මොන්ගේ පංගුකාරවූ සෙබදීගේ පුත්
යාකොබ්ද යොහන්ද පුදුමවූනෝය. එවි
ට යේසුස්වහන්සේ සීමොන්ට කියන
සේක් භයනොවෙන්න මෙතැන් පටන්
නුඹ මනුෂ්‍යයන් අල්ලනවා ඇතැයි කී
11 සේක. ඔවුන් නැව් ගොඩට ඇද සියල්
ල හැර උන්වහන්සේ පස්සේ ගියෝය.
12 උන්වහන්සේ එක් නුවරක සිටිනක
ල කුෂ්ඨයෙන් පිරුනු මනුෂ්‍යයෙක් එහි
සිටියේය. ඔහු යේසුස්වහන්සේ දැක මූ
හුනින් වැටී පිහිට ඉල්ලමින් ස්වාමිනි කැ
මතිසේක්නම් මා පවිත්‍රකරන්ට පුළුව
13 නැයි උන්වහන්සේට කීයේය. එවිට උ
න්වහන්සේ අත දිගුකොට ඔහු පිට තබා
කැමැත්තෙමි පවිත්‍රවෙයන්නැයි කීසේ
ක. එවලේම කුෂ්ඨය ඔහුගෙන් පහව ගි
14 යේය. උන්වහන්සේද ඒ කාරණාව කා
ටවත් නොකියා ගොස් පූජකයාට පෙනී
ඔවුන්ට සාක්ෂි පිනිස නුඹේ පවිත්‍රවීම ගැ
න මෝසෙස් විසින් නියමකල ප්‍රකාරය
ට පඬුර පූජාකරපන්නැයි ඔහුට ආඥාක
15 ලසේක. නුමුත් උන්වහන්සේගේ කීර්ති
ය වැඩි වැඩිව ප්‍රසිද්ධවිය. බොහෝ සමූහ
යෝ උන්වහන්සේගේ වචනය අහන්ටද
උන්වහන්සේ ලවා තමන්ගේ රෝග සු
16 වකරවාගන්ටද රැස්වූවෝය. එහෙත් උ
න්වහන්සේ තනියම වනාන්තරයට ගොස්
යාඥාකරමින් සිටිසේක.
17 එක් දවසක උන්වහන්සේ උගන්වන
කල ගලිලයෙහි හා යුදයෙහි සියලු නුව

රවලිනුද යෙරුසලමෙනුද ආවාවූ එරිසිව
රුද ව්‍යවස්ථාව උගන්වන්නෝද ලඟ හි
ඳගෙන උන්නෝය. මනුෂ්‍යයන් සුවකරන්
ට ස්වාමින්වහන්සේගේ බලය ප්‍රකාශවිය
18 එවිට මිනිස්සු අඞභාග රෝගාතුරයෙක්
ඇඳ පිටින් ඔසවා ගෙනාවෝය. ඔහු ඇ
තුලට ගෙනයන්ටද උන්වහන්සේගේ
19 ඉදිරියෙහි තබන්ටද උත්සාහකොට ස
මූහයා නිසා ඇතුලට ගෙනයන්නාට අව
කාශ නොලැබ ගේ උඩට ගොස් වහ
ලෙන් යේසුස්වහන්සේ ඉදිරියේ ඇඳත්
20 සමග ඔහු මැදට බැස්සෙව්වෝය. උන්
වහන්සේද ඔවුන්ගේ ඇදහිල්ල දැක පු
රුෂය තුඹේ පව් තුඹට ක්ෂමාවූනේයයි
21 ඔහුට කීසේක. එවිට ලියන්නෝද එරි
සිවරුද දෙවියන්වහන්සේට විරුඬව අප
හාස වචන කියන්නාවූ මොහු කව්ද? දෙ
වියන්වහන්සේට මිස පව් ක්ෂමාකරන්ට
22 කාට පුළුවන්දැයි සිතුවෝය. එහෙත් යේ
සුස්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැන ඔ
වුන්ට කථාකොට තුඹලාගේ සිතින් ක
23 ල්පනාකරන්නේ කිමෙක්ද? තුඹේ පව්
තුඹට ක්ෂමාවූනායයි කීමෙහුත් නැගිට
ඇවිදපන්නැයි කීමෙහුත් වඩා පහසු
24 කෝකද? එහෙත් මනුෂ්‍ය පුත්‍රයාට මෙ
ලොවදී පව් ක්ෂමාකරන්ට බලය ඇති
බව තුඹලාට දැනෙන පිණිසයයි කියා නැ
ගිට තුඹේ ඇඳ ඔසවාගෙන ගෙට පල
යන්නැයි තුඹට කියමියි අඞභාග රෝගා
25 තුරයාට කීසේක. ඔහු එවලේම ඔවුන්
ගේ ඉදිරියෙහි නැගිට තමා ඔත් යහන
උසුලාගෙන දෙවියන්වහන්සේට ප්‍රසංසා
26 කරමින් තමාගේ ගෙට ගියේය ඔවුන්
සියල්ලෝද පුදුමව ඉතා භයපත්ව අද පු
දුම දේ දුටිමුයයි කියා දෙවියන්වහන්
සේට ප්‍රසංසා කලෝය.
27 මෙසින් පසු උන්වහන්සේ පිටත්ව
ගොස් සුංගම් අයකරණ ස්ථානයෙහි උ
න්නාවූ ලෙවිනම් සුංගම් අයකරන්නෙක්
දැක මා පස්සේ වරෙන්නැයි ඔහුට කීසේ
28 ක. ඔහු සියල්ල අත්හැර නැගිට උන්ව
29 හන්සේ පස්සේ ගියේය. ලෙවී තමාගේ
ගෙයිදී උන්වහන්සේට මහත්වූ මංගල්‍ය
කෑමක් පිලියෙල කලේය. සුංගම් අයක
රන්නන්ගෙනුද ඔවුන් සමග උන්නාවූ අ
30 න්‍යයන්ගෙනුද මහත් සමූහයක් විය. එ
හෙත් ඔවුන්ගේ ලියන්නෝද එරිසිවරු
ද උන්වහන්සේගේ ගෝලයන් සමග වා
ද කරමින් සුංගම් අයකරන්නනුද පවුකා
රයනුද සමග තුඹලා කමින් බොමින් සි
31 ටින්නේ මක්නිසාදැයි කීවෝය. යේසුස්
වහන්සේ උත්තර දෙමින් රෝගීන්ට මි
ස නිරෝගීන්ට වෙදාගෙන් කමක්නැත.
32 පව්කාරයන් මිස ධර්මිෂ්ඨයන් පසුතැවි
ලිවීමට අඬගසන්ට මම නායෙමියි කී
සේක.
33 එවිට ඔවුන් උන්වහන්සේට කථාකො
ට යොහන්ගේ ගෝලයෝද එරිසින්ගේ
ගෝලයෝද නොයෙක් වර නිරාහාර
යෙන් ඉඳ යාච්ඤාකරති. තුඹුත් ඔබවහන්
සේගේ ගෝලයෝ කමින් බොමින් සිටි
34 න්නේ මක්නිසාදැයි ඇසුවෝය. එවිට උ
න්වහන්සේ ඔවුන්ට කියනසේක් මඟුල්
ගෙදර දරුවන් සමග මනමාලයා සිටින
35 කල ඔවුන් නිරාහාරව සිටුවන්ට පුළුවනුද?
තුඹුත් මනමාලයා ඔවුන්ගෙන් බැහැර
ගන්නා දවස් පැමිණෙනවා ඇත ඒ දවස්
වලදී ඔවුන් නිරාහාරයෙන් ඉන්නවා ඇ
36 තැයි කීසේක. උන්වහන්සේ ඔවුන්ට උ
පමාවක් ගෙනහැරදක්වා කවුරුවත්
තාන් රෙදිකෑල්ලක් පරණ රෙද්දට මහ
න්නේ නැත. එසේ කලොත් එයින් පර
ණ රෙද්ද ඉරෙයි තාන් රෙදිකෑල්ලත් ප
37 රණ රෙද්දත් සමාන නොවෙයි. කවරෙ
ක්වත් අළුත් මුද්‍රිකපානය පරණ සම් භා
ජනවල වත්කරන්නේ නැත. එසේ ක
ලොත් අළුත් මුද්‍රිකපානයෙන් සම් භාජ
න පැලී යන්නේය මුද්‍රිකපානයද ඉහි
රෙන්නේය සම් භාජනද විනාශ වන්
38 නේය. එහෙත් අළුත් මුද්‍රිකපානය අළුත්
සම් භාජනවල වත්කල යුතුය එයින්
39 දෙවර්ගේම රක්ෂාවෙනවා ඇත. කවරෙ
කුටවත් පුරාණ මුද්‍රිකපානය බිපු කෙ
නෙහිම අළුත් මුද්‍රිකපානය රුචි නොව
න්නේය. පුරාණ මුද්‍රිකපානය උතුමැයි
ඔහු කියන්නේයයි කීසේක.

6. පරිච්. පාස්කු මංගල්‍යයෙහි
දෙවෙණි දවසට පසු පැමිණෙන සබත්
දවසෙහි උන්වහන්සේ ගොයම් කෙත්
මැදින් යන කල තමන් ගෝලයෝ ක
රල් කඩා අතින් පොඩිකර කෑවෝය. එ
2 විට එරිසිවරුන්ගෙන් සමහරෙක් සබත්
දවස්වලදී නොකටයුක්තක් තුඹලා ක
රන්නේ මක්නිසාදැයි ඔවුන්ට කීවෝය.
3 යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙ
මින් දාවිත්ටද ඔහු සමග සිටියවුන්ටද බ
ඩගිනිවූ කල ඔහු දෙවියන්වහන්සේගේ

4 ගෙට ඇතුල්ව පූජකයන්ට මිස වෙන
කාටවත් කන්ට නුසුදුසුවූ ඉදිරියෙහි පි
දූ රොටි ගෙන කා තමන් සමග සිටිය
5 වුන්ටත් දුන් බව කියෙව්වේ නැද්ද? ත
වද මනුෂ්‍ය පුත්‍රයා සබත් දවසටත් ස්වා
මියයි ඔවුන්ට කීසේක.
6 තවත් සබත් දවසක උන්වහන්සේ සි
නගෝගයට ඇතුල්ව ඉගැන්වූසේක. එ
හිදකුණු අත අවලංගුවූ මනුෂ්‍යයෙක් සි
7 ටියේය. එවිට ලියනෙනෝද ඵරිසිවරුද
උන්වහන්සේට වැරදි තබන පිනිස උන්
වහන්සේ සබත් දවසේ සුවකරණවා ඇ
8 ද්ද කියා බලාගෙන සිටියෝය. නුමුත් උ
න්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැන අව
ලංගු අත ඇති මනුෂ්‍යයාට නැගිට මැද
සිටපනනැයි කීසේක. ඔහු නැගී සිටියේ
9 ය. එවිට ජේසුස්වහන්සේ නුබලාගෙන්
එකක් අසමි සබත් දවස්වලදී යහපතක්
කිරීමවත් නපුරක් කිරීමවත් ප්‍රාණය ර
ක්ෂාකිරීමවත් නැසීමවත් යන මෙයින් කු
10 මක් කටයුතුදැයි ඔවුන්ට කියා වටකර
ඔවුන් සියල්ලන් දෙස බලා ඒ මනුෂ්‍යයා
ට නුබේ අත දිගුකරපනනැයි කීසේක.
ඔහු දිගුකලේය. එවිට ඔහුගේ අත අ
11 නික් අත මෙන් සුවවිය. ඔවුන් අතිස
යින් කිපී උන්වහන්සේට කුමක් කරමු
දැයි ඔවුනොවුන් අතරේ කථාකරගත්
තෝය.
12 ඒ දවස්වලදී උන්වහන්සේ යාඥාක
13 රන්ට කන්දකට ගොස් දෙවියන්වහන්සේ
ට යාඥාකරමින් මුළු රාත්‍රිය ගෙවා පහන්
වූ කල්හි තමන් ගෝලයන් ලඟට කැ
දවා ඔවුන්ගෙන් දොලොස් දෙනෙක්
තෝරාගෙන ඔවුන්ට ප්‍රේරිතයෝයයි
14 නම් තැබූසේක. ඔවුන් කවුරුදයත් උන්
වහන්සේගෙන් පේත්‍රුස් නම්ලත් සි
15 මොන් සහ ඔහුගේ සහෝදරවූ අන්ද්‍රෑ
ද යාකොබ් සහ යොහන්ද පිලිප් සහ බ
තෝලොමෙවුද මතෙවු සහ තෝමස්ද
අල්පෙවුස්ගේ පුත්වූ යාකොබ් සහ සෙ
16 ලෝතෙස්නම් සිමොන්ද යාකොබ්ගේ ස
හෝදරවූ යූදස් සහ උන්වහන්සේ පාවා
දුන් යූදස් ඉස්කාරියොත්ද යන මොවුන්
17 ය. ඉන්පසු උන්වහන්සේ ඔවුන් සමග
ගොස් සමභූමියක සිටිසේක. උන්වහන්
සේගේ ගෝල සමූහයාද උන්වහන්සේ
කියන දේ අහන පිනිසත් තමන්ගේ
රෝග සුවකරගනනා පිනිසත් සියළු යූද
යෙන්ද යෙරූසලමෙන්ද තීර් සහ සිදෙන්
හි මුහුදේ අසලින්ද බොහෝ සමූහයෝ
18 ද ආවෝය. අසූචි යක්ෂයන් විසින් පීඩිත
වූ අයවල්ද ඇවිත් සුවකරනු ලැබුවෝ
19 ය. උන්වහන්සේගෙන් ආනුභාව පිටව
සියල්ලන්ටම සුවකල බැවින් සියළු සමූ
හයෝ උන්වහන්සේගේ ඇගේ අත් ත
බන්ට උත්සාහ කලෝය.
20 එවිට උන්වහන්සේ තමන් ගෝලයන්
දෙස බලා කියනසේක් දිලිඳුවූ නුබලා
වාසනාවන්තයෝය. මක්නිසාද දෙවිය
න්වහන්සේගේ රාජ්‍යය නුබලාගේමය.
21 දැන් බඩගිනි ඇති නුබලා වාසනාවන්
තයෝය මක්නිසාද නුබලා තෘප්තියට
පැමිණෙනවා ඇත. දැන් හඬනනාවූ නු
බලා වාසනාවන්තයෝය මක්නිසාද නු
22 බලා සිනාසෙනවා ඇත. මනුෂ්‍ය පුත්‍රයා
නිසා යම් කලෙක මනුෂ්‍යයෝ නුබලාට
වෛර බැඳ නුබලා වෙන්කොට නින්ද
කොට නුබලාගේ නාමය නපුරුය කියා
හරිනෙනෝද එකල්හි නුබලා වාසනාවන්
23 තයෝය. ස්වර්ගරාජ්‍යයෙහිදී නුබලාට
මහත් විපාක ලැබෙන බැවින් ඒ දවසෙ
හි නුබලා සන්තෝසවෙයල්ලාය ප්‍රීති
යෙන් නටාපල්ලාය. මක්නිසාද ඔවුන්
ගේ පියවරු අනාගතවක්තෘන්ටත් එ
24 සේම කලෝය. නුමුත් ධනවන්තවූ නු
බලාට දුක්වෙනෝය මක්නිසාද නුබලා
25 ගේ සැනසීම නුබලාට ලැබුනේය. තෘප්
තියට පැමිනියාවූ නුබලාට දුක්වෙනෝ
ය මක්නිසාද නුබලා බඩගිනිවීමට පැ
මිණෙනවා ඇත. දැන් සිනාසෙනනාවූ නු
බලාට දුක්වෙනෝය මක්නිසාද නුබලා
26 සෝකව හඬනවා ඇත. නුබලා ගැන
යම් කලෙක සියළු මනුෂ්‍යයෝ යහපත
කියද්ද එකල නුබලාට දුක්වෙනෝය මක්
නිසාද ඔවුන්ගේ පියවරු බොරු අනා
ගතවක්තෘන් ගැනද එසේම කීවෝය.
27 නුමුත් අසනනාවූ නුබලාට කියමි නුබ
ලාගේ සතුරන්ට ප්‍රේමකරපල්ලාය. නුබ
ලාට වෛර බදිනනාන්ට යහපත්කම් ක
28 රපල්ලාය. නුබලාට සාප කරනනාන්ටද
ආශීර්වාදකරපල්ලාය. නුබලාට නින්දාක
29 රනනාන් උදෙසා යාඥාකරපල්ලාය. නු
බේ එක කම්මුලකට ගහනනාට අනික්
කම්මුලත් හරවා දීපනන. නුබේ උතුරු
සළුව උදුරාගනනාට නුබේ අඳනා රෙද්
30 දත් ගන්ට ඉඩ හැරපනන. නුබෙන් ඉල්
ලනනාවූ සියල්ලන්ට දීපනන. නුබේ දේ
පල පැහැරගනනාගෙන් තවත් නොඉල්

31 ලනහ. මනුෂ්‍යයෝ නුබලාට යමක් ය
මක් කරණවාට නුබලා කැමතිනම් එ
32 සේම නුබලා ඔවුන්ටත් කරපල්ලාය. නු
බලාට ප්‍රේමකරනනන්ටම නුබලාත් ප්‍රේ
මකරණවානම් නුබලාට මොන ප්‍රසංසා
වක්ද? පව්කාරයොත් තමන්ට ප්‍රේමක
33 රනනන්ටම ප්‍රේමකරති. තවද නුබලාට
යහපත්කම් කරනනන්ටම යහපත්කම්
කරණවානම් නුබලාට මොන ප්‍රසංසා
වක්ද? පව්කාරයොත් එසේම කරති.
34 නැවත ලබන අදහසින් දෙනවානම් නු
බලාට මොන ප්‍රසංසාවක්ද? පව්කාර
යොත් දුන් පමණ නැවත ලබන්ට පව්
35 කාරයන්ට දෙති. නුමූත් නුබලාගේ ස
තුරන්ට ප්‍රේමකරපල්ලාය යහපත්කම් ක
රපල්ලාය කිසිවක් නැවත නොලබන අ
දහසින් දීපල්ලාය. එසින් නුබලා බො
හෝ විපාක ලැබ මහෝත්තමයාගේ ද
රුවෝ වෙනවා ඇත. කල උපකාර
නොසලකනනාවුන් සහ දුෂ්ටයන් කෙ
රෙහි උන්වහන්සේ කරුණාකරණසේ
36 ක. එබැවින් නුබලාගේ පියානන්වහන්
සේ අනුකම්පාවෙන් යුක්තවූසේම නුබ
ලාත් අනුකම්පාවෙන් යුක්තවෙයල්ලා
37 ය. විනිශ්චය නොකරල්ලාය නුබලාත්
විනිශ්චය කරනු නොලැබෙත්. වරදට
පත්නොකරල්ලාය නුබලාත් වරදට පත්
කරනු නොලැබෙත්. ක්ෂමාවෙයල්ලාය
නුබලාටත් ක්ෂමාවෙනු ලැබේ. දීපල්ලා
38 ය නුබලාට දෙනු ලැබේ. ඔබමින් සො
ලවමින් උතුරුවමින් යහපත් කොට මැ
න මනුෂ්‍යයෝ නුබලාගේ ඔඩොක්කුව
ට දෙනවා ඇත. මක්නිසාද නුබලා යම්
මිම්මකින් මැන දුනොතොත් එසින්ම නු
බලාටත් නැවත මනිනු ලැබේයයි කි
යේක.

39 තවද උන්වහන්සේ ඔවුන්ට උපමා
40 වක් ගෙනහැරදක්වා අන්ධයෙක් අන්ධ
යෙකුට මග පෙන්වන්ට හැකිවේද? දෙ
නනාම අගලක නොවැටෙද්ද? ගෝල
යා තමාගේ ගුරුවරයාට උසස්නොවන්
නේය. නුමුත් හොඳට උගත් සියල්ලෝ
41 ම තමන්ගේ ගුරුවරයා මෙන් වෙති. නු
බේම ඇසේ තිබෙන දූවය නොසලකා
නුබේ සහෝදරයාගේ ඇසේ තිබෙන
42 පතුර බලන්නේ මක්නිසාද? නො
හොත් නුබේ ඇසේ තිබෙන දූවය නො
සලකා සහෝදරය නුබේ ඇසේ තිබෙ
න පතුර පහකරන්ට අවසර දියනනැයි
සහෝදරයාට කියන්ට කෙසේ හැකිව
නේද? වචාකාරය පලමුකොට නුබේ
ඇසින් දූවය පහකරපනන එවිට නුබේ
සහෝදරයාගේ ඇසේ තිබෙන පතුර ප
හකරන්ට හොඳට පෙනෙනවා ඇත.
43 හොඳ ගස් නරක ඵලද නරක ගස් හො
44 ඳ ඵලද නොදෙනෝය. සියළු ගස් ත
මන් ඵලයෙන් දැනගනු ලැබෙති. කටු
ගසවලින් දිඹුල් ඵලද ගොකටුපඳුරෙන්
45 මුද්‍රික ඵලද නෙලාගනෙන් නැත. හිතේ
පිරීමෙන් මුඛය කථාකරණහෙයින් සත්
පුරුෂයා තමාගේ හෘදයෙහිවූ යහපත් නි
ධානයෙන් යහපත් වස්තූන් අසත්පුරුෂ
යා තමාගේ හෘදයෙහිවූ අයහපත් නිධා
නයෙන් අයහපත් වස්තූන් පිටතට ගන්
46 නේය. මම කියන දේ නොකොට මට
ස්වාමිනි ස්වාමිනියි කියනෙන් මක්නිසා
47 ද? යමෙක් මා ලඟට ඇවිත් මාගේ වචන
අසා එලෙස පිළිපදීද ඔහු කාට සමාන
48 දැයි නුබලාට දක්වමි. ගැඹුරේ හාරා ප
විතයක් පිට අත්තිවාරම ලා ගෙයක් සා
දාගත් මනුෂ්‍යයෙකුට සමානය. වතුර ග
ලා ඇවිත් වතුර පාර තදින් ඒ ගෙට ගැ
සුනේය නුමුත් පර්වතයක් පිට සෑදූ බැ
49 වින් ඒ ගේ සොලවන්ට බැරිවිය. යමෙක්
මාගේ වචන අසා ඒවා පිළිනොපදීද ඔ
හු අත්තිවාරම නොලා පොළොවේ ගෙ
යක් සාදාගත් මනුෂ්‍යයෙකුට සමානය.
වතුර පාර ඒ ගෙට තදෙන් ගැසුනේය
එවලේම ඒ ගෙය වැටුනේය. ඒ ගෙයි
විනාශයද බලවත්වියයි කීයේක.

7. පරිච්. උන්වහන්සේ සමූහයා
අසමින් සිටිද්දී තමන්වහන්සේගේ සිය
ළු වචනවල් කියා නිමවා කපර්නවූමට
2 ඇතුල්වූසේක. එකල සියේකට මූලාදැනි
යෙකුගේ ප්‍රියවූ වැඩකාරයෙක් රෝගා
3 තුරව මරණාසන්නව සිටියේය. ඔහු යේ
සුස්වහන්සේ ගැන අසා උන්වහන්සේ ඇ
විත් තමාගේ වැඩකාරයාට සුවකරන්ට
උන්වහන්සේගෙන් ඉල්ලන පිණිස යුදෙ
වුවරුන්ගේ වැඩිමහල්ලන් උන්වහන්
4 සේවෙතට යවීය. ඔවුන් යේසුස්වහන්
5 සේ ලඟට පැමිණ ඔහු ඔබවහන්සේ
ගෙන් ඒකලබන්ට සුදුස්සෙක ඔහු අප
ගේ වර්ගයට ප්‍රේම ඇතෙනක ඔහු අප
ට සිනගෝගයක් සෑදුයේය කියා බො
6 හෝසෙයින් ඉල්ළුවෝය. එවිට යේසුස්ව
හන්සේ ඔවුන් සමග ගියසේක. උන්ව

හන්සේ ගෙට නුදුරුව සිටිකල සියේ
කට මුලාදෑනියා උන්වහන්සේ වෙතට මි
ත්‍රයන් යවා ස්වාමිනි ඔබවහන්සේ වෙ
හෙස නුවමැනව මාගේ පියස්ස යට
7 ට ඔබවහන්සේගේ ඊමට මම නොවටි
මි එහෙයින් මම ඔබවහන්සේ වෙතට
එන්ටත් වටිනෙතක කියා නොසිතුයෙ
මි. නුඹුත් වචනයක් පමන කිවමැනව
එවිට මාගේ වැඩකාරයාට සුවවනෙන්ය.
8 මමත් ආඥුවට යටගත් මනුෂ්‍යයෙක මා
යටතෙහිද සේවායෝ සිටිති. එකෙකු
ට යවයි කී කල ඔහු යනෙන්ය. අනිකෙ
කුට එවයි කී කල ඔහු එනෙන්ය. මාගේ
වැඩකාරයාට මේක කරවයි කීකල ඔහු
ඒ වැඩ කරනෙන්යයි උන්වහන්සේට කි
9 යවූයේය. යේසුස්වහන්සේ ඒ අසා ඔහු
කෙරෙහි පුදුමව ආපසු හැරී තමන් පස්
සේ එනනාවූ සමූහයාට කථාකොට නුබ
ලාට කියමි ඊශ්‍රායෙල්හිවත් මෙබඳු ම
10 හත් ඇදහිල්ලක් නුදුටිමියි කීසේක. ය
වනලද තැනැත්තෝ ගෙට හැරී ගොස්
රෝගාතුරව උන් වැඩකාරයාට සුවපත්
වූ බව දුටුවෝය.
11 පසුව දා උන්වහන්සේ තමන් ගෝල
යන්ගෙන් බොහෝ දෙනාද මහත් සමූ
හයාද සමග නායීනනම් නුවරට ගියසේ
12 ක. උන්වහන්සේ නුවර වාසල් දොරකඩ
ට පැමිනි කල්හි වැඳඹු ස්ත්‍රියකගේ එ
කමවූ පුත්‍රයාගේ මලකඳ උසුලාගෙන පි
ටතට ගියෝය. බොහෝ නුවරවැසියෝ
13 ඇ සමග ඇවිත් සිටියෝය. ස්වාමින්ව
හන්සේ ඇ දැක ඇ කෙරේ අනුකම්පා
කොට අඬන්ට එපාය කියා ලඟට ඇවිත්
14 මිනිය ගෙනියන මැස්ස පිට අත් තැබූ
සේක. උසුලා ගෙන යනෙනෝ නැවතු
නෝය. එවිට උන්වහන්සේ තරුණයනු
15 බට කියමි නැගිටපනනැයි කීසේක. එ
විට මලාවූ ඔහු නැගිට හිඳ කථාකරන්ට
පටන්ගත්තෝය. උන්වහන්සේ ඔහුගේ
16 මෑණියන්ට ඔහු බාරදුන්සේක. සියල්
ලෝද භයපත්ව උතුම්වූ අනාගතවක්
තෘ කෙනෙක් අප අතරෙහි නැගුනු
සේක. දෙවියන්වහන්සේ තමන්ගේ සෙ
නග බැළැසේකැයි කියමින් දෙවියන්ව
17 හන්සේට ප්‍රසංසා කලෝය. උන්වහන්
සේ ගැන කියනලද ඒ පවත් සියළු යුද
යෙහිද වටකර රට මුළුල්ලෙහිද පත
ලවිය.
18 යොහන්ගේ ගෝලයෝ ඔහුට ඒ
19 සියල්ල දැන්වූවෝය. එවිට ඔහු තමාගේ
ගෝලයන්ගෙන් දෙන්නෙකු කැඳවා
යේසුස්වහන්සේ වෙතට යවමින් එන්
නාවූ තැනැත්තේ ඔබවහන්සේද නො
හොත් වෙන කෙනෙක් බලා සිටිමුදැ
20 යි අහන්ට කීයේය. ඔවුන් උන්වහන්
සේ වෙතට ඇවිත් එනනාවූ තැනැත්
තේ ඔබවහන්සේද නොහොත් වෙන
කෙනෙක් බලා සිටිමුදැයි අහන්ට යො
හන් බව්තීස්ත අප ඔබවහන්සේ ලඟට
21 එව්වේයයි කීවෝය. එකල්හි උන්වහන්
සේ නොයෙක් දෙනාගේ රෝග පීඩා
සුවකරමින් දුෂ්ටාත්ම පහකරමින් නො
යෙක් අන්ධයන්ට පෙනීම දෙමින් උන්
22 සේක. එවිට යේසුස්වහන්සේ උත්තර
දෙමින් නුබලා ගොස් අන්ධයෝ පෙනී
ම ලබති කොරු ඇවිදිති කුෂ්ඨරෝගාතු
රයෝ පවිත්‍රවෙති බිහිරෝ අසති මලා
හු නැගී සිටිති දිලිඳුන්ට සුභාරංචිය ප්‍රකා
සකරනු ලැබෙයි යන නුබලා ඇසූ දුටු
23 දේ යොහන්ට දන්වාපල්ලාය. මා කෙ
රෙහි බාධා නොවෙනතා වාසනාවන්ත
24 යෙකැයි කීසේක. යොහන්ගේ දූතයෝ
ගියවිට උන්වහන්සේ යොහන් ගැන ස
මූහයාට කියනාහට පටන්ගෙන නුබලා
කුමක් බලන්ට වනාන්තරයට ගියෝද?
සුලඟින් සෙලවෙන බට ගසක්ද? නො
25 හොත් කුමක් බලන්ට ගියෝද? සිහින්
වස්ත්‍ර ඇන්දවූ පුරුෂයෙක්ද? අලංකාර
වස්ත්‍ර හැඳ සැප විඳිනෙනෝ රජ මාලිගා
26 වල සිටිති. නොහොත් කුමක් බලන්
ට ගියෝද? අනාගතවක්තෘ කෙනෙක්
ද? එසේය නුබලාට කියමි අනාගතවක්
තෘ කෙනෙකුටත් වඩා උතුම් කෙනෙ
27 ක. මක්නිසාද මම මාගේ දූතයා නුබට
පෙරටුව යවමි ඔහු නුබ ඉදිරියෙහි නුබේ
මාර්ගය සාදනවා ඇතැයි ලියා තිබෙන්
28 නේ මොහු ගැනය. තවද නුබලාට කි
යමි ස්ත්‍රීන්ගෙන් උපන්නාවූන් අතරෙහි
යොහන් බව්තීස්තට වඩා උතුම් අනාග
තවක්තෘ කෙනෙක් නැතෙන්ය. නුමුත්
දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහි කුඩා
තැනැත්තා ඔහුට වඩා උතුමයයි කීසේ
29 ක. යොහන්ගේ බස් ඇසූ සියළු සෙනඟ
ද සුංගම් අයකරනෙනෝද යොහන්ගෙන්
බව්තීස්ම ලැබ දෙවියන්වහන්සේ ධර්මි
30 ෂ්ඨයයි ප්‍රකාසකලෝය. නුමුත් ඵරිසිවරු
ද ව්‍යවස්ථාවෙහි දක්ෂයෝද ඔහුගෙන්
බව්තීස්මය නොලැබ තමන් ගැන දෙවි

යන්වහන්සේගේ අභිප්‍රාය එපාකළෝය.
31 එවිට ස්වාමීන්වහන්සේ කථාකොට දැන්
සිටින මනුෂ්‍යයන් කුමකට උපමාකෙ
32 රෙම්ද? කවරෙකුට ඔවුන් සමානද? අ
පි තුබලාට නලා පිඹෙමුව තුබලා නො
නැටුවෝය. තුබලාට විලාප කීමුව තුබ
ලා නොහැඬුවෝයයි කඩපිල්වල හිඳ ඔ
වුනොවුන්ට හඬගසා කියනනාවූ දරු
33 වන්ට සමාන වෙති. මක්නිසාද යොහන්
බව්තීස්ත ඇවිත් රොටි නොකා මුද්‍රිකපා
නයද නොබී සිටියේය. එබැවින් ඔහුට
යක්ෂයෙක් වැහී ඇතැයි තුබලා කියති.
මනුෂ්‍ය පුත්‍රයා ඇවිත් කමින් බොමින් සි
34 ටියේය. එබැවින් කෑමෙහිද මුද්‍රිකපාන
ය බීමෙහිද ලොල්වූ තැනැත්තෙක සුං
ගම් අයකරන්නන්ගේත් පව්කාරයන්
35 ගේත් මිත්‍රයෙකැයි තුබලා කියති. නු
මුත් ප්‍රඥාව තමාගේ සියළු දරුවන් කාර
ණකොටගෙන නිර්දෝෂව පෙනෙන්නි
යයි කීසේක.
36 ඉන්පසු ඵරිසින්ගෙන් එකෙක් තමා
සමග කනනට උන්වහන්සේට අඬගැසූ
යේය. උන්වහන්සේද ඵරිසියාගේ ගෙ
37 ට ගොස් කෑමට උන්සේක. ඒ නුවර
පව්කාර ස්ත්‍රියක් උන්වහන්සේ ඵරිසි
38 යාගේ ගෙයි කෑමට උන් බව දැන සුව
ඳ තෙලින් පිරූ සුදු ගල් කරඬුවක් ගෙ
නවුත් උන්වහන්සේගේ පාදයන් ළඟ
පිටිපසින් හඬගඬා සිට උන්වහන්සේගේ
පාදයන් කඳුලෙන් තෙමන්ට පටන්ගෙ
න ඒවා තමාගේ ඉසකෙස්වලින් පිස
දමා උන්වහන්සේගේ පාදයන් සිඹ ඒ
39 තෙලින් ගෑවාය. උන්වහන්සේ කැඳවා
ගත් ඵරිසියා ඒ දැක මුන්වහන්සේ අනා
ගතවක්තෘ කෙනෙක්නම් තමන්ට අත
ගහන ස්ත්‍රී කවරෙක්ද කෙබඳු තැනැත්
තියෙක්දැයි දැනගන්ට ඕනෑය මක්නිසා
දඅෑ පව්කාරියෙකැයි තමන්ගේ සිතින්
40 සිතුයේය යේසුස්වහන්සේ උත්තර දෙ
මින් සීමොන් තුබට කාරණයක් කියන්
41 ට මම කැමැත්තෙමියි කීසේක. ඔහුද ආ
චාරීනි කියමැනවයි කීයේය. නය දුන්
පුරුෂයෙකුට නයකාරයෝ දෙදෙනෙක්
සිටියෝය. එකෙක් මසු පන්සියයක්ද
42 අනිකා පනසක්ද නය ඇත්තෝය. ඔවුන්
ට නය ගෙවන්ට කිසිවක් නැතිහෙයින්
ඔහු ඒ දෙදෙනාට ක්ෂමාවූයේය. ඔවුන්
ගෙන් ඔහුට කවරෙක් වැඩිව ප්‍රේමවන්
නේදැයි මට කියාපන්නැයි කීසේක.
43 සීමොන් උත්තර දෙමින් යමෙකුට වැඩි
ව ක්ෂමාවූයේද ඔහුමයයි සිතමියි කීයේ
ය. එවිට තුබ කීවා හරියයි ඔහුට කියා
44 ඒ ස්ත්‍රිය දෙසට හැරී සීමොන්ට කථාකො
ට මේ ස්ත්‍රිය දකිනවාද? මම තුබේ ගෙ
ට ආයෙමි තුබ මාගේ පාද සෝදන්ට ව
තුර දුනෙත් නැත. තුමුත් මෑගේ කඳු
ලෙන් මාගේ පාද තෙමා තමාගේ කිස
45 කෙස්වලින් පිසදැමුවාය. තුබ මා සිඹියේ
නැත තුමුත් මෑ මම ආ වේලේ පටන් මා
46 ගේ පාද සිඹ සිඹ උන්නාය. තුබ මාගේ
ඉසේ තෙල් ගෑවේ නැත තුමුත් මෑ මා
47 ගේ පාදවල සුවඳ තෙල් ගෑවාය. එබැ
වින් තුබට කියමි. ඇගේ බොහෝ පව්
ක්ෂමාවූන නිසා ඈ බොහෝකොට ප්‍රේ
මකළාය තුමුත් යමෙකුට ස්වල්පයක්
ක්ෂමාවූයේද ඔහු ස්වල්පකොට ප්‍රේමක
48 රන්නේයයි කීසේක. එවිට උන්වහන්
සේ තුබේ පව් ක්ෂමාවූනේයයි ඈට කී
49 සේක. එවිට උන්වහන්සේ සමග කමින්
සිටියෝ පව් ක්ෂමාකරණ මොහු කවුදැයි
50 සිතන්ට පටන්ගත්තෝය. එවිට උන්ව
හන්සේ තුබේ ඇදහිල්ලෙන් තුබ ගල
වනු ලැබුවාය. සමාදානයෙන් පලයන්
නැයි ඒ ස්ත්‍රීට කීසේක.

8. පරිච්ඡේ. ඉන්පසු උන්වහන්සේ
දේසනාකරමින් දෙවියන්වහන්සේගේ
රාජ්‍යයාගේ සුභාරංචිය ප්‍රකාසකරමින් සි
යළු නුවරවලද ගම්වලද හැසුරුනුසේ
2 ක. ගෝලයෝ දොළොස් දෙනද දුෂ්
ටාත්මවලින් සහ රෝගවලින් සුවවූනා
වූ සමහර ස්ත්‍රියෝද යකුන් සත්දෙනෙක්
දුරුව ගියාවූ මග්දලේනානම් මරියාද
3 හෙරෙද්ගේ ගබඩාකාර ඇමතිවූ කූසා
ගේ භාර්‍යාවූ යොහන්නාද සුසානාද ත
මන්ගේ වස්තුවෙන් උන්වහන්සේට උප
ස්ථානකළාවූ වෙන බොහෝ ස්ත්‍රියෝද
උන්වහන්සේ සමග සිටියෝය.
4 බොහෝ සමූහයෝ උන්වහන්සේ වෙ
ත රැස්ව සිටිද්දී නොයෙක් නුවරවලින්
තවත් මනුෂ්‍යයෝ එනකල උන්වහන්
සේ උපමාවකින් කියනසේක් වපුරන්
නෙක් බීතතර වපුරන්ට පිටත්ව ගියේ
5 ය. ඔහු වපුරණකල සමහරක් මාවත වැ
ටී පයින් පාගන්ට යෙදුනේය පක්ෂීහු ඇ
6 විත් ඒවා අවුලා කෑවෝය. සමහරක් ගල්
බිමක වැටී පැළව දියසිරාව නැති බැ
7 වින් වෙලී ගියේය. සමහරක් කටු අතරේ

වැටුණේය කටුද ඒ සමග වැවී යටකිරී
8 මෙන් ඒවා නැසුවේය. සමහරක් සරු
බිමේ වැටී පැලව එකෙන් සියක් ගුණ
යක් ඵල දුනේයයි කියා අසන්ට කන්
9 ඇත්තෙක් අසාවයි හඬගසා කීසේක. උ
න්වහන්සේගේ ගෝලයෝ මේ උපමාව
කිමෙක්දැයි ඇසුවෝය. එකල උන්වහන්
10 සේ ඔවුන්ට කියනසේක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයේ රහස් දැනගැන්ම නුඹ
ලාට දෙනු ලැබේ. නුමුත් දැක දැකත්
නොදක්නාවූ අස අසාත් තේරුම් නො
ගන්නාවූ වෙන අයවලට උපමාවලින්
11 දෙනුලැබේ. ඒ උපමාව මෙසේය. බිත්ත
12 රනම් දෙවියන්වහන්සේගේ වචනයය.
මාවතනම් වචනය ඇසුනුමුත් අදහා
නොගැලවෙන ලෙස සාතන් ඇවිත් සි
තිලින් වචනය උදුරාගනු ලබනෝය.
13 ගල් බිමනම් වචනය අසා සන්තෝස
යෙන් පිළිගත් නුමුත් මුල් නැති බැවින්
ස්වල්ප කාලයක් අදහගෙන පරීක්ෂා කා
14 ලයෙහි පසුබටවෙනෝය. බිත්තර වැ
ටුනු කටු අතරනම් අසා ගොස් මේ ලෝ
කේ සිතිවිලිවලින්ද වස්තුවෙන්ද සැපති
න්ද යටවෙමින් හොඳ ලෙස කිසි ඵලයක්
15 නොදෙනෝය. බිත්තර වැටුනු සරු
බිමනම් වචනය අසා සැබෑවූ යහපත්
සිත්හි තබාගෙන ඉවසීමෙන් ඵල දෙ
නෝය.
16 කවරෙක්වත් පහනක් දල්වා භාජන
යකින් නොවසන්නේය. ඇඳක් යටද
නොතබන්නේය. නුමුත් ඇතුල්වෙන්
නන්ට එළිය පෙනෙන පිනිස පහන් ක
17 ඳක් උඩ තබන්නේය. එලෙසම මතු එ
ළිදරවූ නොවෙන්නාවූ රහසකුත් නැත
මතු දැනනොගන්නාවූ එළිදරවූ නොව
න්නාවූ සැඟවී තිබෙන කිසිවකුත් නැත.
18 එබැවින් ඇති අයට දෙනු ලැබෙන නි
සාත් නැති අයගෙන් ඇත කියා සිතෙ
න දේත් උදුරාගනු ලැබෙන නිසාත් නු
බලා අහනෙත් කොහොමද කියා බලා
ගනිල්ලායයි කීසේක.
19 එවිට උන්වහන්සේගේ මෑණියෝද
සහෝදරයෝද උන්වහන්සේ වෙතට
ආවෝය. නුමුත් සමූහයා නිසා උන්වහන්
සේ ළඟට එන්ට පුළුවන්වූනේ නැත.
20 එකල සමහරෙක් ඔබවහන්සේගේ මෑ
ණියෝද සහෝදරයෝද ඔබවහන්සේ
දකිනනට කැමතිව ඇවිත් පිටත සිටිති
21 යි උන්වහන්සේට දැන්වූවෝය. උන්ව
හන්සේ ඔවුන්ට උත්තර දෙමින් මාගේ
මෑණියොත් සහෝදරයොත් නම් දෙවිය
න්වහන්සේගේ වචනය අසා ඒ වචනය
ප්‍රකාරයට පිළිපදින්නෝමයයි ඔවුන්ට
කීසේක.
22 එක් දවසක උන්වහන්සේ තමන් ගෝ
ලයන් සමග නැවකට නැගී විලෙන් එ
23 ගොඩට යමුයයි ඔවුන්ට කීසේක. එවිට
ඔවුන් නැව දියත්කොට යමින් සිටිද්දී
උන්වහන්සේ නිදාගෙන උන්සේක. ත
ද හුළඟක් විලෙහි හටගෙන වතුරෙන්
නැව පිරී එසින් ඔවුන් අන්තරාවට පැ
24 මින උන්වහන්සේ ළඟට ඇවිත් ආචාරී
නි ආචාරීනි අපි විනාසයයි කියා උන්ව
හන්සේ පිබිදවූවෝය. එවිට උන්වහන්
සේ නැගිට හුළඟටත් තද රැළටත් සැ
රකලසේක. එවිට ඒවා නැවතී නිශ්චල
25 යක් විය. එකල උන්වහන්සේ නුබලාගේ
ඇදහිල්ල කොයිදැයි ඔවුන්ගෙන් ඇසූ
සේක. නුමුත් ඔවුන් භයව පුදුම්වෙමින්
මූන්වහන්සේ කොබඳු මනුෂ්‍යයෙක්ද? හු
ළඟටත් වතුරටත් අණකරණසේක ඒවා
උන්වහන්සේට කීකරුවෙනවායයි කියා
ඔවුනොවුන් කථාකරගත්තෝය.
26 ඔවුන් ගලීලය ඉදිරියේ තිබෙන ගද
27 රේනුන්ගේ රටට පැමිණියෝය. උන්ව
හන්සේ ගොඩබැස්ස කල බොහෝ කා
ලක පටන් යකුන් වැසී සිටි ඇඳුම් නා
දින සොහොන් ගෙවල මිස ගෙයක
නොවසන ඒ නුවර වැසි මනුෂ්‍යයෙක්
28 උන්වහන්සේගේ පෙරමගට ආයේය. අ
සුද්ධාත්මය නොයෙක් විර ඔහු ඇල්ලීය
එහෙයින් මනුෂ්‍යයෝ ඔහු විලංගුවලින්ද
යදම්වලින්ද බැඳ රැකවල් කලෝය. නු
මුත් ඔහු බැඳුම් බිඳ යක්ෂයා විසින් ව
29 නාන්තරයට නෙරපනලද්දේය. ඔහු යේ
සුස්වහන්සේ දැක මොරගා උන්වහන්සේ
ඉදිරියේ වැටී මහෝත්තමවූ දෙවියන්ව
හන්සේගේ පුත්‍රවූ යේසුස්වහන්ස ඔබව
හන්සේට මාගෙන් කම මොකද? මට
පීඩා නොකල මැනවැයි මහත් හඬින් කී
යේය. මක්නිසාද උන්වහන්සේ ඒ මනු
ෂ්‍යයා කෙරෙන් දුරුව යවයි අසුද්ධාත්ම
30 යට අනදුන්සේක. එවිට යේසුස්වහන්
සේ තාගේ නම කොහොමදැයි ඔහු
ගෙන් ඇසූසේක. බොහෝ යක්ෂයෝ වැ
31 හී සිටි නිසා ඔහු ලෙගියොන්යයි කීය.
එවිට ඔවුන් පාතාලයට යන්ට අපට අන
නොකලමැනවයි උන්වහන්සේගෙන්

32 ඉල්ලුවෝය. එතනම කන්දක මහත්වූ ඌ
රූ රැලක් ගොදුරු කමින් සිටියේය.
උන්ට වැහෙනනාට අවසර දුනමැනවයි
උන්වහන්සේගෙන් ඉල්ලුවෝය. උන්ව
33 හන්සේද ඔවුන්ට අවසර දුන්සේක. එ
විට යක්ෂයෝ ඒ මනුෂ්‍යයා කෙරෙන් දු
රුව ගොස් ඌරන්ට වැහුනෝය. ඌරු
රැල වේගයෙන් දුව ගොස් උස් තැන
34 කින් විලේ වැටී මැරුණෝය. ඌරු රැක
වල්ලු ඒ දැක පලාගොස් නුවරෙහිද ර
35 ටෙහිද ඒ බව දැන්වූවෝය. එවිට සිද්ධවූ
කාරණාව කිමෙක්දැයි දකින්ට මනුෂ්‍ය
යෝ පිටත්ව ගොස් යේසුස්වහන්සේ වෙ
තට ඇවිත් පහවූ යක්ෂයන් ඇති මනුෂ්‍ය
යා වස්ත්‍ර ඇඳ සිහි ඇතුව යේසුස්වහන්
සේගේ පාදමූලයෙහි උන් බව දැක භ
36 යවූවෝය. යකුන් වැහී සිටි මනුෂ්‍යයාට
සුවකල බව දුටුවෝ ඒ කාරණාව සිද්ධවූ
සේ කෙලෙසදැයි ඔවුන්ට දැන්වූවෝය.
37 එවිට ගදරේනුන්ගේ රට වටකර සිටි සි
යළු සමූහයෝ මහත්වූ භයට පැමිණ අප
කෙරෙන් පහව ගිය මැනවයි උන්වහන්
සේගෙන් ඉල්ලුවෝය උන්වහන්සේද
38 නැවට නැඟී ගියසේක. පහවූ යක්ෂයන්
ඇති ඒ මනුෂ්‍යයා උන්වහන්සේ සමග
39 සිටින්නට ඉල්ලුවේය. නුමුත් යේසුස්ව
හන්සේ ඔහු යවමින් නුඹේ ගෙට නැව
ත ගොස් දෙවියන්වහන්සේ විසින් නුඹ
ට කල මහත් කාරණා දන්වාපනනැයි කී
සේක. එවිට ඔහු ගොස් යේසුස්වහන්
සේ තමාට කල මහත් කාරණා නුවර මු
ළුල්ලේ ප්‍රසිද්ධකලේය.
40 යේසුස්වහන්සේ හැරී ආකල්හි උන්ව
හන්සේගේ ඊම බලා සිටියාවූ සමූහයෝ
උන්වහන්සේ සන්තෝෂයෙන් පිලිගත්
41 තෝය. තවද සිනගෝගයෙහි මූලාදෑනි
යාවූ යායිරස්නම් මනුෂ්‍යයෙක් ඇවිත්
යේසුස්වහන්සේගේ පාමුල වැටී තමන්
42 ගේ ගෙට එන ලෙස ඉල්ලුවේය. මක්නි
සාද දොලොස් අවුරුදු පමන වයස් ඇ
ති ඔහුගේ එකමවූ දුව මරණාසන්නව
ඔත්පලව සිටියාය. උන්වහන්සේ යන
කල සමූහයෝ උන්වහන්සේ පැහැරගෙ
43 න සිටියෝය. එකල දොලොස් අවුරුද්
දක පටන් මහලේ රෝග ඇති එක්
ස්ත්‍රියක් වෙදුන්ට තමාගේ සියළු සම්පත්
44 වියදම්කොට කාගෙන්වත් සුවයක් නො
ලැබ පිටිපසින් ලඟට ඇවිත් උන්වහන්
සේගේ ඇඳුමේ කොන අතගෑවාය.
එවලේම ඇගේ මහලේ නැවතුනේය.
45 එවිට යේසුස්වහන්සේ මා අතගෑවේ කවු
දැයි ඇසූසේක. සියල්ලෝම අපි එසේ
නොකලෙමුයයි කී කල්හි පේත්‍රුස්ද ඔහු
සමග සිටියෝද ආචාරීනි සමූහයා ඔබව
හන්සේ වටකොට පැහැරගෙන සිටිද්දී
මා අතගෑවේ කව්ද කියා අහනසේක්
46 දැයි කීවෝය. යේසුස්වහන්සේ කවුරු
නුමුත් මා අතගෑවේය මාගෙන් ආනුභා
47 ව පිටත්ව ගියේයයි දනිමියි කීසේක. එ
විට ඒ ස්ත්‍රී තමා ප්‍රසිද්ධවූනු බව දැන වෙව්
ලමින් ඇවිත් උන්වහන්සේගේ පාමුල
වැටී තමා විසින් උන්වහන්සේ අතගෑ
කාරණාවත් එවලේම ඇට සුවවූනු බවත්
සියළු සෙනඟ ඉදිරියේ උන්වහන්සේට
48 දැන්වූවාය. උන්වහන්සේ දුවනියෙනි භ
යනොවෙනන නුඹේ ඇදහිල්ල නුඹ සු
වකලාය සමාදානයෙන් පලයනනැයි ඇ
49 ට කීසේක. උන්වහන්සේ කථාකරමින්
සිටිද්දීම සිනගෝගයෙහි ප්‍රධානයාගේ
ගෙයින් එකෙක් ඇවිත් නුඹේ දියණි
යෝ මලාය ආචාරීන්වහන්සේට වෙහෙස
50 නොකරනනැයි ඔහුට කීයේය. යේසුස්
වහන්සේ ඒ අසා භයනොවී ඇදහිල්ල
ම කරපනන එවිට ඈ රක්ෂාවෙනවා ඈ
51 නැයි කියා ගෙට ගියසේක. පේත්‍රුස්දයා
කොබ්ද යොහන් යෞවනියගේ මව්පිය
න් ඇර වෙන කාටවත් ඇතුල්වෙන්ට අ
52 වසර නුදුන්සේක. සියල්ලෝම ඈ නිසා
අඩා වැලපුනෝය. උන්වහන්සේද අ
ඩන්ට එපාය ඈ නිදනවා මිස මැරුණේ
53 නැතැයි කීසේක. එවිට ඔවුන්[ඈ]මල
බව දැන උන්වහන්සේට සිනාසුනෝය.
54 උන්වහන්සේ ඔවුන් සියල්ල පහකොට
ඇගේ අත අල්වාගෙන යෞවනිය නැ
55 ගිටපනනැයි කීසේක. එවිට ඇගේ ආත්
මය නැවත ඈ කරා පැමුනුනාය ඈ එව
56 ලේම නැගුටුනාය. උන්වහන්සේද ඈ
ට කෑම දෙන්ට අනාදුන්සේක ඇගේ
මව්පියෝද පුදුමවූනෝය. නුමුත් සිද්ධවූ
නාවූ කාරණාව කාටවත් නොදන්වන්ට
උන්වහන්සේ ඔවුන්ට අනාදුන්සේක.

9. පරිච්ඡේ. එවිට උන්වහන්සේ ත
මන් ගෝලයන් දොලොස් දෙන කැඳ
වා සියළු යක්ෂයන් කෙරේ බලයද රෝ
ග සුවකරන්ට පුළුවන්කමද ඔවුන්ට දී
2 දෙවියන්වහන්සේගේ රාජ්‍යය ප්‍රකාශක
රන්වද රෝගාතුරයන් සුවකරන්වද ඔ

3 වූන් යවමින් කියනසේක් ගමනට කිසි
වක් එනම් හැරමිටිවත් පසුම්බියවත් රෙ
ටිවත් මුදල්වත් ඇඳුම් දෙක දෙකවත්
4 නොගනිල්ලාය. නුඹලා යම් ගෙදරකට
ඇතුල්වූනොත් ඒ ස්ථානයෙන් පිටත්ව
5 යනකල් එහි වාසයකරපල්ලාය. කවුරු
නුමුත් නුඹලා පිළිනොගනිතොත් ඒ නු
වරින් පිටත්ව යන කල ඔවුන්ට විරුඬව
සාක්ෂි පිණිස නුඹලාගේ පතුල්වල දූවිලි
6 ගසාදමාපල්ලායයි කීසේක. ඔවුහු පිටත්
ව සෑම තැන්හිම සුභාරංචිය ප්‍රකාශකර
මින් රෝග සුවකරමින් ගමින් ගම ඇ
විද්දෝය.
7 රටෙන් සතරෙන් කොටසකට රජවූ
හෙරොද් යේසුස්වහන්සේ විසින් කල සි
8 යල්ල අසා කැලඹුනේය. මක්නිසාද සම
හරෙක් යොහන් මලවුන්ගෙන් නැඟුටු
නේය කියාත් සමහරෙක් එලියස් පෙනු
නේය කියාත් සමහරෙක් පෙර සිටි අනා
ගතවක්තෘන්ගෙන් එක්කෙනෙක් නැ
9 ඟුටුනේය කියාත් කීවෝය. එවිට හෙ
රොද් මම යොහන්ගේ හිස කැප්පවීම් නු
මුත් යමෙක් ගැන මෙපමන කාරණ අ
සම්ද ඔහු කව්දැයි කියා ඔහු දකින්ට
සෙවීය.
10 ප්‍රේරිතයෝ හැරී ඇවිත් තමන් විසින්
කල සියල්ල උන්වහන්සේට කීවෝය.
එවිට උන්වහන්සේ ඔවුන් පමනක් කැ
ඳවාගෙන බෙත්සයිදනම් නුවරට අයිති
11 වූ වනාන්තරස්ථානයකට ගියසේක. සමූ
හයාත් ඒ දැන උන්වහන්සේ පස්සේ
ගියෝය. එවිට උන්වහන්සේ ඔවුන් පි
ළිගෙන දෙවියන්වහන්සේගේ රාජ්‍යය
ගැන ඔවුන්ට කථාකොට සුවවීමට ඕනෑ
12 කම ඇත්තවුන්ට සුවකලසේක. සවස්
වෙන්ට පටන්ගත්කල දොළොස් දෙන
උන්වහන්සේ ලඟට පැමින අපි මේ ව
නාන්තරස්ථානයේ සිටින බැවින් සමූහ
යෝ වටකර තිබෙන ගම් නියම්ගම්වල
ට ගොස් නවාතැන් කෑමද සපයාගන්ට
13 ඔවුන් ඇරියමැනවයි කීවෝය. උන්ව
හන්සේ නුඹලා ඔවුන්ට කෑම දීපල්ලාය
යි කීසේක. ඔවුහු අපි ගොස් මේ සියළු
සෙනගට කෑම මිලදී ගනොත් මිස රො
ටි පහකටත් මසුන් දෙදෙනකුටත් වඩා
14 අප ලඟ නැතැයි කීවෝය. මක්නිසාද ප
ස්දහසක් පමන මනුෂ්‍යයෝ එහි සිටියෝ
ය. එවිට ජේලියට පනහ පනහ බැගින්
ඔවුන් ඉඳුවන්ට ගෝලයන්ට කීසේක.
15 ඔවුන් එසේ කොට සෑම දෙනාම ඉන්
16 දෙව්වෝය. එවිට උන්වහන්සේ රොටි
පහත් මසුන් දෙදෙනාත් ගෙන ස්වර්ගය
දෙස බලා ස්තුතිකොට කඩා සමූහයා ඉ
දිරියේ තබන්ට ගෝලයන්ට දුන්සේක.
17 ඔවුන් සියල්ලෝද කාලා තෘප්තියට පැමි
ණියෝය. ඉතිරිවූ කැබලි පිරූ පැස් දො
ළසක් රැස්කරගත්තෝය.
18 ඉන්පසු උන්වහන්සේ තනියම යාච්ඤා
කරණ කල්හි උන්වහන්සේගේ ගෝල
යෝ ලඟ සිටියෝය. එවිට උන්වහන්සේ
මා කවරෙක කියා සමූහයෝ කියද්දැයි
19 ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන් උත්තර
දෙමින් සමහරෙක් යොහන් බව්තීස්ත
ය සමහරෙක් එලියස්ය තවත් සමහ
රෙක් පෙර සිටි අනාගතවක්තෘන්ගෙන්
එක්කෙනෙක් නැඟුටුනේයයි කියතියි
20 කීවෝය. උන්වහන්සේ නුඹලා මා කව
රෙක කියනවාදැයි ඔවුන්ගෙන් ඇසූසේ
ක. පේතෘස් උත්තර දෙමින් දෙවියන්ව
21 හන්සේගේ ක්‍රිස්තුස්යයි කීයේය. එකල
උන්වහන්සේ මේ දේ කාටවත් නොකි
22 යල්ලායයි ඔවුන්ට තදින් අනදී මනුෂ්‍ය
පුත්‍රයා නොයෙක් දුක් විඳින්ටත් වැඩි
මහල්ලන් විසිනුද නායක පූජකයන් විසිනුද
ලියන්නන් විසිනුද එපාකරනු ලබන්ටත්
මරනු ලබන්ටත් තුන්වෙනි දා නැඟිටින්
ටත් ඕනෑයයි කීසේක.
23 එවිට උන්වහන්සේ සියල්ලන්ට කථා
කොට යමෙක් මා පස්සේ එන්නට කැම
තිනම් ඔහු තමාගේ කැමැත්ත අත්ඇර
දවස්පතා තමාගේ කුරුසිය අරගෙන
24 මා පස්සේ ඒවා. මක්නිසාද තමාගේ ප්‍රා
ණය රක්ෂාකරගන්ට කැමති තැනැත්තා
ඒක නැතිකරගනේය. මා නිසා තමා
ගේ ප්‍රාණය නැතිකරගන්නා තැනැත්
25 තා ඒක රක්ෂාකරගන්නේය. යම් මනුෂ්‍ය
යෙක් මුළු ලෝකය ලබාගත්තත් තමා
ගේ ප්‍රාණය නැතිකරගනොත්නම් නො
හොත් විනාසකරනු ලැබීනම් ඔහුට ප්‍ර
26 යෝජන මොකද? තවද මටත් මාගේ
වචනයටත් යමෙක් ලැජ්ජාවේද මනුෂ්‍ය
පුත්‍රයා තමන්ගේද පියානන්වහන්සේ
ගේද පිරිසිදු දූතයන්ගේද තේජසින් ඒ
න කල ඔහුටත් ලැජ්ජාවෙනවා ඇත.
27 සැබවක් නුඹලාට කියම් මෙහි සිටින්
නන්ගෙන් සමහරෙක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යය දකිනතුරු මරණ රසය
නොවිඳිතියි කීසේක.

28 මේ වචන කී අට දවසකට පමණ ප
සු උන්වහන්සේ පේත්‍රුස්ද යොහන්ද යා
කොබ්ද කැඳවාගෙන යාඥාවෙන්ට ක
29 න්දකට නැගුනුසේක. උන්වහන්සේ යා
ඥාකරණ කල උන්වහන්සේගේ මුහුණේ
ස්වරූපය වෙනස්විය. උන්වහන්සේගේ
30 ඇඳුම් සුදුව බැබළුණේය. එවිට පුරුෂ
යෝ දෙනෙනෙක් උන්වහන්සේ සමග
කථාකලෝය. ඔවුන් මෝසෙස් සහ එ
31 ලියස්ය. ඔවුන් තේජසින් යුක්තව පෙ
නී උන්වහන්සේ විසින් යෙරුසලමේ
හිදී මරණය විඳ සම්පූර්ණ කවයුතු
32 දේ ගැන කථාකලෝය. පේත්‍රුස්ද ඔහු
සමග සිටියාහුද බර නිඳුට පැමිනියෝ
ය. ඔවුන් පිබිද උන්වහන්සේගේ තේජ
ස්ද උන්වහන්සේ සමග සිටි මනුෂ්‍යයන්
33 දෙනාද දුටුවෝය. ඔවුන් උන්වහන්
සේ වෙතින් පිටත්ව යන කල්හි පේත්‍රුස්
තමා කියන කිම මොකදැයි නොදැන ආ
චාරිනි අපට මෙහි සිටින්ට යහපත. එබැ
වින් ඔබවහන්සේට එකක්ද මෝසෙස්
ට එකක්ද එලියස්ට එකක්ද බැගින්
පැල් තුනක් සාදමුයයි යේසුස්වහන්සේ
34 ට කියේය. ඔහු කථාකරමින් සිටිද්දිම ව
ලාපටලයක් ඇවිත් ඔවුන් වසාගත්තේ
ය. වලාපටලයෙන් වැසී ගියාවූ ඔවුන්
35 භයපත්වූවෝය. එවිට මොහු මාගේ ප්‍රිය
පුත්‍රයාය මොහුගේ බස් අසාපල්ලායයි ව
36 ලාපටලයෙන් හඬක් විය. ඒ හඬ නැවතු
නු කල යේසුස්වහන්සේ තනියම සිටින
බව ඔවුන් දුටුවෝය. ඔවුන්ද තමන් දු
ටු දේවලින් කිසිවක් ඒ දවස්වලදී කාට
වත් නොකියා සිතේ තබාගත්තෝය.
37 පසුව දා ඔවුන් කන්දෙන් බැස්සකල ම
හත් සමූහයක් උන්වහන්සේගේ පෙරම
38 ගට ආයේය. සමූහය අතරෙන් එකෙක්
හඬගසමින් කියනුයේ ආචාරිනි මාගේ
පුත්‍රයා බැළුව මැනව ඔහු මාගේ එකම
39 පුත්‍රයාය. යක්ෂයෙක් ඔහුට වැහෙනෙන්
ය. වැහුනු වේලේම ඔහු මුරගසනෙන්
ය. ඒ ආත්මයා ඔහු වෙව්ලවා පෙනදම්
මවා හිංසාකොට අමාරුවෙන් ඔහුගෙන්
40 අහක්ව යනෙත්ය ඔහු දුරුකරන්ට ඔබ
වහන්සේගේ ගෝලයන්ගෙන් ඉල්වීමි
නුමුත් ඔවුන්ට නුපුළුවන්වියයි කියේය.
41 යේසුස්වහන්සේ උත්තර දෙමින් ඇදහි
ලි නැත්තාවූ අකීකරුවූ මනුෂ්‍යයෙනි ම
ම කොපමන කල් නුබලා වෙත සිටිම්ද?
කොතෙක් ඉවසම්ද? නුබේ පුත්‍රයා
42 මෙහි ගෙනෙනහැයි කීසේක. ඔහු එද්
දිම යක්ෂයා ඔහු බිම හෙළා වෙව්ලෙව්
වේය. යේසුස්වහන්සේ අසුබාත්මයාට සැ
රකොට ලදරුවාට සුවකර පියාට ඔහු
බාරදුන්සේක.
43 එවිට සියල්ලෝම දෙවියන්වහන්සේ
ගේ මහත්තත්වයට පුදුමවූවෝය. යේ
සුස්වහන්සේ විසින් කල සියළු දේවලට
සියල්ලෝම පුදුමව සිටිද්දී උන්වහන්සේ
44 තමන් ගෝලයන්ට කථාකොට මනුෂ්‍ය
පුත්‍රයා මනුෂ්‍යයන්ගේ අතවලට පාවාදෙ
නු ලැබෙයයි යන මේ වචන නුබලාගේ
45 කන්වල බහාගනිල්ලායයි කීසේක. ඔ
වුන් ඒ කීම තේරුම්ගත්තේ නැත. ඒක
ඔවුන්ට නොහැගෙන ලෙස වැසී තිබු
ණේය. ඔවුහු ඒ කීම ගැන උන්වහන්
සේගෙන් අසන්ට භයවූවෝය.
46 එවිට තමන්ගෙන් කවරෙක් උතුම්
වනෙන්දැයි ඔවුන් අතරේ වාදයක් හට
47 ගත්තේය. යේසුස්වහන්සේ ඔවුන්ගේ සි
තිවිලි දැන ලදරුවෙක් අරගෙන තමන්
48 ලග සිටුවා කියනසේක් මේ ලදරුවා මා
ගේ නාමයෙන් පිලිගන්නා තැනැත්තා
මා පිලිගනෙත්ය මා පිලිගන්නා තැනැ
ත්තා මා එවූ තැනන්වහන්සේ පිලිගන්
නේය. එබැවින් නුබලා සියල්ලන් අත
රෙන් ඉතා කුඩාවූ යමෙක් ඇද්ද ඔහු
49 මහත්වෙනවා ඇතැයි කීසේක. එවිට
යොහන් කථාකොට ආචාරිනි ඔබවහන්
සේගේ නාමයෙන් යක්ෂයන් දුරුකර
නෙනක් දුටිමුව ඔහු අප එක්ව නේන
බැවින් ඔහු වැලැක්විමුයයි කීයේය. එවි
50 ට යේසුස්වහන්සේ ඔහු වලකන්ට එපා
ය මක්නිසාද අපට විරුඩ නැත්තා අපේ
පක්ෂයට සිටිනෙත්යයි ඔහුට කීසේක.
51 උන්වහන්සේ ඔසවනු ලබන කාලය
ලංවූ කල උන්වහන්සේ ස්ථිරවූ සිතින්
යෙරුසලමට යන්ට පිටත්ව තමන්ට ඉස්
52 සරව දූතයන් ඇරියසේක. ඔවුහු ගොස්
උන්වහන්සේට උවමනා දේ පිලියෙල
කරණ පිනිස සමාරියයන්ගේ ගමකට ඇ
53 තුල්වූවෝය. නුමුත් උන්වහන්සේ යෙ
රුසලම බලා යන හෙයින් ඔවුන් උන්ව
54 හන්සේ පිලිගත්තේ නැත. උන්වහන්සේ
ගේ ගෝලවූ යාකොබ්ද යොහන්ද ඒ දැ
ක ස්වාමිනි එලියස් කලාක්මෙන් ඔවුන්
නාස්තිකරණ පිනිස අහසින් ගිනි බසින්
ට අප විසින් අන දෙන්ට කැමති සේක්
55 දැයි ඇසුවෝය. උන්වහන්සේ හැරී ඔ

වූන්ට සැරකොට නුඹලා මොන සිත
කින් යුක්තව සිටිනවාදැයි නුඹලා දන්
56 නේ නැත. මනුෂ්‍ය පුත්‍රයා මනුෂ්‍යයන්
ගේ ප්‍රාණ රක්‍ෂාකරන්ට මිස විනාසක
රන්ට ආවේ නැතැයි කියා ඔවුන් සමග
අන් ගමකට ගියසේක.
57 ඔවුන් මාර්ගයෙහි යන කල එක්තරා
මනුෂ්‍යයෙක් ස්වාමිනි ඔබවහන්සේ යම්
තැනකට යනසේක්ද එතනට මමත් ඔ
58 බවහන්සේ පස්සේ යෙමියි කීයේය. යේ
සුස්වහන්සේ කැනහිළුන්ට බිලද ආකාස
පක්ෂීන්ට කූඩුද ඇත. නුමුත් මනුෂ්‍ය පු
ත්‍රයාට ඉස තබන්ටවත් තැනක් නැතැයි
59 ඔහුට කීසේක. උන්වහන්සේ අනිකකු
ට මා පස්සේ වරෙනතැයි කීසේක. ඔහු
ස්වාමිනි පලමුකොට ගොස් මාගේ පියා
තැන්පත්කරන්ට මට අවසර දුනමැනව
60 යි කීයේය. යේසුස්වහන්සේ මලාහු ත
මන්ගේ මලවුන් තැන්පත් කෙරෙත්වා
නුඹ ගොස් දෙවියන්වහන්සේගේ රාජ්‍ය
61 ය ප්‍රකාසකරපනතැයි ඔහුට කීසේක. අ
නිකෙක්ද ස්වාමිනි ඔබවහන්සේ පස්
සේ එමි නුමුත් මම පලමුකොට ගොස්
මාගේ ගෙයි සිටිනනන්ට දන්වා එන පි
නිස මට අවසර දුනමැනවයි කීයේය.
62 යේසුස්වහන්සේ නගුලේ අත තබා ආප
සු බලනනාවූ කිසිවෙකුත් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයට සුදුසුයයි ඔහුට කී
සේක.

10. පරිච්ඡේ. එසින් පසු ස්වාමින්ව
හන්සේ තවත් සැත්තෑ දෙනෙක් නිය
මකොට තමන් යන්ට සිතූ සියළු නුවර
වලටද ස්ථානවලටද ඔවුන් දෙනා දෙ
නා තමන්ට පෙරටුව යවමින් කියන
2 සේක් ඒකාන්තයෙන් ගොයම බොහෝ
ය නුමුත් ගොවියෝ ස්වල්ප දෙනෙක. එ
බැවින් තමන්ගේ ගොයමට ගොවීන් ය
වන්ට ගොයන් ස්වාමියාගෙන් ඉල්ලාපල්
3 ලාය. නුඹලා පලයල්ලාය වෘකයන් මැදට
බැටළු පැටවුන් යවනනාක්මෙන් මම නු
4 ඹලා යවමි. මුදල් පසියවත් පසුම්බියවත්
වහන් ස ගල්වත් නොගනිල්ලාය. මාර්ග
5 යේදී කාටවත් ආචාර නොකරල්ලාය. නු
ඹලා යම් ගෙයකට ඇතුල්වූනොත් පල
මුකොට මේ ගෙට සමාදනය වේවයි කි
6 යාපල්ලාය. සමාදන පුත්‍රයෙක් එහි සිටි
යොත් නුඹලාගේ සමාදනය ඔහු කෙ
රෙහි පිහිටනෙත්ය. නැතහොත් නැ
7 වත නුඹලාට පැමිනෙන්නේය. වැඩ
කාරයාට තමාගේ කුලිය සුදුසු බැවින්
ඔවුන් දෙන දෙයක් කමින් බොමින් එ
8 ම ගෙයිම සිටපල්ලාය. ගෙයකින් ගෙ
යකට නොයල්ලාය. නුඹලා යම් නුව
රකට ඇතුල්වූ කල ඔවුන් නුඹලාට ආ
9 ගන්තුක සත්කාර කලෝනම් නුඹලා ඉ
දිරියෙහි තබනලද දේ කා එහි වසන
රෝගීන්ට සුවකොට දෙවියන්වහන්
සේගේ රාජ්‍යය නුඹලා ලගට පැමුනු
10 නේයයි ඔවුන්ට කියාපල්ලාය. නුමුත්
යම් නුවරකට නුඹලා ඇතුල්වූකල ඔ
වුන් ආගන්තුක සත්කාර නොකලෝ
11 නම් ඒ නුවර වීදිවලට බැස අප කෙරෙ
හි ඇලෙන නුඹලාගේ නුවර දූවිලි පවා
නුඹලාට විරුඬව ගසාදමමුව. එසේවී නු
මුත් දෙවියන්වහන්සේගේ රාජ්‍යය නුඹ
ලාට ලංවූ බව දැනගනිල්ලායයි කියාපල්
12 ලාය. නුඹලාට කියමි ඒ දවසෙහි ඒ නුව
ර දඬුවමට වඩා සොදොම්හි දඬුවම ඉවසි
13 ය හැකිවනෙත්ය. එඩා බොරසීන් තිට
දුක්වනෙත්ය එඩා බෙත්සයිඳ තිට දුක්
වන්නේය. තොප ඇතුලේ කල පුදුම
දේ තීර් සහ සිදොන්හි කලානම් මීට ප
ලමුවෙන් ගෝනි රෙදි හැඳ අළුයෙහි හි
ඳිමින් පසුතැවිල්ලට පැමුනුනෝ වෙත්.
14 එහෙත් විනිශ්චයෙහිදී තොපගේ දඬුව
මට වඩා තීර් සහ සිදොන්ගේ දඬුවම ඉ
15 වසිය හැකිවනෙත්ය. ස්වර්ගය දක්වා
උසස්කරනු ලැබූ කපර්ණාවූම තී නිරය
16 දක්වා හෙළනු ලබන්නීය. නුඹලාගේ
වචන අසනනා මාගේ වචන අසනෙත්
ය. නුඹලාට නින්දකරනනා මට නින්ද
කරනෙත්ය. මට නින්ද කරනනා මා එ
වූ උන්වහන්සේට නින්දකරනෙත්යයි
කීසේක.
17 ඉන්පසු ඒ සැත්තෑ දෙන සන්තෝස
යෙන් නැවත ඇවිත් ස්වාමිනි ඔබවහන්
සේගේ නාමය කරණකොටගෙන යක්
ෂයෝ පවා අපට යටත්වෙතියි කීවෝ
18 ය. එවිට උන්වහන්සේ කියනසේක් වි
දුලියක් මෙන් සාතන් අහසෙන් වැටෙ
19 නවා දුටිමි. සර්පයන්ද ගෝනුස්සන්ද පා
ගන්ටත් සතුරාගේ සියළු බලය මැඩපව
ත්වන්ටත් නුඹලාට බලය දෙමි කොයි
දේකිනවත් නුඹලාට හිංසාවක් වෙනෙත්
20 නැත. එසේ නුමුත් නුඹලාගේ නාමවල්
ස්වර්ගයෙහි ලියා තිබෙන බවට මිස ය
ක්ෂයෝ නුඹලාට යටත්වූ බවට සන්තෝ

21 ස නොවෙල්ලායයි කීසේක. එවලේම
යේසුස්වහන්සේ සතුටු සිත් ඇතුව කිය
නසේක් ස්වර්ගයටත් පොලවටත් ස්වා
මිවූ පියානෙනි නුවන ඇත්තන්ටද පඬි
තයන්ටද මේ කාරණා සඟවා ලදරුවන්
ට එළිදරව්කල බැවින් ඔබවහන්සේට
ස්තුතිකෙරෙමි. පියානෙනි ඔබවහන්
සේ එසේ වීමට සතුටු බැවින් එසේම වේ
22 වා. මාගේ පියානන් විසින් සියල්ලම ම
ට බාරදෙනලද්දේය. පියානන්වහන්සේ
මිස කිසිවෙක් පුත්‍රයා කවරෙක්ද කියා
නොදනෙත්ය. පුත්‍රයාත් පුත්‍රයා විසින්
යමෙකුට එළිදරව්කරන්ට කැමතිද ඔ
හුත් හැර කිසිවෙක් පියානන්වහන්සේ
කවරෙක්ද කියා නොදනෙත්යයි කීසේ
23 ක. එවිට උන්වහන්සේ ගෝලයන් දෙ
සට හැරී රහසින් කියනසේක් නුබලා
දකින කාරණා දකින ඇස් වාසනාවන්
24 තය. මක්නිසාද නුබලාට කියමි නුබලා
දකින කාරණා දකින්ටත් නුබලා අසන
කාරණා අසන්ටත් බොහෝ අනාගත
වක්තෘවරුද රජදරුවෝද කැමතිව සි
ටියෝය. නුමුත් දුටුවේවත් ඇසුවේවත්
නැතැයි කීසේක.
25 එක්තරා ව්‍යවස්ථාවෙහි සමර්ථයෙක්
නැගිට උන්වහන්සේ පරීක්ෂාකරමින් ආ
චාරිනි සදාකාල ජීවනය උරුමවෙන්න
ට මා විසින් කටයුතු දේ මොනවාදැයි ඇ
26 සුයේය. උන්වහන්සේ ව්‍යවස්ථාවෙහි ලි
යවී තිබෙනෙත් කිමෙක්ද නුබ කියවන්
නේ කොලෙසදැයි ඔහුගෙන් ඇසූසේක.
27 ඔහු උත්තර දෙමින් තාගේ මුළු හදයෙ
න්ද තාගේ මුළු ප්‍රාණයෙන්ද තාගේ මුළු බ
ලයෙන්ද තාගේ මුළු නුවනින්ද තාගේ
ස්වාමිවූ දෙවියන්වහන්සේටත් තට මෙන්
තාගේ අසල්වාසියාටත් ප්‍රේමකරව යන
28 වගයයි කීයේය. එවිට උන්වහන්සේ නු
බ දුන් උත්තරය හරිය එසේ කලොත්
29 ජීවත්වනෙත්යයි ඔහුට කීසේක. නුමුත්
ඔහු තමාම නිවරදිවෙනතට කැමතිව මා
ගේ අසල්වාසියා කවුදැයි යේසුස්වහන්
30 සේගෙන් ඇසුයේය. යේසුස්වහන්සේ උ
ත්තර දෙමින් කියනසේක් එක්තරා ම
නුෂ්‍යයෙක් යෙරුසලමෙන් යෙරිකෝ
වට යන අතර සොරුන්ට අසුවූයේය.
සොරුද ඔහු නිර්වස්ත්‍රකොට ඔහුට තුවා
ලකරමින් අඩපනකොට හැර ගියෝය.
31 ඉන්පසු ඒ මාවත යනතාවූ පූජකයෙක්
32 ඔහු දැක පැත්තකින් ගියේය. එසේම ලෙ
වී ගෝත්‍රයෙහි මනුෂ්‍යයෙක්ද එතනට
පැමිනලඟට ගොස් ඔහු දැක පැත්තකින්
33 ගියේය. නුමුත් සමාරිය වැසියෙක් ග
මින් යන අතර ඔහු සිටි තැනට ඇවිත්
34 ඔහු දැක අනුකම්පාකොට ළඟට ගොස්
තෙල්ද මුද්‍රිකපානයද ඉස තුවාල බැඳ
තමාගේ වාහනයටම ඔහු නඟාගෙන
තානායමකට ගෙනගොස් සත්කාර
35 කොට පසුව දා පිටත්ව යනකල මසු දෙ
කක් අරගෙන තානායම්කාරයාට දී මො
හුට උපස්ථාන කරපන්න මීට වැඩියෙන්
වියදම්කලොත් මම නැවත ආ කල නුබ
36 ට ගෙවන්නෙමියි ඔහුට කීයේය සො
රුන්ගේ අතට පත්වූ තැනැත්තාට මො
වුන් තුන්දෙනාගෙන් අසල්වාසියා කව
37 රෙක කියා සිතනෙත්දැයි ඇසූසේක. ඔ
හුට අනුකම්පාකල තැනැත්තාමයයි කී
යේය. එවිට යේසුස්වහන්සේ නුබත්
ගොස් එලෙසම කරපන්නැයි ඔහුට
කීසේක.
38 ඉන්පසු ඕවුන් යමින් ගමකට පැමුනු
නෝය. එවිට මාර්තානම් ස්ත්‍රියක් උන්ව
හන්සේ තමාගේ ගෙට පමුනුවාගත්තා
39 ය. ඇට මරියානම් සහෝදරියක් සිටියා
ය. ඈ යේසුස්වහන්සේගේ පාදමූලයෙ
හි හිඳ උන්වහන්සේගේ වචනය ඇසු
40 වාය. මාර්තා බොහෝ උපස්ථාන කිරී
මෙන් වෙහෙසව උන්වහන්සේ වෙතට
ඇවිත් ස්වාමිනි මාගේ සහෝදරී උපස්ථා
නකරන්ට මා තනියම හැරිය බව නො
සලකනසේක්ද? එබැවින් මට උපකාර
41 කරන්ට ඇට කිවමැනවයි කීවාය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින් එඹා මාර්තා
මාර්තා බොහෝ දේවල් ගැන නුබ සිති
විලි සිතා කනගාටු වන්නිය. නුමුත් ඕ
42 නෑ දේනම් එකමය. මරියාද ඈ කෙ
රෙන් බැහැරනොහන්නාවූ යහපත්
කොටස තෝරාගත්තායයි ඈට කීසේක.

11. පරිච්ඡේ. නැවතද උන්වහන්සේ
එක් තැනක යාඥාකරමින් සිට නිමවූ ප
සු උන්වහන්සේගේ ගෝලයන්ගෙන් එ
කෙක් ස්වාමිනි යොහන් තමන් ගෝල
යන්ට ඉගැන්වූ ලෙසම අපටත් යාඥාක
2 රන්ට ඉගැන්නුවමැනවයි කීයේය. උන්
වහන්සේ ඔවුන්ට කියනසේක් නුබලා
යාඥාකරණකල ස්වර්ගයෙහි වැඩසිටින
අපගේ පියානන්වහන්ස ඔබවහන්සේ
ගේ නාමය සුබව පවත්වනු ලැබේවා

ඔබවහන්සේගේ රාජ්‍යය ඒවා ඔබවහන්
සේගේ කැමැත්ත ස්වර්ගයෙහි මෙන් භූ
3 මියෙහිද කරනු ලැබේවා. අපේ දවස්ප
තා භෝජනය අපට දවසින් දවස දුනමැ
4 නව. අපේ සියළු නයකාරයන්ට අපිත්
ක්ෂමාකරණ නිසා අපේ පව් අපට ක්ෂමා
වුනමැනව. අප පරීක්ෂාවීමට නොපමුනු
වා නපුරෙන් අප ගලවාගනමැනවයි කි
යාපල්ලායයි කීසේක.
5 තවද උන්වහන්සේ ඔවුන්ට කියන
සේක් නුඹලා අතරෙහි මිත්‍රයෙක් ඇති
6 කිසිවෙක් මධ්‍යම රාත්‍රියෙහි ඔහු ලඟට
ගොස් යහළුව ගමන් යන්නාවූ මාගේ මි
ත්‍රයෙක් මා ලඟට ආයේය ඔහුගේ ඉදි
රියෙහි තබන්ට කිසිවක් මා ලඟ නැති
7 බැවින් රොටි තුනක් මට නයට දියන්
නැයි ඔහුට කියනොත්නම් එවිට ගේ ඇ
තුලේ සිටින තැනැත්තා උත්තර දෙමින්
මට වෙහෙස නොකරනන දැන් දොර
වසාලා තිබෙනොත්ය මමත් මාගේ දරු
වොත් ඇඳේ ඉදිමූව නැගිට නුඹට ඒ
8 දෙනනට බැරියයි කීවොත් ඔහුගේ මි
ත්‍රකම නිසා නැගිට ඔහුට නොදෙනත්
ඔහුගේ නැවත නැවත ඉල්ලීම නිසා නැ
ගිට ඔහුට ඕනෑ පමන දෙනවා ඇතැයි
9 නුඹලාට කියමියි කීසේක. තවද නුඹ
ලාට කියම් ඉල්ලාපල්ලාය එවිට නුඹලාට
දෙනු ලැබේ. සොයාපල්ලාය එවිට නුඹ
ලාට සම්භවෙයි. තට්ටුකරපල්ලාය එවි
ට දොර අරිනුලැබේ. මක්නිසාද ඉල්ල
10 නනාවූ සියල්ලෝම ලබති. සොයනනන්
ට සම්භවෙයි. තට්ටුකරනනාටද දොර
11 හරිනු ලැබේ. නුඹලා අතරේ කවර පි
යෙක් නුමුත් තමාගේ පුත්‍රයා රොටියක්
ඉල්වනොත්නම් ඔහුට ගලක් දෙනොත්
ද? මත්ස්‍යයෙක් ඉල්වනොත්නම් මත්ෂ්‍ය
12 යා වෙනුවට සර්පයෙක් දෙනොත්ද? බි
ජුවක් ඉල්වන්නේනම් ගෝනුස්සෙක්
13 දෙන්නේද? දුෂ්ටවූ නුඹලා නුඹලාගේ
දරුවන්ට යහපත් දේ දෙනනට දනි
නොත් ස්වර්ගීයවූ පියානන්වහන්සේ ත
මන්වහන්සේගෙන් ඉල්ලනවුන්ට ශුද්ධාත්
මය කොපමන වැඩිව නොදෙන සේක්
දැයි කීසේක.
14 උන්වහන්සේ ගොළුකරවන යක්ෂ
යෙක් දුරුකරමින් සිටිසේක. යක්ෂයා දු
රුවූකල ගොළුවා කථාකෙලේය සමූහ
15 යෝ පුදුමවූනෝය. නුමුත් ඔවුන්ගෙන්
සමහරෙක් යක්ෂ මූලාදූනිවූ බෙල්සෙ
බූල් කරණකොටගෙන ඔහු යකුන් දුරු
16 කරනොත්යයි කීවෝය. සෙස්සෝ උන්
වහන්සේ පරීක්ෂාකරමින් අහසෙන් ල
කුනක් උන්වහන්සේගෙන් ඉල්ළුවෝය.
17 නුමුත් උන්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි
දැන ඔවුන්ට කියනසේක් තම තමන්ට
විරුද්ධව භේදවූනාවූ යම් රාජ්‍යයක් ඇද්
ද ඒක වනාන්තුබවට පැමිනෙයි. තම
තමාට විරුද්ධව භේදවූනාවූ යම් ගෙයක්
18 ඇද්ද ඒක වැටෙයි. සාතන් තමාට විරු
ද්ධව භේදවේනම් ඔහුගේ රාජ්‍යය පවතී
නොත් කෙසේද? මම බෙල්සෙබූල් කර
ණකොටගෙන යකුන් දුරුකරණවායයි
19 නුඹලා කියති නුමුත් මම බෙල්සෙබූල්
කරණකොටගෙන යකුන් දුරුකරන්
නෙම්නම් නුඹලාගේ පුත්‍රයෝ කවරෙ
කු කරණකොටගෙන ඔවුන් දුරුකරද්
ද? එහෙයින් ඔවුන් නුඹලාගේ විනිශ්ච
20 යකාරයෝ වෙනවා ඇත. නුමුත් මම දෙ
වියන්වහන්සේගේ ඇඟිල්ලෙන් යක්ෂයන්
දුරුකරණ්නාම්නම් දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යය නුඹලා ලඟට පැමුනුණේය.
21 ආයුධවලින් සැරහුනාවූ බලවන්තයා
ගෙය රක්ෂාකරණකල තමාගේ දේපලව
22 ලට ආන්ත්‍රාවක් නැත. නුමුත් ඔහුට වැඩි
බලවන්තයා ඔහු ලඟට ඇවිත් ඔහු පරා
දකොට ඔහු විසින් විශ්වාසකරණලද ඔ
හුගේ සියළු ආයුධ උදුරාගෙන කොල්ල
23 කාගත් දේ බෙදා දෙනොත්ය. මාගේ ප
ක්ෂයට නොසිටින තැනැත්තා මට විරුද්ධ
ය මා සමඟ රැස්නොකරණ තැනැත්තා
24 ද ඉසුරුවනොත්ය. මනුෂ්‍යයෙකුගෙන්
දුරුව ගියාවූ අශුද්ධාත්මයා නිරූදක තැ
න්වල ඇවිදිමින් නිවාඩු සොයා නොලැ
බ මම පිටත්ව ආ මාගේ ගෙට නැවත
25 යෙම්යි කියා එහි පැමිනිකල ඒ ගෙය අ
26 තුගා සරහා තිබෙනබව දක්නේය. එ
කල්හි ඔහු ගොස් තමාට වඩා දුෂ්ටවූ වෙ
න ආත්මයන් සත්දෙනෙක් කැඳවාගෙ
න එනොත්ය. ඔවුන්ද ඇතුල්ව එහි වා
සයකරති. ඒ මනුෂ්‍යයාගේ ප්‍රථම ස්වභා
වට වඩා අන්තිම ස්වභාව නපුරුවන්
නේයයි කීසේක.
27 උන්වහන්සේ මේ වචන කියද්දී සමූ
හයා අතරෙන් එක් ස්ත්‍රියක් ශබ්ද පවත්
වා ඔබවහන්සේ දැරූ කුසේද ඔබව
හන්සේට කිරි දුන් තනද වාසනාවන්
28 තයයි උන්වහන්සේට කීවාය. උන්වහන්
සේ කියනසේක් දෙවියන්වහන්සේගේ

තුඹලාත් ඇතුල්වුණේ නැත ඇතුල්වෙ
53 නතන්ද වලක්වතියි කීසේක. උන්ව
හන්සේ ඔවුන්ට මේ දේ කියමින් සිටි
කල්හි ලියන්නෝද ඵරිසිවරුද උන්ව
හන්සේට වැරදි තබන පිනිස අතිසයින්
උත්සාහකරමින් උන්වහන්සේගේ කටින්
වචනයක් අල්වාගන්ට සොයා බලමින්
54 බොහෝ දේ උන්වහන්සේ ලවා කථාක
රවන්ට පටන්ගත්තෝය.

12. පරිච්ඡෙ. එකල නොයෙක් ද
හස් ගනන් මනුෂ්‍යයෝ ඔවුනොවුන් පෑ
ගෙන තරම් රැස්වූවෝය. උන්වහන්සේ
ද තමන් ගෝලයන්ට කථාකරන්ට ප
ටන්ගෙන තුඹලා ඵරිසින්ගේ වමා නෑ
මති මුහුන්වලින් ප්‍රවේසම්වෙයල්ලාය.
2 මක්නිසාද මතු එළිදරවූ නොවෙනාවූ
වසනලද දෙයක් නැත. මතු දැනනො
3 ගන්නාවූ සඟවනලද දෙයක් නැත. එ
බැවින් තුඹලා අඳුරෙහිදී කී දේ එළි
යේදී අසනු ලැබේ ඇතුල් ගෙවල්වලදී
තුඹලා කනට කී දේත් ගෙවල් මුදුන්ව
ලදී ප්‍රසිඩවෙනවා ඇත.
4 මාගේ මිත්‍රයෙනි තුඹලාට කියමි ශරී
රය නසා වෙන කිසි දෙයක් කරන්ට බැ
5 රිවූ අයවලට භයනොවෙල්ලාය. එහෙත්
භයවෙන්ට සුදුසු කාටදැයි තුඹලාට දන්
වමි නසා නිරයේ හෙලන්ට බලවත්වූ උ
න්වහන්සේට භයවෙයල්ලාය. එසේය උ
න්වහන්සේටම භයවෙයල්ලායයි නැව
6 තත් තුඹලාට කියමි. ගේ කුරුල්ලන් පස්
දෙනෙක් පනමකට නොවිකුනද්ද? නු
මුත් ඔවුන්ගෙන් එකෙක්වත් දෙවියන්
7 වහන්සේට සිහිනැති නොවෙයි. තුඹ
ලාගේ සියළු ඉසකෙස් පවා ගනන්කර
තිබෙනෝය. එබැවින් භයනොවෙල්
ලාය තුඹලා බොහෝ ගේ කුරුල්ලන්
8 ට වඩා අගේ ඇත. තවද තුඹලාට කිය
මි යමෙක් මනුෂ්‍යයන් ඉදිරියේදී මා පි
ලිගනීද මනුෂ්‍ය පුත්‍රයාද දෙවියන්වහන්
සේගේ දූතයන් ඉදිරියේදී ඔහු පිලිගන්
9 නවා ඇත. නුමුත් යමෙක් මනුෂ්‍යයන්
ඉදිරියේදී මා එපාකෙරේද ඔහු දෙවිය
න්වහන්සේගේ දූතයන් ඉදිරියේදී එපා
10 කරනු ලබනවා ඇත. යමෙක් මනුෂ්‍ය
පුත්‍රයාට විරුඩව වචනයක් කියාද ඔහු
ට ක්ෂමාව ලැබේ නුමුත් සුඩාත්මයානන්
වහන්සේට විරුඩව නින්දා කරනනාට
11 ක්ෂමාව නොලැබේ. යම් කලක සිනගෝ
ගවලටද ප්‍රධානීන් හා අඩිකාරයන් ලඟ
වද තුඹලා ගෙනයනු ලබද්ද එකල කෙ
සේ කවර උත්තරයක් දෙමුද නො
හොත් කුමක් කියමුදැයි සිතා කනගාටු
12 නොවෙල්ලාය. මක්නිසාද තුඹලා විසින්
කියයුතු දේ එවලේම සුඩාත්මයානන්ව
හන්සේ තුඹලාට උගන්වනසේකැයි කී
සේක.
13 එවිට සමූහයා අතරෙන් එකෙක් ආ
චාරිනි මා සමග උරුමය බෙදාගන්ට මා
14 ගේ සහෝදරයාට කිවමැනවයි උන්ව
හන්සේට කීය. උන්වහන්සේ එඹා මනු
ෂ්‍යය තුඹලාට නඩුකාරයෙක් නොට
වත් බෙදන්නෙක් කොටවත් මා නියම
15 කලේ කවුදැයි ඔහුට කීසේක. එවිට උ
න්වහන්සේ ලෝභයෙන් ප්‍රවේසම්වෙන්
ට බලාගනිල්ලාය. මක්නිසාද මනුෂ්‍යයා
සන්තක කොපමන වස්තුවෙනුත් ඔහු
ගේ ජීවිතය නොවන්නේයයි කීසේක.
16 තවද උන්වහන්සේ ඔවුන්ට උපමාවක්
කියනසේක් එක් වස්තුකාරයෙකුගේ
ඛිමෙහි බොහෝසේ භෝග හටගත්
17 තේය. එවිට ඔහු සිතනෙන් කුමක් ක
රම්ද මාගේ භෝග රැස්කරනනට ඉඩ
18 මක් නැත. මම මෙසේ කරමි. මාගේ ග
බඩා බිඳ මහත්කොට සාදා එහි මාගේ
සියළු භෝගද වස්තුද තබා එඹා ප්‍රාණ
ය තුඹට බොහෝ අවුරුදු ගනනකට
බොහෝ වස්තු රැස්කොට තිබෙනෙන්
19 ය. පහසු ගෙන කා බී ප්‍රීතියෙන් සිටප
නෑයි මාගේ ප්‍රාණයට කියමියි කීයේ
20 ය. නුමුත් දෙවියන්වහන්සේ ඔහුට කිය
නසේක් අඥානය අද රාත්‍රියේම තාගේ
ප්‍රාණය ගනු ලැබේ. එවිට තෝ සපයා
21 ගත් දේ කාට වේදැයි කීසේක. යමෙක්
දෙවියන්වහන්සේ වෙත පොහොසත්
නොවී තමාටම වස්තු රැස්කරගනීද ඔහු
එසේමයයි කීසේක.
22 එවිට උන්වහන්සේ තමන් ගෝලයන්
ට කියනසේක් එබැවින් තුඹලාට කියමි
ජීවත්වීම ගැන කුමක් කමුද කියාත් ශ
රීරය ගැන කුමක් අඳිමුද කියාත් කල්ප
23 නාකර කනගාටු නොවෙල්ලාය. කෑම
ට වඩා ජීවත්වීමද ඇඳිමට වඩා ශරීරය
24 ද උතුම්ය. කපුටුවන් කල්පනාකර බලා
පල්ලාය. උන් වපුරනෝවත් කපන්
නෝවත් නැත. උන්ට ගබඩාවක්වත්
භෝග අටුවක්වත් නැත. එසේවී නුමුත්
දෙවියන්වහන්සේ උන් පෝෂ්‍යය කරණ

සේක. නුඹලා පක්ෂීන්ට වඩා කොප
25 මන උතුම් නොවෙද්ද? කනගාටු සිතී
මෙන් තමාගේ උසට වඩා එක රියනක්
වත් වැඩිකරගන්ට නුඹලා අතරෙන් කා
26 ට පුළුවනු? එසේවීනම් ඉතා සුළු කාර
ණවක් කරනතටවත් බැරිවූ නුඹලා අ
නිත් කාරණවල් ගැන කනගාටු වෙන්
27 නේ මක්නිසාද මහනෙල් කෙසේ වැ
ඩෙත්දැයි කල්පනාකරපල්ලාය. ඒවා වෙ
හෙසෙනෙත්වත් නූල් කටිනෙත්වත් නැ
ත. නුමුත් නුඹලාට කියමි තමාගේ සිය
ළු ඓශ්වර්යයෙන් යුක්තවූ සලමොන්
පවා එයින් එකක් ලෙස අලංකාරවූයේ
28 නැත. විශ්වාස මදි තැනැත්තෙනි අද
කෙතේ තිබෙනතාවූ හෙට උදුනෙහිද
මනුලබනතාවූ තෘණ දෙවියන්වහන්සේ
මෙසේ සරසනසේක්නම් නුඹලා කොප
29 මන වැඩියෙන් නොසරසනසේක්ද? එ
බැවින් නුඹලා කුමක් කමුද කුමක් බො
මුදැයි නොසොයල්ලාය. සිතින් සැක නො
30 කරල්ලාය. මක්නිසාද ලෝවැසි අන්‍ය
ජාතීහු මේ සියල්ල සොයති. නුමුත් නුඹ
ලාගේ පියානන්වහන්සේ මේ දේවල් නු
31 ඹලාට ඕනෑ බව දන්නාසේක. එබැවින්
දෙවියන්වහන්සේගේ රාජ්‍යය සොයාපල්
ලාය. එවිට මේ සියල්ලත් නුඹලාට දෙ
32 නුලැබේ. එඹා කුඩා රැල භයනොවෙල්
ලාය මක්නිසාද නුඹලාට රාජ්‍යය දෙන්
නට නුඹලාගේ පියානන්වහන්සේ සතුටු
33 සේක. නුඹලාගේ වස්තුව යම් තැනක ති
බෙනොත් නුඹලාගේ සිතත් එතනම ති
34 බෙන බැවින් නුඹලාගේ සම්පත් විකු
න දන්දී නොදිරණ මුදල් පසුම්ද නැති
නොවෙන වස්තුවද ස්වර්ගයෙහි නුඹලා
ට සපයාගනිල්ලාය. එහිදී සොරා ලංවෙ
නෙත් නැත කාවා කනෙත් නැත.
35 නුඹලා ඉග බැඳුම් බැඳ පහන් පත්තු
36 කරගන සිටපල්ලාය. තවද තමන්ගේ
ස්වාමිදරුවෝ විවාහ මංගල්‍යයෙන් නැ
වත ඇවිත් තට්ටුකරණකොටම හනික
දොර අරින පිනිස කවර වේලක එනෙත්
දැයි බලා සිටිනතාවූ මනුෂ්‍යයන්ට නුඹ
37 ලා සමානවෙයල්ලාය. තමන්ගේ ස්වාමි
දරුවෝ එන කල අවදිව ඉන්න බව
දක්නා ලබනතාවූ වැඩකාරයෝ වාස
නාවන්තයෝය. සැබවක් නුඹලාට කිය
මි උන්වහන්සේ තමන් ඉග බැඳුම් බැඳ
ඔවුන් කෑමට හිඳුවාලගට ඇවිත් ඔවුන්
38 ට උපස්ථාන කරණවා ඇත. උන්වහන්
සේ දෙවෙනි යාමයෙහිවත් තුන්වෙනි
යාමයෙහිවත් ඇවිත් එසේම දකිනවා
නම් ඒ වැඩකාරයෝ වාසනාවන්තයෝ
39 ය. හොරා කොයි වේලේ එනෙත්දැයි
ගේ ස්වාමියා දැනගන සිටියොත් ඔහු අ
වදිව හිඳ තමාගේ ගේ හාරන්ට නොදෙ
40 න බව දැනගනිල්ලාය. එලෙසම නුඹලා
නොදන්නා වේලාවක මනුෂ්‍ය පුත්‍රයා එ
න බැවින් සැදී සිටපල්ලායයි කීසේක.
41 එවිට පේත්‍රුස් ස්වාමිනී මේ උපමාව අප
ටම කියනසේක්ද? නොහොත් හැම දෙ
42 නාටම කියනසේක්දැයි ඇසුයේය. එක
ල ස්වාමින්වහන්සේ කියනසේක් එසේවී
නම් තමන්ගේ පිරිවරට නියම කලට කෑ
ම බෙදා දෙන්ට ස්වාමිදරුවන් විසින් ත
මන්ගේ වැඩට පත්කලාවූ විශ්වාසවූ නු
43 වන ඇති ගබඩාකාරයා කවුද? ඔහුගේ
ස්වාමිදරුවෝ එනකොට ඒ වැඩ කර
මින් සිටින බව දක්නා ලබනතාවූ ඒ වැ
44 ඩකාරයා වාසනාවන්තයෙක. සැබවක්
නුඹලාට කියමි ඒ ස්වාමිදරුවෝ තමා
ගේ සියළු වස්තුවට ඔහු ප්‍රධාන කරන්
45 නේය. නුමුත් ඒ වැඩකාරයා මාගේ ස්වා
මිදරුවන්ගේ ඊම ප්‍රමාදවෙනෝයයි සි
තා දැසි දාසුන්ට පහර දෙන්වත් කා බී
මත්වෙන්ටත් පටන්ගත්තොත් ඔහු වි
46 සින් බලා නොසිටින දවසක නොදන්
නා වේලාවක ඒ වැඩකාරයාගේ ස්වාමි
දරුවෝ ඇවිත් ඔහු අහක්කොට අවිශ්වා
සයන් සමග ඔහුගේ කොටස තබනවා
47 ඇත. තමාගේ ස්වාමිදරුවන්ගේ කැමැ
ත්ත දැනගනත් සැදී සිට ඔහුගේ කැමැ
ත්ත ලෙස නොකලාවූ ඒ වැඩකාරයා
නොයෙක් පහරවලින් තලනු ලබන්
48 නේය. නුමුත් ඒ කැමැත්ත දැන නොග
න්නාවූ පහර ලැබීමට සුදුසු දේ කලාවූ ඔ
හු ස්වල්ප පහරවලින් තලනු ලබනෙත්
ය. මක්නිසාද යමෙකුට බොහෝ දේ
දෙනලද්දේද ඔහුගෙන් බොහෝ දේ
අයකරනු ලැබේ. යමෙකුට මනුෂ්‍යයන්
විසින් බොහෝ භාරදෙනලද්දේද ඔහු
ගෙන් ඔවුන් බොහෝ ඉල්ලති.
49 පොලොවෙහි ගිනි ලන්ට ආයෙමි
දැන්ම ඇවිල තිබේනම් කොච්චර කැම
50 ති නොවෙම්ද? නුමුත් මා විසින් බව
තීස්මයක් ලැබිය යුතුය. ඒක සම්පූර්ණ
වෙනතුරු කොපන හුදු වේදනා විඳිම
51 ද? පොලවට සමගිකම දෙන පිනිස
මම ආයෙමියි සිතනවාද? නැත නුඹලාට

කියමි භේදය උපදවන පිණිස ආයෙමි.
52 මක්නිසාද මෙතැන් පටන් එක ගෙයි
පස්දෙනෙක් සිටියොත් දෙදෙනාකුට
විරුඬව තුන්දෙනෙක්ද තුන්දෙනෙකුට
විරුඬව දෙදෙනෙක්ද භේදව සිටිනවා
53 ඇත. පියා පුත්‍රයාටත් පුත්‍රයා පියාටත්
මව් දුවටත් දුව මව්ටත් නැන්දා යෙහෙ
ලිටත් යෙහෙලි නැන්දාටත් විරුඬව භේ
දවෙනවා ඇතැයි කීසේක.
54 තවද උන්වහන්සේ සමූහයාට කියන
සේක් බස්නාහිර දිගින් වලාකුලක් නගි
න බව තුබලා දකිනවිට වැස්ස වහින්
55 නේයයි වහාම කියති. එසේම වේය. ද
කුණෙන් හුළඟ ගහන කල ග්‍රීස්මවේයයි
56 කියති එසේම වේය. වංචාකාරයෙනි අහ
සේත් පොළොවේත් නිමිත්ත විභාගකර
57 බලන්නට තුබලා දනිති තුමූත් මේ කා
ලය විභාගකර නොබලන්නේ මක්නිසා
ද? කටයුතු මොකදැයි තුබලාගේම සි
58 තින් නොවිමසන්නේ මක්නිසාද? තු
ඹේ විරුඬකාරයා සමග නඩුකාරයා ළඟ
ට යනකොට පාරේ යමින්ම ඔහුගෙන්
මිදෙන්නු ලබන්ට උත්සාහ කරපන්න.
නැත්නම් ඔහු තුඹ නඩුකාරයා වෙතට
ඇදගෙන යන්නේය. නඩුකාරයා තුඹ
සේවකයාට පාවාදෙන්නේය. සේවකයා
59 තුඹ හිරගෙයි දමන්නේය. අන්තිම සල්
ලිය ගෙවනතුරු තුඹ හිරගෙයින් පිටත්
ව යන්නේ නැතැයි තුඹට කියමියි කී
සේක.

13. පරිච්ඡේ. තවද ගලීලයන්ගේ ලේ
ඔවුන්ගේ යාග සමග පිලාත් විසින් මුසු
කරණලදැයි ඒ ප්‍රස්ථාවේදී ළඟ සිටි සමහ
රෙක් උන්වහන්සේට දන්වූවෝය. ජේ
2 සුස්වහන්සේ ඔවුන්ට කියනසේක් මේ
ගලීලයෝ එබඳුවූ පීඩාවල් විඳි බැවින්
සියළු ගලීලයන්ට වඩා පව්කාරයෝව සි
ටියෝයයි සිතනවාද? නැතැයි තුබලා
3 ට කියමි. තුමූත් තුබලා පසුතැවිලිනො
වෙනවානම් තුබලා සියල්ලෝම එසේම
4 විනාසවෙනවා ඇත. නොහොත් සිලෝ
යම්හි කොටුව වැටීමෙන් මැරුණු දහ
අටදෙන යෙරුසලමෙහි වාසයකරණ සි
යළු මනුෂ්‍යයන්ට වඩා වැරදිකාරයෝව
සිටියෝයයි සිතනවාද? නැතැයි තුබලා
5 ට කියමි. තුමූත් තුබලා පසුතැවිලිනො
වෙනවානම් තුබලා සියල්ලෝම එසේම
විනාසවෙනවා ඇතැයි කීසේක.
6 උන්වහන්සේ මේ උපමාවත් කියන
සේක් එක් මනුෂ්‍යයෙකුගේ මිදිවත්
තෙහි දිඹුල් ගහක් සිටුවා තිබුනේය. ඔ
හු ඇවිත් ඒ ගහේ ගෙඩි සෙවුයේය තු
7 මූත් ඔහුට මොකවත් ලැබුනේ නැත. එ
විට ඔහු වත්තේ රැකවලාට කථාකොට
තුන් අවුරුද්දක් මුළුල්ලෙහි මේ දිඹුල්
ගහේ ගෙඩි සොයා ආයෙමි එහෙත් ම
ට මොකවත් ලැබුනේ නැත. ගහ කපා
දමාපන්න පොළවට බරව තිබෙන්නේ
8 මක්නිසාදැයි කීයේය ඔහු උත්තර දෙ
මින් ස්වාමිනි ඒක වටකර හාරා පොර
පස් දමම් ඒතාක්කල් මේ අවුරුද්දටත්
9 ඉවසුවමැනව. ඵල දුනොත් යහපත
තුදුනොත් පසුව ඒක කපාදැමූවමැන
වයි ඔහුට කීයේයයි කීසේක.
10 උන්වහන්සේ සබත් දවසක එක් සින
11 ගෝගයක උගන්වමින් සිටින විට දහඅට
අවුරුද්දක් මුළුල්ලේ ලෙඩින් දුක් විඳින
කොයි ප්‍රකාරයකින්වත් කෙළින් සිටින්
12 ට බැරිවූ කුදුවූ ස්ත්‍රියක් එහි සිටියාය. ජේ
සුස්වහන්සේ ඇ දැක අඬගසා ස්ත්‍රිය තු
ඹේ රෝගයෙන් තුඹ මිදුනායයි කියා
13 ඈ පිට අත් තැබූසේක. එවලේම ඈ
කෙළින් සිට දෙවියන්වහන්සේට ප්‍රසං
14 සා කළාය. එහෙත් සිනගෝගයෙහි මූ
ලාදැනියා ජේසුස්වහන්සේ සබත් දවසෙ
හි සුවකල බැවින් කිපී වැඩකල යුතුවූ
සදවසක් ඇත ඒ නිසා සබත් දවසෙහි
නෑවිත් වෙන දවස්වල ඇවිත් සුවකරග
15 න්නලායයි සමූහයාට කීයේය. එවිට ස්වා
මින්වහන්සේ ඔහුට උත්තර දෙමින් එම්බා
වංචාකාරය තුබලාගෙන් කවරෙක්වත්
සබත් දවසේදී තමාගේ ගවකාවත් කො
ටළුවාවත් ගාලෙන් මුදා වතුර පොවන්
16 ට ගෙනියන්නේ නැද්ද? දහඅට අවුරු
දදක් මුළුල්ලෙහි සාතන් විසින් බඳනාල
ද අබ්‍රහම්ගේ දූවූ මේ ස්ත්‍රී ඒ බැඳුමෙන්
සබත් දවසේදී මුදන්ට නොසෑහේදැයි
17 ඇසූසේක. උන්වහන්සේ මෙසේ කී කල්
හි උන්වහන්සේට විරුඬව සිටි සියල්ලෝ
ම ලැජ්ජාවට පැමිණියෝය. සියළු සමූහ
යාද උන්වහන්සේ විසින් කල සියළු ප්‍ර
දුම ක්‍රියාවලට සතුටුවිය.
18 එවිට උන්වහන්සේ කියනසේක් දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය කුමක් හා සමා
19 නද? ඒක කුමකට උපමාකරම්ද? එක්
මනුෂ්‍යයෙක් විසින් අරගෙන තමාගේ
වත්තේ දැමූ අබ ඇටයකට සමානය. ඒ

ක වැඩී මහත් ගසක් වූයේය ආකාශ ප
ක්ෂීහු එහි අතුවල ලැග්ගෝයයි කීසේක.
20 නැවතත් උන්වහන්සේ කියනසේක් දෙ
වියන්වහන්සේගේ රාජ්‍යය කුමකට උප
21 මාකරම්ද? ස්ත්‍රියෙක් විසින් අරගෙන පි
ටි නැලි තුනෙක්හි සියල්ල පිපෙනකල්
දමා තිබූ මුහුණුවලට සමානයයි කීසේක.
22 උන්වහන්සේ යෙරුසලමට යමින්
ගම්වලත් නුවරවලත් ඇවිද ඉගැන්වූ
23 සේක. එක් පුරුෂයෙක් ස්වාමිනි ගැල
වීම ලබනෝ ස්වල්ප දෙනෙක්දැයි උ
24 න්වහන්සේගෙන් ඇසුයේය. උන්වහන්
සේ ඔවුන්ට කියනසේක් පටු දොරක
ඩින් ඇතුල්වෙන්ට වියෑසී කරපල්ලාය.
මක්නිසාද නුඹලාට කියමි බොහෝ
දෙන ඇතුල්වෙන්ට සොයන නුමුත් බැ
25 රිවෙනවා ඇත. ගෙදර මූලාදැනියා නැ
ගිට දොර වැසුවායින් පසු නුඹලා පිටත
සිට දොරට තට්ටුකරන්ට පටන්ගෙන
ස්වාමිනි ස්වාමිනි අපට දොර හැරියමැන
වයි කියනකල ඔහු උත්තර දෙමින් නු
බලා කොතනින් ආවෝද කියා නොද
26 නිමියි නුඹලාට කියනේය. එවිට නුඹ
ලා ඔබවහන්සේගේ ඉදිරියෙහි කෑමුව
බීමුව ඔබවහන්සේ අපගේ වීදිවලදී ඉ
ගැන්නුසේකැයි කියන්නට පටන්ගනි
27 ති. නුමුත් ඔහු කථාකොට මම නුඹලාට
කියමි නුඹලා කොතනින් ආවෝද කියා
නොදනිමි. අධර්මිෂ්ඨකම් කරණ නුඹලා
සියල්ලෝම මා ලඟින් අහක්ව පලයල්ලාය
28 යි කියනේය. ආබ්‍රහම් ඊසාක් යාකොබ්
සහ සියළු අනාගතවක්තෘවරු දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයෙහි සිටින බවත් නු
බලා පිටත දමනලද බවත් නුඹලා දකි
29 නකල හැඬීමද දත්මිටි කෑමද වනේන්
ය. තවද මනුෂ්‍යයෝ පූර්ව පශ්චිම උත්ත
ර දක්ෂිණ දිගින් ඇවිත් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයෙහි හිඳගන්නාවෝ ඇත.
30 අන්තිමයන්ගෙන් සමහරෙක් ප්‍රථම
යෝද ප්‍රථමයන්ගෙන් සමහරෙක් අන්
තිමයෝද වෙනවා ඇතැයි කීසේක.
31 ඒ දවසෙහි ඵරිසිවරුන්ගෙන් සමහ
රෙක් ඇවිත් මෙයින් පිටත්ව ගියමැන
ව හෙරොද් ඔබවහන්සේ මරන්ට කැම
තිව සිටිනේයයි උන්වහන්සේට කීවෝ
32 ය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක්
අදත් හෙටත් යකුන් දුරුකරමි රෝග
පීඩා සුවකරමි තුන්වෙනි දා සම්පූර්ණවී
මට පැමිනෙමි නුඹලා ගොස් ඒ බව ඒ
33 හිවලාට කියාපල්ලාය. එසේවී නුමුත්
යෙරුසලමෙන් පිටතදී අනාගතවක්තෘ
කෙනෙකුගේ විනාසය නොවන බැ
වින් අදත් හෙටත් අනිද්දත් මා විසින්
34 ඇවිදිනනට යුතුය. අනාගතවක්තෘන් න
සන්නාවූ නී වෙතට එවූවන්ට ගල් ගස
න්නාවූ යෙරුසලම යෙරුසලම කිකිළි
තමාගේ පැටියන් පියාපත් යටට එකතු
කරණසේම මම තීගේ දරුවන් එකතුක
රන්නට කී වරක් කැමතිවීම්ද? නුමුත්
35 තොපි කැමතිවූයේ නැත. තොපේ ගේ
වනාන්තර බවට හරිනු ලැබේ. සැබවක්
මම කියමි ස්වාමීන්වහන්සේගේ නාම
යෙන් එන්නාවූ තැනැත්තා ආශීර්වාද ලත්
කෙනෙකැයි තොපි කියනතුරු මා නො
දකිතියි කීසේක.

14. පරිච්ඡ. උන්වහන්සේ සබත් ද
වසක කෑම කන්ට ඵරිසින්ගේ ප්‍රධානි
යෙකුගේ ගෙදරට ගියකල උන්වහන්
සේට වැරදි තබන්ට ඔවුන් බලා සිටියෝ
2 ය. උන්වහන්සේ ඉදිරියෙහි දියඋදර රෝ
3 ග ඇති මනුෂ්‍යයෙක් සිටියේය. එවිට
යේසුස්වහන්සේ සබත් දවසේ සුවකරන්
ට යුතුදැයි ව්‍යවස්ථාවේ සමත්තියන්ගෙ
4 නුත් ඵරිසින්ගෙනුත් ඇසූසේක. එවිට
ඔවුන් කථානොකර සිටියෝය. උන්ව
හන්සේ ඔහු කැඳවා සුවකොට යවා ඔ
5 වුන්ට කථාකරමින් නුඹලාගෙන් යමෙ
කුගේ කොටළුවෙක්වත් ගොනෙක්වත්
වලක වැටුනොත් සබත් දවසේදී වහා
ම උඟ ගොඩනොගනිද්දැයි ඇසූසේක.
6 ඔවුන්ද ඊට උත්තර දෙන්ට නොහැකි
වූයෝය.
7 කෑමට කැඳවනු ලැබූවෝ උතුම් ආස
න තෝරාගන්නවා දැක ඔවුන්ට උපමා
8 වක් ගෙනහැරදක්වා කියනසේක් ය
මෙක් විසින් විවාහ මංගල්‍යයට නුඹ කැ
දවනුලැබූකල උතුම් ආසනයේ ඉඳනො
ගනින්න. සමහරවිට නුඹට වඩා ගරුත
9 ර කෙනෙක් කැඳවනු ලැබීනම් නුඹලා
දෙන්නා කැඳවූ තැනැත්තා ඇවිත් මො
හුට ඉඩම දීපන්නැයි නුඹට කියනවිට
නුඹ ලැජ්ජාවෙන් නීච ස්ථානය ගන්නට
10 පටන්ගන්නවා ඇත. නුමුත් කැඳවනු
ලැබූකල ගොස් නීච ස්ථානයේ ඉඳගනි
න්න එවිට නුඹ කැඳවූ තැනැත්තා ඇවිත්
යහළුව උස් ඉඩමට යනවානම් යහපතැ
යි නුඹට කියනවිට නුඹ සමග කෑමට

සිඳිනහන් ඉදිරියෙහි ගෞරව ලබනවා
11 ඇත. මක්නිසාද තමාම උසස්කරගන්
නා යටත්කරනු ලැබේ. තමාම යටත්ක
රගන්නා උසස්කරනු ලැබේයයි කීසේ
12 ක. එවිට උන්වහන්සේ තමන්වහන්සේ
කැඳවූ තැනැත්තාටත් කියනසේක් නු
ඹ යම් කලෙක දවහල් කෑමක්වත් රා
ත්‍රී කෑමක්වත් පිළියෙල කරණවානම්
එවිට නුඹේ යහළුවන්වත් සහෝදරය
න්ත් නෑයන්වත් ධනවත්තවූ අසල්වා
සීන්වත් කැඳවන්ට එපාය. මක්නිසාද
ඔවුහුත් නුඹ කැඳවති එයින් නුඹ විපා
13 ක ලබනවා ඇත. නුමුත් නුඹ කෑමක්
පිළියෙල කරණකල දිලිඳුන්ද පිළුන්ද කො
14 රුන්ද අන්ධයන්ද කැඳවාපනහ. නුඹට වි
පාක දෙනනට ඔවුන්ට නුපුළුවන. ඒ
හෙයින් නුඹ වාසනාවන්තව ධර්මිෂ්ඨ
යන්ගේ නැවත නැගිටීමෙහි විපාකය
ලබනවා ඇතැයි කීසේක.
15 උන්වහන්සේ සමග කන්ට ඉඳගත්ත
වුන්ගෙන් එකෙක් ඒ අසා දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයෙහිදී කෑම කන තැ
නැත්තා වාසනාවන්තයෙකැයි උන්ව
16 හන්සේට කීයේය. උන්වහන්සේ ඔහුට
කියනසේක් එක් මනුෂ්‍යයෙක් මහත්වූ
රාත්‍රී කෑමක් පිළියෙලකොට බොහෝ
17 දෙනාට හඬගසා වරෙල්ලාය සියල්ලම
පිළියෙලකරණලද්දේයැයි කැඳවනු ලැ
බූවන්ට කියනනට කෑම වේලාවෙහි
18 තමාගේ වැඩකාරයා යැවීය. නුමුත් ඔ
වුන් සියල්ලෝම එන්ට නුපුළුවනැයි කි
යා එකලෙස සමා ඉල්ලනනට පටන්ග
ත්තෝය. පළමුවෙනියා මම කෙතක් මි
ලේට ගතිමි ඒක බලනනට යන්ට ඕනෑ
ය මට සමාවෙයනනැයි ඔහුට කීයේය.
19 අනිකෙක්ද මම ගොන් පස් බානක් මි
ලේට ගතිමි උන් හොඳද කියා බලන්ට
20 යමි මට සමාවෙයනනැයි කීයේය. අනි
කෙක්ද මම භාර්යාවක් සරණපාවාගති
21 මි එබැවින් එන්ට බැරීයයි කීයේය. ඒ
වැඩකාරයා ඇවිත් තමාගේ ස්වාමියාට
ඒ බව දැන්නුවේය. එවිට ගේ ස්වාමියා
කිපී නුඹ වහාම නුවර වීදිවලටද අතුරු
මාර්ගවලටද ගොස් දිලිඳුන්ද පිළුන්ද කො
රුන්ද අන්ධයන්ද මෙහි ගෙනෙනනැයි ත
22 මාගේ වැඩකාරයාට කීයේය. ඒ වැඩකා
රයා ස්වාමිනි නුඹ අනකල ලෙස කරණ
ලදේය. නුමුත් තව අවකාශ තිබෙන්
23 නේයයි කීයේය. එවිට ස්වාමියා වැඩකා
රයාට කථාකොට මහ මාවත්වලටද වැ
ටවල් දිගටද ගොස් මාගේ ගේ පිරෙණ
24 පිනිස මනුෂ්‍යයන් ඕනෑකමින් ගෙනෙ
නන මක්නිසාද නුඹලාට කියමි ඒ හඬ
ගැසූවන්ගෙන් එකෙක්වත් මාගේ කෑ
මෙහි රස නොබලන්නේයයි කීයේයයි
කීසේක.
25 බොහෝ සමූහයෝ උන්වහන්සේ සැ
26 වූව ගියෝය. උන්වහන්සේද ආපසු හැ
රී ඔවුන්ට කියනසේක් යමෙක් මා ළඟ
ට එනවානම් ඔහු තමාගේ මව්පියන්ට
ද අඹුදරුවන්ටද සහෝදර සහෝදරී
යන්ටද තමාගේ ජීවිතයටද අප්‍රිය නො
වීනම් ඔහුට මාගේ ගෝලයා වෙනනට
27 බැරිය. යමෙක් තමාගේ කුරුසිය උසු
ලාගෙන මා පස්සේ නොඑනවානම් ඔහු
ට මාගේ ගෝලයා වෙන්නට බැරිය.
28 මක්නිසාද නුඹලා අතරෙන් යමෙක්
කොටුවක් බඳින්ට කැමතිනම් ඒක නි
මකරන්ට තමාට මිල ඇද්දෝ පළමු
කොට හිඳ වියදම ගනන්බලනෝ නැද්
29 ද? එසේ නොකලොත් අත්තිවාරම ලා
නිමකරන්ට බැරිවූවිට ඒ දකින සියල්
30 ලෝම ගොඩනගන්ට පටන්ගත් මේ මි
නිහාට නිමකරනනට බැරිවීයයි කිය
මින් ඔහුට නින්දාකරනනට පටන්ගනන
31 වා ඇත. නොහොත් වෙන රජෙක් ස
මග යුධකරන්ට යන රජෙක් තමාට වි
රුද්ධව විසි දහසක් සමග එනනාවූ ඔහු
ගේ ඉදිරියට දසදහසක් සමග යන්ට පු
ළුවන්දෝ පළමුකොට හිඳ කල්පනාකර
32 නෝ නැද්ද? බැරිනම් ඒ රජ දුර සිටිද්
දීම පණිවිඩයක් යවා සමාදානය ඉල්වන්
33 නේය. එලෙස නුඹලා අතරෙහි යමෙක්
තමා සන්තක සියල්ලම අත්නෑරියොත්
මාගේ ගෝලයා වෙන්ට ඔහුට බැරිය.
34 ලුණු යහපත නුමුත් ලුණු රස නැතිවූ
නොත් ඒවා රසකරනෝ කුමකින්ද?
35 පොළොවටවත් කසලගොඩටවත් දමන්
නට හොඳ නැතුව පිටත දමනු ලබන
වා ඇත. අහන්ට කන් ඇත්තෙක් අසා
වයි කීසේක.

15. පරිච්ඡ. සියලු සුංගම් අයකරන්
නෝත් පව්කාරයෝත් උන්වහන්සේගේ
2 වචන අසන පිනිස ළඟට ආවෝය. එවි
ට ඵරිසිවරුද ලියනෝද මොහු පව්
කාරයන් පිළිගෙන ඔවුන් සමග කන්
3 නේය කියා කොඳුරුලෝය. උන්වහන්සේ

මේ උපමාව ඔවුන්ට කියනසේක් තුඹ
4 ලාඅතරේ යමෙකුට බැටළුවන් සියයක්
ඇත්නම් උන්ගෙන් එකෙක් නැතිවූ
නොත් ඔහු එකුන් සියය වනාන්තරයේ
හැර නැතිවූනු එකා සම්භවෙනතුරු
5 සොයා නැවිදීද? සම්භවූනුවිට සතුටුවෙ
මින් ඒකා තමාගේ කරේ තබාගෙන
6 ගෙට ඇවිත් මිත්‍රයන්ද අසල්වාසීන්ද කැ
දවා මාගේ නැතිවූනු බැටළුවා සම්භවූ
නේය එබැවින් මා සමග ප්‍රීතිවෙයල්ලා
7 යයි ඔවුන්ට කියනෙන්ය. එලෙසම පශ්
චාත්තාපවෙන්ට ඕනෑ නැති ධර්මිෂ්ඨ
යන් එකුන් සියයට වඩා පශ්චාත්තාප
වෙනනාවූ එක් පව්කාරයෙක් ගැන ස්ව
ර්ගයෙහි ප්‍රීතිය ඇති බව තුඹලාට කිය
8 මි. නොහොත් රිදී මිල දසයක් ඇති ස්ත්‍රී
යක් එයින් එකක් නැතිවූනොත් පා
නක් පත්තුකොට ගේ අතුගා ඒක සම්
භවෙනතුරු උත්සාහයෙන් සොයන්
9 නේ නැද්ද? සම්භවූනුවිට මිත්‍රයන්ද අ
සල්වාසීන් කැඳවා මාගේ නැතිවූනු රිදී
මිලය සම්භවූනේය එබැවින් මා සමග
10 ප්‍රීතිවෙයල්ලායයි ඔවුන්ට කියන්නීය. එ
ලෙසම පශ්චාත්තාප වෙනනාවූ එක් පව්
කාරයෙක් ගැන දෙවියන්වහන්සේගේ
දූතයන් ඉදිරියෙහි ප්‍රීතිය වන්නේයයි
තුඹලාට කියමියි කීසේක.
11 තවද උන්වහන්සේ කියනසේක් එක්
මනුෂ්‍යයෙකුට පුත්‍රයෝ දෙදෙනෙක් සි
12 ටියෝය. ඔවුන්ගෙන් බාලයා පියානෙ
නි මට උරුමවිය යුතු වස්තු කොටස දි
යනෑයි පියාට කීයේය. පියාද තමාගේ
13 සම්පත් ඔවුන්ට බෙදා දුනෙන්ය. නො
බෝ දවසකට පසු බාල පුත්‍රයා සියල්ල
අරගෙන දුරු රටකට පිටත්ව ගොස් එ
හිදී තමාගේ වස්තුව සෙල්ලමෙන් විනා
14 ශකලේය. සියල්ල වියදම්වූකල ඒ රටෙ
හි මහත් සාගතයක් වූනේය. ඔහුද දිළි
15 ඳු බවට පැමින ඒ රටේ මිනිහෙක් ළඟ
ට ගොස් වැඩකලේය. ඔහු ඌරන්ට
ගොදුරු කවන පිනිස තමාගේ කෙත්
16 ලට ඔහු යවීය. එවිට කවුරුවත් කිසි කෑ
මක් ඔහුට නුදුන් බැවින් ඔහු ඌරෝ
කන කුඹුවලින් තමාගේ බඩ පුරවාගන්
17 නට කැමතිවිය. ඔහු සිහි උපදවා කියනු
යේ මාගේ පියානන්ගේ වැඩකාරයන්
කොපමන දෙනාට කාලා ඉතුරුවෙන
තරම් කෑම තිබෙනෙන්ද? මම බඩගින්
18 නෙන් නසිමි මම නැගිට මාගේ පියා
19 නන් ළඟට ගොස් පියානෙනි ස්වර්ගය
ට විරුඬව තුඹ ඉදිරියෙහි පව්කෙලෙම්
මින්මතු තුඹේ පුත්‍රයායයි කියනු ලබන්
ට යුතු නොවෙමි තුඹේ වැඩකාරයන්
ගෙන් එකෙක් මෙන් මා තබාගනමැන
වයි ඔහුට කියමියි කියා නැගිට තමාගේ
20 පියා ළඟට ගියේය. ඔහුගේ පියා දුරදීම
ඔහු එනබා දැක අනුකම්පාකොට දුවගෙ
න ගොස් ඔහුගේ බෙල්ල වැළඳගෙන ඔ
21 හු සිඹගත්තේය. එවිට පුත්‍රයා පියානෙ
නි ස්වර්ගයට විරුඬව තුඹේ ඉදිරියෙහි
පව් කෙලෙම් මින් මතු තුඹේ පුත්‍රයාය
යි කියනු ලබන්ට යුතුනොවෙමියි ඔහු
22 ට කීය. ඔහුගේ පියානෝ වැඩකාරයන්
ට කථාකොට උතුම්වූ වස්ත්‍රය ගෙන මො
හුට හඳවාපල්ලාය. මොහුගේ ඇඟිල්ලේ
23 මුද්දුවක්ද පාදවල වහන්ද දමාපල්ලාය. ත
රවූ වස්සා ගෙනවුත් මරාපල්ලාය. අපි
24 කමින් සන්තෝසවෙමුව. මක්නිසාද
මේ මාගේ පුත්‍රයා නැසී නැවත ජීවත්ව
සිටිනෙන්ය ඔහු නැතිවී සම්භවියයි කී
යේය. එවිට ඔවුන් සතුටුවෙනනාට පටන්
25 ගත්තෝය. ඔහුගේ වැඩිමහල් පුත්‍රයා
26 කෙතේ සිට ඇවිත් ගේ ළඟට පැමින ගී
තිකා කිමත් නැටිමත් අසා වැඩකාරයන්
ගෙන් එකෙකු කැඳවා මේ කිමෙක්දැයි
27 ඇසූයේය. එවිට ඔහු තුඹේ මලයා ආයේ
ය. තුඹේ පියානෝ ඔහු සුවසේ ලබාගත්
බැවින් තරවූ වස්සා මැරූයේයයි කීය.
28 එවිට ඔහු කිපී ගෙදරට ඇතුල්වෙන්ට
අකමැතිවිය. එබැවින් ඔහුගේ පියා පිට
තට ගොස් බොහෝසෙයින් ඔහු කැඳවි
29 ය. ඔහු උත්තර දෙමින් මෙපමන අවුරුදු
තුඹට වැඩකෙලෙම් කවදාවත් තුඹේ අ
ණ කඩකෙලේ නැත එසේ තුමූත් තුඹ ම
ගේ මිත්‍රයන් සමග සන්තෝසවෙන්ට එ
ළු පැටවෙකුත් මට කවදාවත් දුනෙන්
30 නැත. තුමූත් තුඹේ වස්තුව වෙශ්‍යාවන්
සමග නාස්තිකලාවූ තුඹේ මේ පුත්‍රයා ආ
වේලේම තරවූ වස්සා ඔහු නිසා මැරෙව්
31 වේයයි පියාට කීය. එවිට ඔහු පුත්‍රය තු
ඹ නිතරම මා සමග සිටිනෙන්ය මා සන්
32 තක සියල්ලත් තුඹේය. මේ තුඹේ ස
හෝදරයා නැසී නැවත ජීවත්ව සිටින
බැවින්ද නැතිවී සම්භවූනු බැවින්ද ප්‍රීති
සන්තෝසවෙන්ට යුතුයයි කීයේයයි කී
සේක.

16 පරිච්ඡේ. තවද උන්වහන්සේ

තමන් ගෝලයන්ට කියනසේක් එක්
වස්තුකාරයෙකුට ගබඩාකාරයෙක් සිටි
යේය. ගබඩාකාරයා ඔහුගේ වස්තු නා
ස්තිකරනෙත්යයි වස්තුකාරයාට දන්වන
2 ලදේය. එවිට ඒ වස්තුකාරයා ඔහු කැ
දවා නුඹ ගැන මා විසින් අසනලද මේ
කාරණාව කිමෙක්ද? මෙතැන් පටන් ග
බඩාකාරයෙක්ව සිටින්ට නුපුළුවන. එ
බැවින් ගබඩාවේ ගනන දියනනැයි ඔ
3 හුට කීයේය. ගබඩාකාරයා කල්පනාක
රනෙත් කුමක් කෙරෙම්ද? මාගේ ස්වා
මියා ගබඩා නායක තනතුර මගෙන් අ
හක්කරනෙත්ය. බිම කොටන්ට බැරිය
4 සිඟන්ටත් ලැජ්ජවෙමි. ගබඩා නායක
තනතුරෙන් මා අහක්කල කල්හි ඔවුන්
ගේ ගෙවල්වලට මා පිලිගනනා හැටිය
5 ට මා විසින් කුමක් කටයුතුදැයි දනිමි සි
තා තමාගේ ස්වාමිහුගේ නයකාරයන් එ
ක එකා බැගින් කැඳවා මාගේ ස්වාමියා
ට නුඹ කොපමන නය ඇතෙත්දැයි පල
මුවෙනියාගෙන් ඇහුවේය. ඔහු තෙල්
6 බාත් සියයකැයි කීය. එවිට නුඹේ ග
නන් පත්‍රය අරන් ඉඳගන පනසකැයි ව
7 හාම ලියාපනනැයි ඔහුට කීයේය. එවි
ට නුඹේ නය කොපමනදැයි අනිකකු
ගෙන් ඇහුවේය ඔහු ගෝධුම අමුනු සි
යයකැයි කීය. එවිට නුඹේ ගනන් පත්‍ර
ය අරන් අසූවකැයි ලියාපනනැයි ඔහුට
8 කීයේය. ඒ ස්වාමියා අධර්මිෂ්ටවූ ගබඩා
කාරයාගේ නුවනට ප්‍රශංසා කෙලේය.
එලෙසම ආලෝකයෙහි දරුවන්ට වඩා
මෙලොව දරුවෝ තමන්ගේ ව්‍යවහාර
9 යේ නුවන ඇතෙත්ය. තවද නුඹලා න
හිතකල සදාකාල වාසස්ථානවලට නුඹ
ලා පිලිගනු ලබන හැටියට වචාකරණ ව
ස්තුවෙන් මිත්‍රයන් සපයාගනිල්ලායයි නු
10 බලාට කියමි. ඉතා ස්වල්පයක් ගැන වි
ස්වසයා බොහෝ දේ ගැනත් විස්වාස ව
නෙත්ය. ඉතා සවල්පයක් ගැන අවිස්වා
සයා බොහෝ දේ ගැනත් අවිස්වාස ව
11 නෙත්ය. එබැවින් නුඹලා වචාකරණ ව
ස්තුව ගැන විස්වාස නූනොත් සැබෑවූ ව
12 ස්තුව නුඹලාට භාරදෙනෙත් කවුද? අ
නුන්ගේ දේ ගැන නුඹලා විස්වාස නූ
නොත් නුඹලාගේම දේ නුඹලාට දෙන්
13 නේ කවුද? ස්වාමිවරුන් දෙදෙනාකුට
වැඩකරන්ට කවර වැඩකාරයෙකුටත්
බැරිය. මක්නිසාද ඔහු එකෙකුට අප්‍රිය
ව අනිකාට ප්‍රියවෙයි. නොහොත් එකෙ
කුට ඇළුම්ව අනිකා නොසලකනෙත්ය.
දෙවියන්වහන්සේටත් වස්තුවටත් වැඩක
රන්ට නුඹලාට බැරියයි කීසේක.
14 වස්තුවට ලෝභවූ ඵරිසිවරුද මේ සි
යල්ල අසා උන්වහන්සේට නින්දාකලෝ
15 ය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක් නු
බලා මනුෂ්‍යයන් ඉදිරියෙහි අපි නිවැර
දිකාරයෝයයි කියති නුමුත් දෙවියන්ව
හන්සේ නුඹලාගේ සිත් දනනාසේක.
මනුෂ්‍යයන් විසින් උතුම්කොට සිතන
යමක් ඇද්ද ඒක දෙවියන්වහන්සේ ඉදි
16 රියේදී පිලිකුල්ය. ව්‍යවස්ථාවද අනාගත
වාක්‍යයද යොහන් දක්වා පැවතුනේය
එතැන් පටන් දෙවියන්වහන්සේගේ රා
ජ්‍යය ප්‍රකාසකරනු ලැබේ සියල්ලෝද බ
17 ලෙන් එහි ඇතුල්වෙති. එසේවී නුමුත්
ව්‍යවස්ථාවෙන් එක් බිඳුවක්වත් සම්පූ
ර්ණනොවීමට වඩා අහසත් පොලවත්
18 නැතිව යාම පහසුය. යමෙක් තමාගේ
ස්ත්‍රිය හැර වෙන ස්ත්‍රියක් සරණපාවාග
නීනම් ඔහු පරදාර කර්මය කරනෙත්ය.
යමෙක් පුරුෂයා විසින් හරිණලද ඒ ස්ත්‍රි
ය සරණපාවාගනීනම් ඔහු පරදාරකර්ම
ය කරනෙත්ය.
19 රතුපාට ඇඳුම් සහ සිහින් රෙදි අඳී
න දවස්පතා රස අහර ගනනාවූ වස්තු
20 කාරයෙක් සිටියේය. තවද වනවලින්
ගැවසීගත් ශරීර ඇති ලාසරුස්නම් දිලි
21 ඳෙක් සිටියේය. ඔහු වස්තුකාරයාගේ
ඳොරකඩ තබනලදුව ඔහුගේ මේසෙන්
වැටුනු කෑබලිවලින් බඩ පුරවාගන්ට
22 කැමතිවිය. බල්ලෝ ඇවිත් ඔහුගේ වන
ලෙව්වෝය. ඒ දිලින්දා නැසී දේවදූත
යන් විසින් ආබ්‍රහම්ගේ ලැපැතෙත් හාත්
සිටීමට ගෙනයනු ලැබුයේය. වස්තුකාර
23 යාත් නැසී තැන්පත්කරණලදේය. ඔ
හු නිරයෙහි දුක් විඳිමින් ඇස් ඔසවා ආ
බ්‍රහම් සහ ඔහුගේ ලැපැතෙත් උන් ලා
24 සරුස්ද දුරසිට දැක අනේ පියවූ ආබ්‍රහම්
මේ ගිනි දැලෙහි දුක් විඳින මා කෙරෙ
හි අනුකම්පාකොට ලාසරුස් තමාගේ
ඇඟිලි අග දියේ ගලා මාගේ දිව සිහිල්
25 කරන්ට එව්වමැනවයි මොරගසා කීය. නු
මුත් ආබ්‍රහම් කියනුයේ පුත්‍රය නුඹ ජීව
ත්ව සිටිද්දී නුඹේ යහපත් දේ නුඹට ලැ
බුනේය. එලෙසම ලාසරුස්ට අයහපත්
දේ ලැබුනේයයි සිහිකරපනනා. දැන් ඔ
හු සැනසී ඉනෙත්ය නුඹ දුක් විඳිනෙත්
26 ය. ඇරත් මෙයින් නුඹලා ලඟට යන්

මත් එයින් අප ළඟට එන්ටත් කැම
තිවූවන්ට බැරි ලෙස අපටත් තුඹලා
මත් අතරෙහි මහත් කුහරයක් තිබෙ
27 නෙන්යයි කීය. එවිට ඔහු එසේවීනම් පි
යානෙනි මට සහෝදරයෝ පස් දෙ
28 නෙක් ඇත. ඔවුන් මේ දුක් විඳින ස්ථා
නයට නොපැමිනෙන ලෙස මේ ගැන
ඔවුන්ට දන්වන පිනිස ඔහු මාගේ පියා
29 නන්ගේ ගෙට ඇරියමැනවයි කීය. ආ
බ්‍රහම්ද මෝසෙස් සහ අනාගතවක්තෘ
හු ඔවුන්ට ඇත. ඔවුන්ගේ වචන අසත්
30 වයි ඔහුට කීයේය. නැවත ඔහු පියවූ ආ
බ්‍රහම් එසේ නුමුත් මළවූන්ගෙන් ය
මෙක් ඔවුන් වෙතට ගියොත් පසුතැවි
31 ලිවෙනවා ඇතැයි කීය. ආබ්‍රහම්ද මෝ
සෙස්ගේත් අනාගතවක්තෘන්ගේත් බස්
ඔවුන් නෑසුවොත් මළවූන්ගෙන් කිසි
වෙක් නැගුටුනත් නොඅදහතියි ඔහුට
කීයේයයි කීසේක.

17. පරිච්ඡෙ. එවිට උන්වහන්සේ
ගෝලයන්ට කියනසේක් බාධාවන්ගේ
පැමිනීම වලකින්නට බැරිය. නුමුත් ය
මෙක් කරණකොටගෙන ඒවා පැමිනේ
2 ද ඔහුට දුක්වෙයි. යමෙක් මේ බාල
යන්ගෙන් එකෙකුට බාධාකෙරේනම්
එයට වඩා ඔහුගේ බෙල්ලේ අඹරණ ග
ලක් එල්ලා මූදේ දැමීම ඔහුට යහපත. තු
3 ඹලා ප්‍රවේසම්වෙයල්ලාය. තුඹේ සහෝ
දරයා තුඹට විරුද්ධව වැරදි කලොත් ඔහු
ට දැනිම්තිකම් දීපන්න. පසුතැවිලිවේ
4 නම් ඔහුට ක්ෂමාවෙයන්න. ඔහු දවසකට
සත්වරක් තුඹට විරුද්ධව වැරදි කොට ද
වසකට සත් වරක් තුඹ ළඟට ඇවිත් ම
ම පසුතැවිලිවෙමියි කීවොත් ඔහුට ක්ෂමා
5 වෙයන්නැයි කීසේක. එවිට ප්‍රේරිතයෝ
අපේ ඇදහීම වැඩිකලමැනවයි ස්වාමින්ව
6 හන්සේට කීවෝය. තවද ස්වාමින්වහන්
සේ කියනසේක් අබ ඇටයක් පමන ඇ
දහීම තුඹලාට ඇත්නම් මේ දිඹුල් ගහ
ට මුලින් ඉදිරී ගොස් මුහුදේ සිටවේවයි
කීවිනම් ඒ ගහ තුඹලාට කීකරු වනෙන්
7 ය. තවද තුඹලා අතරෙහි යමෙකුට හා
න්නාවූ එක්කෝ ගවයින් ගොදුරු කව
න්නාවූ වැඩකාරයෙක් ඇතොත්ද කෙ
තෙන් ඔහු ආ කල දැන්ම කන්නට ඉඳග
8 න්නැයි ඔහුට කියනෙන්ද නොහොත්
මට කෑම පිලියෙලකොට ඉඟ බැඳුම් බැ
ද මම කනාබොනකල් මට උපස්ථාන කර
පන්න ඉන් පසු තුඹ කාපන්න බීපන්නැ
9 යි ඔහුට කියන්නේද? ඒ වැඩකාරයා වි
සින් තමාට අඥාකරණලද දේ කලබැ
වින් ඔහුට ස්තුති කෙරේද? නැතැයි සි
10 තමි. එලෙසම තුඹලාට අඥාකල සියල්
ල තුඹලා කලායින් පසු අපි නිෂ්ප්‍රයෝ
ජන වැඩකාරයෝය. අප විසින් කටයුතු
දේ පමනක් කෙලෙමුයයි කියාපල්ලාය
යි කීසේක.
11 තවද උන්වහන්සේ යෙරුසලමට යමින්
සමාරියද ගලීලයද මැදින් ගියසේක.
12 උන්වහන්සේ ගමකට ඇතුල්වෙන ක
ල කුෂ්ට රෝගාතුරයෝ දස දෙනෙක්
උන්වහන්සේගේ ඉදිරියට ඇවිත් දුරින්
13 සිට ආචාරිවූ යේසුස්වහන්ස අප කෙරෙ
හි අනුකම්පා කලමැනවයි මුරගසා කී
14 වෝය. උන්වහන්සේ ඔවුන් දැක තුඹලා
ගොස් පූජකයන්ට පෙනියල්ලායයි කී
සේක. එවිට යනකල ඔවුන් පවිත්‍රවූනෝ
15 ය. ඔවුන්ගෙන් එකෙක් තමාට සුවවූනු
බව දැක හැරී ඇවිත් මහත් ශබ්දයකින්
16 දෙවියන්වහන්සේට ප්‍රසංසාකොට උන්ව
හන්සේගේ පාමුල මුහුනින් වැටී උන්ව
හන්සේට ස්තුති කෙලේය. ඔහු සමාරිය
17 යෙක එවිට යේසුස්වහන්සේ කියන
සේක් දස දෙනෙක් පවිත්‍රවූනා නොවෙ
18 ද්ද? අනිත් නව දෙන කොයිද? මේ පර
දේසියා මිස කවුරුවත් දෙවියන්වහන්සේ
ට ප්‍රසංසාකරන්ට හැරී නාවෝයයි කියා
19 ඔහුට කථාකොට නැගිට පලයන්න තු
ඹේ ඇදහීම තුඹ සුවකලායයි කීසේක.
20 දෙවියන්වහන්සේගේ රාජ්‍යය කොයි
කාලෙක එනෙන්දැයි ඵරිසින් විසින් ඇ
සූ කල උන්වහන්සේ ඔවුන්ට උත්තර
දෙමින් දෙවියන්වහන්සේගේ රාජ්‍යය
21 පෙරහැරෙන් නොඑනෙන්ය. දෙවියන්ව
හන්සේගේ රාජ්‍යය තුඹලා ඇතුලේ ති
බෙන නිසා ඒක මෙතනය එතනයයි කි
22 යනෙන් නැතැයි කීසේක. එවිට ගෝල
යන්ට කියනසේක් තුඹලා මනුෂ්‍ය පුත්‍ර
යාගේ දවස්වලින් එකක් දකින්ට කැ
මති නුමුත් ඒක දකින්ට නොලැබෙන
23 කාලයක් එනෙන්ය. උන්වහන්සේ මෙත
නය එතනයයි තුඹලාට කියන නුමුත්
තුඹලා නික්ම නොයල්ලාය ඔවුන් පස්
24 සේ නොයල්ලාය. මක්නිසාද ආකාසයේ
එක් දිසාවකින් නැගෙන්නාවූ විදුලිය
ආකාසයේ අනික් දිසාවටත් බබලන්
නාක්මෙන් මනුෂ්‍ය පුත්‍රයා තමන් දවසේ

25 වනෙන්ය. නුමුත් පළමුකොට ඔහු බො
හෝසෙයින් දුක් විඳ මේ ජාතිය විසින්
26 එපාකරනු ලැබිය යුතුය. නෝවාගේ ද
වසවලදී උනාක්මෙන් මනුෂ්‍ය පුත්‍රයා
27 ගේ දවසවලදීත් වනෙන්ය. නෝවා ම
හත් නැවට ඇතුල්වූ දවස දක්වා මනු
ෂ්‍යයෝ කමින් බොමින් සරණ පාවාග
නිමින් සරණ පාවාදෙමින් සිටියෝය. එ
කල ජලගැල්ම පැමින සියල්ල විනාසක
ලේය. ලොත්ගේ දවසවලදීත් එසේම
28 වූනේය. මනුෂ්‍යයෝ කමින් බොමින් වි
කුනමින් ගනිමින් සිටුවමින් ගෙවල් සා
29 දමින් සිටියෝය. නුමුත් ලොත් සො
දොම්හි සිට පිටත්ව ගිය දවසේම අහ
සෙන් ගිනි සහ කෙන්දගන් වැසි වැසී
30 මෙන් ඔවුන් සියල්ල විනාසවූනෝය. ම
නුෂ්‍ය පුත්‍රයා ප්‍රකාසවෙන දවසේත් එසේ
31 ම වනෙන්ය. ඒ දවසේ ගේ මුදුනේ සි
ටින තැනැත්තා ගෙයි තිබෙන තමාගේ
බඩු ගෙනියන්ට නොබසීවා එලෙසම
කෙතේ සිටින තැනැත්තාද අපස්සු නෙ
32 වා. ලොත්ගේ භාර්‍ය්‍යාව සිහිකරපල්ලා
33 ය. යමෙක් තමාගේ ප්‍රාණය රක්ෂාකර
ගන්ට සොයනෙන්ද ඔහු ඒක නැතිකර
ගනෙන්ය. යමෙක් තමාගේ ප්‍රාණය නැ
තිකරගනෙන්ද ඔහු ඒක රක්ෂාකරගන්
34 නේය. නුබලාට කියමි ඒ රාත්‍රියෙහි එ
ක යහනේ දෙදෙනෙක් හිඳිති එකෙක්
35 ගනු ලැබේ අනිකා හරිනු ලැබේ. ස්ත්‍රී
යෝ දෙදෙනෙක් එක්ව අඹරමින් හිඳි
ති එකියෙක් ගනු ලැබේ අනික් තැ
36 නැත්තී හරිනු ලැබේ. දෙදෙනෙක් කෙ
තෙහි සිටිති එකෙක් ගනු ලැබේ අනි
37 කා හරිනු ලැබේයයි කීසේක. එවිට ඔ
වුන් ස්වාමිනි කොතැන්හිදැයි උන්වහන්
සේගෙන් ඇහුවෝය. උන්වහන්සේ ඔ
වුන්ට කියනසේක් යම් තැනක මලකු
න තිබේද එතනට ගිජුලිහිනි එක්වෙ
තියි කීසේක.

18. පරිච්. උන්වහන්සේ ක්ලාන්
ත නොවී නිතර යාඥාකරන්ට ඕනෑ බ
2 වට උපමාවක් ඔවුන්ට කියනසේක් එක්
නුවරක දෙවියන්වහන්සේට භය නැත්
තාවූ මනුෂ්‍යයන්ට ගරු නොකරනනාවූ
3 නඩුකාරයෙක් සිටියේය. එම නුවර වැ
න්දඹු ස්ත්‍රියක්ද සිටියාය ඈ ඔහු ලඟට
ගොස් මා සහ විරුඬකාරයාත් අතරේ
4 යුක්තක් කලමැනවයි කීවාය. ඔහු බො
හෝ කලක් නොකමැතිවිය. පසුව මම
දෙවියන්වහන්සේට භය නැතොත්මි මනු
5 ෂ්‍යයන්ටත් ගරු නොකරමි නුමුත් මේ
වැන්දඹුව මට කනගාටු කරණ හෙයින්
නිතරම ඇවිත් මා නොවෙහෙසන පිනිස
ඈට යුක්තක් කරමියි තමන් සිතින් සි
6 තීයයි කීසේක. එවිට ස්වාමින්වහන්සේ
කියනසේක් ඒ අධර්මිෂ්ඨ නඩුකාරයාගේ
7 කීම අසාපල්ලාය. දෙවියන්වහන්සේද
තමන්වහන්සේට රෑ දවල් හඬගසනනා
වූ තමන් තෝරාගත්තාවූන්ගේ යුක්තිය
ප්‍රමාද කරණ නුමුත් ඒ යුක්තිය විනිශ්ච
8 ය නොකරණසේක්ද? නුබලාට කියමි
ඔවුන්ගේ යුක්තිය වහාම විනිශ්චයකර
ණසේක. නුමුත් මනුෂ්‍ය පුත්‍රයා එන කල්
හි පොලවෙහි මෙබඳු ඇදහිල්ල දකින
වා ඇද්දැයි කීසේක.
9 තවද තමන් ධර්මිෂ්ඨයෝයයි සිතා
ගෙන අනුන්ට හෙළාදක්නාවූ සමහ
10 රෙකුට මේ උපමාව කියනසේක් මනු
ෂ්‍යයෝ දෙදෙනෙක් යාඥාවීමට දේවමා
ලිගාවට ගියෝය. එකෙක් ඵරිසියෙක
අනික් තැනැත්තා සුංගම් අයකරනෙක
11 ක. ඵරිසියා නැගිට දෙවියන්වහන්ස මම
සොරවූ අධර්මිෂ්ඨවූ පරදාරිකවූ වෙන මි
නිසුන් වාගේ කෙනෙක්වත් මේ සුංගම්
අයකරනනා වාගේ කෙනෙක්වත් නො
වෙමි. එබැවින් ඔබවහන්සේට ස්තුති ක
12 රමි සතියකට දෙවරක් කෑම නොකා
ඉඳිමි. මා විසින් සපයාගත් සියල්ලෙන් ද
සයෙන් කොටසක් දෙමියි තනියම සිට
13 යාඥාකෙලේය. සුංගම් අයකරනනා දු
රින් සිට ස්වර්ගය දෙසට ඇස් ඔසවා බ
ලන්ටත් භයව තමාගේ ලැපැතෙත් අත්
ගසමින් දෙවියන්වහන්ස පව්කාරයෙක්
14 වූ මට ක්ෂමාවූවමැනවයි කීයේය. මම නු
බලාට කියමි මොහු අනිකාට වඩා ධර්මි
ෂ්ඨව තමාගේ ගෙදරට ගියේය. මක්නි
සාද තමාම උසස්කරගනනා යටත් ක
රනු ලබනෙන්ය. තමාම යටත්කරගන්
නා උසස්කරනු ලබනෙන්යයි කීසේක.
15 උන්වහන්සේගෙන් අත් තැබීම ලබ
න පිනිස ළදරුවන් උන්වහන්සේ ලඟට
ගෙනාවෝය. ගෝලයෝ ඒ දැක ඔවුන්
16 ට සැරකලෝය. නුමුත් ජේසුස්වහන්සේ
ඔවුන් තමන් ලඟට කැඳවා ළදරුවන්
නොවලක්වා මාලඟට එන්ට අවකාස ඇ
රපල්ලාය මක්නිසාද දෙවියන්වහන්සේ
17 ගේ රාජ්‍යය එබඳුවූවන්ගේමය. සැබ

වක් නුඹලාට මම කියමි යමෙක් ළදරු
වෙක් මෙන් දෙවියන්වහන්සේගේ රා
ජ්‍යය පිළිනොගනිතොත් ඔහු එහි ඇ
තුල්නොවන්නේමයයි කීසේක.
18 එවිට එක් මූලාදෑනියෙක් යහපත් ආ
චාරිනි මම සදාකාල ජීවනය උරුමවෙ
න පිනිස කුමක් කරම්දැයි උන්වහන්සේ
19 ගෙන් ඇසුවේය. යේසුස්වහන්සේ ඔහු
ට කියනසේක් මට යහපතැයි කියන්
නේ මක්නිසාද? දෙවියන්වහන්සේ හැ
20 ර වෙන කවුරුවත් යහපත් නොවේ. ප
රදාර කර්මය නොකරව මිනී නොමරව
සොරකම් නොකරව බොරු සාක්ෂි නො
කියව දෙමව්පියන්ට ගෞරව කරවයි
යන මේ අණවල් නුඹ දන්නේයයි කී
21 සේක. ඔහුද ඒ සියල්ල මාගේ යෞවන
අවස්ථාවේහි පටන් රක්ෂාකරමියි කීයේ
22 ය. යේසුස්වහන්සේ ඒ අසා තවත් එක්
කාරණයක් නුඹට අඩුව තිබෙනේය.
නුඹ සන්තක සියල්ලම විකුන දිළිඳුන්
ට බෙදා දීපනන එවිට ස්වර්ගයේදී නුඹ
වස්තුව ලබනේය නුඹද මා පස්සේ ව
23 රෙනැයි කීසේක. එවිට බොහෝ ව
ස්තුකාරයෙක්වූ ඔහු ඒ අසා අතිශයින්
24 ශෝකයට පැමිණියේය. ඔහු ඉතා ශෝ
කයට පැමිණි බව යේසුස්වහන්සේ දැක
කියනසේක් වස්තුකාරයෙක් දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයට කොපමණ අමාරු
25 වෙන් ඇතුල්වේද? දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයට වස්තුකාරයෙකුගේ පැමි
ණීමට වඩා ඉදිකටුවූ සිදුරෙන් ඔටුවාගේ
26 ගමන පහසුයයි කීසේක. ඒ ඇසුවෝ එ
සේවීනම් ගැලවෙන්ට කාට පුළුවන්දැයි
27 කීවෝය. උන්වහන්සේද මනුෂ්‍යයන්ට
නුපුළුවන් දේ දෙවියන්වහන්සේට පුළුව
28 නැයි කීසේක. එවිට පේත්‍රුස් අපි සියල්
ල අත්හැර ඔබවහන්සේ පස්සේ ආවෙ
29 මුයයි කීයේය. උන්වහන්සේද ඔවුන්ට
කියනසේක් සැබවක් නුඹලාට කියමි
යමෙක් දෙවියන්වහන්සේගේ රාජ්‍යය
නිසා ගේවත් දෙමව්පියන්වත් සහෝදර
යන්වත් භාර්යාවවත් දරුවන්වත් අත්
30 ඇරියොත් ඔහු මෙලොවදී බොහෝ වැ
ඩිකොට ලැබ පරලොවදී අනන්ත ජී
වත්වීමත් ලබනේයයි කීසේක.
31 එවිට දොළොස් දෙනා තමන්වහන්සේ
වෙත කැඳවාගෙන ඔවුන්ට කියනසේක්
අපි යෙරුසලමට යමුව එහිදී මනුෂ්‍ය පුත්‍ර
යා ගැන අනාගතවක්තෘන් විසින් ලියා
32 තිබෙන සියල්ල සම්පූර්ණ වනේය. ඔ
හු අන්‍යජාතීන්ට පාවාදෙනලදුව නින්
දාත් කවටකමුත් කෙලගැසීමත් ලබන්
33 නේය. ඔවුන් ඔහුට තලා මරණට පත්
කරණවා ඇත තුන්වෙනි දා ඔහු දෙව
34 නු නැගිටිනවා ඇතැයි කීසේක. මෙ
සින් මොකවත් ඔවුන්ට තේරුනේ නැ
ත මේ කීම ඔවුන්ට සැඟවී තිබුණේය
කිව් කාරණවල් හැඟී ගියේ නැත.
35 උන්වහන්සේ යෙරිකෝව ළඟට පැමි
ණි කල අන්ධයෙක් සිඟමින් මග අසල
36 උනේය. සමූහයා යනවා ඔහුට ඇසී
37 මේ කිමෙක්දැයි ඇසුයේය. නාසරෙත්හි
යේසුස්වහන්සේ මග යනසේකැයි ඔහුට
38 දැන්නුවෝය. එවිට ඔහු දාවිත්ගේ පුත්‍ර
වූ යේසුස්වහන්ස මට අනුකම්පා කළමැ
39 නවයි කියා මොරගැසුවේය. ඉස්සරින් ය
නෝ ඔහුට සැරකොට මොරනොගසන්
නැයි කීවෝය. නුමුත් ඔහු දාවිත්ගේ පු
ත්‍රය මට කරුණාකළමැනවයි වඩ වඩා
40 මොරගැසුවේය. යේසුස්වහන්සේ නැවතී
සිට ඔහු මා ළඟට ගෙනෙල්ලායයි අණ
41 දුන්සේක. ඔහු ළඟට ආකල උන්වහන්
සේ මා ලවා කුමක් කරවාගන්නට කැම
42 තිදැයි ඔහුගෙන් ඇසූසේක. ඔහු ස්වාමී
නි පෙනීමයයි කීය එවිට යේසුස්වහන්
සේ පෙනීම ලබාපනන නුඹේ ඇදහිල්
43 ල නුඹ සුවකළායයි ඔහුට කීසේක. එව
ලේම ඔහු පෙනීම ලැබ දෙවියන්වහන්
සේට ප්‍රසංසාකරමින් උන්වහන්සේ පස්
සේ ගියේය. සියළු සෙනග ඒ දැක දෙ
වියන්වහන්සේට ස්තුති කළෝය.

19. පරිච්. යේසුස්වහන්සේ යෙරි
2 කෝවට පැමිණ ඒ මැදින් යන අතර සුං
ගම් අයකරනන්ගේ මූලාදෑනියෙක්වූ
3 සාකෙවුස්නම් වස්තුකාරයෙක් යේසුස්ව
හන්සේ කවරෙක්දැයි බලන්ට සෙවීය.
නුමුත් ඔහු මිටි බැවින් සමූහයා නිසා
4 නොහැකි විය. යේසුස්වහන්සේ ඒ ම
ගින් යනසේකැයි දැන ඉස්සරව දුව
ගොස් උන්වහන්සේ දක්නා පිනිස දිඹුල්
5 ගහකට නැගුනේය. යේසුස්වහන්සේ ඒ
ස්ථානයට පැමිණ උඩ බලා ඔහු දැක සා
කෙවුස් වහාම බැසපනන අද නුඹේ ගෙ
යි මා විසින් සිටිය යුතුයයි ඔහුට කීසේ
6 ක. ඔහු වහාම බැස සන්තෝසයෙන් උ
7 න්වහන්සේ පිළිගත්තේය. ඒ දුටුවාවූ සි
යල්ලෝම උන්වහන්සේ පව්කාර මනුෂ්‍ය

යෙකු ළඟට ආගන්තුක සත්කාර ලබන්
8 නට ගියේයැයි කොඳුලෝය. සාකෙ
වුස්ද නැගී සිට ස්වාමිනි මාගේ වස්තු
වෙන් දෙකෙන් පංගුවක් දිළිඳුන්ට දෙ
මි. යමෙකුගෙන් වංචාවෙන් කිසිවක් ග
ත්මිනම් ඔහුට සතර පංගුවක් නැවත
9 දෙමියි ස්වාමින්වහන්සේට කීයේය. එවි
ට යේසුස්වහන්සේ කියනසේක් මොහු
10 ද ආබ්‍රහම්ගේ පුත්‍රයෙක් බැවින් ගැලවී
ම අද මේ ගෙට පැමුණුනේය. මක්නිසා
ද මනුෂ්‍ය පුත්‍රයා නැතිවූ දේ සොයන්ට
ද ගලවාගන්ටද ආයේයයි කීසේක.
11 මේ කාරණ ඔවුන් අසනකල උන්ව
හන්සේ යෙරුසලම ළඟට පැමිණි බැව්
ද දෙවියන්වහන්සේගේ රාජ්‍යය ඉක්ම
නින් එළිදරව් වේයයි ඔවුන් සිතූ බැවින්
ද නැවතත් උපමාවක් කියමින් වංශවත්
12 මනුෂ්‍යයෙක් තමාටම රාජ්‍යයක් ලැබ
ගෙන නැවත එන පිණිස දුරු රටකට
13 යන්ට පිටත්ව තමාගේ වැඩකාරයන්
දසදෙනෙකුට හඬගසා ඔවුන්ට මිනා
නම් මිල දසයක් දී මම එනතුරු වෙළ
14 ඳම් කරපල්ලායයි කියා ගියේය. රටවැ
සියෝද ඔහුට වෛරව මේ මනුෂ්‍යයා අ
පට රජවෙනවාට කැමති නැතැයි ඔහු
15 පස්සේ පණිවිඩයක් ඇරියෝය. ඔහු රා
ජ්‍යය ලැබගෙන ඇවිත් වෙළඳමෙන් එ
ක එකා කොපමණ උපදවාගත්තෝදැයි
දැනගන්නා පිණිස තමන්ගෙන් මිල ගත්
වැඩකාරයන් තමන් ළඟට අඬගැස්සෙව්
16 වේය. එවිට පළමුවෙනියා ඇවිත් ස්වාමි
නි ඔබගේ එක මිනාවෙන් මිනා දසයක්
17 ඉපදවීමියි කීය. ඔහුද උතුම්වූ වැඩකාර
ය තුබ යහපතක් කළේය තුබ ස්වල්ප
දෙයට විශ්වාසවූ බැවින් නුවරවල් දසය
කට මූලාදැනියා වෙයන්නැයි ඔහුට කී
18 යේය. දෙවෙනියාද ඇවිත් ස්වාමිනි ඔ
බගේ මිනාවෙන් මිනා පහක් ඉපදවීමි
19 යි කීය. එවිට තුබත් නුවර පහකට මූලා
20 දැනියා වෙයන්නැයි ඔහුට කීයේය. තව
එකෙක් ඇවිත් ස්වාමිනි මා විසින් රෙදි
කඩක දවටා තිබූ ඔබගේ මිනාව මේය.
21 මක්නිසාද ඔබ නොතිබූ දේ ගන්නාවූ
නොවපුල දේ කපන්නාවූ කකිස කෙ
22 නෙක් බැවින් ඔබට භයවීමියි කීය. එ
විට ඔහු දුෂ්ඨවූ වැඩකාරය තුබේ කටින්
ම තුබ විනිශ්චය කරමි මම නොතිබූ
දේ ගන්නාවූ නොවපුල දේ කපන්නාවූ
කකිස කෙනෙකැයි තුබ දැනගත්තෝය.
23 එසේනම් මම ඇවිත් මාගේ වස්තුව පො
ලිත් සමග ලබන පිණිස මාගේ මිල වෙ
ළඳුන්ට නුදුනෙහි මක්නිසාදැයි කියා ළ
ඟ සිටියවුන්ට මිනාව මොහුගෙන් අර
24 ගෙන මිනා දසය ඇත්තාට දීපල්ලායයි
25 කීයේය. එවිට ස්වාමිනි ඔහුට මිනා දස
26 යක් ඇතැත්යයි කීවෝය. එවිට ඔහු උ
ත්තර දෙමින් ඇත්තාවූ සියල්ලන්ටම දෙ
නු ලැබේ නැති තැනැත්තාගෙන් ඔහු
සන්තක දේත් උදුරාගනු ලැබේයයි තුබ
27 ලාට කියමි. තුමූත් මම තමන් කෙරේ
රජ වෙනවාට කැමති නැත්තාවූ ඒ මා
ගේ සතුරන් මෙහි ගෙනවුත් මා ඉදිරි
යෙහි මරාපල්ලායයි කීයේයයි කීසේක.
28 උන්වහන්සේ මෙසේ කියා ඔවුන්ට ඉස්
සරව යෙරුසලම බලා ගියසේක.
29 උන්වහන්සේ ඔලීව කන්දට කිට්ටුවූ
බෙත්ඵාගයටද බෙතානියටද ළංවූ කල
තමන්ගේ ගෝලයන්ගෙන් දෙදෙනෙක්
යවමින් කියනසේක් ඉදිරිපිට තිබෙන
30 ගමට පලයල්ලාය. එහි ඇතුල්වූ විටම
කවුරුවත් කවදාවත් නොනැගුනාවූ බැ
ඳලා සිටින කොටළු වස්සෙක් සම්භවෙ
31 යි ඌ ලිහාගෙන වරෙල්ලාය. කවුරු
වත් ඌ ලිහන්නේ මක්නිසාදැයි ඇසු
වොත් උගෙන් ස්වාමින්වහන්සේට වැඩ
ඇතැත්යයි ඔහුට කියාපල්ලායයි කීසේ
32 ක. යවනු ලැබූවෝ ගොස් ඔවුන්ට කී
33 ලෙසම වස්සා සම්භව ලිහනකල ඌ අ
යිතිකාරයෝ වස්සා ලිහන්නේ මක්නි
34 සාදැයි ඔවුන්ගෙන් ඇසුවෝය. ඔවුන්
උගෙන් ස්වාමින්වහන්සේට වැඩ ඇතැත්
35 යයි කීවෝය. ඔවුන් වස්සා යේසුස්වහන්
සේ ළඟට ගෙනවුත් තමන්ගේ වස්ත්‍ර ඌ
පිට ලා යේසුස්වහන්සේ ඌ පිට හිඳෙව්
36 වෝය. උන්වහන්සේ යන කල සමූහයෝ
37 තමන්ගේ වස්ත්‍ර මඟ අතුළෝය. උන්ව
හන්සේ ඔලීව කන්දෙන් බසින තැනට
ළංවූකල සියළු ගෝල සමූහයා ඔවුන් දු
ටු සියළු ආශ්චර්‍ය්‍ය නිසා සතුටුව මහත්
ශබ්දයෙන් දෙවියන්වහන්සේට ස්තුති
38 කරන්නට පටන්ගෙන ස්වාමින්වහන්
සේගේ නාමයෙන් එන්නාවූ රජුට ආශි
ර්වාද වේවයි කියාත් ස්වර්ගයෙහි සමයි
කමද ඉතා උස්වූ තැන්හි මහත්තත්වය
39 ද වේවයි කියාත් කීවෝය. සමූහයා අ
තරෙන් සමහර ඵරිසිවරු ආචාර්නි ඔබ
වහන්සේගේ ගෝලයන්ට දොසමුතුකම්
දුනමැනවයි උන්වහන්සේට කීවෝය.

40 උන්වහන්සේ උත්තර දෙමින් මොවුන්
කථානොකර සිටියොත් ගල්මුරගසතිසි
නුබලාට කියමියි ඔවුන්ට කීසේක.
41 උන්වහන්සේ නුවරට ලංව ඒ දුටුකල
42 ඒ ගැන හඬමින් තිගේ මේ දවසේදීවත්
තිගේ සමගිකමට සුදුසු දේ දැනගත්
තොත් යහපත. දැන් ඒවා තිගේ ඇස්ව
43 ලට මුවාවී තිබෙයි. තී විමසා බලන කා
ලය නොදැන සිටි බැවින් තිගේ සතු
රෝ තී හාත්පසින් අගලක් කපා තී ව
ටකොට සියළු දිසාවෙන්ම කොටුකර
ගන තී සහ තී තුල සිටින තිගේ දරු
44 වන් බිම හා සමතලාකොට තී තුලේ ග
ලක් පිට ගලක් තිබෙන්ට නාරින දවස්
පැමිනෙනවා ඇතැයි කීසේක.
45 ඉන්පසු උන්වහන්සේ දේවමාලිගාව
46 ට ඇතුල්ව එහි ගනුදෙනු කරන්නන්
බැහැරකරන්ට පටන්ගෙන මාගේ ගේ
යාඥාකිරීමේ ගේයයි ලියනලදේය නු
මුත් නුබලා ඒක සොරුන්ගේ ගුහාවක්
47 කලෝයයි ඔවුන්ට කීසේක උන්වහන්
සේ දවස්පතා දේවමාලිගාවේ ඉගැන්වූ
සේක. එවිට නායක පූජකයෝද ලියන්
නෝද ජනයන්ගේ ප්‍රධානිද උන්වහන්
48 සේ මරන්ට සොයා සියළු සෙනග උන්ව
හන්සේගේ වචන ඕනෑකමින් ඇසූබැ
වින් උන්වහන්සේට කිසි දෙයක් කරන්
ට නොහැකිවූවෝය.

20. පරිච්ඡ. උන්වහන්සේ ඒ දවස්ව
ලින් එක් දවසක දේවමාලිගාවේ සෙ
නගට උගන්වමින් සුභාරංචිය ප්‍රකාසකර
මින් සිටිකල නායක පූජකයෝද ලියන්
නෝද වැඩිමහල්ලන් සමග උන්වහන්
2 සේ ලඟට පැමින මොන බලයකින් මෙ
සේ කරනෝද නොහොත් මේ බලය
නුබට දුනෙන් කවුදැයි අපට කියාපන්
3 නැයි උන්වහන්සේට කීවෝය. උන්වහන්
සේ උත්තර දෙමින් මමත් නුබලාගෙන්
4 එකක් අහමි ඒක මට කියාපල්ලාය. යො
හන් කල බව්තීස්මය වුනේ ස්වර්ගයෙ
න්ද නොහොත් මනුෂ්‍යයන්ගෙන්දැයි ඇ
5 සූසේක. එවිට ඔවුන් තමතමන් අතරෙ
හි කථාකරමින් ස්වර්ගයෙනැයි කීවුනම්
නුබලා ඔහු අදහනොගතෙත් මක්නිසා
6 දැයි කියනවා ඇත. මනුෂ්‍යයන්ගෙනැ
යි කීවුනම් යොහන් අනාගතවක්තෘ කෙ
7 නෙකැයි සැබෑවටගෙන සිටි සියළු සෙ
නග අපට ගල් ගසතියි කියා කොයින්
වූනාදැයි අපි දන්නෙන් නැතැයි උත්තර දු
8 න්නෝය. එවිට යේසුස්වහන්සේ මමත්
කිසවල් බලයෙන් මේ දේ කෙරෙමියි නු
බලාට නොකියමියි ඔවුන්ට කීසේක.
9 එවිට උන්වහන්සේ සෙනගට මේ උප
මාව කියනතට පටන්ගෙන එක් පුරුෂ
යෙක් මිදි වත්තක් වවා ගොයින්ට බදු
දී බොහෝ කලකට දුරු රටකට ගියේ
10 ය. ඵල අවස්ථාවෙහිදී මිදි වත්තේ ඵල
කොටස ගන්ට ගොයින් ලඟට වැඩකා
රයෙක් යැවීය. එහෙත් ගොවීහු ඔහුට ත
11 ලා හිස් අතින් ඇරියෝය. පසුව ඔහු අ
නික් වැඩකාරයෙක් යැවීය. ඔවුන් ඔහු
ටද තලා නින්දාකොට හිස් අතින් ඇරි
12 යෝය. නැවතද ඔහු තුන්වෙනියෙක්
යැවීය. ඔවුන් ඔහුටද තුවාලකොට පිට
13 ත දැම්මෝය. එවිට මිදි වත්තේ ස්වාමියා
මම මක්කරම්ද? මාගේ ප්‍රිය පුත්‍රයා යව
මි සමහරවිට ඔහු දැක ගෞරව කරතියි
14 කීයේය. නුමුත් ගොවීහු ඔහු දැක තම
තමන් අතරෙහි කථාකොට මේ උරු
මක්කාරයාය උරුමය අපට වෙන පිනි
ස මොහු මරමුයයි කියා ඔහු මිදිවත්තෙන්
15 පිටත ලා මැරුවෝය. එහෙයින් මිදිවත්
තේ ස්වාමියා ඔවුන්ට කුමක් කරනෙන්
16 ද? ඔහු ඇවිත් ඒ ගොවීන් නසා මිදිව
ත්ත වෙන අයවලට දෙනෙන්යයි කීසේ
ක. ඔවුන් ඒ අසා එසේ නොවේවයි කී
17 වෝය. උන්වහන්සේ ඔවුන් දෙස බලා
එසේනම් ගෙවල් සාදන්නන් විසින් එ
පාකරනලද ගලම කොනේ ප්‍රධාන ග
18 ල වූනේයයි ලියනලදේ කිමෙක්ද? ඒ
ගල පිට යමෙක් වැටුනොත් ඔහු කැබ
ලිවෙයි යමෙක් පිට ඒ ගල වැටුනොත්
එයින් ඔහු සුනුකරනු ලබනෙන්යයි කී
19 සේක. එවලේම නායක පූජකයෝද
ලියන්නෝද මේ උපමාව ඔවුන්ට විරු
ඩව උන්වහන්සේ කී බව දැන උන්වහන්
සේ අල්ලනතට සෙව්වෝය නුමුත් සෙ
නගට භයවූනෝය.
20 තවද නපුරු අදහසින් බලා සිටිනතා
වූ ඔවුන් උන්වහන්සේගේ වචනයෙන්
උන්වහන්සේ අල්වාගෙන ආඬුවටද අධි
පතියාගේ බලයටද උන්වහන්සේ පාවා
දෙන පිනිස තමන් ධර්මිෂ්ඨයෝයයි හඟ
21 වනතාවූ චරපුරුෂයන් යැව්වෝය. එවිට
ඔවුන් ආචාරිනි ඔබවහන්සේ යුතු ප්‍රකා
ර කියමින් උගන්වන බවත් මනුෂ්‍යයන්
ගේ තරාතිරම නොබලා සැබෑ ලෙස දෙ

වියන්වහන්සේගේ මාර්ගය උගන්වන බ
22 වත් දනිමුව. එබැවින් අප විසින් කායි
සර්ට අඩුයම් දීම යුතුද අයුතුදැයි උන්ව
23 හන්සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ
ඔවුන්ගේ වංචාව දැන මා පරීක්ෂාකරන්
නේ මක්නිසාද මට මිලයක් පෙන්වාපල්
24 ලාය. මෙහි කොටනලද රූපයත් නමත්
කාගේදැයි ඔවුන්ගෙන් ඇසූසේක. ඔ
වුන් උත්තර දෙමින් කායිසර්ගේයයි කි
25 වෝය. එසේනම් කායිසර්ගේ දේ කායි
සර්ටද දෙවියන්වහන්සේගේ දේ දෙවිය
න්වහන්සේටද දීපල්ලායයි උන්වහන්
26 සේ ඔවුන්ට කීසේක. ඔවුන් සෙනග ඉ
දිරියෙහිදී උන්වහන්සේගේ වචන අල්
වන්නට බැරිව උන්වහන්සේගේ උත්ත
රයට පුදුමව කථානොකර සිටියෝය.
27 එවිට මලවුන්ගෙන් නැගිටීමක් නැ
තැයි කියන සද්දුසිවරුන්ගෙන් සමහ
රෙක් උන්වහන්සේ ළඟට පැමින උන්
28 වහන්සේගෙන් ප්‍රශ්ණයක් අසමින් ආ
චාරිනි භායඹාව ඇති යමෙක් දරුවෙක්
නොලැබ මලොත් ඔහුගේ සහෝදරයා
විසින් මලාහුගේ භායඹාව පාවාගෙන ත
මාගේ සහෝදරයාගේ නමට දරුවෙක්
උපදවන්ට යුතුයයි මෝසෙස් විසින් අ
29 පට ලියා තිබෙයි. සහෝදරයෝ සත්
දෙනෙක් සිටියෝය. පලමුවෙනියා භා
යඹාවක් සරණ පාවාගෙන දරුවෙක්
30 නොලැබ මැරුණේය. දෙවෙනියාත් ඒ
ස්ත්‍රිය සරණ පාවාගෙන දරුවෙක් නො
31 ලැබ මැරුණේය. තුන්වෙනියාත් ඈ ස
රණ පාවාගත්තේය. සත්දෙනම එසේම
ඈ සරණ පාවාගෙන දරුවෙක් නො
32 ලැබ මැරුණෝය. සියල්ලන්ට පසු ඒ
33 ස්ත්‍රීත් මලාය. එබැවින් මලවුන්ගේ නැ
ගිටීමේදී ඈ කාගේ භායඹාව වන්නීද?
මක්නිසාද සත්දෙනම ඈ සරණ පාවා
34 ගත්තෝයයි කීවෝය. ජේසුස්වහන්සේ
උත්තර දෙමින් මෙලොව දරුවෝ සර
35 ණ පාවාගනිති. සරණ පාවා දෙති. නු
මුත් පරලොවද මලවුන්ගෙන් නැගිටි
මද ලැබිය යුත්තෝයයි ගනිනු ලැබූවෝ
සරණ පාවා නොගනිති සරණ පාවා
36 නොදෙති. ඔවුන් නැවත මරණයට
නොපැමින දේවදූතයන් හා සමානව ම
ලවුන්ගෙන් නැගිටීමෙහි පුත්‍රයෝ බැ
වින් දෙවියන්වහන්සේගේ පුත්‍රයෝ වෙ
37 ති. තවද මෝසෙස් පඳුර ළඟදී ස්වාමින්
වහන්සේ අබ්‍රහම්ගේ දෙවියන්වහන්
සේය ඊසාක්ගේ දෙවියන්වහන්සේය යා
කොබ්ගේ දෙවියන්වහන්සේයයි කි
යමින් මලවුන් නැගිටින බව හැඟෙව්
38 වේය. මක්නිසාද දෙවියන්වහන්සේ ජී
වත්වනනවුන්ගේ දෙවියන්වහන්සේ මි
ස මලවුන්ගේ දෙවියන්වහන්සේ නො
වේය. ඔවුන් සියල්ලෝම උන්වහන්සේ
39 ඉදිරියෙහි ජීවත්වෙතියි කීසේක. එවිට
ලියනනන්ගෙන් සමහරෙක් උත්තර දෙ
මින් ආචාරිනි ඔබවහන්සේ කිවා යහප
40 තැයි කීවෝය. එයින් පසු කිසි ප්‍රශ්ණ
යක් උන්වහන්සේගෙන් අහන්නට කිසි
වෙක් ධෛයඹී ඇතිව නොසිටියෝය.
41 එවිට උන්වහන්සේ ඔවුන්ට කියන
සේක් ක්‍රිස්තුස් දාවිත්ගේ පුත්‍රයයි කියන්
42 නේ කෙසේද? ස්වාමිවහන්සේ මාගේ
ස්වාමින්වහන්සේට මම තුඹේ සතුරන්
43 තුඹේ පාපුටුව කරණතුරු මාගේ දකු
නු පැත්තේ හිඳින්නැයි කීසේකැයි දා
44 වින්ම ගීතිකා පොතෙහි කියේය. එහෙ
යින් දාවිත් උන්වහන්සේට ස්වාමින්වහන්
සේයයි කියනේනම් උන්වහන්සේ ඔ
හුගේ පුත්‍රවනේ කොහොමදැයි කීසේ
45 ක. එවිට උන්වහන්සේ සියළු සෙනග අ
46 සමින් සිටිද්දී තමන් ගෝලයන්ට කිය
නසේක් දිග වස්ත්‍ර හැඳ ඇවිදින්ට කැ
මතිවූ කඩපිල්වලදී ආචාර ලැබීමටද සි
නගෝගවලදී උතුම් ආසනවලටද මංග
ලාවලදී උත්තම ස්ථානවලටද කැමතිවූ
47 වැන්දඹුවන්ගේ ගෙවල් කොල්ලකන්නා
වූ වංචා පිනිස දිගඝ යාඥා කරනනාවූ ලි
යනනන්ගෙන් ප්‍රවේසම් වෙල්ලාය. ඔ
වුන් බලවත් අච්චුවට පැමිනෙනවා ඇ
තැයි කීසේක.

21. පරිච්. තමන්ගේ පඩුරු මුදල්
ගබඩාවෙහි දමන වස්තුකාරයන් උන්ව
2 හන්සේ බලා සිට සල්ලි දෙකක් එහි ද
3 මන දිලිඳුවූ වැන්දඹුවක් දැක සැබවක්
තුඹලාට කියමි මේ දිලිඳු වැන්දඹුව සිය
4 ල්ලන්ට වඩා දැමුවාය. මක්නිසාද මේ සි
යල්ලෝම තමතමන්ගේ බොහෝ වස්
තුවෙන් දෙවියන්වහන්සේට පඩුරු දැමූ
වෝය නුමුත් මෑ තමාගේ දිලිඳුකමින්
මෑට රක්ෂාවට තිබුනු සියල්ලම දැමුවාය
යි කීසේක.
5 ඉන්පසු ලක්ෂණ ගල්වලින්ද පඩුරුව
ලින්ද කෙසේ අලංකාර කරණලදදැයි දේ
වමාලිගාව ගැන සමහරෙක් කියමින්

6 සිටි කල්හි තුඹලා දකිනනාවූ මේ දේ
වල් ගලක් පිට ගලක් නොතිබෙන්ට ක
ඩා හෙළන දවස් පැමිණෙනවා ඇතැයි
7 කීසේක. ඔවුන්ද ආචාරිනි මේ දේවල්
කොයි කලක පැමිණෙනනේද? මේ දේ
වල් සිඩවෙන කාලයෙහි ලකුන කි
මෙක්දැයි උන්වහන්සේගෙන් ඇසුවෝ
8 ය. උන්වහන්සේ කියනසේක් මුලාකර
නු නොලබන්ට බලාගනිල්ලාය. මක්නි
සාද බොහෝ දෙන මාගේ නාමයෙන්
ඇවිත් මම ක්‍රිස්තුස්ය කාලය ලංවියයි කි
9 යනවා ඇත. ඔවුන් පස්සේ නොයල්ලා
ය. එහෙත් යුඩ සහ කැලඹීම්වල් ගැන
තුඹලා අසනකල භය නොවෙල්ලාය.
ඒවා පලමුවෙන් වෙනනට ඕනෑය නු
මුත් කෙලවර එවලේම නොපැමිණේය
10 යි කීසේක. තවද උන්වහන්සේ ඔවුන්ට
කියනසේක් ජාතිය ජාතියටද රාජ්‍යය රා
11 ජ්‍යයටද විරුඩව නැගිටිනවා ඇත. නො
යෙක් තැන්වල මහත්.භූමි කම්පාද දු
ර්භික්ෂද වසංගත රෝගද වනෙන්ය. අ
හසින් භයංකාර දූකීම්වල්ද මහත්වූ ල
12 කුනුද වෙනවා ඇත. ඒ සියල්ලට පල
මුවෙන් මාගේ නාමය නිසා ඔවුන් තුඹ
ලා අල්වා හිංසාකොට සිනගෝගවලට
13 ද හිරගෙවලටද පාවාදෙති. තුඹලා ර
ජුන්ගේද මුලාදැනින්ගේද ඉදිරියට ගෙ
14 නයනු ලබති. ඒ කාරණ තුඹලාට සා
15 ක්ෂි පිනිස වනෙන්ය. එබැවින් කියයුතු
කිමෙක්දැයි පලමුකොට කල්පනා නො
කරන්ට තුඹලාගේ සිත්වල තබාගනිල්
ලාය. මක්නිසාද සියළු එදිරිකාරයන් වි
සින් තුඹලාට විරුඩව කථාකරන්ටවත්
විරුඩව සිටින්ටවත් බැරිවූ කථාවද ප්‍ර
16 ඥාවද තුඹලාට දෙනෙනම්. මව්පියන් වි
සින්ද සහෝදරයන් විසින්ද නෑදෑ මිත්‍ර
යන් විසිනුද තුඹලා පාවාදෙනු ලබනවා
ඇත. ඔවුන් තුඹලාගෙන් සමහරෙක්
17 මරණට පත්කරවනවා ඇත. මාගේ නා
මය නිසා සියල්ලෝම තුඹලාට වෛර
18 වෙනවා ඇත. නුමුත් තුඹලාගේ ඉස
19 කෙසකවත් විනාස නොවනෙන්ය. තුඹ
ලාගේ ප්‍රාණවල් ඉවසීමෙන් රක්ෂාකරග
20 නිල්ලාය. යම් කලෙක සේනාවන් විසින්
යෙරුසලම වටකරනු ලබනවා තුඹලා
දකිද්ද එකල එහි විනාසය කිට්ටුයයි දැ
21 නගනිල්ලාය. එවිට යුදයෙහි සිටිනෙනා
කඳුවලට පලා යත්වා. එහි මැද සිටින්
22 නෝ පිටතට යත්වා. පිට රටවල සිටින්
23 නෝ එහි ඇතුල් නොවෙත්වා. මක්නි
සාද ලියනලද සියල්ල සම්පූර්ණවෙ
න පිනිස ඒ දවස් පලිගැනීමේ දවස් වෙ
නවා ඇත. නුමුත් රටෙහි මහත් විපත්
තියද මේ සෙනගට උදහසද වන බැ
වින් ඒ දවස්වලදී ගර්භිනීන්ටද කිරි පො
24 වන ස්ත්‍රීන්ටද දුක්වනෙන්ය. තවද ඔ
වුන් කඩුමුවහතින් වැටෙති සියළු රට
වලට වාල්කමට ගෙනයනු ලබති. අන්‍ය
ජාතීන්ගේ කාලවල් සම්පූර්ණවෙනතු
රු යෙරුසලම අන්‍යජාතීන් විසින් මැඩ
25 පවත්වනු ලබනෙන්ය. ඉර සඳ තාරකා
වල්වල ලකුනුද පොළොවෙහි මිනිසුන්
ට සාංකා සහිතව විපත්තියද මූදේ කු
26 නාටුවේ ඝෝෂාවද වනෙන්ය. අහසේ
බලපරාක්‍රමද සෙලවෙන බැවින් පො
ළොවට පැමිණෙනනාවූ දේ බලනනාවූ
මනුෂ්‍යයන්ගේ හිත් භයින් මලානික ව
27 නෙන්ය. එකල ඔවුන් බලයෙනු මහත්
වූ තේජසින්ද වලාකුලෙන් එනනාවූ ම
28 නුෂ්‍ය පුත්‍රයා දකිනවා ඇත. මේ දේ පැ
මිණෙනනට පටන්ගන්නා කල්හි උඩ බ
ලා හිස් ඔසවාපල්ලාය තුඹලාගේ මිදී
ම ලංවන්නේයයි කීසේක.
29 උන්වහන්සේ එක් උපමාවක් ඔවුන්ට
කියනසේක් දිඹුල් ගහද සියළු ගස්ද බ
30 ලාපල්ලාය. ඒවා දළු ලනවා දකිනවිට
ග්‍රීෂ්ම කාලය ලඟයයි තුඹලාම දනිති.
31 එලෙසම මේ දේ පැමිණෙන බව දකින
කල දෙවියන්වහන්සේගේ රාජ්‍යය ලඟ
32 යයි දැනගනිල්ලාය. සැබවක් තුඹලාට
කියමි සියල්ල සිඩවෙනතුරු මේ මනු
33 ෂ්‍ය වර්ගය නැතිවෙන්නේ නැත. අහ
සත් පොලවත් නැතිවනෙන්ය. නුමුත්
මාගේ වචන නැතිවෙනෙන් නැත.
34 තුඹලා බලා නොසිටින වේලාවක ඒ
දවස තුඹලාට නොපැමිණෙන පිනිස
පමන නොදැන කෑමෙනු මත්වීමෙන්ද
මෙලොව සිතිවිලිවලින්ද ප්‍රමාද නො
35 වෙන්ට ප්‍රවේසම්වෙයල්ලාය. මුළු පො
ළොවෙහි වසන්නාවූ සියල්ලන්ට උගු
36 ලක් මෙන් ඒ දවස පැමිණෙනෙන්ය. එ
බැවින් ඒ පැමිණෙන සියල්ලෙන් ගැල
වෙන්ටද මනුෂ්‍ය පුත්‍රයාගේ ඉදිරියෙහි
සිටින්ටද තුඹලා සුදුස්සෝයයි ගනිනු
ලබන පිනිස නිතරම යාඥාකරමින් අව
දිව සිඳිල්ලායයි කීසේක.
37 උන්වහන්සේ දවහල් දේවමාලිගා
වේ උගන්වමින් සිට රාත්‍රියේ පිටත්ව

38 ඔලිව කන්දට ගොස් විසූසේක. සියළු
සෙනඟද උන්වහන්සේගේ වචන අහන්
ට අළුයම් වේලෙහි දේවමාලිගාවේ වැ
ඩඋන්නාවූ උන්වහන්සේ වෙතට ආ
වෝය.

22. පරිච්ඡේ. පාස්කුවනම්වූ මුහුන්
2 නොදැමූ රොටි මංගල්‍යය ලංවිය. එවිට
නායක පූජකයෝද ලියන්නෝද සෙන
ගට භයවූ බැවින් උන්වහන්සේ නසන්
3 නේ කෙසේදැයි සෙව්වෝය. එවිට දෙ
ලොස් දෙනාගෙන් එකෙක්වූ ඉස්කාරි
යොත්නම් යූදස්ගේ හිතට සාතන් වැදු
4 ණේය. ඔහු ගොස් උන්වහන්සේ පාවා
දෙන අන්දම් ගැන නායක පූජකයන් ස
හ මුලාදැනීන් සමග මන්ත්‍රණය කලේය.
5 ඔවුහු ඊට සන්තෝසව ඔහුට මිල දෙන්
6 ට පොරොන්දුවූනෝය. ඔහු ගිවිසුම්කො
ට සමූහයා ලඟ නැති විටක උන්වහන්
සේ ඔවුන්ට පාවාදෙන්නට ප්‍රස්තාවක්
සෙව්වේය.
7 මුහුන් නොදැමූ රොටි මංගල්‍යයෙහි
පාස්කු බැටළු පැටවා මරන්ට යුතුවූ ද
8 වස පැමුනුනේය. එවිට උන්වහන්සේ
පේතෘස්ද යොහන්ද යවමින් තුබලා
ගොස් අපට කන්නට පාස්කු මංගල්‍යය
9 පිලියෙල කරපල්ලායයි කීසේක. ඔවුහු
කොතන පිලියෙලකරණවාට කැමතිදැ
10 යි උන්වහන්සේගෙන් ඇසුවෝය. උන්ව
හන්සේ ඔවුන්ට කියනසේක් තුබලා නු
වරට ඇතුල්වූවිට මිනිහෙක් වතුර කල
යක් අරගෙන තුබලා ඉදිරියට එනෙන්
11 ය. ඔහු යම් ගෙයකට ඇතුල්වේද ඒ ගෙ
ට ඔහු කැඳුව ගොස් මම මාගේ ගෝල
යන් සමග පාස්කු මංගල්‍යය කන්නට යු
දුසු ආගන්තුක සාලාව කොතැන්හිදැයි
ආචාරීන්වහන්සේ අහනසේකැයි ඒ ගෙ
12 යි ස්වාමියාට කියාපල්ලාය. එවිට ඔහු ස
රහා තිබෙන මහත් උඩුමහළක් තුබලා
ට පෙන්වනේය එහි පිලියෙල කරපල්
13 ලායයි කීසේක. ඔවුහු ගොස් උන්වහන්
සේ තමන්ට කී ලෙස දැක පාස්කු මංග
ල්‍යය පිලියෙලකලෝය.
14 වේලාව පැමිනිකල උන්වහන්සේ ප්‍රේ
රිතයන් දොලොස් දෙනා සමග වැඩහි
15 ද ඔවුන්ට කියනසේක් මම වධවිඳිමට
පලමුකොට මේ පාස්කු මංගල්‍යය තුබ
ලා සමග කන්නට අතිසෙයින් කැමති
16 වීමි. මක්නිසාද තුබලාට මම කියැමි දෙවි
යන්වහන්සේගේ රාජ්‍යයෙහිදී ඒක සම්
පූර්ණවෙනතුරු මෙතැන් පටන් මෙ
17 යින් නොකමියි කීසේක. උන්වහන්සේ
ද කුසලාන ගෙන ස්තුතිකොට මේක
ගෙන තුබලා අතරේ බෙදාගනිල්ලාය.
18 මක්නිසාද තුබලාට කියම් දෙවියන්ව
හන්සේගේ රාජ්‍යය එනතුරු මේ මුද්‍රික
19 ඵල රසයෙන් නොබොමියි කීසේක. න
වද රොටියක් ගෙන ස්තුතිකොට කඩා
ඔවුන්ට දෙමින් තුබලා නිසා දෙනලද
මාගේ ශරීරය මේය. මා සිහිවීමට මේක
20 කරපල්ලායයි කීසේක. එලෙසම රාත්‍රි
භෝජනයෙන් පසු ඔවුන්ට කුසලාන දී
මේ කුසලාන තුබලා නිසා වැගිරවූ මා
ගේ ලෙයින් පිහිටුවනලද අළුත් ගිවිසුම
21 ය. තවද මා පාවාදෙනනාගේ අත මා ස
22 මග මේසයේය. ඒකාන්තයෙන්ම මනු
ෂ්‍ය පුත්‍රයා නියම්වූ ලෙස යනෙන්ය. නු
මුත් ඔහු පාවාදෙනනාට දුක්වෙන්යයි
23 කීසේක. එවිට ඔවුන්ගෙන් කවරෙක්
ඒක කරනෙන්දැයි තමන් අතරෙහි අහ
24 න්නට පටන්ගත්තෝය. තවද ඔවුන්
ගෙන් කවරෙක් උතුම් වනේදැයි ඔ
වුනොවුන් අතරෙහි වාදයක් හටගත්
25 තේය. උන්වහන්සේද ඔවුන්ට කියන
සේක් අන්‍යජාතීන්ගේ රජදරුවෝ ඔ
වුන් කෙරෙහි අධිපතිකම් කරති ඔවුන්
ගේ මුලාදැනී උපකාර කරනෝයයි කි
යනු ලබති. තුබලා අතරෙහි එසේ නො
26 විය යුතුය. තුබලාගෙන් උතුම් කෙ
නෙක් බාලයෙක් මෙන්ද ප්‍රධාන කෙ
27 නෙක් සේවකයෙක් මෙන්ද වේවා. කෑ
මට හිඳින තැනැත්තාගෙනුත් වැඩකර
න තැනැත්තාගෙනුත් උතුම් කවුද? හි
දින තැනැත්තා නොවේද? නුමුත් මම
තුබලා අතරේ වැඩකරනෙනක් මෙන්
28 වෙමි. මාගේ පරීක්ෂාවලදී මා සමග සිටි
29 යෝ තුබලාමය. මාගේ පියානන්වහන්
සේ විසින් මට රාජ්‍යයක් නියමකරණල
30 ද හෙයින් මාගේ රාජ්‍යයේදී මාගේ මේ
සයේ කන්වද බොන්වද ඊශ්‍රායෙල්ගේ
දොලොස් ගෝත්‍රයන් විනිශ්චයකරමින්
සිංහාසනවල හිඳින්ටද තුබලා නියමක
31 රමියි කීසේක. තවද ස්වාමින්වහන්සේ
සීමොන් සීමොන් තුබලා හෝඩුම මෙන් K
32 පොලන්ට සාතන් අවසර ලැබුයේය. නු
මුත් මම තුබේ ඇදහීම නැතිනොවෙන
ලෙස තුබ නිසා යාඥකෙලෙමි තුබ එ
සින් හැරුණ කල තුබේ සහෝදරයන්

33 සවිකරපනැයි කීසේක. ඔහු ස්වාමිනි
ඔබවහන්සේ සමග හිරගෙටද මරණය
ටද යන්නට සෑදී සිටිමියි උන්වහන්සේ
34 ට කීය. උන්වහන්සේද පේත්‍රුස් තුබට
මම කියමි අද කුකුලා අඬලන්ට පලමු
වෙන් තුබ තුන්වරක්ම ඔහු අඳුනනෙන්
නැතැයි මා ගැන කියනවා ඇතැයි කී
35 සේක. එවිට උන්වහන්සේ මුදල් පස්ය
ද පසුම්බියද වහන්සගලද නැතුව මම තු
බලා යැවූකල කිසිවක් තුබලාට හිගවි
දැයි ඔවුන්ගෙන් ඇහූසේක. ඔවුන් මො
36 කවත් හිගවූනේ නැතැයි කීවෝය. උ
න්වහන්සේ ඔවුන්ට කියනසේක් දැන් මු
දල් පස්යක් ඇතෙතක් ඒක ගනිවා පසුම්බි
යද එසේමය කඩුවක් නැත්තා තමාගේ
පොරවනා රෙද්දවත් විකුන කඩුවක්
37 ගනිවා. මක්නිසාද තුබලාට කියමි ඔහු
වරදකාරයන් සමග ගනන්ගනනාලදැයි
ලියා තිබෙන මේ දේ මා කෙරෙහි සම්
පූර්ණවෙන්ට ඕනෑය. මා ගැන ලියන
ලද දේ ඉෂ්ටවීමට පැමිනෙනෙන්යයි කී
38 සේක. ඔවුහු ස්වාමිනි කඩු දෙකක් මෙ
හි ඇතෙන්යයි කීවෝය. උන්වහන්සේද
ඇතැයි ඔවුන්ට කීසේක.
39 එවිට උන්වහන්සේ පිටත්ව පුරුදු ලෙ
ස ඔලීව කන්දට ගියසේක. උන්වහන්සේ
ගේ ගෝලයෝද උන්වහන්සේ කැටුව
40 ගියෝය. උන්වහන්සේ එහි සිටිකල පරී
ක්ෂාවට නොපැමිනෙන්ට යාඥාකරපල්
41 ලායයි ඔවුන්ට කීසේක. උන්වහන්සේ
ද ගලක් ගසන පමන දුර ඔවුන්ගෙන්
42 අහක්ව ගොස් දනින් හිඳ යාඥාකරමින්
පියානන්වහන්ස ඔබවහන්සේ කැමති
සේක්නම් මේ කුසලාන මගෙන් අහක්
කලමැනව. එසේ තුමුත් මාගේ කැමැත්
ත නොව ඔබවහන්සේගේ කැමැත්ත
43 වේවයි කීසේක. ස්වර්ගයෙන් දේවදූත
යෙක් උන්වහන්සේට පෙනී උන්වහන්
44 සේ ස්ථිරකෙලේය. උන්වහන්සේ මහත්
වේදනා විඳිමින් බොහෝ උත්සාහ
යෙන් යාඥාකලසේක. උන්වහන්සේගේ
ඩාදිය මහත් ලේ බිඳු වාගේ බිම වැටු
45 නේය. උන්වහන්සේ යාඥාවෙන් නැගිට
තමන් ගෝලයන් ලගට ගොස් සෝක
යෙන් නිදනාවූ ඔවුන් දැක නිදනෙන්
46 මක්නිසාද පරීක්ෂාවට නොපැමිනෙන පි
නිස නැගිට යාඥාකරපල්ලායයි ඔවුන්
ට කීසේක.
47 උන්වහන්සේ කථාකරමින් සිටිද්දීම
සමූහයක් ආයේය. දොලොස් දෙනා
ගෙන් එකෙක්වන යූදස්ද ඔවුන්ට ඉස්
සරව ඇවිත් යේසුස්වහන්සේ සිඹින පිනි
48 ස උන්වහන්සේට ලන්විය. යේසුස්වහන්
සේද යූදස් තුබ සිඹීමකින් මනුෂ්‍ය පුත්‍ර
49 යා පාවාදෙනෙන්දැයි ඔහුට කීසේක. උ
න්වහන්සේ වටකර සිටියෝ පැමිනෙන
දේ දැක ස්වාමිනි කඩුවෙන් ගසමුදැයි
50 උන්වහන්සේගෙන් ඇහූවෝය. ඔවුන්
ගෙන් එකෙක් නායක පූජකයාගේ වැ
ඩකාරයාට ගසා ඔහුගේ දකුනු කන ක
51 පාදැමූවේය. යේසුස්වහන්සේ උත්තර
දෙමින් මෙපමන ඇතැයි කියා ඔහුගේ
කන අතගා ඔහුට සුවකලසේක. ඉන්ප
52 සු යේසුස්වහන්සේ තමන් ලගට ආවාවූ
නායක පූජකයන්ටද දේව මාලිගාව ර
කිනනන්ගේ මූලාදැනීන්ටද වැඩිමහල්
ලන්ටද කියනසේක් තුබලා සොරෙක්
අල්ලන්ට නික්මෙනනාක්මෙන් කඩු මු
53 ගුරු අරගෙන පිටත්ව ආවෝද? දවස්
පතා දේවමාලිගාවේ තුබලා සමග මම
සිටිද්දී තුබලා මට විරුඬව අත් දිගුක
ලේ නැත. තුමුත් දැන් තුබලාගේ ප්‍රස්
ථාවද අන්ධකාරයාගේ බලයද වේයයි
කීසේක.
54 එවිට ඔවුන් උන්වහන්සේ අල්ලා නා
යක පූජකයාගේ ගෙදරට ගෙනගියෝ
55 ය. පේත්‍රුස්ද දුරින් පස්සේ ගියේය. ඔ
වුන් සාලාව මැද ගිනි පත්තුකොට එක
තුව හුන්කල පේත්‍රුස් ඔවුන් අතරේ උ
56 නේය. දැසියෙක් ගිනි ලග හුන් ඔහු
දැක හොඳට බලා මොහුද ඔහු සමග සි
57 ටියේයයි කීවාය. ඔහු ස්ත්‍රිය මම ඔහු නා
ඳුනමියි කීයේය. ස්වල්ප වේලාවකට
58 පසු වෙන එකෙක් ඔහු දැක තුබත් ඔ
වුන්ගෙන් එකෙනැයි කීයේය. පේත්‍රුස්
ද මනුෂ්‍යය ඒ මම නොවෙමියි කීයේය.
59 පැයකට පමන පසු වෙන එකෙක් සැ
බැවට මොහු ඔහු සමග සිටියේය මො
හු ගලීලයෙකැයි ස්ථිරකොටම කීයේය.
60 පේත්‍රුස්ද මනුෂ්‍යය තුබ මක් කියනවා
දැයි නොදනිමියි කීයේය. ඔහු කථාකර
61 මින් සිටි වේලේම කුකුලා හඬලීය. එවිට
ස්වාමින්වහන්සේ හැරී පේත්‍රුස් දෙස බැ
ලූසේක. පේත්‍රුස්ද කුකුලා හඬලන්ට ප
ලමුවෙන් ඔහු නාඳුනමියි තුබ මා ගැන
තුන් වරක් කියනෙන්යයි ස්වාමින්වහන්
62 සේ විසින් ඔහුට කියනලද වචනය සිහි
ව පිටතට ගොස් බලවත් දුකින් හැඬු

63 යේය. එකල යේසුස්වහන්සේ අල්ලාගෙ
64 න සිටි මනුෂ්‍යයෝ උන්වහන්සේට නින්‍දා
කොට පහර දී උන්වහන්සේගේ ඇස් ව
සා උන්වහන්සේගේ මුහුනට ගසා කවුරු
65 තට පහර දුනොත්දැයි දිවසින් කියවයි
කියා වෙනත් බොහෝ කාරණාවලින්
උන්වහන්සේට අපහාසකොට කීවෝය.
66 පහන්වූකල සෙනගගේ වැඩිමහල්
ලෝද නායක පූජකයෝද ලියනෝද
67 එකතුව තමන්ගේ සභාවට උන්වහන්
සේ ගෙනගොස් නුඹ ක්‍රිස්තුස්දැයි අපට
කියාපනනැයි කීවෝය. උන්වහන්සේද
නුඹලාට මම කීවත් නුඹලා අදහ නො
68 ගනිති. තවද නුඹලාගෙන් මම ඇසූ
වොත් නුඹලා මට උත්තර දෙනොත් නැ
69 ත යන්ට අරිනොත්ත් නැත. මින් මතු
මනුෂ්‍ය පුත්‍රයා දෙවියන්වහන්සේගේ ප
රාක්‍රමයාගේ දකුණු පැත්තේ ඉන්නවා
70 ඇතැයි කීසේක. එවිට ඔවුන් සියල්ලෝ
ම එසේවිනම් නුඹ දෙවියන්වහන්සේ
ගේ පුත්‍රදැයි ඇසූවෝය. නුඹලාම ඇත්
71 ත කියති ඒ මමයයි කීසේක. ඔවුන්ද මො
හුගේ කටින්ම කියනවා අපි ඇසූබැවින්
වෙන සාක්ෂියකින් අපට කම මොකදැයි
කීවෝය.

23. පරිච්ඡේ. එවිට ඔවුන් සියල්ලෝ
ම නැගිට උන්වහන්සේ පිලාත් ලඟට
2 ගෙනගොස් උන්වහන්සේට වැරදි ත
බන්ට පටන්ගෙන මොහු සෙනග මුලා
කරණ බවද තමාම ක්‍රිස්තුස් රජයයි කි
යා කායිසර්ට අඩුයම් නොදෙවියයි කි
යන බවද අපි දැනගතිමුයයි කීවෝය.
3 එවිට පිලාත් නුඹ යුදෙව්වන්ගේ රජදැ
යි උන්වහන්සේගෙන් ඇසූයේය. උන්ව
හන්සේද ඔහුට උත්තර දෙමින් නුඹ
4 සැබෑවක් කියනොත්යයි කීසේක. පි
ලාත් නායක පූජකයන්ටද සමූහයාටද
මේ මනුෂ්‍යයා කෙරෙහි කිසි වරදක්
5 මට පෙනෙනොත් නැතැයි කීයේය. ඔ
වුන්ද මොහු ගලීලයේ පටන් මෙතැන් ද
ක්වා යුදය මුළුල්ලේ උගන්වමින් සෙන
ග කැරලිගස්වනොත්යයි වඩ වඩා කී
6 වෝය. පිලාත්ද ගලීලය යනු අසා මේ
7 මනුෂ්‍යයා ගලීලයෙක්දැයි විචාර උන්ව
හන්සේ හෙරෝද්ගේ ආන්ඩුවට යටත්
වූ දේශයෙහි කෙනෙක් බව දැන එව
කට යෙරුසලමේ සිටියාවූ හෙරෝද් ල
ගට උන්වහන්සේ යැවීය.

8 හෙරෝද් යේසුස්වහන්සේ දැක ඉතා
සන්තෝසවූයේය. මක්නිසාද උන්වහන්
සේ ගැන බොහෝ කාරණා ඇසූ බැවින්
බොහෝ කලක සිට උන්වහන්සේ දකින්
ට කැමතිවූයේය. උන්වහන්සේ විසින් කා
රණ යම් පුදුමයක් දකින්ටද ඔහු බලා
9 පොරොත්තුවූයේය. එබැවින් බොහෝ
වචන උන්වහන්සේගෙන් ඇසූයේය. නු
මුත් උන්වහන්සේ කිසි උත්තරයක් ඔ
10 හුට දුනොත් නැත. නායක පූජකයෝද
ලියනෝද උන්වහන්සේට බොහෝ
11 කොට වැරදි තබමින් සිටියෝය. හෙ
රෝද් තමාගේ යුධ සේනාව සමග උන්
වහන්සේට නින්‍දාකොට හෙලාදකිමින්
දිලිහෙනනාවූ-වස්ත්‍රයක් හඳවා පිලාත්
12 ලඟට උන්වහන්සේ නැවත යැවීය. පිලාත්
සහ හෙරෝද් පලමු එදිරිව සිටියෝය එ
හෙත් ඒ දවසේ මිත්‍රවූවෝය.
13 පිලාත් නායක පූජකයන්ද ප්‍රධානීන්ද
සෙනගද එකතුකරවා ඔවුන්ට කියනු
14 යේ නුඹලා මේ මනුෂ්‍යයා සෙනග මුලා
කරණ තැනැත්තෙක කියා ඔහු මා ල
ගට ගෙනාවෝය. මම නුඹලා ඉදිරියෙ
හිම විභාගකොට නුඹලා විසින් මො
හු කෙරෙහි තබනලද දොසවලින් කි
සිවක් නුදුටිමි හෙරෝද්ද නුදුටුයේය.
15 මක්නිසාද මම නුඹලා ඔහු ලඟට යැවූ
යෙමි එහෙත් මරන්ට නිසිවූ කිසි වර
16 දක් ඔහු විසින් නොකරණලද්දේය. එ
17 බැවින් ඔහුට තලා හරිමියි කීයේය. මක්
නිසාද ඒ මංගල්‍යයේදී එකෙක් ඔහු වි
සින් ඔවුන්ට මුදාහැරිය යුතුව තිබුනේ
18 ය. නුමුත් ඔවුන් සියල්ලෝම මොහු මරා
බරබ්බා අපට හැරියමැනවයි මුරගසා කී
19 වෝය. ඒ බරබ්බා නුවර කැරලිගැසීම
ද මිනී මැරීමද නිසා හිරගෙයි දමනලද්
20 දේය. පිලාත් යේසුස්වහන්සේ මුදා හ
රින්ට කැමතිව නැවතත් ඔවුන්ට කථා
21 කලේය. නුමුත් ඔවුන් මොහු කුරුසියෙ
හි ඇනගැස්වූවමැනවයි කුරුසියෙහි ඇ
නගැස්වූවමැනවයි කියා මුරගැසූවෝය.
22 ඔහු තුන්වෙනි වාරයෙහි කිමෙක්ද? මො
හු කල වරද මොකද? මරණයට යුතුවූ
කිසි දොසයක් මොහු අත මම නුදුටිමි එ
බැවින් මොහුට තලා මුදා හරිමියි ඔවුන්
23 ට කීයේය. නුමුත් ඔවුන් කුරුසියෙහි
ඇනගැස්වූවමැනවයි මහත් ශබ්දකො
24 ට ඉල්ලූවෝය. ඔවුන්ගේද නායක පූජ
25 කයන්ගේද කීම ජයගතොත්ය පිලාත්

ඔවුන්ගේ කැමැත්ත ලෙස ඔවුන්ට තීයම්
කොට කැරලිගැසීම්ද මිනීමැරීම්ද නිසා
සිරගෙයිලා සිටියාවූ ඔවුන් ඉල්ලුවාවූ මි
නිහා ඔවුන්ට මුදා හැර ජේසුස්වහන්සේ
ඔවුන්ගේ කැමැත්තට පාවාදුන්නේය.
26 ඔවුන් උන්වහන්සේ ගෙනයන කල
කෙතෙන් එන්නාවූ සිරේනියෙහි සී
මොනනම් මනුෂ්‍යයෙක් අල්වා ජේසුස්
වහන්සේගේ පස්සෙන් කුරුසිය උසුලා
27 ගෙනයන්ට ඔහු පිට තැබුවෝය. මහත්
සමූහයාද උන්වහන්සේ නිසා හඬා වැ
ලපෙනනාවූ ස්ත්‍රීහුද උන්වහන්සේ පස්
28 සේ ගියෝය. ජේසුස්වහන්සේ හැරී ඔ
වුන් දෙස බලා යෙරුසලමෙහි දූවරුනි
මා නිසා නොහඬා තුබලා සහ තුබලා
29 ගේ දරුවන් නිසා හඬාපල්ලාය. මක්නි
සාද වඳ ස්ත්‍රීහුද දරුවන් නොවැදූ කුස
ද කිරි නුදුන් සනද වාසනාවන්තයයි
30 කියන දවස් පැමිණෙනවා ඇත. එවිට
පර්වතවලට අප පිට වැටියල්ලායයි කඳු
වලට අප වසාගනිල්ලායයි කියන්ට ප
31 ටන්ගන්නවා ඇත. මක්නිසාද අමු ගස
ට මේ දේ කරනතට යෙදුනොත් වියලි
ගසට මක්කරනතට නොයෙදේද්දැයි කි
32 සේක. වරදකාරයෝ දෙදෙනෙක්ද මර
ණට පත්කරණ පිනිස උන්වහන්සේ ස
33 මග ගෙනයනලද්දෝය. ඔවුන් කල්වරි
නම් ස්ථානයට පැමිණ එහිදී උන්වහන්සේ
කුරුසියේ ඇනගැසුවෝය. ඒ වරදකාර
යන්ද එකෙක් උන්වහන්සේගේ දකුණුපැ
ත්තෙහිද එකෙක් වම් පැත්තෙහිද කුරු
34 සියෙහි ඇනගැසුවෝය. එවිට ජේසුස්ව
හන්සේ පියාණෙනි ඔවුන්ට සමාවූවමැ
නව ඔවුන් කරනෙත් කිමෙක්දැයි ඔවුන්
නොදන්තියි කීසේක. උන්වහන්සේගේ
35 වස්ත්‍ර ඇඳුම් බෙදාගත්තෝය. සෙ
නාගද බල බලා සිටියෝය. ඔවුන්ද ඔවුන්
ගේ මූලාදෑනිද උන්වහන්සේට අපහාස
කරමින් මොහු අනුන් ගැලවීය දෙවිය
න්වහන්සේගේ තෝරාගත් ක්‍රිස්තුස් මො
36 හුනම් තමාම ගැලවේවයි කීවෝය. සේ
වායෝද උන්වහන්සේ ලඟට ඇවිත් කා
37 ඩි උන්වහන්සේට ලංකොට තුබ යුදෙව්
වන්ගේ රජනම් තමාම ගැලවියනනැයි
38 කියා අපහාස කලෝය. තවද මොහු යු
දෙව්වන්ගේ රජයයි ග්‍රීක් ලතින් හෙ
බෙවූ අකුරුවලින් ලිවූමක් ලියා උන්ව
හන්සේගේ සිස උඩින් තබනලද්දේය.
39 ඇනගැසුවාවූ වරදකාරයන්ගෙන් එ
කෙක් උන්වහන්සේට අපහාසකරමින්
තුබ ක්‍රිස්තුස්නම් තමාද අපද ගලවාගනි
40 ත්නැයි කීය. අනිකාද උත්තර දෙමින්
ඔහුට තරවටුකොට කියනුයේ එම අව
වූවට පැමිණිලා ඉන්නාවූ තුබත් දෙවිය
41 න්වහන්සේට භයනැද්ද? අපි යුතු ලෙ
සින් ඒ අවවූවට පත්ව අපේ ක්‍රියාවලට
සුදුසු ඵල ලැබීමුව නුමුත් මූන්වහන්සේ
42 කිසි වරදක් කලේ නැතැයි කියා ස්වාමී
නි ඔබවහන්සේගේ රාජ්‍යයට ඔබවහන්
සේ පැමිණිකල මා සිහිකලමැනවයි ජේ
43 සුස්වහන්සේට කීයේය. ජේසුස්වහන්
සේ සැබවක් තුබට කියමි අදම තුබ මා
සමග පරදීසයෙහි සිටිනවා ඇතැයි ඔහු
44 ට කීසේක. සවෙනි පැය පමණෙහි ප
ටන් නවවෙනි පැය දක්වා දේශය මුළු
45 ල්ලෙහි අන්ධකාර විය. ඉර අඳුරුවිය
දේවමාලිගාවේ තිරය දෙකඩව ඉරු
46 නේය. ජේසුස්වහන්සේ පියාණෙනි ඔබ
වහන්සේගේ අතට මාගේ ආත්මය භා
රදෙමියි මහත් ශබ්දයකින් හඬගසා ප්‍රා
ණය හැරියේක.
47 එවිට සියේකට නායකයා සිඩවූ දේ
දැක දෙවියන්වහන්සේට ප්‍රසංසාකරමින්
සැබවින් මේ මනුෂ්‍යයා ධර්මිෂ්ඨයෙකැ
48 යි කීයේය. මේක බලන්ට ආ සියළු ස
මූහයෝද සිඩවූ කාරණ දැක ලය අත්
49 ගසාගනිමින් ආපසු ගියෝය. උන්වහන්
සේ අඳුනන සියල්ලෝද ගලිලයේ සිට
උන්වහන්සේ කැටුව ආ ස්ත්‍රීහුද ඒ දේ බ
50 ලමින් දුරින් සිටියෝය. අරිමාතියනම්
යුදෙව්වන්ගේ නුවර වාසිවූ සත්පුරුෂ
51 වූ ධර්මිෂ්ඨවූ දෙවියන්වහන්සේගේ රාජ්‍ය
ය බලා සිටිනනාවූ ඔවුන්ගේ මන්ත්‍රණ
යටද ක්‍රියාවටද එකග නුනාවූ යෝසැප්
52 නම් මන්ත්‍රියෙක් සිටියේය. ඔහු පිලාත්
ලඟට ගොස් ජේසුස්වහන්සේගේ මිනි
53 ය ඉල්වාගෙන බාවා සිහින් රෙද්දකින්
වෙලා කවදාවත් කවුරුවත් නොතැබූ
වාවූ ගලක කපා තිබූනාවූ සොහොන්
54 ගෙයක තැබුයේය. ඒ දවස සූදානමක
55 රණ දවසය සබත් දවස කිට්ටුවූය. ගලිල
යේ සිට උන්වහන්සේ සමග ආ ස්ත්‍රීහුද
කැටුව ගොස් සොහොන් ගෙයද උන්
වහන්සේගේ මිනිය තැබූ අන්දමද දැක
56 හැරී ඇවිත් සුවඳ බඩුද සුවඳ තෙල්ද
පිලියෙලකොට ආඥාව ලෙස සබත් දව
සේ නිවාඩු ගත්තෝය.

24. පරිච්ඡේ. සතියෙහි පලමුවෙනි
දා ඉතා උදය තමන් විසින් පිලියෙලක
ල සුවඳ බඩු අරගෙන වෙනත් සමහර
ස්ත්‍රීන් සමග සොහොන් ගෙ ලඟට ඇ
2 විත් ගල සොහොන් ගෙයින් අහකට
3 පෙරලා තිබුණු බව දුටුවෝය. නුමුත් ඇ
තුලට පැමිණි කල ස්වාමිවූ යේසුස්වහන්
4 සේගේ මිනිය දුටුවේ නැත. ඒ ගැන ඔ
වුන් සැකකරණ කල දිලිහෙන වස්ත්‍ර ඇ
ඳුවූ පුරුෂයෝ දෙදෙනෙක් ඔවුන් ලඟ
5 සිටියෝය. ඔවුන් භයපත්ව බිම බලාග
න සිටි කල ඒ පුරුෂයෝද ජීවමාන තැ
නැත්තා මලවුන් අතරේ සොයන්නේ
6 මක්නිසාද? උන්වහන්සේ මෙහි නැත
7 නැගුටුනුසේක. උන්වහන්සේ ගලිලයෙ
හි සිටිද්දීම පව්කාරයන්ගේ අතට මනු
ෂ්‍ය පුත්‍රයාගේ පාවාදීමද කුරුසියෙහි මැ
රීමද තුන්වෙනි දා දෙවනු නැගිටීමද වි
ය යුතුයයි තුබලාට කී බව සිහිකරපල්
8 ලායයි ඔවුන්ට කීයේය. ඔවුහු උන්වහන්
සේගේ වචන සිහිකොට සොහොන්
9 ගෙයින් හැරී ඇවිත් ඒ සියල්ල එකො
ලොස් දෙනාටද සෙසු සියල්ලන්ටද දැන්
10 වූවෝය. මග්දලායෙහි මරියාද යොව
න්නාද යාකොබ්ගේ මව්වූ මරියාද ඔ
වුන් සමග සිටි අනික් ස්ත්‍රීහුද ප්‍රේරිත
11 යන්ට ඒ දේ කීවෝය. ඔවුන් ඒ ස්ත්‍රීන්
ගේ වචන නිරර්ථක කිම්යයි සිතා විශ්
12 වාසකලේ නැත. එවිට පේත්‍රුස් නැගිට
සොහොන් ගෙය ලඟට දුවගන ගොස්
නැමී රෙදි පමනක් තිබෙන බව දැක
සිඩවූ කාරණාවට පුදුමව ගියේය.
13 ඔවුන්ගෙන් දෙදෙනෙක් ඒ දවසේම
යෙරුසලමේ සිට දෙගව්වක් පමන දුර
14 වූ එම්මාවුස්නම් ගමට යමින් සිඩවූ ඒ සි
15 යල්ල ගැන කථාකලෝය. ඔවුන්. කථාක
රමින් විචාරමින් සිටිකල යේසුස්වහන්
සේ ඔවුන් ලඟට පැමින ඔවුන් සමග ගි
16 යසේක. නුමුත් උන්වහන්සේ නාඳුනන
ලෙස ඔවුන්ගේ ඇස් බැඳී තිබුනේය.
17 උන්වහන්සේ තුබලා දුක්ඛිත මුහුණු ඇ
තිව කථාකරමින් යනෙන් මොන කාර
ණා ගැනදැයි ඔවුන්ගෙන් ඇසූසේක.
18 ක්ලෙයෝපස්නම් ඔවුන්ගෙන් එකෙක්
උත්තර දෙමින් යෙරුසලමෙහි මේ දව
ස්වල සිඩවූ කාරණා දනෙහ් නැති විදේ
සියා තුබ පමනක්දැයි උන්වහන්සේ
19 ගෙන් ඇසුයේය. උන්වහන්සේ මොන
දේදැයි ඔවුන්ගෙන් ඇසූසේක. එවිට
ඔවුන් කියනෙහ් දෙවියන්වහන්සේගේ
ද සියළු සෙනගගේද ඉදිරියෙහි කිරමෙ
හිද ක්‍රියාවෙහිද බලවත්වූ අනාගතවක්
තෘ කෙනෙක්ව සිටියාවූ නාසරත් යේසු
20 ස්වහන්සේ අපගේ නායකපූජකයන් වි
සිනුද ප්‍රධානවරුන් විසිනුද මරණයට පාවා
21 දී කුරුසියෙහි ඇනගසනලද බවය. අපි
ඊශ්‍රායෙල් ගලවන තැනැත්තා උන්වහන්
22 සේයයි අදහගතිමුව. මෙපමනකුත්
නොව මේ දේ සිඩව අදට තුන් දවසෙ
ක. අපේ සමාගම්කාරවූ සමහර ස්ත්‍රීහු අ
එයම සොහොන් ගෙ ලඟට ගොස් උන්
23 වහන්සේගේ මිනිය නොදැක ඔවුන්ට
පෙනුන දේවදූතයෝ උන්වහන්සේ ජී
වත්ව සිටිනසේකැයි කී බව අපට කියා
24 අප පුදුමකලෝය. තවද අප සමග සිටි
යවුන්ගෙන් සමහරෙක් සොහොන් ගෙ
ලඟට ගොස් ඒ ස්ත්‍රීහු කී හැටියටම දුටු
වෝය නුමුත් උන්වහන්සේ දුටුවේ නැ
25 තැයි කීවෝය. එවිට උන්වහන්සේ ඔ
වුන්ට කියනසේක් අනාගතවක්තෘන්
විසින් කියනලද සියල්ල අදහන්ට ප්‍රමා
26 ද සිත් ඇත්තාවූ අඥානයෙනි ඒ දුක් වි
දින්නටද තමන් ඓශ්වය්‍ර්යට පැමි
ණෙන්ටද ක්‍රිස්තුස්වහන්සේට තුසුදුසුද
27 යි කියා මෝසෙස් විසින්ද සියළු අනාග
ත වක්තෘන් විසිනුද තමන්වහන්සේ ගැන
ලියනලද සියළු ලියවිලිවල කාරණා ක්‍ර
28 මයෙන් තෝරාදුන්සේක. ඔවුන් යනතැ
ට ගිය ගම ලඟට පැමිණිකල උන්වහන්
සේ වඩා දුර යන ආකාර දැක්වූසේක.
29 නුමුත් ඔවුන් අප සමග සිටියමැනව දව
ස කෙලවරවී රෑවෙනවායයි කියා උන්ව
30 හන්සේගෙන් අතිසයින් ඉල්ළුවෝය. එ
විට උන්වහන්සේ ඔවුන් සමග සිටින්ට
ඇතුල්ව ඔවුන් සමග කෑමට වැඩහිඳ
රොටියක් අරගෙන ස්තුතිකොට කඩා ඔ
31 වුන්ට දුන්සේක. එකල ඔවුන්ගේ ඇස්
ඇරී උන්වහන්සේ ඇඳිනගත්තෝය. උ
න්වහන්සේද ඔවුන් කෙරෙන් අන්තර්ධා
32 නවූසේක. එවිට උන්වහන්සේ අප සමග
මගදී කථාකරමින් ලියවිලි අපට තෝරා
දුන් කල අපගේ සිත් දැවා නොවේදැයි
33 ඔවුනොවුන් කථාකලෝය ඔවුන් එව
ලේම නැගිට යෙරුසලමට හැරී ගොස්
34 එකොලොස් දෙනාද සමග සිටියෝද රෑ
ස්ව ස්වාමින්වහන්සේ සැබෑවටම නැගි
ට සීමොන්හට පෙනුනුසේකැයි කියකි
35 යා සිටින බව දැක මගදී සිඩවූ කාරණා

වල්ද රෙව් කැඩීමෙන් ඔවුන් උන්වහන්
සේ ඇඳිනගත් බවද කිවෝය.
36 ඔවුන් මෙසේ කථාකරමින් සිටිද්දීයේ
සුස්වහන්සේම ඔවුන් මැද සිට තුඹලාට
37 සමාදානය වේවයි ඔවුන්ට කීසේක. ඔ
වුන් භයටද තැතිගැන්මටද පැමිණ ආත්
38 මයක් දුටිමුයයි සිතුවෝය. එවිට උන්ව
හන්සේ තුඹලා කැලඹෙමින් මේ ආකා
39 ර සිතිවිලි උපදවනෙත් මක්නිසාද? මා
ගේ අත් පා බලා මා බව දැනගනිල්ලා
ය. මා අතගා බලාපල්ලාය මට මස්ද ඇ
ටද ඇති බව තුඹලා දකිති ඒ ආකාර
යෙන් ආත්මයකට නැතැයි කියා අත්
40 පා ඔවුන්ට පෙන්වූසේක. ඔවුන් පුදුම
ව සන්තෝස නිසා අදහ නොගෙන සි
41 ටිකල උන්වහන්සේ කෑමට මොකවත්
තුඹලා ලඟ තිබේදැයි ඔවුන්ගෙන් ඇ
42 සූසේක. එවිට ඔවුන් බැදපු මාළු කෑල්
ලක්ද මීවද කැල්ලක්ද උන්වහන්සේ
43 ට දුනෙනෝය. උන්වහන්සේ ඒවා අරග
44 න ඔවුන්ගේ ඉදිරියෙහි කෑසේක. එවි
ට උන්වහන්සේ ඔවුන්ට කියනසේක්
මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙහිද අනාග
තවක්තෘන්ගේ ලිවීම්වලද ගීතිකාවලද
මා ගැන ලියනලද සියල්ල සම්පූර්ණ
වෙන්ට යුතුයයි මම තුඹලා සමග සිටිද්
45 දීම තුඹලාට කී දේ මෙයයි කීසේක. එ
විට උන්වහන්සේ ශුද්ධ ලියවිලි ඔවුන්ට
වැටහෙන පිණිස ඔවුන්ට සිහි උපදවා
46 මෙසේ ලියා තිබෙනෙත්ය. මෙසේ ක්‍රි
ස්තුස් වදවිද තුන්වෙනි දා මලවුන්ගෙන්
47 නැගිටිය යුතුය. යෙරුසලමේ පටන් සි
යළු ජාතීන්ට ඔහුගේ නාමයෙන් පසුතැ
වීල්ල සහ පාපයෙන් මිදීම ගැන ප්‍රකාශ
48 කල යුතුය. තුඹලා මේ දේවලට සාක්ෂි
කාරයෝය. මාගේ පියානන්වහන්සේ
49 ගේ පොරොන්දුව තුඹලාට එවමි තු
ඹුත් උඩින් තුඹලා බලයෙන් සරසනු ල
බනතුරු යෙරුසලම් නුවර වාසයකර
පල්ලායයි කීසේක.
50 උන්වහන්සේද ඔවුන් බෙතානිය ද
ක්වා කැඳවාගෙන ගොස් තමන්වහන්
සේගේ අත් ඔසවා ඔවුන්ට ආශීර්වාද ක
51 ලසේක. උන්වහන්සේ ඔවුන්ට ආශීර්වාද
කරමින් සිටිද්දීම උන්වහන්සේ ඔවුන්
කෙරෙන් වෙන්කරණලදුව ස්වර්ගයට
52 ගෙනයනු ලැබූසේක. ඔවුන් උන්වහන්
සේට නමස්කාරකොට මහත් සන්තෝ
සයෙන් යෙරුසලමට හැරී ඇවිත් නිත
53 රම දේවමාලිගාවේ දෙවියන්වහන්සේට
ස්තුතිකරමින්ද ප්‍රසංසා කරමින්ද වාසය
කලෝය. ආමෙන්.

## යොහන් විසින් ලියනලද සුභාරංචිය.

1. පරිච්ඡේදය. පටන්ගැන්මෙහිදී වා
ක්‍යයානෝ වූසේක වාක්‍යයානෝ දෙවි
යන්වහන්සේ සමග වූසේක ඒ වාක්‍ය
2 යානෝ දෙවියන්වහන්සේම වූසේක. ඒ
ම තැනන්වහන්සේ පටන්ගැන්මෙහි දෙ
3 වියන්වහන්සේ සමග සිටිසේක. ඒ තැ
නන්වහන්සේ කරණකොටගෙන සියල්
ල මවනලද්දේය. මවනලද කිසිවක් උ
න්වහන්සේ නැතුව නොමවන ලද්දේය.
4 උන්වහන්සේ තුල ජීවනය වූයේය. ඒ
ජීවනය මනුෂ්‍යයන්ගේ ආලෝකය වූ
5 යේය. ආලෝකය අඳුරෙහි බබලනෙත්
ය අඳුර ඒක පිලිගනෙත් නැත.
6 දෙවියන්වහන්සේ විසින් එවනලද
7 යොහනනම් මනුෂ්‍යයෙක් සිටියේය. ඔ
හු තමන් කරණකොටගෙන සියල්ලන්
විසින් අදහන පිණිස ඒ ආලෝකයට සා
ක්ෂි දෙන්ට සාක්ෂිකාරයෙක්ව ආයේය.
8 ඔහු ඒ ආලෝකය නුවූයේය නුමුත් ඒ
ආලෝකයට සාක්ෂි දෙන පිණිස ආයේය.
9 ලෝකයට එනනාවූ සියළු මනුෂ්‍යයන්ට
ආලෝක කරණ සැබෑවූ ආලෝකයනම්
10 වූන්වහන්සේමය. උන්වහන්සේ ලෝ
කයෙහි සිටිසේක ලෝකයද උන්වහන්
සේ විසින් මවනලද්දේය නුමුත් ලෝක
යා උන්වහන්සේ ඇඳිනගනෙත් නැත.
11 උන්වහන්සේ ස්වකීයයන් ලඟට ආසේ
ක ස්වකීයයෝ උන්වහන්සේ පිලිගනෙත්
12 නැත. එසේවී නුමුත් යම් පමන දෙ
නෙක් උන්වහන්සේ පිලිගෙන උන්වහන්
සේගේ නාමය අදහගනෙත්ද එපමන
දෙනාට දෙවියන්වහන්සේගේ දරුවෝ
13 වෙන්ට බලය දෙන ලද්දේය. ඔවුන් දෙ
වියන්වහන්සේගෙන් මිස ලේයෙන්වත්

මාංශයෙහි කැමැත්තෙන්වත් මනුෂ්‍ය කැ
14 මැත්තෙනවත් නූපන්නෝය. ඒ වාක්‍යයා
නෝ මාංශවත්ව කරුණාවෙන්ද සැබෑ
කමෙන්ද සම්පූර්ණව අප අතරෙහි සි
විසේක පියානන්වහන්සේගේ ඒකජාත
යානන්වහන්සේගේ තේජස මෙන් උන්
වහන්සේගේ තේජස දුටිමුව.
15 යොහන් උන්වහන්සේ ගැන සාක්ෂි
දෙමින් මට පසුව එන්නා මට පලමුවෙන්
සිටි බැවින් මට වඩා උතුම් කෙනෙකැ
යි යම් කෙනෙක් ගැන කියෙම්ද ඒ මූ
න්වහන්සේමයයි මහත් ශබ්දයෙන් කි
16 යේය. උන්වහන්සේගේ සම්පූර්ණක
මෙන් අපි සියල්ලෝ වැඩි වැඩිව කරුණා
17 ව ලැබිමුව. මක්නිසාද ව්‍යවස්ථාව මෝ
සෙස් කරණකොටගෙන දෙනලද්දිය.
නුමුත් කරුණාවද සැබෑකමද යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කරණකොටගෙන පැ
18 මුනුණේය. කවරෙකුත් කිසි කලක දෙ
වියන්වහන්සේ දුටුවේ නැත. පියානන්
වහන්සේගේ ඒකජාත ඖරස පුත්‍රයාන
න්වහන්සේම උන්වහන්සේ එළිදරව්ක
ළසේක.
19 නුඹ කවරෙක්දැයි යොහන්ගෙන් අ
සන්ට යුදෙව්වරු යෙරුසලමේ සිට පූජ
කයන්ද ලෙවිවරුන්ද යවූකල ඔහු විසින්
20 දුන් සාක්ෂි මේය. ඔහු සැබෑවම කියමින්
මම ක්‍රිස්තුස් නොවෙමියි නොසඟවා ස
21 ත්‍යයම කීයේය. එසේවීනම් නුඹ කව
රෙක්ද එලියස්දැයි ඔවුන් ඇසූකල නො
වෙමි කීයේය. නුඹ ඒ අනාගතවක්තෘද
යි ඇසුවෝය නැතැයි උත්තර දුන්නේය.
22 එකල අප එවූවන්ට අපි උත්තර දෙන
පිණිස නුඹ කවරෙක්දැයි නුඹ ගැනම
නුඹ කියන්නේ මොකදැයි ඔහුගෙන් ඇ
23 සුවෝය. ඔහු යෙසායියා අනාගතවක්
තෘ කී හැටියට ස්වාමින්වහන්සේගේ මා
ර්ගය ඇදහැරපල්ලායයි වනාන්තරයෙහි හ
ඬගසන්නෙකුගේ ශබ්දය මමයයි කී
24 යේය. එවනලද අයවල් ඵරිසිවරුය. එ
25 විට ඔවුන් කථාකොට එසේවීනම් නු
බ ක්‍රිස්තුස්වත් එලියස්වත් ඒ අනාගත
වක්තෘවත් නොවේනම් බව්තීස්ම කර
න්නේ මක්නිසාදැයි ඔහුගෙන් ඇසුවෝ
26 ය. යොහන් ඔවුන්ට උත්තර දෙමින්
මම වතුරෙන් බව්තීස්ම කරමි නුමුත්
නුඹලා නාඳුනන කෙනෙක් නුඹලා අ
27 තරෙහි සිටිනසේක. මට පසුව එන
උන්වහන්සේ මට පලමුත් සිටිසේක.
උන්වහන්සේගේ වහන් සඟලේ පටිය
මුදන්ටවත් මම වටිනෙන් නැතැයි කි
28 යේය. යොහන් බව්තීස්ම කරමින් සිටි
යොර්දනෙන් එගොඩ බෙතාබාරේදී මේ
කාරණා සිඬවූණේය.
29 පසුව ද යොහන් තමන් ලඟට එන්නා
වූ යේසුස්වහන්සේ දැක කියනුයේ බලා
පල්ලාය ලෝකයෙහි පාපය දුරුකරන්
නාවූ දෙවියන්වහන්සේගේ බැටළු පැටි
30 යා මේය. මට පසුව එන්නාවූ මනුෂ්‍යයා
මට පලමුවෙන් සිටි බැවින් මට වඩා උ
තුම්සේකැයි මම කීවේ මූන්වහන්සේ ගැ
31 නය. මම උන්වහන්සේ නොහැඳිනෙන
මි නුමුත් උන්වහන්සේ ඊශ්‍රායෙල්හට එ
ළිදරව්වෙන පිණිස මම වතුරෙන් බව්
32 තීස්මකරමින් ආයෙමියි කීයේය. තවද
යොහන් සාක්ෂි දෙමින් කියනුයේ ආත්
මයානන්වහන්සේ පරවියෙකු මෙන් අ
හසින් බැස උන්වහන්සේ පිට සිටින බ
33 ව දුටුවෙමි. මමද උන්වහන්සේ නැඳින්
නෙමි නුමුත් වතුරෙන් බව්තීස්ම කරන්
ට මා එවූ උන්වහන්සේම යමෙක් මත්
තේ ආත්මයානන්වහන්සේ බැස සිටින
බව දුටුවොත් උන්වහන්සේ ශුද්ධාත්ම
යෙන් බව්තීස්මකරණසේකැයි මට කී
34 සේක. මම ඒ දැක මූන්වහන්සේ දෙවි
යන්වහන්සේගේ පුත්‍රයායයි සාක්ෂි දුනි
මියි කීයේය.
35 පසුව ද යොහන් තමන් ගෝලයන්
ගෙන් දෙන්නෙක් සමග සිටිනවිට යේ
සුස්වහන්සේ ඇවිදිනවා දැක බලාපල්
36 ලාය දෙවියන්වහන්සේගේ බැටළු පැටි
37 යා මේයයි කීයේය. ඒ ගෝලයෝ දෙ
න්නද ඔහුගේ බස් අසා යේසුස්වහන්
38 සේ පස්සේ ගියෝය. එවිට යේසුස්ව
හන්සේ හැරී තමන් පස්සේ එන්නාවූ ඔ
වුන් දැක කුමක් සොයනවාදැයි ඔවුන්
ගෙන් ඇසූසේක. ඔවුන්ද ආචාර්යවහන්
ස යන අර්ථ ඇති රබ්බී ඔබවහන්සේ
පදිංචිව සිටින්නේ කොතනදැයි ඇසුවෝ
39 ය. උන්වහන්සේ ඇවිත් බලාපල්ලායයි
ඔවුන්ට කීසේක. ඔවුන්ද ගොස් උන්වහන්
සේ වාසයකරණ ස්ථානය දැක දස පැය
පමනවූ බැවින් ඒ දවස උන්වහන්සේ
40 සමග සිටියෝය. යොහන්ගේ බස් අසා
උන්වහන්සේ පස්සේ ගියාවූ දෙන්නා
ගෙන් එකෙක් සීමොන් පේත්‍රුස්ගේ ස
41 හෝදරවූ අන්ද්‍රෑය. ඔහු පලමුකොට ත
මන් සහෝදරවූ සීමොන් දැක මෙසියස්

දුටිමුයයි ඔහුට කීයේය. එහි අර්ථය නම්
42 ක්‍රිස්තුස්ය. එවිට ඔහු යේසුස්වහන්සේ ළ
ඟට කැඳවාගෙන ආයේය. යේසුස්වහන්
සේ ඔහු බලා නුඹ යෝනාගේ පුත්‍රවූ සී
මොන්ය නුඹේ නම කේඵස් වේයයි කී
සේක එහි අර්ථය නම් ගලය.
43 පසුව දා යේසුස්වහන්සේ ගලීලයට පි
ටත්ව යනනට කැමතිව පිලිප් දැක මා
44 පස්සේ වරෙනනැයි ඔහුට කීසේක. පි
ලිප්ද අන්ද්‍රෑ සහ පේත්‍රුස් වැසි බැත්සයි
45 දා නුවර වැසියෙක. පිලිප්ද නතානි
යෙල් දැක යම් කෙනෙක් ගැන ව්‍යවස්
ථාවෙහි මෝසෙස් විසිනුත් අනාගතවක්
තෘස් විසිනුත් ලියනලද්දේද උන්වහන්
සේ දුටිමුව. උන්වහන්සේනම් යෝසැප්
ගේ පුත්‍රවූ නාසරත් යේසුස්යයි ඔහුට
46 කීයේය. නතානියෙල්ද නාසරත් නුව
රින් කිසි යහපතක් වෙනනට පුළුවන්
දැයි ඔහුගෙන් ඇසුයේය. පිලිප්ද ඇවිත්
47 බලාපනනැයි ඔහුට කීයේය. යේසුස්ව
හන්සේ නතානියෙල් තමන් ළඟට එන
වා දැක මොහු සැබෑවූ වංචා නැති ඊශ්‍රා
යෙල් කෙනෙකැයි ඔහු ගැන කීසේක.
48 නතානියෙල් මා අඳුනනෙතේ කොහො
මදැයි උන්වහන්සේගෙන් ඇසුයේය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින් පිලිප් නුඹ
කැඳවන්ට පලමුවෙන් දිඹුල්ගස යට සි
49 ටියදී නුඹ දුටිමියි කීසේක. එවිට නතා
නියෙල් උත්තර දෙමින් රබ්බී ඔබව
හන්සේ දෙවියන්වහන්සේගේ පුත්‍රයා
ය ඔබවහන්සේ ඊශ්‍රායෙල්ගේ රජයයි
50 කීයේය. යේසුස්වහන්සේ ඔහුට උත්ත
ර දෙමින් දිඹුල් ගස යට සිටියදී නුඹ දු
ටිමියි නුඹට කී බැවින් අදහගනනවාද?
නුඹ මීට වඩා මහත් දේ දකිනවා ඇතැ
51 යි කීසේක. තවද උන්වහන්සේ සැබවක්
සැබවක් නුඹලාට කියම් මින් මතු ස්වර්ග
ය ඇරී දෙවියන්වහන්සේගේ දූතයෝ
මනුෂ්‍ය පුත්‍රයා කරා බසින බවද නගින
බවද නුඹලා දකිනවා ඇතැයි කීසේක.

2. පරිච්ඡේ. තුන්වෙනි දා ගලීලයේ
තිබූ කානාහි විවාහ මංගල්‍යයක් විය. යේ
සුස්වහන්සේගේ මෑනියෝද එහි සිටියා
2 ය. යේසුස්වහන්සේත් උන්වහන්සේගේ
ගෝලයොත් ඒ මංගල්‍යයට කැඳවනු ලැ
3 බුවෝය. මුද්‍රිකපානය අඩුවූනුකල ඔවුන්
ට මුද්‍රිකපානය නැතැයි යේසුස්වහන්සේ
ගේ මෑනියෝ උන්වහන්සේට කීවාය.
4 යේසුස්වහන්සේ ස්ත්‍රිය මගෙන් නුඹට
කම්කිම්ද? මාගේ වේලාව තවම පැමි
5 නුනේ නැතැයි කීසේක. උන්වහන්සේ
ගේ මෑනියෝ උන්වහන්සේ නුඹලාට කි
යන දේ කරපල්ලායයි වැඩකාරයන්ට
6 කීවාය. යුදෙව්වන්ගේ පවිත්‍රවීමේ ව්‍යව
හාරය ලෙස එක එකට මෙත්‍රෙක දෙ
කක් තුනක් පමන අල්ලනනාවූ ගල් සැ
7 ළි හයක් එහි තබා තිබුනේය. යේසුස්ව
හන්සේ ඒ සැළිවල වතුර පුරවාපල්ලාය
යි ඔවුන්ට කීසේක. ඔවුහු ඒවා කට දක්
8 වා පිරෙව්වෝය. එවිට උන්වහන්සේ එ
සින් අරන් මංගල්‍යයෙහි ප්‍රධානයා ළඟ
ට රැගෙන පලයල්ලායයි ඔවුන්ට කීසේ
9 ක. ඔවුන්ද ගෙනගියෝය. මංගල්‍යයෙ
හි ප්‍රධානයා වතුරෙන් සෑදූ මුද්‍රිකපාන
ය රස බලා වතුර ගෙනා වැඩකාරයෝ
මිස කොතනින් ගෙනාවාද කියා නො
10 දැන මනමාලයා කැඳවා සියළු මනුෂ්‍ය
යෝ පලමුකොට හොඳ මුද්‍රිකපානය දෙ
ති කැඳවනු ලැබූවෝ හොඳටම බීකල්
හි ඊට නරක මුද්‍රිකපානය දෙති නුඹ
මේ වෙනතුරුම හොඳ මුද්‍රිකපානය තැ
11 බුයේයයි ඔහුට කීයේය. යේසුස්වහන්
සේ ගලීලයෙහි කානාහිදී මේ පලමුවෙ
නි ආශ්චර්යය කොට තමන්ගේ තේජ
ස පෙන්නුසේක. උන්වහන්සේගේ ගෝ
ලයොත් උන්වහන්සේ අදහගත්තෝය.
12 ඉන්පසු උන්වහන්සේද උන්වහන්සේගේ
මෑනියෝද සහෝදරයෝද ගෝලයෝ
ද කපර්ණවූමට ගියෝය. නුමුත් ඔවුන්
බොහෝ දවස් එහි නොසිටියෝය.
13 යුදෙව්වන්ගේ පාස්කු මංගල්‍යය කිට්
ටුවූකල යේසුස්වහන්සේ යෙරුසලමට
14 ගියසේක. එහි පැමින දේවමාලිගාවේ
ගවයින් බැටළුවන් පරෙවියන් විකුනන්
නෝද මිල මාරුකරනනෝද ඉන්න බ
15 ව දැක සිහින් ලනුවලින් කසයක් සාදා
මාලිගාවෙන් ඔවුන් සියල්ලන්ද බැටළු
වන්ද ගවයින්ද පිටත එලවා මිල මාරුක
රනනන්ගේ මිල ඉසුරුවා මේස පෙරලා
දමා මේ දේවල් මෙතනින් හැරගනිල්
16 ලාය. මාගේ පියානන්වහන්සේගේ ගේ
වෙළඳම් ගෙයක් නොකරල්ලායයි පරෙ
17 වියන් විකුනනනන්ට කීසේක. එවිට ඔ
බවහන්සේගේ ගේ ගැන ජ්වලිතය මා
දැව්වේයයි ලියා තිබෙන බව උන්වහන්
සේගේ ගෝලයන්ට සිහිවිය.
18 එකල යුදෙව්වරු උන්වහන්සේට කථා

කොට ඔබ මේ දේ කිරීමට මොන ලකු
නක් අපට දක්වනෙන්දැයි ඇසුවෝය.
19 යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්
තුබලා මේ දේවමාලිගාව නැසුවොත්
තුන් දවසකින් ගොඩනගම්යි කීසේක.
20 යුදෙව්වරු මේ මාලිගාව ගොඩනැගීම
ට සතලිස් සාවුරුද්දක් ගියේය. තුබ ඒ
ක තුන් දවසකින් ගොඩනගනෙන්දැයි
21 කීවෝය. තුමුත් උන්වහන්සේ තමන්
ගේ ශරීරය නැමති දේවමාලිගාව ගැන
22 කථාකලසේක. උන්වහන්සේ ඔවුන්ට
මේ කාරණා කී බව උන්වහන්සේ මල
වුන්ගෙන් නැගුටුනායින් පසු උන්වහන්
සේගේ ගෝලයෝ සිහිකොට ලියවිලිද
යේසුස්වහන්සේ කී වචනයද අදහාග
ත්තෝය.
23 උන්වහන්සේ පාස්කු මංගල්‍යයේදී යෙ
රුසලමෙහි සිටි කල්හි බොහෝ දෙන
උන්වහන්සේ විසින් කල ආශ්චය්‍යයන්
දැක උන්වහන්සේගේ නාමය කෙරෙහි
24 අදහාගත්තෝය. තුමුත් යේසුස්වහන්
සේ සියල්ලන් අඳුනන බැවින් තමාම ඔ
25 වුන්ට බැඳුනේ නැත. මනුෂ්‍යයන් තු
ලේ තිබෙන සියල්ල දැනගත් බැවින්
යමෙක් ගැන සාක්ෂි ලැබීමෙන් උන්ව
හන්සේට කමක් නැත.

3. පරිච්ඡෙ. යුදෙව්වන්ගේ ප්‍රධානි
යෙක්වූ නිකදේමුස්නම් ඵරිසියෙක් සි
2 ටියේය. ඔහු රාත්‍රියේ යේසුස්වහන්සේ
ළගට ඇවිත් රබ්බී ඔබවහන්සේ දෙවි
යන්වහන්සේ කෙරෙන් ආවාවූ ගුරුකෙ
නෙකැයි දනිමුව මක්නිසාද යමෙක් ස
මග දෙවියන්වහන්සේ නැත්නම් ඔබව
හන්සේ කරනනාවූ මේ ආශ්චය්‍යයන්
කරනනට ඔහුට බැරියයි උන්වහන්සේ
3 ට කීයේය. යේසුස්වහන්සේ උත්තර දෙ
මින් සැබවක් සැබවක් තුබට කියම් ය
මෙක් නැවත නූපනෙනාත් ඔහුට දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය දකිනනට බැ
4 රියයි කීසේක. එවිට නිකදේමුස් මනු
ෂ්‍යයෙකුට මහළුවූ පසු උපදිනනට පුළු
වන් කොහොමද? දෙවෙනි වර මව් කු
සට ඇතුල්ව උපදිනනට පුළුවන්දැයි උ
5 න්වහන්සේගෙන් ඇසුයේය. යේසුස්ව
හන්සේ උත්තර දෙමින් සැබවක් සැබ
වක් තුබට කියම් යමෙක් වතුරෙන්ද
ආත්මයෙන්ද නූපනෙනාත් ඔහුට දෙවිය
න්වහන්සේගේ රාජ්‍යයට ඇතුල්වෙන්
6 නට බැරිය. මාංශයෙන් උපන් දේ මාංශ
යය ආත්මයෙන් උපන් දේ ආත්මයය.
7 තුබලා නැවත උපදින්ට ඕනෑයයි මම
8 කීවාට පුදුමවෙන්ට එපාය. හුලග කැ
මති කැමති තැනට ගසනෙන්ය එහි ශබ්
දය තුබට ඇසෙන්නේය තුමුත් කො
හෙන් එනෙන්ද කොතනට යනෙන්දැයි
නොදනෙන්ය. ආත්මයෙන් උපන් සිය
9 ල්ලෝම එසේමයයි කීසේක. නිකදේ
මුස් උන්වහන්සේට උත්තර දෙමින් මේ
දේ වෙනනට පුළුවන් කොහොමදැයි ඇ
10 සුයේය. යේසුස්වහන්සේ උත්තර දෙ
මින් ඊස්‍රායෙල්ගේ ගුරුකෙනෙක්වූ තු
11 බ මේ දේ දනෙන් නැද්ද? සැබවක් සැ
බවක් තුබට කියම් අපි දනනා දේ කියමු
ව අපි දුටු දේටම සාක්ෂි දෙමුව තුමුත් තු
12 බලා අපේ සාක්ෂිය නොගනිති. මම තුබ
ලාට පොළොවේ දේ කී කල්හි තුබලා
අදහා නොගත්තොත් ස්වර්ගීයවූ දේ
කියනවානම් ඒ දේ අදහගනෙන් කො
13 හොමද? ස්වර්ගයෙන් බැස්සාවූ ස්වර්ග
යෙහි සිටිනනාවූ මිනුෂ්‍ය පුත්‍රයා මිස කි
සිවෙක්වත් ස්වර්ගයට නොනැංගේය.
14 මෝසෙස් වනාන්තරයේදී සර්පයා ඔසවා
15 ගත් ලෙසම මනුෂ්‍ය පුත්‍රයාද තමන්වහන්
සේ අදහගනනා සියල්ලෝම විනාශයට
නොපැමින සදාකාල ජීවනය ලබන පි
16 නිස ඔසවාගනු ලබනනට ඕනෑය. මක්
නිසාද උන්වහන්සේ අදහාගනනා සියල්
ලෝම විනාශයට නොපැමින සදාකාල
ජීවනය ලබන පිනිස දෙවියන්වහන්සේ
තමන්ගේ ඒකජාත පුත්‍රයා දෙමින් ලො
17 වට එපමන කරුණාකලසේක. තවද
ලෝකයා වරදට පත්කිරීම පිනිස නො
ව උන්වහන්සේ කරණකොටගෙන ලෝ
කයාගේ ගැලවීම පිනිස දෙවියන්වහන්
සේ තමන්ගේ පුත්‍රයා ලෝකයට එවූසේ
18 ක. උන්වහන්සේ අදහාගනනා තැනැත්
තේ වරදට පත්නොකරණලද්දේය. අ
දහානොගන්නා තැනැත්තේ දෙවියන්ව
හන්සේගේ ඒකජාත පුත්‍රයාගේ නාමය
අදහා නොගත් බැවින් දැන්ම වරදට
19 පත්කරණලද්දේය. ලෝකයට ආලෝ
කය පැමිනියේය තුමුත් මනුෂ්‍යයන්ගේ
ක්‍රියාවල් නපුරුව තිබෙන බැවින් ඔ
වුන් ආලෝකයට වඩා අන්ධකාරයම ප්‍රිය
කරති ඒකම ඔවුන් වරදට පත්වීමට
20 කාරණ වේ. මක්නිසාද නපුරුකම් ක
රණ සියල්ලෝ ආලෝකයට අප්‍රියව න

මන්ගේ ක්‍රියාවල් ප්‍රකාස නොවෙන පි
21 නිස ආලෝකයට එනොත් නැත. නුමුත්
සැබෑව කරණ තැනැත්තෝ තමන්ගේ
ක්‍රියාවල් දෙවියන්වහන්සේ කෙරෙහි
කරණලදූයි ප්‍රකාසවෙන පිනිස ආලෝ
කයට එනොත්යයි කීසේක.
22 ඉන්පසු යේසුස්වහන්සේද තමන් ගෝ
ලයෝද යුදය රටට පැමිනියෝය. එහි
දී උන්වහන්සේ ඔවුන් සමග සිට බව්තීස්
23 ම කලසේක. යොහන්ද සාලිම් ලඟවූ
බොහෝ වතුර ඇති ඒනොන් යන ස්ථා
24 නයෙහි බව්තීස්මකරමින් සිටියේය. ම
නුෂ්‍යයෝද ඇවිත් බව්තීස්ම ලැබුවෝ
ය. යොහන් එතකල්ම හිරගෙයි දමනු
නොලැබුයේය.
25 එකල පවිත්‍රවීම ගැන යුදෙව්වෙක් ස
ග යොහන්ගේ ගෝලයන් අතරේ වාද.
26 යක් හටගත්තේය. එවිට ඔවුන් යොහන්
ලඟට ඇවිත් රබ්බී යොර්දන් එගොඩ
නුබ සමග සිටියාවූ යමෙක් ගැන නුබ
සාක්ෂි දුනෙන්ද උන්වහන්සේම බව්තීස්
ම කරණසේක. සියල්ලෝද උන්වහන්සේ
වෙතට පැමිනෙතියි ඔහුට කීවෝය.
27 යොහන් උත්තර දෙමින් ස්වර්ගයෙන් ම
නුෂ්‍යයෙකුට ස්වර්ගයෙන් දුන් දෙයක්
28 හැර කිසිවක් ලැබෙන්ට බැරිය. මම ක්‍රි
ස්තුස් නොවෙමි නුමුත් උන්වහන්සේට
ඉස්සරව එවනලද්දෙමියි මම කී බවට
29 නුබලාම සාක්ෂිකාරයෝ වෙති. මනමා
ලී ඇත්තා මනමාලයාය නුමුත් මනමා
ලයාගේ බස් අසමින් සිටිනාවූ මිත්‍ර
යා මනමාලයාගේ කථාවට බොහෝ
සෙයින් සන්තෝසවෙයි. එසේම මාගේ
මේ සන්තෝසය සම්පූර්ණ වූනේය.
30 උන්වහන්සේ වර්ධනවෙන්ටද මම අඩු
31 වෙන්ටද නිසිය. උඩින් එනාවූ උන්ව
හන්සේ සියල්ලන්ටම උතුම්ය. භූමියෙන්
වූ තැනැත්තේ භූමිකව භූමිය ගැන ක
ථාකරනේය. ස්වර්ගයෙන් එන්නාවූ
තැනන්වහන්සේ සියල්ලන්ට උතුම්ව ත
මන්වහන්සේ විසින් අහපු දූකපු දේ ගැ
32 න සාක්ෂි දෙනසේක. නුමුත් කවරෙක්
වත් උන්වහන්සේගේ සාක්ෂිය පිලිනො
33 ගනේය. දෙවියන්වහන්සේ විසින් එව
නලද්දවූ තැනැන්වහන්සේ ප්‍රමානයක්
නැතුව දෙවියන්වහන්සේගෙන් ආත්ම
ය ලැබ දෙවියන්වහන්සේගේම වචන
34 කියන බැවින් යමෙක් උන්වහන්සේගේ
සාක්ෂි පිලිගන්නොත් ඔහු දෙවියන්වහන්
සේ සැබෑ කෙනෙකැයි තමන්ගේ මුද්‍ර
35 ය තැබුයේය. පියානන්වහන්සේ පුත්‍රයා
ට ප්‍රේමව සියල්ල උන්වහන්සේගේ අ
36 තට බාරදුන්සේක. පුත්‍රයානන්වහන්සේ
කෙරේ අදහනනාට සදාකල් ජීවත්වීම
ඇත. පුත්‍රයානන්වහන්සේට කීකරු
නොවෙනනා ජීවනය නොදක්නේය.
එහෙත් දෙවියන්වහන්සේගේ උදහස
ඔහු කෙරෙහි පවත්නේයයි කීයේය.

4. පරිචෙ. යේසුස්වහන්සේගේ ගෝ
ලයෝ මිස උන්වහන්සේම බව්තීස්ම නො
2 කලසේක නුමුත් යොහන්ට වඩා යේ
සුස්වහන්සේ ගෝලයන් සාදාගෙන බව්
තීස්ම කලසේකැයි එරිසිවරුන්ට ඇරවී
වූ බව ස්වාමින්වහන්සේ දැන යුදය හැර
3 ගලිලයට නැවත ගියසේක. උන්වහන්
සේ සමාරිය මැදින් යන්නට ඕනෑය.
4 එකල යාකොබ් තමන් පුත්‍රවූ යෝසැප්
ට දුන් බිමට නුදුරුව තිබෙන සමාරියෙ
5 හි සිඛාර්නම් නුවරකට පැමිනිසේක. එ
6 හි යාකොබ්ගේ ලිඳ තිබුනේය. යේසුස්
වහන්සේ ගමනින් වෙහෙසව ලින් පඩි
ය උඩ හිඳගත්සේක. එවිට හවෙනි පැය
7 පමන විය. සමාරියේ ස්ත්‍රියක් වතුර අ
දින්ට ආවාය. යේසුස්වහන්සේ මට බො
8 නනට දියතනැයි ඈට කීසේක. මක්නි
සාද උන්වහන්සේගේ ගෝලයෝ කෑ
9 ම මිලේට ගනනට නුවරට ගියෝය. එ
විට යුදෙව්වරුන් සමග සමාරිවරුන්
ගේ ගනුදෙනුවක් නැතිබැවින් සමාරි
යෙහි ස්ත්‍රී උන්වහන්සේට කථාකොට යු
දෙව් කෙනෙක්වූ නුබ, සමාරියේ ස්ත්‍රී
යෙක්වූ මගෙන් බොනනට ඉල්ලනෙත්
10 කොහොමදූයි කීවාය. යේසුස්වහන්සේ
උත්තර දෙමින් දෙවියන්වහන්සේගේ
තෑග්ග කිමෙක්ද කියාත් මට බොනන
ට දියතනැයි නුබට කීවේ කව්ද කියාත්
නුබ දැනගත්තා නම් නුබ ඔහුගෙන් ඉ
ල්ලනවා ඇත. එවිට ඔහු නුබට ජීවන
දායක වතුර දෙනවා ඇතැයි ඈට කී
11 සේක. ඒ ස්ත්‍රී ස්වාමිනි නුබට වතුර අදි
න භාජනයක් නැත ලිඳද ගැඹුරුය. එ
හෙයින් මේ ජීවනදායක වතුර නුබට
12 කොයින්ද? මේ ලිඳ අපට දුන් අපගේ පි
යවූ යාකොබ්ට වඩා නුබ උතුම් කෙ
නෙක්ද? ඔහුද ඔහුගේ පුත්‍රයෝද ඔහු
ගේ සිව්පාවෝද මෙයින් බීවෝයයි උ
13 න්වහන්සේට කීවාය. යේසුස්වහන්සේ

උත්තර දෙමින් මේ වතුරෙන් බොන්
14 නාට නැවත පිපාසවෙයි. නුමුත් මම දෙ
නනාවූ වතුර බොනනාට කවදාවත් පි
පාසවෙනෙන් නැත. මම ඔහුට දෙන ව
තුර සදාකාල ජීවනයට වතුර උනනනා
වූ උල්පතක් මෙන් ඔහු ඇතුලෙහි ව
15 නෙන්යයි කීසේක. ඈ ස්වාමිනි මට පි
පාස නොවෙන පිනිසද මෙහි අදින්ට
නේන පිනිසද ඒ වතුර දුනමැනවයි කී
16 වාය. යේසුස්වහන්සේද නුබගොස් නු
බේ පුරුෂයා කැඳවාගෙන මෙහි වරෙ
17 නනැයි ඈට කීසේක. ඒ ස්ත්‍රිය මට පුරු
ෂයෙක් නැතැයි කීවාය. යේසුස්වහන්
සේ ඈට කියනසේක් මට පුරුෂයෙක්
18 නැතැයි නුබ කීවා හරිය. මක්නිසාද නු
බට පුරුෂයෝ පස් දෙනෙක් වූවෝ
ය දැන් සිටින තැනැත්තේ නුබේ පුරුෂ
යා නොවේය ඒ ගැන සැබෑවම කීවාය
19 යි කීසේක. ස්ත්‍රීද උන්වහන්සේට කියන්
නී ස්වාමිනි නුබ අනාගතවක්තෘ කෙනෙ
20 කැයි දනිමි. අපගේ පියවරු මේ කන්
දේදී නමස්කාර කලෝය නුමුත් නමස්
කාර කටයුතුවූ ස්ථානය යෙරුසලමේය
21 යි නුබලා කියතියි කීවාය. යේසුස්වහන්
සේ ඈට කියනසේක් ස්ත්‍රිය මාගේ වච
නය අදහගනිනන මේ කන්දේදීවත්
යෙරුසලමේදීවත් පියානන්වහන්සේට
නමස්කාර නොකරණ කාලය පැමිනෙ
22 නෙන්ය. නුබලා නොදනනා දේට න
මස්කාර කරති. ගැලවීම යුදෙව්වන්
ගෙන් වන බැවින් අපි දනනා දේට න
23 මස්කාර කරමුව. නුමුත් සැබෑවූ නමස්
කාර කරනනෝ ආත්මයෙන්ද සැබෑක
මෙන්ද පියානන්වහන්සේට නමස්කාර ක
රණ කාලය පැමිනෙනෙන්ය දැනුත් පැ
මින තිබෙයි මක්නිසාද පියානන්වහන්
සේ තමන්වහන්සේට නමස්කාර කරණ
24 පිනිස එබඳුවූවන් සොයනසේක. දෙවි
යන්වහන්සේ ආත්මයෙක උන්වහන්
සේට නමස්කාර කරනනන් විසින් ආත්
මයෙන්ද සැබෑකමෙන්ද නමස්කාර ක
25 රන්ට යුතුයයි කීසේක. ස්ත්‍රීද කියන්නී
ක්‍රිස්තුස්යයි කියනලද මෙසියස් එනසේ
කැයි දනිමි. උන්වහන්සේ ආකල සියල්
26 ල අපට දන්වනසේකැයි කීවාය. එවිට
යේසුස්වහන්සේ නුබ සමග කථාකරන්
27 නාවූ මම ඔහුමයයි ඈට කීසේක. එවිට
උන්වහන්සේගේ ගෝලයෝ ඇවිත් උ
න්වහන්සේ ස්ත්‍රිය සමග කථාකරණාව
පුදුමවූනෝය. නුමුත් කුමක් සොයන
සේක්ද නොහොත් ඈ සමග කථාකර
නෙන් මක්නිසාදැයි කවුරුවත් ඇසුවේ
28 නැත. එකල ස්ත්‍රී කලය තබා නුවරට
ගොස් මා විසින් කල සියල්ල මට කීවා
වූ මනුෂ්‍යයෙකු බලනනට වරෙල්ලාය
29 ඒ ක්‍රිස්තුස් නොවේදැයි මනුෂ්‍යයන්ට කී
30 වාය. එවිට ඔවුන් නුවරින් පිටත්ව උන්
වහන්සේ වෙතට පැමිනුනෝය.
31 ඒ අතර ගෝලයෝ ආචාරිනි කෑවමැ
32 නවයි උන්වහන්සේට කීවෝය. උන්ව
හන්සේ නුබලා නොදනනා කෑම කන්
33 ට මට ඇතැයි ඔවුන්ට කීසේක. එවිට
මූන්වහන්සේට කෑම කවුරුවත් ගෙනා
වාදෝ කියා ගෝලයෝ ඔවුනොවුන් ක
34 ථාකරගනනෝය. යේසුස්වහන්සේද මා
ගේ කෑමනම් මා එවූ උන්වහන්සේගේ
කැමැත්ත කොට උන්වහන්සේගේ වැඩ
35 තීඤුකිරීමය. තව සාර මසකින් ගොයම්
කපන කාලය පැමිනෙනෙන්යයි නුබලා
නොකියද්ද? නුබලාගේ ඇස් ඔසවා කු
ඹුරු දිහා බලාපල්ලාය ගොයම් දැනටම
කැපීමට පැහී තිබෙන බව පෙනෙන්
36 නේය. වපුරනනාත් කපනනාත් එක්ව
සන්තෝසවෙන පිනිස කපන්නා කුලී
ලැබ සදාකල් ජීවත්වීමට අස්වැනන එ
37 කතුකරණවා ඇත. මෙයින් එකෙක් ව
පුරනෙන්ය අනිකෙක් කපනෙන්ය යන
38 කීම සැබෑය. නුබලා විසින් වැඩ නො
කල ගොයම් කපනනට නුබලා යවමි අ
න්‍යයෝ වැඩකලෝය නුබලා ඔවුන්ගේ
වැඩේ පලප්‍රයෝජන ලැබූවෝයයි කී
39 සේක. මා විසින් කල සියල්ල මට කීවා
යයි සාක්ෂි දුන් ස්ත්‍රියගේ වචන නිසා ඒ
නුවර බොහෝ සමාරියයෝ උන්වහන්
40 සේ අදහගනනෝය. සමාරියයෝ උන්ව
හන්සේ ලඟට ඇවිත් තමන් සමග සිටින
ලෙස ඉල්ලුවෝය. උන්වහන්සේද දෙදව
41 සක් එහි සිටිසේක. වෙනත් බොහෝ
දෙන උන්වහන්සේගේම වචන නිසා අද
42 හා ස්ත්‍රියට කථාකොට දැන් නුබේ වචන
නිසා අදහාගනෙන් නැත අපිම උන්වහන්
සේගෙන් අසා සැබෑවට ලෝකයාගේ
ගැලවුන්කාරයාවූ ක්‍රිස්තුස්වහන්සේ මූන්
වහන්සේමය කියා දනිමුයයි කීවෝය.
43 දෙදවසකට පසු උන්වහන්සේ එත
44 නින් පිටත්ව ගලිලයට ගියසේක. අනා
ගතවක්තෘ කෙනෙකුට තමන්ගේ දේ
සයේදී ගෞරව නැතැයි යේසුස්වහන්

45 එසේම සාක්ෂි දුන්සේක. ගලිලයට උන්ව
හන්සේ පැමිනිකල යෙරූසලමේ මංග
ල්‍ය කාලයෙහිදී උන්වහන්සේ විසින් ක
ල සියල්ල දුටුවාවූ ගලිලයෝ උන්වහන්
සේ පිලිගත්තෝය. මක්නිසාද ඔවුහුත්
46 මංගල්‍යයට පැමින සිටියෝය. එකල යේ
සුස්වහන්සේ තමන් විසින් වතුරෙන් මු
ද්‍රිකපානය සෑදුවාවූ ගලිලයේ කානා නු
47 වරට නැවත ගියසේක. කපර්ණවූමෙ
හි රෝගීව සිටියාවූ පුත්‍රයෙක් ඇති මූලා
දෑනියෙක් සිටියේය. ඔහු යේසුස්වහන්
සේ යුදයෙහි සිට ගලිලයට ආබව අසා
තමාගේ පුත්‍රයා මරණාසන්නව සිටිබැ
වින් උන්වහන්සේ ලඟට ඇවිත් මාගේ
පුත්‍රයාට සුවකරන්ට අවමෑනවයි උන්ව
48 හන්සේගෙන් ඉල්විය. එවිට යේසුස්ව
හන්සේ නුබලා ලකුනුද ආශ්චර්‍යයවල්ද
නොදැක අදහගන්නේ නැතැයි ඔහුට
49 කීසේක. ඒ මූලාදෑනියා ස්වාමිනි මාගේ
පුත්‍රයා නසින්ට පලමුවෙන් අවමෑනව
50 යි කීයේය. යේසුස්වහන්සේ පලයන්න
නුබේ පුත්‍රයා ජීවත්ව සිටින්නේයයි ඔහු
ට කීසේක. ඔහු යේසුස්වහන්සේ කී ව
51 චනය අදහගෙන ගියේය. ඔහු යනක
ල ඔහුගේ වැඩකාරයෝ ඔහු ඉදිරියට
ඇවිත් නුබේ පුත්‍රයා ජීවත්ව සිටින්නේ
52 යයි ඔහුට දැන්වූවෝය. එවිට ඔහු සො
සි වේලේ සිට සුවවෙන්ට පටන්ගත්තේ
දැයි ඔවුන්ගෙන් ඇසුයේය. ඔවුහු ඊයේ
සත්වෙනි පැයේදී උන බැස්සායයි ඔහු
53 ට කීවෝය. එකල නුබේ පුත්‍රයා ජීවත්
ව සිටින්නේයයි යේසුස්වහන්සේ තමහ
ට කිව් පැයමයයි පියා දැන ඔහුද ඔහුගේ
සියළු ගෙයි වැසියෝද අදහගත්තෝය.
54 යේසුස්වහන්සේ යුදයේ සිට ගලිලයට
නැවත ඇවිත් කලාවූ දෙවෙනි ආශ්ච
ර්‍යය මේය.

5. පරිච්ජ. එසින් පසු යුදෙව්වරුන්
ගේ මංගල්‍යයක් විය. යේසුස්වහන්සේ
2 ද යෙරූසලමට ගියසේක. යෙරූසලමෙ
හි බැටළු දොර ලඟ හෙබ්‍රෙව් භාෂාවෙන්
බෙතෙස්දනම්වූ මඩු පහක් ඇති පොකු
3 නක් ඇත්තේය. කලින් කලට දේවදූත
යෙක් පොකුනට බැස වතුර කලඹන්
නේය. වතුර කැලඹුනු පසු පලමුකොට
එහි බැස්ස යමෙකුට යම් රෝගයක්
4 ඇත්නම් ඒකා සුවවන්නේය. එබැවින්
ඒ මඩුවල අන්ධයෝය කොරුය වියලි
අවයව ඇත්තෝය යනාදි බොහෝ රෝ
ගාතුරයෝ වතුර කැලඹීම පැමිනෙන
5 තුරු බලා සිටියෝය. එහි තිස්අට අවු
රුද්දක් රෝගයෙන් පීඩිතවූ මනුෂ්‍ය
6 යෙක් සිටියේය. යේසුස්වහන්සේ ඔත්ප
ලව උන් ඔහු දැක මොහු බොහෝ කල්
ගිය රෝගාතුරයෙකැයි දැන සුව ලබන්
7 ට කැමතිදැයි ඔහුගෙන් ඇසුසේක. රෝ
ගියා උන්වහන්සේට උත්තර දෙමින්
ස්වාමිනි වතුර කැලඹෙන කල මා පො
කුනට බස්වන්ට මට කවුරුවත් නැත
ඒ නිසා මම යනකල වෙන කෙනෙක්
8 මට පලමුවෙන් බස්නේයයි කීයේය. යේ
සුස්වහන්සේද නැගිට නුබේ ඇඳ උසු
9 ලාගෙන ඇවිදපන්නැයි කීසේක. එව
ලේම ඒ මනුෂ්‍යයා සුවපත්ව තමාගේ
ඇඳ උසුලාගෙන ඇවිද්දේය. ඒ දවස ස
10 බත් දවසය. එහෙයින් යුදෙව්වරු මේ
සබත් දවසය ඇඳ උසුලාගෙන යන්ට හ
රි නැතැයි සුවකරනු ලැබූ මනුෂ්‍යයාට
11 කීවෝය. ඔහු ඔවුන්ට උත්තර දෙමින්
මා සුවකල උන්වහන්සේම නුබේ ඇඳ
උසුලාගෙන ඇවිදපන්නැයි මට කීසේකැ
12 යි කීය. එවිට ඔවුන් නුබේ ඇඳ උසුලා
ගෙන ඇවිදින්ට නුබට කී මනුෂ්‍යයා කව්
13 දැයි ඔහුගෙන් ඇසුවෝය. ඒ ස්ථානයේ
සමූහයක් සිටි බැවින් යේසුස්වහන්සේ
පහව ගියසේක. එහෙයින් සුවකරනු
ලැබූ මිනිහා උන්වහන්සේ කවුද කියා
14 දැනගත්තේ නැත. ඉන්පසු යේසුස්වහන්
සේ දේවමාලිගාවේදී ඔහු දැක බලාපන්
න නුබ සුව ලැබුයේය නුබට වැඩි නර
කක් නොපැමිනෙන පිනිස මතු පව්නො
15 කරන්නැයි ඔහුට කීසේක. ඒ මනුෂ්‍යයා
ගොස් තමාට සුවකලේ යේසුස්වහන්සේ
16 යයි යුදෙව්වරුන්ට දැන්වූයේය. යේසු
ස්වහන්සේ මේ දේ සබත් දවසේ කල
බැවින් යුදෙව්වරු උන්වහන්සේට පීඩා
කරන්ටද මරන්ටද සෙව්වෝය.
17 එවිට යේසුස්වහන්සේ ඔවුන්ට උත්ත
ර දෙමින් මාගේ පියානන්වහන්සේ මෙ
තැන් දක්වාම ක්‍රියාකරණසේක මමත් ක්‍රි
18 යා කෙරෙමියි කීසේක. එහෙයින් උන්
වහන්සේ සබත් කඩකලා පමනක්නො
ව දෙවියන්වහන්සේ තමන්ගේම පියා
නෝයයි කියමින් තමන් දෙවියන්ව
හන්සේ සමාන කරගත් බැවින් යුදෙව්
වරු උන්වහන්සේ මරන්ට වඩ වඩා සෙව්
19 වෝය. එකල යේසුස්වහන්සේ උත්තර

දෙමින් සැබවක් සැබවක් නුබලාට කි
යම් පියානන්වහන්සේ යමක් කරණසේ
කැයි පුත්‍රයා දක්නේද ඒ දේ හැර තනි
යම මොකවත් කරනනට බැරිය. පියා
නන්වහන්සේ කරණ දේ පුත්‍රයාත් එසේ
20 ම කරනෝය. තවද පියානන්වහන්සේ
පුත්‍රයා කෙරෙහි ස්නේහව තමන්වහන්
සේ කරනනාවූ සියල්ල ඔහුට පෙන්වන
සේක. නුබලා පුදුමවෙන ලෙස මීට ව
ඩා මහත් ක්‍රියාවන් ඔහුට පෙන්වනසේ
21 ක. මක්නිසාද පියානන්වහන්සේ මල
වුන් නැගුටුවා ජීවත්කරණ ලෙසම පුත්‍ර
යා තමන් කැමතිවූවන් ජීවත්කරනෝ
22 ය. තවද සියළු මනුෂ්‍යයෝම පියානන්
වහන්සේට ගෞරව කරනනාක්මෙන්
ම පුත්‍රයාටත් ගෞරව කරණ පිනිසපියා
නන්වහන්සේ කවරෙක්වත් විනිශ්වය
නොකොට සියළු විනිශ්වයම පුත්‍රයාට බා
23 රදුන්සේක. පුත්‍රයාට ගෞරව නොකර
නනා ඔහු එවූ පියානන්වහන්සේටද ගෞ
24 රව නොකරනෝය. සැබවක් සැබවක්
නුබලාට කියම් මාගේ වචනය අසා මා
එවූ උන්වහන්සේ අදහගනනාට සදාකා
ල ජීවනය ඇත. ඔහු වරදට පත්නොව
25 මරනින් ජීවනයට පැමිනියේය. සැබ
වක් සැබවක් නුබලාට කියම් දෙවියන්
වහන්සේගේ පුත්‍රයාගේ ශබ්දය මල
වුන්ට ඇසෙන පැය පැමිනෙනෝය
දැනුත් පැමින තිබේ අසනෝද ජීවත්
26 වෙනවා ඇත. මක්නිසාද පියානන්වහන්
සේ තමන්වහන්සේ තුලෙහි ජීවනය ධ
රනනාසේම පුත්‍රයාටත් තමන් තුලෙහි
27 ජීවනය ධරන්ට දුන්සේක. ඔහු මනුෂ්‍ය
පුත්‍ර බැවින් විනිශ්වයකරන්ටද බලය
28 දුන්සේක. මේ කාරණයට පුදුමවෙනන
ට එපාය. මක්නිසාද මිනිවලවල්හි සිටි
න සියල්ලෝ ඔහුගේ ශබ්දය අසන කා
29 ලය පැමිනෙනෝය. එවිට යහපත්කම්
කලාහු ජීවනයෙහි නැවත නැගිටීමට
ද අයහපත්කම් කලාහු දඬුවමෙහි නැ
වත නැගිටීමටද පිටත්ව එනවා ඇත.
30 මා එවූ මාගේ පියානන්වහන්සේගේ කැ
මැත්ත මිස මාගේ කැමැත්ත කරන්ට
නොසොයන බැවින් තනිෘම මොක
වත් කරන්ට මට නුපුළුවන. මම අහන
ලෙසම විනිශ්වය කෙරෙම් මාගේ විනිශ්
වයද සාධාරණය.
31 මම තනියම මා ගැනම සාක්ෂි දුනිම්නම්
32 මාගේ සාක්ෂිය පිලිගන්ට යුතු නැත. මා
ගැන සාක්ෂි දෙනනාවූ අනිකෙක් ඇත්
තේය. ඔහු විසින් මා ගැන දෙන සා
33 ක්ෂිය පිලිගන්ට යුතුබව දනිම්. නුබලා
යොහන් ලඟට මනුෂ්‍යයන් යැව්වෝය ඔ
34 හුද සැබෑකමට සාක්ෂි දුනෝය. මට ම
නුෂ්‍ය සාක්ෂිය කමක් නැත නුමුත් නුබ
35 ලාගේ ගැලවීම පිනිස මෙසේ කියම්. ඔ
හු ඇවිලෙනනාවූ දිලිසෙනනාවූ පහන
ක. නුබලා ඔහුගේ එලියට ස්වල්ප කා
ලක් සන්තෝසවෙන්නට කැමතිවූවෝ
36 ය. නුමුත් යොහන්ගේ සාක්ෂියට වඩා මහ
ත්වූ සාක්ෂියක් මට ඇතෝය. එනම් යම්
ක්‍රියාවක් නින්දුකරන්ට පියානන්වහන්
සේ මට නියමකලසේක්ද මම කරණ ඒ
ක්‍රියාවම පියානන්වහන්සේ මා එවූ බවට
සාක්ෂි දෙනෝය. මා එවූ පියානන්වහන්
37 සේම මා ගැන සාක්ෂි දුන්සේක. නුබලා
කවදාවත් උන්වහන්සේගේ ශබ්දය ඇ
සුවේවත් උන්වහන්සේගේ රූපය දුටු
38 වේවත් නැත. උන්වහන්සේ විසින් එව
නලද තැනැත්තා නුබලා අදහනොගත්
බැවින් උන්වහන්සේගේ වචනය නුබලා
39 ගේ සිතේ පවතිනෝ නැත. සුධ ලිය
විලි සොයාපල්ලාය මක්නිසාද එහි නු
බලාට සදාකල් ජීවත්වීම ඇතැයි නුබ
ලා සිතති. ඒවා මා ගැන සාක්ෂි දෙනෝ
40 ය. නුමුත් නුබලා ජීවනය ලබන පිනිස
41 මා ලඟට එනනට කැමති නැත. මනු
42 ෂ්‍යයන්ගෙන් ගෞරව නොලබම්. නු
මුත් නුබලා හඳුනම් නුබලා තුලෙහි දෙ
වියන්වහන්සේ කෙරෙහි ප්‍රේමය නැත්
43 තේය. මම මාගේ පියානන්වහන්සේගේ
නාමයෙන් ආයෙම් නුමුත් නුබලා මා පි
ලිගනෝ නැත. වෙන කෙනෙක් තමා
ගේම නාමයෙන් ආයේනම් නුබලා ඔහු
44 පිලිගනනවා ඇත. දෙවියන්වහන්සේ
කෙරෙන් පමනක් පැමිනෙන ගෞරව
ය නොසොයා ඔවුනොවුන්ගෙන් ගෞ
රව සොයනනාවූ නුබලාට අදහගන්ට
45 පුළුවන් කොහොමද? පියානන්වහන්
සේගේ ඉදිරියෙහි මම නුබලාට වැරදි
තබනෙනම්යි නොසිතල්ලාය. නුබලාට
වැරදි තබනෝ නුබලා විස්වාසකරණ
46 මෝසෙස්මය. තවද මෝසෙස් මා ගැන
ලිව් නිසා නුබලා ඔහු අදහගනනවානම්
47 මාත් අදහගනිති. නුමුත් ඔහුගේ ලිය
විලි අදහ නොගන්නවානම් මාගේ
වචන අදහන්නෝ කොහොමදැයි කී
සේක.

6. පරිච්ඡේ. ඉන්පසු යේසුස්වහන්සේ
ගලිලයේ තිබේරියස්නම්වූ මූදෙන් එ
2 ගොඩට ගියසේක. මහත් සමූහයාද උ
න්වහන්සේ පස්සේ ගියෝය. මක්නිසාද
රෝගාතුරයන් කෙරෙහි උන්වහන්සේ
විසින් කල ආශ්චර්යවල් ඔවුන් දුටුවෝ
3 ය. යේසුස්වහන්සේ කන්දකට නැගී ත
4 මන් ගෝලයන් සමග වැඩඋන්සේක. එ
කල යුදෙව්වරුන්ගේ පාස්කු මංගල්‍ය
5 ය කිට්ටුවිය. යේසුස්වහන්සේ ඉදිරිය බ
ලා තමන් ලඟට බොහෝ සමූහයෝ එ
නවා දැක මොවුන්ට කන්නට කෑම අපි
කොතනින් මිලේට ගනිමුදැයි පිලිප්ට කී
6 සේක. තමන්වහන්සේ විසින් කටයුතු කි
මෙක්දැයි තමන්ම දන්න නුමුත් ඔහු ප
7 රීක්ෂාකරන්ට මෙසේ කීසේක. පිලිප් උන්
වහන්සේට උත්තර දෙමින් ඔවුන්ගෙන්
එක එකාට ටික ටික දෙන්නට මසු දෙ
8 සියයක රොටිත් මදියයි කීයේය. උන්ව
හන්සේගේ ගෝලයන්ගෙන් එකෙක්
9 වූ සීමොන් පේත්‍රුස්ගේ සහෝදරවූ අන්
ද්‍රෑ කියන්නුයේ යව රොටි පසක්ද කුඩා
මසුන් දෙදෙනෙක්ද ඇත්තාවූ තරුණ
යෙක් මෙහි ඇත. නුමුත් මෙපමන දෙ
නෙකුට ඒවා කුමටදැයි උන්වහන්සේට කී
10 ය. යේසුස්වහන්සේ මනුෂ්‍යයන් වාඩික
රවාපල්ලායයි කීසේක. එතන තනකො
ල බොහෝය. එවිට ගනන් වසයෙන්
පන්දහසක් පමනවූ මනුෂ්‍යයෝ වාඩිවූ
11 නෝය. එකල යේසුස්වහන්සේ රොටි අ
රගෙන ස්තුතිකොට ගෝලයන්ට බෙ
දා දුන්සේක. ගෝලයෝද ඉඳගත්තාවුන්
ට බෙදා දුන්නෝය. එසේම මසුන්ගෙන්
12 ද ඔවුන්ට කැමති පමන දුන්නෝය. ඔ
වුන් තෘප්තියට පැමිනි කල්හි කිසිවක්
නැතිනොවෙන පිනිස ඉතුරුවූන කෑබ
ලි එකතුකරපල්ලායයි තමන් ගෝල
13 යන්ට කීසේක. එවිට ඔවුන් එකතුකො
ට මිනිසුන් කාලා ඉතුරුවූන යව රොටි
පහේ කෑබලිවලින් පෙට්ටි දොලහක්
පුරවාගත්තෝය.
14 යේසුස්වහන්සේ විසින් කල ආශ්චර්ය
ය ඒ මනුෂ්‍යයෝ දැක සැබෑවටම මූන්ව
හන්සේ ලෝකයට එන්නාවූ අනාගත
15 වක්තෘමයයි කීවෝය. එකල යේසුස්ව
හන්සේ ඔවුන් ඇවිත් තමන් රජකමට
තබාගන්නා පිනිස බලාත්කාරයෙන්
අල්වාගනිතියි දැන තනියම නැවත ක
16 න්දකට ගියසේක. සවස්වූ කල උන්වහන්
සේගේ ගෝලයෝ වෙරලට ගොස් නැ
17 වට නැගී මූදෙන් කපර්ණවූමට යන පි
නිස ගියෝය එවිට අන්ධකාරවිය. යේසු
ස්වහන්සේ ඔවුන් ලඟට ආවේ නැත.
18 තද හුලඟක් ගැසූ බැවින් මූද කැලඹු
19 නේය. ගව්වක් පමන දුර පැදගන ගියා
වූ ඔවුන් මූද පිට ඇවිදිමින් නැව ලඟට
එන්නාවූ යේසුස්වහන්සේ දැක භයවූ
20 වෝය. උන්වහන්සේද මමය භයනො
21 වෙල්ලායයි ඔවුන්ට කීසේක. එවිට ඔ
වුන් උන්වහන්සේ සන්තෝසයෙන් නැ
වට ගත්තෝය. එවලේම නැව ඔවුන් වි
සින් යන්ට ගිය ඉඩමට පැමුනුනේය.
22 පසුව දා වෙරල සිටියාවූ සමූහයෝ උ
න්වහන්සේගේ ගෝලයන් නැංගාවූ නැ
ව මිස එහි වෙන කිසි නැවක් නැති බ
වත් යේසුස්වහන්සේ තමන් ගෝලයන්
සමග ඒ නැවට නොනැගුනු බවත් උන්
වහන්සේගේ ගෝලයන් පමනක් ගිය
23 බවත් දැනගත්තෝය නුමුත් ස්වාමින්ව
හන්සේ ස්තුතිකොට යම් තැනකදී සමූ
හයාට රොටි දුන්සේක්ද ඊට නුදුරුවූ
තිබේරියස්හි සිට වෙන නැව් ආවේය.
24 එසේහෙයින් සමූහයෝ යේසුස්වහන්
සේවත් උන්වහන්සේගේ ගෝලයෝ
වත් එහි නැතැයි දැන නැව්වලට නැගී
යේසුස්වහන්සේ සොයමින් කපර්ණවූම
25 ට ගියෝය. ඔවුන් මූදෙන් එගොඩව සි
ටි උන්වහන්සේ දැක රබ්බී ඔබවහන්සේ
කොයි වේලේ මෙතනට ආසේක්දැයි ඇ
26 සුවෝය. යේසුස්වහන්සේ උත්තර දෙ
මින් සැබවක් සැබවක් නුබලාට කියමි
නුබලා විසින් ආශ්චර්යවල් දුටු නිසා
නොව රොටි කාලා තෘප්තියට පැමිනි බැ
27 වින් නුබලා මා සොයති. විනාසවෙන්නා
වූ කෑම පිනිස වැඩ නොකොට පියවූ දෙ
වියන්වහන්සේ විසින් මුද්‍රකල මනුෂ්‍ය පු
ත්‍රයා නුබලාට දෙන්නාවූ සදාකාල ජීවත්
වීම පිනිස පවතින කෑමට වෑයම් කර
28 පල්ලායයි කීසේක. එවිට ඔවුන් දෙවිය
න්වහන්සේගේ වැඩ කරණ පිනිස අප වි
සින් කුමක් කටයුතුදැයි උන්වහන්සේ
29 ගෙන් ඇසුවෝය. යේසුස්වහන්සේ උ
ත්තර දෙමින් දෙවියන්වහන්සේගේ වැ
ඩනම් උන්වහන්සේ එවූ තැනැත්තා
නුබලා විසින් අදහගැන්මයයි ඔවුන්ට
30 කීසේක. එවිට ඔවුන් එසේවිනම් අප වි
සින් දැක ඔබවහන්සේ අදහගන්නා පි
නිස මොන ලකුනක් අපට පෙන්වන

සේක්ද? ඔබවහන්සේ කරනෙත් මො
31 කද? ඔහු ස්වර්ගයෙන් ඔවුන්ට කන පි
නිස කෑම දුනෙත්යයි ලියා තිබෙන ලෙ
ස අපේ පියවරු වනාන්තරයේදී මන්නා
32 කෑවෝයයි උන්වහන්සේට කිවෝය. එ
කල යේසුස්වහන්සේ ඔවුන්ට කියන
සේක් සැබවක් සැබවක් තුඹලාට කිය
මි මෝසෙස් ස්වර්ගයෙන් කෑම තුඹලා
ට දුනෙත් නැත. මාගේ පියානන්වහන්
සේ ස්වර්ගයෙන් සැබෑවූ කෑම තුඹලා
33 ට දෙනසේක. දෙවියන්වහන්සේ දෙ
න කෑමනම් ස්වර්ගයෙන් බැස ලෝක
34 යාට ජීවනය දෙන කෑමයයි කීසේක. එ
විට ඔවුන් ස්වාමිනි ඒ කෑම නිතරම අ
35 පට දුනමැනවයි කිවෝය. යේසුස්වහන්
සේ ඔවුන්ට කියනසේක් ජීවන දායක
කෑමනම් මමය. මා ලඟට එනනාට කිසි
කලෙකත් බඩගිනි වෙනෙත් නැත. මා
අදහගන්නාට කිසි කලෙකත් පිපාසාව
36 නෙත් නැත. මම තුඹලාට කී ලෙසම තු
37 ඹලා මා දැකත් අදහගනෙත් නැත. පි
යානන්වහන්සේ මට දෙන සියල්ලෝ
මා ලඟට එනවා ඇත. මා ලඟට එන තැ
නැත්තා ඒකාන්තයෙන්ම අහක නොද
38 මිමි. මක්නිසාද මා එවූ තැනන්වහන්සේ
ගේ කැමැත්ත මිස මාගේ කැමැත්ත ක
39 රන්ට ස්වර්ගයෙන් නොබැස්සෙමි. මා
එවූ පියානන්වහන්සේගේ කැමැත්තනම්
උන්වහන්සේ මට දුන් සියල්ලන්ගෙන්
කිසිවෙක් නැති නොකොට අන්තිම ද
40 වසේදී ඔවුන් නැගිටවීමය. මා එවූ තැ
නන්වහන්සේගේ කැමැත්තනම් පුත්‍රයා
දැක ඔහු කෙරෙහි අදහන්නාවූ සියල්
ලන්ට සදාකාල ජීවනය ලැබීමත් අන්
තිම දවසේදී මා විසින් ඔවුන් නැගිටවී
මත්යයි කීසේක.
41 එවිට ස්වර්ගයෙන් බැස්සාවූ කෑමනම්
මමයයි උන්වහන්සේ කී බැවින් යුදෙව්
වරු උන්වහන්සේ ගැන කොඳුරමින්
මොහු යෝසැප්ගේ පුත්‍රවූ යේසුස් නො
42 වේද? මොහුගේ මව්පියන් අපි නාඳුන
මුද? එසේවීනම් මම ස්වර්ගයෙන් බැස්
සෙමියි මොහු කියනෙත් කොහොමදැ
43 යි කිවෝය. එකල යේසුස්වහන්සේ ඔ
වුන්ට උත්තර දෙමින් කියනසේක් තු
44 ඹලා අතරෙහි කොඳුරන්ට එපාය. මා
එවූ පියානන්වහන්සේ විසින් මා ලඟට
පමුණුවනනාවූ කෙනෙකුට මිස වෙන
කාටවත් මා ලඟට පැමිණෙනනාට බැ
රිය. මම අන්තිම දවසේදී ඔහු නැගුටුව
45 මි. සියල්ලෝම දෙවියන්වහන්සේ විසින්
උගන්වනු ලබතියි අනාගතවක්තෘන්ගේ
ලිවුම්වල ලියා තිබෙයි. එසේහෙයින්
පියානන්වහන්සේගෙන් අසා උගත් සි
46 යල්ලෝ මා ලඟට එනවා ඇත. එසේ තු
මුත් දෙවියන්වහන්සේ කෙරෙන් ආ තැ
නැත්තා මිස කවුරුවත් පියානන්වහන්
සේ දුටුවේ නැත. ඔහුම පියානන්වහන්
47 සේ දුටුයේය. සැබවක් සැබවක් තුඹ
ලාට කියමි මා අදහගන්නාට සදාකාල ජී
48 වනය ඇත. ජීවන දායක කෑම මමය.
49 තුඹලාගේ පියවරු වනාන්තරයේදී මන්
50 නා කෑ නුමුත් නැසුනෝය. මෙයින් ක
න කවුරු නුමුත් නොනසින පිනිස ස්ව
51 ර්ගයෙන් බැස්සාවූ කෑම මේය. ස්වර්ග
යෙන් බැස්සාවූ ජීවනදායක කෑම මම
ය. කවුරු නුමුත් මේ කෑම කෑවොත් ස
දාකල් ජීවත්වනෙන්ය. ලෝකයාගේ ජී
විත්වීම පිනිස මම දෙනනාවූ කෑමනම්
52 මාගේ මාංසයයි කීසේක. එවිට යුදෙව්ව
රු ඔවුනොවුන් අතරේ වාදකරමින් අ
පට කෑමට තමන්ගේ මාංශ දෙන්නට
මොහුට පුළුවන් කොහොමදැයි කීවෝ
53 ය. ඒ නිසා යේසුස්වහන්සේ ඔවුන්ට කි
යනසේක් සැබවක් සැබවක් තුඹලාට
කියමි තුඹලා මනුෂ්‍ය පුත්‍රයාගේ මාංශ
නොකනවානම් ඔහුගේ ලේ නොබො
නවානම් තුඹලා තුලෙහි ජීවනය ඇත්
54 තේ නැත. මාගේ මාංශ කනනාවූ මාගේ
ලේ බොනනාවූ තැනැත්තාට සදාකාල
ජීවනය ඇත. අන්තිම දවසේදී මම ඔ
55 හු නැගුටුවමි. මක්නිසාද මාගේ මාංශය
සැබෑවූ කෑමත් මාගේ ලේ සැබෑවූ බී
56 මත්ය. මාගේ මාංශ කනනාවූ මාගේ ලේ
බොනනාවූ තැනැත්තේ මා ඇතුලෙහි ව
57 සයි. මමද ඔහු ඇතුලෙහි වසමි. ජීවමා
නවූ පියානන්වහන්සේ මා එවූවාක්මෙ
න් මමත් පියානන්වහන්සේ නිසා ජීවත්
වනනාක්මෙන්ද මා කන තැනැත්තේම
58 මා නිසා ජීවත්වෙනවා ඇත. ස්වර්ග
යෙන් බැස්සාවූ කෑම මේය. මේක තු
ඹලාගේ පියවරු කෑ මන්නා වාගේ නො
වේය. ඔවුන් එයින් කෑ නුමුත් නැසුනෝ
ය. යමෙක් මේ කෑම කෑවොත් ඔහු ස
දාකල් ජීවත්වෙනවා ඇතැයි කීසේක.
59 උන්වහන්සේ කපර්ණාවුමේ සිනගෝග
යේ උගන්වද්දී මේ කාරණා කීසේක.
60 උන්වහන්සේගේ ගෝලයන්ගෙන්

බොහෝදෙන ඒ අසා මේ කීම අප්‍රසන්
නය මේක පිළිගන්ට කාට පුළුවන්දැයි
61 කීවෝය. ගෝලයෝ ඒ ගැන කොඳුර
ණවා යේසුසවහන්සේ තමන් සිතින් දැ
න ඔවුන්ට කියනසේක් මේක නුඹලා
62 ට බාධාවක්ද? මනුෂ්‍ය පුත්‍රයා පෙර වි
සූ තැනට නගිනවා නුඹලා දකිනවානම්
63 එකසේද? ජීවත්කරනෙන් ආත්මයය
මාංශයෙන් කිසි ප්‍රයෝජනයක් නැත.
මම නුඹලාට කියන වචනම ආත්මයද
64 ජීවනයද වෙයි. නුමුත් නුඹලා අතරෙන්
සමහරෙක් අදහනෙන් නැතැයි කීසේ
ක. යේසුසවහන්සේ මෙසේ කීවේ නො
අදහනෙනා් කවුරුද තමන්වහන්සේ
පාවා දෙන තැනැත්තා කවුදැයි මුල ප
65 ටන් දැනගත් නිසාය. තවද උන්වහන්
සේ කියනසේක් එහෙයින් මාගේ පියා
නන්වහන්සේ විසින් බලය දුන් කෙ
නෙකුට මිස කාටවත් මා ලඟට එනනට
66 බැරි බව නුඹලාට කීම්යි කීසේක. එ
තැන් පටන් උන්වහන්සේගේ ගෝල
යන්ගෙන් බොහෝ දෙනෙක් උන්ව
හන්සේ සමග නොහැසිර අහක්ව ගි
යෝය.
67 එකල යේසුසවහන්සේ නුඹලාත් අ
හක්ව යන්ට කැමතිදැයි දොළොස් දෙ
68 නාගෙන් ඇසූසේක. එවිට සීමොන් පේ
තෘුස් උන්වහන්සේට උත්තර දෙමින් ස්වා
මිනි අපි කවුරු ලඟට යමුද? සදකල් ජී
වනය දෙන වචන ඔබවහන්සේට ඇත්
69 තේය. ඔබවහන්සේ ජීවමාන දෙවියන්
වහන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්යයි අපි දැ
70 නගන අදහමුයයි කීයේය. යේසුසවහන්
සේ ඔවුන්ට උත්තර දෙමින් මම නුඹලා
දොළොස් දෙන තෝරා නොගතිම්ද?
නුමුත් නුඹලාගෙන් එකෙක් මට විරුද්ධ
71 කාරයයි කීසේක. සීමොන්ගේ පුත්‍රවූ යූ
දස් ඉස්කාරියොත් ගැන මෙසේ කීසේ
ක මක්නිසාද දොළසගෙන් එකෙක්වූ
ඔහු උන්වහන්සේ පාවාදෙන තැනැ
ත්තාය.

7. පරිච්ඡෙ. ඉන්පසු යුදෙව්වරු යේ
සුසවහන්සේ මරන්ට සෙවූ බැවින් උන්
වහන්සේ යුදයෙහි හැසිරෙන්ට නොක
මැතිව ගලීලයෙහි හැසුරුනුසේක.
2 යුදෙව්වරුන්ගේ කූඩාරම්නම්වූ මං
3 ගල්‍යය ලංවිය. එවිට උන්වහන්සේගේ
සහෝදරයෝ කියනෙනා් ඔබවහන්සේ
කරණ ක්‍රියාවල් ඔබවහන්සේගේ ගෝ
ලයොත් දකින පිනිස මෙයින් පිටත්ව
4 යුදයට ගියමැනව. මක්නිසාද ප්‍රසිද්ධ
වෙන්ට සොයනනාවූ තැනැතෙන් කිසි
දෙයක් රහසින් කරනෙන් නැත. එබැ
වින් ඔබවහන්සේ මේ දේ කරණවානම්
ලෝකයාට තමන් දැක්වුවමැනවයි කී
5 වෝය. මක්නිසාද උන්වහන්සේගේ ස
හෝදරයෝ පවා උන්වහන්සේ අදහග
6 තෙන් නැත. එවිට යේසුසවහන්සේ ඔ
වුන්ට කියනසේක් මාගේ කාලය තවම
පැමුනුනේ නැත. නුඹලාගේ කාලය
7 නිතරම පැමිනි තිබෙයි. නුඹලාට වෛ
රවෙනනට ලෝකයාට බැරිය. නුමුත්
ඔවුන්ගේ ක්‍රියාවල් නපුරු බවට මම
8 සාක්ෂිදෙන බැවින් මට වෛරවෙති. ඒ
මංගල්‍යයට නුඹලා පලයල්ලාය මාගේ
කාලය තවම සම්පූර්ණ නුවූහෙයින් ඒ
මංගල්‍යයට දැන්ම නොයම්යි කීසේක. උ
9 න්වහන්සේ මෙසේ ඔවුන්ට කියා ගලිල
10 යෙහි සිටිසේක. තවද තමන්ගේ සහෝ
දරයෝ ගියකල උන්වහන්සේද අප්‍රසිද්ධව
රහස් වසයෙන් මංගල්‍යයට ගියසේක.
11 යුදෙව්වරු මංගල්‍යයෙහිදී උන්වහන්
සේ සොයමින් ඔහු කොතැන්හිදැයි ඇ
12 සුවෝය. සමූහයන් අතරෙහි උන්වහන්
සේ ගැන මහත් කෙඳිරීමක් විය. සමහ
රෙක් ඔහු සත්පුරුෂයෙකැයි කීවෝය.
සමහරෙක් නැත ඔහු සමූහයා රවටන්
13 නේයයි කීවෝය. නුමුත් යුදෙව්වරුන්
ට භය නිසා කවුරුවත් උන්වහන්සේ
14 ගැන ප්‍රසිද්ධයෙන් කථාකලේ නැත. මං
ගල්‍යය මැදදී යේසුසවහන්සේ දේවමා
15 ලිගාවට ගොස් ඉගැන්වූසේක. එවිට යු
දෙව්වරු පුදුමව කවදාවත් නුගතනාවූ
මූන්වහන්සේ පණ්ඩිතයෙකු සිටිනෙන් කො
16 හොමදැයි කීවෝය. යේසුසවහන්සේ ඔ
වුන්ට උත්තරදෙමින් මාගේ ඉගැන්වීම
මා එවූ උන්වහන්සේගේ මිස මාගේ
17 නොවේය. යමෙක් උන්වහන්සේගේ කැ
මැත්ත කරනනට කැමතිනම් ඔහු ඒ ඉ
ගැන්වීම දෙවියන්වහන්සේගෙන්වූ ඉ
ගැන්වීමක්ද නොහොත් මාගේ සිතින්
උපදවා කියන දේදැයි දැනගනියි. තමා
18 ගේ හිතෙන් උපදවන දේ කියන්නා
තමාගේම ගෞරවය සොයයි නුමුත් ත
මන් එවූ තැනන්වහන්සේගේ ගෞරව
ය සොයනනා සැබෑවූ කෙනෙක ඔහු
19 කෙරෙහි වචාවක් නැත. මෝසෙස්

නුඹලාට ව්‍යවස්ථාව දුන්නේ නැද්ද? නු
මුත් නුඹලාගෙන් කවුරුවත් ව්‍යවස්ථාව
රක්ෂාකරන්නේ නැත. මා මරන්නට සො
20 යන්නේ මක්නිසාදැයි කීසේක. සමූහ
යෝ උත්තරදෙමින් නුඹට යක්ෂයෙක්
ආවේශව ඇත නුඹ මරන්ට සොයන්නේ
21 කවුදැයි කීවෝය. ජේසුස්වහන්සේ උත්
තරදෙමින් එක් ක්‍රියාවක් කෙලෙමි-එ
22 යට නුඹලා සියල්ලෝ පුදුමවෙති. මෝ
සෙස් චර්මඡේදනය නුඹලාට දුන්නේය
ඒක මෝසෙස්ගෙන් නොව පියවරුන්
ගෙන් වූයේය. නුඹලාද සබත් දවසේ
දී මනුෂ්‍යයෙකු චර්මඡේදනය කරති.
23 මෝසෙස්ගේ ව්‍යවස්ථාව අවලංගු නො
කරණ පිනිස මනුෂ්‍යයෙක් සබත් දව
සේදී චර්මඡේදනය ලබනවානම් මම ස
බත් දවසේදී මනුෂ්‍යයෙක් සම්පූර්ණ
යෙන් සුවකලාට නුඹලා මා කෙරේ කු
24 මට කිපෙද්ද? ධාර්මික විනිශ්චයෙන්
මිස නිකම් පෙනෙන හැටියට විනිශ්ච
25 ය නොකරල්ලායයි කීසේක. එවිට ජෙ
රුසලම් වාසීන්ගෙන් සමහරු කියන්
නෝ ඔවුන් විසින් මරන්නට සොයන්
26 නේ මොහු නොවේද? මොහු භයක්
නැතුව කථාකරන්නේය ඔවුහු මොහුට
කිසි දෙයක් කියන්නේ නැත. ඔවුන්
මොහු ක්‍රිස්තුස්වයයි සැබැවටම දන්නෝ
27 ද? මොහු කොතනින් ආයේදැයි අනිමු
ව. නුමුත් ක්‍රිස්තුස්වහන්සේ එන කල උ
න්වහන්සේ කොතනින් එනසේක්දැයි ක
28 වුරුවත් නොදන්නෝයයි කීවෝය. ඒ
නිසා දේවමාලිගාවේ උගන්වමින් සිටියා
වූ ජේසුස්වහන්සේ ශබ්ද පවත්වමින් නු
ඹලා මා කවුද කියාත් කොතනින් ආවා
ද කියාත් දනිති. මාගේම කැමැත්තෙන්
නායෙමි නුමුත් මා එවූ උන්වහන්සේ
සැබෑ කෙනෙක. නුඹලා උන්වහන්සේ
29 අඳුනන්නේ නැත. මම උන්වහන්සේ කෙ
රෙන් ආ බැවින්ද උන්වහන්සේ විසින් මා
එවූ බැවින්ද උන්වහන්සේ අඳුනමියි කී
30 සේක. එවිට ඔවුන් උන්වහන්සේ අල්ලන්
ට සෙව්වෝය. නුමුත් උන්වහන්සේගේ
කාලය ඒ වෙනතුරුම නොපැමිණුන බැ
වින් කවුරුවත් උන්වහන්සේ ඇල්ලුවේ
31 නැත. සමූහයාගෙන් බොහෝ දෙන
උන්වහන්සේ අදහගෙන ක්‍රිස්තුස්වහන්
සේ ආකල මූවහන්සේ විසින් කල ආශ්
චර්යවලට වඩා උන්වහන්සේ කරණ
සේක්දැයි කීවෝය.

32 සමූහයෝ උන්වහන්සේ ගැන මෙයා
කාර කොඳුරතියි ඵරිසිවරු ඇසුවෝය.
ඔවුන්ද නායක පූජකයෝද උන්වහන්සේ
33 අල්ලන්ට සේවකයන් යැව්වෝය. එවිට
ජේසුස්වහන්සේ ඔවුන්ට කියනසේක් ත
ව ස්වල්ප වේලාවක් මම නුඹලා සමග සි
ටිමි ඉන්පසු මා එවූ උන්වහන්සේ ළඟ
34 ට යමි. නුඹලා මා සොයති නුමුත් නුඹ
ලාට සම්භනොවෙමි. මම සිටින තැනට
එන්නට නුඹලාට නුපුළුවනැයි කීසේක.
35 ඒ නිසා යුදෙව්වරු ඔවුනොවුන් කථාක
රමින් මොහු අපට සම්භනොවෙන්ට කො
තනට යන්නේද? ග්‍රීකයන් කෙරෙන් වි
සිරී ගියවුන් ළඟට ගොස් ග්‍රීකයන්ට උ
36 ගන්වන්නේද? නුඹලා මා සොයති නුමුත්
නුඹලාට සම්භනොවෙමි. මම සිටින තැ
නට එන්නට නුඹලාට නුපුළුවනැයි මොහු
විසින් කී කාරණය මොකදැයි කීවෝය.
37 මංගල්‍යයේ අන්තිම මහත් දවසෙහි ජේ
සුස්වහන්සේ වැඩසිට ශබ්ද පවත්වමින්
යමෙකුට පිපාස ඇද්ද ඔහු මා ළඟට ඇ
38 විත් බීවාවේ. යමෙක් මා අදහන්නේ
ද සුබ ලියවිල්ලෙහි කියා තිබෙන හැ
ටියට ජීවන දියක වතුර ඇති ගංගා
ඔහු කෙරෙන් ගලනවා ඇතැයි කීසේ
39 ක. මේ උන්වහන්සේ අදහනවුන්ට ලැ
බෙන්නට තිබෙන ආත්මය ගැන උන්ව
හන්සේ කීසේක. මක්නිසාද ජේසුස්ව
හන්සේ ඒතාක්කල්ම තේජසට නොපැ
මිණි බැවින් ඒතාක්කල්ම සුද්ධාත්මය
40 නොදෙනලද්දේය. සමූහයාගෙන් බො
හෝ දෙන මේ වචනය අසා සැබැවට
මූවහන්සේ අනාගතවක්තෘමයයි කී
41 වෝය. සමහරු මූවහන්සේ ක්‍රිස්තුස්ය
42 යි කීවෝය. සමහරු ක්‍රිස්තුස් ගලීල
යෙන් එනවා ඇද්ද? ක්‍රිස්තුස් දාවිත්ගේ
වංශයෙන්ද දාවිත් විසූ බෙත්ලෙහෙම් නු
වරින්ද එනවා ඇතැයි සුබ ලියවිල්ලෙහි
කියා තිබෙන්නේ නොවේදැයි කීවෝය.
43 මෙසේ උන්වහන්සේ ගැන සමූහයා අ
44 තරෙහි භේදයක් වූයේය. ඔවුන්ගෙන්
සමහරෙක් උන්වහන්සේ අල්ලන්ට කැම
තිවූවෝය. නුමුත් කවුරුවත් උන්වහන්
45 සේපිට අත් තැබුවේ නැත. පසුව සේවක
යෝ නායක පූජකයන් සහ ඵරිසිවරුන්
ළඟට ආවෝය. එකල ඔහුන් නුඹලා ඔ
හු නොගෙනාවේ මක්නිසාදැයි සේවක
46 යන්ගෙන් ඇසුවෝය. සේවකයෝ උත්
තර දෙමින් මේ මනුෂ්‍යයා ලෙස කිසි

කලෙකත් කිසි මනුෂ්‍යයෙකුත් කථාක
47 ලේ නැතැයි කීවෝය. එවිට ඵරිසිවරු
ඔවුන්ට උත්තර දෙමින් තුඹලාත් රැව
48 ටුනෝද? ප්‍රධානීන්ගෙනවත් ඵරිසීන්ගෙ
49 නවත් කිසිවෙක් ඔහු අදහගතෙත්ද? නු
මුත් ව්‍යවස්ථාව නොදන්නාවූ මේ සමූ
50 හයා සාපලත්තෙත්යයි කීවෝය. එකල
ඔවුන්ගෙන් එකෙක්වූ රාත්‍රියෙහි යේසු
ස්වහන්සේ ලඟට ගියාවූ නිකදේමුස් උ
51 ත්තර දෙමින් කාට නුමුත් කියන්නට ති
බෙන දෙයක් පලමුකොටම නොඅසා
ඔහු කරනෙත් මොකදැයි නොදැන අපගේ
ව්‍යවස්ථාවෙන් ඔහු වරදට පමුනුවන්නට
52 යුතුදැයි ඔවුන්ගෙන් ඇසුවේය. ඔවුහු
ඔහුට උත්තරදෙමින් තුඹත් ගලීලයෙක්
ද? සොයා බලාපන්න ගලීලයෙන් කිසි
අනාගතවක්තෘ කෙනෙක් නොනැගිටි
53 නෙත්යයි කීවෝය. එවිට සියල්ලෝම ත
මතමන්ගේ ගෙවලට ගියෝය.

8. පරිච්ඡේ. යේසුස්වහන්සේද ඔලිව
කන්දට ගියසේක. උන්වහන්සේ උදයම
2 දේවමාලිගාවට නැවත ආසේක. සියළු
සෙනග උන්වහන්සේ ලඟට පැමිනියෝ
ය උන්වහන්සේ වැඩහිඳ ඔවුන්ට ඉගැන්
3 නුසේක. එවිට පරපුරුෂ සේවනය කරද්
දීම අසුවුන ස්ත්‍රියක් ලියන්නෝද ඵරිසි
වරුද උන්වහන්සේ ලඟට ගෙනවුත් මැ
4 ද සිටුවා ආචාරීනි මේ ස්ත්‍රී පරපුරුෂ සේ
වනය කරද්දීම අල්ලන්නට යෙදුනාය.
5 මෙබඳුවූවන්ට ගල් ගසා මරන්නට මෝ
සෙස් ව්‍යවස්ථාවෙහි අපට අනකෙලේය.
එහෙත් ඔබවහන්සේ කුමක් කියන
සේක්දැයි උන්වහන්සේගෙන් ඇසුවෝ
6 ය. මේ කාරණාව කීවේ උන්වහන්සේ ප
රීක්ෂාකරමින් උන්වහන්සේට දොස පමු
නුවන පිනිසය. නුමුත් යේසුස්වහන්සේ
7 නැමී ඇඟිල්ලෙන් බිම ලිව්වසේක. ඔවුන්
උන්වහන්සේගෙන් අසමින් සිටිද්දීම උ
න්වහන්සේ කෙලින්ව තුඹලා අතරෙන්
පවු නැති මනුෂ්‍යයෙක් ඇට පලමුකො
ට ගලක් ගසාවයි කියා නැවතත් නැමී
8 බිම ලිව්වසේක. ඔවුන් ඒ අසා තමතමන්
9 ගේ හෘදසාක්ෂියටම වරදකාරයන් බව
හැඟී වැඩිමහල්ලා පටන් බාලයා දක්වා
එක එකා පිටත්ව ගියෝය. යේසුස්වහන්
සේ පමනක් සිටිසේක. ඒ ස්ත්‍රීද මැද සි
10 ටියාය. යේසුස්වහන්සේ කෙලින්ව ඒ ස්ත්‍රී
ය හැර වෙන කවුරුවත් නොදැක ස්ත්‍රීය
තුඹට වැරදි තබමින් සිටියෝ කොයිද?
කවුරුවත් තුඹ අච්චුවට නියමකලේ
නැද්දැයි ඈගෙන් ඇසුසේක. ඈ ස්වාමි
11 නි නැතැයි කීවාය. එවිට යේසුස්වහන්
සේ මමද තුඹ අච්චුවට නියම නොකර
මි පලයන්න මෙතැන් පටන් පව් නො
කරන්නැයි ඈට කීසේක.
12 යේසුස්වහන්සේ නැවතත් ඔවුන් ස
මග කථාකරමින් ලෝකයෙහි ආලෝක
ය මමය. මා පස්සේ එන්නා අඳුරෙහි
නොහැසිර ජීවනයෙහි එලිය ලබනෙත්
13 යයි කීසේක. එවිට ඵරිසියෝ තුඹ ත
මන් ගැනම සාක්ෂි දෙන්නේය. තුඹේ
සාක්ෂිය පිලිගන්ට යුතු නැතැයි උන්ව
14 හන්සේට කීවෝය. යේසුස්වහන්සේ උ
ත්තර දෙමින් මම මා ගැනම සාක්ෂිදෙ
න නුමුත් මම ආවේ කොතනින්දැයනෙත්
කොතනටදැයි දැනගත් බැවින් මාගේ
සාක්ෂි පිලිගන්ට යුතුය. මම කොතැන්
හි සිට ආයෙම්ද කොතැනට යෙම්දැයි තු
බලා දන්නෙත් නැත. තුඹලා මාංශාකාර
15 යෙන් විනිශ්චය කරති. මම කවුරුවත්
16 විනිශ්චය නොකරමි. මම විනිශ්චය කෙ
රෙම්නම් මම තනියම නොසිට මා එවූ
පියානන්වහන්සේ මා සමග සිටින බැ
17 වින් මාගේ විනිශ්චය සැබෑය. දෙන්
නෙකුගේ සාක්ෂිය පිලිගන්ට යුතුයයි තු
බලාගේ ව්‍යවස්ථාවෙහි ලියනලද්දේය.
18 මම මා ගැන සාක්ෂි දෙමි මාගේ පියාන
න්වහන්සේද මා ගැන සාක්ෂි දෙනසේකැ
19 යි කීසේක. එවිට ඔවුන් තුඹේ පියා කො
තනදැයි උන්වහන්සේගෙන් ඇසුවෝය.
යේසුස්වහන්සේ උත්තර දෙමින් තුඹ
ලා මා අඳුනනෙත්වත් මාගේ පියානන්
වහන්සේ අඳුනනෙත්වත් නැත. තුඹලා
මා ඇඳිනනානම් මාගේ පියානන්වහන්
20 සේත් අඳුනනවා ඇතැයි කීසේක. යේ
සුස්වහන්සේ දේවමාලිගාවේ උගන්ව
මින් සිට මුදල් ගබඩාවේදී මේ වචන කී
සේක. උන්වහන්සේගේ කාලය එතාක්
කල්ම නොපැමිනි බැවින් කවුරුවත් උ
න්වහන්සේ ඇල්ලුවේ නැත.
21 නැවතත් යේසුස්වහන්සේ මම පිටත්ව
යෙමි තුඹලා මා සොයනවා ඇත. නු
මුත් තුඹලා තමන්ගේ පාපයෙහි මැරෙ
නවා ඇත. මම යන ස්ථානයට තුඹලාට
22 එන්නට නුපුළුවනැයි කීසේක. එවිට යු
දෙව්වරු මම යන ස්ථානයට තුඹලාට
එන්නට නුපුළුවනැයි මොහු කියනෙත්

මොහු තමන්ම නසාගන්වදෙ කිවෝය.
23 තවද උන්වහන්සේ තුබලා පහලින් වෙ
ති මම ඉහලින් වෙමි. තුබලා මෙලො
වින් වෙති මම මෙලොවින් නොවෙමි.
24 එහෙයින් තුබලා තමන්ගේ පාපයෙහි
මියනවා ඇතැයි තුබලාට මම කිමි. මක්
නිසාද මම ඔහුමයයි තුබලා අදහ නො
ගත්තොත් තුබලාගේ පාපයෙහි මැරෙ
25 ණවා ඇතැයි කිසේක. එවිට ඔවුන් තුබ
කවුදැයි උන්වහන්සේගෙන් ඇහුවෝය.
යේසුස්වහන්සේද මම පලමු තුබලාට
26 කි තැනැත්තම වෙමි. තුබලා ගැන කි
යන්වත් විනිශ්චයකරන්වත් බොහෝ
කාරණ ඇත. තුමුත් මා එවූ උන්වහන්
සේ සැබෑ කෙනෙක. මමද උන්වහන්
සේගෙන් ඇහූ දේ ලොවට කියමියි කි
27 සේක. උන්වහන්සේ පියානන්වහන්සේ
ගැන ඔවුන්ට කථාකලසේකැයි ඔවුන්ට
28 වැටහුනේ නැත. එවිට යේසුස්වහන්සේ
ඔවුන්ට කියනසේක් තුබලා මනුෂ්‍ය පු
ත්‍රයා එසවූ පසු මම ඔහුමයයි කියාද මා
ගේ පියානන්වහන්සේ මට ඉගැන්වූ දේ
කියනවා මිස මාගේ කැමැත්තෙන් කිසි
දෙයක් නොකෙරෙමියි කියාද තුබලා
දනනවා ඇත. මා එවූ උන්වහන්සේ මා
29 සමගය. මාගේ පියානන්වහන්සේට ප්‍රි
සන්න දේ මම නිතරම කරණ හෙයින්
උන්වහන්සේ මා තනියම සිටිනනට ඇ
30 රියේ නැතැයි කිසේක. උන්වහන්සේ
මෙසේ කියද්දිම බොහෝ දෙන උන්ව
31 හන්සේ අදහගත්තෝය. එකල යේසුස්
වහන්සේ තමන් අදහගත් යුදෙව්ව
රුන්ට කියනසේක් තුබලා මාගේ වච
නයෙහි පිහිටා සිටිනවානම් සැබෑවට
32 මාගේ ගෝලයෝ වෙති. තුබලා සැබෑ
කම දනනවා ඇත සැබෑකම තුබලා මු
දනවා ඇතැයි කිසේක.
33 ඔවුන් උන්වහන්සේට උත්තර දෙමින්
අපි ආබ්‍රහම්ගෙන් පැවත එන්නෝ වෙ
මුව. අපි කිසි කලෙක කවරෙකුටත් වාල්
තුනෙමුව. තුබලා මුදනු ලබනවා ඇතැ
යි තුබ කියන්නේ කොහොමදැයි කිවෝ
34 ය. යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙ
මින් සැබවක් සැබවක් තුබලාට කියමි
පව්කරණ සියල්ලෝම පාපයට වාල්වෙ
35 ති. වාලා නිතරම පවුලේ සිටිනේ නැ
36 ත පුත්‍රයා නිතරම සිටිනේය. එසේ
හෙයින් පුත්‍රයා තුබලා මුදන්නේනම් සැ
බෑවටම තුබලා මුදනු ලබනවා ඇත.
37 තුබලා ආබ්‍රහම්ගෙන් පැවත එන්නෝ
යයි දනිමි තුමුත් මාගේ වචනය තුබලා
ඇතුලේ පිහිටා නැති බැවින් මා මරන්
38 නට සොයති. මම මාගේ පියානන්වහන්
සේ ලඟදී දුටු දේ කියමි තුබලා තුබලා
ගේ පියා ලඟදී දුටු දේ කරතියි කිසේ
39 ක. ඔවුන් උත්තර දෙමින් ආබ්‍රහම් අ
පගේ පියානෝයයි උන්වහන්සේට කි
වෝය. එවිට යේසුස්වහන්සේ ඔවුන්ට
කියනසේක් තුබලා ආබ්‍රහම්ගේ පුත්‍ර
40 යෝනම් ආබ්‍රහම්ගේ ක්‍රියා කරති. මා
විසින් දෙවියන්වහන්සේගෙන් අසනලද
සැබෑකම තුබලාට කිමි. මා මරනනට
දැන් තුබලා සොයති. ආබ්‍රහම් එසේ කා
41 ලේ නැත. තුබලා තුබලාගේ පියාගේ
ක්‍රියා කරතියි කිසේක. එවිට ඔවුන් අ
පි වෛශ්‍යාකමින් උපන්නෝ නොවෙමු
ව. අපගේ පියානෝ එක්කෙනෙක ඒ
42 දෙවියන්වහන්සේමයයි කිවෝය. එවිට
යේසුස්වහන්සේ ඔවුන්ට කියනසේක් ඉ
දින් දෙවියන්වහන්සේ තුබලාගේ පියා
නෝනම් තුබලා මට ප්‍රේම කරණවා ඇ
ත. මක්නිසාද මම දෙවියන්වහන්සේ
කෙරෙන් ආයෙමි මාගේම කැමැත්තෙන්
43 නායෙමි උන්වහන්සේ මා එවූසේක. මා
ගේ කිම තුබලාට නොවැටහුනේ මක්
නිසාද? මාගේ වචන පිලිගන්ට තුබලා
44 ට බැරි නිසාය. තුබලාගේ පියා සාතන්
ය තුබලාගේ පියාගේ ආසාවන් කරන්ට
තුබලා කැමතිවෙති. ඔහු මුල පටන් මි
නී මරන්නෙක. ඔහු තුලේ සැබෑකම
නැති හෙයින් ඔහු සැබෑකමෙන් අහක්
ව ගියේය. ඔහු බොරුකාරයෙක බො
රුවේ පියාය. ඒ නිසා ඔහු බොරුවක් කි
45 යන කල ඔහුගේම දේ කියන්නේය. ම
ම තුබලාට සැබෑකම කියමි එහෙයින්
46 තුබලා මා අදහන්නේ නැත. මා වරද
කාරයෙක්කොට ඔප්පුදෙනනට තුබලා
අතරෙන් කාට පුළුවන්ද? මම සැබෑකම
කියනවානම් මා අදහනොගන්නේ මක්
47 නිසාද? දෙවියන්වහන්සේ කෙරෙන් ආ
තැනැත්තේ දෙවියන්වහන්සේගේ වච
න පිලිගන්නේය. තුබලා දෙවියන්වහන්
සේ කෙරෙන් නොවූ බැවින් ඒ වචන
48 පිලිගන්නේ නැතැයි කිසේක. එවිට යු
දෙව්වරු උත්තර දෙමින් තුබ සමාරි
යෙකැයි කියාද යක්ෂයා වැහුනාවූ කෙ
නෙකැයි කියාද අපි කියනවා හරි නො
49 වේදැයි උන්වහන්සේට කිවෝය. යේ

සුස්වහන්සේ උත්තර දෙමින් මම යක්ෂ
යා වැහුනාවූ කෙනෙක් නොවෙමි මම
මාගේ පියානන්වහන්සේට ගෞරව කෙ
50 රෙමි නුඹලා මට අගෞරව කරති: මම
මාගේ ගෞරවය නොසොයමි ඒ සොය
නාවූ විනිශ්චයකරනනාවූ කෙනෙක්
51 ඇත. සැබවක් සැබවක් නුඹලාට කිය
මි යමෙක් මාගේ වචනය රක්ෂාකරන්
නේනම් ඔහු කිසි කලෙකත් මරණය ද
52 කිනෙණ් නැතැයි කීසේක. එවිට යුදෙව්
වරු නුඹ යක්ෂයා වැහුනාවූ කෙනෙකැ
යි දැන් දනිමුව. ආබ්‍රහම්ද අනාගතවක්
තෘහුද නැසුනෝය. නුඹද යමෙක් මා
ගේ වචනය රක්ෂාකරනෙණ්නම් ඔහු කි
සි කලෙකත් මරණයේ රස විඳිනෙණ් නැ
53 තැයි කියනෝය. නුඹ අපගේ පියවූ
ආබ්‍රහම්ට වඩා උතුම් කෙනෙක්ද? ඔහු
නැසුනේය: අනාගතවක්තෘහුද නැසු
නෝය. නුඹ කවරෙක කියා සිතනෙහි
54 දැයි කීවෝය. යේසුස්වහන්සේ උත්තර
දෙමින් මම මටම ගෞරව කෙරෙමිනම්
මාගේ ගෞරවය හිස්වෙයි; මට ගෞර
ව කරනෙහි මාගේ පියානන්වහන්සේ
ය. උන්වහන්සේ නුඹලාගේ දෙවියන්ව
55 හන්සේයයි නුඹලා කියති. නුමුත් නුඹ
ලා උන්වහන්සේ අඳුනනෙහි නැත. මම
උන්වහන්සේ අඳුනමි උන්වහන්සේ නා
ඳුනමියි කීමිනම් මමත් නුඹලා සමාන
බොරු කියනෙකක් වෙමි. මම උන්ව
හන්සේ අඳුනමි උන්වහන්සේගේ වචන
56 යද රක්ෂාකෙරෙමි. නුඹලාගේ පියවූ ආ
බ්‍රහම් මාගේ දවස දකින්ට ප්‍රීතියෙන්
බලා සිටියේය. දැක සන්තෝෂ වූයේය
57 යි කීසේක. එකල යුදෙව්වරු තව වයස්
පනහකට නොපැමිණියාවූ නුඹ ආබ්‍රහම්
58 දුටුයේදැයි උන්වහන්සේට කීවෝය. යේ
සුස්වහන්සේ සැබවක් සැබවක් නුඹලා
ට කියමි ආබ්‍රහම්ගේ ඉපදීමට පළමු මම
59 ඇතෙනමියි ඔවුන්ට කීසේක. එවිට ඔ
වුන් උන්වහන්සේට ගසන පිණිස ගල්
අතට ගත්තෝය. නුමුත් යේසුස්වහන්
සේ සැඟවී ඔවුන් මැදින් ගොස් දේවමා
ළිගාවෙන් පිටත්ව ගියසේක.

9: පරිච්ඡේ: යේසුස්වහන්සේ යමින්
මවු කුසේ පටන් අන්ධවූ මනුෂ්‍යයෙක් දු
2 ටුසේක. එවිට උන්වහන්සේගේ ගෝල
යෝ ආචාර්ය්‍යතුමනි කවුරු විසින් කරණලද
පාපයකින් මොහු අන්ධව උපනෝද?
මොහු විසින්ද මොහුගේ මව්පියන් විසින්
3 දැයි ඇසුවෝය. යේසුස්වහන්සේ උත්තා
ර දෙමින් දෙවියන්වහන්සේගේ ක්‍රියා
වන් මොහු කෙරේ ප්‍රකාශකරණ පිණිස
මිස මොහු විසින්වත් මොහුගේ මව්පියන්
විසින්වත් කල පාපයකින් මේ දේ සිදු
4 වූයේ නැත. දවල්ව තිබෙන කල මා
එවූ උන්වහන්සේගේ වැඩ මා විසින් ක
ටයුතුය. කාටවත් වැඩකරන්ට නුපුළු
5 වන්වූ රාත්‍රිය පැමිණෙනෙෝය. මම ලෝ
කයෙහි සිටිනතුරු ලෝකයෙහි ආලෝ
6 කය වෙමියි කීසේක. උන්වහන්සේ මේ
වචන කියා බිමට කෙළගසා එයින් මඩ
7 සාදා ඒ මඩ අන්ධයාගේ ඇස්වල ගා නුඹ
ගොස් සිලෝහම් පොකුණෙන් නාපන්
නැයි ඔහුට කීසේක. සිලෝහම් යන ව
චනයෙහි අර්ථයනම් එවනලද යනුය.
එවිට ඔහු ගොස් නා පෙනීම ලැබ ආ
8 යේය. එකල අසල්වාසියෝද ඔහු අන්ධව
සිටි කල ඔහු දුටු අයවල්ද මොහු ඉඳගෙ
න සිඟමන් ඉල්ලූයේ නොවේදැයි කීවෝ
9 ය. සමහරෙක් මේ ඔහුමය තවත් සමහ
රෙක් මොහු ඔහු හා සමානයයි කීකල ඔහු
10 ඒ මමයයි කීයේය. එවිට ඔවුන් නුඹේ
ඇස් පෑදුනේ කොහොමදැයි ඔහුගෙන්
11 ඇසුවෝය. ඔහු උත්තර දෙමින් යේසුස්
නම් මනුෂ්‍යයෙක් මඩ සාදා මාගේ ඇස්
වල ගා නුඹ ගොස් සිලෝහම් පොකු
ණෙන් නාපනැයි මට කීයේය. මමද
12 ගොස් නා පෙනීම ලැබීමියි කීයේය. එ
කල ඔවුන් ඔහු කොතනදැයි ඇසුවෝය.
මම නොදනිමියි කීයේය.
13 පසුව පළමු අන්ධව සිටි ඔහු ඵරිසින්
14 ළඟට ගෙන ගියෝය. යේසුස්වහන්සේ
මඩ සාදා ඔහුගේ ඇස් පෑදූ දවස සබත්
15 දවසය. ඵරිසිවරුද නුඹට පෙනීම ලැබු
නේ කොහොමදැයි ඔහුගෙන් ඇසුවෝ
ය. ඔහු උන්වහන්සේ මාගේ ඇස්වල ම
ඩ ගෑසේක. මම නාලා පෙනීම ලැබුයෙ
16 මියි ඔවුන්ට කීයේය: එවිට ඵරිසිවරුන්
ගෙන් සමහරෙක් ඒ මනුෂ්‍යයා සබත්
දවස නොපවත්වන බැවින් දෙවියන්ව
හන්සේ කෙරෙන් ආ කෙනෙක් නො
වේයයි කීවෝය: තවත් සමහරෙක් පව්
කාරයෙකුට මෙයාකාර ආශ්චර්ය්‍යයන්
කරනනට පුළුවන්දැයි කීවෝය: මෙසේ
17 ඔවුනොවුන් අතරේ භේදයක් විය. නැ
වත ඔවුන් නුඹේ ඇස් ඔහු විසින් පෑදූ
බැවින් ඔහු ගැන නුඹ කියනෙහි මොක

දූසි අන්ධයාගෙන් ඇසුවෝය. අනාගත
18 වක්තෘ කෙනෙකැයි ඔහු කීයේය. යු
වුත් යුදෙව්වරු පෙනීම ලැබූ අයගේ
මව්පියන් කැඳවනතුරු ඔහු අන්ධව සිට
19 පෙනීම ලැබුයේයයි අදහානොගෙන අ
න්ධව උපනේයයි තුඹලා කියන තුඹ
ලාගේ පුත්‍රයා මොහුද? එසේවීනම් දැන්
ඔහුට පෙනෙන්නේ කොහොමදැයි ඔ
20 වුන්ගෙන් ඇසුවෝය. ඔහුගේ මව්පි
යෝ ඔවුන්ට උත්තර දෙමින් මොහු අප
21 ගේ පුත්‍ර බවද අන්ධව උපන් බවද දනිමු
ව. නුමුත් දැන් කොහොම මොහුට පෙ
නෙනෙන්ද කියාත් මොහුගේ ඇස් පෑ
දුවේ කවුද කියාත් අපි දන්නේ නැත.
මොහුට වයස් ඇත මොහුගෙන් අසාප
22 ල්ලාය ඔහු කියනෙනේයයි කීවෝය. ඔහු
ගේ මව්පියෝ යුදෙව්වරුන්ට භයින්
මෙසේ කීවෝය. මක්නිසාද කවුරුවත්
උන්වහන්සේ ක්‍රිස්තුස්යයි කීයේනම් ඔ
හු සිනගෝගයෙන් අහක්කරනු ලබන්
නේයයි පළමුවෙන්ම යුදෙව්වරු නියෝ
23 ග කළෝය. එහෙයින් ඔහුගේ මව්පියෝ
මොහුට වයස් ඇත. මොහුගෙන් අසාප
24 ල්ලායයි කීවෝය. එවිට ඔවුන් අන්ධව සි
ටි මනුෂ්‍යයා දෙවනු කැඳවා දෙවියන්වී
හන්සේට ස්තුතිකරපල්ලා මේ මනුෂ්‍යයා
පව්කාරයෙකැයි අපි දනිමුයයි ඔහුට කී
25 වෝය. ඔහු උත්තර දෙමින් උන්වහන්
සේ පව්කාරයෙක්ද නැද්දැයි මම නොද
නිමි එකක් දනිමි පළමු අන්ධවීමි දැන්
26 මට පෙනීම ඇත්තේයයි කීය. ඔවුන්ද
ඔහු තුඹට කළේ මොකද? තුඹේ ඇස්
පෑදුවේ කොහොමදැයි නැවතත් ඔහු
27 ගෙන් ඇසුවෝය. ඔහු ඔවුන්ට උත්ත
ර දෙමින් පළමුවෙන් තුඹලාට කීමි තු
ඹලා සැලකුවේ නැත. තුඹලා නැවත
අහනනට කැමතිවන්නේ මක්නිසාද?
තුඹලාත් උන්වහන්සේගේ ගෝලයෝ
28 වෙනනට කැමතිදැයි කීයේය. එවිට ඔ
වුන් ඔහුට නින්දාකොට තෝ ඔහුගේ
ගෝලයාය අපි මෝසෙස්ගේ ගෝල
29 යෝය. දෙවියන්වහන්සේ මෝසෙස් ස
මග කථාකළ බව දනිමුව. මොහු කො
තැනින් ආයේදැයි නොදනිමුයයි කීවෝ
30 ය. ඒ මනුෂ්‍යයා උත්තර දෙමින් උන්ව
හන්සේ මාගේ ඇස් පෑදුසේක උන්ව
හන්සේ කොතැනින් ආසේක්දැයි තුඹලා
31 දැනනොගත් බව පුදුමයෙක. දෙවියන්ව
හන්සේ පව්කාරයන්ගේ වචන නොඅ
සන බවත් යමෙක් දෙවියන්වහන්සේ
කෙරේ භක්ති ඇතුව උන්වහන්සේගේ
කැමැත්ත කරනෙන්නම් ඔහුගේ වචන
32 අසන බවත් අපි දනිමුව. කවුරුවත් අ
න්ධව උපනෙකුගේ ඇස් පෑදුවේයයි
ලෝකය පටන්ගැන්මේ සිට නෑසූ කාර
33 ණාවක. මුන්වහන්සේ දෙවියන්වහන්
සේ කෙරෙන් නාසේක්නම් කිසි දෙයක්
කරනනට උන්වහන්සේට නුපුළුවනැයි
34 කීයේය. ඔවුන් ඔහුට උත්තර දෙමින්
සියළු ප්‍රකාරයෙන් පාපයෙහි උපනනාවූ
තෝ අපට උගන්වනෙන්ද්දැයි කියා ඔහු අ
35 හක්කළෝය. ඔවුන් විසින් ඔහු අහක්ක
ළ බව ඇසුවාවූ යේසුස්වහන්සේ ඔහු දැ
ක තුඹ දෙවියන්වහන්සේගේ පුත්‍රයා කෙ
රෙහි ඇදහිලි කරනෙන්ද්දැයි ඔහුගෙන්
36 ඇසූසේක. ඔහු උත්තර දෙමින් ස්වාමිනි
මම උන්වහන්සේ කෙරෙහි ඇදහිලිකා
රන්ට උන්වහන්සේ කවුදැයි ඇසුයේය.
37 යේසුස්වහන්සේ ඔහුට කියනසේක් තුඹ
උන්වහන්සේ දුටුයේය තුඹ සමග කථා
කරනෙනේ උන්වහන්සේමයයි කීසේක.
38 ඔහුද ස්වාමිනි මම අදහමි කියා උන්ව
39 හන්සේට නමස්කාර කෙළේය. එවිට
යේසුස්වහන්සේ ඇස් නොපෙනෙන
වුන්ට ඇස් පෙනෙන පිණිසද ඇස් පෙ
නෙනවුන් අන්ධවෙන පිණිසද විනිශ්චය
ගැන මේ ලෝකයට ආයෙමියි කීසේක.
40 උන්වහන්සේ සමග සිටියාවූ ඵරිසිවරුන්
ගෙන් සමහරෙක් ඒ අසා අපිත් අන්ධ
යෝදැයි උන්වහන්සේගෙන් ඇසුවෝය.
41 යේසුස්වහන්සේ තුඹලා අන්ධවූනානම්
තුඹලාට පාපයක් නැත. දැන් අපට පෙ
නෙන්නේයයි තුඹලා කියති එහෙයින්
තුඹලාගේ පාපය පවතිනෙනේයයි ඔවුන්
ට කීසේක.

10. පරිච්ඡේ. සැබවක් සැබවක් තුඹ
ලාට කියමි යමෙක් දොරකඩින් බැටළු
ගාලට ඇතුල්නොව වෙන මගකින් ඇ
තුල්වේද ඔහු සොරෙක්ද කොල්ලකන්
2 නෙක්ද වෙයි. නුමුත් දොරකඩින් ඇතුල්
වෙන තැනැත්තාම බැටළු එඬේරා වෙ.
3 යි. ඔහුට දොරටුපාලයා දොර හරියි බැ
ටළුවෝද ඔහුගේ හඬ අසති. ඔහු තමා
ගේ බැටළුවන්ගේ නම් කියා හඬගසා
4 ඔවුන් පිටතට ගෙන යයි. ඔහු තමාගේ
බැටළුවන් පිටත්කොට ඔවුන්ට ඉස්සරව
යයි. බැටළුවෝද ඔහුගේ හඬ අඳුනන

5 බැවින් ඔහු පස්සේ යති. උන් වෙන කෙ
නෙකුගේ හඬ නාඳුනන හෙයින් ඔහු
පස්සේ නොගොස් ඔහු කෙරෙන් පලා
6 යනවා ඇතැයි කීසේක. යේසුසවහන්
සේ මේ උපමාව ඔවුන්ට කී නුමුත් උන්
වහන්සේ විසින් කියනලද කාරණාව ඔ
7 වුන් තේරුම්ගනොත් නැත. එවිට යේසු
සවහන්සේ නැවතත් ඔවුන්ට කියන
සේක් සැබවක් සැබවක් තුබලාට කිය
8 මි බැටළුගාලේ දොරකඩනම් මමය. මට
පලමු ආ සියල්ලෝම සොරුද කොල්ලක
නොවෝද වෙති. නුමුත් බැටළුවෝ ඔවුන්
9 කිවා ඇහුවේ නැත. මම දොරකඩවෙමි
යමෙක් මා කරණකොටගෙන ඇතුල්
වේද ඔහු රක්ෂාකරනු ලැබ ඇතුලටද පි
10 ටතටද ගොස් කෑම ලබනෙන්ය. සො
රා සොරකම් කරන්ටද මරන්ටද විනාශ
කරන්ටද මිස වෙන කිසිවකට එනෙත්
නැත. ඔවුන්ට ජීවනයද ඒ ජීවනයේ සම්
පූර්ණියද ලැබෙන පිනිස මම ආයෙමි.
11 යහපත් බැටළු එඬේරා මමය. යහපත්
බැටළු එඬේරා තමාගේ ප්‍රාණය බැටළු
12 වන් උදෙසා දෙන්නේය. නුමුත් බැටළු
එඬේරා නොවූ බැටළුවන්ගේ ස්වාමියා
නොවනනාවූ කුලීකාරයා වෘකයා එනවා
දැක බැටළුවන් අත්හැර පලායයි. එවිට
වෘකයා උන් අල්ලමින් බැටළු රැල කඩින්
13 කඩද එලවයි. කුලීකාරයා කුලීකාර
යෙක් බැවින් බැටළුවන් නොසලකා ප
14 ලා යයි. යහපත් බැටළු එඬේරා මමය.
පියානන්වහන්සේ මා යම්සේ අඳුනන
සේක්ද මම පියානන්වහන්සේ යම්සේ
අඳුනම්ද එසේ මම මාගේ බැටළුවන් අ
15 ඳුනම්. මාගේ බැටළුවෝත් මා අඳුනති.
16 බැටළුවන් නිසා මාගේ ප්‍රාණය දෙමි. ඒ
ගාලට අයිති නුවූ වෙනත් බැටළුවෝ ම
ට ඇත. ඔවුන්ද මා විසින් ගෙන යායුතු
ය. ඔවුන් මාගේ හඬ අසනවා ඇත. එ
කල එකම රැලක්ද එකම බැටළු එඬේ
17 රෙක්ද වනෙන්ය. මා විසින් නැවත ග
න්නා පිනිස මාගේ ප්‍රාණය දෙන බැවින්
මාගේ පියානන්වහන්සේ මට ප්‍රේමවන
18 සේක. මාගේ ප්‍රාණය කැමැත්තෙන් දෙ
නවා මිස කවුරුවත් ඒක මාගෙන් උදු
රාගනොත් නැත. ඒක දෙන්ටද නැවත
ගන්ටද මට බලය ඇත. මාගේ පියාන
න්වහන්සේගෙන් ඒ අන ලදිමියි කීසේ
19 ක. එවිට ඒ කීම ගැන යුදෙව්වරු අත
රේ භේදයක් නැවත අටගත්තේය.
20 ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් ඔහු ය
ක්ෂයා වැහුනාවූ පිස්සෙක. ඔහුගේ බස්
21 අහනෙන් මක්නිසාදැයි කීවෝය. තවත්
සමහරෙක් මේ යක්ෂයා වැහුනාවූ කෙ
නෙකුගේ බස් නොවෙයි අන්ධයන්ට පෙ
නීම දෙන්නට යක්ෂයා වැහුනාවූ අයට
පුළුවන්දැයි කීවෝය.
22 පවිත්‍රකිරීමනම්වූ මංගල්‍යය යෙරුස
23 ලමේ තිබුනේය සීතල කාලයද විය. එ
විට යේසුසවහන්සේ දේවමාලිගාවේ සා
ලමොන්ගේ පිල්කඩ සක්මන්කලසේ
24 ක. එවිට යුදෙව්වරු ඇවිත් උන්වහන්සේ
වටකර සිට කොපමන කල් අපට සැක
උපදවනසේක්ද? ඔබවහන්සේ ක්‍රිස්තුස්
නම් ප්‍රකාසයෙන් අපට කිවමැනවයි උ
25 න්වහන්සේට කීවෝය. යේසුසවහන්සේ
ඔවුන්ට උත්තර දෙමින් මම තුබලාට කී
මි තුබලා අදහගනොත් නැත. මාගේ පි
යානන්වහන්සේගේ නාමයෙන් මම ක
26 රණ ක්‍රියාවල්ම මා ගැන සාක්ෂි දෙති. ම
ම තුබලාට කිව් හැටියට තුබලා මාගේ
රැලෙහි බැටළුවෝ නොවන බැවින් තු
27 බලා අදහගනොත් නැත. මාගේ බැටළු
වෝ මාගේ හඬ අසති මමද ඔවුන් අඳු
28 නම් ඔවුනුත් මා පස්සේ එති. මම ඔවුන්
ට සදාකාල ජීවනය දෙමි. ඔවුන් කවදා
වත් විනාශ නොවෙති. කවුරුවත් මා
ගේ අතින් ඔවුන් උදුරාගනොත් නැත.
29 මට ඔවුන් දුන්නාවූ මාගේ පියානන්ව
හන්සේ සියල්ලන්ට වඩා උතුම්කෙනෙ
ක. මාගේ පියානන්වහන්සේගේ අතින්
30 ඔවුන් උදුරාගන්ට කාටවත් බැරිය. මම
ද පියානන්වහන්සේද ඒකත්වයක්ව සි
31 ටිමුයයි කීසේක. එවිට යුදෙව්වරු උන්
වහන්සේට ගල් ගසන්ට නැවතත් ගල්
32 අතට ගනොත්ය. යේසුසවහන්සේ ඔ
වුන්ට කියනසේක් මාගේ පියානන්වහන්
සේගෙන්වූ නොයෙක් යහපත් ක්‍රියාවල්
තුබලාට දැක්වීමි. එයින් කොයි ක්‍රියාව
33 නිසා මට ගල් ගසද්දැයි කීසේක. යුදෙව්
වරු උන්වහන්සේට උත්තර දෙමින් ය
හපත් ක්‍රියාවක් නිසා නොව තුබ මනු
ෂ්‍යයෙක්ව සිට දෙවියන්වහන්සේ වෙන්
ට සාදමින් දෙවියන්වහන්සේට අපහා
ස කරණ නිසා තුබට ගල් ගසමුයයි කී
34 වෝය. යේසුසවහන්සේ ඔවුන්ට උත්තර
දෙමින් තුබලා දෙවිවරුයයි මම කීමියි
යන වචන තුබලාගේ ව්‍යවස්ථාවෙහි ලි
යා තිබෙනවා නොවේද? තුබ ලියවිලි

35 කඩකරන්ට බැරිය. එහෙයින් දෙවියන්
වහන්සේගේ වචනය ලැබූවන්ට දෙවි
36 වරුයයි උන්වහන්සේ කීසේක්නම් මම
දෙවියන්වහන්සේගේ පුත්‍ර වෙමියි මම
කිව් නිසා පියානන්වහන්සේ විසින් පිරි
සිදුකොට ලොවට එවනලද ඔහු දෙවි
යන්වහන්සේට අපහාස කරන්නේයයි
37 තුඹලා කෙසේ කියද්ද? මාගේ පියානන්
වහන්සේගේ ක්‍රියාවල් නොකෙරෙම්
38 නම් මා අදහා නොගනිල්ලාය. කෙරෙම්
නම් තුඹලා මා අදහා නොගනිතත් පියා
නන්වහන්සේ මා ඇතුලෙහිද මම උන්
වහන්සේ ඇතුලෙහිද ඇතැයි දැන අද
හන පිනිස ක්‍රියාවන් අදහාගනිල්ලායයි
39 කීසේක. එවිට උන්වහන්සේ අල්ලන පි
නිස ඔවුන් නැවත සෙව් නුමුත් උන්වහන්
සේ ඔවුන්ගෙන් ගැලවී ගියසේක.
40 පසුව උන්වහන්සේ යොර්දනෙන් එ
ගොඩ යොහන් පලමුවෙන් බව්තිස්මක
ල ස්ථානයට නැවත ගොස් එහි වාසයක
41 ලසේක. බොහෝ දෙනද උන්වහන්සේ
ලඟට ඇවිත් යොහන් කිසි ආශ්චර්‍ය්‍යයක්
කෙලේ නැත. නුමුත් මූන්වහන්සේ ගැ
න යොහන් කී සියල්ලම සැබෑයයි කී
42 වෝය. බොහෝ දෙනද එහිදී උන්වහන්
සේ අදහගත්තෝය.

11. පරිච්ඡේ. තවද මරියාද ඇගේ ස
හෝදරීවූ මාර්තාද වසන බෙතානි ගම වා
සිවූ ලාසරුස්නම් මනුෂ්‍යයෙක් රෝගාතු
2 ර වූයේය. ඒ මරියා නම් ස්වාමින්වහන්
සේට සුවඳ තෙල් ගා තමාගේ ඉසකෙ
සින් උන්වහන්සේගේ පාද පිසදැමූ තැ
නැත්තීය. රෝගාතුරවූ ලාසරුස් ඇගේ
3 සහෝදර වූයේය. එවිට ඔහුගේ සහෝ
දරියෝ ස්වාමිනි ඔබවහන්සේ ආදරවූ
තැනැත්තා රෝගාතුරව සිටින්නේයයි
4 උන්වහන්සේට කියා යැව්වෝය. යේසු
ස්වහන්සේ ඒ අසා ඒ රෝගය දෙවියන්
වහන්සේගේ ගෞරවය පිනිස දෙවියන්
වහන්සේගේ පුත්‍රයාට එයින් ගෞරව
ලැබීමට මිස මරණය පිනිස නොවේයයි
5 කීසේක. යේසුස්වහන්සේ මාර්තාටද ඇ
ගේ සහෝදරීටද ලාසරුස්ටද ප්‍රේම ඇ
6 තිසේක. උන්වහන්සේ ලාසරුස් රෝ
ගාතුරව සිටින්නේයයි අසා තමන් සිටි
ස්ථානයේම තව දෙදවසක් විසූසේක.
7 ඉන්පසු උන්වහන්සේ යුදයට නැවත ය
8 මුයයි ගෝලයන්ට කීසේක. ගෝලයෝ
ආචාරීනි ස්වල්ප දවසකට පලමුවෙන් යු
දෙව්වරු ඔබවහන්සේට ගල් ගසන්ට
සෙව්වෝය එතනට නැවත යනසේක්
9 දැයි උන්වහන්සේට කීවෝය. යේසුස්ව
හන්සේ උත්තර දෙමින් දවසට දො
ලොස් පැයක් නැද්ද? යමෙක් දවහල්
ඇවිදින්නේනම් මේ ලෝකයෙහි එළිය
ඔහුට තිබෙන හෙයින් පැකිලෙන්නේ
10 නැත. නුමුත් යමෙක් රාත්‍රියේ ඇවිදින්
නේනම් ඔහුට එළිය නැතිනිසා ඔහු පැ
11 කිලෙන්නේයයි කීසේක. මෙසේ කියා
අපගේ මිත්‍රවූ ලාසරුස් නිදන්නේය ඔහු
12 පුබුදුවන්ට යමියි ඔවුන්ට කීසේක. එවි
ට උන්වහන්සේගේ ගෝලයෝ ස්වාමි
නි ඔහු නිදන්නේනම් ඔහුට සුවවන්නේ
13 යයි කීවෝය. යේසුස්වහන්සේ ඔහුගේ
මරණය ගැන කීසේක. ඔවුන් නින්දේ
14 නිවාඩුව ගැන කී බව සිතුවෝය. එකල
යේසුස්වහන්සේ ලාසරුස් නැසුනේයයි
ඔවුන්ට ප්‍රකාශ ලෙස කියා තුඹලා අදහ
ගන්නා පිනිස මම එහි නොසිටි බැවින්
15 තුඹලා නිසා සන්තෝස වෙමි. නුමුත් ඔ
16 හු ලඟට යමුයයි කීසේක. එවිට දිදුමස්
නම් තෝමස් මූන්වහන්සේ සමග නසින
පිනිස අපිත් යමුයයි අනිත් ගෝලයන්ට
17 කීයේය. එවිට යේසුස්වහන්සේ ඇවිත්
ඔහු සොහොන් ගෙයි තබා සතර දවස
18 කැයි දැනගත්සේක. බෙතානිය යෙරුස
19 ලමට ගව් බාගයක් පමන දුරය. යුදෙව්
වරුන්ගෙන් බොහෝ දෙනෙක් මාර්තා
සහ මරියාත් ඔවුන්ගේ සහෝදරයා ගැ
න සනසන පිනිස ඔවුන් ලඟට ආවෝය.
20 මාර්තා යේසුස්වහන්සේ එන බව අසා උ
න්වහන්සේගේ පෙරමඟට ගියාය. මරියා
21 ගෙයිම සිටියාය. එවිට මාර්තා යේසුස්ව
හන්සේට කියන්නී ස්වාමීනි ඔබවහන්
සේ මෙහි සිටිසේක්නම් මාගේ සහෝදර
22 යා නොනසීය. දැනුත් ඔබවහන්සේ දෙවි
යන්වහන්සේගෙන් යමක් ඉල්ලනසේක්
නම් ඒක දෙවියන්වහන්සේ ඔබවහන්
23 සේට දෙනසේකැයි දනිමි කීවාය. යේ
සුස්වහන්සේ තුඹේ සහෝදරයා නැවත
24 නැගිටින්නේයයි ඇට කීසේක. මාර්තා
අන්තිම දවසේ නැවත නැගිටීමෙහිදී ඔ
හු නැවත නැගිටින බව දනිමි කියා උන්
25 වහන්සේට කීවාය. යේසුස්වහන්සේ ඇ
ට කියනසේක් නැවත නැගිටීමද ජීවන
යද මමය. මා අදහන්නාවූ තැනැත්තේ
26 මල නුමුත් ජීවත්වන්නේය. ජීවත්වෙන්

නාවූ යම්මෙක් මා අදහනෙන්ද ඔහු කො
සි කලකවත් නසිනෙන් නැත. මෙක අ
27 දහගන්නිදැයි කීසේක. ඈ එසේය ස්වා
මිනි ඔබවහන්සේ දෙවියන්වහන්සේගේ
පුත්‍රවූ ලෝකයට එනනාවූ ක්‍රිස්තුස්වහන්
සේයයි අදහගනිමියි උන්වහන්සේට කි
28 ව්‍යාය. ඈ මෙසේ කියා ගොස් ඈගේ ස
හෝදරීවූ මරියා රහසින් කැඳවා ආචාරී
න්වහන්සේ ඇවිත් නුඹට අඬගසනසේ
29 කැයි කීවාය. ඈ ඒ අසා වහාම නැගිට
30 උන්වහන්සේ ළඟට ගියාය. යේසුස්ව
හන්සේ ඒතාක්කල් ගමට නොගොස්
මාතා තමන්වහන්සේගේ පෙරමගට ආ
31 වාවූ ඉඩමේම සිටිසේක. එවිට මරියා ස
මග ගෙයි සිට ඈ සනසනනාවූ යුදෙව්ව
රු ඈ වහාම නැගිට පිටත්ව යන බව
දැක සොහොන් ගේ ළඟදී අඬන පිනිස
එහි යන්නියයි සිතා ඈ පස්සේ ගියෝ
32 ය. එකල මරියා යේසුස්වහන්සේ සිටි තැ
නට ඇවිත් උන්වහන්සේ දැක උන්වහන්
සේගේ පාමුල වැටී ස්වාමිනි ඔබවහන්
සේ මෙහි සිටිසේක්නම් මාගේ සහෝද
33 රයා නොනසියයි කීවාය. යේසුස්වහන්
සේ ඈද ඈ සමග ආවාවූ යුදෙව්වරුද
අඬන බව දැක ආත්මයෙන් සුසුම්ලා සෝ
කව නුබලා ඔහු නොතන තැබුවෝදැයි
34 ඇසූසේක. ඔවුන් ස්වාමිනි ඇවිත් බැළුව
35 මැනවයි කීවෝය. යේසුස්වහන්සේ ඇ
36 ඬූසේක. එවිට යුදෙව්වරු මූන්වහන්සේ
ඔහුට කොපමන ආදරවූසේක්දැයි කී
37 වෝය. ඔවුන්ගෙන් සමහරෙක් අන්ධයා
ට පෙනීම දුන්නාවූ මූන්වහන්සේට ඔහු
ගේ මරණය වලක්වන්ට බැරිවූණේදැයි
38 කීවෝය. එවිට යේසුස්වහන්සේ නැව
තත් සුසුම්ලා සොහොන් ගේ ළඟට ගි
39 යසේක. ඒක ගුහාවක. ගලක් ඒ පිට ත
බනලද්දේය. යේසුස්වහන්සේ ගල අ
හක්කරපල්ලායයි කීසේක. මල තැනැ
ත්තාගේ සහෝදරීවූ මාතා ස්වාමිනි මර
ණයට පැමින සතර දවසක් වෙන බැ
40 වින් දැනට ගඳ ඇතැයි කීවාය. යේසුස්
වහන්සේ නුඹ අදහගතොත් දෙවියන්
වහන්සේගේ මහිමතාව දකිනවා ඈත
කියා නුඹට මම කීවේ නැද්දැයි ඈට කී
41 සේක. එවිට මිනිය තිබුණු සොහොන්
ගෙයින් ගල අහක්කලෝය. යේසුස්ව
හන්සේද ඇස් ඔසවා පියානන්වහන්ස
මාගේ වචන ඇසූ බවට ඔබවහන්සේට
42 ස්තුති කෙරෙමි. ඔබවහන්සේ නිතරම
මාගේ වචන් අසනසේකැයි දනිමි. නු
මුත් ඔබවහන්සේ විසින් මා එවූ බව හාත්
පස සිටිනනාවූ සමූහයා විසින් අදහගන්
43 නාපිනිස ඔවුන් නිසා කීමියි කීසේක. උ
න්වහන්සේ මෙසේ කියා ලාසරුස් පිටත
ට වරෙන්නැයි මහත් ශබ්ද පවත්වා කී
44 සේක. එවිට මල තැනැත්තේ පටිවලින්
බැඳුනු අත් පා සහ රෙදිකඩින් වෙලානු
මූනද ඇතුව පිටතට ආයේය. යේසුස්ව
හන්සේ මොහු මුදා යන්ට හැරපල්ලාය
45 යි ඔවුන්ට කීසේක. එවිට මරියා ළඟට
ආවාවූ යුදෙව්වරුන්ගෙන් බොහෝ දෙ
නෙක් යේසුස්වහන්සේ කල ක්‍රියාවල්
46 දැක උන්වහන්සේ අදහගත්තෝය. නු
මුත් ඔවුන්ගෙන් සමහරෙක් ඵරිසින් ළ
ගට ගොස් යේසුස්වහන්සේ විසින් කල
ක්‍රියාවල් ඔවුන්ට කීවෝය.
47 එකල නායක පූජකයෝද ඵරිසිවරු
ද සභාව එකතුකරවා මක්කරමුද? මේ
මනුෂ්‍යයා බොහෝ ආශ්චර්යවල් කරන්
48 නේය. ඔහුට කිසි දෙයක් නොකලොත්
නම් සියල්ලෝම ඔහු අදහගන්නවා ඇ
ත. එවිට රෝමවාසීහු ඇවිත් අපේ ස්ථා
නයත් වර්ගයත් උදුරාගන්නවා ඇතැයි
49 කීවෝය. ඒ අවුරුද්දට උත්තම පූජකවූ
කායාඵස්නම් ඔවුන්ගෙන් එකෙක් ඔ
වුන්ට කියනුයේ නුඹලා මොකවත් දන්
50 නේ නැත සියළු වර්ගයා විනාශ නො
වෙන පිනිස එක් මිනිහෙක් සෙනග නි
සා මලොත් අපට ප්‍රයෝජන ඇති බව
නුඹලා සලකනෙත් නැතැයි කීයේය.
ඔහු ඒ කීම තමාගේ නුවනින් කීවේ නැ
51 ත. නුමුත් ඔහු ඒ අවුරුද්දට උත්තම පූ
ජකව සිට යේසුස්වහන්සේ ඒ වර්ගයා නි
52 සා නසින බවත් ඒ වර්ගයා නිසා පමනක්
නොව දෙවියන්වහන්සේගේ කඩින් ක
ඩ ගියාවූ දරුවන් එක තැනකට රැස්ක
රණ බවත් අනාගත වාක්‍යයෙන් කීයේ
53 ය. එදා පටන් උන්වහන්සේ කෙසේ නස
54 මුද්දැයි එක මන්ත්‍රණය කලෝය. එහෙ
යින් යේසුස්වහන්සේ එතැන් පටන් ප්‍ර
සිද්ධයෙන් යුදෙව්වරුන් අතරෙහි නො
හැසිර එයින් පිටත්ව වනාන්තරයට ළඟ
වූ එප්‍රායිම්නම් නුවරට ගොස් තමන්
ගෝලයන් සමග එහි සිටිසේක.
55 එකල යුදෙව්වරුන්ගේ පාස්කු මංග
ල්‍යය කිට්ටුවූනේය. බොහෝ දෙනාද ත
මන්ගේ පවිත්‍රවීම පිනිස පාස්කු මංගල්‍ය
යට පලමුවෙන් ගම්වලින් පිටත්ව යෙරූ

56 සලමට ගියෝය. ඔවුන් යේසුස්වහන්සේ
සොයමින් නුබලා මක් සිතනවාද? උන්
වහන්සේ මංගල්‍යයට නොඑද්ද කියමින්
දේවමාලිගාවේ සිට ඔවුනොවුන් කථාක
57 ලෝය. නායක පූජකයෝද ඵරිසිවරුද
උන්වහන්සේ අල්වන පිනිස ඔහු සිටින
තැනක් යමෙක් දනිතොත් ඒ බව කිය
නානට අනකලෝය.

12. පරිච්. යේසුස්වහන්සේ පාස්කු
මංගල්‍යයට සදවසකට පලමුවෙන් බෙ
තානියට ගියසේක. මැරුණසින් පසු උ
න්වහන්සේ විසින් මලවුන්ගෙන් නැගි
2 ටෙව්වාවූ ලාසරුස් එහි සිටියේය. එහිදී
කෑමක් උන්වහන්සේට පිළියෙලකලෝ
ය. මාතා උපස්ථානකලාය. ලාසරුස් උ
න්වහන්සේ සමග කන්නට උන්නවුන්
3 ගෙන් එකෙක් වූයේය. එවිට මරියා බො
හෝ මිල වටිනා ජටාමාංශ තෙලින් මනා
වක් අරගෙන යේසුස්වහන්සේගේ පාද
වල ගා ඈගේ ඉසකෙස්වලින් උන්වහන්
සේගේ පාද පිසදැම්මාය. ගේද තෙල් සු
4 වඳින් පිරුණේය. එකල උන්වහන්සේ
ගේ ගෝලයන්ගෙන් එකෙක්වූ උන්ව
හන්සේ පාවාදෙනනාවූ සීමොන්ගේ පු
5 ත්‍රවූ යූදස් ඉස්කාරියොත් කියනුයේ මේ
තෙල මසු තුන්සියේකට විකුන දිළිඳුන්
6 ට නුදුනෙත් මක්නිසාදැයි කිය. ඔහු සො
රෙක් බැවිනුත් මුදල් පසුම්බිය සහ එහි ති
බුනු වස්තු දුරුබැවිනුත් මිස දිළිඳුන් ස
7 ලකා එසේ කීවේ නැත. එකල යේසුස්
වහන්සේ කියනසේක් ඈට වෙහෙස
නොදෙල්ලාය. මාගේ ශරීරය තැන්පත්
කරණ දවසට මේ තෙල මෑ තිබාගන
8 උනනාය. තවද නුබලා සමග දිළින්දෝ
නිතරම ඇත මම නුබලා සමග නිතර
9 ම නැතැයි කීසේක. එවිට යුදෙව්වන්
ගෙන් බොහෝ දෙන උන්වහන්සේ එහි
සිටිනසේකැයි දැන යේසුස්වහන්සේ ප
මනක් නොව උන්වහන්සේ විසින් මල
වුන්ගෙන් නැගිටෙව්වාවූ ලාසරුස්ද ද
10 කින පිනිස ආවෝය. ලාසරුස් නිසා යු
දෙව්වරු බොහෝ දෙනෙක් අහක්ව
11 ගොස් යේසුස්වහන්සේ අදහගත් බැ
වින් නායක පූජකයෝ ඔහු මරන්ට මන්
ත්‍රණයකලෝය.
12 පසුව දා මංගල්‍යයට ආවාවූ මහත් සමූ
13 හයක් යේසුස්වහන්සේ යෙරුසලමට එ
නසේකැයි අසා තල් අතු අරගෙන උන්
වහන්සේගේ පෙරමගට පිටත්ව ගොස්
හෝසන්නා ස්වාමීන්වහන්සේගේ නාම
යෙන් එනනාවූ ඊශ්‍රායෙල්ගේ රජුට ආ
ශිර්වාද වේවයි ශබ්ද පවත්වමින් කීවෝ
14 ය. සියොන්ගේ දුවනියෙනි භයනො
15 වෙනන නුබේ රජ කොටළු පැටියෙක්
පිට නැගී එනසේකැයි ලියා තිබෙන හැ
වියට යේසුස්වහන්සේ කොටළු පැටි
16 යෙක් ලැබ ඌ පිට නැගුනුසේක. උන්
වහන්සේගේ ගෝලයෝ ඒ කාරණ ප
ලමුවෙන් දැනගත්තේ නැත. නුමුත් යේ
සුස්වහන්සේ මහිමතාවයට පැමිනි පසු
උන්වහන්සේ ගැන මෙසේ ලියා තිබුනු
බවද මෙසේ උන්වහන්සේම කල බවද
17 සිහිකලෝය. උන්වහන්සේ සොහොන්
ගෙසින් ලාසරුස් පිටතට කැඳවා මල
වුන්ගෙන් නැගිටවූකල උන්වහන්සේ
සමග සිටියාවූ සමූහයා ඒ ගැන සාක්ෂි
18 දුන්නේය. ඒ ආශ්චර්‍ය්‍යය උන්වහන්සේ
කලසේකැයි සමූහයාට ආරංචිවූ බැවින්
ඔවුන් උන්වහන්සේගේ පෙරමගට ගි
19 යෝය. එකල ඵරිසිවරු ඔවුනොවුන් ක
ථාකරගනිමින් නුබලා කරණ දේ නිෂ්ප්‍ර
යෝජන බව නුබලාට නොපෙනේද?
ලෝකයා ඔහු පස්සේ ගියායයි කීවෝය.
20 නමස්කාර කරණ පිනිස මංගල්‍යයට
ආවුන් අතරේ සමහර ග්‍රීකයෝ සිටියෝ
21 ය. ඔවුන් ගලීලයෙහි බෙත්සෙද නුවර
වැසිවූ පිලිප් ලඟට පැමින ස්වාමිනි යේ
සුස්වහන්සේ දකින්ට කැමැත්තමුයයි
22 කීවෝය. පිලිප් ගොස් අන්ද්‍රෑට කීයේය
එවිට අන්ද්‍රෑද පිලිප්ද යේසුස්වහන්සේ
23 ට කීවෝය. යේසුස්වහන්සේ ඔවුන්ට උ
ත්තර දෙමින් මනුෂ්‍ය පුත්‍රයාට ගෞරව
24 ලැබෙන කාලය පැමුනුනේය. සැබවක්
සැබවක් නුබලාට කියමි ගෝධුම ඇටය
බිම වැටී නොමලොත් තනියම තිබෙන්
නේය මලොත් බොහෝ ඵල දෙනෙත්
25 ය. තමන්ගේ ප්‍රාණයට ප්‍රියවෙන තැනැ
ත්තේ ඒක නසාගන්නේය. මේ ලෝක
යෙහි තමන්ගේ ජීවිතයට ප්‍රියනොවෙ
න තැනැත්තේ සදාකාලයටම ඒක රක්ෂා
26 කරගන්නේය. යමෙක් මට සේවය කෙ
රේනම් ඔහු මා පස්සේ ඒවා. මම යම් තැ
නක සිටිම්ද එතන මාගේ සේවකයාද සි
ටින්නේය. යමෙක් මට සේවය කෙරේ
නම් ඔහුට මාගේ පියානන්වහන්සේ ගෞ
27 රවකරණසේක. දැන් මාගේ සිත කැල
ඹෙනේය කුමක් කියම්ද? පියානන්ව

හන්ස මේ පැයින් මා ගැලෙව්වමැනවයි
කියම්ද? නුමුත් මේ පිනිසම මේ පැයට
28 පැමුණුනෙමි. පියානන්වහන්ස ඔබගේ
නාමය ගෞරවයට පැමිණෙව්වමැනවයි
කීසේක. එවිට ගෞරවයට පැමිනවිමි
නැවතද ගෞරවයට පමුනුවනෙනමියි
29 අහසෙන් ශබ්දයක් විය. ලඟ සිටියාවූ
සමූහය ඒ අසා අහස ගොරවනෙන්යයි
කීයේය. තවත් සමහරෙක් දේවදූත
යෙක් උන්වහන්සේ සමඟ කථාකෙලේ
30 යයි කීවෝය. යේසුසවහන්සේ කියන
සේක් ඒ ශබ්දය මා නිසා නොව නුබලා
31 නිසාය. මේ ලෝකයෙහි විනිශ්චය දැන්
පැමිනෙනෙන්ය. දැන් මේ ලෝකයේ මූ
32 ලාදෑනියා දුරුකරනු ලැබේ. මමද භූමි
යෙන් ඔසවාගනු ලැබීම්නම් සියලුන්ම
33 මා ලඟට ඇදගනිමියි කීසේක. මෙසේ
කීවේ තමන්වහන්සේගේ මරණය කෙ
34 සේදැයි දක්වන පිනිසය. සමූහය උන්වහන්
සේට උත්තර දෙමින් ක්‍රිස්තුසවහන්සේ
සදාකල් සිටින කෙනෙකැයි අපි ව්‍යවස්ථා
වෙන් ඇසීමුව. එසේවිනම් මනුෂ්‍ය පුත්‍ර
යා ඔසවනු ලැබිය යුතුයයි නුබවහන්
සේ කියනෙන් කොහොමද? ඒ මනුෂ්‍ය
35 පුත්‍රයා කවුදැයි කීයේය. එවිට යේසුසව
හන්සේ ඔවුන්ට කියනසේක් තව ස්වල්
ප වේලාවක් ආලෝකය නුබලා සමඟ ඇ
ත. අඳුරෙහි ඇවිදින තැනැත්තේ කො
තන යනෙන්දැයි දනෙන් නැත. එබැවින්
අන්ධකාරය නුබලාට නොපැමිනෙන පි
නිස නුබලාට ආලෝකය තිබෙනකල්
36 ඇවිදපල්ලාය. නුබලා ආලෝකයෙහි
පුත්‍රයෝ වෙනපිනිස ආලෝකය නුබලා
ට ඇතිකල් ආලෝකය විශ්වාස කරපල්
ලායයි කීසේක. යේසුසවහන්සේ මෙ
සේ කියා ඔවුන් කෙරෙන් ගොස් සැඟ
වී සිටිසේක.
37 ඔවුන් ඉදිරියෙහි උන්වහන්සේ මෙප
මන පුදුමවල් කල නුමුත් ඔවුන් උන්ව
38 හන්සේ අදහගනෙන් නැත. එසේ සිඩවූ
නේ ස්වාමීන්වහන්ස අපගේ වචන අද
හගතෙත් කවුද? ස්වාමීන්වහන්සේගේ
අත කාට ප්‍රකාසකලේදැයි යෙසායියා අ
නාගතවක්තෘහුගේ කීම සම්පූර්ණවෙ
39 න පිනිසය. තවද ඔවුන්ට අදහගන්ට නු
40 පුළුවන්විය. මක්නිසාද යෙසායියා නැව
තත් කියනෙන් ඔවුන්ගේ ඇසින් නොද
කින පිනිසද හිතෙන් තේරුම් නොගන්
නා පිනිසද හරවාගනු නොලබන පිනි
සද මා විසින් සුවකරනු නොලබන පිනි
සද ඔවුන්ගේ ඇස් අන්ධකොට ඔවුන්ගේ
41 හිත් දැඩිකලසේකැයි කීයේය. මේ කාර
ණ යෙසායියා උන්වහන්සේගේ මහිම
තාව දැක උන්වහන්සේ ගැන කථාකර
42 මින් කීයේය. එසේ නුමුත් ප්‍රධානින්
ගෙන් බොහෝ දෙන උන්වහන්සේ අද
43 හගතෙත්ය නුමුත් සිනාගෝගයෙන් දු
රුකරනු නොලබනපිනිස ඵරිසින් නිසා
ඒ ඇදහීම ප්‍රකාසකලේ නැත. මක්නිසා
ද ඔවුන් දෙවියන්වහන්සේගේ ප්‍රසංසා
වට වඩා මනුෂ්‍යයන්ගේ ප්‍රසංසාවට කැ
44 මතිවූවෝය. එකල යේසුසවහන්සේ ශබ්
ද පවත්වමින් කියනසේක් මා අදහන
තැනැත්තේ මා නොව මා එවූ උන්ව
45 හන්සේ අදහන්නේය. මා දකින තැනැ
ත්තේ මා එවූ උන්වහන්සේ දකින්නේ
46 ය මා අදහන සියල්ලෝ අන්ධකාරයෙහි
නොසිටින පිනිස මම ලොවට ආලෝක
47 යක්ව ආවෙමි. මම ලෝකය ගලවන්ට
මිස ලෝකයා විනිශ්චයකරන්ට නා බැ
වින් යමෙක් මාගේ වචන අසා අදහ
නොගනෙන්නම් ඔහු විනිශ්චය නො
48 කෙරෙමි. මා එපාකොට මාගේ වචන
පිලිනොගනනාවූ තැනැත්තා විනිශ්චය
කරනෙනක් ඇත. මම කී වචනවලින්ම
ඔහු අන්තිම දවසේදී විනිශ්චයකරනු
49 ලබනවා ඇත. තවද මාගේ කැමැත්
තෙන් කථානොකෙලෙමි නුමුත් මා එවූ
පියානන්වහන්සේම මා විසින් කියයුතු කු
මක්ද කථාකල යුතු කුමක්දැයි මට අන
50 දුන්සේක. උන්වහන්සේගේ අනනම් ස
දාකාල ජීවනයයි දනිමි එහෙයින් මම
කියන දේ පියානන්වහන්සේ මට කියා
දුන් ලෙසම කියමියි කීසේක.

13 පරිච්ඡේ. යේසුසවහන්සේ මේ
ලෝකයෙන් පිටත්ව පියානන්වහන්සේ
ලඟට තමන්වහන්සේ යන කාලය පැමු
නුනේයයි පාස්කු මංගල්‍යයට පලමු
වෙන් දැන ලෝකයෙහි සිටියාවූ තමන්
ගේ සෙනඟට ප්‍රේමකොට කෙලවර ද
2 ක්වා ඔවුන්ට ප්‍රේමකලසේක. උන්වහන්
සේ පාවාදෙන්ට සීමොන්ගේ පුත්‍රවූ යූ
දස් ඉස්කාරියොත්ට සාතන් හිත් ඉපද
3 වූ පසු රාත්‍රි කෑම කද්දීම යේසුසවහන්සේ
පියානන්වහන්සේ විසින් තමන්ගේ අත
ට සියල්ල දුන් බවද තමන් දෙවියන්ව
හන්සේ ලඟින් ආ බවද දෙවියන්වහන්

4 සේ ළඟට යා බවද දැන රාත්‍රි කෑමෙන්
නැගිට සළුව මුදා තබා රෙදිකඩක් අර
5 ගෙන ඉඟටියෙහි බැඳගෙන භාජනයක
වතුර වත්කොට ගෝලයන්ගේ පා සෝ
දන්ටත් තමන්ගේ ඉඟටියෙහි බැඳගත්
රෙදිකඩින් පිසදමන්ටත් පටන්ගත්සේ
6 ක. සීමොන් පේත්‍රුස් ළඟට උන්වහන්සේ
ආ කල ස්වාමිනි ඔබවහන්සේ මාගේ පා
7 සෝදනසේක්දැයි පේත්‍රුස් කීයේය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින් මම කුමක්
කෙරෙම්දැයි දැන් නුඹට දැනෙනෙන්නේ නැ
ත. නුමුත් මතු දැනෙනෙන්නේයයි ඔහුට කී
8 සේක පේත්‍රුස්ද ඔබවහන්සේ කවදා
වත් මාගේ පා නොසෝදනසේක්වයි
උන්වහන්සේට කීයේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින් නුඹ නොසෝදන්
නෙම්නම් මා සමග කොටසක් නුඹට නැ
9 තැයි කීසේක. සීමොන් පේත්‍රුස් උන්ව
හන්සේට කියනුයේ ස්වාමිනි මාගේ පා
පමණක් නොව අත් දෙකත් හිසත් සමග
10 සේදුවමැනවයි කීයේය. යේසුස්වහන්
සේ ඔහුට කියනසේක් නෑවාවූ තැනැ
ත්තේ සියළු අඟෙමෙන් පවිත්‍රය පා සේදී
ම මිස වෙන දේකින් ඔහුට කමක් නැත.
නුඹලා පවිත්‍ර අයවල්ය නුමුත් නුඹලා සි
යල්ලෝම එසේ නොවෙතියි කීසේක.
11 තමන් පාවාදෙනතා දැනගත් නිසා නු
ඹලා සියල්ලෝම පවිත්‍ර නොවෙතියි කී
12 සේක. උන්වහන්සේ ඔවුන්ගේ පා සෝ
දා සළුව ඇඳගෙන නැවත හිඳ ඔවුන්ට
කියනසේක් මම නුඹලාට කෙළේ මො
13 කදැයි නුඹලා දනිද්ද? නුඹලා ආචාරිනි
ස්වාමිනියි මට කියති ඒක නුඹලා කියන
14 වා හරිය එසේ වෙමි. එසේවීනම් ස්වාමි
වූ ආචාර්යවූ මම නුඹලාගේ පා සේදූ බැ
වින් නුඹලා විසිනුත් ඔවුනොවුන්ගේ පා
15 සෝදන්ට යුතුය. මම නුඹලාට කළ ලෙ
ස නුඹලාත් කරණ පිනිස නුඹලාට ආදර්
16 ශයක් දුනිමි. සැබවක් සැබවක් නුඹලා
ට කියමි වැඩකාරයා තමාගේ ස්වාමියා
ට වඩා උතුම් නැත. යවනලද තැනැත්
තේද තමන් යැවූ තැනැත්තාට වඩා උ
17 තුම් නැත. මේ දේ නුඹලා දැන ඒවා ක
රනවානම් වාසනාවන්තයෝය.
18 නුඹලා සියල්ලන් ගැන නොකියමි. ම
ම තෝරාගත්තාවූන් දනිමි නුමුත් මා සම
ග කෑම කනතා මට විරුඩව විළඹ එසවූ
යේයයි ලියා තිබෙන කාරණාව සම්පූ
19 ර්ණවනෙන්ය. ඒක පැමිනෙන කල
මම ඔහුමයයි නුඹලා අදහන පිනිස දැන්
ඒක පැමිනෙන්ට පලමුවෙන් නුඹලාට
20 කිමි. සැබවක් සැබවක් නුඹලාට කියමි
මා විසින් එවන කෙනෙක් පිළිගන්නා මා
පිළිගන්නේය. මා පිළිගන්නා මා එවූ උ
21 න්වහන්සේ පිළිගන්නේයයි කීසේක. යේ
සුස්වහන්සේ මෙසේ කියා කැළඹුනාවූ
සිත් ඇතිව සැබවක් සැබවක් නුඹලාට
කියමි නුඹලාගෙන් එකෙක් මා පාවා
22 දෙනෙන්නේයයි ප්‍රසිඬ ලෙස කීසේක. එවිට
ගෝලයෝ කවුරු ගැන කීසේක්දැයි සැ
කකොට ඔවුනොවුන් දෙස බැළුවෝය.
23 යේසුස්වහන්සේගේ ගෝලයන්ගෙන්
තමන්වහන්සේට ප්‍රියවූ එකෙක් උන්ව
හන්සේගේ ළැපැත්ත ළඟ හාන්සිවී සි
24 ටියේය. සීමොන් පේත්‍රුස් උන්වහන්සේ
කා ගැන කළකලසේක්දැයි අහන්ට ඔ
25 හුට සංඥාකලේය. එවිට ඔහු යේසුස්ව
හන්සේගේ ළැපැත්තේ හාන්සිව ස්වාමි
නි ඒ කවුදැයි උන්වහන්සේගෙන් ඇසු
26 යේය. යේසුස්වහන්සේ උත්තර දෙමින්
මම කැබෙල්ලක් පොගවා යමෙකුට
දෙම්ද ඒ ඔහුමයයි කියා කැබෙල්ලක්
පොගවා සීමොන්ගේ පුත්‍රවූ යූදස් ඉස්කා
27 රියොත්ට දුන්සේක. ඔහු කැබෙල්ල
ගත් පසු සාතන් ඔහුට වැහුනේය. එවිට
යේසුස්වහන්සේ නුඹ කරණ දේ හනික
28 කරපන්නැයි ඔහුට කීසේක. ඒ වචන ඔ
හුට මක්නිසා කීසේක්දැයි සමග උන්න
වුන්ගෙන් කවුරුවත් දැනගත්තේ නැත.
29 සමහරෙක් යූදස් මුදල් පසුම්බිය දැරූ බැ
වින් යේසුස්වහන්සේ මංගල්‍යයට සුදුසු
දේ ගනින්නැයි නොහොත් දිළිඳුන්ට
මොකවත් දීපන්නැයි ඔහුට කීසේකැයි
30 සිතුවෝය. ඔහු කැබෙල්ල ගත් වේලේ
ම පිටතට ගියේය එකල රාත්‍රියද විය.
31 ඔහු ගියකල යේසුස්වහන්සේ කියන
සේක් මනුෂ්‍ය පුත්‍රයා දැන් ගෞරවයට
පැමුනුනේය. දෙවියන්වහන්සේද ඔහු
32 නිසා ගෞරවයට පැමුනුනසේක. දෙවි
යන්වහන්සේ ඔහු නිසා ගෞරවයට පැ
මිනිසේක්නම් දෙවියන්වහන්සේද තම
න්වහන්සේ නිසා මනුෂ්‍ය පුත්‍රයා ගෞරව
යට පමුනුවනසේක හවද හනික ඔහු
33 ගෞරවයට පමුනුවනසේක දරුවෙනි
තව ටික වේලාවක් නුඹලා සමග සිටිමි
නුඹලා මා සොයනවා ඇත. නුමුත් මම
යන තැනට එන්ට නුඹලාට බැරියයි යූ
දෙව්වරුන්ට මම කී ලෙසම දැන් නුඹ

34 ලාටත් කියමි. නුබලා ඔවුනොවුන්ට ප්‍රේ
මකරපල්ලාය. මම නුබලාට ප්‍රේමකල
ලෙසම නුබලාත් ඔවුනොවුන්ට ප්‍රේමක
රපල්ලායයි අළුත් අනක් නුබලාට දෙමි.
35 නුබලා ඔවුනොවුන්ට ප්‍රේම කෙරෙත්
නම් එයින් නුබලා මාගේ ගෝලයෝය
යි සියල්ලෝ දැනගන්නාහ ඇතැයි කි
ඉස්ක.
36 සිමොන් පේත්‍රුස් කථාකොට ස්වාමිනි
කොතනට යනසේක්දැයි උන්වහන්සේ
ගෙන් ඇසුයේය. ජේසුස්වහන්සේ ඔහු
ට උත්තර දෙමින් මම යන තැනට දැන්
මා සමග යන්ට නුබට බැරිය. නුමුත් ප
37 සුව මා සමග යන්නේයයි කීසේක. පේ
ත්‍රුස්ද ස්වාමිනි දැන් ඔබවහන්සේ සමග
යන්ට මට බැරි මක්නිසාද? ඔබවහන්
38 සේ නිසා මාගේ ප්‍රාණය දෙම්යි උන්ව
හන්සේට කීයේය. ජේසුස්වහන්සේ ඔ
හුට උත්තර දෙමින් නුබේ ප්‍රානය මා
නිසා දෙනෙන්ද? සැබවක් සැබවක් නු
බට කියමි කුකුලා හඬලන්ට පලමුවෙන්
නුබ තුන් වරක් ඔහු නාඳුනම්යි මා ගැ
න කියනෙන්යයි කීසේක.

14. පරිච්ඡෙ. නුබලාගේ හිත් කැල
ඹෙන්නට නොදෙල්ලාය. දෙවියන්ව
2 හන්සේ අදහපල්ලාය මාත් අදහපල්ලාය.
මාගේ පියානන්වහන්සේගේ ගෙයි නො
යෙක් වාසස්ථාන ඇත. නැත්නම් නුබලා
ට ඒ බව කියමි. නුබලාට ස්ථානයක් පිළි
3 යෙලකරන්ට යමි. මම ගොස් නුබලාට
ස්ථානයක් පිළියෙල කෙරෙම්නම් මම සි
ටින තැන නුබලාත් සිටිනා පිනිස මම නැ
4 වත ඇවිත් නුබලා මා ලඟට ගනිමි. මම
යන ස්ථානය නුබලා දනිති මාර්ගයද ද
5 නිතියි කීසේක. තෝමස්ද ස්වාමිනි ඔබ
වහන්සේ කොතනට යනසේක්දැයි අපි
දනෙන් නැත. මාර්ගය දැනගන්නට පු
ළුවන් කොහොමදැයි උන්වහන්සේට කී
6 ය. ජේසුස්වහන්සේ ඔහුට කියනසේක්
මාර්ගයද සැබෑකමද ජීවනයද මමය.
මා කරණකොටගෙන මිස කවුරුවත් පි
යානන්වහන්සේ ලඟට යනෙන් නැත.
7 නුබලා මා ඇඳිනෙන්නම් මාගේ පියා
නන්වහන්සේද අඳුනති. මෙතැන් පටන්
නුබලා උන්වහන්සේ හඳුනති දුටුවෝ
8 ද වෙතියි කීසේක. පිලිප්ද ස්වාමිනි පියා
නන්වහන්සේ අපට දැක්වුවමැනව එප
මන අපට ඇතැයි උන්වහන්සේට කීය.
9 ජේසුස්වහන්සේ ඔහුට කියනසේක් පි
ලිප් මම මෙපමන කල් නුබලා සමග සි
ටියෙමි නුමුත් මා නැඳිනෙන්ද? මා දුටු
තැනැත්තේ පියානන්වහන්සේ දුටුයේ
ය. එසේවීනම් පියානන්වහන්සේ අපට
දැක්වුවමැනවයි කියන්නේ කොහොම
10 ද? මම පියානන්වහන්සේ ඇතුලෙහිද
පියානන්වහන්සේ මා ඇතුලෙහිද ඇතැ
යි අදහන්නේ නැද්ද? මම නුබලාට කි
යන වචන මම්ම නොකියමි. තවද මා
ඇතුලෙහි සිටිනාවූ පියානන්වහන්සේ
11 ම ඒ ක්‍රියාවල් කරණසේක. මම පියාන
න්වහන්සේ ඇතුලෙහිත් පියානන්වහන්
සේ මා ඇතුලෙහිත් සිටිනසේකැයි අද
හගනිල්ලාය. එසේ නැත්නම් ක්‍රියාවල්
12 නිසා මා අදහගනිල්ලාය. සැබවක් සැ
බවක් නුබලාට කියම් මා අදහගන්නා ම
ම කරණ ක්‍රියාවළුත් කරනෙන්ය. මම
මාගේ පියානන්වහන්සේ ලඟට යන නි
සා ඊට වඩා මහත් ක්‍රියාවළුත් කරනෙන්
13 ය. නුබලා මාගේ නාමයෙන් යමක් ඉල්
වනවානම් පුත්‍රයා නිසා පියානන්වහන්
14 සේ ගෞරව ලබන පිනිස මම ඒක කෙ
15 රෙමි. නුබලා මාගේ නාමයෙන් යමක්
ඉල්වනවානම් ඒක මම කෙරෙමි නුබ
ලා මට ප්‍රේම ඇත්නම් මාගේ අණවල්
16 රක්ෂාකරපල්ලාය. මමද පියානන්වහන්
සේගෙන් ඉල්ලනෙනම්. එවිට උන්වහන්
සේ වෙන සැනසිලිකාරයෙක් නුබලා ස
මග සදාකල්ම සිටින්ට නුබලාට දෙන
සේක. ඒ සැනසිලිකාරයා සැබෑකමෙහි
17 ආත්මයානන්වහන්සේය. ලෝකයා උ
න්වහන්සේ දකින්නේවත් අඳුනන්නේ
වත් නැත. ඒ නිසා උන්වහන්සේ පිළි
ගන්ට ලෝකයාට බැරිය. නුමුත් උන්ව
හන්සේ නුබලා සමග සිට නුබලා ඇතු
ලෙහි වසන බැවින් නුබලා උන්වහන්සේ
18 අඳුනති. නුබලා අසරණව නාරිමි නුබ
19 ලා ලඟට එමි. තව ටික වේලාවකින්
ලෝකයා මා දකින්නේ නැත නුමුත් නු
බලා මා දකිති. මම ජීවත්වෙන බැවින්
20 නුබලාත් ජීවත්වෙනවා ඇත. ඒ දවසේ
මම පියානන්වහන්සේ ඇතුලෙහිත් නු
බලා මා ඇතුලෙහිත් මම නුබලා ඇතු
ලෙහිත් සිටින බව නුබලා දන්නවා ඇ
21 ත. යමෙක් මාගේ අණවල් පිළිගෙන ර
ක්ෂාකරනෙන්නම් ඔහුම මට ප්‍රේම කර
නෙන්ය. යමෙක් මට ප්‍රේම කරනෙන්
නම් ඔහුට මාගේ පියානන්වහන්සේ

ප්‍රේම කරණසේක. මමද ඔහුට ප්‍රේම ක
රනෙනම් මා ඔහුට ප්‍රකාසකරනෙනම්යි
22 කීසේක. ඉස්කාරියොත් නොවූ යූදස්ද
ස්වාමිනි තමන්වහන්සේ බව ලොවට ප්‍ර
කාස නොකොට අපට ප්‍රකාසකරනෙත්
කොහොමදැයි උන්වහන්සේගෙන් ඇසූ
23 යේය. යේසුස්වහන්සේ උත්තර දෙමින්
යමෙක් මට ප්‍රේමකරනෙත්නම් ඔහු මා
ගේ වචනය රක්ෂාකරනෙත්ය. මාගේ
පියානන්වහන්සේද ඔහුට ප්‍රේමකරණ
සේක. අපි ඔහු ලඟට ඇවිත් ඔහු සම
24 ග වාසයකරමුව. මට ප්‍රේම නොකර
ණ තැනැත්තේ මාගේ වචන රක්ෂාකර
නෙත් නැත. තුබලා අසන වචනය මා
එවූ පියානන්වහන්සේගේ මිස මාගේ
25 නොවේය. මම තුබලා සමග සිටිද්දීම
26 මේ කාරණ තුබලාට කීමි. තවද මාගේ
නාමයෙන් පියානන්වහන්සේ එවන ශු
ද්ධාත්මනම් සැනසිලිකාරයානන්වහන්
සේ තුබලාට සියල්ල උගන්වා මා විසින්
තුබලාට කියනලද සියල්ල තුබලාට සි
27 හිකරවනසේක. තුබලා වෙත සමාදාන
ය තබා යමි මාගේ සමාදානය තුබලාට
දෙමි. ලෝකයා දෙනනාක්මෙන් තුබ
ලාට නොදෙමි. තුබලාගේ සිත් කැල
ඹෙන්ට නොදෙල්ලාය භයනොවෙල්
28 ලාය. මම අහක්ව ගොස් තුබලා ලඟට
නැවත එමියි මම තුබලාට කී බව තුබ
ලාට ඇසුනේය. තුබලා මට ප්‍රේම කර
ණවානම් මාගේ පියානන්වහන්සේ ලඟ
ට යමියි මා විසින් කී බවට සන්තෝස
වෙනවා ඇත. මක්නිසාද මාගේ පියාන
න්වහන්සේ මට වඩා උතුම් කෙනෙක.
29 ඒ දේ සිඩවෙන කල තුබලා අදහගන්නා
පිනිස දැන් සිඩවෙන්ට පලමුවෙන් තුබ
ලාට කීමි. මෙතැන් පටන් තුබලා සම
30 ග බොහෝකොට කථානොකරමි. මක්
නිසාද මේ ලොවට මූලාදෑනියා එනෙත්
ය තුමුත් ඔහුට මා ඇතුලේ කිසි දෙයක්
31 නැතෙත්ය. එහෙත් මේ දේ සිඩවෙන්
නේ පියානන්වහන්සේට මම ප්‍රේමකර
ණ බවද පියානන්වහන්සේ මට අනකල
ලෙස මම කරණ බවද ලෝකයා දැනග
න්නා පිනිසය. නැගිට මෙතනින් යමුය
යි කීසේක.

15. පරිච්ජ. සැබෑවූ මූද්‍රික වැල මම
ය මාගේ පියානන්වහන්සේ ඒක රක්ෂා
2 කරනනාය. මා ඇතුලෙහිවූ ඵල නො
දෙන සියළු අතු උන්වහන්සේ කපාදම
නසේක. ඵලගන්නාවූ සියළු අතු වඩා ඵ
3 ලගන්නා පිනිස පවිත්‍රකරණසේක. මා
විසින් තුබලාට කියනලද වචනයෙන්ම
4 තුබලා පවිත්‍රය. මා ඇතුලෙහි සිටපල්ලා
ය මමද තුබලා ඇතුලෙහි සිටිමි. අත්තක්
මූද්‍රික වැලෙහි නොපවතීනම් තනියම
ඵල අටගන්නට බැරුවා වාගේ තුබලා
මා ඇතුලේ නොපවතිත්නම් ඵලගන්
5 නට තුබලාට බැරිය. මූද්‍රික වැල මමය
තුබලා අතුය යමෙක් මා ඇතුලේ සිටි
නෙත්ද මම ඔහු ඇතුලේ සිටිම්ද ඔහු
බොහෝ ඵලගනියි. මක්නිසාද මාගෙන්
වෙන්ව කිසිවක් කරනනට තුබලාට බැ
6 රිය. යමෙක් මා ඇතුලේ නොපවතීනම්
ඔහු වේලී ගිය අත්තක් වාගේ පිටතට
දමනු ලැබේ එබඳු අතු එක්කොට ගින්
7 නේ දමා දවනු ලැබෙත්. තුබලා මා ඇ
තුලේ සිටිනවානම් මාගේ වචන තුබලා
ඇතුලේ පවතීනම් තුබලා යමක් කැමති
ව ඉල්ළුවොත් ඒ දේ තුබලාට දෙනු ලැ
8 බේ තුබලා බොහෝ ඵලගැනීමෙන්
මාගේ පියානන්වහන්සේට ගෞරව ඇ
ත. එසින් තුබලා මාගේ ගෝලයෝ
9 ද වෙනවා ඇත. පියානන්වහන්සේ ම
ට ප්‍රේම කලාක්මෙන් මමත් තුබලාට
ප්‍රේම කෙලෙමි. මාගේ ප්‍රේමයෙහි සිට
10 පල්ලාය මම මාගේ පියානන්වහන්සේ
ගේ ආඥාවන් රක්ෂාකොට උන්වහන්සේ
ගේ ප්‍රේමයෙහි යම්සේ සිටිම්ද එසේම
තුබලාත් මාගේ ආඥාවල් රක්ෂාකරණ
වානම් මාගේ ප්‍රේමයෙහි සිටිනවා ඇත.
11 තුබලා කෙරෙහි මාගේ ප්‍රීතිය පවතින
පිනිසද තුබලාගේ ප්‍රීතිය සම්පූර්ණවෙ
න පිනිසද මේ කාරණ තුබලාට කීමි.
12 මම තුබලාට ප්‍රේම කලාක්මෙන් තුබ
ලාත් ඔවුනොවුන්ට ප්‍රේම කරපල්ලාය.
13 මාගේ ආඥාවනම් මේය. යමෙක් තමා
ගේ මිත්‍රයන් වෙනුවට තමාගේ ප්‍රාණය
දුනීනම් ඊට වඩා ප්‍රේමයක් කාටවත්
14 ඇතෙත් නැත. මම තුබලාට ආඥාකරන්
නාවූ දේ තුබලා කරණවානම් තුබලා
15 මාගේ මිත්‍රයෝ වෙති. වැඩකාරයා තමා
ගේ ස්වාමියා මක්කරනෙත්දැයි නොදන්
නා බැවින් මෙයින් මතු තුබලාට වැඩ
කාරයෝයයි නොකියමි. තවද මාගේ
පියානන්වහන්සේගෙන් මම ඇසූ සියල්ල
තුබලාට දැන්වූ බැවින් තුබලා මිත්‍රයෝ
16 යයි කීමි. තුබලා මා තෝරාගතෙත් නැත

නුමුත් මාගේ නාමයෙන් පියානන්වහන්
සේගෙන් නුඹලා යමක් ඉල්ලුවොත් ඒ
ඒ දේ උන්වහන්සේ නුඹලාට දෙන පි
නිසද නුඹලා ගොස් ඵල ගන්නා පිනිස
ද නුඹලාගේ ඵල පවතින පිනිසද මම
නුඹලා තෝරාගෙන නියමකෙළෙමි.
17 ඔබුනොවුන්ට ප්‍රේමකරපල්ලායයි නු
18 බලාට ආඥාකෙරෙමි. ලෝකයා නුඹලා
ට වෛර වනොත්නම් නුඹලාට පලමු
වෙන් මට වෛරවූනොත්යයි දැනගනිල්ලා
19 ය. නුඹලා ලෝකයාගේ පක්ෂයට වූ
නොත් ලෝකයා තමාගේ පක්ෂයට සිටි
න අයවළුන්ට ප්‍රේම කරනොත්ය. නුමුත්
නුඹලා ලෝකයාගේ පක්ෂයට නොසිටි
න නිසාත් මම ලෝකයාගෙන් නුඹලා
තෝරාගත් නිසාත් ලෝකයා නුඹලාට
20 වෛරවෙති. වැඩකාරයා තමාගේ ස්වා
මියාට වඩා උතුම් නැතැයි මා විසින් නු
බලාට කී වචනය සිහිකරපල්ලාය. ඔ
වුන් මට පීඩාකලෝනම් නුඹලාටත් පී
ඩාකරණවා ඇත. මාගේ වචනවල් රක්
ෂාකලෝනම් නුඹලාගේ වචනවළුත් ර
21 ක්ෂාකරණවා ඇත. නුමුත් ඔවුන් මා එවූ
උන්වහන්සේ නාඳුනන බැවින් මාගේ
නාමය නිසා මේ සියල්ල නුඹලාට කර
22 ණවා ඇත. මම ඇවිත් ඔවුන්ට කථානො
කොලෙම්නම් ඔවුන්ට පාපයක් නූවූයේ
ය. දැන් ඔවුන්ගේ පාපයට වැස්මක් නැ
23 ත. මට වෛරවෙන්නා මාගේ පියානන්ව
24 හන්සේටත් වෛරවේ. මම ඔවුන් අත
රෙහි වෙන කාටවත් කරන්නට බැරි ක්‍රි
යාවන් නොකොලෙම්නම් ඔවුන්ට පාප
යක් නූවූයේය. දැන් ඔවුන් ඒ දැකත් ම
ටද මාගේ පියානන්වහන්සේටද වෛර
25 වූනෝය. නිෂ්කාරණයේ මට වෛරවූ
නෝයයි ඔවුන්ගේ ව්‍යවස්ථාවෙහි ලියා
තිබෙන වචනය මෙසේ සම්පූර්ණවිය.
26 නුමුත් පියානන්වහන්සේ කෙරෙන් පිට
ව එන්නාවූ සැබෑකමෙහි ආත්මයවූ සැ
නසිලිකාරයානන්වහන්සේ පියානන්ව
හන්සේ කෙරෙන් නුඹලා ලඟට එවමි.
උන්වහන්සේ ආකල මා ගැන සාක්ෂිදෙ
27 නසේක. නුඹලාත් පටන්ගැන්මේ සිට
මා සමග සිටිය බැවින් සාක්ෂි දෙනවා
ඇත.

16. පරිච්ඡේ. නුඹලා බාධාවනු නො
ලබන පිනිස මේ කාරණ නුඹලාට කීමි.
2 ඔවුන් සිනගෝගවලින් නුඹලා අහක්
කරණවා ඇත. එපමනක් නොව නුඹ
ලා මරන්නාවූ සියල්ලෝ ඒ මැරීම තමන්
විසින් දෙවියන්වහන්සේට කරණ පූජාව
3 කැයි සිතන කාලය පැමිනෙනොත්ය. ඔ
වුන් පියානන්වහන්සේත් මාත් නාඳුන
න බැවින් ඒ දේ නුඹලාට කරණවා ඇ
4 ත. තවද ඒ කාලය පැමිනි කල මම මේ
වා නුඹලාට කී බව සිහිවෙන පිනිස මේ
කාරණ නුඹලාට කීමි. නුමුත් පටන්ගැන්
මේ සිට නුඹලා සමග සිටිය බැවින් මේ
5 කාරණ නුඹලාට නොකීමි. දැන් මා එවූ
උන්වහන්සේ ලඟට යමි කොතනට යන
සේක්දැයි නුඹලා අතරෙහි කවුරුවත් මා
ගෙන් අහනොත් නැත. නුමුත් මේ කාර
6 ණ නුඹලාට මම කී බැවින් නුඹලාගේ
සිත් ශෝකයෙන් පිරී තිබෙනොත්ය.
7 එසේ නුමුත් මම් සැබෑකම නුඹලාට
කියමි මාගේ අහක යාමෙන් නුඹලාට
ප්‍රයෝජන ඇත. මක්නිසාද මම අහක
නොගියෙම්නම් සැනසිලිකාරයානන්ව
හන්සේ නුඹලා ලඟට එනොත් නැත. නු
මුත් මම අහක්ව ගියෙම්නම් උන්වහන්
8 සේ නුඹලා ලඟට එවමි. උන්වහන්සේ
ඇවිත් පාපය ගැනද ධර්මිෂ්ඨකම ගැන
ද විනිශ්චය ගැනද ලෝකයාට දන්වා දෙ
9 නසේක. පාපය ගැනය කීවේ ඔවුන් මා
10 නොඅදහන බවය. ධර්මිෂ්ඨකම ගැනය
කීවේ මාගේ පියානන්වහන්සේ ලඟට
යෙමි එසින් පසු නුඹලා මා නොදක්නා
11 බවය. විනිශ්චය ගැනය කීවේ මේ ලෝ
කයෙහි මූලාදෑනියා විනිශ්චයකරනු ල
12 බන බවය. මා විසින් නුඹලාට කියයුතු
වූ වෙනත් බොහෝ කාරණ ඇත. දැන්
13 ඒවා දරන්ට නුඹලාට බැරිය. එසේ නු
මුත් සැබෑකමෙහි ආත්මයානන්වහන්සේ
ආ කල උන්වහන්සේ නුඹලා සියළු සැබෑ
කමෙහි මාර්ගයට පමුනුවනසේක. තම
න්වහන්සේගේම අභිප්‍රාවෙන් කථානො
කර උන්වහන්සේට ඇහෙන දේ කියා
මතු පැමිනෙනන දේ නුඹලාට දක්වනසේ
14 ක. උන්වහන්සේ මා සන්තක දෙයින්
අරගෙන නුඹලාට එළිදරව්කොට මා
15 ගෞරවයට පමුනුවනසේක. පියානන්ව
හන්සේ සන්තක සියල්ල මා සන්තකය
එහෙයින් මා සන්තක දෙයින් අරගන
16 නුඹලාට දක්වනසේකැයි කීමි. මම පියා
නන්වහන්සේ ලඟට යන නිසා ස්වල්ප
වේලාවකින් මා දකිනොත් නැත. නැව
තත් ස්වල්ප වේලාවකින් මා දකිනවා ඇ

17 තැයි කීසේක. එවිට තමන් ගෝලයන්
ගෙන් සමහරෙක් ස්වල්ප වේලාවකින්
මා දකිනෙන් නැත කියාත් නැවතත්
ස්වල්ප වේලාවකින් මා දකිනවා ඇත
කියාත් පියානන්වහන්සේ ලඟට යන නි
සාය කියාත් මුන්වහන්සේ අපට කියන්
18 නේ මොකද? ස්වල්ප වේලාවකැයි උන්
වහන්සේ මේ කියනෙත් මොකද කියා
අපි දනෙත් නැතැයි කථාකරගත්තෝ
19 ය. යේසුස්වහන්සේ තමන්වහන්සේ
ගෙන් ඒ කාරණාව ගැන අහනතට ඔ
වුන් කැමති බව දැන ඔවුන්ට කියන
සේක් ස්වල්ප වේලාවකින් මා දකිනෙන්
නැත නැවතත් ස්වල්ප වේලාවකින් මා
දකිනවා ඇතැයි මම කී කාරණාව ගැන
නුබලා ඔවුනොවුන් කථාකරමින් සො
20 යද්ද? සැබවක් සැබවක් නුබලාට කිය
මි නුබලා හඩා වැලපෙති නුමුත් ලෝක
යා සන්තෝස වෙයි. නුබලාත් සෝක
වෙති නුමුත් නුබලාගේ සෝකය සන්
21 තෝසයට පෙරලෙයි. ස්ත්‍රියක් වදන ක
ල ඇගේ පැය පැමිනි නිසා සෝකවන්
නීය. නුමුත් පුත්‍රයා වැදූ කල ලෝකයේ
මනුෂ්‍යයෙක් උපනෙන්ය යන සන්තෝ
සයෙන් එතැන් පටන් වේදනාව සිහික
22 රනෙත් නැත. නුබලාත් දැන් සෝකවෙ
ති නුමුත් නැවත නුබලා දක්නෙමි එවි
ට නුබලාගේ සිත් සන්තෝසවනෙන්ය.
නුබලාගේ සන්තෝසය නුබලාගෙන්
කවුරුවත් උදුරාගනෙත් නැත.
23 ඒ දවසේ නුබලා මාගෙන් කිසි දෙ
යක් විභාගකරනෙත් නැත. සැබවක්
සැබවක් නුබලාට කියමි මාගේ නාම
යෙන් පියානන්වහන්සේගෙන් නුබලා
යමක් ඉල්ළුවොත් ඒ දේ නුබලාට දෙ
24 නසේක. දැන් දක්වා මාගේ නාමයෙන්
නුබලා මොකවත් ඉල්ළුවේ නැත. නුබ
ලාගේ ප්‍රීතිය සම්පූර්ණවෙන පිනිස ඉල්
25 ලාපල්ලාය එවිට නුබලා ලබනවා ඇත.
මේ දේ උපමාවලින් නුබලාට කීමි නු
මුත් උපමාවලින් නැවත නුබලාට නො
කියා ප්‍රකාසයෙන් පියානන්වහන්සේ ගැ
න නුබලාට දන්වනනාවූ කාලය පැමිනෙ
26 නෙන්ය. ඒ දවසේ මාගේ නාමයෙන් නු
27 බලා ඉල්ලනවා ඇත. නුබලා මට සෙනේ
හවූ බැවිනුද මම දෙවියන්වහන්සේ කෙ
රෙන් ආමිසි ඇදහූ බැවිනුද පියානන්වහන්
සේම නුබලාට සෙනේහවෙනසේක. ඒ
නිසා නුබලා ගැන පියානන්වහන්සේ
28 ගෙන් ඉල්ලනෙනාම්යි නොකියමි. මම පි
යානන්වහන්සේ ලඟින් පිටත්ව ලෝකය
ට ආමි නැවත ලෝකය හැර පියානන්
29 වහන්සේ ලඟට යමියි කීසේක. උන්වහන්
සේගේ ගෝලයෝ දැන් ඔබවහන්සේ උ
30 පමා නැතුව ප්‍රසිඬයෙන් කියනසේක. ඔ
බවහන්සේ සියල්ල දන්නා බවද කාගේ
වත් විභාගකිරීමෙන් ඔබට ඕනෑකමක්
නැති බවද දනිමුව. මෙයින් ඔබවහන්
සේ දෙවියන්වහන්සේ ලඟින් පිටත්ව
31 ආ බව අදහමුයයි කීවෝය. යේසුස්ව
හන්සේ ඔවුන්ට උත්තර දෙමින් නුබලා
32 දැන් අදහන්නෝද? නුබලා සියල්ලෝ
ම තමතමන්ගේ ස්ථානවලට ඉඟිරී ගොස්
මා තනියම හරින කාලය පැමිනෙනෙන්
ය දැනටම පැමිනි තිබෙයි. එසේ නුමුත්
පියානන්වහන්සේ මා සමග නිසා තනි
33 යම නොවෙමි. මා නිසා නුබලා සමාදාන
ය ලබන පිනිස මේ කාරණා නුබලාට කී
මි. ලෝකයේදී නුබලා දුකට පැමිනෙ
නවා ඇත නුමුත් ස්ථිර සිතින් සිටපල්ලා
ය මම ලෝකයෙන් ජයගතිමියි කීසේක.

17. පරිච්ඡේ. යේසුස්වහන්සේ මෙසේ
කියා ස්වර්ගය දෙසට ඇස් ඔසවා පියා
2 නන්වහන්ස කාලය පැමුනුනේය. ඔබව
හන්සේ විසින් ඔබගේ පුත්‍රයාට දෙනල
ද සියල්ලන්ට සදාකල්වූ ජීවනය දෙන
පිනිස ඔබවහන්සේ සියළු මනුෂ්‍යයන්
කෙරෙහි ඔහුට බලය දුන් හෙයින් ඔහු
කරණකොටගෙන ඔබවහන්සේට ගෞ
රව ලැබෙන පිනිස ඔබවහන්සේගේ පු
3 ත්‍රයාට ගෞරව දුනමැනව. ඒ සදාකාල
ජීවනයනම් එකම සැබෑවූ දෙවිවූ ඔබ
වහන්සේ සහ ඔබවහන්සේ විසින් එව
නලද්දවූ යේසුස් ක්‍රිස්තුස් දැනගැන්ම
4 වේ. මම ඔබවහන්සේ පොලොවේ ගෞ
රවයට පැමිනවිමි. ඔබවහන්සේ මට ක
රනතට දුන් වැඩ නිමකෙලෙමි. දැනට
5 පියානෙනි ලෝකය මැවීමට පලමුවෙන්
ඔබවහන්සේ ලඟ මට තිබුනාවූ ගෞර
වයෙන් ඔබවහන්සේ ලඟදී මා ගෞර
6 වයට පැමිනෙව්ව මැනව. ඔබවහන්සේ
විසින් ලෝකයෙන් මට දුන් මනුෂ්‍යයන්
ට ඔබගේ නාමය එළිදරව්කෙලෙමි. ඔ
වුන් ඔබවහන්සේ සන්තක වූවෝය ඔ
බවහන්සේ ඔවුන් මට දුන්සේක. ඔවුන්
ඔබවහන්සේගේ වචනය රක්‍ෂාකලෝය.
7 ඔබවහන්සේ මට දුන් සියල්ල ඔබහන්

8 සේ ලඟිනැයි ඔවුන් දැන් දනිති. ඔබව
හන්සේ විසින් මට දුන් වචන මම ඔවුන්
ට දුනිමි. ඔවුන් ඒවා පිලිගෙන මම ඔබ
වහන්සේ කෙරෙන් ආ බව අනුමානයක්
නැතුව දැන ඔබවහන්සේ මා එවූ බව
9 අදහගත්තෝය. මම ඔවුන් නිසා යාඥා
වෙමි. ලෝකයා නිසා යාඥා නොවෙමි
නුමුත් ඔබවහන්සේ මට දුන්නාවූ ඔවුන්
නිසා යාඥාවෙමි. මක්නිසාද ඔවුන් ඔබ
10 වහන්සේ සන්තකය. මා සන්තක සියල්
ල ඔබවහන්සේ සන්තකය. ඔබවහන්
සේ සන්තක සියල්ල මා සන්තකය. ම
මද ඔවුන් කරණකොටගෙන ගෞරව
11 යට පැමිනියෙමි. මෙතැන් පටන් මම
ලෝකයේ නොසිටිමි නුමුත් ඔවුන් ලෝ
කයේ සිටිති මම ඔබවහන්සේ ලඟට එ
මි. ශුද්ධවූ පියානෙනි ඔබවහන්සේ මට
දුන්නාවූ ඔවුන් අප ලෙස එකෙක් වෙ
න පිනිස ඔබවහන්සේගේ නාමයෙන්
12 රක්ෂාකලමැනව. මම ඔවුන් සමග ලෝ
කයේ සිටිද්දී ඔවුන් ඔබවහන්සේගේ
නාමයෙන් රක්ෂාකෙලෙමි. ඔබවහන්
සේ මට දුන්නාවූ ඔවුන් ප්‍රවේසම් කෙලෙ
මි. විනාසයෙහි පුත්‍රයා හැර ඔවුන් අත
රෙන් කවුරුවත් විනාසවූනේ නැත.
13 මෙසේ ලියවිල්ල සම්පූර්ණවූනේය. දැන්
ඔබවහන්සේ ලඟට එන්නාවූ මම මාගේ
ප්‍රීතිය ඔවුන් කෙරෙහි සම්පූර්ණවෙන
පිනිස ලෝකයෙහිදී මේ කාරණ කියමි.
14 මම ඔවුන්ට ඔබවහන්සේගේ වචනය
දුනිමි. මම යම්සේ ලෝකයාගේ පක්ෂය
ට නොවෙම්ද එසේම ඔවුනුත් ලෝක
යාගේ පක්ෂයට නොවෙති. ඒ නිසා ලෝ
15 කයා ඔවුන්ට වෛර වූනේය. ඔබවහන්
සේ විසින් ඔවුන් නපුරෙන් රක්ෂාකර
ගන්ට මිස ලෝකයෙන් ගෙනයන්ට යා
16 ඥා නොවෙමි. මම යම්සේ ලෝකයාගේ
පක්ෂයට නොවෙම්ද එසේම ඔවුනුත්
17 ලෝකයාගේ පක්ෂයට නොවෙති. ඔබ
වහන්සේගේ සැබෑකමෙන් ඔවුන් පිරි
18 සිදුකලමැනව. ඔබවහන්සේගේ වචන
ය සැබෑකමනම් වේ. ඔබවහන්සේ මා
ලෝකයට එව්වාසේම මම ඔවුන් ලෝ
19 කයට යවීමි. සැබෑකමෙන් ඔවුන් පිරිසිදු
වෙන පිනිස ඔවුන් නිසා මා පිරිසිදුකර
ගනිමි.
20 තවද ඔවුන් නිසා පමනක් නොව ඔ
වුන්ගේ වචනය කරණකොටගෙන මා
21 අදහගන්නවුන් නිසාත් යාඥාවෙමි. ඔබව
හන්සේ මා එවූ බව ලෝකයා අදහාගන්
නා පිනිස ඔවුන් සියල්ලෝ එකෙක් වේ
වා. පියවූ ඔබවහන්සේ මා ඇතුලෙහිත්
මම ඔබවහන්සේ ඇතුලෙහිත් සිටින්
නාසේම අප ඇතුලෙහි ඔවුනුත් එකෙක්
22 වේවා. අපි එකෙක්ව සිටින්නාසේම ඔවු
23 නුත් එකෙක් වෙන පිනිසද මම ඔවුන්
ඇතුලෙහිද ඔබවහන්සේ මා ඇතුලෙහි
ද සිටීමෙන් ඔවුන්ගේ එකෙක් වීම සම්
පූර්ණවෙන පිනිසද ඔබවහන්සේ මා එ
වූ බවත් ඔබවහන්සේ මට ප්‍රේමකලසේ
ම ඔවුන්ටත් ප්‍රේමකලබවත් ලෝකයා
දැනගන්නා පිනිසද ඔබවහන්සේ විසින්
24 මට දුන් මහිමය මම ඔවුන්ට දුනිමි. පියා
නෙනි ලෝකය මැවීමට පලමුවෙන් ඔ
බවහන්සේ මට ප්‍රේමකල බැවින් ඔබව
හන්සේ විසින් මට දුන් මහිමය ඔබව
හන්සේ මට දුන්නාවුන් විසිනුත් දක්නා
පිනිස මම සිටින තැන ඔවුනුත් මා සමග
25 සිටීමට කැමැත්තෙමි. ධර්මිෂ්ඨවූ පියානෙ
නි ලෝකයා ඔබවහන්සේ හැඳිනෙන්
නැත. නුමුත් මම ඔබවහන්සේ හැඳින්
නෙමි මොවුන් ඔබවහන්සේ මා එවූසේ
26 කැයි දැනගත්තෝය. ඔබවහන්සේ මට
ඇත්තාවූ ප්‍රේමය ඔවුන් ඇතුලෙහිද ම
මත් ඔවුන් ඇතුලෙහිද වෙන පිනිස ඔ
බවහන්සේගේ නාමය ඔවුන්ට දැන්වීමි
දන්වන්නෙමියි කීසේක.

18. පරිච්ඡේ. යේසුස්වහන්සේ මේ
සේ කියා තමන් ගෝලයන් සමග කෙ
ද්‍රොන්නම් ඔය එගොඩට ගොස් එහි ති
2 බෙන උයනකට පැමිනිසේක. යේසුස්ව
හන්සේ තමන් ගෝලයන් සමග නො
යෙක් වර එහි ගියබැවින් උන්වහන්සේ
පාවාදෙන යූදස් ඒ ස්ථානය දැනපුරුදුය.
3 එහෙයින් ඔහු නායක පූජකයන්ගෙන්ද
ඵරිසින්ගෙන්ද ලබාගත් සේනාව සහ
සේවකයන්ද සමග පහන් විලක්කු ආයු
4 ධ අරගෙන එතනට ආයේය. යේසුස්ව
හන්සේ තමන්ට පැමිනෙන සියළු දේ දැ
න පිටත්ව ගොස් තුබලා සොයන්නේ
5 කවුදැයි ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන්
උන්වහන්සේට උත්තර දෙමින් නාසරෙත්
යේසුස්යයි කීවෝය. යේසුස්වහන්සේ
ඒ මමයයි කීසේක. උන්වහන්සේ පාවා
දෙන්නාවූ යූදස් ඔවුන් සමග සිටියේය.
6 ඒ මමයයි යේසුස්වහන්සේ ඔවුන්ට කී
වේලේම ඔවුන් පස්සෙන් පස්සට ගොස්

7 බිම වැටුණෝය. නැවතත් උන්වහන්සේ
නුඹලා සොයන්නේ කවුදැයි ඇසූසේක.
ඔවුන් නාසරෙත් යේසුස්යයි කීවෝය.
8 යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්
ඒ මමයයි නුඹලාට කීමි. එහෙයින් නුඹ
ලා මා සොයනවානම් මොවුන්ට යන්ට
9 හැරපල්ලායයි කීසේක. මෙසේ කී ඒ
ඔබවහන්සේ මට දුන්නාවුන්ගෙන් කවු
රුවත් විනාසවූයේ නැතැයි උන්වහන්
සේ විසින් කියනලද වචනය මෙසේ
10 සම්පූර්ණවෙන පිණිසය. එකල කඩුවක්
අරන් සිටි සීමොන් පේත්‍රුස් ඒක ඇද නා
යක පූජකයාගේ වැඩකාරයෙකුම් ගසා
ඔහුගේ දකුණු කන කැපීය. ඒ වැඩකා
11 රයාගේ නම මල්කස්ය. එවිට යේසුස්ව
හන්සේ පේත්‍රුස්ට කියනසේක් නුඹේ
කඩුව කොපුවේ දමාපන්න. පියානන්ව
හන්සේ විසින් මට දුන් කුසලාන නො
බොම්දැයි කීසේක.
12 එකල සේනාවද සේනාපතියාද යු
13 දෙව්වරුන්ගේ සේවකයෝද යේසුස්ව
හන්සේ අල්ලා බැඳ ඒ අවුරුද්දට උත්ත
ම පූජකවූ කායාපස්ගේ මාමාවූ අන්නස්
14 ලඟට පළමුකොට ගෙනගියෝය. ඒ කා
යාපස් සෙනඟ නිසා එක් මනුෂ්‍යයකුගේ
මරණය ප්‍රයෝජන ඇතැයි මන්ත්‍රන ස
භාවේදී යුදෙව්වන්ට කී තැනැත්තාය.
15 සීමොන් පේත්‍රුස්ද තවත් ගෝල
යෙක්ද යේසුස්වහන්සේ පස්සේ ගියෝ
ය. ඒ ගෝලයා උත්තම පූජකයා විසින්
අඳුනන බැවින් යේසුස්වහන්සේ සමඟ
උත්තම පූජකයාගේ මළුවට ඇතුල්වූ
16 යේය. නුමුත් පේත්‍රුස් දොරකඩ ළඟ පි
ටත සිටියේය. එවිට උත්තම පූජකයා වි
සින් අඳුනනලද ඒ අනික් ගෝලයා පිට
තට ගොස් දොරටුපාලිට කියා පේත්‍රුස්
17 ඇතුලට ගෙන ආයේය. එවිට දොරටුපා
ලිවූ දැසි නුඹත් ඒ මනුෂ්‍යයාගේ ගෝල
යන්ගෙන් එකෙක් නොවේදැයි පේත්‍රුස්
18 ට කීවාය. මම නොවෙමියි කීය. සීතල
බැවින් වැඩකාරයෝද සේවකයෝද ගි
නි අල්වා තපිමින් සිටියෝය. පේත්‍රුස්ද
19 ඔවුන් සමග ගිනි තපිමින් සිටියේය. එ
විට උත්තම පූජකයා යේසුස්වහන්සේ
ගේ ගෝලයන් ගැනද ඉගැන්වීම ගැන
20 ද උන්වහන්සේගෙන් ඇසූයේය. යේසු
ස්වහන්සේ ඔහුට උත්තර දෙමින් මම ප්‍ර
සිද්ධයෙන් ලොවට කථාකෙලෙමි. යුදෙව්
වරුන් නිතර රැස්වන්නාවූ සිනගෝගව
ලදීත් දේවමාලිගාවේදීත් නිතරම ඉ
ගැන්වීමි. රහසින් කිසිවක් නොකීයෙ
21 මි. මාගෙන් අසන්නේ මක්නිසාද? මා
ගේ වචන ඇසූවන්ගෙන් මම ඔවුන්ට
කීවේ මොකදැයි අසාපන්න. මම කීවේ
22 මොකදැයි ඔවුන් දනිතියි කීසේක. උන්
වහන්සේ මෙසේ කීකල ලඟ සිටියාවූ
සේවකයන්ගෙන් එකෙක් උත්තම පූජ
කයාට මෙසේ උත්තර දෙන්නේද කියා
යේසුස්වහන්සේට අතුල් පහරක් ගැසී
23 ය. යේසුස්වහන්සේ ඔහුට උත්තර දෙ
මින් මම නරකක් කීම්නම් ඒ නරක ගැ
න සාක්ෂි දීපන්න හොඳක් කීම්නම් මට
පහර දෙන්නේ මක්නිසාදැයි කීසේක.
24 බැඳලා සිටි උන්වහන්සේ අන්නස් විසින්
උත්තම පූජකයාවූ කායාපස් ලඟට යවනු
25 ලැබූසේක. සීමොන් පේත්‍රුස් ගිනි තපි
මින් සිටිකල ඔවුන් නුඹ ඔහුගේ ගෝල
යන්ගෙන් එකෙක් නොවේදැයි ඔහුට කී
26 වෝය. නැත මම නොවෙමියි කීයේය. උ
ත්තම පූජකයාගේ වැඩකාරයන්ගෙන්
එකෙක්වූ පේත්‍රුස් විසින් කන කැපූ තැ
නැත්තාගේ නෑයෙක් ඔහු සමග උයනේ
27 සිටි නුඹ නුදුටිම්දැයි කීය. එවිට පේත්‍රුස්
නැවතද නැතැයි කීය. එවෙලේම කුකු
ලා හැඬලීය.
28 එකල ඔවුන් යේසුස්වහන්සේ කායා
පස් ලඟින් නඩු සාලාවට ගෙන ගියෝ
ය. එවිට පහන්විය. ඔවුන් පාස්කු මංග
ල්‍ය කෑමට අපවිත්‍ර නොවෙන පිණිස
29 නඩු සාලාවට ඇතුල්වූයේ නැත. එක
ල පිලාත් ඔවුන් වෙතට පිටත්ව ගොස්
මේ මනුෂ්‍යයාට විරුද්ධව මොන වරදක්
30 තබද්දැයි කීය. ඔවුන් උත්තර දෙමින්
මොහු වැරදිකාරයෙක් නොවීනම් නුඹ
31 ට ඔහු පාවා නොදෙමුයයි කීවෝය. එ
විට පිලාත් නුඹලා ඔහු ගෙනගොස් නුඹ
ලාගේ ව්‍යවස්ථාව ලෙස විනිශ්චය කරණ
ලලායයි ඔවුන්ට කීය. එවිට යුදෙව්වරු
කිසිවෙක් මරන්ට අපට බලය නැතැයි
32 කීවෝය. මෙසේ වූයේ යේසුස්වහන්
සේ මොන මරණයකින් මැරෙණසේක්
ද කියා තමන්වහන්සේ විසින් කියා ති
33 බුනු වචනය සම්පූර්ණවෙන පිණිසය. එ
විට පිලාත් නැවත නඩු සාලාවට ඇතුල්
ව යේසුස්වහන්සේ කැඳවා නුඹ යුදෙව්
34 වන්ගේ රජදැයි ඇසූයේය. යේසුස්වහන්
සේ ඔහුට උත්තර දෙමින් නුඹම මෙසේ
කියන්නේද නොහොත් අනුන් මා ගැන

35 එසේ නුඹට කීවෝදැයි කීසේක. පිලාත්
උත්තර දෙමින් මම යුදෙව්වෙක්ද? නු
ඹේම ජාතිහුද නායක පූජකයෝද නුඹ
මට පාවාදුනෝය. නුඹ කලේ මොක
36 දැයි කීය. යේසුස්වහන්සේ උත්තර දෙ
මින් මාගේ රාජ්‍යය මේ ලෝකයේ නො
වේය. මාගේ රාජ්‍යය මේ ලෝකයෙහි
වීනම් මම යුදෙව්වරුන්ට පාවාදෙනු
නොලබන පිණිස මාගේ මෙහෙකාරයෝ
යුඬකෙරෙති. දැන් මාගේ රාජ්‍යය මෙහි
37 නොවේයයි කීසේක. එවිට පිලාත් එසේ
වීනම් නුඹ රජෙක්දැයි උන්වහන්සේට කී
ය. යේසුස්වහන්සේ උත්තර දෙමින් මම
රජයයි නුඹම කියනෙහිය. ඒ පිණිස ම
ම උපනෙමි සැබෑකමට සාක්ෂි දෙන
පිණිස ලෝකයට ආයෙමි. සැබෑකමෙන්
වූ තැනැත්තෝ මාගේ ශබ්දය අසනෙත්
38 යයි කීසේක. පිලාත් සැබෑකමනම් මො
කදැයි උන්වහන්සේට කියා නැවත යු
දෙව්වරුන් වෙතට පිටත්ව ගොස් මො
හු අත කිසි වරදක් මට පෙනෙන්නේ
39 නැත. නුඹුත් පාස්කු මංගල්‍යයෙහිදී නු
ඹලාට මා විසින් එකෙක් මුදා දෙන සිරි
තක් තිබෙයි එහෙයින් යුදෙව්වන්ගේ
රජ මා විසින් නුඹලාට මුදා හරින්ට නුඹ
40 ලා කැමතිදැයි ඔවුන්ගෙන් ඇසුවේය. එ
විට ඒ සියල්ලෝ නැවත ශබ්ද පවත්වා
මොහු නොවේය බරබ්බායයි කීවෝය.
බරබ්බා සොරෙක් වූයේය.

19. පරිච්ඡේ. එවිට පිලාත් යේසුස්ව
2. හන්සේට කසවලින් තැලෙව්වේය. සේ
වායෝද කටු ඔටුන්නක් ගොතා උන්ව
3 හන්සේගේ හිසේ තබා රත් වස්ත්‍රයක්
උන්වහන්සේට හඳවා යුදෙව්වන්ගේ ර
ජ්ජුරුවෙනි සුවසේ සිටිනසේක්වයි කියා
උන්වහන්සේට අතුල්පහර දුනෝය.
4 එකල පිලාත් නැවත පිටතට ගොස් මො
හු අත කිසි වරදක් මට නොපෙනෙන
බව නුඹලා දැනගන්නා පිණිස මොහු නු
ඹලා ලඟට ගෙනායෙමියි ඔවුන්ට කීය.
5 එවිට යේසුස්වහන්සේ කටු ඔටුන්නද
රත් වස්ත්‍රයද දරමින් පිටතට ආසේක.
6 එවිට පිලාත්ද ඒ මනුෂ්‍යයා බලාපල්ලා
යයි ඔවුන්ට කීය. එවිට නායක පූජක
යෝද සේවකයෝද උන්වහන්සේ දැක
කුරුසියෙහි මැරුවමැනව කුරුසියෙහි
මැරුවමැනවයි කියා හඬගෑසුවෝය. පි
ලාත් නුඹලාම මොහු අරගෙන කුරුසි
යෙහි මරාපල්ලාය. මොහු අත කිසි වර
දක් මට පෙනෙනෙත් නැතැයි ඔවුන්ට
7 කීය. යුදෙව්වරු ඔහුට උත්තර දෙමින්
අපට ව්‍යවස්ථාවක් ඇත. තමා විසින්ම
තමන් දෙවියන්වහන්සේගේ පුත්‍රයායයි
කී බැවින් ඒ ව්‍යවස්ථාවේ හැටියට ඔහු
8 මරණයට සුදුසුයයි කීවෝය. පිලාත්
9 ඒ අසා වඩා භයව නැවත නඩුසාලාවට
ඇතුල්ව නුඹ කොහින්දැයි යේසුස්ව
හන්සේට කීයේය යේසුස්වහන්සේ ඔහු
10 ට කිසි උත්තරයක් දුනෙත් නැත. එක
ල පිලාත් නුඹ මට කථාකරනෙත් නැද්
ද? නුඹ කුරුසියෙහි මරන්ටද මුදන්ටද්
මට බලය ඇති බව දනෙත් නැද්දැයි උ
11 න්වහන්සේට කීය. යේසුස්වහන්සේ උත්
තර දෙමින් උඩින් නුඹට නොදෙන ල
දේනම් මට විරුඬව නුඹට කිසි බල
යක් නැත. එහෙයින් මා නුඹට පාවාදුන්
තැනැත්තාට වැඩි මහත් පව් ඇතෙත්ය
12 යි කීසේක. එතැන් පටන් පිලාත් උන්ව
හන්සේ මුදන්ට සෙවීය. නුමුත් යුදෙව්
වරු මොහු මිදුවොත් නුඹ කායිසර්ගේ
මිත්‍රයා නොවේය. යමෙක් තමාම රජක
රගනීනම් ඔහු කායිසර්ට විරුඬව කථා
13 කරනෙත්යයි මුරගසා කීවෝය. පිලාත්
ඒ බස් අසා යේසුස්වහන්සේ පිටතට අර
ගෙන හෙබ්‍රෙව් භාෂාවෙන් ගබ්බථාය
යි ගල් ලෑලිනම් ඉඬමේ තිබෙන නඩු ආ
14 සනයෙහි ඉඳගත්තේය. එවිට පාස්කු මං
ගල්‍යය සූදානම්කරණ දවසේ හවෙනි පැ
ය පමන විය. එවිට ඔහු නුඹලාගේ රජ
15 බලාපල්ලායයි යුදෙව්වන්ට කීය. නුමුත්
ඔවුන් ඔහු අහක්කලමැනව අහක්කල
මැනව ඔහු කුරුසියෙහි මැරුවමැනවයි
කියා මුරගෑසුවෝය. පිලාත්ද නුඹලාගේ
රජ කුරුසියෙහි මරම්දැයි ඔවුන්ගෙන්
ඇසුවේය. එවිට නායක පූජකයෝ උත්
තර දෙමින් කායිසර් මිස අපට රජෙක්
16 නැතැයි කීවෝය. එකල ඔහු යේසුස්ව
හන්සේ කුරුසියෙහි මරනු ලබන පිණිස
ඔවුන්ට පාවාදුනෝය. එවිට ඔවුන් යේ
17 සුස්වහන්සේ අල්වාගෙන ගියෝය. ත
මාගේ කුරුසිය උසුලාගෙන යන්නාවූ උ
න්වහන්සේ හෙබ්‍රෙව් භාෂාවෙන් ගොල්
ගොතායයි කියනලද ඉස්කබලස්ථානය
18 ට පිටත්ව ගියසේක. එහිදී යේසුස්වහන්
සේ මැදිකොට උන්වහන්සේගේ දෙපැ
ත්තෙන් උන්වහන්සේ සමග වෙනත් දෙ
නෙනක් කුරුසියෙහි ඇනගෑසුවෝය.

19 තවද පිලාත් නාම පත්‍රයක් ලියා කුරුසි
යෙහි තැබීය. ඒ පත්‍රයේ මේ යුදෙව්වන්
ගේ රජවූ නාසරෙත් යේසුස්යයි ලියනලද
20 දේය. යේසුස්වහන්සේ කුරුසියෙහි ඇ
නගැසූ ස්ථානය නුවරට සමීප බැවින්ද ඒ
පත්‍රය හෙබ්‍රෙව් ග්‍රීක් ලතින් යන භාෂා
වලින් ලියා තිබුන බැවින්ද යුදෙව්වන්
ගෙන් බොහෝ දෙනෙක් ඒ පත්‍රය කි
21 යෙව්වෝය. එවිට යුදෙව්වන්ගේ නාය
ක පූජකයෝ කථාකොට යුදෙව්වන්ගේ
රජයයි නොලියා මම යුදෙව්වන්ගේ ර
ජයයි ඔහු විසින් කියනලදේයයි ලිව්ව
22 මැනවයි පිලාත්ට කීවෝය. පිලාත් මම ය
23 මක් ලිව්මිද ඒක ලිව්මියි කීයේය. හේවා
යෝ යේසුස්වහන්සේ කුරුසියෙහි ඇන
ගැසූකල උන්වහන්සේගේ වස්ත්‍ර අරගෙ
න එක එක හේවායාට එක එක කොටස
බැගින් සතර කොටසක් කලෝය. උන්
24 වහන්සේගේ යට ඇඳුමද ගත්තෝය. ඒ
ඇඳුම නොමහා උඩ පටන් මුළුල්ලම වි
යලා තිබුණේය. එබැවින් මේක නොඉ
රා කාට වේදැයි කියා ඒ පිණිස දාදු දම
මුයයි ඔව්හුනොව්හුන් කීවෝය. මාගේ වස්
ත්‍ර ඔවුන් අතරේ බෙදා මාගේ ඇඳුම පි
ණිස දාදු දැමුවෝයයි යන ලියවිල්ල මෙ
සේ සම්පූර්ණවිය. එහෙයින් හේවා
25 යෝ මෙලෙස කලෝය. තවද යේසුස්ව
හන්සේගේ මෑණියෝද මෑණියන්ගේ
සහෝදරීවූ ක්ලෝපාගේ භාර්යාවූ ම
රියාද මග්දලාවේ මරියාද උන්වහන්සේ
26 ගේ කුරුසිය ළඟ සිටියෝය. එවිට යේ
සුස්වහන්සේ ළඟ සිටිනාවූ තමන්ගේ
මෑණියන්ද තමන් විසින් ප්‍රේමකරණලද
ගෝලයාද දැක ස්ත්‍රිය නුබේ පුත්‍රයා බ
ලාපනැයි තමාගේ මෑණියන්ට කීසේ
27 ක. නුබේ මෑණියන් බලාපනැයි ගෝ
ලයාටද කීසේක. එවේලෙහි පටන් ඒ
ගෝලයා තමාගේ ගෙදරට ඈ පිළිගත්
28 තේය. ඉන්පසු යේසුස්වහන්සේ දැන් සි
යල්ල තීන්දුවූන බව දැන ලියවිල්ල සම්පූ
ර්ණවෙන පිණිස පිපාස ඇත්තෙමියි කී
29 සේක. එවිට කාඩියෙන් පිරුණු භාජන
යක් එහි තබා තිබුණේය. ඔවුන් මූදු හ
තක් කාඩියෙන් පොවා හිසොප් දණ්
ඩක බැඳ උන්වහන්සේගේ මුඛයට දික්
කලෝය. යේසුස්වහන්සේ කාඩි ගත්
30 සේක. පසුව තීන්දුවූනේයයි කියා හිස
31 නමා ප්‍රාණය පාවාදුන්සේක. යුදෙව්ව
රු සබත් දවසට සූදානම්කරණ දවස
බැවින් මහත් දවසක්වූ ඒ සබත් දවසේ
ශරීර කුරුසියෙහි නොතිබෙන පිණිස
ඔවුන්ගේ කෙණ්ඩා බිඳුවා ඔවුන් අහක්ක
32 රවන්ට පිලාත්ගෙන් ඉල්ලුවෝය. එක
ල හේවායෝ ඇවිත් උන්වහන්සේ සම
ග කුරුසියෙහි ඇනගසනලද පලමුවෙ
නියාගේ සහ අනිකාගේත් කෙණ්ඩා
33 බින්දෝය. නුමුත් ඔවුන් යේසුස්වහන්
සේ ළඟට ඇවිත් උන්වහන්සේ මල බ
ව දැන උන්වහන්සේගේ කෙණ්ඩා බින්
34 දේ නැත. තවද හේවායින්ගෙන් එ
කෙක් හෙල්ලයකින් උන්වහන්සේගේ
ඇලපතට ඇන්නේය. එවලේම ලේත්
35 වතුරත් පිටත්වූනේය. ඒ දුටු තැනැත්
තේ එයට සාක්ෂි දුන්නේය. ඔහුගේ සා
ක්ෂිය සැබෑය. නුබලා අදහන පිණිස ඔ
හු සැබෑව කියන බව ඔහුම දන්නේය.
36 මේ සිඩවූනේ උන්වහන්සේගේ ඇටව
ලින් එකක්වත් බිඳිනු නොලැබේයයි
ලියා තිබුන ලියවිල්ල සම්පූර්ණවෙන
37 පිණිසය. නැවතත් ඔවුන් විසින් අනනා
ලද තැනන්වහන්සේ බලනවා ඇතැයි
වෙන ලියවිල්ලක කියා තිබෙන්නේය.
38 ඉන්පසු යුදෙව්වන්ට භයින් රහසින්
යේසුස්වහන්සේට ගෝලවූ අරිමාතයෙ
හි යෝසැප් යේසුස්වහන්සේගේ මිනි
ය ගෙනියන පිණිස පිලාත්ගෙන් ඉල්වී
ය. පිලාත් අවසර දුන්නේය. එහෙයින්
ඔහු ඇවිත් යේසුස්වහන්සේගේ මිනිය
39 ගෙනගියේය. පලමුවෙන් යේසුස්වහන්
සේ ළඟට රාත්‍රියෙහි ආවාවූ නිකොදේමුස්
ද ගන්ධරස මිශ්‍රවූ අගිල් රත්තල් සියයක්
40 පමන අරගෙන ආයේය. එකල ඔවුන්
යේසුස්වහන්සේගේ මිනිය අරගෙන යු
දෙව්වරුන් තැන්පත්කරණ සිරිතේ හැ
ටියට සුවඳ බඩු සමග රෙදිවලින් වෙළු
41 වෝය. උන්වහන්සේ කුරුසියෙහි ඇන
ගැසූ ස්ථානයෙහි උයනක් විය. ඒ උය
නෙහි කවදාවත් කවුරුවත් නොතැබු
වාවූ අළුත් සොහොන් ගෙයක් තිබුණේ
42 ය. යුදෙව්වරුන්ගේ සූදානම් කරණ ද
වස බැවින්ද ඒ සොහොන් ගෙය සමී
ප බැවින්ද යේසුස්වහන්සේ එහි තැබූ
වෝය.

20. පරිච්ඡ. සතියේ පලමුවෙනි දා
අළුයම් වේලේ මග්දලාවේ මරියා අඳු
ර තිබෙද්දීම සොහොන් ගේ ළඟට
ගොස් සොහොන් ගෙයින් ගල අහක්

2 කොට තිබෙන බව දුටුවාය. එවිට ඈ
සීමොන් පේත්‍රුස් ළඟටද යේසුස්වහන්
සේ ආදරේ ඇති අනිත් ගෝලයා ළඟට
ද දුවගන ගොස් ස්වාමින්වහන්සේ සො
හොන් ගෙයින් අහක්කොට ගෙන
ගොස් කොතන තැබුවෝද නොදනිමු
3 යයි ඔවුන්ට කීවාය. එකල පේත්‍රුස් සහ
අනික් ගෝලයා සොහොන් ගේ ළඟට
යන්ට පිටත්ව දෙනාම එක්ව දිව්වෝ
4 ය. අනික් ගෝලයා පේත්‍රුස්ට වඩා ඉ
ක්මන් හනික දිවගොස් පළමුකොට සො
හොන් ගෙය ළඟට පැමින නැමී බලා
5 එහි තබනලද රෙදි දුටුවේය. එසේ නු
6 මුත් ඇතුලට ගියේ නැත. එවිට සීමොන්
පේත්‍රුස් ඔහු පස්සේ සොහොන් ගෙට
7 ඇතුල්ව රෙදි තබා තිබෙන බවද උන්
වහන්සේගේ හිස වට වෙළූ රෙදිකඩ
ඇඳුම් සමග නැතිව වෙන තැනක ත
නියම අකුලා තබා තිබෙන බවද දුටුයේ
8 ය. එකල පළමුකොට සොහොන් ගෙ
ය ළඟට ආවාවූ ඒ අනික් ගෝලයාද
9 ඇතුල්ව බලා ඇදහුයේය. මක්නිසාද
උන්වහන්සේ මලවුන්ගෙන් නැගිටින්ට
ඕනෑයයි ලියනලද ලියවිල්ල ඒතාක්කල්
10 දැනගතෝත් නැත. එවිට ගෝලයෝ ත
මතමන්ගේ ගෙවලට නැවත ගියෝය.
11 නුමුත් මරියා සොහොන් ගෙය ළඟ පිට
ත හඬමින් සිටියාය හඬනාවූ ඈ නැමී
සොහොන් ගෙය බලා යේසුස්වහන්සේ
12 ගේ මිනිය තබනාලද ස්ථානයෙහි සුදු
වස්ත්‍ර හඳනාලද දේවදූතයෝ දෙන්
නෙක් එකෙක් හිස ළඟද එකෙක් පාද
13 ළඟද ඉන්න බව දුටුවාය. ඔවුන් ස්ත්‍රිය
මක්නිසා හඬන්නීදැයි ඈට කීවෝය. ඈ
මාගේ ස්වාමින්වහන්සේ ඉවත්කොට ගෙ
න කොතන තැබුවෝදැයි නොදන්න
14 නිසායයි කීවාය. ඈ මෙසේ කියා ආප
සු හැරී යේසුස්වහන්සේ සිටින බව දුටු
වාය. නුමුත් යේසුස්වහන්සේ බව දැන
15 ගතෝත් නැත. යේසුස්වහන්සේ ස්ත්‍රිය
මක්නිසා හඬන්නීද කවිරු සොයන්නීදැ
යි ඈට කීසේක. ඈ උයන්ගොව්වායයි
සිතා ස්වාමිනි නුඹ විසින් උන්වහන්සේ
ගෙනයනලද්දේනම් උන්වහන්සේ කො
තන තැබුවේදැයි මට කිවමැනව එවිට
මම උන්වහන්සේ ඉවත්කොට ගෙනය
16 මියි කීවාය. යේසුස්වහන්සේ මරියා කි
යා ඈට කීසේක. ඈ හැරී රබ්බොනියි
උන්වහන්සේට කීවාය. රබ්බොනී යනු
17 ආචාරීනි යන අර්ථයි. යේසුස්වහන්සේ
මා අල්ලා සිටිනනාට එපාය. මාගේ පියා
නන්වහන්සේ ළඟට තවම නොනැංගෙ
මි. නුමුත් මාගේ සහෝදරයන් ළඟට
ගොස් මම මාගේ පියානන්වහන්සේද
නුඹලාගේ පියානන්වහන්සේද මාගේ
දෙවියන්වහන්සේද නුඹලාගේ දෙවිය
න්වහන්සේද ළඟට නගිමියි ඔවුන්ට කි
18 යාපනනැයි ඈට කීසේක. මග්දලායෙහි
මරියා ගොස් තමා විසින් ස්වාමින්වහන්
සේ දුටු බවද උන්වහන්සේ විසින් මෙ
සේ තමාට කී බවද ගෝලයන්ට දැන්
නුවාය.
19 සතියෙහි පළමුවෙනිවූ එම දා සවස
ගෝලයෝ එක්ව සිටි තැන යුදෙව්වන්
ට භයින් දොරවල් වැසූකල්හි යේසුස්ව
හන්සේ ඇවිත් මැද සිට නුඹලාට සමා
20 දානය වේවයි ඔවුන්ට කීසේක. උන්ව
හන්සේ මෙසේ කියා තමන්වහන්සේ
ගේ අත්ද ඇලයද ඔවුන්ට දැක්වූසේක.
එවිට ගෝලයෝ ස්වාමින්වහන්සේ දැක
21 සන්තෝෂවූනෝය. යේසුස්වහන්සේ නු
ඹලාට සමාදානය වේවයි ඔවුන්ට නැව
ත කියා පියානන්වහන්සේ මා එවූසේම
22 මම නුඹලා යවමියි කීසේක. උන්වහන්
සේ මෙසේ කියා ඔවුන් දෙසට හුස්ම
23 හෙළා ශුද්ධාත්මය ගනිල්ලාය. යම් කෙ
නෙකුගේ පව් නුඹලා මුදනවානම් ඒවා
ඔවුන්ට මිදෙනු ලැබේ යම් කෙනෙකු
ගේ පව් නුඹලා බඳිනවානම් ඒවා බඳිනු
ලැබේයයි ඔවුන්ට කීසේක.
24 තවද යේසුස්වහන්සේ ආකල දොළොස
ගෙන් එකෙක්වූ දිදිමුස්නම් තෝමස් ඔ
25 වුන් සමග සිටියේ නැත. එහෙයින් අ
නිත් ගෝලයෝ ස්වාමින්වහන්සේ දුටි
මුයයි ඔහුට කීවෝය. නුමුත් ඔහු කිය
නුයේ උන්වහන්සේගේ අත්වල ඇන
ගැසූ ලකුන නොදැක ඇනගැසූ ලකුනේ
මාගේ ඇඟිල්ල නොබහා උන්වහන්සේ
ගේ ඇලයෙහි මාගේ අත නොබහා
26 නොඅදහමියි ඔවුන්ට කීය. අට දවසක
ට පසු උන්වහන්සේගේ ගෝලයෝ නැව
ත ගේ ඇතුලෙහි සිටියෝය තෝමස්ද ඔ
වුන් සමග සිටියේය. දොරවල් වැසූකල
යේසුස්වහන්සේ ඇවිත් මැද සිට නුඹලා
27 ට සමාදානය වේවයි කීසේක. එකල උ
න්වහන්සේ තුඹේ ඇඟිල්ල මෙහි දිගු
කොට මාගේ අත් බලා නුඹේ අත මෙ
හි දිගුකොට මාගේ ඇලයෙහි බහා

අවිශ්වාස නොකොට අදහගනිනැයි
28 තෝමස්ට කීසේක. තෝමස් උත්තර
දෙමින් මාගේ ස්වාමිනි මාගේ දෙවිය
29 නියි උන්වහන්සේට කීය. යේසුස්වහන්
සේ තෝමස් නුඹ මා දුටුබැවින් අදහග
ත්තේය. නොදැක අදහන්නෝ වාසනා
වන්තයෝයයි ඔහුට කීසේක.
30 මේ පොතේ නොලියනලද වෙනත්
බොහෝ ආශ්චර්යයන් යේසුස්වහන්සේ
තමන් ගෝලයන්ගේ ඉදිරියේ කලසේ
31 ක. නුමුත් යේසුස්වහන්සේ දෙවියන්ව
හන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්යයි නුඹලා අ
දහාගන්නා පිනිසද අදහගෙන උන්ව
හන්සේගේ නාමයෙන් ජීවනය ලබන
පිනිසද මේවා ලියනලද්දේය.

21. පරිච්ඡේ. ඉන්පසු යේසුස්වහන්
සේ තිබේරියස්නම්වූ මූද අද්දරදී ගෝ
ලයන්ට තමන් නැවත දැක්වූසේක. ඒ
2 දැක්වීම මෙසේ විය. සීමොන් පේත්‍රුස්ද
දිදිමුස්නම් තෝමස්ද ගලීලයේ කානාහි
වූ නතානියෙල්ද සෙබදීගේ පුත්‍රයෝද
තවත් ගෝලයෝ දෙදෙනෙක්ද එක්ව
3 සිටියෝය. සීමොන් පේත්‍රුස්ද මසුන් අ
ල්ලන්ට යමියි ඔවුන්ට කීයේය. ඔවුන්ද
අපිත් නුඹ සමග යමුයයි ඔහුට කීවෝ
ය. ඔවුන් එවලේම පිටත්ව ගොස් නැව
ට නැගුනෝය. නුමුත් ඒ රාත්‍රියෙහි කිසි
4 වක් ඇල්ලුවේ නැත. පහන්වූකල යේසු
ස්වහන්සේ වෙරළෙහි සිටිසේක. නුමුත්
ගෝලයෝ යේසුස්වහන්සේයයි දැනග
5 ත්තේ නැත. එකල යේසුස්වහන්සේ ද
රුවෙනි නුඹලා ළඟ කන්නට මොකවත්
තිබේදැයි ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුහු
6 නැතැයි කීවෝය. එවිට උන්වහන්සේ
නැවේ දකුණු පැත්තෙන් දැල දම්මොත්
අහුවේයයි ඔවුන්ට කීසේක. ඔවුන් ඒ
සේ දැල දමා මසුන් බොහෝ බැවින් ඇ
7 දගන්ට නොහැකිවූවෝය. එවිට යේසු
ස්වහන්සේ ප්‍රේමකල ගෝලයා පේත්‍රුස්
ට කථාකොට ඒ ස්වාමින්වහන්සේයයි කී
ය. සීමොන් පේත්‍රුස් ඒ ස්වාමින්වහන්
සේයයි අසා තමන් ඇඳුම් නැතුව සිටි බැ
වින් සළුව බැඳගෙන මූදට පැන්නේය.
8 අනිත් ගෝලයෝ මසුන් සමග දැල ඇද
ගෙන ඔරුවෙන් ආවෝය. මක්නිසාද
ඔවුන් වෙරළින් රියන් දෙසියකට වඩා
9 දුර නොවී සිටියෝය. ඔවුන් ගොඩබැස්
සකල එහි ගිනි අඟුරුද ඒ පිට මසුන් ති
10 බෙන බවද රොටිද දුටුවෝය. යේසුස්ව
හන්සේ නුඹලා දැන් ඇල්ලූ මසුන්ගෙන්
11 ගෙනෙල්ලායයි ඔවුන්ට කීසේක. සී
මොන් පේත්‍රුස් හැරී ගොස් එකසිය ප
නස් තුන්දෙනෙක් මහ මසුන්ගෙන් පි
රුණු දැල වෙරළට ඇද්දේය. එපමන ති
12 බෙද්දීත් දැල ඉරුණේ නැත. යේසුස්ව
හන්සේ කථාකොට ඇවිත් කාපල්ලාය
යි ඔවුන්ට කීසේක. උන්වහන්සේ ස්වාමි
න්වහන්සේයයි දැන ගෝලයන්ගෙන් කි
සිවෙක්වත් ඔබවහන්සේ කවුදැයි උන්
වහන්සේගෙන් අහන්නට භයවූවෝය.
13 එවිට යේසුස්වහන්සේ ඇවිත් රොටි අර
ගෙන ඔවුන්ට දී එසේම මසුන්ද දුන්සේ
14 ක. යේසුස්වහන්සේ මළවුන්ගෙන් නැ
ගිට ගෝලයන්ට තමන් දැක්වූ මේ තුන්
වෙනි වාරයය.
15 ඔවුන් කෑ පසු යේසුස්වහන්සේ යෝ
නාගේ පුත්‍රවූ සීමොන් මොවුන් මට ප්‍රේ
මවෙනවාට වඩා නුඹ මා කෙරෙහි ප්‍රේ
ම වන්නේදැයි සීමොන් පේත්‍රුස්ට කීසේ
ක. ඔහු එසේය ස්වාමිනි මම ඔබවහන්
සේ කෙරෙහි ස්නේහ ඇති බව ඔබව
හන්සේ දන්නාසේකැයි උන්වහන්සේට
කීය. උන්වහන්සේ මාගේ බැටළු පැටි
යන් පෝෂ්‍යයකරපන්නැයි ඔහුට කීසේ
16 ක. නැවතත් දෙවෙනි වර යෝනාගේ
පුත්‍රවූ සීමොන් නුඹ මා කෙරෙහි ප්‍රේම
ඇද්දැයි ඔහුට කීසේක. ඔහු එසේය ස්වා
මිනි මම ඔබවහන්සේ කෙරෙහි ස්නේ
හ ඇති බව ඔබවහන්සේ දන්නාසේකැ
යි උන්වහන්සේට කීය. උන්වහන්සේ මා
ගේ බැටළුවන් ප්‍රවේසම් කරපන්නැයි ඔ
17 හුට කීසේක. තුන්වෙනි වර යෝනාගේ
පුත්‍රවූ සීමොන් නුඹ මා කෙරෙහි ස්නේ
හ ඇද්දැයි ඔහුට කීසේක. තුන්වෙනි ව
ර මා කෙරෙහි ස්නේහ ඇද්දැයි යේසුස්
වහන්සේ ඔහුට කී බැවින් පේත්‍රුස් දුක
ට පැමින ස්වාමිනි ඔබවහන්සේ සියල්ල
දන්නාසේක. මම ඔබවහන්සේ කෙරෙ
හි ස්නේහ ඇති බව ඔබවහන්සේම ද
න්නාසේකැයි උන්වහන්සේට කීය. යේ
සුස්වහන්සේද ඔහුට කියනසේක් මා
18 ගේ බැටළුවන් පෝෂ්‍යයකරපන්න. සැ
බවක් සැබවක් නුඹට කියමි නුඹේ යෞ
වන කාලයේ නුඹේ ඉඟටිය බැඳගන කැ
මති තැන්වල ඇවිද්දේය නුමුත් නුඹේ
මහළු කාලයේ නුඹේ අත දිගුකරන්නෙ
ය වෙන එකෙක් නුඹේ ඉඟටිය බැඳ

නුඹ නොකමැති තැනට ගෙනයනවා
19 ඇතැයි කීසේක. කවර මරණයකින් ඔ
හු දෙවියන්වහන්සේ ගෞරවයට පමුණු
වන්නේදැයි පෙන්වමින් මෙසේ කීසේක.
මෙසේ කියා මා පස්සේ වරෙන්නැයි ඔ
හුට කීසේක.
20 එකල පේතෘස් හැරී යේසුස්වහන්සේ
21 ප්‍රේමවූ රාත්‍රිභෝජනයෙහිදී උන්වහන්
සේගේ ළැපැතෙන් හාන්සිව ස්වාමිනි ඔ
බවහන්සේ පාවාදෙන්නා කවුදැයි ඇසූ
වාවූ ගෝලයා පස්සේ එනවා දැක ස්වාමි
නි මොහුට කුමක් වන්නේදැයි යේසුස්ව
22 හන්සේගෙන් ඇසුවේය. යේසුස්වහන්
සේ මම එනතුරු ඔහුගේ සිටීමට මම කැ
මතිනම් නුඹට මොකද? නුඹ මා පස්
23 සේ වරෙන්නැයි ඔහුට කීසේක. එහෙ
යින් ඒ ගෝලයා නොමියන්නේයයි යන
වචනය සහෝදරයන් අතරේ පතලවී
ගියේය. එසේ නුමුත් යේසුස්වහන්සේ
මම එනතුරු ඔහුගේ සිටීමට මම කැමති
නම් නුඹට මොකදැයි කීවා මිස ඔහු නො
මියන්නේයයි නොකීසේක.
24 මේ දේ ගැන සාක්ෂි දෙන්නාවූ මේ
දේ ලිව්වූ ගෝලයා මේය. ඔහුගේ සාක්ෂි
25 ය සැබෑයයි අපි දනිමුව. යේසුස්වහන්
සේ විසින් කල වෙනත් බොහෝ කාර
ණා ඇත. ඒවා එකින් එක ලියනලදේ
නම් ලියනලද පොත් බරන්ට ලෝකය
ට බැරියයි සිතමි.

# ප්‍රේ රි ත ය න් ගේ ක්‍රි යා ය.

1. පරිච්ඡේදය. එම්බා තෙයෝපිලස්
යේසුස්වහන්සේ තමන් විසින් තෝරා
ගත් ප්‍රේරිතයන්ට සුද්ධාත්මයානන්වහන්
සේ කරණකොටගෙන ආඥා දී ස්වර්ග
2 යට ඔසවාගනු ලැබූ දවස දක්වා උන්
වහන්සේ විසින් කරන්ටද උගන්වන්ටද
පටන්ගත් සියල්ල ගැන පලමු පොත සෑ
3 දීමි. තමන්වහන්සේගේ මරනින් පසු
බොහෝ සැක නැති ලකුණුවලින් ජීව
මානවූ තමන් ප්‍රේරිතයන්ට දක්වා දෙ
වියන්වහන්සේගේ රාජ්‍යයට අයිතිවූ දේ
ගැන කථාකරමින් සතලිස් දවසක් ඔ
4 වුන් විසින් දකිනු ලබමින් සිටිසේක. උ
න්වහන්සේ තමන් සමග රැස්ව සිටියාවූ
ඔවුන්ට අනදෙනසේක් යෙරුසලමෙන්
අහක්ව නොගොස් නුඹලාට මා විසින්
කී පියානන්වහන්සේගේ පොරොන්දුව බ
5 ලා සිටපල්ලාය. මක්නිසාද යොහන් ව
තුරෙන් බව්තීස්ම කලේය. නුමුත් නුඹ
ලා මෙසින් නොබෝ දවසක් ගිය පසු
සුද්ධාත්මයෙන් බව්තීස්ම කරනු ලබන
6 වා ඇතැයි කීසේක. රැස්ව සිටියාවූ ඔ
වුන් ස්වාමිනි මේ කාලයෙහි ඊශ්‍රායෙල්
ට රාජ්‍යය නැවත දෙනසේක්දැයි උන්ව
7 හන්සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ
ඔවුන්ට කියනසේක් පියානන්වහන්සේ
තමන් බලයෙන් නියමකල කාලවල්ද
ප්‍රස්ථාවල්ද දැනගන්නාට නුඹලාට යුතු
8 නැත. නුමුත් නුඹලා කෙරෙහි සුද්ධාත්ම
යානන්වහන්සේ පැමිණි පසු බලය ලබ
න්නා ඇත. තවද යෙරුසලමෙහිද සිය
ළු යුදයෙහිද සමාරියෙහිද පොළොවේ
සීමාව දක්වාද නුඹලා මට සාක්ෂිකාර
යෝ වෙනවා ඇතැයි කීසේක. උන්ව
හන්සේ මෙසේ කියා ඔවුන් බලා සිටිද්
9 දීම ඔසවාගනු ලැබූසේක. වලාකුලකින්
වසාගන්නාලදුව ඔවුන්ට නොපෙනී ගි
10 යසේක. උන්වහන්සේ නගින කල ඔ
11 වුන් ස්වර්ගය දෙස බලා සිටිද්දීම සුදු
වස්ත්‍ර ඇන්දාවූ මනුෂ්‍යයෝ දෙදෙනෙක්
ඔවුන් ලඟ සිට ගලිලයෙහි මනුෂ්‍යයෙ
නි නුඹලා ස්වර්ගය දෙස බල බලා සිටින්
නේ මක්නිසාද? නුඹලා කෙරෙන් ස්ව
ර්ගයට ඔසවාගන්නාලද මේම යේසුස්ව
හන්සේ ස්වර්ගයට යනවා නුඹලා දුටු
මාසේම නැවතත් එනවා ඇතැයි කී
සේක.
12 එකල ඔවුන් යෙරුසලමෙහි සිට ස
බත් දවසක ගමන් පමන දුරවූ ඔලිව නම්
කන්දෙන් යෙරුසලමට ආපසු ගොස් ත
13 මන් විසූ උඩුමහලෙට නැගුනෝය. එහි
පේතෘස්ද යාකොබ්ද යොහන්ද අන්ද්‍රෑද
පිලිප්ද තෝමස්ද බර්තොලොමෙව්ද ම
තෙව්ද අල්ෆෙවුස්ගේ පුත්‍රවූ යාකොබ්ද
සෙලොතෙස්නම් සිමොන්ද යාකොබ්
14 ගේ සහෝදරවූ යුදස්ද සිටියෝය. ඒ

සියල්ලෝද ස්ත්‍රීහුද යේසුස්වහන්සේගේ
මව්වූ මරියාද උන්වහන්සේගේ සහෝ
දරයෝද එක්සිත්ව යාඥාකරමින් කන්
15 තලව්කරමින් සිටියෝය. රැස්ව සිටි ඔ
වුන් ගනන් මිසමෙයන් එකසිය විසි දෙ
නෙක් පමනය. ඒ දවස්වලදී පේත්‍රුස්
16 ගෝලයන් මැද නැගී සිට කියනුයේ ස
හෝදරවූ මනුෂ්‍යයෙනි අප සමග ගනන්
ගන්නාලදුව මේ මෙහෙයට පංගුකාර
යෙක්වූ යේසුස්වහන්සේ ඇල්ලුවන්ට ම
17 ග පෙන්නුවාවූ යූදස් ගැන ශුද්ධාත්මයා
නන්වහන්සේ දාවිත් ලවා පලමු කියෙව්
වාවූ ලියවිල්ල සම්පූර්ණවෙන්ට ඕනය.
18 (ඔහු අධර්මිෂ්ඨකමේ කුලියෙන් එක් බි
මක් මිලදී ගෙන මුනින් වැටී මැදින් පැ
ලුනේය. ඔහුගේ බඩවැල් සියල්ලද පිට
19 ත ආයේය. මේ කාරණාව යෙරූසලම්
වාසී සියල්ලන් අතරේ පතලවිය. එහෙ
යින් ඒ බිමට ඔවුන්ගේ භාෂාවෙන් ලේ
වල බිමයයි අර්ථ ඇති අකෙල්දමයයි කි
20 යනලදී) මක්නිසාද ඔහුගේ වාසස්ථාන
ය වනාන්ත්‍ර වේවා කවුරුවත් එහි නො
සිටිවා ඔහුගේ තනතුර වෙන කෙනෙක්
ගනිවයි ගීතිකා පොතේ ලියනලද්දේය.
21 එහෙයින් යොහන්ගේ බව්තිස්මය ප
වත් ස්වාමිවූ යේසුස්වහන්සේ අප කෙ
22 රෙන් ඔසවාගත් දවස දක්වා උන්වහන්
සේ අප අතරෙහි ආ ගිය සියළු කාලයෙ
හි නිතරම අප සමග සිටියාවූ මේ මිනි
සුන්ගෙන් එකෙක් උන්වහන්සේගේ ම
ලවුන්ගෙන් නැගිටීමට සාක්ෂිකාරයෙක්
23 වෙනනට ඕනයයි කීයේය. එවිට ඔවුන්
යුස්තස් කියන බර්සබස් නම් යෝසෑප්ද
මත්තියස්ද යන දෙදෙන නියමකොට
24 යාඥාකරමින් සියල්ලන්ගේ සිත් දන්නා
වූ ස්වාමීන්වහන්ස තමන්ගේ ස්ථානයට
25 යන පිනිස හැරී ගියාවූ යූදස් කල මෙ
හෙය සහ ප්‍රේරිතකමට පංගුකාරයෙක්
වෙන පිනිස මොවුන් දෙදෙනාගෙන්
තෝරාගත් තැනැත්තෙක් දන්වූවමැන
26 වයි කියා ඔවුන් ගැන පසඇට දැමූවෝ
ය. එවිට මත්තියස්ට පසඇටය වැටුනේ
ය. එකල ඔහු ප්‍රේරිතයන් එකොලස ස
මග ගනන් ගන්නා ලද්දේය.

2. පරිච්ඡ. තවද පෙන්තකොස්තයේ
දවස පැමිනිකල සියල්ලෝ එක්සිත්ව එ
2 ක තැන සිටියෝය. එකල මහත් සැර
සුලඟක් මෙන් ශබ්දයක් අහසෙන්
හුනුව ආයේය. එයින් ඔවුන් උන්නාවූ
3 ගේ මුළුල්ල පිරුනේය. එවිට ගිනි සමා
නවූ බෙදුනාවූ දිව් ඔවුන්ට පෙනී ඔවුන්
4 එක එකා කෙරෙහි පිහිටුනේය. ඔවුන්
සියල්ලෝද ශුද්ධාත්මයෙන් සම්පූර්ණව
ආත්මයානන්වහන්සේ ඔවුන්ට යම්සේ
කථාකරනනට දුන්සේක්ද එසේ අන්
භාෂාවලින් කථාකරනනට පටන්ගත්
5 තෝය. අහසින් යට තිබෙන සියළු දේ
සවලින් ආවාවූ භක්තිවන්තවූ යුදෙව්ව
6 රූ යෙරූසලමේ වාසයකලෝය. මේ
කාරණ ප්‍රසිඬවූකල සමූහය එකතුව ඇ
විත් වියවුල්වීය. මක්නිසාද සියළු දෙන
තමතමන්ගේ භාෂාවලින් ඔවුන් කථාක
7 රණ බව ඇසුවෝය. ඔවුන් සියල්ලෝ
විශ්මයටද පුදුමයටද පැමින ඔවුනො
වුන් කථාකොට මේ කථාකරනනාවූ සි
8 යල්ලෝ ගලිලයෝ නොවෙද්ද? අපි සි
යල්ලෝ අපේම ජන්ම භාෂාවලින් ඔ
වුන් කථාකරණ බව කෙසේ අසමෝද?
9 පාර්ථි රට වාසිවූද මේද රට වාසිවූද එල
මේ රට වාසිවූද මෙසොපොතාමිය යුද
ය කපදෙසය පන්තසය ආසියාය පිරිගි
ය පම්පිලිය මිසරය කිරෙනිය වටකර
10 ලිබියාය යන මෙකී දේසවාසිවූද රෝම
යෙහි ආගන්තුකවාසිවූ යුදෙව්වරුන් ස
11 හ ඔවුන්ගේ සමයට හැරුනවුන්ද ක්‍රීත්
රට වාසිවූද අරාබි රට වාසිවූද යන අපි
අපගේ භාෂාවලින් දෙවියන්වහන්සේ
ගේ ආශ්චර්යමත් ක්‍රියාවල් ගැන ඔවුන්
12 කථාකරණවා අසමූව. එවිට ඔවුන් සිය
ල්ලෝ පුදුමව සැකව මේ කිමෙක්දැයි
13 ඔවුනොවුන් කථාකරගත්තෝය. සමහ
රෙක් මේ මනුෂ්‍යයෝ අළුත් මුද්‍රිකපාන
යෙන් පිරුනෝයයි නින්දාකොට කී
වෝය.
14 එවිට පේත්‍රුස් එකොලොස් දෙනා ස
මග නැගිට ශබ්ද පවත්වමින් ඔවුන්ට
කියනුයේ යුදෙව්වරුනි යෙරූසලමෙහි
වසන සියල්ලෙනි මේ කාරණ නුඹලා
ට දැනෙන්වා මාගේ වචනවලට කන් දිය
15 ලාය. දැනට පාන්ව තුන් පැයක් පමන
හෙයින් නුඹලා සිතනනාසේ මොවුන්
16 මත්වූනෝ නොවෙති. එහෙත් යො
වෙල් අනාගතවක්තෘ ලවා කියවනලද
17 කාරණ මෙය. ඒනම් අන්තිම දවස්වලදී
මාගේ ආත්මයෙන් සියළු මනුෂ්‍යයන්ට
ම වත්කරනෙනම්. එවිට නුඹලාගේ පු
ත්‍රයෝද දූවරුද අනාගත වාක්‍යය කිය

43 මෙහිද යාඥාවලද පිහිටුනෝය. එවිට සි
යල්ලන්ටම භයක් පැමුණුනේය. බො
හෝ පුදුමවල්ද ලකුණුද ප්‍රේරිතයෝ ක
44 ලෝය. එවිට අදහගත් සියල්ලෝ එක
තුව සියළු දේ පොදුවේ තබාගත්තෝය.
තමන්ගේ ගම්බිම් සහ සම්පත්ද විකුන
එක එකාට ඕනෑවූ හැටියට බෙදූ දුන්
45 නෝය. තවද ඔවුන් දවස්පතා එක්සිත්
46 ව දේව මාලිගාවේ සිටිමින් ගෙයින් ගෙ
ට රොටි කඩමින් දෙවියන්වහන්සේට ප්‍ර
සංසාකරමින් සියළු මනුෂ්‍යයන්ගෙන් ආ
දර ලබමින් සන්තෝෂයෙන් හා අවං
47 කකමින්ද කෑම කෑවෝය. ගැලවීම ල
බන්නාවූ යම් පමන දෙනෙක් ඇද්ද ස්වා
මින්වහන්සේ ඔවුන් දවස්පතා සභාවට
එක්කලසේක.

3. පරිච්. තවද පේත්‍රුස් සහ යො
හන් යාඥා වේලාවවූ නවවෙනි පැයෙහි
2 දේවමාලිගාවට ගියෝය. එවිට මව්කුස
පටන් කොරවූ එක්තරා මනුෂ්‍යයෙක්
ගෙනත් මාලිගාවට ඇතුල්වෙන්නාවුන්
ගෙන් සිඟමන් ඉල්වන පිනිස මාලිගා
වේ සුන්දර්ණනම් දොර ලඟ දවස්පතා ත
3 බනලද්දේය. ඔහු දේවමාලිගාවට ඇ
තුල්වෙන්නාවූ පේත්‍රුස්ද යොහන්ද දැක
4 සිඟමන් ඉල්වීය. පේත්‍රුස්ද යොහන් ස
මග ඔහු දෙස බලා අප දෙස බලාපන්
5 නැයි කීය. ඔහු ඔවුන්ගෙන් මොකවත්
6 ලබම් සිතා ඔවුන් දෙස බැලීය. එකල
පේත්‍රුස් රන් රිදී මට නැත නුමුත් මට
ඇති දේ තුබට දෙමි. නාසරත් යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ නාමයෙන් නැගිට
ඇවිදපන්නැයි කියා ඔහුගේ දකුනත
7 අල්වා ඔහු නැගිටවීය. එවලේම ඔහුගේ
8 කකුල්ද බොලටද සවිවුනේය. ඔහු පැ
න නැගී කෙලින් සිට ඇවිද්දේය. ඔහු
ඇවිදිමින් පැනනගිමින් දෙවියන්වහන්
සේට ප්‍රසංසාකරමින් ඔවුන් සමග මාලි
9 ගාවට ඇතුල්වීය. එවිට සියළු සෙනග
දෙවියන්වහන්සේට ස්තුතිකරමින් ඇවි
10 දිනනාවූ ඔහු දැක දේවමාලිගාවේ සුන්දර්
ණ දොරටුවේ සිඟමින් උන් තැනැත්ත
මේයයි දැන ඔහුට පැමිනි කාරණාව ගැ
න විශ්මයෙන් හා පුදුමයෙන්ද පිරුණෝ
11 ය. සුවපත්වූ කොරා පේත්‍රුස්ද යොහන්ද
වැලඳගෙන සිටිද්දී සියළු සෙනග ඉතා
ම පුදුමව සලමොන්ගේයයි කියන පට
12 දොරටුවට එක්ව දිව්වේය. පේත්‍රුස්ද ඒ
දැක සෙනගට කථාකරමින් ඊශ්‍රායෙල්
මනුෂ්‍යයෙනි මේ කාරණාවට පුදුමව සි
ටිනෝ මක්නිසාද? නොහොත් අපගේ
ම බලයෙන්වත් භක්තිවන්තකමින්වත්
ඔහු ඇවිද්දවමුයයි සිතා අප දෙස බල
13 නෝ මක්නිසාද? ආබ්‍රහම්ගේද ඊසාක්
ගේද යාකොබ්ගේද දෙවිවූ අපගේ පිය
වරුන්ගේ දෙවියන්වහන්සේ තමන්ගේ
පුත්‍රවූ යේසුස්වහන්සේ ගෞරවයට පැ
මිනවූසේක. තුබලා විසින් පාවාදෙන
ලද උන්වහන්සේ පිලාත් හරින්ට සෑදූ
කල ඔහුගේ ඉදිරියෙහි උන්වහන්සේ ප්‍ර
14 පාකලෝය. එසේ තුබලා පිරිසිදුවූ ධර්මි
ෂ්ඨවූ උන්වහන්සේ ප්‍රපාකොට මිනිමරන්
නා ගලවා තුබලාට දෙන පිනිස ඉල්ලා
15 ජීවනයෙහි අධිපතියා මැරුවෝය. උන්
වහන්සේ දෙවියන්වහන්සේ විසින් ම
ලවුන්ගෙන් නැගුටුවනලද්දේය අපි එ
16 යට සාක්ෂිකාරයෝය. උන්වහන්සේගේ
නාමය කෙරෙහි ඇදහිල්ලෙන් උන්ව
හන්සේගේ නාමය තුබලා දකින්නාවූ
අඳුනන්නාවූ මේ මනුෂ්‍යයා සවිකෙලේ
ය. උන්වහන්සේ කරණකොටගෙන ඇ
ත්තාවූ ඇදහිල්ල තුබලා සියල්ලන්ගේ
ඉදිරියෙහි ඔහුට මේ සම්පූර්ණ සුවය දු
17 නෝය. තවද සහෝදරයෙනි තුබලා
ද තුබලාගේ මූලාදෑනිද අඥානකමින් ඒ
18 ක කලෝයයි දනිමි. එහෙත් ක්‍රිස්තුස්ව
හන්සේ දුක් විඳිනසේකැයි දෙවියන්ව
හන්සේ තමන්ගේ සියළු අනාගතවක්
තෘන් ලවා පලමුවෙන් දැක්වූවාවූ කාර
19 ණ මෙසේ සම්පූර්ණ කලසේක. එබැ
වින් තුබලාගේ පාපයන් මැකී යන පිනි
20 සද ස්වාමින්වහන්සේගේ ඉදිරියෙන් නි
වාඩු කාලවල් පැමිනෙන පිනිසද පලමු
වෙන් තුබලාට දේසනා කරණලද්දාවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ තුබලා කරා එ
වන පිනිසද පශ්චාත්තාපව හැරීයල්ලාය.
21 දෙවියන්වහන්සේ ලෝකය පටන්ගැන්
මෙහි සිට තමන්ගේ සියළු පිරිසිදුවූ අනා
ගතවක්තෘන් ලවා කියෙව්වාවූ සියල්ල
නැවත පිහිටුවීමෙහි කාලවල් දක්වා එ
ම යේසුස්වහන්සේ ස්වර්ගයේ සිටින්ට
22 යුතුය. මක්නිසාද මෝසෙස් අපේ පිය
වරුන්ට කියනුයේ ස්වාමිවූ තුබලාගේ
දෙවියන්වහන්සේ මා බඳුවූ අනාගතවක්
තෘ කෙනෙකු තුබලාගේ සහෝදරයන්
ගෙන් තුබලාට උපදවනසේක. ඔහු කි
යන්නාවූ සියල්ලම තුබලා අසන්නම්

23 ඕනෑය. ඒ අනාගතවක්තෘහුගේ බස් පි
ළිනොගන්නාවූ සියල්ලෝ සෙනග අත
රෙන් නාස්තිකරනු ලබතියි කීයේය.
24 තවද සාමුවෙල් පටන් යම් පමන අනාග
තවක්තෘවරු කථාකලෝද ඒ සියල්ලෝ
25 මේ දවස් පලමුවෙන් දැන්වූවෝය. නු
ඹලා අනාගතවක්තෘන්ගේ දරුවෝද
නුඹේ වංශය කරණකොටගෙන ලෝ
කයෙහි සියළු වංශයෝ ආශීර්වාද ලබ
තියි ආබ්‍රහම්ට කියමින් දෙවියන්වහන්
සේ විසින් අපගේ පියවරුන් සමග කල
26 ගිවිසුමෙහි දරුවෝද වෙති. දෙවියන්ව
හන්සේ තමන් පුත්‍රවූ යේසුස්වහන්සේ
නැගුටුවා නුඹලා අතරෙහි සියල්ලන් ත
මතමන්ගේ දුෂ්ටකම්වලින් හැරවීමෙන්
නුඹලාට ආශීර්වාද කරණ පිනිස පලමු
කොට නුඹලා ලඟට උන්වහන්සේ එවූ
සේක.

4. පරිච්ඡේ. ඔවුන් සෙනග සමග ක
ථාකරණ කල්හි පූජකයෝද දේවමාලි
ගාවේ මුලාදෑනියාද සද්දුසිවරුද සෙන
2 ගට ඔවුන් ඉගැන්වූ බැවින්ද යේසුස්ව
හන්සේ කරණකොටගෙන මලවුන්
ගෙන් නැගිටීම ප්‍රකාසකල බැවිනුද අම
3 නාපව ඇවිත් ඔවුන් අල්වා සවස්වූ බැ
වින් දෙවෙනි දවස දක්වා හිරගෙයි තැ
4 බූවෝය. එසේ නුමුත් වචනය ඇසූවන්
ගෙන් බොහෝ දෙන අදහගත්තෝය.
ඒ මනුෂ්‍යයන්ගේ ගනන පන්දහසක් ප
මන වීය.
5 දෙවෙනි දවසේ මූලාදෑනිද වැඩිමහ
6 ල්ලෝද ලියනෙන්ද උත්තම පූජකවූ අ
න්නාස්ද කයාපස්ද යොහන්ද අලෙක්ස
න්ර්ද උත්තම පූජකයාගේ සියළු නෑයෝ
ද යෙරුසලමට රැස්ව තමන් ඉදිරියේ ඔ
7 වුන් සිටුවා නුඹලා මේ කලේ මොනබ
ලයකිනුද නොහොත් මොන නාමයකින්
8 දැයි ඇසූවෝය. එවිට ශුද්ධාත්මයෙන්
සම්පූර්ණවූ පේත්‍රුස් ඔවුන්ට කියනුයේ
9 සේනාවේ ප්‍රධානීනයෙනි ඊශ්‍රායෙල්ගේ
වැඩිමහල්ලෙනි මේ රෝගාතුරයාට ක
ලාවූ යහපත ගැන මොන කාරණාව
කින් මොහු සුවයට පැමුනුනේදැයි අප
10 ගෙන් අද විභාගකරණවානම් නුඹලා
විසින් කුරුසියෙහි මරණලද්දවූද දෙවි
යන්වහන්සේ විසින් මලවුන්ගෙන් නැ
ගුටුවනලද්දවූද නාසරෙත් යේසුස්වහන්
සේගේ නාමයෙන්ම මේ මනුෂ්‍යයා
නුඹලා ඉදිරියෙහි සුවපත්ව සිටිනේය
යි නුඹලා සියල්ලන්ටත් සියළු ඊශ්‍රායෙල්
11 සෙනගටත් දැනේවා. ගේ ඉදිකරන්නා
වූ නුඹලා විසින් එපාකල ගල මේය. එ
ය කොනෙහි ප්‍රධාන ගල විය. වෙන
කෙනෙකුගෙන් ගැලවීමක් නැත්තේය.
12 මක්නිසාද ගැලවීමට අප පමුනුවන්ට සු
තුවූ වෙනින් නාමයක් ස්වර්ගයෙන් ය
ට මනුෂ්‍යයන්ට නොදෙනලද්දේයයි කී
13 ය. එවිට ඒ ප්‍රධානී පේත්‍රුස්ගේද යො
හන්ගේද භයනැතිකම දැක ඔවුන් නූ
ගත්තාවූ අපඩිතවූ අය බව දැන පුදුමව
ඔවුන් යේසුස්වහන්සේ සමග සිටියෝය
14 යි දැනගත්තෝය. සුවපත්වූ මනුෂ්‍යයා ඔ
වුන් සමග සිටින බව දැක ඊට විරුද්ධව
කිසිවක් කියන්නට නොහැකිවූවෝය.
එහෙත් සභාවෙන් පිටත යන්නට ඔවුන්
ට අණකොට ඔවුනොවුන් කථාකරමින්
15 මේ මනුෂ්‍යයන්ට කුමක් කරමුද? ප්‍රසිද්ධ
වූ ආශ්චර්යයක් ඔවුන් විසින් කරණලද්
දේය. ඒක යෙරුසලමෙහි සිටිනාවූ සි
16 යල්ලන්ට එළිදරව්විය. ඒක බොරුකර
17 න්නට අපට බැරිය. නුමුත් සෙනග අත
රේ වැඩිදුරට පතල නොවෙන පිනිස
මින්මතු කාටවත් මේ නාමයෙන් කථා
නොකරණ පිනිස තදින් ඔවුන්ට අණක
රමුයයි කියා ඔවුන් කැඳවා යේසුස්වහන්
18 සේගේ නාමයෙන් කිසි දෙයක් කථා
නොකරන්ටද නුගන්වන්ටද ඔවුන්ට
19 අණකලෝය. නුමුත් පේත්‍රුස්ද යොහ
න්ද උත්තර දෙමින් දෙවියන්වහන්සේ
ගේ කීම අසනවාට වඩා නුඹලාගේ කී
ම අසන්ට දෙවියන්වහන්සේගේ ඉදිරි
යෙහි වටිද නොවටිදැයි නුඹලාම විනිශ්
20 චය කරපල්ලාය. අප විසින් ඇසූ දුටු
දේ නොකියන්ට අපට බැරියයි ඔවුන්
21 ට කීවෝය තවද මේ ආශ්චර්යයෙන් සු
වවූනාවූ මනුෂ්‍යයාට සතලිස් අවුරුද්දක
ට වඩා වයස් ඇති බැවිනුද සිද්ධවූ දේ ගැ
න සියල්ලෝම දෙවියන්වහන්සේට ප්‍රසං
22 සාකල බැවිනුද සෙනග නිසා ඔවුන්ට අව
ධූකරන්නට අනුමක් නොදැක ඔවුන්ට
නැවතත් සැරකොට හැරියෝය.
23 ඔවුන් එසින් ගියකල තමන්ගේ සමා
ගමට ගොස් නායක පූජකයන් විසිනුද
ප්‍රධානීන් විසිනුද තමන්ට කියනලද සිය
24 ල්ල දැන්වූවෝය. ඔවුන්ද ඒ අසා එක්
සිත්ව දෙවියන්වහන්සේට මහත් ශබ්ද
පවත්වමින් ස්වාමිනී ඔබවහන්සේ අහ

සත් පොළොවත් මුහුදත් එහි ඇත්තාවූ සි
25 යල්ලත් මැවූ දෙවියන්වහන්සේය. ඔබ
ගේ වැඩකාරයාවූ දාවිත්ගේ මුඛයෙන්
කියවනසේක් පරදේශීහු කෝලාහලක
ලේත් සෙනග නිෂ්ප්‍රයෝජන කාරණ
26 සිතුවේත් මක්නිසාද? ස්වාමීන්වහන්සේ
ටද උන්වහන්සේ ආලේපකල තැනැන්
වහන්සේටද විරුද්ධව පොළොවෙහි රජ
දරුවෝ නැගිට්ටෝය. ප්‍රධානීද එක්ව
27 රැස්වූනෝයයි කියවූසේක. ඔබවහන්
28 සේගේ අතින් අභිප්‍රායෙන් පළමුවෙන්
නියමකල දේ ඉෂ්ටකරණ පිණිස ඔබව
හන්සේ ආලේපකල ඔබගේ පිරිසිදු පු
ත්‍රවූ යේසුස්වහන්සේට විරුද්ධව සැබවින්
හෙරෝද්ද පොන්තියුස් පිලාත්ද අන්‍ය
ජාතීන් සහ ඊශ්‍රායෙල් ජනයන්ද සමග
29 රැස්වූනෝය. දැනුත් ස්වාමීනි ඔවුන්ගේ
තර්ජනකම් බලා ලකුණුද ආශ්චර්යයිවල්
ද ඔබවහන්සේගේ පිරිසිදු පුත්‍රවූ යේසු
ස්වහන්සේගේ නාමයෙන් කරනු ලබන
30 කල්හි සුවකිරීමට ඔබවහන්සේගේ අත
දිගුකොට ඔබවහන්සේගේ වචනය භ
යක් නැතුව කියන්ට ඔබවහන්සේගේ
වැඩකාරයන්ට දුන මැනවයි කීවෝය.
31 ඔවුන් යාච්ඤාකලායින් පසු ඔවුන් රැස්ව
සිටි ස්ථානය කම්පාවිය. එවිට ඔවුන් සි
යල්ලෝ ශුද්ධාත්මයෙන් සම්පූර්ණව දෙ
වියන්වහන්සේගේ වචනය භයක් නැ
තුව කීවෝය.
32 තවද ඇදහිලිවන්ත සමූහය එක හ
දයක්ව එක්සිත්ව සිටියෝය. කිසිවෙක්
තමාගේ වස්තුවෙන් කිසි දෙයක් තමන්
සන්තකයයි නොකියේය. එහෙත් සිය
33 ල්ල ඔවුන්ට පොදුව තිබුණේය තවද
ස්වාමිවූ යේසුස්වන්සේගේ නැගිටීම ගැ
න ප්‍රේරිතයෝ මහත් බලයෙන් සාක්ෂි
දුනෝය. ඔවුන් සියල්ලන්ට මහත් ක
34 රුණාව ලැබුනාය. ඔවුන් අතරෙහි කව
35 රෙකුටවත් හිඟයක් නොවිය. මක්නිසා
ද ඔවුන් අතරේ බිම්වත් ගෙවල්වත් ඇ
ති සියල්ලෝ ඒවා විකුණා විකුණපු දේව
ල මිල අරගෙන ප්‍රේරිතයන්ගේ පාමුල
තැබුවෝය. එක එකාට ඕනෑ පමණ බෙ
36 දනලද්දේය. කුප්‍රස්හි උපන්නාවූ ලෙවි
ගෝත්‍ර ඇති ප්‍රේරිතයන්ගෙන් සැනසි
ල්ලෙහි පුත්‍ර යන අර්ථ ඇති බාර්ණබස්
නම්ලත් යෝසෙස්හට බිමක් තිබුනාය.
37 ඔහු ඒක විකුණා මිල අරගෙන ප්‍රේරිත
යන්ගේ පාමුල තිබ්බේය.

5. පරිච්. තවද අනනියස්නම් ම
නුෂ්‍යයෙක් සපිරානම් තමන් භාර්යාව
සමග බිමක් විකුණා තමාගේ ස්ත්‍රී දැනීම
ට මිලෙන් කොටසක් සඟවා කොටසක්
2 ගෙන ගොස් ප්‍රේරිතයන්ගේ පාමුල තැ
3 බුවේය. එවිට පේතෘස් කථාකොට අන
නියස්නි ශුද්ධාත්මයානන්වහන්සේට විරු
ද්ධව බොරු කියන්නටද බිමේ මිලෙන්
කොටසක් සඟවන්නටද සාතන් නුඹේ
4 හිත පිරෙව්වේ මක්නිසාද? ඒක තිබෙද්
දී නුඹේ නොවේද? විකුනපු මිල නුඹට
අයිති නොවේද? නුඹේ හිතේ මේ න
පුරු කල්පනාව තබාගත්තේ මක්නිසා
ද? මනුෂ්‍යයන්ට නොව දෙවියන්වහන්
5 සේට බොරු කීයේයයි කීය. අනනියස්
ඒ වචන අසා වැටී මැරුණේය. ඒ ඇ
සූ සියල්ලන්ට මහත් භයක් පැමුනුණේ
6 ය. එවිට තරුණයෝ නැගිට ඔහු වෙලා
7 පිටතට ගෙනගොස් වැලලුවෝය. ඊට
තුන් පැයකට පමන පසු ඔහුගේ භාර්යා
ව සිද්ධවූන කාරණ නොදැන එහි පැමුනු
8 නාය. පේතෘස්ද නුඹලා බිම වික්කේ මෙ
පමනටදැයි මට කියාපන්නැයි ඇට කී
9 වේය ඇ එසේය මෙපමනටයයි කීවා
ය. එවිට පේතෘස් ස්වාමීන්වහන්සේගේ
ආත්මය පරීක්ෂාකරන්නට කොහොම නු
ඹලා එකඟවූනෝද? නුඹේ පුරුෂයා
වැලලුවන්ගේ පාද දොරටුව ළඟය නුඹ
10 ද පිටතට ගෙන යතියි ඇට කීයේය. එ
වලේම ඇ ඔහුගේ පාමුල වැටී මලාය.
තරුණයෝ පැමින මලාවූ ඇ දැක පිට
තට ගෙන ගොස් ඇගේ පුරුෂයා ළඟ
11 වැලලුවෝය. එවිට සියළු සභාවටද මේ
දේ ඇසූ සියල්ලන්ටද මහත් භයක් පැ
මිනියේය.
12 තවද ප්‍රේරිතයන්ගේ අත්වලින් නො
යෙක් ලකුණුද ආශ්චර්යයිවල්ද සෙනග
13 අතරේ කරණලද්දේය. ඔවුන් සියල්ලෝ
එක්සිත්ව සලමොන්ගේ දොරටුවෙහි
සිටියෝය. අන්‍යයන්ගෙන් කිසිවෙක් ඔ
වුන් සමග එක්වෙන්නට හයියක් නො
හැකිවිය. නුමුත් සෙනග ඔවුන්ට ගෞ
14 රවකලෝය. පුරුෂයන්ගෙන්ද ස්ත්‍රීන්ගෙ
න්ද බොහෝ ඇදහිලිවන්තයෝ වැඩි වැ
ඩිව ස්වාමින්වහන්සේ කෙරෙහි එක්වූ
15 නෝය. තවද පේතෘස් යනඑන විට සෙ
වනැල්ල පමනවත් රෝගීන්ට වැටෙන
පිණිස ඔවුන් ඇඳවල් සහ යානාවලින්
16 ගෙනත් වීදිවල තැබුවෝය. වටකර

තිබෙන පුරවරවලින් බොහෝ අයවල්
රෝගීන්ද අශුධාත්මවලින් පීඩිතවූවන්ද
උසුලාගෙන යෙරුසලමට ආවෝය. ඒ
සියල්ලෝද සුවකරනු ලැබූවෝය.
17 එවිට උත්තම පූජකයාද ඔහු සමග සි
ටියාවූ සද්දුසීන්ගේ පක්ෂයට ඇතුලත්වූ
සියල්ලෝද නැගිට ක්‍රෝධයෙන් පිරී ප්‍රේ
රිතයන් අල්වා මහ සිරගෙයි දැම්මෝය.
18 නුමුත් ස්වාමීන්වහන්සේගේ දූතයා රාත්‍රි
19 යේ සිරගෙයි දොරවල් ඇර ඔවුන් පිට
20 තට ගෙනත් තුබලා ගොස් ජීවන දය
කවූ මේ සියළු වචනවල් දේවමාලිගාවේ
21 සිට සෙනගට කියාපල්ලායයි කීය. ඔ
වුන් ඒ අසා අළුයම් වේලේ දේවමාලිගා
වට ඇතුල්ව ඉගැන්වූවෝය. ඒ අතර උ
තුම් පූජකයාද ඔහු සමග සිටියෝද ඇ
විත් මන්ත්‍රණ සභාවද ඊශ්‍රායෙල්වරුන්
ගේ සියළු වැඩිමහල්ලන්ද එකතුකරවා ඔ
වුන් ගෙනෙන පිණිස හිරගෙට මිනිසුන්
22 යැව්වෝය. එවිට සේවකයෝ ගොස් හි
රගෙයි ඔවුන් නොදැක ආපසු ඇවිත් හි
රගේ සියළු ප්‍රවේශමෙන් වසා තිබෙන
23 බවද රැකවල්ළු දොරකඩ ඉදිරියේ පිට
ත සිටින බවද දුටිමුව. එහෙත් දොර හැ
රිය කල ගේ ඇතුලෙහි කිසිවෙක් සිටි
24 නවා දුටුවේ නැතැයි දන්වූවෝය. උ
තුම් පූජකයාද මාලිගාවේ ප්‍රධානියාද නා
යක පූජකයෝද මේ වචන අසා මේ කු
මක් වෙනවාද්දැයි කියා ඔවුන් ගැන සැක
25 කලෝය. එකල මිනිහෙක් ඇවිත් නුබ
ලා සිරගෙයි දැමූ මනුෂ්‍යයෝ මාලිගාවේ
සිට සෙනගට උගන්වතියි ඔවුන්ට දන්
26 වූවෝය. එවිට මූලාදැනියා සේවකයන්
සමග ගොස් සෙනග ගල්ගසනවා ඇ
27 තැයි යන භයින් බලාත්කාර නොකො
ට ඔවුන් ගෙනැත් සභාව ඉදිරියේ සි
28 ටෙව්වෝය. එවිට උතුම් පූජකයා කථා
කොට මේ නාමයෙන් නුගන්වන්ට නුබ
ලාට තදින් අන නුදුන්නෙමුද? නුමුත්
නුබලාගේ ඉගැන්වීමෙන් යෙරුසලම
පුරවා ඒ මනුෂ්‍යයාගේ ලේ අපට නන්
වන්ට හදතියි කීයේය.
29 එවිට පේතෘස්ද අනිත් ප්‍රේරිතයෝද
උත්තර දෙමින් මනුෂ්‍යයන්ට වඩා දෙවි
යන්වහන්සේට අප විසින් කීකරුවෙන්
30 නට ඕනය. නුබලා ගසේ එල්ලා මැරු
වාවූ යේසුස්වහන්සේ අපගේ පියවරුන්
31 ගේ දෙවියන්වහන්සේ නැගිටවූසේක. ඊ
ශ්‍රායෙල්ට පශ්චාත්තාපයද පව් මිදීම
ද දෙන අධිපතියෙක්ද ගැලවුන්කාර
යෙක්ද වෙන පිණිස දෙවියන්වහන්සේ
තමන්ගේ දකුනට උන්වහන්සේ ඔසවා
32 ගත්සේක. අපි මේ කාරණාවලට උන්
වහන්සේගේ සාක්ෂිකාරයෝය. එපම
ණක් නොව දෙවියන්වහන්සේ විසින්
තමන්වහන්සේගේ අන පවත්වන්නා
වුන්ට දුන් ශුධාත්මයානන්වහන්සේත් සා
33 ක්ෂිකාරයෙක්යයි කීවෝය. ඔවුන් ඒ අ
සා අතිසයින් කිපී ඔවුන් මරන්ට මන්ත්‍ර
34 ණය කලෝය. එවිට ව්‍යවස්ථාව උගන්ව
නනාවූ සියළු මනුෂ්‍යයන් විසින් ගරුක
රණලද්දවූ ගමාලියෙල්නම් එක් ඵරි
සියෙක් සභාවෙන් නැගී සිට ප්‍රේරිත
යන් ස්වල්ප වේලාවකට පිටතට ගෙන
35 යන්ට අනකොට කියන්නේ ඊශ්‍රායෙල් ම
නුෂ්‍යයෙනි මේ මනුෂ්‍යයන්ට නුබලා ක
රනනට හදනෙත් මොකද්දැයි බලාගනි
36 ල්ලාය. මක්නිසාද මේ දවස්වලට පලමු
වෙන් තුදස්නම් එකෙක් තමන් මහ
තෙක කියා නැගුටුනේය. ඔහුට මනුෂ්‍ය
යෝ හාරසියයක් පමන එක්වූනෝය.
ඔහු නාසවිවූනේය ඔහුට කීකරුවූ සිය
37 ල්ලෝද ඉසිරී ගොස් විනාසවූනෝය. ඔ
හුට පසුව ලේඛනය කරණ දවස්වලදී
ගලිලයෙහි යූදස් නැගිට බොහෝ සමූ
හයන් තමන් ලඟට ඇදගත්තේය ඔහුද
විනාසවූනේය. ඔහුට කීකරුවූ සියල්ලෝ
38 ද ඉසිරී ගියෝය. දැන් නුබලාට කියමි
මේ මනුෂ්‍යයන්ට කිසිවක් නොකොට
ඔවුන් හැරපල්ලාය. මේ මන්ත්‍රණයවත්
ක්‍රියාවවත් මනුෂ්‍යයන්ගෙන් වූයේනම්
39 ඒක විනාසයට පැමිනෙනේය. දෙවි
යන්වහන්සේගෙන් වූයේනම් ඒක විනා
සකරන්ට නුබලාට බැරිය. දෙවියන්ව
හන්සේට විරුධව යුධකරනනාව නො
40 සිටින්ට බලාගනිල්ලායයි කීයේය. ඔ
වුන් ඔහුගේ වචනය පිලිගෙන ප්‍රේරිත
යන් කැඳවා පහරදී යේසුස්වහන්සේගේ
නාමයෙන් කථානොකරන්ට අනකොට
ඔවුන් හැරියෝය.
41 ඔවුන් උන්වහන්සේගේ නාමය නිසා
නින්දා විඳිනාට තමන් වටිනෝයයි
ගනන්ගනු ලැබූ බවට සන්තෝෂව ස
42 භාව ඉදිරියෙන් පිටත්ව ගොස් දවස්ප
තා දේවමාලිගාවේද සියළු ගෙවල්වල
ද නොකඩව උගන්වමින් යේසුස් ක්‍රිස්තු
ස්වහන්සේගේ සුභාරංචිය ප්‍රකාසකර
මින් හැසුරුනෝය.

6. පරිච්ඡෙ. ඒ දවස්වල ගෝලයන්
වැඩිවූකල දවස්පතා කරණ උපස්ථාන
යෙහි තමන්ගේ වැන්දඹුවන්ට නොබ
ලනවායයි හෙබ්‍රෙව්වරුන්ට විරුඬව
2 හෙලෙනිස්තයෝ කොඳුකලෝය. එවිට
දොළොස් දෙන ගෝල සමූහයා කැඳවා
සහෝදරයෙනි දෙවියන්වහන්සේගේ
වචනය හැර මේසවල වැඩ කිරීම අපට
3 වටිනෙත් නැත. එහෙයින් මේ වැඩට
අප විසින් නියමකල යුතුවූ ශුඬාත්මයෙ
න්ද නුවණින්ද සම්පූර්ණවූ සත්පුරුෂ
යෝයයි ප්‍රසිඬවූ මනුෂ්‍යයන් සත් දෙ
නෙක් තුබලා අතරෙන් සොයාපල්ලා
ය. අපි යාඥාවද වචනයේ මෙහෙයද නි
4 තරම කරමුයයි කීවෝය. ඒ කීම සියළු
5 සමූහයාට ප්‍රියවූනේය. එවිට ඇදහීමෙ
න්ද ශුඬාත්මයෙන්ද සම්පූර්ණවූ ස්ටෙප
නුනම් පුරුෂයෙක්ද පිලිප්ද ප්‍රොකො
රස්ද නිකනොර්ද තිමොන්ද පර්මිනස්
ද යුදෙව්වන්ගේ ආගම ගත් අන්තියෝ
කියෙහි නිකොලස්ද තෝරාගෙන ඔ
වුන් ප්‍රේරිතයන්ගේ ඉදිරියෙහි සිටෙව්
6 වෝය. ප්‍රේරිතයෝ යාඥාකොට ඔවුන්
7 පිට අත් තැබුවෝය. තවද දෙවියන්ව
හන්සේගේ වචනය වඩා ප්‍රකාශවිය.
ගෝලයන්ගේ ගනන යෙරුසලමෙහි
බොහෝසෙයින් වැඩිවූනේය. පූජක
යන්ගෙන් බොහෝ දෙනද ඇදහිල්ලට
කීකරුවූනෝය.
8 ස්ටෙපන්ද ඇදහිල්ලෙන් හා ආනුභාව
යෙන්ද සම්පූර්ණව මහත් ආශ්චර්‍යවල්ද
9 ලකුණුද සෙනඟ අතරේ කලේය. එවිට
ලිබර්තිනයන්ගේද කුරෙනියන්ගේද අ
ලෙක්සන්ද්‍රියන්ගේද කිලිකියෙහි සහ ආ
සියායෙහි වැසියන්ගේයයි කියන සින
ගෝගයෙන් සමහරෙක් නැගිට ස්ටෙ
10 පන් සමග වාදකලෝය. නුමුත් ඔහු නු
වණින්ද ආත්මයෙන්ද කල කථාවට වි
11 රුඬව සිටින්ට ඔවුන්ට බැරිවිය. එවිට
මෝසෙස්ටද දෙවියන්වහන්සේටද විරු
ඬව ඔහු අපහාස වචන කියනවා ඇසිමු
යයි කියනනාවූ මනුෂ්‍යයන් සලස්වා ස
මූහයාද ප්‍රධානීන්ද ලියනනාන්ද කලඹා
12 ඔහු අල්වා සභාවට ගෙනගොස් මේ ම
13 නුෂ්‍යයා මේ පිරිසිදු ඉඩමටත් ව්‍යවස්ථාව
ටත් විරුඬව අපහාස වචන කීමෙන් වැ
14 ලකෙනෙන් නැත. නාසරෙත් යේසුස්
මේ ස්ථානය නසා මෝසෙස් විසින් අප
ට දුන් චාරිත්‍රවල් වෙනස්කරණවා ඇ
සැයි ඔහු කියන බව ඇසිමුයයි කියන්
නාවූ බොරු සාක්ෂිකාරයන් සිටෙව්වෝ
15 ය. එවිට සභාවෙහි හුන්නාවූ සියල්
ලෝම ඔහු දෙස බැළූ කල ඔහුගේ මූ
න දේවදූතයෙකුගේ මූන මෙන් තිබෙ
න බව දුටුවෝය.

7. පරිච්ඡෙ. එවිට උත්තම පූජකයා
2 මේ කාරණා සැබෑදැයි කීයේය. ස්ටෙප
න් කියන්නේ සහෝදරයෙනි පියවරුනි
අහපල්ලාය අපගේ පියවූ ආබ්‍රහම් හා
රාන්හි විසීමට පලමුවෙන් මෙසොපො
තාමයෙහි සිටිකල තේජවන්තවූ දෙවි
3 යන්වහන්සේ ඔහුට පෙනී තාගේ රටින්
නෑයන් ලඟින්ද පිටත්ව මම තට පෙන්
4 වනනාවූ දේසයට යවයි කීසේක. එවිට
ඔහු කල්දිය වාසීන්ගේ දේසයෙන් පි
ටත්ව හොස් හාරාන්හි විසූයේය. ඔහුගේ
පියා මල කල්හි උන්වහන්සේ ඔහු එ
සින් තුබලා දැන් වසනනාවූ දේසයට ප
5 මුනුවා එක් පියවරක් තබන පමන බි
මක්වත් ඔහුට උරුමයක්කොට නොදී
ඔහු දරුවන් නොලැබ සිටිද්දී මේ දේ
සය තටද තාගෙන් පසු තාගේ වංශයට
ද උරුමයක්කොට දෙන්නෙමියි පො
6 රොන්දුවක් දුන්සේක. තවද දෙවියන්
වහන්සේ කියනසේක් තාගේ වංශය පර
දේසයෙහි කලකට සිටිනවා ඇත. ඒ
දේසවාසීහු ඔවුන් වාලට පත්කොට අවු
රුදු හාරසියයක් මුළුල්ලෙහි දුකට පමු
7 නුවනවා ඇත. මම ඔවුන් වාලට ගත්ත
වුන් විනිශ්චය කෙරෙමි ඉන්පසු ඒ වංශ
ය පිටත්ව ඇවිත් මේ ස්ථානයේදී මා සේ
8 වයකරණවා ඇතැයි කීසේක. උන්වහන්
සේ චර්මඡෙදන ගිවිසුම ඔහුට දුන්සේක.
ඉන්පසු ආබ්‍රහම් ඊසාක් ජනනකොට අ
ටවෙනි දා ඔහු චර්මඡෙදනය කලේය. ඊ
සාක් යාකොබ් ජනක කලේය යාකොබ්
ද පියවරුන් දොළොස් දෙන ජනනක
9 ලේය. පියවරුද ඊර්ෂ්‍යාවෙන් යෝසෙප්
10 මිසරයට වික්කෝය. නුමුත් දෙවියන්ව
හන්සේ ඔහු සමග සිට ඔහුගේ සියළු දු
ක්වලින් ඔහු මුදා මිසරයෙහි රජවූ ඵාරා
වෝ ඉදිරියෙහි කරුණාවද නුවනද ඔ
හුට දුන්සේක. ඒ රජ මිසරයෙහිද ත
මන්ගේ ගෙයි සියල්ලෙහිද ඔහු ප්‍රධාන
11 කොට තැබුයේය. සියළු මිසර දේසයෙ
හිද කානාන්හිද දුර්භික්ෂයද මහත් දුක
ද පැමිනියේය. එවිට අපගේ පියවරුන්ට

12 කෑම නැතිවූහෝය. එකල යාකොබ් මි
සරයෙහි ධාන්‍යය ඇතැයි අසා පලමු වා
13 රයෙහි අපගේ පියවරුන් යැවීය. දෙවෙ
නි වාරයෙහි යෝසෙප් තුමන්ගේ සහෝ
දරයන්ට අඳුන්වාදෙනලද්දේය. යෝ
සෙප්ගේ නෑයින් ඵාරවෝ දැනගත්තේ
14 ය. එවිට යෝසෙප් තමන් පියවූ යාකොබ්
ද සැත්තෑ පස් දෙනෙක් පමන තමන්
ගේ සියළු නෑයන්ද තමා ලඟට කැඳවීය.
15 යාකොබ්ද මිසරයට ගියේය. එහි ඔහුද
අපගේ පියවරුද නැසී සිඛම් නුවරට ගෙ
නයනලදුව සිඛම්ගේ පියවූ එම්මෝර
16 ගේ පුත්‍රයන්ගෙන් ආබ්‍රහම් මිලේට ගත්
17 සොහොන් ගෙයි තබනලද්දෝය. තව
ද දෙවියන්වහන්සේ ආබ්‍රහම්ට දිවුර දුන්
පොරොන්දුවේ කාලය ලංවූකල සෙන
18 ග මිසරයේ වඩ වඩා බෝවූහෝය. එක
ල යෝසෙප් නොසලකන්නාවූ අන් ර
19 ජෙක් නැගුටුවූහේය. ඒ රජ අපේ ජාති
යට විරුඬව නපුරු උපායක් යොදා අපේ
පියවරුන්ගේ දරුවෝ ජීවත් නොවෙ
න පිනිස ඔවුන් අහක දම්මවා පියවරුන්
20 දුකට පැමිනවූයේය. ඒ අතර මෝසෙස්
උපන්නේය. ඉතා ලක්ෂණවූ ඔහු තමන්
ගේ පියානන්ගේ ගෙයි තුන්මසක් වැඩී
21 පිටත දමනලද්දේය. එකල ඵාරවෝ
ගේ දුව ඔහු රැගෙන තමාට පුත්‍රකොට
22 ඇතිකරගත්තාය. මෝසෙස් මිසරයන්
ගේ සියළු ශාස්ත්‍ර ඉගෙන කථාවෙහිද ක්‍රි
23 යාවෙහිද දක්ෂයෙක් වූයේය. ඔහුට සත
ලිස් අවුරුදු වයස් පිරුනු කල ඊශ්‍රායෙල්
ගේ පුත්‍රවූ තමන් සහෝදරයන් දකින පි
24 නිස ඔහුට අභිප්‍රාවක් හටගත්තේය. එවි
ට අයුතුකම් විඳින්නාවූ එකෙක් දැක ඔ
හු රක්ෂාකොට මිසරයා මරා පීඩා විඳූ තැ
25 නැත්තාට යුක්තිය කලේය. මක්නිසාද
දෙවියන්වහන්සේ ඔහු ලවා ස්වකීය ස
හෝදරයන් ගලවන බව ඔවුන්ට හැඟෙ
නේයයි ඔහු සිතුයේය. නුමුත් ඔවුන්
26 ට ඒක හැඟුනේ නැත. පසුව දා දබර ක
රන්නාවූ ඔවුන්ට තමන් දක්වා ඔවුන් ස
මගිකරනු කැමතිව මිනුෂ්‍යයෙනි නුබලා
සහෝරයෝය ඔවුනොවුන්ට මක්නිසා
27 අයුතුකම් කරණවාදැයි කීයේය. එවිට
තමාගේ අසල්වාසියාට අනඩුකරණ මි
නිහා ඔහු අහක්කොට අප කෙරෙහි ප්‍ර
ධානකමටද නඩු ඇසීමටද නුබ පත්ක
28 ලේ කවුද? ඊයේ මිසරයා මැරූ ලෙස
29 මාත් මරන්නට කැමතිදැයි කීයේය. ඒ
වචනය නිසා මෝසෙස් පලාගොස් මිදි
යන්හි විදේශිව එහිදී පුත්‍රයන් දෙන්
30 නෙක් ජනකකලේය. හතලිස් අවුරුද්
දක් පිරුනු පසු ස්වාමින්වහන්සේගේ දූ
තයෙක් සීනා කන්දේ වනාන්ත්‍රයෙහි
ගිනෙනන් ඇවිලෙන පඳුරේ සිට ඔහුට
31 පෙනුනේය. මෝසෙස් ඒ දැක දර්ශනය
ට පුදුමව බලන පිනිස සමීපයට යන
32 කල මම තාගේ පියවරුන්ගේ දෙවියන්
වහන්සේය ආබ්‍රහම්ගේ දෙවියන්වහන්
සේය ඊසාක්ගේ දෙවියන්වහන්සේය යා
කොබ්ගේ දෙවියන්වහන්සේයයි කිය
න්නාවූ ස්වාමින්වහන්සේගේ ශබ්දය ඔහු
ට ඇසුනේය. එවිට මෝසෙස් වෙව්ල
33 මින් බලන්නට භයවීය. එකල ස්වාමින්ව
හන්සේ ඔහුට කියනසේක් තාගේ පාද
වල වහන් ගලවව තා සිටින ස්ථානය පි
34 රිසිදු භූමියෙක. මිසරයෙහි වසන්නාවූ
මාගේ සෙනගගේ දුක සැබෑවටම දුටි
මි. ඔවුන්ගේ සුසුම්ලීම අසා ඔවුන් ගල
වන පිනිස බැස්සෙමි. වරෙව තා මිසර
35 යට යවමියි කීසේක. නුබ ප්‍රධානකමට
ද නඩු ඇසීමටද පත්කලේ කවුදැයි කියා
ඔවුන් එපාකල මෙම මෝසෙස් ප්‍රධාන
යෙක්ද ගැලවුන්කාරයෙක්ද වෙන පිනි
ස දෙවියන්වහන්සේ පඳුරේදී ඔහුට පෙ
36 නුනු දූතයා ලවා යවූසේක. ඔහු මිසර
යෙන් ඔවුන් පිටතට ගෙනායේය. මිස
රයේදීද සූප් මුදේදීද සතලිස් අවුරුද්
දක් මුළුල්ලෙහි වනාන්ත්‍රයෙහිද ආශ්ච
ර්යවළුත් ලකුනුත් කලේය.
37 මාවැනිවූ අනාගතවක්තෘ කෙනෙක්
නුබලාගේ දෙවිවූ ස්වාමින්වහන්සේ නුබ
ලාගේ සහෝදරයන් අතරෙන් නුබලා
ට උපදවනසේක. ඔහුගේ වචන අසාප
ලායයි ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්ට කීවාවූ
38 මෝසෙස් මේය. තවද වනාන්ත්‍ර සභා
වේදීද සීනා කන්දේදීද තමන්ට කථා
කල දේවදූතයා සමගත් අපගේ පියව
රුන් සමගත් සිට ජීවන දායක වචන
යන් අපට දෙන්නට ලැබූ තැනැත්තේ
39 මේය. අපගේ පියවරුද ඔහුට කීකරු
වෙන්ට නොකමැතිව තමන් කෙරෙන්
ඔහු අහක්කොට තමන් මිසරයට හැරී
යන අභිප්‍රාව ඇතුව ආරොන්ට කථාක
රමින් අප ඉස්සරව යන්ට දේවතාවන්
40 අපට සාදපන්න මිසර දේශයෙන් අප පි
ටතට ගෙනාවාවූ ඒ මෝසෙස්ට කුමක් වූ
නේදැයි අපි දන්නෝ නැතැයි කීවෝය.

41 ඔවුන් ඒ දවස්වලදී වස්සෙකුගේ රූප
යක් සාද ඒ රූපයට පූජාකොට තමන්
ගේ හස්තකර්මාන්තවලට සතුටුවූහෝ
42 ය. එවිට දෙවියන්වහන්සේ ඔවුන් කෙ
රෙන් හැරී ආකාශ සේනාව සේවයක
රන්ට ඉඩ ඇරියේක. ඒ හැටියට අනා
ගතවක්තෘන්ගේ පොතේ ලියා තිබෙන්
නේ එම්බා ඊශ්‍රායෙල්වරුනි මැරුවාවූ සිව්
පාවන් හා පූජාවල්ද වනාන්තරයෙහිදී ස
තලිස් අවුරුද්දක් මුළුල්ලෙහි තොපි ම
43 ට පූජාකලෝද? තොපි මොලොක්ගේ
කූඩාරමද තොපගේ රෙන්ෆාන් දේව
තාවාගේ තාරකාවද යන නමස්කාර ක
රණ පිණිස තොප විසින් සාදනලද රූ
ප ඔසවාගත්තෝය තොපි බබිලෝනි
යෙන් දුරට ගෙන යෙමියි දෙවියන්වහන්
44 සේ කීසේක. තවද නුඹ දුටුවාවූ ආදර්ශ
ය මෙන් සාදපන්නැයි මෝසෙස්ට කීවා
වූ උන්වහන්සේ නියමකල ලෙස සාක්ෂි
යෙහි කූඩාරම අපගේ පියවරුන්ට ව
45 නාන්තරයෙහි තිබුණේය. ඒක අපගේ
පියවරු යෝෂුවා සමග අරගෙන දෙවි
යන්වහන්සේ විසින් අපගේ පියවරුන්
ගේ ඉදිරියෙන් නෙරපනලද අන්‍ය ජා
තීන්ගෙන් ගත් ස්ථානයට ගෙනත් දාවිත්
46 ගේ දවස් දක්වා තිබුණෝය. ඔහු දෙවි
යන්වහන්සේගෙන් කරුණාව ලැබ යා
කොබ්ගේ දෙවියන්වහන්සේට කූඩාර
47 මක් සාදන්ට කැමතිවිය. නුමුත් සාල
මොන් උන්වහන්සේට ගෙයක් සෑදුවේ
48 ය. එසේ නුමුත් අනාගතවක්තෘහු විසින්
කියා තිබෙන හැටියට මහෝත්තමයා
නන්වහන්සේ අතින් සෑදුවාවූ මාලිගාව
49 ල වාසයකරනෙන් නැත. ස්වර්ගය මා
ගේ සිංහාසනයද වෙයි පොලොව මා
ගේ පාපුටුවද වෙයි මොන ගෙයක් නුඹ
බලා මට සාදනවාද? නොහොත් මා
50 ගේ නිවාඩු ස්ථානය කිමෙක්ද? මේ සි
යල්ල මාගේ අතින් නොකරණලද්දැයි
51 ස්වාමින්වහන්සේ කීසේක. තදවූ කුලල්
ඇත්තෙනි සිත්වලත් කන්වලත් ඡේදන
නොකල චර්ම ඇත්තෙනි නුඹලාගේ
පියවරුන් මෙන් නුඹලාත් නිතර ශුද්ධාත්
52 මයට විරුද්ධව සිටිති. නුඹලාගේ පියව
රුන්ගෙන් පීඩා නොලැබූ අනාගත
වක්තෘ කෙනෙක් කවුද? ඔවුන් ධර්මි
ෂ්ඨයාගේ ඊම පලමුවෙන් දැන්වූවන් මැ
රුවෝය. නුඹලා දැන් උන්වහන්සේ
පාවාදෙන්නෝද මරන්නෝද වූවෝය.
53 නුඹලා දේවදූත මෙහෙවරින් ව්‍යවස්ථා
ව ලැබත් ඒක රක්ෂා නොකලෝයයි කී
ශේය.
54 ඔවුන් ඒ කාරණ අසා අතිකලද සිත්
55 ඇතිව දත්මිටි කෑවෝය. ඔහු ශුද්ධාත්ම
යෙන් සම්පූර්ණව ස්වර්ගය දෙස බලා
දෙවියන්වහන්සේගේ තේජසද දෙවිය
න්වහන්සේගේ දකුණු පැත්තේ සිටිනා
වූ යේසුස්වහන්සේද දැක ස්වර්ගය ඇරී
56 තිබෙන බවද මනුෂ්‍ය පුත්‍රයා දෙවියන්
වහන්සේගේ දකුණු පැත්තේ සිටින බ
57 වද දකිමියි කීයේය. එවිට ඔවුන් මහත්
58 ශබ්දයෙන් මොරගසා කන් වසාගෙන එක්
සිත්ව ඔහු ලඟට දිව ගොස් අල්ලා නුව
රින් පිටකලා ගල් ගැසුවෝය. සාක්ෂිකා
රයෝද තමන්ගේ වස්ත්‍ර සාවුල්නම් යවු
59 වනයාගේ පාමුල තබා ස්වාමිවූ යේසුස්
වහන්ස මාගේ ආත්මය භාරගනු මැනවයි කි
යා යාඥාකරනාවූ ස්තේපාන්ට ගල්ගැ
60 සුවෝය. ඔහු දණින් හිඳ ස්වාමින්වහන්ස
ඔවුන් කෙරෙහි මේ පාපය නොතැබුව
මැනවයි මහත් ශබ්දයෙන් කියා නැසු
ණේය.

8. පරිච්ඡේ. සාවුල්ද ඔහුගේ මැරීමට
එකඟවූනාය. ඒ දවසේදී යෙරුසලමෙ
හිවූ සභාවට විරුද්ධව මහත් පීඩාවක්වි
ය. එවිට ප්‍රේරිතයන් හැර ඒ සියල්ලෝ
යුදයෙහිද සමාරියෙහිද ඉසිරී ගියෝය.
2 භක්තිවන්තයෝ ස්තේපාන් උසුලාගෙ
න ඔහු නිසා බොහෝසෙයින් වැලපු
3 ණෝය. සාවුල්ද සියළු ගෙවලට ඇතුල්
ව පුරුෂයන්ද ස්ත්‍රීන්ද ඇදගෙන ගොස්
සිරගෙයි දමමින් සභාව නාස්තිකෙලේ
4 ය. නුමුත් ඉසිරී ගියාවූ ඔවුන් වචනය
දේශනාකරමින් සියළු තැන්වල ඇවිද්
දෝය.
5 එකල පිලිප් සමාරිය නුවරට ගොස්
එහි වැසියන්ට ක්‍රිස්තුස්වහන්සේ ගැන
6 දේශනාකෙලේය. එවිට අශුද්ධාත්මාවේ
සවූ බොහෝ දෙනාගෙන් ඒ ආත්මයෝ
මහත් ශබ්ද පවත්වමින් අහක්ව ගියෝ
7 ය. බොහෝ අඩභාග රෝගාතුරයෝද
කොරුද සුවකරනු ලැබුවෝය. එහෙ
සින් සමූහයෝ පිලිප් විසින් කලාවූ ආශ්
චර්යවල් අසමින් දකිමින් ඔහු විසින් කි
යනලද කාරණ එක්සිත්ව හිතට ගත්
8 තෝය. ඒ නුවර මහත් සන්තෝෂයක්
9 විය නුමුත් ඒ නුවරම පලමුවෙන් මායා

කාරවූ තමන් මහත් කෙනෙකැයි කිය
නතාවූ සමාරිය වැසියන් මුලාකරනතා
වූ සිමොන්නම් මනුෂ්‍යයෙක් සිටියේය.
10 මොහු දෙවියන්වහන්සේගේ මහත් බල
යයි කියා ලොකු කුඩා සියල්ලෝ සැල
11 කුවෝය. ඔවුන් එසේ සැලකුවේ ඔහු
ගේ මායාවලින් බොහෝ කලක පටන්
12 ඔවුන් මුලාකරනු ලැබූ නිසාය. නුමුත්
ඔවුන් දෙවියන්වහන්සේගේ රාජ්‍යය ගැ
නද යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ නාම
ය ගැනද දේශනාකරනතාවූ පිලිප් අද
හාගෙන පුරුෂයෝද ස්ත්‍රීහුද බව්තීස්ම
13 ලැබුවෝය. එවිට සීමොන්ද අදහාගෙන
බව්තීස්ම ලැබ පිලිප් ආශ්‍රයකොට කර
ණලද මහත් ආශ්වර්යවල්ද ලකුණුද දැ
ක පුදුමවූයේය.
14 සමාරියයෝ දෙවියන්වහන්සේගේ ව
චන පිලිගත් බව යෙරුසලමෙහි සිටියා
වූ ප්‍රේරිතයෝ අසා පේතෘස් සහ යො
15 හන් ඔවුන් ලඟට යැව්වෝය. ඔවුන් එහි
ගොස් ශුද්ධාත්මය ඒතාක්කල්ම ඔවුන්
ගෙන් කිසිවකු කෙරෙහිත් නොබැස්
16 සහෙයින්ද ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමයෙන් බව්තීස්මය පමනක්
17 ලැබූහෙයින්ද ශුද්ධාත්මය ඔවුන්ට ලැබෙ
න පිනිස ඔවුන් ගැන යාච්ඤාකොට ඔ
වුන් කෙරෙහි අත් තැබුවෝය. එවිට ඔ
18 වුන් ශුද්ධාත්මය ලැබුවෝය. සීමොන්ද
ප්‍රේරිතයන්ගේ අත් තැබීමෙන් ශුද්ධාත්
මය ලැබෙන බව දැක ඔවුන් වෙතට මි
19 ල ගෙනවුත් යමෙක් කෙරෙහි මම අත්
තැබීම්නම් ඔහුට ශුද්ධාත්මය ලැබෙන
20 බලය මටත් දියල්ලායයි කීයේය. එවිට
පේතෘස් ඔහුට කියනුයේ දෙවියන්වහන්
සේගේ දීම මිලේට ගන්නාට පුළුවන කි
යා නුබ සිතු බැවින් නුබේ මිල නුබ ස
21 මග විනාසවේවා. මෙයින් නුබට උරුම
යක්වත් කොටසක්වත් නැත. දෙවියන්
වහන්සේගේ ඉදිරියේ නුබේ සිත අවං
22 ක නැත. නුබ තිත්තවූ පිත්තේද දුෂ්ටක
මේ බැඳුමේද සිටින බව මට පෙනෙන
23 නිසා නුබේ හෘද කල්පනාව නුබට ක්ෂමා
වනු ලැබේද්ද කියා බලන පිනිස මේ
නුබේ දුෂ්ටකම ගැන පශ්චාත්තාපව දෙ
වියන්වහන්සේට යාච්ඤාකරපනැයි කී
24 යේය. එකල සීමොන් උත්තර දෙමින්
නුබලා කීවාවූ දෙයින් මොකවත් මට
නොපැමිණෙන පිනිස මා ගැන ස්වාමීන්
25 වහන්සේට යාච්ඤාකලමැනවයි කීය. ඔවු
න් සාක්ෂිදී ස්වාමීන්වහන්සේගේ වචනය
දේශනාකොට යෙරුසලමට නැවත ය
මින් සමාරියයන්ගේ නොයෙක් ගම්වල
ශුභාරංචිය ප්‍රකාශකලෝය.
26 තවද ස්වාමීන්වහන්සේගේ දූතයෙක්
පිලිප්ට කථාකොට නැගිට දකුණු දිසාව
බලා යෙරුසලමෙහි සිට ගාසට බහින
වනාන්තරවූ පාරින් පලයනනැයි කීයේ
27 ය. ඔහු නැගිට ගියේය. එවිට ඒතියෝ
ප්‍ය-රට වැසියන්ගේ කන්දකීනම් බිසව
ගේ මහ ඇමතිවූ ඈගේ සියළු වස්තුව
රක්ෂාකරනතාවූ නපුංසකවූ ඒතියෝප්‍ය
යෙක් යාච්ඤාකරණ පිනිස යෙරුසලමට
28 ඇවිත් ආපසු යමින් තමන්ගේ රථයේ
හිඳ යෙසසියාගේ අනාගත වචනය කි
29 යවූයේය. එවිට ආත්මයානන්වහන්සේ
මේ රථය ලඟට ගොස් එක්වෙයනනැයි
30 පිලිප්ට කීසේක. පිලිප්ද ලඟට දිවගොස්
යෙසායියාගේ අනාගත වචනය ඔහු කි
යන බව අසා නුබ කියවන දේ නුබට
31 තේරෙනෙන්දැයි කීය. ඔහුද කවුරුවත්
මට මග නොකීයේනම් කොහොම තේ
රුම්ගනිම්දැයි කියා රථයට නැගී ඉන්න
32 ට පිලිප්ගෙන් ඉල්ළුවේය. උන්වහන්සේ
බැටළුවෙක් මෙන් මරණයට ගෙනයනු
ලැබ ලෝම කපනනාගේ ඉදිරිපිට නිශ්
ශබ්දවූ බැටළු වස්සෙක් මෙන් තමන්
33 මුඛය නොහැරියසේක. උන්වහන්සේ
ගේ පහත්වීමෙහි උන්වහන්සේගේ නඩු
ව විභාගයක් නැතිව හරිනලද්දේය. උ
න්වහන්සේගේ ජීවිතය මෙලොවින් නැ
තිවූ බැවින් උන්වහන්සේගේ වංශය ප්‍රකා
සකරනෙන් කවුදැයි ලියාතිබෙන වගන්
34 තියම කියවීය. නපුංසකයාද අනාගත
වක්තෘහු කවුරු ගැන මේ කාරණාව කි
යනෙන්ද? තමන් ගැනද නොහොත්
වෙන කෙනෙක් ගැනදැයි පිලිප්ගෙන්
35 ඇසුවේය. එවිට පිලිප් කථාකොට එම
ලියවිල්ල පටන්ගෙන යේසුස්වහන්සේ
ගැන ශුභාරංචිය ඔහුට ප්‍රකාසකෙලේය.
36 මාර්ගයෙහි යනතාවූ ඔවුන් වතුර තිබෙ
න ඉඩමකට පැමිණුනෝය. එවිට නපුං
සකයා වතුර ඇතැයි බලාපනා. බව්
තීස්ම ලබන්ට මට කවර බාධාවක්දැයි
37 කීය. එවිට පිලිප් නුබ මුළු සිතින් අදහ
තොත් වටිනේයයි කීය. ඔහු උත්තර
දෙමින් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ දෙවි
යන්වහන්සේගේ පුත්‍රයයි අදහමියි කියා
38 රථය නවත්වන්ට කීයේය. එවිට පිලිප්

සහ නපුංසකයා වතුරට බැස්සෝය. පි
39 ලිප් ඔහු බව්තීස්ම කෙළේය. වතුරෙන්
ඔවුන් ගොඩනැඟුනුකල ස්වාමින්ගේ
ආත්මයානන්වහන්සේ පිලිප් අරගෙන
ගියේය. නපුංසකයා එතැන් පටන් ඔහු
නුදුටුයේය. තවද සන්තෝෂයෙන් ත
40 මන් යන මාර්ගයෙහි ගියේය. පිලිප් අ
සොතයේදී පෙනී ඇවිදිමින් කායිසාරිය
ට එනතෙක් සියළු නුවරවල සුභාරංචිය
ප්‍රකාශ කෙළේය.

9. පරිච්ඡෙ සාවුල් ස්වාමිඳුවහන්සේ
ගේ ගෝලයන්ට විරුඬව ඔවුන් නසම්
2 යි තදලෙස කථාකරමින් උතුම් පූජක
යා ලඟට ගොස් ඒ මාර්ගයේ යන කො
යි ස්ත්‍රියෙක්වත් පුරුෂයෙක්වත් දුටු
වොත් ඔවුන් බැඳ යෙරුසලමට ගෙන
එන්ට දමස්කයෙහි සිනගෝගවලට ලි
3 යුම්පත් ඉල්ලාගතෙත්ය. මාර්ගයෙහි ය
නනාවූ ඔහු දමස්කය ලඟට පැමිනිකල
හදිස්සියෙන් අහසින් එලියක් ඔහු වට
4 කර බැබළුනේය. එවිට ඔහු බිම වැටී
සාවුල් සාවුල් මක්නිසා මට පීඩාකරන්
නේදැයි ඔහුට කියනනාවූ ශබ්දයක් ඇ
සුනේය. එවිට ඔහු ස්වාමිනි ඔබ කවුදැයි
5 කීයේය. ස්වාමින්වහන්සේ නුඹ පීඩාක
රනනාවූ යේසුස් මමය. උල්වලට පයින්
6 ගසනනට නුඹට අමාරුයයි කීසේක. එ
විට ඔහු වෙව්ලමින් පුදුමව ස්වාමින්ව
හන්ස මම මක් කරණවාට ඔබවහන්සේ
කැමතිසේක්දැයි කීයේය. එවිට ස්වාමින්
වහන්සේ ඔහුට කියනසේක් නැගිට නු
වරට ඇතුල්වෙයනන. නුඹ විසින් කට
යුතු දේ එහිදී නුඹට කියනු ලැබෙයි
7 කීසේක ඔහු සමග යනෙනා් ශබ්දය අ
සාත් කිසි කෙනෙක් නොදැක පුදුමව සි
8 ටියෝය. සාවුල්ද බිමින් නැගිට ඇස් ඇ
රියකල ඔහුට කවුරුවත් පෙනුනේ නැ
ත. ඒ නිසා ඔහුගේ අත අල්වා දමස්කය
9 ට ගෙන ගියෝය. ඔහු තුන් දවසක් ඇස්
නොපෙනී නොකා නොබී සිටියේය.
10 දමස්කයෙහි අනනියස්නම් ගෝල
යෙක් සිටියේය. ස්වාමිඳුවහන්සේ දර්ශන
යකින් අනනියස්නි කියා ඔහුට කීසේ
ක. ඔහුද ස්වාමින්වහන්ස මම මෙහිය
11 යි කීයේය. එකල ස්වාමින්වහන්සේ ඔ
හුට කියනසේක් නැගිට පෘජුනම් වීදි
යට ගොස් තාර්ෂිස්හි සාවුල්නම් මනුෂ්‍යයා
12 යුදස්ගේ ගෙයි සොයාපනන. දැනට
ඔහු යාඥාකරනෙන්ය. ඔහු දර්ශනයකින්
අනනියස්නම් මනුෂ්‍යයාගේ පැමිනීමද
තමාට පෙනීම ලැබෙන පිනිස තමන්පි
13 ට අත තැබීමද දුටුයේයයි කීසේක. එ
කල අනනියස් උත්තරදෙමින් ස්වාමිනි
මේ මනුෂ්‍යයා විසින් යෙරුසලමේදී ඔබ
වහන්සේගේ පිරිසිදුවූවන්ට කොපමන
නපුරුකම් කරණලදදැයි බොහෝ දෙ
14 නාගෙන් ආරංචි ලැබීමි. මෙහිදීත් ඔබව
හන්සේගේ නාමයෙන් යාඥාකරනනාවූ
සියල්ලන් බඳින්ට නායක පූජකයන්
15 ගෙන් බලය ලැබුයේයයි කීයේය. ස්වා
මිඳුවහන්සේද පලයනන ඔහු මාගේ නා
මය අනෘජාතීන්ගේද රජුන්ගේද ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේද ඉදිරියෙහි ඔරන්
16 ට තෝරාගතනාලද භාජනයකා. මාගේ
නාමය නිසා කොපමන දුක් විඳින්ට යුතු
17 දැයි ඔහුට දක්වමියි කීසේක. එවිට අන
නියස් ගොස් ඒ ගෙදරට පැමිනා ඔහු පි
ට අත් තබා සහෝදරවූ සාවුල්නි නුඹට
පෙනීම ලැබෙන පිනිසද සුඬාත්මයෙන්
සම්පූර්ණවෙන පිනිසද මාර්ගයේදී නු
ඹට පෙනුනාවූ ස්වාමිවූ යේසුස්වහන්සේ
18 මා එවූසේකැයි කීයේය. එම්ලේම ඔහු
ගේ ඇස්වලින් කොරපොතු වාගේ වැ
19 ටුනේය. ඔහු ඒ ක්ෂනයේම පෙනීම ලැ
බ නැගිට බව්තීස්ම ලැබ කෑම කා ශක්
20 තිමත්වූයේය. එවිට සාවුල් දමස්කයෙහි
සිටි ගෝලයන් සමග කීප දවසක් සිට
කල් නොයවාම ක්‍රිස්තුස්වහන්සේ දෙවි
යන්වහන්සේගේ පුත්‍රයායයි සිනගෝග
21 වලදී දේශනාකෙළේය. ඒ ඇසූ සියල්
ලෝ පුදුමව යෙරුසලමේදී මෙම නාම
යෙන් යාඥාකරනනවුන් විනාසකොට
මෙහි සිටිනවුන්ද නායක පූජකයන් ල
ඟට බැඳගෙන යනනට ආ තැනැත්තේ
22 මොහු නොවේදැයි කීවෝය. නුමුත් සා
වුල් වඩ වඩා බලයට පැමිණ දමස්කයේ
සිටි යුදෙව්වන්ට ඒට විරුඬව කිසි දෙ
යක් කියන්ට බැරි හැටියට උන්වහන්
23 සේම ක්‍රිස්තුස්වහන්සේයයි ඔප්පුදුනෙන්
ය. බොහෝ දවස් ගියකල යුදෙව්වරු
24 ඔහු මරන්ට මන්ත්‍රනයකලෝය. එ
හෙත් ඔවුන්ගේ නපුරු මන්ත්‍රනය සා
වුල් දැනගතෙත්ය. ඔවුන්ද ඔහු මරන්ට
25 රෑ දවල් දොරටුවල රැක සිටියෝය. එ
කල ගෝලයෝ රාත්‍රියේ ඔහු කැඳවා
ගෙන ගොස් කුඩයකලා පවුරෙන් බැස්
සෙව්වෝය.

26 එවිට සාවුල් යෙරුසලමට ඇවිත් ගෝ
ලයන් සමග එකතුවනාට උත්සාහ කෙ
ළේය. නුමුත් ඔවුන් සියල්ලෝ ඔහු ගෝ
ලයෙක් බව විශ්වාස නොකොට ඔහුට
27 භයවූවෝය. බාර්ණබස්ද ප්‍රේරිතයන්
ළඟට ඔහු කැඳවාගෙන ගොස් මාර්ග
යේදී ස්වාමීන්වහන්සේ ඔහුට පෙනී ඔහු
සමග කථාකළ බවද යේසුස්වහන්සේ
ගේ නාමයෙන් දමස්කයේදී ඔහු භයක්
නැතුව දේශනාකළ බවද ඔවුන්ට දන්
28 විය. ඔහුද ඔවුන් සමග යෙරුසලමෙහි
29 යමින් එමින් සිට ස්වාමිවූ යේසුස්වහන්
සේගේ නාමයෙන් භය නැතුව කථාක
රමින් හෙල්ලීනිස්තයන් සමග වාදකෙ
ළේය. ඔවුන්ද ඔහු මරනනාට සෙව්වෝ
30 ය. සහෝදරයෝ ඒ දැන ඔහු කායිසාරි
යට ගෙනගොස් තාර්ශ් නුවරට යැව්වෝ
31 ය. එවිට යුදයෙහිද ගලිලයෙහිද සමාරි
යෙහිද සියළු තැන්හි සභාවල් සමාදාන
ය ලැබ දියුණුව ස්වාමින්වහන්සේ කෙ
රෙහි භය ඇතිව හැසිර ශුද්ධාත්මයානන්
වහන්සේගේ සැනසිල්ලෙන් යුක්තව වැ
ඩිවූවෝය.
32 තවද පේත්‍රුස් සියළු තැන්වල හැසිරෙ
මින් ලිද්දයෙහි සිටින පිරිසිදුවූවන් ළ
33 ඟටද ආයේය. එහි අට අවුරුද්දක් මුළු
ල්ලෙහි ඇඳේම ඔත්පලව උන් අංශභාග
රෝගීවූ අයිනෙස්නම් මනුෂ්‍යයෙක් දැක
34 අයිනෙස්, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ නු
ඹට සුවකරණසේක නැගිට නුඹේ ඇඳ
සරසාපන්නැයි කීයේය. ඔහුද වහාම නැ
35 ගුටුනේය. ලිද්දයෙහිද සාරෝනෙහිද
සිටින සියල්ලෝ ඔහු දැක ස්වාමින්වහන්
සේ වෙතට හැරුනෝය.
36 යොප්පායෙහි මුවදෙනැයි අර්ථ ඇති
දකිස් නොහොත් තබීතානම් ගෝල
ස්ත්‍රියක් සිටියාය. ඈ තමන් විසින් කර
ණලද යහපත් ක්‍රියාවලින්ද දානයෙන්ද
37 සම්පූර්ණවූනාය. ඒ දවස්වල ඈ රෝගී
ව මලාය. ඔවුන් ඈ නාවා උඩුමහල් ගෙ
38 යි තැබූවෝය. ලිද්දව යොප්පාවට ළඟ
බැවින් පේත්‍රුස් එහි සිටිනේයයි ගෝ
ලයෝ අසා තමන් ළඟට වහාම එනලෙ
ස ඉල්ලමින් දෙදෙනෙක් ඔහු වෙතට යැව්
වෝය. එවිට පේත්‍රුස් ඔවුන් සමග ගියේ
39 ය. ඔහු ආකල ඔවුන් උඩුමහල් ගෙට ඔ
හු කැඳවාගෙන ගියෝය. සියළු වැන්දඹු
ස්ත්‍රීහුද ඔහු ළඟ සිට හඬ හඬා දකිස් ත
මන් සමඟ සිටිද්දී මසපු හැට්ටත් වස්ත්‍රත්
40 පෙන්නූවෝය. එවිට පේත්‍රුස් සියල්ලන්
ම පිටත්කොට දණින් හිඳ යාඥාකොට
මිනිය දෙසට හැරී තබීතා නැගිටියන්
නැයි කීයේය. එවිට ඈ ඇස් හැර පේ
41 ත්‍රුස් දැක හිඳගත්තාය. ඔහු ඈට අත දී
නැගුටුවා පිරිසිදුවූවන්ද වැන්දඹුවන්ද කැ
42 ඳවා ජීවත්වූ ඈ ඔවුන්ට දක්විය. ඒ කා
රණාව යොප්පාව මුළුල්ලෙහි ප්‍රකාශවිය.
බොහෝ දෙනද ස්වාමින්වහන්සේ අද
43 හගත්තෝය. ඔහු සිමොන්නම් සම්කරු
වෙකු සමග යොප්පායෙහි බොහෝ ද
වසක් වාසයකෙළේය.

10. පරිච්ඡ. ඉතාලිකයයි කියනලද
සේනාවේ සියේකට මූලාදෑනිවූ භක්ති
වන්තවූ තමන්ගේ සියළු ගෙසිවැසියන්
2 සමග දෙවියන්වහන්සේට භය ඇත්තාවූ
දිළිඳුන්ට බොහෝ දන දෙන්නාවූ නි.
තරම දෙවියන්වහන්සේට යාඥාකරන්
නාවූ කොර්නේලියස්නම් මනුෂ්‍යයෙක්
3 කායිසාරියෙහි සිටියේය. ඔහු දවහල් න
වවෙනි පැය පමණේදී තමන් ළඟට එ
න්නාවූ කොර්නේලියස්යයි තමහට කිය
න්නාවූ දේවදූතයෙකු දර්ශණයකින් පැ
4 හැදිලි ලෙස දැක ඔහු දෙස බලා භයප
ත්ව ස්වාමිනි කිමෙක්දැයි කීය. එවිට නු
ඹේ යාඥාවද දානයද සිහිවීම පිණිස දෙ
වියන්වහන්සේ ඉදිරියට පැමුනුනේය
5 දැන් යොප්පාවට මනුෂ්‍යයන් යවා පේ
6 ත්‍රුස්නම් සීමොන් කැඳවාපනන. ඔහු මු
හුද අද්දර සම්කරු සීමොන්ගේ ගෙදර
නවාතැන් ගෙන සිටිනේය. නුඹ විසින්
කටයුතු දේ ඔහු නුඹට කියනවා ඇතැ
7 යි කීයේය. කොර්නේලියස් සමග කථා
කල දේවදූතයා ගියකල ඔහු තමන්ගේ
ගෙයි වැඩකාරයන් දෙදෙනෙකුත් තම
හට නිතර වැඩකරණ සේවාසින්ගෙන්
8 භක්තිවන්තයෙකුත් කැඳවා ඔවුන්ට
මේ සියල්ල දන්වා යොප්පාවට ඔවුන්
යැවීය.
9 ඔවුන් ගොස් දෙවෙනි දවස්හි ඒ නු
වරට ළංවූකල පේත්‍රුස් සවෙනි පැය ප
මණේදී යාඥාකරන්ට ගේ මුදුනට ගියේ
ය. ඔහු බඩගිනිව කෑම කන්නට කැමති
10 විය. ඔවුන් එය පිළියෙළකරණවිට ඔහු
11 මූර්ජාවට පැමිණියේය. එවිට අහස ඇරී
සතර කොන බැඳපු බිමට බස්වනලද ම
හත් ඇතිරිල්ලක් වැනිවූ භාජනයක් ත
12 මා ළඟට බසිනවා දුටුයේය. එහි පො

ලොවෙහි සියළු ආකාර සිව්පාවෝද ව
න මෘගයෝද බඩගානා ජාතීහුද ආකාස
13 පක්ෂීහුද සිටියෝය. පේත්‍රුස් නැගිට ම
රා කාපන්නැයි යන ශබ්දයක් ඔහුට ඇ
14 සුනේය. පේත්‍රුස්ද ස්වාමිනි එසේ නො
වේවා. පිළිකුල්වූ අපවිත්‍රවූ දෙයක් කි
15 සි කලෙකත් නොකැම්සි කීයේය. දෙ
වියන්වහන්සේ පවිත්‍රකල දේ අපවිත්‍රය
යි කියන්ට එපාය කියනා ශබ්දයක් දෙ
වෙනි වාරයෙහි ඔහුට ඇසුනේය. මෙ
16 සේ තුන්වරක් කරණලද්දේය. ඉන්පසු
ඒ භාජනය අහසට නැවත ඔසවාගනු
17 ලැබුයේය. පේත්‍රුස් තමන් දුටු දර්ශණ
යෙහි අර්ථය කිමෙක්දැයි සැකකරණ ක
ල කොර්නේලියස් ලඟින් එවනලද ම
නුෂ්‍යයෝ සිමොන්ගේ ගෙදර කොහිදැ
18 යි අසාගෙන දොරකඩ ලඟ සිට පේත්‍රුස්
නම්ලත් සිමොන් මෙහි සිටිනෝද්දැයි අ
19 ඬගසා ඇසුවෝය. පේත්‍රුස් දර්ශණය ගැ
න සිත සිතාඋන්කල ආත්මයානන්වහන්
සේ කියනසේක් මනුෂ්‍යයෝ තුන් දෙ
20 නෙක් නුබ සොයති නැගිට පහත බැස
මා විසින් ඔවුන් එවූ බැවින් සැක නො
කොට ඔවුන් සමග පලයන්නැයි කීසේ
21 ක. එවිට පේත්‍රුස් කොර්නේලියස් ල
ඟින් තමන් වෙතට එවනලද මනුෂ්‍ය
යන් ලඟට බැස නුබලා සොයන මිනිහා
මමය නුබලා ආවේ කුමක් පිණිසදැයි කී
22 යේය. ඔවුන් කියනෝහෝ සියේකට මූලා
දැනිවූ ධර්මිෂ්ට මනුෂ්‍යයෙක්වූ දෙවියන්ව
හන්සේට භය ඇතොක්වූ සියළු යුදෙව්
වන් අතරේ යහපතැයි ප්‍රකාසවූ කොර්
නේලියස් තමාගේ ගෙදරට නුබ කැඳවා
නුබෙන් වචන අසන්නාට දෙවියන්වහන්
සේ විසින් පිරිසිදුවූ දේවදූතයෙකු ලවා
23 දන්වනලද්දේයැයි කීවෝය. එකල පේ
ත්‍රුස් ඔවුන් ඇතුලට කැඳවා ආගන්තුක
සත්කාරකොට දෙවෙනි දා ඔවුන් සමග
ගියේය. යොප්පායෙහි සහෝදරයන්
ගෙන් සමහරෙක්ද ඔහු කැටුව ගියෝ
24 ය. පසුව දා ඔවුන් කාඊසාරියට පැමුනු
නෝය. කොර්නේලියස් තමාගේ නෑය
න්ද ප්‍රිය මිත්‍රයන්ද කැඳවාගෙන ඔවුන්ගේ
25 ඊම බල බලා සිටියේය. පේත්‍රුස් ඇතුල්
වෙන කල කොර්නේලියස් ඔහු ඉදිරිය
ට ගොස් ඔහුගේ පාමුල වැටී නමස්කාර
26 කෙලේය. පේත්‍රුස් ඔහු නැගුටුවා නැගි
ටියනා මමත් මනුෂ්‍යයෙක්ය කියා ඔහු
27 සමග කථාකරමින් ගේ ඇතුලට පැමින

එකතුවූ බොහෝ දෙනා දැක ඔවුන්ට
28 කියනුයේ යුදෙව් මනුෂ්‍යයෙකුට පරදේ
සියෙක් හා සමාගම් බැඳීම්වත් ඔහු ලඟා
ට ඊමවත් නුසුදුසුයයි නුබලා දනිති. නු
මුත් කොයි මනුෂ්‍යයෙකුටවත් පිළිකු
ලෙක නොහොත් අපවිත්‍රයෙකැයි නො
කියන්ට දෙවියන්වහන්සේ මට දන්වූ
29 සේක. එහෙයින් මට අඬගහපු වේලේ
ම මම විරුද්ධ කථාවක් නැතුව ආයෙමි.
මොන කාරණවක් පිණිස මට අඬගැසූ
30 වෝදැයි අසමියි කීය. එවිට කොර්නේ
ලියස් කියනුයේ සතර දවසකට පලමු
වෙන් මේ පැය දක්වා නිරාහාරව සිටියා
වූ මම නවවෙනි පැයේදී මාගේ ගෙයි
31 යාඥාකරමින් සිටියෙමි. එවිට දිලිසෙන
නාවූ වස්ත්‍ර ඇඳපු පුරුෂයෙක් මා ඉදිරි
යෙහි සිට කොර්නේලියස් නුබේ යාඥා
ව අසනලද්දේය. නුබේ දානද දෙවියන්
වහන්සේ ඉදිරියෙහි සිහිවීමට පැමුනු
32 නේය. එහෙයින් යොප්පාවට මිනිසුන්
යවා පේත්‍රුස්නම් සිමොන් මෙතනට කැ
ඳවාපන්න. ඔහු මුහුද ලඟ සම්කරු සි
මොන්ගේ ගෙයි සිටිනෝය. ඔහු ඇවිත්
නුබ සමග කථාකරණවා ඇතැයි කීයේ
33 ය. එහෙයින් එවලේම නුබ ලඟට යැවීමි
නුබද ඊමෙන් යහපතක් කෙලේය. දැ
නට අපි සියල්ලෝ දෙවියන්වහන්සේ වි
සින් නුබට අඥාකරණලද සියල්ල අහ
ගන්නාට මෙහි දෙවියන්වහන්සේ ඉදිරි
යෙහි සිටිමුයයි කීයේය.
34 එවිට පේත්‍රුස් කථාකොට දෙවියන්ව
හන්සේ මිනිසුන්ගේ තරම නොබලන
35 බවත් සියළු ජාතීන් අතරේ උන්වහන්
සේට භය ඇතිව ධර්මිෂ්ටකම් කරණ තැ
නැත්තෝ උන්වහන්සේ විසින් පිළිගනු
36 ලබන බවත් සැබවින් දනිමි. දෙවියන්
වහන්සේ සියල්ලන්ට ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේ ලවා සමගිකම ප්‍රකාස ක
රවමින් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට එවනලද
37 වචනය නුබලා දනිති. ඒනම් දෙවියන්
වහන්සේ ශුද්ධාත්මයෙන්ද බලයෙන්ද
නාසරෙත් යේසුස්වහන්සේ අලේපකල
බවද දෙවියන්වහන්සේ උන්වහන්සේ
සමග සිටි බැවින් උන්වහන්සේ යහපත්
කම් කරමින් සාතන් විසින් පීඩාකරණ
38 ලද සියල්ලන්ට සුවකරමින් හැසුරුනු බ
වද යනාදී යොහන් විසින් ප්‍රකාසකරණ
ලද බව්තීස්මයට පසු ගලීලය පටන් යුද
ය මුළුලෙහි සිද්ධවුනාවූ ප්‍රවෘත්තිය නුබලා

39 දනිති. උන්වහන්සේ විසින් යුදෙව්ව
රුන්ගේ දේශයෙහිද යෙරුසලමෙහිද
කරණලද සියල්ලට අපි සාක්ෂිකාරයෝ
ය. ඔවුන් උන්වහන්සේ ගහේ එල්වා මැ
40 රූවෝය. තුන්වෙනි දා දෙවියන්වහන්
සේ උන්වහන්සේ නැගුටුවා ප්‍රකාශ ලෙ
41 ස දක්වූසේක. සියළු සෙනගට නොව
පළමුවෙන් දෙවියන්වහන්සේ විසින් නි
යමකරණලද සාක්ෂිකාරවූ උන්වහන්සේ
මළවුන්ගෙන් නැගුටුණු පසු උන්වහන්
42 සේ සමග කෑවාවූ බීවාවූ අපටමය. මේ
කාරණ සෙනගට ප්‍රකාශ කරන්ටත් ජී
වත්වෙනනන්ටද මළවුන්ටද නඩුකාර
යා වෙන පිනිස දෙවියන්වහන්සේ විසින්
නියමකරණලද තැනැත්තේ උන්වහන්
සේමයයි සාක්ෂි දෙන්ටත් අපට අනකල
43 සේක. උන්වහන්සේ කෙරේ අදහන සි
යල්ලෝ උන්වහන්සේගේ නාමයෙන් පා
පයෙන් මිදීම ලබනවා ඇතැයි සියළු අ
නාගතවක්තෘවරු උන්වහන්සේට සාක්ෂි
දෙතියි කීයේය.
44 මේ වචන පේත්‍රුස් කථාකරද්දීම වච
නය ඇසූ සියල්ලන් කෙරෙහි ශුද්ධාත්මයා
45 නන්වහන්සේ බැස්සසේක. පේත්‍රුස් කැ
ටුව ආවාවූ චර්මඡේදිතවූ ඇදහිලිවන්ත
යෝද ඔවුන් අන් භාෂාවලින් කථාකර
46 ණ බවද දෙවියන්වහන්සේට ප්‍රසංසා ක
රණ බවද අසා අන්‍යජාතීන් කෙරෙහිද
ශුද්ධාත්ම දානය වගුරුවනලදැයි කියා පු
47 දුමවූවෝය. එවිට පේත්‍රුස් උත්තර දෙ
මින් අප ලෙස ශුද්ධාත්මය ලැබූ මොවුන්
ට බව්තීස්මය නොලැබෙන්ට වතුර ව
48 ලක්වන්ට කාට පුළුවන්දැයි කියා ස්වාමි
න්වහන්සේගේ නාමයෙන් ඔවුන් බව්
තීස්ම කරනනට අණකෙළේය. එවිට
ඔවුන් කීප දවසක් තමන් සමග සිටින්ට
ඔහුගෙන් ඉල්ලුවෝය.

11. පරිච්ඡ. අන්‍යජාතීහු දෙවියන්ව
හන්සේගේ වචනය පිළිගත්බව යුදයෙ
හි සිටියාවූ ප්‍රේරිතයන්ටත් සහෝදර
2 යන්ටත් ආරංචිවිය. පේත්‍රුස් යෙරුසලම
ට ආකල චර්මඡේදිතවූවෝ ඔහු සමග වා
3 දකරමින් නුඹ චර්මඡේද නූවූවන් ලඟ
ට පැමින ඔවුන් සමග කෑයේයැයි කීවෝ
4 ය. එවිට පේත්‍රුස් ඒ කාරණව මුල පටන්
ක්‍රමයෙන් ඔවුන්ට කියමින් මම යොප්
පා නම් නුවරෙහි යාඥාකරමින් සිටියෙ
5 මි. එකල මම මූර්ඡාව සතර කොනෙන්
බැඳපු අහසෙන් හීස්වනලද මහත් ඇති
රිල්ලක් වැනිවූ භාජනයක් මා ලඟට බැ
6 ස එන බව දර්ශනයකින් දුටිමි. ඒක බ
ලා විමසනනාවූ මම පොළොවෙහි සිව්
පාවුන්ද වන මෘගයන්ද බඩගාන ජන්තූ
7 ආකාශ පක්ෂීන් දුටිමි. එවිට පේත්‍රුස් නැ
ගිට මරා කාපනනැයි මට කියනනාවූ
8 ශබ්දයක් ඇසීමි. මම ස්වාමිනි එසේ නො
වේවා පිළිකුල්වූ අපවිත්‍රවූ දෙයක් කිසි
කලෙකත් මාගේ කටට ඇතුල්වූනේ
9 නැතැයි කීමි. නුමුත් ශබ්දය දෙවෙනි
වාරයෙහි අහසෙන් මට උත්තර දෙමින්
දෙවියන්වහන්සේ පවිත්‍රකළ දේ අපවි
10 ත්‍රයයි කියනනට එපායයි කීයේය. තුන්
වරක්ම මෙසේ කරණලද්දේය. නැවත
11 සියල්ල අහසට ඔසවාගනනාලද්දේය. එ
වලේම කායිසාරියෙන් මා ලඟට එවන
ලද මනුෂ්‍යයෝ තුන්දෙන මම සිටි ගෙ
12 ට පැමුනුනෝය. එවිට ආත්මයානන්ව
හන්සේ සැක නොකොට ඔවුන් සමග ප
ලයනනැයි මට කීසේක. තවද මේ ස
හෝදරයෝ සදෙන මා සමග ගියෝය.
අපිද ඒ මනුෂ්‍යයාගේ ගෙට ඇතුල්වූනෙ
13 මුව. එකල ඔහු තමාගේ ගෙයි සිට පෙ
නුනාවූ දේවදූතයෙක් යොප්පාවට මනු
ෂ්‍යයන් යවා පේත්‍රුස් නම්ලත් සීමොන්
14 කැඳවාපනනා. ඔහු නුඹද නුඹේ සියළු
ගෙයි වැසියන්ද ගැලවීමට පමුනුවනනා
වූ වචන නුඹට කියනවා ඇතැයි තමහ
15 ට කී බව අපට දැන්වූයේය. මම කථාක
රන්ට පටන්ගත් කල ශුද්ධාත්මයානන්ව
හන්සේ පළමු අප කෙරෙහි මෙන් ඔවුන්
16 කෙරෙහිද බැස්සසේක. එකල යොහන්
වතුරෙන් බව්තීස්ම කෙළේය. නුඹලා
ශුද්ධාත්මයෙන් බව්තීස්ම ලබනවා ඇතැ
යි ස්වාමින්වහන්සේ විසින් කියනලද ව
17 චනය මට සිහිවිය. එහෙයින් ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ අදහන්නාවූ අ
පට මාගේ දෙවියන්වහන්සේ ඔවුන්ටත්
එම දානය දුන් බැවින් දෙවියන්වහන්
සේ වළක්වන්ට මම කවරෙක්දැයි කීයේ
18 ය. ඔවුන් ඒ දේ අසා තවත් වාද නො
කොට දෙවියන්වහන්සේට ස්තුතිකර
මින් එසේවිනම් දෙවියන්වහන්සේ අන්‍ය
ජාතීන්ටත් ජීවනය ලැබිය යුතු පශ්චාත්
තාපය දුන්සේකැයි කීවෝය.
19 සතපාන් ගැන හටගත් පීඩාවෙන්
ඉසිරී ගියාවූ ගෝලයෝ යුදෙව්වරුන්ට
මිස වෙන කාටවත් වචනය නොකියා

ෆෙනීකයද කුප්‍රස්ද අන්තියෝකියද ද
20 ක්වා හැසුරුණෝය ඔවුන්ගෙන් සමහ
රෙක් කුප්‍රස්හිද කිරෙනීයෙහිද මනුෂ්‍ය
යෝය. ඔවුන් අන්තියෝකියට පැමින
ග්‍රීකයන්ට කථාකරමින් ස්වාමිවූ යේසුස්
21 වහන්සේ ගැන දේශනාකලෝය. ස්වා
මින්වහන්සේගේ අත ඔවුන් සමග විය.
බොහෝ දෙනද අදහමින් ස්වාමින්වහන්
සේ වෙතට හැරුණෝය. ඒ ප්‍රවෘත්තිය
යෙරුසලමෙහි සභාවේ කණවල වැටුණේ
22 ය. ඔවුහු අන්තියෝකිය දක්වා යනට
23 බාර්ණබස් යැව්වෝය. ශුද්ධාත්මයෙන්ද
ඇදහිල්ලෙන්ද සම්පූර්ණවූ සත්පුරුෂවූ
ඔහු ගොස් දෙවියන්වහන්සේගේ කරු
ණාව දැක සන්තෝෂව ස්වාමින්වහන්සේ
කෙරෙහි ස්ථිරවූ සිතින් ඇළුම්ව සිටින්
නට සියල්ලන්ට දැනමුතුකම් දුන්නේය.
24 බොහෝ අයවල් ස්වාමින්වහන්සේට එක්
වූනෝය.
25 එවිට බාර්ණබස් සාවුල් සොයනනට
තාර්සස්ට ගොස් ඔහු දැක අන්තියෝකි
26 යට කැඳවාගෙන ආයේය. ඔවුන් අවුරු
ද්දක් මුළුල්ලෙහි සභාවට රැස්ව බොහෝ
අයවලට ඉගැන්නුවෝය. ගෝලයෝද
පළමුකොට අන්තියෝකියේදී ක්‍රිස්තියා
නිකාරයෝයයි කියනලද්දෝය.
27 ඒ දවස්වලදී යෙරුසලමෙන් අනාග
තවක්තෘවරු අන්තියෝකියට ආවෝය.
28 ඔවුන්ගෙන් ආගබස්නම් එකෙක් නැගි
ට සියළු ලෝකයෙහි මහත්වූ දුර්භික්ෂ
යක් වන්නේයයි ආත්මයානන්වහන්සේ
ගේ ආනුභාවෙන් දන්වූයේය. ඒ සිධවූ
යේ ක්ලෞදියස් කායිසර්ගේ කාලේදී
29 ය. එකල ගෝලයෝ එක එකා තමත
මන්ට පුළුවන් හැටියට යුදයේ සිටින ස
හෝදරයන්ට උපකාර යවන්නට නි
30 යමකරගත්තෝය. ඔවුන් එසේ කොට
බාර්ණබස් සහ සාවුල් අත වැඩිමහල්
ලන් ලගට ඒ උපකාර හැරියෝය.

12. පරිච්ඡේ. ඒ කාලයෙහි හෙරෝද්
2 රජ සභාවෙහි සමහරෙකුට පීඩාකරන්
ට අත දිගුකොට යොහන්ගේ සහෝද
3 රවූ යාකොබ් කඩුවෙන් මැරුවේය. යු
දෙව්වන්ට ඒ සන්තෝසයෙකැයි දැක
පේතෘස්ද ඇල්ලීය. එකල මුහුන් නුමුසු
4 රොටි කන දවස විය. ඔහු අල්වා සිර
ගෙයි තබා පාස්කු මංගල්‍යයෙන් පසු ස
මූහයාගේ ඉදිරියට පිටත ගෙනෙනනට
සිතා හේවායින් සතර සතර දෙන බැ
ගින් ඇති වර්ග සතරකට ඔහු රක්ෂාක
5 රන්ට බාරදුන්නේය. මෙසේ පේතෘස් සි
රගෙයි ප්‍රවේසම්කරණ ලද්දේය. නුමුත්
සභාව ඔහු උදෙසා දෙවියන්වහන්සේ
6 ට නිතර යාඥාකෙලේය. ඔහු පිටත ගෙ
නෙන්ට හෙරෝද් නියමකල දූව ඉස්ස
රින්ද රාත්‍රියේ පේතෘස් දම්වැල් දෙක
කින් බැඳිනු ලැබ හේවායින් දෙදෙනෙ
කු මැද නිඳා උන්නේය. රැකවල්එද දො
රකඩ ඉදිරියෙහි සිට සිරගෙය රක්ෂාක
7 ලෝය. එවිට ස්වාමින්වහන්සේගේ දූත
යා ඔහු වෙතට පැමිනියේය. ආලෝක
යක් සිරගෙයි බැබළුනේය. දේවදූතයා
පේතෘස්ගේ ඇලයට ගසා ඔහු පුබුදුව
මින් වහාම නැගිටියනාැයි කීයේය. එ
විට ඔහුගේ දම්වැල් අතවලින් ගැලවී වැ
8 ටුනේය. ඉගපටිය වෙලා වහන් බැඳගනි
නාැයි දූතයා කීයේය. ඔහු එසේම කෙ
ලේය. තවද ඇඳුම ඇඳ මා පස්සේ වරෙ
9 නාැයි ඔහුට කීයේය. ඔහු පිටත්ව දූත
යා විසින් කරනලද දේ සැබෑවක් බව
නොදැන තමා හීනයක් දුටුයේයයි සිත
10 මින් ඔහු පස්සේ ගියේය. ඔවුන් පලමු
වෙනි දෙවෙනි මුරපලවල් පසුකොට නු
වරට යන යකඩ දොර ලඟට ගියෝය.
ඒක ඔවුන්ට ඉබේම ඇරුනේය. ඔවුන්
පිටත්ව වීදියක් පසුකෙලේය එකෙනෙ
හිම දූතයා ඔහු ලඟින් අහක ගියේය.
11 පේතෘස් සිහි ලැබ ස්වාමින්වහන්සේ ත
මන් දූතයා එවා හෙරෝද්ගේ අතින්ද යු
දෙව්වරුන්ගේ බලාපොරොත්තුවෙ
න්ද මා මිදුවේසැයි දැන් සත්‍යයෙන් දනි
12 මියි කීයේය. ඔහු කල්පනාකොට මාක්
නම්ලත් යොහන්ගේ මව්වූ මරියාගේ
ගෙට ගියේය. එහි බොහෝ දෙන රැස්
13 ව යාඥාකරමින් සිටියෝය. වාසල් දොර
ට පේතෘස් ගැහුකල රෝදනම් තරුණ
14 ස්ත්‍රියක් අසන්ට ආවාය. ඈ පේතෘස්ගේ
කටහඬ ඇඳින සන්තෝසය නිසා දොර
නෑර ඇතුලට දිවගොස් පේතෘස් දොරල
15 ඟ සිටින්නේයයි දැන්වූවාය. ඔවුන් නුඹට
ඔල්මාදයයි කීවෝය. නුමුත් ඈ පේතෘස්
සිටින්නේමයයි සත්‍යකොට කීවාය. එවි
ට ඔවුන් ඔහුගේ දූතයායයි කීවෝය
16 පේතෘස් තට්ටුකරමින් සිටියේය. ඔවුන්
දොර හැර ඔහු දැක විස්ම පත්වූවෝය
17 ඔහු ඔවුන්ට කථානොකර සිටිනට අ
තින් සඥාකොට ස්වාමින්වහන්සේ ඔහු

හිරගෙයින් පිටත ගෙනා බව ඔවුන්ට
කියාදී යාකොබ්ටද සහෝදරයන්ටද
මේ කාරණ දන්වාපල්ලායයි කියා පිටත්
ව වෙන තැනකට ගියේය.
18 පහන්වූ කල පේත්‍රුස් කොතනට ගි
යේදැයි කියා භේවායින් අතරේ මහත්
19 කෝලාහලයක් විය. හෙරොද් ඔහු සො
යා සම්භනොවී රැකවලුන්ගෙන් විචාර
ඔවුන් මරනනට අණකොට යුදයෙන්
කායිසාරියට ගොස් එහි වාසයකෙලේ
20 ය. හෙරොද් තීර් සහ සිදොන් වැසියන්
ට කෝපවූයේය. ඔවුන්ද තමන්ගේ රට
රජහුගේ රටෙන් රක්ෂාවෙන බැවින්
ඒක්සිත්ව ඔහු ලඟට ඇවිත් රජහුගේ බ
ලාස්තුස්නම් ප්‍රධාන ඇමතියා කැමතිකර
වාගෙන සමගිකම ඉල්ලුවෝය. නියමවූ
21 දවසක හෙරොද් රාජ වස්ත්‍ර හැඳ සිංහා
සනය පිට හිඳ ඔවුන්ට ප්‍රකාසයෙන් ක
22 ථාකෙලේය. එවිට සමූහයෝ මේ හ
ඬ දෙවිකෙනෙකුගේ මිස මනුෂ්‍යයෙකු
ගේ හඬක් නොවේයයි මහත් ශබ්ද ප
23 වත්වමින් කීවෝය. හෙරොද් ඒ ගෞ
රවය දෙවියන්වහන්සේට නුදුන් බැ
වින් ස්වාමින්වහන්සේගේ දූතයා වහාම
ඔහුට පහර දුනෝය. ඔහු පනුවන් වි
සින් කනලදුව නැසුනේය.
24 දෙවියන්වහන්සේගේ වචනය වඩ ව
25 ඩා දියුනුවූනේය. බාර්ණබස්ද සාවුල්ද
තමන්ගේ මෙහෙය සම්පූර්ණකොට
මාර්ක් නම්ලත් යොහන් කැඳවාගෙන
යෙරුසලමෙන් නැවත ආවෝය.

13. පරිච්ඡේ. අන්තියෝකියේ සභා
වෙහි බාර්ණබස්ද නිගර්නම සිමියොන්ද
කිරෙනියෙහි ලූකියස්ද රටෙන් සත
රෙන් කොටසකට අධිපතිවූ හෙරොද්
සමග ඇතිවූන මානායින්ද සාවුල්ද යන
මේ අනාගතවක්තෘවරුද උගන්වනෝනෝ
2 ද සිටියෝය. ඔවුන් ස්වාමින්වහන්සේට
සේවයකරමින් නිරාහාරයෙන් උන්කල
ශුද්ධාත්මයානන්වහන්සේ බාර්ණබස්ද
සාවුල්ද මම ඔවුන් අඬගැසූ මෙහෙය පි
නිස මට ඔවුන් වෙන්කරපල්ලායයි කී
3 සේක. ඔවුන් නිරාහාරයෙන් ඉද යාඥා
කොට ඔවුන් පිට අත් තබා හැරියෝය.
4 එසේ ඔවුන් ශුද්ධාත්මයානන්වහන්සේ වි
සින් යවනලදුව සිලූකියට ගොස් එයින්
නැව් නැගී කුප්‍රස්නම් දිවයිනට ගියෝ
5 ය. සලමියෙහි සිටිනනාවූ ඔවුන් යුදෙව්
වරුන්ගේ සිනගෝගවල දෙවියන්ව
හන්සේගේ වචනය ප්‍රකාසකලෝය.
යොහන්ද ඔවුන්ට උපස්ථායක වූයේය.
6 ඔවුන් ඒ දිවයින මැදින් පාපුස් දක්වා
ගොස් නුවන ඇත්තාවූ සර්ගියස් පාවුල්
නම් ඒ රටේ අධිපතියා සමග සිටියාවූ
බාර්යිසුනම් මායාකාරවූ බොරු අනාග
7 තවක්තෘවූ යුදෙව්වෙකු දුටුවෝය. සර්
ගියස් පාවුල් බාර්ණබස් සහ සාවුල් කැ
දවාගෙන දෙවියන්වහන්සේගේ වචන
8 අහනනට කැමතිවිය. එවිට මායාකාර
අර්ථ ඇති එලිමස්නම් තැනැත්තේ අධි
පතියා ඇදහිල්ලෙන් හරවාගන්නට සො
9 යමින් ඔවුන්ට විරුඬව සිටියේය. එවිට
10 පාවුල්නම් සාවුල් ශුද්ධාත්මයෙන් සම්පූ
ර්ණව ඔහු දෙස බලා සියළු වංචාවෙන්
හා දුෂ්ටකම්න් සම්පූර්ණවූ සාතන්ගේ
පුත්‍රවූ සියළු ධර්මිෂ්ඨකමට සතුරුවූ නුඹ
ස්වාමින්වහන්සේගේ ඇද නැති මාර්ග
11 වල් නිතර පෙරලනෝද! දැන් ස්වාමි
න්වහන්සේගේ අත නුඹ පිට තිබෙනෝ
ය. නුඹ කලකට ඉර නොදකින ලෙස
අන්ධවේයයි කීයේය. එවලේම දුමාරය
ද අන්ධකාරයද ඔහුට පැමිනුනේය. ඔහු
කනවැල අල්වනනන් සොයමින් ඇවිද්
12 දේය. එකල අධිපතියා කරණලද දේ
දැක ස්වාමින්වහන්සේගේ ඉගැන්වීමෙහි
විස්මපත්ව අදහගත්තේය.
13 පාවුල්ද ඔහු සමග සිටියෝද පාපුස්
හැර ගොස් පම්පිලියෙහි පර්ගායට පැ
මුනුනෝය. එකල යොහන් ඔවුන්ගෙන්
වෙන්ව යෙරුසලමට නැවත ගියේය.
14 ඔවුන් පර්ගායෙන් පිටත්ව පිසිදියෙහි
අන්තියෝකියට ඇවිත් සබත් දවසේ
සිනගෝගයට ඇතුල්ව හිඳගත්තෝය.
15 ව්‍යවස්ථාවද අනාගතවාක්‍යයද කියවී
මෙන් පසු සිනගෝගයෙහි මූලාදෑනි ඔ
වුන් ලඟට මිනිසුන් යවා සහෝදරවූ ම
නුෂ්‍යයෙනි සෙනගට අවවාද වචනයක්
නුඹලාට ඇත්නම් කියාපල්ලායයි කීවෝ
16 ය. එවිට පාවුල් නැගිට අතින් සංඥා
කොට කියනුයේ ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙ
නි දෙවියන්වහන්සේට භය ඇත්තෙනි
17 අහපල්ලාය. මේ ඊශ්‍රායෙල් සෙනගගේ
දෙවියන්වහන්සේ අපේ පියවරුන් තෝ
රාගෙන මිසර දේසයෙහි විදේශීන්කො
ට වසනනාවූ එම සෙනග උසස්කොට
18 දිගුකලාවූ අතින් ඔවුන් එයින් පිටත
ගෙනවිත් සතලිස් අවුරුද්දක් පමන

19 කල් වනාන්තරයේදී ඔවුන් පෝෂ්‍යය
කොට කානාන් දේශයේ වර්ගී සතක්
නසා ඔවුන්ගේ දේශය ඒ සෙනගට දූ
20 දූ දීමෙන් බෙදා දුන්සේක. එයින් ප
සු අවුරුදු හාරසිය පනහක් පමණ කල්
සාමුවෙල් අනාගතවක්තෘ දක්වා ඔවුන්
21 ට නඩුකාරයන් දුන්සේක. ඉන්පසු ඔ
වුන් රජෙක් ඉල්ලූවෝය. එවිට දෙවිය
න්වහන්සේ සතලිස් අවුරුද්දකට කිස්
ගේ පුත්‍රවූ බෙන්යමින්ගේ ගෝත්‍රයෙහි
22 වූ සාවුල් ඔවුන්ට දුන්සේක. උන්වහන්
සේ ඔහු අහක්කොට දාවිත් ඔවුන්ට රජ
තමට ඔසවා මාගේ සිතට එකඟ මනු
ෂ්‍යයෙක්වූ යෙස්සේගේ පුත් දාවිත් දුටි
මි. ඔහු මාගේ සියලු කැමැත්ත කරණවා
ඇතැයි ඔහු ගැන සාක්ෂි දෙමින් කීසේ
23 ක. ඔහුගේ වංශයෙන් දෙවියන්වහන්සේ
පොරොන්දුවූ ලෙස ඊශ්‍රායෙල්ට යේසුස්
නම් ගැලවුම්කාරයෙක් උත්පාදකල
24 සේක. උන්වහන්සේගේ ඊමට පලමු
වෙන් යොහන් ඊශ්‍රායෙල්ගේ සියලු සෙ
නඟට පශ්චාත්තාපයෙහි බව්තීස්මය ප්‍ර
25 කාශකෙලේය. යොහන්ද තමාගේ මෙ
හෙය සම්පූර්ණකරමින් තුබලා මා කවු
රැය කියා සිතද්ද? මම ඒ උන්වහන්සේ
නොවෙමි. මට පසුව එන තැනැත්තෙක්
ඇත. උන්වහන්සේගේ පාදයෙහි වහන්
26 වූදන්ටවත් මම නොවටිමියි කීයේය. ආ
බ්‍රහම්ගේ වංශයෙහි පුත්‍රවූ සහෝදර ම
නුෂ්‍යයෙනි තුබලා අතරෙහි දෙවියන්ව
හන්සේට භය ඇත්තාවූ සියල්ලෙනි මේ
ගැලවීමෙහි වචනය තුබලාට එවනලද්
27 දේය. තවද යෙරූසලමෙහි වසන්නෝ
ද ඔවුන්ගේ ප්‍රධානීද උන්වහන්සේවත්
සියලු සබත් දවසෙහි කියවන අනාගත
28 වාක්‍යයන්වත් නොදැන උන්වහන්සේ ම
රණ පිනිස කිසි කාරණාවක් නොදැකත්
උන්වහන්සේ මරනනට පිලාත්ගෙන්
ඉල්වා උන්වහන්සේ දඩුවමට පැමිනවී
29 මෙන් ඒ කාරණ සම්පූර්ණකලෝය. ත
වද උන්වහන්සේ ගැන ලියා තිබෙන
සියල්ල සම්පූර්ණකොට ගසෙන් උන්ව
හන්සේ බස්සවා සොහොන් ගෙයක තැ
30 බූවෝය. නුමුත් දෙවියන්වහන්සේ මල
වුන්ගෙන් උන්වහන්සේ නැගිටවූසේක.
31 උන්වහන්සේ තමන්වහන්සේ සමග ග
ලීලයෙන් යෙරූසලමට ගියවුන්ට බො
හෝ දවසක් පෙනි පෙනී සිටිසේක. ඔ
වුන් සෙනග ඉදිරියෙහි උන්වහන්සේ
32 ගේ සාක්ෂිකාරයෝය. දෙවියන්වහන්සේ
පියවරුන්ට දුන් පොරොන්දුව යේසුස්
වහන්සේ නැගිටවීමෙන් ඔවුන්ගේ පු
ත්‍රවූ අපට සම්පූර්ණකලසේකැයි යන
33 සුභාරංචි තුබලාට දන්වමුව. එසේම දෙ
වෙනි ගීතිකාවේ තුබ මාගේ පුත්‍රයාය.
අද තුබ ඉපදවීමියි ලියා තිබෙන්නේය.
34 මෙතැන් පටන් කුණු නොවෙන පිනිස
දෙවියන්වහන්සේ විසින් උන්වහන්සේ
මලවුන්ගෙන් නැගිටෙව් බව ගැන දා
වීත්ගේ සත්‍යවූ කරුණාවල් තුබට දෙ
35 මියි කීසේක. එබැවින් ඔහු වෙන ගීති
කාවෙක්හිද ඔබවහන්සේගේ පවිත්‍රයහ
ට කුණුවෙන්ට නොදෙනසේකැයි කී
36 යේය. දාවිත්ද දෙවියන්වහන්සේගේ කැ
මැත්ත ලෙස තමන් පරම්පරාවේ සිට
මෙහෙකොට සැතපී තමන්ගේ පියව
37 රුන් ලඟ තබනලදුව කුණුවූයේය. නු
මුත් දෙවියන්වහන්සේ විසින් නැඟුටුව
38 නලද උන්වහන්සේ කුණු නූවූසේක. එ
හෙයින් සහෝදරවූ මනුෂ්‍යයෙනි මූන්ව
හන්සේ කරණකොටගෙන පව් මිදීම තු
බලාට ප්‍රකාශකරණලදැයි දැනගනිල්ලා
39 ය. තවද අදහන්නාවූ සියල්ලෝ උන්ව
හන්සේ කරණකොටගෙන සියලු දේව
ලින් නිර්දෝෂකරනු ලබති. එහෙත් මෝ
සෙස්ගේ ව්‍යවස්ථාවෙන් සියල්ලෙන් නි
ර්දෝෂකරනු ලබන්ට තුබලාට නුපුලුවන.
40 එබැවින් නින්දා කරන්නෙනි යමෙක්
තුබලාට දන්වූ නුමුත් තුබලා විසින්
නොඅදහන්නාවූ ක්‍රියාවක් තුබලාගේ
දවස්වලදී මම කරණ බැවින් බලා විස්
41 මපත්වෙයල්ලාය විනාසවෙයල්ලායැයි අ
නාගත වචනවල ලියා තිබෙන දේ තු
බලා කෙරෙහි නොපැමිනෙන්ට බලා
ගනිල්ලායයි කීයේය.
42 යුදෙව්වරු සිනගෝගයෙන් පිටත ගි
යකල අන්‍යජාතිහු මෙම වචනයන් ඊල
ඟ සබත් දවසෙහිත් තමන්ට ප්‍රකාශකර
43 ණ පිනිස ඉල්ලූවෝය. සිනගෝගය කෙ
ලවරවූකල යුදෙව්වන්ගෙන්ද යුදෙවූ
ආගම ගත්තාවූ භක්තිවන්තයින්ගෙන්ද
බොහෝ දෙන පාවුල් සහ බාර්ණබස්
කැටුව ගියෝය. ඔවුන්ද ඔවුන්ට කථාක
රමින් දෙවියන්වහන්සේගේ කරුණාවෙ
හි පවතිනහට ඔවුන්ට දැනිම්තිකම් දුන්
44 නෝය. දෙවෙනි සබත් දවසේ දෙවියන්
වහන්සේගේ වචනය අහන්ට ස්වල්ප
දෙනෙක් හැර සියලු නුවරු රැස්ව ආ

45 වෝය. එහෙත් යුදෙව්වරු සමූහයන්
දුටු ඊර්ෂ්‍යාවෙන් පිරී පාවුල් විසින් කිය
නලද කාරණාවලට විරුද්ධව කථාකර
46 මින් නින්දාකලෝය. එකල පාවුල්ද බා
ර්ණබස්ද භයක් නැතුව කථාකරමින්
දෙවියන්වහන්සේගේ වචනය පළමුකො
ට තුඹලාට කියයුතුය. නුමුත් තුඹලා ඒ
ක පහකොට අනන්ත ජීවනයට තමන්
නුසුදුස්සෝයයි විනිශ්චයකරණ හෙ
යින් අපි අන්‍යජාතීන් අතට හැරෙමුව.
47 මක්නිසාද පොළොවේ ඉම දක්වා ගැල
වීම වෙන පිණිස තුඹ අන්‍යජාතීන්ට එළි
යක්කොට තැබුයෙමියි ස්වාමින්වහන්
48 සේ අපට අණකලසේකැයි කීවෝය. අ
න්‍යජාතිහු ඒ අසා සතුටුව ස්වාමින්වහන්
සේගේ වචනයට ප්‍රශංසා කලෝය. අ
නන්ත ජීවනය ලැබීමට නියමකරණල
49 ද සියල්ලෝම අදහගත්තෝය. දෙවියන්
වහන්සේගේ වචනය ඒ රටේ සියළු තැ
50 න්වල පතලවුනේය. යුදෙව්වරු භක්ති
වන්තවූ කුල ස්ත්‍රීන්ද නුවර ප්‍රධානීන්ද ක
ලඹා පාවුල් සහ බාර්ණබස්ට විරුද්ධව
පීඩා උපදවා තමන්ගේ ඉම්වලින් ඔවුන්
51 පිටත එළවෝය. ඔවුන්ද තමන් පාදවල
දූවිලි ඔවුන්ට විරුද්ධව ගසාදමා ඉකො
52 නියට ගියෝය. ගෝලයෝ සන්තෝෂ
යෙන්ද ශුද්ධාත්මයෙන්ද සම්පූර්ණවූවෝය.

14. පරිච්ඡේ. ඉකොනියෙහිදී ඔවුන්
දෙදෙන යුදෙව්වරුන්ගේ සිනගෝගය
ට ඇතුල්ව යුදෙව්වරුන්ගෙන්ද ග්‍රීකයන්
ගෙන්ද බොහෝ දෙන අදහගන්නා ලෙ
2 ස කථාකලෝය. නොඅදහන්නාවූ යු
දෙව්වරු අන්‍යජාතීන් කලඹා ඔවුන්ගේ
සිත් සහෝදරයන් කෙරෙහි කිපුනුවූවෝ
3 ය. එහෙයින් ඔවුන් ස්වාමින්වහන්සේ
ගේ කාරණයෙහි භයක් නැතුව කථාක
රමින් බොහෝ කලක් සිටියෝය. උන්
වහන්සේ තමන්ගේ කරුණාවෙහි වච
නයට සාක්ෂි දෙමින් ඔවුන්ගේ අත්ව
ලින් ලකුණුද පුදුමද කරන්නට බලය
4 දුන්සේක. නුමුත් නුවර සමූහයෝ භේ
දව සමහරෙක් යුදෙව්වන්ගේ පක්ෂයට
ද සමහරෙක් ප්‍රේරිතයන්ගේ පක්ෂයටද
5 සිටියෝය. තවද අන්‍යජාතිහුද යුදෙව්ව
6 රුද ඔවුන්ගේ ප්‍රධානීද ඔවුන්ට නින්ද පි
ඩා කරන්නටත් ගල් ගසන්නටත් සැදූ කල්
හි ඔවුන් ඒ දැන එකොනියෙහි නුවර
වල්වූ ලුස්ත්‍රාවටද දර්බියටද ඒ වටකොට
7 තිබෙන දේසවලටද ගොස් එහිදී සුභා
රංචිය ප්‍රකාශකලෝය.
8 තවද තමාගේ මව්කුස පටන් කොර
වූහෙයින් පාද දුර්වලවූ කිසි කලෙකත්
නැවිද්දනුවූ මනුෂ්‍යයෙක් ලුස්ත්‍රාවෙහි උ
9 න්නේය. ඔහු පාවුල් කථාකරණ ඔව ඇ
සුනේය. පාවුල් ඔහු දෙස බලා සුව ලබන්
ට ඇදහිල්ල ඔහුට ඇතැයි දැන නුබේ
පාදවලින් කෙලින් සිටපන්නැයි මහත්
10 ශබ්දයෙන් කීය. එවිට ඔහු පැනනැගී
ඇවිද්දේය සමූහයෝ පාවුල් විසින් ක
11 රණලද කාරණාව දැක මුරගසමින් මනු
ෂ්‍ය වේසයෙන් දෙවිවරු අප ලඟට බැස්
සෝයයි එකොනිය භාෂාවෙන් කීවෝ
12 ය. ඔවුන් බාර්ණබස්හට සියුස්යයි කියා
ද කථාකිරීමට ප්‍රධාන බැවින් පාවුල්හට
13 හර්මීස්යයි කියාද නම් තැබුවෝය. ඔ
වුන්ගේ නුවර ඉදිරියෙහි පිහිටියාවූ සි
යුස්ගේ දේවාලයෙහි පූජකයා ගොන්ද
මල්මාලාද දොරවල් ලඟට ගෙනවුත් ස
මූහයා සමග යාග කරන්ට කැමතිවිය.
14 ප්‍රේරිතවූ බාර්ණබස්ද පාවුල්ද ඒ අසා
තමන්ගේ වස්ත්‍ර ඉරාගෙන සමූහයා මැ
දට දිවගොස් ශබ්ද පවත්වා එම්බා මනු
ෂ්‍යයෙනි මේ දේ කරනෙන් මක්නිසාද?
15 අපිත් තුඹලා සමාන සැප දුක් විඳින ම
නුෂ්‍යයෝය. මේ නිෂ්ප්‍රයෝජන දේවල්
වලින් දුරුව අහසත් පොළොවත් මුහුදත්
එහි ඇත්තාවූ සියල්ලත් මැවූ ජීවමානවූ
දෙවියන්වහන්සේ දෙසට හැරෙණ පිණි
16 ස මේ සුභාරංචිය තුඹලාට දනවමුව. උන්ව
හන්සේ පසුගිය කාලයෙහි සියළු වර්ග
යන්ට තමතමන්ගේ මාර්ගවල හැසි
17 රෙන්ට ඉඩහැරියසේක. නුමුත් උන්ව
හන්සේ යහපත්කම්කොට අහසෙන් ව
ර්ෂාව සහ ඵල දෙන කාලවල් අපට දී කෑ
මෙන්ද සන්තෝෂයෙන්ද අපගේ සිත්
සම්පූර්ණකොට තමන්වහන්සේ ගැන
18 සාක්ෂි දුන්සේකැයි කීවෝය. ඔවුන් මෙ
සේ කියා සමූහයා තමන්ට කරණ යාග
ය අමාරුවෙන් වැලැක්වූවෝය.
19 තවද අන්තියෝකියෙන්ද ඉකොනි
යෙන්ද යුදෙව්වරු ලුස්ත්‍රාවට ඇවිත් සමූ
හයා කැමතිකරවාගෙන පාවුල්ට ගල් ග
සා ඔහු නැසුනේයයි සිතා නුවරින් පිට
20 ත ඇද්දෝය. නුමුත් ඔහු වටකර ගෝල
යෝ සිටිකල ඔහු නැගිට නුවරට ඇතුල්
ව පසුව දා බාර්ණබස් සමග දර්බියට
ගියේය.

21 ඒ නුවරදී ඔවුන් සුභාරංචිය දේසනා
කොට නොයෙක් දෙනා ගෝලයන්ක
ර ලුස්ත්‍රාවටද ඉකෝනියටද අන්තියෝ
22 කියටද නැවත ඇවිත් දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයට බොහෝ දුක් විඳීමෙන් අ
පවිසින් ඇතුල්වෙන්ට යුතුයයි කියමින්
ගෝලයන්ගේ සිත් සවිකොට ඇදහිල්
ලෙන් පවතින්ට ඔවුන්ට දැනිමිතිකම්
23 දුනෝය. ඒ ඒ සභාවල ඔවුන්ට වැඩි
මහල්ලන් නියමකොට නිරාහාරයෙන්
24 ඉඳ යාඥාකොට ඔවුන් අදහගත් ස්වාමි
25 න්වහන්සේට ඔවුන් භාරදී පිසිදිය මැදින්
ගොස් පම්පිලියට ඇවිත් පර්ගායෙහිදී
26 වචනය දේසනාකොට අත්තාලියට බැ
ස එසින් නැව් නැගී යම් වැඩක් කරණ
පිනිස දෙවියන්වහන්සේගේ කරුණාවට
අන්තියෝකියේදී ඔවුන් භාරදෙනලද
ද ඒ වැඩ නින්දුකොට එම අන්තියෝ
27 කියට ආවෝය. ඔවුන් ඇවිත් සභාව රැස්
කරවා දෙවියන්වහන්සේ තමන් ලවා
කෙරෙව්වාවූ සියල්ලද අන්‍යජාතීන්ට උ
න්වහන්සේ ඇදහිල්ලෙහි දොර ඇරිය බ
28 වද දැන්වූවෝය. එහි ඔවුන් ගෝලයන්
සමග බොහෝ කලක් සිටියෝය.

15. පරිච්ඡේ. තවද යුදයෙන් ආවාවූ
සමහරු මෝසෙස්ගේ ව්‍යවස්ථාව ලෙස
චර්මඡේදනයකරනු නොලැබූවොත් ගැ
ලවීම ලබන්ට නුපුළුවනැයි සහෝදර
2 යන්ට ඉගැන්වූවෝය. එහෙයින් පාවුල්
ද බාර්ණබස්ද ඔවුන් සමග බොහෝ
වාදත් තරගත් කලවිට පාවුල් සහ බා
ර්ණබස්ද ඔවුන්ගෙන් සමහරෙක්ද මේ
ප්‍රශ්නය ගැන ප්‍රේරිතයන් සහ වැඩිමහ
ල්ලන්ගෙන් අසන පිනිස යෙරුසලමට
3 යනතට නියෝගකලෝය. සභාව විසින්
යවනලද්දාවූ ඔවුන් පෙනීකියද සමාරිය
ද මැදින් ගොස් අන්‍යජාතීන්ගේ හැරීම
දන්වමින් සියළු සහෝදරයන්ට මහත්
4 සන්තෝස ඉපදෙව්වෝය. ඔවුන් යෙරු
සලමට ආවිට සභාව විසින්ද ප්‍රේරිතයන්
විසින්ද වැඩිමහල්ලන් විසින්ද පිළිගන්නා
ලදුව දෙවියන්වහන්සේ තමන් ලවා
5 කෙරෙව්වාවූ සියල්ල දැන්වූවෝය. එ
හෙත් ඵරිසින්ගේ පක්ෂයට ඇතුලත්වූ
ඇදහිලිවන්තවූ සමහරෙක් නැගිට ඔ
වුන්ට චර්මඡේදනය කරන්වත් මෝසෙස්
ගේ ව්‍යවස්ථාව රක්ෂාකරණලෙස අඥාක
6 රන්වත් නිසියයි කීවෝය. එවිට ප්‍රේරිත
යෝද වැඩිමහල්ලෝද මේ කාරණව
7 සොයා බලන පිනිස එකතුවූනෝය. ම
හත් වාදයක් හටගත්තායින් පසු පේ
තෘස් නැගිට ඔවුන්ට කියනුයේ සහෝ
දරවූ මනුෂ්‍යයෙනි අන්‍යජාතීහු මගේ කා
ටින් සුභාරංචිය අසන්ටද අදහන්ටද
බොහෝ කලකට පලමුවෙන් දෙවියන්
වහන්සේ අපෙන් මා තෝරාගත් බව
8 තුබ්ලා දනිති. සිත් දන්නාවූ දෙවියන්ව
හන්සේ අපට මෙන් ඔවුන්ටත් සුද්ධාත්ම
9 ය එවා ඔවුන් ගැන සාක්ෂි දෙමින් ඔවුන්
වත් අපටත් කිසි වෙනසක් නොකොට
ඇදහිල්ලෙන් ඔවුන්ගේ සිත් පවිත්‍රකල
10 සේක. එහෙයින් අපගේ පියවරුන්ට
වත් අපටවත් උසුලන්නට බැරිවූ වියග
හක් ගෝලයන්ගේ කරේ තැබීමෙන්
මක්නිසා දෙවියන්වහන්සේ පරීක්ෂාක
11 රව්ද? ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ කරුණාවෙන් ඔවුන් මෙන් අපිත්
ගැලවෙනවා ඇතැයි විස්වාසකරමුයයි
කීයේය.
12 එවිට සියළු සමූහයෝ කථා නොකර
සිට පාවුල් හා බාර්ණබස් තමන් ලවා
දෙවියන්වහන්සේ අන්‍යජාතීන් අතරෙ
හි කෙරෙවූ ලකුණුද පුදුමද එලිදරවූක
13 රණ බව ඇසූවෝය. ඔවුන් කථාකොට
නිම්මූතුවූකල යාකොබ් උත්තරදෙමින්
කියනුයේ සහෝදරවූ මනුෂ්‍යයෙනි මා
14 ගේ වචන අසාපල්ලාය. දෙවියන්වහන්
සේ තමන්ගේ නාමයට අන්‍යජාතීන්
ගෙන් සෙනගක් වෙන්කරගන්නට ඔ
15 වුන් බැලූ හැටි සිමියොන් කීයේය. ත
වද අනාගතවක්තෘන්ගේ වචන ඊට ස
මානවෙති. කෙසේද ඉතිරිවූ මනුෂ්‍ය
යෝද මාගේ නාමය ලත් සියළු අන්‍යජා
තීහුද ස්වාමීන්වහන්සේ සොයන පිනිස
16 මෙයින් පසු මම නැවත ඇවිත් දාවිත්ගේ
වැටුනාවූ කූඩාරම නැවත නගා එහි බි
ඳුනු දේ සාදා ඒක පිහිටුවමියි මේ සියල්
ල කරන්නාවූ ස්වාමින්වහන්සේ කියන
17 සේකැයි ලියකලද්දේය. දෙවියන්වහන්
18 සේ ලෝකයේ පටන්ගැන්මෙහි සිට ත
මන්වහන්සේගේ සියළු ක්‍රියාවල් දන්නා
19 සේක. එහෙයින් අන්‍යජාතීන් අතරෙන්
දෙවියන්වහන්සේ වෙතට හැරෙණවුන්
20 ට වෙහෙස නොදී රූපවල අසුද්ධකම්ද
වෛශ්‍යාකම්ද ලේ නැර මැරූ සතුන්
ගෙද ලෙයිද වලකින්නට ඔවුන්ට ලියා
යවන්නට යුතුයයි විනිශ්චය කෙරෙමි.

21 මක්නිසාද ආදි කාලයේ පටන් නුවරක්
නුවරක් පාසා මෝසෙස්ගේ ව්‍යවස්ථාව
ප්‍රකාසකරනෝ ඇත. ඔවුන් සබත් ද
වස්පතා ඒ ව්‍යවස්ථාව සිනගෝගවල කි
යතිසි කීයේය.
22 එකල තමන් අතරෙන් තෝරාගතනා
වූ සහෝදරයන් අතරෙහි ප්‍රධාන මනු
ෂ්‍යවූ බර්සබස්නම් යූදස්ද සීලස්ද පාවුල්
හා බාර්ණබස් සමග අන්තියෝකියට
යවනනට ප්‍රේරිතයන්ටද වැඩිමහල්ලන්
ටද සියළු සභාවටද සුදුසුව පෙනුනේය.
23 ඔවුන් අත මෙසේ ලියමනක් ලියා යව
නනාහු ප්‍රේරිතයෝද වැඩිමහල්ලෝද
සහෝදරයෝද අන්තියෝකියෙහිත් සි
රියායෙහිත් කිලිකියෙහිත් වසන අන්‍ය
ජාතිවූ සහෝදරයන්ට සුභ සිඬවේවයි
24 ලියා එවන වගනම් අපගෙන් අන නො
ලැබුවාවූ සමහරෙක් අප අතරෙන් පිට
ව ගොස් වචනවලින් නුබලා කලඹමින්
නුබලා විසින් චර්මඡේදනව ව්‍යවස්ථාව ර
ක්ෂා කටයුතුයයි කියා නුබලාගේ හිත්
චපල කලෝයයි අප විසින් දැනගත් බැ
25 වින් අපගේ ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ නාමය නිසා තමන්ගේ ජීවි
තයන් උපද්‍රවට පැමිනවූ අපගේ ප්‍රියවූ
බාර්ණබස්ද පාවුල්ද සමග තෝරාගත්
මනුෂ්‍යයන් නුබලා ලඟට එවනනට එක්
සිත්ව රැස්වූ අපට සුදුසුව පෙනුනේය
26 එහෙයින් යූදස්ද සීලස්ද එවමුව. ඔවුන්
මුඛයෙන්ද එම කාරණ නුබලාට දන්වන
27 වා ඇත. රූපවලට පිදූ කෑමවලින්ද ලේ
වලින්ද ලේ නෑර මැරූ සතුන්ගෙන්ද වේ
ශ්‍යාකම්න්ද නුබලා විසින් වැලකියයුතු
වූ මේ දෙයට කිසි බරක් නුබලා පිට
නොතබන්ට සුඬාත්මයටත් අපටත් සුදු
28 සුව පෙනුනේය. මෙසින් නුබලා වැල
29 කුනොත් නුබලාට යහපතක් වෙයි. සු
වසේ සිටපල්ලායයි ලියා යැව්වෝය.
30 යවනලද්දාවූ ඔවුන් අන්තියෝකියට
පැමින සමූහයා එකතුකරවා ලිවුම දුන්
31 නෝය. ඔවුන් ඒක කියවා ඒ සැනසිල්ල
32 ට සතුටුවූනෝය. යූදස්ද සීලස්ද තමන්
දේසනාකාරයන් බැවින් බොහෝ වච
නවලින් සහෝදරයන්ට දැනමුතුකම් දී
33 ඔවුන් ස්ථිරකලෝය. ඔවුන් ස්වල්ප කා
ලයක් එහි සිටියායින් පසු සහෝදරයන්
කෙරෙන් ප්‍රේරිතයන් ලඟට සමාදාන
34 යෙන් යවනලද්දෙය. නුමුත් සීලස්ට එ
35 හි සිටිනනට සුදුසුව පෙනුනේය. පාවුල්
සහ බාර්ණබස් වෙන බොහෝ දෙනා
සමග උගන්වමින් ස්වාමීන්වහන්සේගේ සු
භාරචිය ප්‍රකාසකරමින් අන්තියෝකි
යේ සිටියෝය.
36 කීප දවසකට පසු පාවුල් කථාකොට
අපි ස්වාමින්වහන්සේගේ වචනය දේස
නාකලාවූ සියළු නුවරවල සිටින අපගේ
සහෝදරයෝ කොහොම සිටිත්දැයි දැන
ගනනා පිනිස නැවත ගොස් ඔවුන් බල
37 මුයයි බාර්ණබස්හට කීයේය. එවිට
මාර්ක් නම්ලත් යොහන් තමන් සමග ගෙ
38 නයන්ට බාර්ණබස් කැමතිවූයේය. නු
මුත් පාවුල් පම්පිලියෙහිදී තමන්ගෙන්
අහක්ව තමන් සමග මෙහෙයට නොගි
යාවූ තැනැත්තා තමන් සමග ගෙනයන්
39 ට නුසුදුසුයයි සිතුයේය. ඒ ගැන ඔවු
නොවුන් අතරෙහි විරුඬ කථාවක් හට
ගත් බැවින් ඔවුනොවුන් වෙන්ව ගියෝ
ය. බාර්ණබස්ද මාර්ක් එක්ව නැව් නැගී
40 කුප්‍රයට ගියේය. පාවුල්ද සීලස් තෝරා
ගෙන සහෝදරයන් විසින් දෙවියන්ව
හන්සේගේ කරුණාවට පාවාදෙනලදුව
41 පිටත්ව සිරියායෙහිද කිලිකියායෙහිද
මැදින් ගොස් සභාවල් ස්ථිරකලේය.

16. පරිච්ඡේ. තවද ඔහු දර්බියටද ලු
2 ස්ත්‍රාවටද ආයේය. තිමෝතියස්නම් ගෝ
ලයෙක් එහි සිටියේය. ඔහු ඇදහිලිවන්
ත යුදෙව් ස්ත්‍රියකුගේද ග්‍රීක් පියෙකුගේ
ද පුත්‍රවූ ලුස්ත්‍රායෙහිද ඉකොනියෙහිද සි
ටි සහෝදරයන් විසින් යහපතැයි කිය
3 න ලද්දාවූ කෙනෙක. පාවුල් තමන් ස
මග ඔහු කැඳවාගෙන යන්ට කැමතිව
ඒ රටවල සිටි යුදෙව්වරුන් නිසා ඔහු
ගේ චර්මඡේදනය කලේය. මක්නිසාද ඔ
හුගේ පියා ග්‍රීකයෙකැයි සියල්ලෝ දැන
4 ගතෙනෝය. ඔවුන් නුවරක් නුවරක් පා
සා යද්දී යෙරුසලමෙහි සිටි ප්‍රේරිතයන්
විසින්ද වැඩිමහල්ලන් විසින්ද නියමකරන
ලද අඥා පවත්වනනට ඔවුන්ට පාවා
5 දුනෙනෝය. මෙසේ සභාවල් ඇදහිල්
ලෙන් සවිව දවස්පතා ගනනින් වැඩිවූ
6 නෝය. ඔවුන් පිරිගියාව ගලාතියාව මැ
දින් ගොස් ආසියායෙහිදී වචනය කියන්
ට සුඬාත්මයානන්වහන්සේ විසින් වලක්
7 වනු ලැබ මීසියට ඇවිත් බිතිනියට යන්
ට උත්සාහ කලෝය. නුමුත් ආත්මයාන
8 න්වහන්සේ ඉඩ ඇරියේ නැත. එවිට මී
9 සිය හැර ත්‍රෝවායට ගියෝය. පාවුල්හට

රාත්‍රියෙහි දර්ශනයක් විය. කෙසේද මකි
දෙනියට ඇවිත් අපට උපකාර කරපන්
නැයි මකිදෙනියෙහි මනුෂ්‍යයෙක් ඔහු
10 ගෙන් ඉල්ලුවේය. ඔහු දර්ශනය දුටුකල
ඔවුන්ට සුභාරංචිය ප්‍රකාශකරනතට ස්වා
මින්වහන්සේ අප කැඳෙව්වේසේකැයි අනු
මානයක් නැතුව දැන මකිදෙනියට ව
11 හාම යනතට උත්සාහ කලෙමුය. එහෙ
යින් ත්‍රෝවායෙන් නැව් නැගී සාමොත්
12 ත්‍රාකියටද දෙවෙනි දා නෙයාපොලිසය
ටද කෙලින් ගොස් එයින් මකිදෙනි
යෙහි ඒ භාගයට ප්‍රධාන නුවරවූ රෝම
යන්ගේ ආඥාව පවතිනතාවූ පිලිප්පියට
ඇවිත් ඒ නුවර කීප දවසක් සිටියෙමුව.
13 තවද සබත් දවසෙහි නුවරින් පිටත
ගංගාවක් ලඟවූ යාඥා කරනතට වෑවහා
රවූ ස්ථානයට ගොස් හිඳ එකතුවූ ස්ත්‍රීන්
14 ට කථාකෙලෙමුව. එවිට තියාතිර නුව
ර වැසිවූ දම්බුරුවත් පිලී විකුනනතාවූ
දේවභක්ති ඇතතාවූ ලිදියානම් ස්ත්‍රියක්
අපගේ වචන ඇහුවාය. පාවුල් විසින් කි
යනලද කාරණා සිහියට ගන්ට ස්වාමින්
වහන්සේ ඇගේ සිත පුබුදුකලසේක.
15 ඇද ඇගේ ගෙයි වැසියෝද බව්තීස්ම
ලැබුවායින් පසු ඈ ස්වාමින්වහන්සේ
කෙරෙහි මම ඇදහිලි ඇත්තියෙකැයි
නුබලා සිතතොත් මාගේ ගෙට ඇවිත්
එහි සිටපල්ලායයි ඉල්ලා උත්සාහයෙන්
අප නවතාගත්තාය.
16 අපි යාඥාකරන්ට යනකල ශාස්ත්‍ර කි
යන ආත්මයක් වැහී ශාස්ත්‍ර කීමෙන් ත
මන් ස්වාමිවරුන්ට බොහෝ ලාභ උප
දවනතාවූ එක් යෞවනියක් අප ඉදිරිය
17 ට ආවාය. ඈ පාවුල්ද අපද පස්සේ එ
මින් මේ මනුෂ්‍යයෝ ගැලවීමේ මාර්ග
ය අපට පෙන්වනතාවූ මහෝත්තම දෙ
වියන්වහන්සේගේ වැඩකාරයෝයයි මූ
18 රගා කීවාය. ඈ බොහෝ දවසක්ම එ
සේ කලාය. පාවුල්ද දුකට පැමින අප
සු හැරී යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ නා
මයෙන් ඇගෙන් දුරුව යන්ට ආඥාකෙ
රෙමියි ආත්මයහට කීයේය. එවලේම
19 ඔහු දුරුව ගියේය. ඇගේ ස්වාමිවරු ත
මන්ට ලැබෙන ලාභය නැතිවූ බව දැන
පාවුල් සහ සීලස් අල්වා නඩු සාලාවේ
20 ප්‍රධානීන් ලඟට ඇදගෙන ගියෝය. න
ඩුකාරයන්ට ඔවුන් පාවාදී යුදෙව්වරුවූ
මේ මනුෂ්‍යයෝ අපගේ නුවර අතිශයින්
21 කලඹමින් රෝමයන්වූ අප විසින් පිලි
ගනනටවත් පවත්වනනටවත් නුසුදුසුවූ
22 චාරිත්‍රවල් උගන්වතියි කීවෝය. එවිට
සමූහයෝ ඔවුන්ට විරුඬව නැගුටුනෝ
ය. නඩුකාරයෝද ඔවුන්ගේ වස්ත්‍ර ඉරා
23 දමා ඔවුන්ට තලන්ට ආඥාකොට ඔවුන්
ට බොහෝ පහරදී හිරගෙයි දමා ඔවුන්
ප්‍රවේශමෙන් රක්ෂාකරනතට හිරගෙයි
24 රැකවලාට ආඥා කලෝය. ඔහු ඒ අන
ලැබ ඔවුන් ඇතුල් හිරගෙයි දමා ඔවුන්
ගේ දෙපය දඬුගැසුයේය.
25 මධ්‍යම රාත්‍රියේ පාවුල්ද සීලස්ද යාඥා
කොට දෙවියන්වහන්සේට ස්තුති ගීති
කා කලෝය. ඒක හිරකාරයන්ට ඇසු
26 ණේය. එවලේම මහත් පොලෝ කම්
පාවක් විය. එයින් හිරගෙයි අත්තිවාරම්
සෙලවුණේය. එකෙනෙහිම සියළු දොර
වල් හැරී ගියේය. සියල්ලන්ගේ බැඳුම්
27 මිදුනේය. හිරගෙයි රැකවලා නින්දෙන්
පිබිද හිරගෙයි දොරවල් ඇරී තිබෙන
බව දැක හිරකාරයෝ පලාගියෝයයි සි
තා කඩුව ඇදගෙන තමාම මරාගන්ට
28 කැමතිවිය. එහෙත් පාවුල් නුබට කිසි
හිංසාවක් කරනොගනන අපි සියල්ලෝ
මෙහි සිටිමුයයි මහත් ශබ්දයෙන් හඬ
29 ගැසුයේය. එවිට ඔහු එලියක් ඉල්වාගෙ
න ඇතුලට පැන වෙව්ලමින් පාවුල් ස
හ සීලස්ගේ ඉදිරියෙහි වැටී ඔවුන් පිට
30 තට කැඳවාගෙන හාමුදුරුවරුනි ගල
වනු ලැබීම පිනිස මා විසින් කුමක් කට
31 යුතුදැයි කීයේය. ඔවුහු ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ අදහගනිතන එවිට නු
බද නුබේ පවුලද ගලවනු ලැබේයයි කි
32 යා ඔහුටද ඔහුගේ ගෙදර වැසි සියල්ලන්
ටද ස්වාමිවහන්සේගේ වචනය කීවෝ
33 ය. ඔහු රාත්‍රියේ එම පැයෙහිම ඔවුන් රැ
ගෙන ඔවුන්ගේ පහර කැලල් සෝදා ඔ
හුද ඔහුගේ පවුලේ සියල්ලෝද එවලේ
34 ම බව්තීස්ම ලැබුවෝය. තමාගේ ගෙට
ඔවුන් කැඳවාගෙන ඔවුන්ට කෑම දී ත
මාගේ ගෙයි වැසි සියල්ලන් සමඟ දෙ
වියන්වහන්සේ අදහමින් සන්තෝෂ වූ
35 යේය. පහන්වූ කල නඩුකාරයෝ ඒ ම
නුෂ්‍යයන් හරින්ට සේවකයන් අත කියා
36 යැව්වෝය. එවිට හිරගෙයි රැකවලා ඒ
බව පාවුල්ට දන්වා නුබලා හරින්ට න
ඩුකාරයෝ කියා එව්වෝය. එබැවින්
දැන් සැපසේ පිටත්වෙයල්ලායයි කීයේ
37 ය. නුමුත් පාවුල් රෝමයන්වූ අප විචාර
නොකොට ප්‍රකාශයෙන් තලා හිරගෙයි

ඒවෝය. දැන් අප අප්‍රකාශයෙන් පිටත්
කරද්ද? එසේ නොව ඔවුන්ම ඇවිත් අ
ප පිටතට ගෙන යෙත්වයි ඔවුන්ට කි
38 යේය. සේවකයෝ ඒ බස් නඩුකාරයන්
39 ට දැන්වූවෝය. ඔවුන් රෝමයෝයයි අ
සා භයපත්ව ඇවිත් ඔවුන් සමග කථා
කොට ඔවුන් පිටතට කැඳවා නුවරින්
පිටත්ව යන ලෙස ඔවුන්ගෙන් ඉල්ලූ
40 වෝය. ඔවුහු හිරගෙයින් පිටත්ව ලිදි
යාගේ ගෙට පැමිණ සහෝදරයන් දැක
ඔවුන් සනහා පිටත්ව ගියෝය.

17. පරිච්ඡෙ. ඔවුන් අම්පිපොලිස් හා
අපොලෝනියේ මැදින් ගොස් යුදෙව්
වන්ගේ සිනගෝගය තිබෙන තෙස
2 ලොනිකයට ආවෝය. පාවුල් තමාගේ
ව්‍යවහාරයවූ ලෙස ඔවුන් ලගට ගොස්
සබත් දවස් තුනක් ඔවුන් සමග වාදක
3 රමින් ක්‍රිස්තුස්වහන්සේ දුක් විඳින්ටද ම
ලවුන්ගෙන් නැගිටින්ටද යුදුසුය නුඹ
ලාට මම දන්වන මේ යේසුස්වහන්සේ ක්‍රි
ස්තුස්වහන්සේයයි ලියවිලිවලින් එලිද
4 රව්කොට දැක්වූයේය. ඔවුන්ගෙන් සම
හරෙක්ද භක්තිවන්තවූ ග්‍රීකයන්ගෙන්
බොහෝ දෙනාද නොයෙක් ප්‍රධාන ස්ත්‍රී
හුද අදහාගෙන පාවුල් සහ සීලස් සමග
5 සමාගම් වූවෝය. නුමුත් නොඅදහනනා
වූ යුදෙව්වරු ඊෂ්‍යාවෙන් දිලියෙමින්
කඩපිල්වල සිටි දුෂ්ට මිනිසුන් කැඳවාගෙ
න සමූහයක් රැස්කරවා නුවර කලඹා
යාසොන්ගේ ගෙදර වටකොට සිට ස
මූහයා වෙතට ඔවුන් ගෙනෙන්ට සෙ
6 වූවෝය. ඔවුන් නොදැක යාසොන් සහ
සමහර සහෝදරයන් නුවර මූලාදෑනීන්
ලගට ඇදගෙන ගොස් ලෝකය පෙර
ලනනාවූ මොවුන් මෙතැනටත් ආවෝ
7 ය. යාසොන් මොවුන් පිලිගත්තේය. මො
වුන් සියල්ලෝද යේසුස්නම් අන් රජෙක්
ඇතැයි කියා කායිසර්ගේ ආඥාවට විරු
8 ඩකම් කෙරෙතියි මුරගසා කියමින් මේ
කාරණා අසන සමූහයාද නුවර මූලාදෑනී
9 න්ද කැලඹූවෝය. යාසොන්ගෙන්ද අනිත්
අයවළුන්ගෙන්ද ඇප ගෙන ඔවුන් ඇ
රියෝය.
10 එකෙනෙහිම සහෝදරයෝ රාත්‍රියේ
ම පාවුල්ද සීලස්ද බෙරියයට යැව්වෝය.
ඔවුන් එතනට පැමිණ යුදෙව්වරුන්ගේ
සිනගෝගයට ඇතුල්වූවෝය. බෙරීය
යෝ තෙසලොනිකයන්ට වඩා උතුම්ව
11 ඉතා සැලකිමෙන් වචනය පිලිගෙන
මේ කාරණා මෙසේදැයි දැනගන්නා පිනි
12 ස දවස්පතා ලියවිලි සෙව්වෝය. එහෙ
යින් ඔවුන්ගෙන් බොහෝ දෙනද නො
යෙක් ග්‍රීක් කුල ස්ත්‍රීහුද පුරුෂයෝද අද
13 හාගත්තෝය. නුමුත් තෙසලොනිකයෙ
හි යුදෙව්වරු පාවුල් විසින් බෙරියයෙහි
දිත් දෙවියන්වහන්සේගේ වචනය දේ
සනාකරණලදැයි දැන එහිද ගොස් සමූ
14 හයා කැලඹූවෝය. එවිට සහෝදරයෝ
වහාම පාවුල් මුහුදෙන් යවන්නාට මෙන්
යැව්වෝය. එහෙත් සීලස්ද තිමෝතියස්
15 ද එහි සිටියෝය පාවුල් කැඳවාගෙන ය
නෙනා් අතීනසය දක්වා ගෙන ගොස්
සීලස් හටද තිමෝතියස්හටද මා ලගට
වහාම එන්ට කියාපල්ලායයි අන ලැබ
ගියෝය,
16 අතීනසයෙහිදී ඔවුන්ගේ ඊම පාවුල්
බලා සිට නුවරු රූප ඇදහීමට ඉතා ඇ
එනු බව දැක බොහෝසෙයින් කැලඹු
17 නේය. එහෙයින් සිනගෝගයෙහිදී යු
දෙව්වරුන් හා භක්ති ඇත්තවුන් සම
ගද දවස්පතා කඩපිල්වලදී සම්භවූවන්
18 සමගද වාද කෙලේය. එකල එපිකුරෙව්
වන්ගෙන්ද ස්තොයිකියන්ගෙන්ද සමහ
ර පඬිතයෝ ඔහු සමග වාද කලෝය.
සමහරෙක් මේ වාචාලයා මක් කියන්
නේදැයි කීවෝය. තව සමහරෙක් ඔහු
යේසුස්වහන්සේද මලවුන්ගෙන් නැගි
ටීමද ඔවුන්ට දැන්වූ බැවින් පරදේසි දේ
වතාවන් එලිදරව් කරනෙනාක් මෙන්
19 පෙනෙනෙන්යයි කීවෝය. ඉන්පසු ඔහු
අරියොපගයට කැඳවාගෙන ගොස් නුඹ
කියන මේ අළුත්වූ ඉගැන්වීම මොකදැ
20 යි දැනගන්නාට පුළුවන්ද? පෙර නෑසූ කා
රණා නුඹ අපේ කන්වල එලනේය.
එහෙයින් මේ කාරණාවල අර්ථ කිමෙක්
දැයි දැනගන්නාට කැමතියයි කීවෝය.
21 මක්නිසාද සියළු අතීනයෝද එහි සිටි
යාවූ විදේසීහුද අළුත් කාරණාවක් කී
මෙන් නොහොත් ඇසීමෙන් මිස වෙන
හැවියකින් කල් අරිනෙන් නැත.
22 එවිට පාවුල් අරියොපගය මැද සිට කී
23 යනුයේ අතීනසයෙහි මනුෂ්‍යයෙනි නුඹ
බලා සියළු කාරණාවල ඉතා දේව භය
ඇත්තෝයයි දනිමි මක්නිසාද මාගීහියෙ
හි යනනාවූ මම නුඹලාගේ පූජාවල් බලා
නාඳුනන ලද දෙවියන්ටයයි ලියා ති
බෙන පූජාසනයක් දුටිමි. යම් කෙනෙ

කුට තුබලා නෑදින නමස්කාර කරව්ද
24 උන්වහන්සේ මම තුබලාට දන්වමි ලෝ
කයද එහි ඇති සියල්ලද මැවූ දෙවියන්
වහන්සේම ස්වර්ගයටත් පොලොවටත්
ස්වාමිව අතින් කරණලද මාලිගාවල
නොවසන සේක. සියල්ලන්ට ජීවිතයද
25 හුස්මද සියළු දේවල්ද දෙනනාවූ උන්ව
හන්සේ මොන දෙයකින්වත් අඩුකමක්
ඇතිවූ කෙනෙක් මෙන් මනුෂ්‍යයන්
26 ගෙන් උපස්ථාන නොගන්නාසේක. සිය
ළු පොලෝතලයෙහි වසන පිනිස මනු
ෂ්‍යයන්ගේ සියළු ජාතීන් එක ලෙසින් මැ
27 වූසේක. උන්වහන්සේ අප සියල්ලන්ට
නුදුරුව සිටිනත් අතගා යමින් තමන්ව
හන්සේ දක්නා පිනිස සොයාගන්නට
ඔවුන්ගේ නියම කාලවල්ද වාසස්ථාන
28 යෙහි සීමාවල්ද නියෝගකලසේක. අපි
උන්වහන්සේගේ දරුවෝයයි තුබලා
ගේ කාව්‍යක්කාරයන්ගෙන් සමහරෙක්
කියා තිබුන හැටියට අපි උන්වහන්සේ
තුලේ ජීවත්වෙමුව හැසිරෙමුව සිටිමුව.
29 එහෙයින් දෙවියන්වහන්සේගේ දරුවූ අ
ප විසින් දේවකම මනුෂ්‍ය බුද්ධියෙන් හා
නුවනින් රන්වත් රිදියෙන්වත් ගල්වලි
න්වත් කරණලද දෙයට සමානයයි නො
30 සිතිය යුතුය. මේ අඥානකමෙහි කාල
වල් දෙවියන්වහන්සේ පසුකර හැර සි
යළු මනුෂ්‍යයන්ට සෑම තැන්හි දැන් පසු
තැවිලිවෙන්නට අනදෙනසේක. මක්
නිසාද තමන්වහන්සේ විසින් නියමක
ල පුරුෂයා ලවා ලෝකයා ධර්මිෂ්ටක
මෙන් විනිශ්චයකරවන්ට එක් දවසක්
31 නියමකලසේක. උන්වහන්සේ ඒ පුරුෂ
යා මලවූන්ගෙන් නැගිටවීමෙන් සියළු
මනුෂ්‍යයන්ට ඒ ගැන අනුමාන නැති
ඔප්පුවක් දුන්සේකැයි කීයේය.
32 මලවූන්ගෙන් නැගිටීම ගැන ඔවුන්
ඇසූකල සමහරූ නින්දකලෝය. සමහ
රූ මේ ගැන නැවත තුබෙන් අසමුයයි
කීවෝය. එවිට පාවුල් ඔවුන් කෙරෙන්
33 පිටත්ව ගියේය. එසේ නුමුත් සමහර ම
34 නුෂ්‍යයෝ ඔහු සමග සිට අදහගත්තෝ
ය. ඔවුන් අතරෙහි අරියොපාගයෙහි දි
යොනිසියස්ද දමරිස්නම් ස්ත්‍රියක්ද ඔ
වුන් සමග වෙන අයවල්ද සිටියෝය.

18. පරිච්ඡේ. මෙසින් පසු පාවුල් අති
නැසයෙන් පිටව කොරින්තියට ඇවිත්
2 ක්ලෞදියස්නම් මහරජ සියළු යුදෙව්
වරුන්ට රෝමයෙන් අහක්ව යන්නට
අන දුන් බැවින් ඉතාලියෙන් අළුත ආ
වාවූ පොන්තස්හි උපන්නාවූ අකිලනම් යු
දෙව්වෙක්ද ඔහුගේ ප්‍රිස්කිලනම් භාර්‍යා
3 වද සම්භව ඔවුන් ලඟට ගොස් තමනුත්
ඔවුන් සමාන කූඩාරම් හදන්නාවූ ක
ර්මාන්තකාරයෙක් බැවින් ඔවුන් සමග
4 සිට කර්මාන්ත කෙලේය. ඔහු සබත් ද
වස්පතා සිනගෝගයෙහිදී වාදකොට යු
දෙව්වන්ද ග්‍රීකයන්ද ඇදගිමට පමුනුවන්
5 ට උත්සාහ කෙලේය. සිලස්ද තිමෝති
යස්ද මකිදෙනියෙන් ආකල පාවුල් බො
හෝ ඕනෑකමින් යේසුස්වහන්සේ ක්‍රිස්
තුස්මයයි යුදෙව්වරුන්ට සාක්ෂි දුනෙන්
6 ය. නුමුත් ඔවුන් විරුද්ධව සිට අපහාසක
ල කල්හි ඔහු තමාගේ රෙදි ගසාදමා තු
බලාගේ ලේ තුබලාගේ හිස් පිටම වේ
වා මම නිදෙස්වෙමි. මෙතැන් පටන් අ
7 න්‍යජාතීන් ලඟට යෙමියි ඔවුන්ට කියා එ
සින් පිටත්ව ගොස් දේවභක්තිවූ යුස්
තස්නම් මනුෂ්‍යයෙකුගේ ගෙට ඇතුල්
විය. ඔහුගේ ගේ සිනගෝගයට ලඟය.
8 ක්‍රිස්පස්නම් සිනගෝගයෙහි මූලාදෑනියා
තමාගේ සියළු පවුල සමග ස්වාමින්වහන්
සේ අදහගත්තේය. කොරින්තියෙහිද
බොහෝ අයවල් අසා අදහගෙන බව්
9 තීස්ම ලැබුවෝය. එවිට ස්වාමින්වහන්සේ
රාත්‍රියෙහි දර්ශනයකින් පාවුල්ට පෙනී
භයනොවෙන්න කඩ නොකොට කථා
10 කරපන්න. මම තුබ සමග සිටින හෙයින්
කවුරුවත් තුබට හිංසාකරන්ට තුබ පි
ට අත් තබනෙන් නැත මේ නුවර බො
හෝ මනුෂ්‍යයන් මට ඇතැයි කීසේක.
11 ඔහු එක් අවුරුදු සමසක් එහි වාසයකො
ට දෙවියන්වහන්සේගේ වචනය ඔවුන්
ට ඉගැන්විය.
12 ගලියෝ අඛායෙහි ප්‍රධානකමට පැ
මිනිකල යුදෙව්වරු එක්සිත්ව පාවුල්ට
විරුද්ධව නැගිට ඔහු නඩුසාලාවට ගෙන
13 වුත් මොහු ව්‍යවස්ථාවට විරුද්ධව දෙවිය
න්වහන්සේට නමස්කාර කරන්ට මනුෂ්‍ය
14 යන්ට උගන්වනෙත්යයි කීවෝය. පා
වූල් කථාකරන්ට පටන්ගත්කල ගලි
යෝ යුදෙව්වරුනි මේ කාරණව අසාධා
රණකමක්වත් නපුරු උපද්‍රවක්වත් වූ
සේනම් තුබලාගේ කාරණ ඇසිය යුතු
15 ය. නුමුත් වචන ගැනද නාම ගැනද තු
බලාගේ ව්‍යවස්ථාව ගැනද විභාගයක්
නම් තුබලාම බලාගනිල්ලාය. මෙබඳු

දේ ගැන නඩුකාරයෙක් වෙන්ට නොක
මැත්තෙමි කියා ඔවුන් නඩුශාලාවෙන්
16 නෙරපීය. එකල ග්‍රීකයෝ සියල්ලෝ සින
ගෝගයෙහි මූලාදැනිවූ සොස්තෙනිස්
අල්වා නඩුශාලාව ඉදිරියෙහිදී පහර දු
17 න්නෝය. ගලියෝ මෙයින් කිසි දෙයක්
සැලකුවේ නැත.

18 පාවුල් තිප දවසක් එහි වාසයකොට
සහෝදරයන්ගෙන් අවසර ගෙන ත
මන් පොරොන්දුවක් කල බැවින් කෙන්
ක්‍රෙයායෙහිදී හිස මුඩුකොට සිරියාවට
යන්ට නැව් නැඟුනේය. ප්‍රිස්කිලාද අකි
19 ලාද ඔහු සමග ගියෝය. ඔහු එපීසයට
පැමිණ ඔවුන් එහිදී හැර සිනගෝගයට
ඇතුල්ව යුදෙව්වරුන් සමග වාද කෙ
20 ළේය. තමන් සමග වැඩි කලක් සිටින්
21 ට ඔවුන් ඉල්ලූ කල්හි ඔහු නොකමැති
ව ඔවුන්ගෙන් අවසර ගෙන එන්නාවූ
මංගල්‍යය යෙරුසලමෙහිදී මා විසින් ඒ
කාන්තයෙන් පැවැත්විය යුතුය. නුමුත්
දෙවියන්වහන්සේ කැමතිසේක්නම් නු
බලා ලඟට නැවත එමියි කියා එපීස
22 යෙන් නැව් නැඟී කායිසාරියට ගොඩ
බැස යෙරුසලමට ගොස් සභාවට ආචා
රකොට අන්තියෝකියට ගියේය.

23 ඔහු එහි ස්වල්ප කාලයක් පසුකොට
එයින් පිටත්ව ගලාතියා දේශයෙහිද පි
රිගියායෙහිද ක්‍රමයෙන් හැසිර සියලු
24 ගෝලයන් ස්ථිරකෙළේය. අලෙක්සන්ද්‍රි
යෙහි උපන්නාවූ කීමෙහි දක්ෂවූ ලියවි
ලිවල සමර්ථවූ අපොලොස්නම් යුදෙව්
25 වෙක් එපීසයට ආයේය. ඔහු ස්වාමින්ව
හන්සේගේ මාර්ගය ඉගෙනගත් කෙනෙ
ක. ඔහු යොහන්ගේ බව්තීස්මය පම
ණක් දැන ආත්මයෙන් ජ්වලිතව ස්වාමින්ව
හන්සේගේ කාරණාවල් උත්සාහයෙන්
26 උගන්වා සිනගෝගයෙහිදී භයක් නැතු
ව කථාකරණ්ණට පටන්ගත්තේය. අකි
ලාද ප්‍රිස්කිලාද ඔහුගේ බස් අසා ඔහු ත
මන් ලඟට කැඳවාගෙන දෙවියන්වහන්
සේගේ මාර්ගය ඔහුට වැඩි විස්තරවශ
27 යෙන් දැන්වූවෝය. අඛායට යන්ට ඔහු
කැමතිවූකල ඔහු පිළිගන්ට සහෝදර
යෝ ගෝලයන්ට ලිව්වෝය. ඔහු එහි
පැමිණ කරුණාව කරණකොටගෙන අ
28 දහගත්තාවුන්ට බොහෝ උපකාර කර
මින් යේසුස්වහන්සේ ක්‍රිස්තුස්මයයි ලියූ
විලිවලින් එළිදරව්වෙන් දක්වා යුදෙව්
වුන් පරාදකෙළේය.

19. පරිච්. අපොලොස් කොරින්ති
යෙහි සිටි කල්හි පාවුල් ඉහළ රටවල
ඇවිද එපීසයට ඇවිත් සමහර ගෝල
2 යන් දැක නුබලා අදහගෙන ශුද්ධාත්ම දා
නය ලැබුවෝදැයි ඔවුන්ගෙන් ඇසුයේ
ය. ඔවුන් ශුද්ධාත්ම දානයක් ඇති නැති
3 බවක් අපි නෑසිමුයයි කීවෝය. ඔහු එ
සේවීනම් නුබලා ලැබුවේ කුමන බව්
තීස්මයදැයි ඔවුන්ගෙන් ඇසුයේය. ඔ
වුන් යොහන්ගේ බව්තීස්මයයි කීවෝ
4 ය. එකල පාවුල් සැබවින් යොහන් පසු
තැවිල්ලෙහි බව්තීස්මයෙන් බව්තීස්ම
කොට සෙනගට කථාකරමින් මට පසුව
එන්නාවූ උන්වහන්සේ අදහගනිල්ලාය
යි කීයේය. ඒ උන්වහන්සේනම් යේසුස්
5 ක්‍රිස්තුස්වහන්සේයයි කීයේය. ඔවුන් ඒ
අසා ස්වාමිවූ යේසුස්වහන්සේගේ නාම
6 යෙන් බව්තීස්ම ලැබුවෝය. පාවුල් ඔ
වුන් පිට අත් තැබූ කල ශුද්ධාත්මයානන්ව
හන්සේ ඔවුන් කෙරෙහි ආසේක. ඔවුන්
අන් භාෂාවලින් කථාකරමින් දේසනා
7 කළෝය. ඒ මනුෂ්‍යයෝ සියල්ලෝම දො
8 ළොස් දෙනෙක් පමන ඇත. පාවුල්ද ක
ලින් කලට සිනගෝගයට ඇතුල්ව තුන්
මසක් වාදකරමින් දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයෙහි කාරණා ප්‍රකාසකරමින්
9 භයක් නැතුව කථාකෙළේය. එහෙත්
සමහරු සිත් තදකරගන නොඅදහා ස
මූහයාගේ ඉදිරියෙහි ඒ මාර්ගයට නින්
දාකල කල්හි ඔහු ඔවුන් ලඟින් අහක්ව
ගෝලයන් ඔවුන්ගෙන් වෙන්කොට තු
රානස්නම් තැනැත්තාගේ ශාස්ත්‍ර සා
ලාවෙහි දවස්පතා වාද කෙළේය. ඔහු
10 දෑවුරුද්දක්ම මෙසේ කෙළේය. එයින්
ආසියායෙහි වසන සියලු යුදෙව්වරුද
ග්‍රීක්වරුද ස්වාමිවූ යේසුස්වහන්සේගේ
11 වචනය ඇසුවෝය. දෙවියන්වහන්සේ
පාවුල්ගේ අතින් අපූර්වවූ පුදුමවල් කෙ
12 රෙව්සේක. ඔහුගේ ශරීරයෙන් ඇඟ
පිස්නාකඩවත් වස්ත්‍ර කැබලිවත් රෝ
ගීන් පිට තැබූකල රෝග ඔවුන්ගෙන් ප
හවූනේය. දුෂ්ටාත්මයෝද ඔවුන්ගෙන්
දුරුව ගියෝය.

13 එකල ඒ ඒ තැන ඇවිදින යකදුරුවූ
යුදෙව්වරුන්ගෙන් සමහරෙක් දුෂ්ටාත්
මාවේසවූවන් කෙරෙහි ස්වාමිවූ යේසුස්
වහන්සේගේ නාමය කියන්ට පටන්ගෙ
න පාවුල් ප්‍රකාසකරනනාවූ යේසුස්වහන්
සේගේ නාමයෙන් නුබලාට අන දෙමු

14 යයි කීවෝය. ප්‍රධාන පූජකවූ ස්කෙවා
නම් යුදෙව්වෙකුගේ පුත්‍රයෝ සත්දෙ
නෙක් මෙසේ කලෝය. දුෂ්ටාත්මයා උ
15 ත්තර දෙමින් යේසුස්වහන්සේ දනිමි
පාවුල්ද දනිමි නුඹුත් නුඹලා කවුරුදැයි
16 කීය. එවිට දුෂ්ටාත්මාවේසවූ මනුෂ්‍යයා
ඔවුන්ට පැනනැඟී ඔවුන් පරදවා ජයග
ත්තේය. එසින් ඔවුන් නිර්වස්ත්‍රව තුවාල
17 ලැබ ඒ ගෙයින් පලාගියෝය. මේ කා
රණාව එපීසයෙහි වසන්නාවූ සියළු යු
දෙව්වෝද ග්‍රීකයෝද දැන සියල්ලෝම
භයට පැමුනුනෝය. ස්වාමිවූ යේසුස්ව
හන්සේගේ නාමයද මහත්කමට පැමුනු
18 ණේය. අදහගත්තාවූන්ගෙන් බොහෝ
දෙන ඇවිත් තමන්ගේ ක්‍රියාවල් ප්‍රසිඬ
19 ලෙස දැන්වූවෝය. ඇස්බැන්දුම්කාරයින්
අතරෙන් බොහෝ දෙනෙක්ද තමන්
පොත් එක්කොට ගෙනත් සියල්ලන්
ගේ ඉදිරියෙහි දැව්වෝය. ඒ පොත්වල
මිල ගනන් බලා රිදී මිල පනස් දහසකැ
20 යි දැනගත්තෝය. මෙසේ දෙවියන්ව
හන්සේගේ වචනය වැඩි වඞීනව බල
වත්විය.

21 මෙයින් පසු පාවුල් මකිදෝනියෙහිද
අඛායෙහිද මැදින් ගොස් යෙරුසලමට
යන්ට සිතින් නියමකොට එහි මම ගියා
යින් පසු මා විසින් රෝමයද දැක්ක යුතු
22 යයි කීයේය. තමන්ට මෙහෙකරන්නන්
ගෙන් තිමෝතියස්ද එරස්තස්ද යන දෙ
න්න මකිදෝනියට යවා ස්වල්ප කාලයක්
23 ආසියායෙහි සිටියේය. ඒ කාලයෙහි ඒ
මාර්ගය ගැන මහත් කෝලාහලයක් හ
24 ටගත්තේය. ඒ මෙසේය. අතීමිස් දේවි
ට රිදී කරඬු සාදන්නාවූ දෙමේත්‍රියස්නම්
රිදීකරුවෙක් කර්මාන්තකාරයන්ට බො
25 හෝ ලාභ ඉපදෙව්වේය. ඔහු ඔවුන්ද එ
බඳුවූ කර්මාන්තකාරයන්ද එකතුකරවා
කියනුයේ මනුෂ්‍යයෙනි මේ සිල්පයෙන්
අපගේ රක්ෂාව වන්නේයයි නුඹලා දනි
26 ති. මේ පාවුල් එපීසයෙහි පමනක් නො
ව ටිකක් හැර ආසියාව මුළුල්ලෙහි අත්
වලින් කලාවූ දේවල් දෙවිවරු නොවෙ
තියි කියමින් බොහෝ මනුෂ්‍යයන් කැ
මතිකරවාගෙන හරවාගත්තේයයි නුඹ
27 ලා දුටුවිත් ඇත. ඇසුවත් ඇත. එහෙ
යින් අපගේ මේ සිල්පය පිරිහීමට පැමි
නෙනවා පමනක්නොව මහත් දේවතා
විවූ අතීමිස්ගේ මාලිගාව අවමානයට
පැමිනීමටද ආසියාව මුළුල්ලත් ලෝක
යත් නමස්කාර කරන්නාවූ ඇගේ මහි
මතාවය විනාසවීමටද උපද්‍රවක්යයි කී
28 යේය. ඔවුන් ඒ අසා ක්‍රෝධයෙන් පිරී
එපීසයන්ගේ අතීමිස් මහත් තැනැත්තී
යයි කියා මොරගැසුවෝය. එවිට නුවර මු
29 ළුල්ල කෝලාහලයෙන් පිරුණේය. ඔවු
න් පාවුල් සමග ගමින් යන්නාවූ මකිදෝ
නියෙහිවූ ගායස්ද අරිස්තාකස්ද ඇද
ගෙන එක්සිත්ව සභාව රැස්වෙන ස්ථා
30 නයට තදින් දිව්වෝය. සමූහයා ලඟට
පැමිනෙන්නට පාවුල් සිතූ කල ගෝල
31 යෝ ඔහුගේ ගමන වැලැක්කුවෝය. ඔ
හුට මිත්‍රවූ ආසියාගෙහි ප්‍රධානවරුන්
ගෙන් සමහරෙක් සභාව රැස්වෙන ස්ථා
නයට නොපැමිනෙන්ට ඔහුට කියා යව්
32 වෝය. සභාව අවුල්වූ බැවින් සමහ
රෙක් එකක්ද සමහරෙක් අනිකක්ද කි
යා මොරගැසුවෝය. ඔවුන්ගෙන් බොහෝ
දෙනෙක් එකතුවූනේ කුමටදැයි දැනග
33 ත්තෝ නැත. යුදෙව්වරු සමූහයා අත
රෙන් අලෙක්සන්ද්‍ර කැඳවාගෙන ඉදිරි
යට තැබුවෝය. අලෙක්සන්ද්‍රද සමූහය
ට කථාකරන්ට කැමතිව අතින් සංඥා
34 කෙලේය. නුමුත් ඔහු යුදෙව්වෙකැයි
ඔවුන් දැන එපීසයන්ගේ අතීමිස් මහත්
තැනැත්තීයයි දෙපැයක් පමන සියල්
35 ලෝම එක හඬින් හඬගැසුවෝය. නුව
ර ලේකම් කෝලාහලය සංසිඳුවා කිය
නුයේ එපීසිය මනුෂ්‍යයෙනි එපීසයන්ගේ
නුවර මහත් දේවතාවිවූ අතීමිස්ටද සි
යුස් ලඟින් වැටුනාවූ රූපයටද පූජාකර
36 ණ නුවර බව නොදන්නෝ කවුද? මේ
දේවලට විරුඬව කථාකරන්ට කාටවත්
බැරි හෙයින් අයුතු කල්පනාවකින් කි
සි දෙයක් නොකොට නිශ්චලව සිටින්
37 නට යුතුය. නුඹලා මෙහි ගෙනාවාවූ
මේ මනුෂ්‍යයෝ දේව සන්තක දේ සො
රකම් කලේවත් නුඹලාගේ දේවතාවිට
38 නින්දාකලේවත් නැත. එහෙයින් යමෙ
කුට විරුඬව දෙමේත්‍රියස්ගේද ඔහු සම
ග සිටින්නාවූ කර්මාන්තකාරයන්ගේද
පැමිනිල්ලක් ඇත්නම් නඩු දවස්ද නඩු
39 කාරයෝද ඇත. ඔවුන් තමතමන්ට වි
රුඬව නඩු කියාපූවාවේ නුමුත් නුඹලා
වෙන කාරණාවක් ගැන විචාර කරණ
වානම් ඒ කාරණාව සුදුසුවූ සභාවේදී තී
40 න්දුකරනු ලැබේ. මක්නිසාද මේ කෝ
41 ලාහලය ගැන කිසි කාරණාවක් කියන්
නට අපට නුපුළුවන් බැවින් ඒ ගැන

උත්තර දෙනනට සිඹවේය කියා සභාව
යනනට හැරියේය.

20. පරිච්. කෝලාහලය සංසිඳුනු
පසු පාවුල් ගෝලයන් කැඳවා ආචාර
කොට මකිදෙනියට යන්ට පිටත්ව ගි
2 යේය. ඔහු ඒ දේසවල ඇවිද ඔවුන්ට
බොහෝසෙයින් දූතමුතුකම් දී ග්‍රීක් දේ
සයට ඇවිත් එහි තුන් මාසයක් වාසය
කොට නැවෙත් සිරියාවට යන්ට සිටියේ
3 ය. එහෙත් ඔහු මරනනට යුදෙව්වරු උ
පායක් යෙදූ කල මකිදෙනිය මැදින් නැ
4 වත යන්ට කල්පනාකලේය. බෙරියා
යෙහි සොපාතර්ද තෙසලොනිකයන්
ගෙන් අරිස්තාකිස්ද සෙකුන්දස්ද දබී
යෙහි ගායස්ද තිමෝතියස්ද ආසියායෙ
හි තිඛිකස්ද ත්‍රොපිමස්ද ඔහු සමග ආසි
5 යාවට ගියෝය. මොවුන් ඉස්සරව ත්‍රො
වායට ගොස් අපගේ ඊම බලා සිටියෝය.
6 අපි මුහුන් නොදැමූ රොටි කන දවස්වල
ට පසු පිලිප්පියෙන් නැව් නැගී පස් දව
සකින් ත්‍රොවායෙහි සිටියාවූ ඔවුන් ලග
ට ඇවිත් එහි සත් දවසක් සිටියෙමුව.
7 සතියෙහි පලමුවෙනි දා රොටි කඩන්
ට ගෝලයෝ එකතුවූ කල පසුව දා යන්
ට සිටියාවූ පාවුල් ඔවුන්ට දේසනාකර
මින් මධ්‍යම රාත්‍රිය දක්වා කඩනැතුව ක
8 ථාකෙලේය. ඔවුන් රැස්ව සිටි උඩුමහල්
9 ගෙයි නොයෙක් පහන් තිබුනේය. ඉ
යුතිඛස්නම් තරුණයෙක් කවුළු දොර
ලග හිඳ පාවුල් බොහෝ වේලා කථාක
ල බැවින් නිදිබරව තුන්වෙනි මහලින්
පහතට වැටුනේය. ඔහු කෙලින්කරණ
10 කල මැරිලා සිටියේය. එවිට පාවුල් බැ
ස ඔහු පිට වැටී ඔහු වැලඳගෙන මොහු
ගේ ප්‍රානය මොහු තුල තිබෙනනේය
11 කනගාටු නොවෙල්ලායයි කීයේය. ඔහු
නැවත නැගිට රොටි කඩා කා පහන්
වෙනතුරුම බොහෝ කාරණවල් කථා
12 කොට පිටත්ව ගියේය. ඔවුන් ජීවත්වූ
තරුණයා අරගෙන අප්‍රමාන සැනසිල්ල
ලැබුවෝය.
13 පාවුල් ආසස් දක්වා පයින් ගොස් ඒ
නුවරදී නැව් නගින්ට කැමතිව පලමු
වෙන් නැව් නැගී එහි යනනට අපට කී
14 බැවින් අපි එහි ගියෙමුව. ආසස්හිදී අප
ලගට ආවාවූ ඔහු නැවට නංවාගෙන
15 මිතුලෙනට ආවෙමුව. අපි එයින් නැව්
නැගී පසුව දා ඛියස් දිවයින ඉදිරියටද
පසුව දා සාමස් දිවයිනටද ඇවිත් ත්‍රොගී
ලියම්හී සිට පසුව දා මිලෙතස්නම් පටු
16 නට ආවෙමුව. එසේ කලේ පූළුවනනම්
පෙන්තකස්ත දවසේ යෙරුසලමෙහි සි
ටින්ට ඉක්මන්කරනනාවූ පාවුල් ආසියා
යෙහි කල් නොගෙවන පිනිස නැවින්
එපීසයට නොයන්නට නියමකරගත්
නිසාය.
17 තවද මිලෙතයෙන් එපීසයට යවා ස
18 භාවෙහි වැඩිමහල්ලන් කැඳවීය. ඔවුන්
ඔහු ලගට ආකල ඔහු ඔවුන්ට කියනුයේ
19 ආසියාවට මම ආ පලමුවෙනි දා පටන්
සියළු සිත් යටත්කමෙන්ද බොහෝ ක
දුළුවලින්ද යුදෙව්වන්ගේ උපාවල් නිසා
20 පැමිනි පරීක්ෂාවලින්ද යුක්තව ස්වාමින්
හන්සේට වැඩකරමින් ප්‍රයෝජන වෙ
නනාවූ කිසි දෙයක් තුබලාට නොසග
21 වා ප්‍රකාස තැන්වලද ගෙයින් ගෙටද තු
බලාට දන්වා උගන්වමින් යුදෙව්වරුන්ට
ද ග්‍රීකයන්ටද දෙවියන්වහන්සේ කෙ
රෙහි පසුතැවිලිලද අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇදහිල්
ලද ගැන සාක්ෂි දෙමින් තුබලා සමග
සියළු කල්ම සිටිය හැටි තුබලා දනිති.
22 දැන් ආත්මයෙන් බඳනාලද මම යෙරු
23 සලමට යෙමි. බැඳුම්ද දුක්ද මට ඇතැ
යි සුද්ධාත්මයානන්වහන්සේ සියළු නුව
රෙහි සාක්ෂි දෙනසේක. ඒ හැර එහිදී
මට කුමක් වේදැයි නොදනිමි. තුමූත් මා
ගේ දිවිමද දෙවියන්වහන්සේගේ කරු
24 ණාවෙහි සුභාරංචියට සාක්ෂි දෙන්ට ස්වා
මිවූ යේසුස්වහන්සේ කෙරෙන් මට ලැ
බුනු මෙහෙයද සන්තෝසයෙන් නිමා
කරන්ට පූළුවනනම් මෙයින් කිසි දෙ
යක් නොසලකම් මාගේ ප්‍රාණයද මට
25 අගේය කියා නොසිතමි. දැනුදු දෙවිය
න්වහන්සේගේ රාජ්‍යය ප්‍රකාසකරමින් තු
බලා අතරෙහි ඇවිදිනනාවූ මාගේ මුහු
න මෙතැන් පටන් තුබලා සියල්ලෝ
26 නොදකිතියි දනිමි. එහෙයින් මම දෙවි
යන්වහන්සේගේ සියළු නියෝගය නො
27 සගවා තුබලාට දන්වූ බැවින් සියල්ලන්
ගේ ලෙයින් නිදොස්වෙමියි අදම තුබ
28 ලාට සාක්ෂිදෙමි. එහෙයින් දෙවියන්ව
හන්සේ විසින් තමන් රුධිර මිලයෙන්
ගත් තමන්වහන්සේගේ සභාව පෝෂ්‍ය
යකරන්ට යම් රැලෙක්හි සුද්ධාත්මයාන
න්වහන්සේ තුබලා නායකයන් කොට
නියමකලසේක්ද ඒ සියල්ලන් ගැනත්

තමන් ගැනත් ප්‍රවේසම් වෙයල්ලාය.
29 මක්නිසාද මම ගිය පසු සමූහය කෙරෙ
හි අනුකම්පා නොකරනනාවූ පීඩාකර
30 නනාවූ වෘකයෝ තුබලා අතරෙහි ඇතුල්
වෙන බව දනිමි. තුබලා අතරෙන්ම ම
නුෂ්‍යයෝ නැගිට තමන් පස්සෙ යනන
ට ගෝලයන් හරවන පිනිස විරුඩ දේ
31 කථාකරණවා ඇත. එබැවින් රෑ දවල්
දෙකේ කඳුළුවලින් මම තුන් අවුරුද්
දක් මුළුල්ලෙහි සියල්ලන්ට නිතර දූනි
මිතිකම දුන් බව සිහිකොට පිබිද සිටප
32 ල්ලාය. දූන් සහෝදරයෙනි දෙවියන්ව
හන්සේටත් තුබලා ස්ථිරකරන්ටද පිරිසි
දුකරණලද සියල්ලන් අතරෙහි තුබලා
ට උරුමයක් දෙන්ටද සමර්ථවූ උන්වහන්
සේගේ කරුණාවෙහි වචනයටත් තුබ
33 ලා පාවාදෙමි. කිසිවෙකුගේ රිදියටවත්
රනටවත් වස්ත්‍රයටවත් ලෝභ නොවිමි.
34 මටත් මා සමග සිටියන්ටත් උවමනාවූ
දේවලට මේ අත්වලින් වැඩ කොලෙම්
35 යි තුබලාම දනිති. මෙසේ උත්සාහකර
මින් දුර්වලයන් රක්‍ෂා කටයුතු බවද ගැනි
මට වඩා දීම යහපතැයි ස්වාමිවූ යේසුස්
වහන්සේ කී වචනය සිහි කටයුතු බවද
යන සියල්ල තුබලාට දක්විමියි කීයේ
36 ය. ඔහු මෙසේ කියා දනින් හිඳ ඔවුන්
37 සියල්ලන් සමග යාඥාකලේය. ඔවුන් සි
යල්ලෝද මෙතැන් පටන් මාගේ මුහුන
නොදකිතියි කී වචනය ගැන බොහෝ
38 සෙයින් සෝකවෙමින් හඩා පාවුල්ගේ
බෙල්ල වැලඳගෙන සිඹගෙනනාය. ඉන්
පසු ඔවුන් ඔහු සමග නැව ලගට පසු ග
මන් ගියෝය.

21. පරිච්ඡේ. අපි ඔවුන්ගෙන් වෙන්
ව නැව දියත්කර කෙලින්ම දුව ගොස්
කෝස් දිවයිනටද පසුව දෑ රෝද දිවයින
2 ටද එයින් පතාරයටද ආවෙමුව. එහිදී
පෙනිකයට යනනාවූ නැවක් දූක එහි
3 නැගී ගියෙමුව. අපි කුපරය දූක ඒක ව
මට හැර සිරියාවට දුව ගොස් තීර් නුවර
දී බඩු ගොඩබානනට නියම බැවින් එ
හි ගොඩබැස ගෝලයන් සම්භව එහි
4 සත් දවසක් සිටියෙමුව. ඔවුහූ යෙරුස
ලමට යන්ට එපායයි ආත්මයෙන් පාවුල්
5 ට කීවෝය. අපි ඒ දවස් පසුකොට පිට
ත ගියෙමුව. ඔවුන් සියල්ලෝ අඹුදරු
වන් සමග පිට නුවර දක්වා පසු ගමන්
ආවෝය. එවිට අපි වෙරලෙහි දනින්
6 හිඳ යාඥාකොලෙමුව. අපි ඔවුනොවුන්
ට ආචාරකොට නැවට නැගුනෙමුව. ඔ
වුන් තමතමන්ගේ ගෙවලට නැවත ගි
7 යෝය. අපි තීර් නුවරින් පිටත්ව තො
ලිමයිස්ට ඊමෙන් නැවෙන් යන ගමන
නින්දුකොලෙමුව. සහෝදරයන්ට ආචා
රකොට ඔවුන් ලග එක දවසක් සිටි
යෙමුව.
8 පසුව දෑ පාවුල් සහ ඔහුගේ සමාගම්
කාරවූ අපි පිටත්ව කායිසාරියට ඇවිත්
සත් දෙනාගෙන් එකෙක්වූ සුභාරංචි ප්‍ර
කාසකරනනාවූ පිලිප්ගේ ගෙට ඇතුල්
9 ව ඔහු ලග වාසය කොලෙමුව. අනාගත
වාක්‍යය කියනනාවූ කන්‍යාගනාවූ දූවරු
10 සතර දෙනෙක් ඔහුට සිටියෝය. බො
11 හෝ දවස් අපි එහි සිටි කල්හි ආගබස්
නම් එක් අනාගතවක්තෘ කෙනෙක් යු
දයෙන් බැස අප වෙතට ඇවිත් පාවුල්
ගේ කටි බැඳුම් අරගෙන තමාගේම අ
ත පය බැඳගෙන මේ කටි බැඳුම් ඇති
මනුෂ්‍යයා යෙරුසලමෙහිදී යුදෙව්වරු
මෙසේ බැඳ අන්‍යජාතීන්ගේ අත්වලට
පාවාදෙනවා ඇතැයි සුඩාත්මයානන්ව
12 හන්සේ කියනසේකැයි කීයේය. ඒ කා
රණ අපි ඇසූ කල අපිද එතැන්හි සිටි
යෝද යෙරුසලමට නොයන ලෙස ඔහු
13 ට කීයෙමුව. එවිට පාවුල් උත්තර දෙමින්
තුබලා හඩා මාගේ හෘදය පලනෙන් මක්
නිසාද? මම යෙරුසලමෙහිදී ස්වාමිවූ
යේසුස්වහන්සේගේ නාමය නිසා බඳිනු
ලබන්ට පමනක් නොව නසින්ටත් සෑ
14 දී සිටිනෙනමියි කීයේය. ඔහු අපි කීවා
අසන්ට නොකමැතිවූ කල්හි අපි ස්වාමි
න්වහන්සේගේ කැමැත්ත වේවයි කිය
15 මින් නැවතී සිටියෙමුව. ඒ දවස්වලට ප
සු අපි මාගෝපකරණ ගෙන යෙරුස
16 ලමට ගියෙමුව. කායිසාරියෙහි සිටින
ගෝලයන්ගෙන් සමහරෙක්ද අප සමග
ගොස් කුපර වාසිවූ මිනාසොනනම් වය
සේ ගෝලයෙකු ඔහුගේ ගෙයි අපගේ
විසීම පිනිස තමන් සමග ගෙනාවෝය.
17 අපි යෙරුසලමට ආකල සහෝදරයෝ
සන්තෝසයෙන් අප පිලිගතනාය.
18 පසුව දෑ පාවුල් අප සමග යාකොබ් ල
ගට පැමුනුනේය. සියළු වැඩිමහල්ලෝද
19 එහි සිටියෝය. ඔහු ඔවුන්ට ආචාරකො
ට තමා ලවා දෙවියන්වහන්සේ අන්‍යජා
තීන් අතරෙහි කෙරෙවවාවූ කාරණවල්
20 වෙන් වසයෙන් කීයේය. ඔවුන් ඒ අසා

ස්වාමින්වහන්සේට ස්තුතිකරමින් ඔහුට
කථාකොට සහෝදරය අදහගත්තාවූ යු
දෙව්වරුන් කී දහසක්දැයි තුබ දක්නෙ
ය. ඒ සියල්ලෝ ව්‍යවස්ථාව ගැන ජ්වලි
21 තව සිටිති. තුබ පුත්‍රයන් චර්මච්ඡේදය ක
රන්ටද සිරිත් පවත්වන්ටද නුසුදුසුයයි
කියා මෝසෙස් අත්අරින්ට අන්‍යජාතීන්
අතරෙහි සිටිනාවූ යුදෙව්වරුන්ට උ
ගන්වන්නේයයි ඔවුන්ට ආරංචිවූනේය.
22 එහෙයින් කුමක් කටයුතුද? තුබ ආ බ
ව ආරංචිවූකල සමූහය ඒකාන්තයෙන්
23 එකතුව එනවා ඇත. ඒ ගැන අපි මේ
කියන හැටි කරපන්න. අප අතරේ දෙ
වියන්වහන්සේට ගිවිසුමක් ඉෂ්ටකරන්
ට බැඳුනාවූ මනුෂ්‍යයෝ සතර දෙනෙක්
24 ඇත. ඔවුන් කැඳවාගෙන ඔවුන් සමග
තුබද පවිත්‍රව ඔවුන්ගේ හිස් මුඩුකරන්
නට නියි වියදම ඔවුන්ට දීපන්න. එවිට
සියල්ලෝ තුබ ගැන තමන්ට ආරංචිවූ කා
රණවලින් එකක්වත් සැබෑ නැති බ
වත් තුබම ව්‍යවස්ථාව රක්‍ෂාකරමින් හැ
25 සිරෙණ බවත් දැනගන්නවා ඇත. තව
ද රූපවලට පුදනලද දෙයින්ද ලෙයින්ද
ගෙල් නෑර මැරූවන්ගෙන්ද වෙශ්‍යාකම්
න්ද වැලකිය යුතු බව මිස මෙබඳු දේව
ලින් කිසි දෙයක් පවත්වනනට එපාය
යි කියා අදහගත්තාවූ අන්‍යජාතීන්ට නි
26 යමකොට ලිව්මුයයි කීවෝය. එවිට පා
වුල් ඒ මනුෂ්‍යයන් කැඳවාගෙන පසුව
දා ඔවුන් සමග පවිත්‍රව දේවමාලිගාවට
ඇතුල්ව ඔවුන් එක එකා නිසා පූජාවක්
පිදීම ගැනද පවිත්‍රවීමෙහි දවස්වල සම්
27 පූර්ණවීම ගැනද දැන්විය. ඒ සත් දව
ස පසුවෙන්ට ලංවූකල ආසියාවෙහි යු
දෙව්වරු දේවමාලිගාවේදී ඔහු දැක සි
යළු සමූහයා කැලඹවා ඔහු අල්වා
28 ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙනි උපකාර වෙ
යල්ලාය සෙනගටද ව්‍යවස්ථාවටද මේ
ස්ථානයටද විරුද්ධව සියළු තැන්වල සිය
ල්ලන්ට උගන්වන්නාවූ තැනැත්තා මො
හුමය. එපමණකුත් නොව ග්‍රීකයන් දේ
වමාලිගාවට කැඳවාගෙන මේ පිරිසිදු
ස්ථානය කිළුටුකලේයයි මුරගා කීවෝ
29 ය. ඔවුන් ත්‍රොපිමස්නම් එපීසයෙහි වැ
සියෙක් ඔහු සමග නුවර සිටි බව දුටු බැ
වින් පාවුල් ඔහු මාලිගාවට කැඳෙව්වේ
30 යයි සිතා එසේ කීවෝය. එවිට නුවර සි
යල්ල කැලඹී සමූහයෝ එක්ව දුවමින්
ඇවිත් පාවුල් අල්වාගෙන මාලිගාවෙන්
31 පිටත ඇද්දෝය. එවලේම දොරවල් වස
නලද්දේය. ඔහු මරන්නට සෙවූකල යෙ
රුසලම මුළුල්ල කැරලිගැසුනේයයි සේ
32 නාධිපතියාට ආරංචිවුනේය. එවලේම ඔ
හු සේවායින්ද සියේට මුලාදැනියන්ද කැඳවා
ගෙන ඔවුන් ලගට වහාම ගියේය. ඔ
වුන් සේනාධිපතියාද සේවායින්ද දැක
33 පාවුල්ට පහරදීමෙන් නැවතුනෝය. එ
විට සේනාධිපතියා ලගට ඇවිත් ඔහු අල්
වා දම්වැල් දෙකකින් බැඳපල්ලායයි අ
ණකොට මොහු කවුද මොහු මක්කෙ
34 ලේදැයි ඇසුයේය. එවිට සමූහයා අතරෙ
හි එකෙක් එකක්ද අනිකෙක් අනිකක්
ද මුරගසා කීවෝය. ඒ කෝලාහලය නි
සා සේනාධිපතියා සැබෑව දැනගන්නට
බැරිව ඔහු කොටුවට ගෙනයන්ට අන
35 කලේය. ඔහු පඩි පෙල පිටට පැමිනිකල
සමූහයාගේ බලාත්කාරය නිසා සේවා
36 යෝ ඔහු ඔසවාගෙන ගියෝය. සමූහ
යෝ ඔහු මරාපන්නැයි හඬගසමින් පස්
37 සේ ගියෝය. පාවුල් කොටුවට ගෙනය
න කල තුබ අමග මට කථාකරන්ට අ
වසර ඇද්දැයි සේනාධිපතියාට කීයේය.
38 එවිට ඔහු තුබට ග්‍රීක් භාෂාව පුළුවන්ද?
මේ දවස්වලට පලමුවෙන් කෝලාහල
යක් කොට භාරදහසක් මිනී මරන්නන්
වනාන්තරයට ගෙන ගියාවූ මිසරයා තුබ
39 නොවේදැයි කීයේය. පාවුල්ද මම කිලි
කියෙහි ප්‍රසිද්ධ නුවරක්වූ තාර්සස්හි වැසි
යුදෙව්වෙක. සෙනග එක්ක කථාකරන්
40 නට මට අවසර දුනමැනවයි කීයේය. ඔ
හු අවසර දුන් කල පාවුල් පඩි පෙල මත්
තේ සිට සෙනගට අතින් සංඥාකලේය,

22. පරිච්ජ. බොහෝ නිශ්ශබ්දයක්
වූකල ඔහු හෙබ්‍රිවූ භාෂාවෙන් කථාක
රමින් කියනුයේ සහෝදරයෙනි පියව
රුනි මාගේ නිදොස්වීම පිණිස මා කියන්
2 නක් අසාපල්ලායයි කීයේය. ඔහු හෙ
බ්‍රිවූ භාෂාවෙන් කථාකරණ බව ඔවුන්
3 අසා වඩා නිශ්ශබ්දව සිටියෝය. ඔහුද
මම කිලිකියෙහිවූ තාර්සස්හි උපන් යු
දෙව් මනුෂ්‍යයෙක්ය. එසේ නුමුත් මේ
නුවර වැඩී ගමාලියෙල්ගේ පාදමූලයෙ
හිදී පියවරුන්ගේ ව්‍යවස්ථාව හොඳට ඉ
ගනගෙන තුබලා සියල්ලෝ අද සිටින්
නාක්මෙන් දෙවියන්වහන්සේ කෙරෙ
4 හි ජ්වලිත සිත් ඇතිව සිටියෙමි. පුරුෂ
යන්ද ස්ත්‍රීන්ද බැඳ හිරගෙවල්වලට බාර

දෙමින් මරණය දක්වා මේ මාර්ගයෙහි
5 හැසිරෙනනන්ට පීඩා කෙළෙමි. උත්ත
ම පූජකයාද වැඩිමහල්ලන්ගේ මුළු සභා
වද මට මේ ගැන සාක්ෂිදෙති. ඔවුන්
ගෙන් ලිවුම් පත්‍ර සහෝදරයන් ලඟට
ගෙනගොස් දමස්කයෙහි සිටියන් බැඳ
අච්චුකරණ පිනිස යෙරුසලමට ගෙනෙ
6 නනට එහි ගියෙමි. යනනාවූ මම දමස්ක
ය ලඟට පැමිනිකල ඉරමුදුන් වේලෙහි අ
හසෙන් මහත් එළියක් වහාම ඇවිත් මා
7 වටකර බැබළුයේය. එවිට බිම වැටුනු
මම සාවුල් සාවුල් මට පීඩාකරනෙන් මක්
8 නිසාදැයි කියනනාවූ ශබ්දයක් ඇසීමි. එ
විට මම උත්තර දෙමින් ස්වාමිනි ඔබ ක
වුදැයි කීමි උන්වහන්සේද නුඹ පීඩාකර
නනාවූ නාසරැත් යේසුස්යයි මට කීසේ
9 ක. මා සමග සිටියෝ ඒ එළිය දැක භය
වූවෝය. එහෙත් මා සමග කථාකරන්
නාගේ වචන ඔවුන්ට ඇසුනේ නැත.
10 ස්වාමිනි මම කුමක් කරම්දැයි කීමි. එවි
ම නැගිට දමස්කයට පලයනන නුඹට
කරන්ට නියමකල සියල්ල එහිදී නුඹට
කියනු ලැබේයයි ස්වාමීන්වහන්සේ මට
11 කීසේක. ඒ එළියේ තේජස නිසා මාගේ
ඇස් නොපෙනී ගියකල මා සමග සිටි
යන් විසින් අත් අල්ලා ගෙනයනු ලැබ
12 දමස්කයට පැමිනියෙමි. එවිට ව්‍යවස්ථා
ව ලෙස භක්ති ඇත්තාවූ එහි වසන සි
යළු යුදෙව්වරුන් විසින් යහපතැයි කි
13 යන ලද්දාවූ අනනියස්නම් මනුෂ්‍යයෙක්
මා ලඟට ඇවිත් සිට සහෝදරවූ සාවුල්
නි පෙනීම ලැබගනනැයි මට කීයේය.
14 එවලේම ඔහු දෙස බැලීමි. එවිට ඔහු අ
පගේ පියවරුන්ගේ දෙවියන්වහන්සේ
තමන්වහන්සේගේ අදහස දැනගනනා පි
15 නිසද ඒ ධර්මිෂ්ඨයා දැක උන්වහන්සේගේ
කටහඬ අසන පිනිසද නුඹ නියමකල
සේක. නුඹ ඇසූ දුටු දේ ගැන සියළු ම
නුෂ්‍යයන්ට උන්වහන්සේගේ සාක්ෂිකාර
යෙක් වෙයි. දැන් නුඹ ප්‍රමාදවෙනෙන්
16 මක්නිසාද? නැගිට ස්වාමීන්වහන්සේගේ
නාමයෙන් යාඥාකොට බව්තීස්ම ලැබ
පව් දුරුවීම පිනිස නාපනනැයි කීයේය.
17 මම යෙරුසලමට නැවත ඇවිත් දේවමා
ලිගාවේ යාඥාකරමින් සිටිද්දී දර්ශනය
18 කින් ස්වාමීන්වහන්සේ මට පෙනී යුහු
ව යෙරුසලමෙන් පිටත්ව පලයනන මා
ගැන නුඹේ සාක්ෂිය ඔවුන් පිලිනොග
19 නිතියි මට කීසේක. එකල මම ස්වාමිනි
ඔබවහන්සේ කෙරෙහි ඇදහුවන් මම
හිරගේවල දමා සියළු සිනාගෝගවලදී
20 ඔවුන්ට පහර දුන් බව ඔවුන් දනිති. ත
වද ඔබවහන්සේගේ සාක්ෂිකාරවූ ස්තෙ
ඵාන්ගේ ලේ වගුල කල මමද ලඟ සිට
ගෙන ඔහුගේ මරණයට කැමතිව ඔහු
මරනනන්ගේ වස්ත්‍ර ප්‍රවේසම් කෙළෙමි
21 යි කීමි. එවිට උන්වහන්සේ මම නුඹ දු
ර රටවලට අන්‍යජාතීන් වෙතට යවමියි
කීසේකැයි කීයේය.
22 ඔවුන් මේ වචනය දක්වා ඔහුගේ
බස් අසා සිට මුරගසමින් මෙබඳු මිනිහා
පොළවෙන් දුරුකරපනන මොහු ජීවත්
23 වෙන්ට වටිනෙන් නැතැයි කීවෝය. ඔ
වුන් මුරගසමින් තමන් වස්ත්‍ර අහක දම
24 මින් දූලි අහසට දමමින් සිටිකල සේනා
ධිපතියා ඔහු කොටුවට ගෙනයන්ට ආ
ඥාකොට ඔහුට විරුඩව මොන කාරණ
වකට මෙසේ මුරගසද්දැයි දැනගනනා පි
නිස කසෙන් තලා ඔහුගෙන් අසන්ට කී
25 යේය. ඔවුන් වරපටින් ඔහු බඳිනකල
පාවුල් රෝමයෙකුට විචාර නොකොට
කසෙන් තලනනට සෑහේද්දැයි ලඟ සිටි
26 යාවූ සියේකට නායකයාට කීයේය. ඔහු
ඒ අසා සේනාධිපතියා ලඟට ගොස් මො
හු රෝමයෙක මොහුට නුඹ කරණ දේ ප්‍ර
27 වේසමෙන් කරපනනැයි කීයේය. එවිට
සේනාධිපතියා ඇවිත් නුඹ රෝමයෙක්
දැයි මට කියාපනනැයි ඔහුට කීයේය. ඔ
28 හු එසේයැයි කීයේය. සේනාධිපතියා උ
ත්තර දෙමින් මම බොහෝ මිල දී රෝ
මයන්ගේ ගනනට පැමිනියෙමියි කීයේ
29 ය. පාවුල්ද මම එබඳු තැනැත්තෙක්ව
උපනෙනමියි කීයේය. එවලේම ඔහු තැ
ලීමෙන් විචාරනනට සිටියෝ ඔහු ලඟින්
අහක්ව ගියෝය. සේනාධිපතියා ඔහු
රෝමයෙකැයි දැනගත් පසු ඔහු බැන්ද
30 බැවින් භයවිය. පසුව ද යුදෙව්වරු මො
න කාරණවක් ගැන ඔහුට වැරදි තැබු
වෝදැයි හරිලෙස දැනගනනට කැමති
ව ඔහු බැඳුම්වලින් මුදා නායක පූජක
යන්ට සහ මුළු සභාවට එනනට ආඥා
කොට පාවුල් ගෙනැවිත් ඔවුන් ඉදිරි
යෙහි සිටෙව්වේය.

23. පරිච්ඡේ. එවිට පාවුල් සභාව දෙ
ස බලමින් සහෝදරවූ මනුෂ්‍යයෙනි ම
ම අද දක්වා දෙවියන්වහන්සේගේ ඉ
දිරියෙහි සියළු යහපත් සිතින් හැසුරු

2 නෙමියි කීයේය. එවිට අනනියස්නම්
නායක පූජකයා මොහුගේ කටට ගසා
පල්ලායයි ලඟ සිටියන්ට අඥාකෙළේ
3 ය. පාවුල්ද හුනුකරපු බිත්තියක් බඳු
වූ නුඹට දෙවියන්වහන්සේ ගසනසේ
ක ව්‍යවස්ථාව හැටියට මා විචාරන්ට හිඳි
නාවූ නුඹ ව්‍යවස්ථාවට විරුඬව මට ග
4 සන්ට අන දෙනෙත්දැයි කීයේය. එවි
ට ලඟ සිටියෝ දෙවියන්වහන්සේගේ
නායක පූජකයාට නින්දාකරනෙන්දැයි
5 කීවෝය. එවිට පාවුල් සහෝදරයෙනි
මොහු නායක පූජකයයි නොදනිමි. නා
ගේ සෙනඟගේ මූලාදැනියාගේ අගුණ
නොකියවයි ලියා තිබෙනෙන්යයි කී
6 යේය. එහෙත් පාවුල් සද්දුසින්ගෙන්
කොටසක්ද ඵරිසින්ගෙන් කොටසක්ද
7 සිටින බව දැන සහෝදරවරු මනුෂ්‍යයෙනි
මම ඵරිසියෙකුගේ පුත්‍රවූ ඵරිසියෙක්
වෙමි. මලවුන්ගේ නැගිටීම වනෙන්ය
යි යන බලාපොරොත්තුව ගැන විචාර
නු ලබමියි සභාවෙහිදී ශබ්ද පවත්වමින්
8 කීයේය. ඔහු මෙසේ කී කල ඵරිසින් අ
තරෙහිද සද්දුසින් අතරෙහිද භේදයක්
හටගත්තේය සමූහයාද භේදවූයේය.
මක්නිසාද මලවුන්ගෙන් නැගිටීමක්
නැත දේවදූතයෙක්වත් ආත්මයක්වත්
නැතැයි සද්දුසිවරු කියති ඵරිසිහු දෙ
කම ඇතැයි කියති. එවිට මහත් කෝ
9 ලාහලයක් හටගත්තේය. ඵරිසින්ගේ ප
ක්ෂයේ ලියනෙන්ද නැගිට වාදකරමින්
මේ මනුෂ්‍යයා අත කිසි වරදක් නොද
කිමුව. ඉදින් ආත්මයෙක්වත් දූතයෙක්
වත් මොහු සමඟ කථාකෙළේනම් දෙවි
යන්වහන්සේට විරුඬව යුඬ නොකරමු
10 යයි කීවෝය. මහත් කෝලාහලයක් හ
ටගත්කල සේනාධිපතියා පාවුල් ඔවුන්
විසින් ඉරාදමනු ලබනෙන්යයි භයව සේ
වායින්ට කථාකොට ඔවුන් අතරෙන් ඔ
හු උදුරාගෙන කොටුවට ගෙනයන්ට අ
11 ඥාකෙළේය. පසුව ඳ රාත්‍රියෙහි ස්වාමී
න්වහන්සේ ඔහු ලඟ සිට එඩා පාවුල් ස්ථි
ර සිතින් සිටපනන. නුඹ විසින් මා ගැ
න යෙරුසලමෙහිදී සාක්ෂි දුන්සේම රෝ
මෙහිදීත් සාක්ෂි දියයුතුයයි කීසේක.
12 පහන්වූකල යුදෙව්වන්ගෙන් සමහ
රෙක් සමාගමව දිවිරිල්ලකින් තමන් බැ
දගෙන අපි පාවුල් මරණතුරු කනෙත්
වත් බොනෙන්වත් නැතැයි ගිවිසගත්
13 තෝය. මේ දිවිරිල්ල කලාවූ අයවල් සත
14 ලිස් දෙනෙකුට වැඩිවූවෝය. ඔවුන් නා
යක පූජකයන්ද වැඩිමහල්ලන්ද ලඟට
ගොස් අපි පාවුල් මරණතුරු කිසි කෑ
මක් නොකන්ට මහත් දිවිරිල්ලෙන් බවු
15 නොවුන් බැඳගතිමුව. එහෙයින් ඔහු
ගැන වඩා පවිත්‍ර හැටියට විභාගකරන්
ට කැමැත්තාහු මෙන් සෙට නුඹලා ලඟ
ට ඔහු කැඳවාගෙන එන්ට සභාව සමඟ
සේනාධිපතියාට කියා යවාපල්ලාය. ඔහු
සභාව ලඟට එන්ට පලමුවෙන් අපිද ඔහු
මරනතට සෑදී සිටිමුයයි කීවෝය. පා
16 වුල්ගේ සහෝදරියගේ පුත්‍රයා මේ ප්‍රයෝ
ගය අසා ඇවිත් කොටුවට ඇතුල්ව පා
17 වුල්ට දැන්විය. එවිට පාවුල් සියේකට නා
යකයන්ගෙන් එකකු ලඟට කැඳවා මේ
තරුණයා සේනාධිපතියා ලඟට ගෙනි
යාපනන. ඔහුට කියනතට නිස්සක් ති
18 බෙනෙන්යයි කීයේය. එවිට ඔහු සේනා
ධිපතියා ලඟට ඒ තරුණයා කැඳවාගෙ
න ගොස් හිරකාරවූ පාවුල් තමන් ලඟට
මා කැඳවා නුඹට කියනතට නිස්සක් ඇ
තතාවූ මේ තරුණයා නුඹ ලඟට ගෙන
19 එන්ට මගෙන් ඉල්ලුයේයයි කීයේය. එ
කල සේනාධිපතියා ඔහුගේ අත අල්වා
පැත්තකට ගෙනගොස් නුඹ මට කුමක්
20 දන්වන්ට කැමැතෙන්දැයි ඇසුයේය. ඔ
හු යුදෙව්වරු පාවුල් ගැන වඩා පවිත්‍ර
හැටියට විභාගකරනතට කැමැත්තාහු
මෙන් සෙට දවස සභාවට ඔහු ගෙන
යන්ට නුඹෙන් ඉල්වන ලෙස නියමක
21 රගනෙන්ය. නුමුත් ඔවුන්ගේ කැමැත්
ත නොකලමැනව. මක්නිසාද ඔවුන්
ගෙන් සතලිසකට වැඩියක් ඔහු මරණ
තුරු කන්නෙවත් බොනෙන්වත් නැතැ
යි දිවිරිල්ලකින් තමන් බැඳගෙන ඔහුට
ප්‍රයෝග යොදා දැන් නුඹේ අඥාව බල
22 මින් සෑදී සිටිතියි කීයේය. එවිට සේනා
ධිපතියා මේ කාරණ මට දැන්වූ බව කා
ටවත් කියනතට එපායයි අනකොට ත
රුණයා හැරියේය.
23 එවිට ඔහු සියේකට නායකයන් දෙ
නෙනකු තමන් ලඟට කැඳවා කායිසාරි
යට යන්ට දෙසියයක් සේවායන්ද සැත්
තෑවක් අසරුවන්ද දෙසියයක් සෙල්ල බ
24 රනනවුන්ද රාත්‍රියෙහි තුනෙවනි පැයේ
දි සාදා පාවුල් නන්වාගෙන යන පිනිස
වාහනයන් සපයා පිලික්ස්නම් උතුමාන
න්වහන්සේ ලඟට සුවසේ ඔහු ගෙනියා
පල්ලායයි කියා මෙසේ ලිවුමක් ලිව්ය.

25 වශාධිපතිවූ පිලික්ස්නම් උත්තමයානන්
26 වහන්සේට ක්ලෞදියස් ලිසියස් යන මා
විසින් සුභයක් වේන ලෙස ලියා එවන
27 වගනම්. යුදෙව්වන් විසින් අල්වා මරන්
ට සැදුවාවූ මේ මනුෂ්‍යයා රෝමයෙකැ
යි දැනගත් මම සේනාව සමග ගොස් ග
28 ලවාගතිමි. ඔහුට පැමිණෙව්වේ මො
න දෝෂදැයි දැනගන්ට කැමතිව ඔවුන්
29 ගේ සභාවට ඔහු ගෙනගොස් ඔවුන්ගේ
ව්‍යවස්ථාවෙහි වාද ගැන ඔහුට වැරදි ත
බනලද බව මිස මැරිය යුතුවූවත් බැඳ
යුතුවූවත් කිසි දෝෂයක් ඔහු අත නැතැ
30 යි දැනගතිමි. ඒ මනුෂ්‍යයාට යුදෙව්වෝ
ප්‍රයෝගයක් යෙදුවෝයයි මම දැන වහා
ම ඔබ ළඟට ඔහු එවා ඔහුගේ වැරදිත
බනනන්ට ඔහුට විරුඬව යමක් කියන්
නට ඇත්නම් ඒක ඔබ ඉදිරියෙහි කියන්
ට අඥාකෙලෙමි. සුවසේ සිටියමැනව.
31 එවිට සේවායෝ තමන්ට දුන් අඥා
වේ හැටියට පාවුල් අරගෙන රාත්‍රියෙහි
අන්තිපත්‍රිස්නම් නුවරට ඇවිත් පසුව ද
32 අසරුවන් ඔහු සමග යන්ට හැර කොටු
33 වට හැරී ආවෝය. අසරුවෝ කායිසාරි
යට ඇතුල්ව අධිපතියාට ලියමන දී පා
34 වුල් ඔහු ඉදිරියෙහි සිටෙව්වෝය. අධිප
තියා ඒ ලියමන කියවා ඔහු මොන ජන
පදයෙක්හිදැයි අසා කිලිකියෙහියයි කී
35 කල නුඹට වැරදි තබනෙනෝ ආකල නු
ඹ විචාරමියි කියා හෙරොද්ගේ සාලාවේ
ඔහු ප්‍රවේසම්කරන්ට අඥාකෙලේය.

24. පරිච්ඡේ. පස් දවසකට පසු අන
නියස්නම් නායක පූජකයාද වැඩිමහල්
ලෝද තර්තුලස්නම් ව්‍යක්ත කෙනෙක්
ද අධිපතියා ළඟට ගොස් පාවුල්ට විරු
2 ඬව පැමිණිලි කලෝය. ඔහු කැඳෙව්ක
ල තර්තුලස් ඔහුට වරද තබනනට ප
3 ටන්ගෙන කියනුයේ උතුම්වූ පිලික්ස්නි
අපි ඔබවහන්සේගෙන් මහත් සමාදාන
ය ලබාගත් හෙයින්ද ඔබගේ ප්‍රඥාවෙන්
ප්‍රසංසා කටයුතුවූ ක්‍රියා මේ වර්ගයාට ක
ලහෙයින්ද අපි සියළු වේලෙහිම සියළු
තැන්හි සියළු ස්තුතියෙන් හොඳට පිලි
4 ගනිමුව. තවද මම බොහෝ කීමෙන් ඔ
බට වෙහෙස නොවෙන පිනිස එහුඹුව
සයෙන් අපි කියන දේ ඔබගේ කරුණා
5 වෙන් අසන්ට ඉල්ලමි. මේ මනුෂ්‍යයා දු
ර්ජනයෙක් බවද ලෝකයෙහි සිටිනනා
වූ සියළු යුදෙව්වන් අතරෙහි පෙරලි
උපදවනෙනක් බවද නසරේනුන්ගේ
ලබ්ධියෙහි ප්‍රධානයෙක් බවද දුටිමුව.
6 මොහු දේවමාලිගාව අපවිත්‍රකරනනට
පටන්ගත්තේය. මොහු අල්වා අපගේ
ව්‍යවස්ථාව ලෙස විනිශ්චයකරන්ට ප
7 ටන්ගත්තාකල ලිසියස්නම් සේනාධිප
තියා අප කරා ඇවිත් මහත්වූ බලාත්කා
රයෙන් අප අතින් මොහු උදුරාගෙන
8 මොහුට වරද තබනනන්ට ඔබ ළඟට
එන්ට අනකෙලේය. යම් දෙයක් ගැන
අපි මොහුට වරද තැබිමුද ඒ සියල්ල
මොහුගෙන් විචාරා ඔබට දැනගනනට පු
9 එවනැයි කියේය. යුදෙව්වරු ඒ කාරණා
එසේමයයි කීවෝය.
10 පාවුල්ට කථාකරනනට අධිපතියා ස
ඥාකල කල්හි ඔහු උත්තර දෙමින්
කියනුයේ ඔබ බොහෝ අවුරුදු ගන
නක් මේ වර්ගයාට නඩු අහන මූලාදැනි
යෙක්වූ බව දනනා නිසා මම ඉතා සතුටු
සිතින් මාගේ කාරණාව ගැන උත්තර
11 දෙමි. නමස්කාර කරණා පිනිස මම යෙ
රුසලමට ගොස් දොලොස් දවසකට ව
12 ඩා නැතැයි ඔබට දැනගන්ට පුළුවන. දේ
වමාලිගාවෙහි කිසි කෙනෙක් සමග ම
ම වාදකරණා බවවත් සිනගෝගවලදී
නොහොත් නුවරදී මනුෂ්‍යයන් කැරලි
13 ගසවන බවවත් ඔවුන් දුටුවේ නැත. ඔ
වුන් දැන් මා කෙරෙහි තබන වරද ඔප්
14 පුදෙන්ට බැරිවෙයි. නුමුත් ඔවුන් දුර්ලබ්
ධියයි කියනනාවූ මාර්ගයේ හැටියට මම
ව්‍යවස්ථාවේත් අනාගත වාක්‍යවලත් ලි
15 යනලද සියල්ල අදහමින් මාගේ පියව
රුන්ගේ දෙවියන්වහන්සේට නමස්කා
ර කරමින් මලාවූ ධර්මිෂ්ඨයන්ගේද අධ
ර්මිෂ්ඨයන්ගේද නැගිටීම වන්නේයයි
මොවුන්ම බලාසිටිනනාක්මෙන් දෙවිය
න්වහන්සේ කෙරෙහි විශ්වාස කෙරෙමියි
16 ඔබට ප්‍රකාසයෙන් කියමි. දෙවියන්වහන්
සේ කෙරෙහිද මනුෂ්‍යයන් කෙරෙහිද
නිදෙස් සිතින් හැසිරෙන්ට නිතර උත්
17 සාහ කෙරෙමි. බොහෝ අවුරුදු පසුවූ
කල මාගේ වර්ගයාට දානවල්ද පූජාවල්
18 ද දෙන්ට ආයෙමි. එකල ආසියායෙහි ස
මහර යුදෙව්වරු සමූහයක්වත් පෙරලි
යක්වත් නැතුව දේවස්ථානයෙහි පවිත්‍ර
19 කරනලද්දාවූ මා දුටුවෝය. මට විරුඬව
ඔවුන්ගේ කිසි පැමිණිල්ලක් ඇත්නම් ඔ
වුන් විසින් මෙහි ඔබ ඉදිරියට ඇවිත් ව
20 රද තැබිය යුතුය. නොහොත් මම මො

වුන් අතරෙහි සිට මලවුන්ගේ නැගිටී
ම ගැන අද තුඹලා විසින් විචාරකරනු
21 ලබමියි කියා මුරගෑහුවා මිස සභාවෙහි
දී මා අත කිසි දෝෂයක් මොවුන් දුටුනම්
කියත්වයි කීයේය.
22 මේ කාරණ ඇසූ පිලික්ස් ඒ මාර්ගය
හොඳකාර දැන ඔවුන් වලක්වමින් ලිසි
යස්නම් සේනාධිපතියා ආකල තුඹලා
23 ගේ නඩුව විචාරමියි කියා පාවුල් බැඳුම්
නැතුව රක්ෂාකරන්ටද ඔහුට වැඩකිරී
මෙන්වත් ඔහු ලගට ඊමෙන්වත් ඔහු
ගේ පිරිවරගෙන් කිසිවෙකුත් නොව
ලක්වන්ටද සියේකට නායකයාට ආඥා
කෙලේය.
24 කීප දවසකට පසු පිලික්ස් යුදෙව් ජා
තියෙහි ද්‍රැසිල්ලානම් තමාගේ භාර්‍ය්‍යාව
සමග ඇවිත් පාවුල් ගෙන්වා ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි ඇදහිල්ල ගැන ඔහු
25 ගේ බස් ඇසුයේය. ධර්මිෂ්ඨකමද පමන
දැනීමද පැමිනෙනනාවූ විනිශ්චයද ගැන
ඔහු කථාකලවිට පිලික්ස් භයපත්ව දැන්
යනනට පුළුවන මට අවකාශ ඇති කල්
26 හි තුඹ කැඳවමියි කීය. තවද පාවුල් ත
මාගේ මිදීම පිනිස මිල දෙනෙන්යයි පි
ලික්ස් සිතාගෙන නැවත නැවත ඔහු
27 කැඳවා ඔහු සමග කථාකෙලේය. තුමුත්
දෑවුරුද්දකට පසු පිලික්ස්ගේ නිලේට
පෝර්කියුස් ෆෙස්තුස් පත්වුනේය. එක
ල පිලික්ස් යුදෙව්වන් සතුටුකරවනු කැ
මතිව පාවුල් හිරෙන් තුමූඳ ගියේය.

25. පරිච්ඡේ. ෆෙස්තුස් ජනපදයට පැ
මින තුන් දවසකට පසු කායිසාරියෙන්
2 යෙරුසලමට ගියේය. එකල නායක පූ
ජකයාද යුදෙව්වන්ගේ ප්‍රධානීද මාර්ග
යෙහිදී පාවුල් මරනනට උපදෙස් යො
3 ද පාවුල්ට විරුඬව ෆෙස්තුස්ට දන්වා ඔ
හු යෙරුසලමට ගෙන්වන ලෙස පිහිට
4 ඉල්ලුවෝය: එහෙත් ෆෙස්තුස් උත්තර
දෙමින් පාවුල් කායිසාරියේ රක්ෂා කට
යුතුය. මමත් ස්වල්ප දවසකින් පසු එහි
5 එමි. එහෙයින් තුඹලා අතරෙහි පුළුවන්
වූ අයවල් මා සමග ගොස් ඒ මනුෂ්‍යයා
අත යම් වරදක් ඇත්නම් ඔහුට වරදත
6 බත්වයි කීයේය. ඔහු ඔවුන් අතරෙහි
දස දවසකට වැඩිය සිට කායිසාරියට බැ
ස පසුව දා විනිශ්චයාසනය පිට හිඳ පා
7 වුල් ගෙනෙන්ට ආඥාකෙලේය. ඔහු ආ
කල යෙරුසලමෙන් බැස ආවාවූ යුදෙව්
වරු වටකර සිට පාවුල්ට විරුඬවූ බො
හෝ බරපතල වරදවල් තැබුවෝය තු
8 මුත් ඒවා සැබෑකරන්ට බැරිවීය. ඔහු උ
උත්තර දෙමින් යුදෙව්වන්ගේ ව්‍යවස්ථා
වටවත් දේව මාලිගාවටවත් කායිසර්ට
වත් විරුඬව කිසි වරදක් නොකලෙමි
9 යි කීය. තුමුත් ෆෙස්තුස් යුදෙව්වන් සතු
ටුකරනු කැමතිව පාවුල්ට උත්තර දෙ
මින් තුඹ යෙරුසලමට ගොස් එහිදී මේ
කාරණ ගැන මා විසින් විනිශ්චයකරනු
10 ලබන්ට කැමතිදැයි ඇසුයේය. එවිට පා
වුල් කියනුයේ කායිසර්ගේ නඩු ආසන
ය ඉදිරියෙහි සිටිමි. එහිදී මා විනිශ්චය
කරන්ට සුදුසුය. යුදෙව්වන්ට මම කිසි
අයුත්තක් නොකල බව තුඹට හොඳට
11 පෙනෙයි. මම අයුක්තක්වත් මරණට සු
දුසු කිසිවක්වත් කෙලෙමිනම් මරනු ල
බන්ට අකමැති නොවෙමි. තුමුත් මො
වුන් මා ගැන කියාපූ දෝසවලින් එකක්
වත් සැබෑ නැත්නම් මා ඔවුන්ට පාවා
දෙනනට කාටවත් බැරිය. කායිසර්ගේ
12 විනිශ්චය ඉල්වමියි කීයේය. එවිට ෆෙස්
තුස් සභාව සමග කථාකොට කායිසර්
ගේ විනිශ්චය ඉල්ලූ නිසා කායිසර් ලග
ට යනවා ඇතැයි කීයේය.
13 කීප දවසකට පසු අග්‍රිපානම් රජද
බර්නිකිද ෆෙස්තුස් දකිනනට කායිසාරි
14 යට ආවෝය. ඔවුන් බොහෝ දවස් එහි
සිටිකල ෆෙස්තුස් පාවුල්ගේ කාරණාව ඒ
රජහට දන්වමින් කියනුයේ පිලික්ස් හි
රෙන් තුමූඳ ගිය එක් මනුෂ්‍යයෙක් ඇ
15 ත. මම යෙරුසලමෙහි සිටිද්දී ඔහු ගැන
නායක පූජකයෝද යුදෙව්වන්ගේ වැ
ඩිමහල්ලෝද මට දන්වමින් ඔහුට අවවූ
16 කරණ ලෙස ඉල්ලුවෝය. මම ඔවුන්ට
උත්තර දෙමින් වරද තබනලද තැනැත්
තා ඉදිරියට වරද තබනනන් ගෙන්වා ඔ
හුට තබනලද වැරදි ගැන උත්තර දෙ
න පිනිස අවකාස දීමට පලමුවෙන් කි
සි මනුෂ්‍යයෙකු මරණයට පාවාදෙන්ට
රෝමයන් අතරේ කිසි සිරිතක් නැතැ
17 යි කීමි. එහෙයින් ඔවුන් මෙහි ආකල ම
ම ප්‍රමාදයක් නොකොට දෙවෙනි දවස්
හි නඩු ආසනයෙහි හිඳ ඒ මනුෂ්‍යයා ගෙ
18 නෙන්ට ආඥාකෙලෙමි. ඔහුගේ වරද ත
බනනෝ නැගිට මම සිතූ වරදවලින් කි
19 සිවකුත් ඔහු කෙරෙහි නොතබා තමන්
ගේ ආගම ගැනද ජීවත්වනෙන්යයි පා
වුල් විසින් කියනලද මලාවූ යේසුස් යනා

කොනෙක් ගැනද ඔහුට විරුඬව ඔවුන්
20 ට වාද ඇත. මම මෙයාකාර වාදයන් ගැ
න සැකකල බැවින් තුබ යෙරුසලමට
යන්ටද එහිදී මේ දේ ගැන විනිශ්චය
කරනු ලබන්ටද කැමතිදැයි ඔහුගෙන්
21 ඇසීමි. එවිට සෙබස්තස්ගෙන් විනිශ්ච
ය ඉල්ලමියි සාවුල් කීකල මම ඔහු කා
සියර් ලඟට යවනතුරු ප්‍රවේසම්කරනතා
ට අඥාකෙලෙමියි කීයේය.
22 එවිට අග්‍රිපා මමද ඒ මනුෂ්‍යයා විචා
රන්ට කැමැතෙහාමියි ෆෙස්තුස්ට කිය.
ඔහුද සෙට දවස ඔහුගේ බස් අසනෙහි
23 යයි කීයේය. පසුව දැ අග්‍රිපාද බර්නිකි
ද මහත් රාජෛශ්වර්‍යයෙන් ඇවිත් සේ
නාධිපතීන් සහ නුවර ප්‍රධානීන්ද සමග
නඩුසාලාවට පැමිනිකල ෆෙස්තුස්ගේ අ
24 ඥාවෙන් පාවුල් ගෙනකලද්දේය. එවිට
ෆෙස්තුස් කියනුයේ අග්‍රිපා රජ්ජුරුවනි
මෙහි අප ඉදිරියෙහි සිටින සියළු මනු
ෂ්‍යයෙනි යුදෙව්වන්ගේ සියළු සමූහයා
මෙයින් මතු මොහු ජීවත්වෙන්ට නො
වටනේයයි ශබ්ද නවත්වමින් යමෙක්
ගැන යෙරුසලමෙදී සහ මෙහිදීත් මට
කියා සිටියේද ඒ මනුෂ්‍යයා තුබලා දකි
25 ති. මරණට සුදුසුවූ කිසි දෙයක් ඔහු
නොකල බවද සෙබස්තස්ගේ විනිශ්ච
ය ඉල්ලමියි මොහු කී බවද දැන මොහු
26 යවන්ට නියමකෙලෙමි. ඔහු ගැන මා
ගේ ස්වාමිදරුවන්ට ලිවිය යුතු කිසි නි
27 යමවූ කාරණාවක් මට නැත. එබැවින්
විනිශ්චයකල කල්හි ලිවිය යුතුවූ කිසි
වක් මට සම්භවේද කියා බලන පිනිස
තුබලා ඉදිරියටද ප්‍රධානකොට අග්‍රිපා
රජ්ජුරුවනි ඔබගේ ඉදිරියටද මොහු
ගෙන්වීමි. මක්නිසාද සිරකාරයාගේ ව
රද නොදක්වා ඔහු පිටත්කර යැවීම අයු
තුයයි සිතුනේයයි කීයේය.

26. පරිච්ජ. එවිට අග්‍රිපා තුබ ගැන
උත්තරදෙන්ට තුබට අවසර ඇතැයි
පාවුල්ට කීයේය. එකල පාවුල් අත දිගු
කොට තමා ගැන උත්තර දෙමින් කිය
2 නුයේ අග්‍රිපා රජ්ජුරුවෙනි යුදෙව්වරු ම
ට විරුඬව කියනලද සියල්ල ගැන අද තු
බවහන්සේ ඉදිරියෙහි උත්තර දෙන්ට
3 ලැබුනු බැවින්ද ප්‍රධානකොට තුබ යුදෙව්
වරුන්ගේ සියළු ව්‍යවහාරවල්ද වාදවල්
ද විශේෂයෙන් දන්නාසේකැයි මම දැන
ගත් බැවින්ද මම වාසනාවන්තයෙකැයි
සිතමි. එහෙයින් සමාදානයෙන් මාගේ
4 බස් අසන ලෙස ඉල්ලමි. යෙරුසලමෙ
හිදී මාගේ ජාතීන් අතරෙහි බාලාවස්ථා
වෙහි පටන් මාගේ හැසිරීම සියළු යුදෙව්
5 වරු දනිති. ඔවුන් සාක්ෂිදෙනු කැමති
නම් අපගේ ආගමෙහි ඉතා භක්ති ඇත්
තාවූ ලබ්ධි හැටියට මම ඵරිසියෙක ජීව
6 තවූ බව ආදියෙහි පටන් දනිති. දැන් දෙ
වියන්වහන්සේ විසින් අපගේ පියවරුන්
ට දෙනලද පොරොන්දුව බලා සිටීම ගැ
න මම විනිශ්චයකරනු ලබමින් සිටිමි.
7 ඒ පොරොන්දුව ලබන පිනිස අපගේ දො
ලොස් ගෝත්‍රයෝ රෑ දවල් නිතරම සේ
වයකරමින් බලා සිටිති. අග්‍රිපා රජ්ජුරු
වෙනි මේ බලාපොරොත්තුව නිසා යු
දෙව්වන් විසින් වරද තබනු ලැබිමි.
8 කිමෙක්ද දෙවියන්වහන්සේ මලවුන්
නැගුටුවන බව අදහනනාට බැරි කාර
9 ණාවකැයි සිතනෙනාද? නාසරත් යේ
සුස්වහන්සේගේ නාමයට විරුඬව නො
යෙක් කාරණා මා විසින් කටයුතුයයි ඒ
10 කාන්තයෙන් සිතාගන සිටියෙමි. යෙරු
සලමෙහිදීත් එසේම කොට නායක පූජ
කයන්ගෙන් බලය ලැබ පිරිසිදුවූවන්
ගෙන් බොහෝ දෙන සිරගෙවල්හි ඈ
යෙමි. ඔවුන් මරනු ලබන කල එසේ යු
11 තුයයි කීමි. තවද සියළු සිනගෝගවල
දී නැවත නැවත ඔවුන්ට දඬුවම් කර
මින් ස්වාමින්වහන්සේට අපහාස කරන්
ට බලාත්කාර කෙලෙමි. මම ඔවුන්ට වි
රුඬව බොහෝසෙයින් උමතුව අන් නු
12 වරවල් දක්වා ඔවුන්ට පිඩාකෙලෙමි. ර
ජ්ජුරුවෙනි මෙසේ කරනනාවූ මම නා
යක පූජකයන්ගෙන් බලයද අඥාවද ලැ
13 බ දමස්කයට යන්ට යන අතර ඉර මුදුන්
වේලෙහි මාද මා සමග යනනාවුන්ද වට
කර බබලනනාවූ අහසින් ප්‍රකාසවූ සූර්‍ය
තේජසට වැඩිවූ එළියක් මාර්ගයෙහිදී
14 දුටිමි. අපි සියළු දෙන බිම වැටුනු කල
සාවුල් සාවුල් මට පීඩාකරනෙහි මක්නි
සාද? උල්වලට පයින් ගහන්ට තුබට
අමාරුයයි හෙබ්‍රෙව් භාෂාවෙන් මා සම
15 ග කථාකරනනාවූ ශබ්දයක් ඇසීමි. මම
16 ද ස්වාමිනි ඔබ කවුදැයි කීමි. එවිට උන්ව
හන්සේ තුබ පිඩාකරණ යේසුස් වෙමි
නැගිට පයින් සිටපනන. මක්නිසාද තු
බ දුටු කාරණාවලටද මම තුබට පෙන්වූ
න කාරණාවලටද තුබ සේවකයෙක් සහ
සාක්ෂිකාරයෙකුත් කරණ පිනිස තුබට

17 පෙනුනෙමි. සෙනඟගෙන් සහ අන්‍යජා
තීන්ගෙන් නුඹ ආරක්‍ෂාකරමින් ඔවුන්
ගේ ඇස් අරින පිනිසත් අන්ධකාරයෙන්
ආලෝකයටද සාතන්ගේ බලයෙන් දෙ
වියන්වහන්සේ වෙතටද ඔවුන් හරවනු
18 ලැබ මා කෙරෙහි ඇදහිල්ලෙන් පාප
යෙන් මිදීමද පිරිසිදුවූවන් අතරෙහි උ
රුම කොටසද ලබන පිනිසත් නුඹ ඔ
19 වුන් ලඟට දූත් යවමියි කීසේක. එහෙ
යින් අග්‍රිපා රජ්ජුරුවෙනි මම ස්වර්ගීය
20 දර්ශණයට අකීකරු නොව පලමුකොට
දමස්කයෙහිද යෙරුසලමෙහිද යුදයේ
සියළු තැන්හිද වසනනන්ටත් පසුව අ
න්‍යජාතීන්ටත් ඔවුන් විසින් පසුතැවිලි
ව දෙවියන්වහන්සේ කෙරෙහි හැරී ප
සුතැවිල්ලට සුදුසුක්‍රියා කටයුතුයයි ප්‍රකා
21 ස කෙලෙමි. මේ කාරණ නිසා යුදෙව්
වරු දේවමාලිගාවෙහිදී මා අල්වා මරන්
22 නට වෑයම්කලෝය. නුමුත් දෙවියන්ව
හන්සේගෙන් උපකාර ලැබ මම අද ද
ක්වා සිට ලොකු කුඩා තැනැත්තන්ට සා
23 ක්‍ෂි දෙමින් ක්‍රිස්තුස්වහන්සේ වේදනා
විඳ මලවුන් කෙරෙන් නැගිටිනනාවුන්
අතරෙන් පලමුවෙනි කෙනෙක්ව සෙ
නඟටද අන්‍යජාතීන්ටද එලිය දක්වන
සේකැයි යන අනාගතවක්තෘන් විසිනු
මෝසෙස් විසිනු මතු සිඬවෙන්නේයයි
කියනලද දේ හැර අන් කිසිවක් නො
කියමියි කීයේය.
24 ඔහු මෙසේ තමන් ගැන උත්තර දුන්
කල ෆෙස්තුස් මහත් ශබ්ද පවත්වමින්
පාවුල් නුඹට ඔල්මාදය බොහෝ ඉගන
ගැන්මෙන් නුඹ උමතුබවට පැමිණේය
25 යි කීයේය. නුමුත් ඔහු කියනුයේ උතුම
වූ ෆෙස්තුස් මම උමතු නොවෙමි. සැබෑ
කමෙහිද සිහි ඇතිකමෙහිද වචනවල්
26 කියමි. මේ දේ රජ්ජුරුවන්වහන්සේ දන්
නාසේක. එහෙයින් උන්වහන්සේ ඉදි
රියෙහි භයක් නැතුව කියමි. මේ දේ
මුල්ලකදී නොකල බැවින් එයින් කිසි
දෙයක්වත් උන්වහන්සේට නොදනී
27 නැතැයි සිතමි. අග්‍රිපා රජ්ජුරුවෙනි නු
ඹවහන්සේ අනාගතවක්තෘන් අදහන
සේක්ද? නුඹවහන්සේ අදහන බව ද
28 නිමියි කීයේය. එවිට අග්‍රිපා රජ ක්‍රිස්ති
යානිකාරයෙක් වෙන්ට බොහෝසෙ
යින් නුඹ මා කැමතිකරවා ගනෙන්යයි
29 පාවුල්ට කීයේය. එවිට පාවුල් නුඹ පම
නක් නොව අද මාගේ වචන අහනනාවූ
සියල්ලෝද බොහෝසෙයින් නොව මේ
බැඳුම් හැර අනිකුත් දෙයින් සම්පූර්ණ
යෙන්ම මා වාගේ වෙන්ට දෙවියන්වහන්
සේට යාඥාවෙමියි කීයේය.
30 ඔහු මෙසේ කීකල රජ්ජුරුවෝද අධි
පතියාද බර්නිකීද ඔවුන් සමග උන්නෝ
31 ද නැගිට අහක්ව ගොස් මේ මනුෂ්‍යයා
මරනයටවත් බැඳුම්වලටවත් සුදුසු කිසි
දෙයක් කලේ නැතැයි තමතමන් අත
32 රෙහි කථාකරගත්තෝය. එකල අග්‍රිපා
මේ මනුෂ්‍යයා කායිසර්ගේ විනිශ්චය
නොයිල්ලුවේනම් ඔහු මුදා හරින්ට පුළු
වන තිබුනේයයි ෆෙස්තුස්ට කීයේය.

27. පරිච්ඡේ. තවද ඉතාලියට නැවි
නැගී යන්ට අපට නියමකලවිට පාවුල්
හා අන් සමහර හිරකාරයෝ සෙබස්තාස්
ගේ සේනාවගෙන් ජූලියස්නම් සියේට
2 නායකයාට පාවාදෙන ලද්දෝය. එවිට
ආද්‍රමුත්තිය නැවකට නැගී ආසියාවෙ
හි අද්දරින් යන්ට සිතා පිටත්වූයෙමුව.
මකිදෝනියෙහිවූ තෙසලොනීක නුවර
වැසිවූ අරිස්තාකිස් අප සමග සිටියේය.
3 පසුව දා සිදොන්ට පැමිනිවිට ජූලියස් පා
වුල්ට කරුණාකොට ඔහුගේ මිත්‍රයන්
ලඟට යන්ටද පහසු ගන්ටද ඔහුට අව
4 සර දුනෙන්ය. එයින් පිටත්ව හුළඟ ඉස්
සරට ගැසූබැවින් කුප්‍රස් අද්දරින් ගියෙ
5 මුව. කිලිකියෙහිද පම්පිලියෙහිද මුහු
දෙන් ගොස් ලිකියෙහිවූ මුරානම් නුව
රට පැමිනියෙමුව.
6 එහිදී සියේට නායකයා ඉතාලියට ය
නනාවූ අලෙක්සන්ද්‍රයේ නැවක් දැක අ
7 ප එහි නැංගවිය. හුලඟ අප වැලකූ බැ
වින් කීප දවසක්ම හෙමින් ගොස් කනි
8 දස් ඉදිරියට අමාරුවෙන් පැමින ක්‍රීතල
යින් සල්මොන් ඉදිරියට පැමින අමාරු
වෙන් ඒක පසුකොට ලසේය නුවරට
ලඟ හොඳ වරායනම් ස්ථානයට පැමිනි
යෙමුව.
9 බොහෝ කල් පසුවූකල නිරාහාරව
ඉනනා දවස් පසුවූ බැවින් නැවෙන් යන්
ට උපද්‍රවූකල පාවුල් ඔවුන්ට දූනිම්ති
10 කම් දෙමින් මනුෂ්‍යයෙනි මේ ගමනෙන්
බඩුවලට සහ නැවට පමනක්නොව අ
පගේ ප්‍රානවලටත් අන්තරා සහ බො
හෝ විනාසයද පැමිනෙන බව දක්නෙ
11 මියි කීය. එසේ නුමුත් සියේකට නාය
කයා පාවුල් විසින් කියනලද දේවලට

වඩා නැව්කාරයාගේද නැවේ ස්වාමියා
12 ගේද කීම විශ්වාස කෙළේය. තවද සීත
ල කාලයෙහි සිටින්ට ඒ වරාය නරක බැ
වින් නිරිතටත් වයඹටත් ඉදිරියේ තිබෙ
නාවූ ක්‍රීතයේ වරායක්වූ පෙනීකයේ
සීතල කාලයෙහි සිටිනාට යෙදුනොත්
හොඳයයි කියා පිටත්ව යන්ට බොහෝ
13 දෙන දැනිමිතිකම් දුනෝය. දකුණු හු
ළඟ මදව ගැසුකල තමන්ගේ කැමැත්
ත සිඬවූණේයයි සිතා එසින් පිටත්ව ක්‍රී
තය අද්දරින් ගියෝය.
14 නුමුත් නොබෝ කලකට පසු එව්
රොක්ළිදන්නම් තද කුනාටුවක් නැව
15 ඉදිරියට ගැසුවේය. එසින් ඒක හැරී හු
ළඟ ඉදිරියට යන්ට බැරිව හුළගේ කැ
16 මැත්තටම අත්හැර කෙලෞදනම් දිවයින
අද්දරින් දුව යනාවූ අපි අමාරුවෙන්
17 නැවේ ඔරුව ආරක්ෂාකරගෙන උපකාර
පිනිස යටින් බැඳ සෝර වැල්ලේ වැටෙ
නවා ඇතැයි භයව රුවල් බහා මෙසේ
18 ගෙනයන ලද්දෙමුව. තවද අපි තද කු
නාටුවෙන් ඉතා ඇලලී ගියකල පසුව දා
19 බඩුවලින් පංගුවක් මුහුදේ දමා තුනෙ
නි දා අපේම අතින් නැවෙහි අවයව වී
20 සිකෙළෙමුව. බොහෝ දවසක් ඉරවත්
තාරකාවත් නොපෙනුන කල්හිද සැර
හුළඟ අප වටකර පැවති කල්හිද අපි
ගැලවෙමුයයි යන සියළු සිතිවිලි දුරුව
ගියේය
21 නුමුත් අපි බොහෝ කල් කෑම නො
කා උන්කල පාවුල් ඔවුන් මැද සිට කිය
නුයේ මනුෂ්‍යයෙනි මේ අන්තරාවත් වි
නාසයත් නොපැමිනෙන පිනිස එදා මා
ගේ වචන අසා ක්‍රීතයෙන් පිටත්ව නා
22 වෙමුනම් යහපත. දැනවත් නැව මිස නු
බලාගෙන් කවුරුවත් විනාස නොවෙන
බැවින් සිත් ස්ථිරකරගන්ට දැනිමිතිකම්
23 දෙමි. මක්නිසාද මා එතිවූ මම සේව
යකරනාවූ දෙවියන්වහන්සේගේ දූත
යා මෙම රාත්‍රියෙහි මා ළඟ සිට පාවුල් භ
24 යනොවෙනන. කායිසර්ගේ ඉදිරියට නු
බ ගෙනයනු ලැබිය යුතුය නුබ සමග
නැවෙන් යනාවූ සියල්ලන් දෙවියන්ව
25 හන්සේ නුබට දුන්සේකැයි කීයේය. එ
බැවින් මනුෂ්‍යයෙනි දෙවියන්වහන්සේ
ගේ කීම සිඬවේයයි මම උන්වහන්සේ
කෙරෙහි විශ්වාසකරණ බැවින් ස්ථිර සි
26 තින් සිටපල්ලාය. එසේ නුමුත් අපි එක්
විපයක වැටෙනවා ඇතැයි කීයේය.

27 දස සතරවෙනි රාත්‍රිය පැමිනීකල අ
පි ආද්‍රියා මුහුදේ ඔබ මොබ ගෙනයනු
ලබනකල මධ්‍යම රාත්‍රියේදී නැව්කාර
යෝ දේසයකට ළංවෙමුයයි සිතා ගැඹු
28 ර බලා විසි බඹයකැයි දුටුවෝය. එසින්
ටිකක් ඈතට ගොස් නැවතත් ගැඹුර
බලා පසලොස් බඹයෙකැයි දුටුවෝය.
29 එකල ගල් ඉඬම්වල වැටේයයි යන භ
යින් අවරේ පැත්තෙන් නැංගුරම් සත
රක් දමා කොයි වේලේ පහන්වේදෝ
කියා බලා සිටියෝය. නැව්කාරයෝ නැ
වෙන් පලායන්ට සොයමින් නැව ඇනි
යෙන් නැංගුරම් දමනනාවූන් මෙන් ඔරු
30 ව මුහුදට බැස්සවූකල පාවුල් මොවුන්
නැවෙහි සිටියොත් මිස නුබලාට ගැල
වෙන්ට බැරියයි සියේට නායකයාටද
31 සේවායන්ටද කීයේය. එකල සේවා
යෝ ඔරුවේ යොත් කපා ඒක වැටෙන්
32 ට ඉඩ ඇරියෝය අරුණු නැගෙන කල්
හි පාවුල් ඔවුන් සියල්ලන්ට කෑම කන්
නට දැනිමිතිකම් දී නුබලා කෑම නො
කා නිරාහාරව සිට අදට දස සතර දවස
33 ක. එබැවින් නුබලාගේ සැප පිනිස කෑ
34 ම කන්ට අවවාද කරමි. නුබලාගෙන් කි
සි කෙනෙකුගේ හිසින් කේසයක්වත්
නොවැටෙන්නේයයි කීයේය. මෙසේ
35 කියා රොටි අරගෙන සියල්ලන්ගේ ඉදිරි
යෙහි දෙවියන්වහන්සේට ස්තුතිකොට
36 කඩා කනාට පටන්ගත්තේය. එවිට සි
යල්ලෝ ස්ථිර සිතින් සිට කෑම කෑවෝය.
37 නැවේ සිටියාවූ සියල්ලෝම දෙසිය සැ
38 ත්තෑ සදෙනෙක. කෑමෙන් ඔවුන් තෘප්
තියට පැමින ගෝධූම මුහුදට දමා නැව
සැහැල්ළු කලෝය.
39 පහන්වූකල ඔවුන් ඒ දේසය දැනග
තෙත් නැත. නුමුත් වැලිතලාවක් ඇත්
තාවූ එක් තොටක් දැක පුළුවනනම් එ
40 හි නැව පමුනුවනු කැමතිව නැංගුරම්
ඔසවා නැව යන්ට හැර සුක්කානමෙහි
බැඳුම් මුදා මහ රුවල හුළඟ ඉදිරියට
41 නගා වැලිතලාව බලා ගොස් දෙපැත්
තෙන්ම රළ ගසන තැනකට පැමින
නැව තලාවක වැද්දෙව්වෝය. එවිට ඇ
නිය බොහෝසෙයින් එරී නිශ්චලව සි
ටියේය. අවරේ රළවලින් බිඳීගියේය.
42 එවිට හිරකාරයන්ගෙන් කවුරුවත් පි
නා සැඟවී නොයන පිනිස ඔවුන් මරන්
43 ට සේවායෝ කථාකලෝය. නුමුත් සියේ
කට නායකයා පාවුල් රක්ෂාකරනු කැම

තිව ඔවුන්ගේ කථාව වලකා පීනන්ට
පුළුවන්වූවන් පලමුකොට මුහුදට පැන
ගොඩ යන්ටද සෙස්සෝ සමහරු ලෑලි
වලින්ද සමහරු නැව්කඩවලින්ද ගොඩට
44 යන්ටද අඥකෙලේය. මෙසේ සියල්
ලෝ ගැලවී සුවසේ ගොඩට පැමිණු
නෝය.

28. පරිච්ඡ. ගැලවුනාවූ ඔවුන් ඒ වි
2 පය මෙලිත නමැයි දැනගත්තෝය. එක
ල ඒ තුගත් මනුෂ්‍යයෝ අපට බොහෝ
කරුණකොට පවතිනාවූ වැසීව නිසා
ද සීතල නිසාද ගිනි පත්තුකොට අප සි
යල්ලන්ට ආගන්තුක සත්කාර කලෝ
3 ය. පාවුල් දර රැසියක් එක්කොට ගින්
නෙහි ඇකල ගිනි උෂ්ණය නිසා නපු
රු සර්පයෙක් පිටත්ව ඇවිත් ඔහුගේ අ
4 ත වෙලාගත්තේය. ඒ තුගත් මනුෂ්‍යයෝ
ඔහුගේ අතෙහි එල්ලෙනාවූ සර්පයා දැ
ක මේ මනුෂ්‍යයා ඒකාන්තයෙන් මිනී
මරන්නෙකි. ඔහු දඬුවම් ලබන්ට යුතු
නිසා මුහුදෙන් ගැලවුන නුමුත් ජීවත්
නොවේයයි ඔවුනොවුන් කථාකරගත්
5 තෝය. ඔහු කිසි හිංසාවකට නොපැමින
6 ඒ සර්පයා ගින්නට ගසාදැමීය. ඔවුන් ඔහු
ඉදිමෙනේය නොහොත් වහාම මැරී
වැටෙනේයයි බොහෝ වේලා බලා සි
ට ඔහුට කිසි උපද්‍රවයක් නොපැමිනුන බ
ව දැක පෙරළුනාවූ සිත් ඇතිව ඔහු දෙ
වියෙකැයි කීවෝය.
7 ඒ ද්වීපයට ප්‍රධානවූ පුබ්ලියස්හට අයි
තිවූ බිම් ඒ ලඟ තිබුණේය. ඔහු අප පි
ළිගෙන තුන් දවසක් ප්‍රීතියෙන් ආගන්
8 තුක සත්කාර කෙලේය. පුබ්ලියස්ගේ
පියා උන ලෙඩින් සහ රක්තාතිසාරයෙ
න් පීඩිතව උනේය. පාවුල් ඔහු ල
ඟට පැමින යාඥකොට ඔහු පිට අත් ත
9 බා සුවකෙලේය. මෙසේ කලවිට ද්වීපයෙ
හි වෙන රෝගීහුද ඔහු ලඟට පැමින සු
10 වකරනු ලැබුවෝය. ඔවුන් අපට බො
හෝ මානයෙන් ගෞරව කොට අපි ය
නකල අපට උවමනාවූ දේ නැවේ පැ
ටෙව්වෝය.
11 තුන් මසකට පසු සීතල කාලයෙහි ද්වී
පයෙහි තිබුනාවූ දියොස්කුරෙයිස්නම්
ලකුන ඇති අලෙක්සන්ද්‍රිය නැවට නැගී
12 සිරකුසට පැමින එහි තුන් දවසක් සිටි
යෙමුව. එයින් පිටත්ව අවට හැසිර රෙ
13 ගියනාම් පටුනට පැමින එක දවස
කට පසු දකුණු හුළඟ ගසනකල පසුව දෙ
14 පොතියොලට පැමිනියෙමුව. එහිදී ස
හෝදරයන් දැක ඔවුන්ගේ ඉල්ලීමට
15 සත්දවසක් සිට රෝමයට ගියෙමුව. අ
පගේ ප්‍රවෘත්තිය ඇසූ සහෝදරයෝ එ
සින් ආපිය පොරමද තානායම් තුනද
දක්වා අප පෙරමගට ආවෝය. පාවුල්
ඔවුන් දැක දෙවියන්වහන්සේට ස්තුති
16 කොට සිත් ස්ථිර කරගත්තේය. අපි රෝ
මයට ආකල සිරේකට නායකයා සිරකා
රයන් සේනාධිපතියාට පාවා දුනේය.
එහෙත් පාවුල්ට ඔහු ප්‍රවේසම්කරන සේ
වායා සමග තනියම සිටින්නට අවසර
ලැබුණේය.
17 තුන් දවසකට පසු පාවුල් යුදෙව්වන්
ගේ ප්‍රධානීන් කැඳවා ඔවුන් රැස්වූකල
ඔවුන්ට කියනුයේ සහෝදරවූ මනුෂ්‍ය
යෙනි සෙනගටවත් අපේ පියවරුන්ගේ
ව්‍යවහාරවලටවත් විරුඬවූ කිසි දෙයක්
නොකල නුමුත් මම සිරකාරයෙකු යෙ
රුසලමෙන් රෝමයන්ගේ අත්වලට පා
18 වාදෙනු ලැබීමි. ඔවුන් මා විචාරා මරණ
යට සුදුසුවූ කිසි දෙයක් මා අත නැති
19 බැවින් මා මුදන්ට කැමතිවූවෝය. නු
මුත් එයට විරුඬව යුදෙව්වරු කථාකල
කල්හි මා විසින් කායිසර්ගේ විනිශ්චය
ඉල්වන්ට යුතුවිය. එසේ නුමුත් මාගේ
ජාතියට කිසි දෝෂයක් තබන පිනිස
20 නොවේය. දැන් මේ කාරණයෙන් නුඹ
ලා දකින්ටද නුඹලා සමග කථාකරන්
ටද නුඹලා කැඳවීමි. මක්නිසාද ඊශ්‍රා
යෙල්ගේ බලාපොරොත්තුවීම පිනිස ම
ම මේ හැකිල්ලෙන් බඳිනු ලැබීමියි කී
21 යේය. ඔවුහු අපි යුදයෙන් නුඹ ගැන ලි
වූම් පත්‍ර නොලැබීමුව ආවාවූ සහෝදර
යන්ගෙන් කවුරුවත් නුඹ ගැන කිසි දෝ
22 සයක් දන්නුවේත් නැත. මේ ලබ්ධිය
ගැන සියළු තැන්හි විරුඬව කථාකරණ
බව අපි දනිමුව එබැවින් නුඹ හිතන
හැටි නුඹෙන් අහන්නට කැමැත්තෙමුය
23 යි කීවෝය. ඔවුන් ඔහුට දවසක් නියම
කොට බොහෝ දෙන ඔහුගේ නවාතැ
නට ආවෝය. ඔහු උදය පටන් සවස ද
ක්වා මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙන්ද අනාග
ත වාක්‍යවලින්ද ජේසුස්වහන්සේ ගැන
කාරණ ඔවුන්ට පිළිගන්වන පිනිස උත්
සාහ කරමින් දෙවියන්වහන්සේගේ රා
ජ්‍යය පෙන්වාදෙමින් තෝරා සාක්ෂිදුන්
24 නේය. කියනලද දේ සමහරෙක් අදහ

25 ගත්තෝය. සමහරෙක් අදහගත්තේ නැ
ත. ඔවුනොවුන් එකඟ නොව එක බ
සක් පාවුල් කී කල්හි පිටත්ව ගියෝය.
26 ඒ බසනම් මේ සෙනඟ කරා ගොස් තො
පි කනින් අසති නුමුත් තේරුම් නොග
නිති ඇසින් දකිති නුමුත් දූතනොගනි
27 තියි කියව. මක්නිසාද ඔවුන් ඇසින්
නොදකින පිනිසත් කනින් නොඅසනා
පිනිසත් හිතෙන් තේරුම් නොගන්නා
පිනිසත් නොහැරෙණ පිනිසත් මා වි
සින් සුවකරනු නොලබන පිනිසත් මේ
ජනයන්ගේ හෘදය දැඩිව කන් හොඳට
නෑසී තමන්ගේ ඇස් පියාගත්තෝයයි
සුධාත්මයානන්වහන්සේ යෙසායියා අ
නාගතවක්තෘ ලවා අපේ පියවරුන්ට ම
28 නාකොට කියවූසේක. එහෙයින් අන්‍ය
ජාතීන්ට දෙවියන්වහන්සේගේ ගැලවී
ම යවනලදූයි නුබලාට දූනේවා. ඔවුන්
29 ඒක අදහාගනිතියි කීයේය. ඔහු මෙසේ
කීකල යුදෙව්වරු ඔවුනොවුන් අතරෙ
හි මහත්වූ වාදයක් කොට අහක්ව ගි
යෝය.
30 පාවුල් ගෙයක් කුලියට ගෙන දෑවුරුද්
දක් මුළුල්ලෙහි ඒ ගෙයි වැස තමන් ල
ඟට එනනාවූ සියල්ලන් පිළිගෙන කිසි
භයක් නැතුව කිසිකෙනෙකුගෙන් වල
31 කනු නොලැබ දෙවියන්වහන්සේගේ
රාජ්‍යය ප්‍රකාසකරමින් ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේ ගැන ඉගැන්නුයේය.

## ප්‍රේරිතවූ පාවුල් විසින් රෝමවාසීන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්වහන්
2 සේගේ මෙහෙකරුවූ ප්‍රේරිතයෙක්
කොට කැඳවනු ලැබූවාවූ දෙවියන්වහන්
සේ විසින් උන්වහන්සේගේ පුත්‍රවූ අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ගැ
3 න අනාගතවක්තෘන් ලවා සුධ ලියවිලි
වල පූර්වයෙහි පොරොන්දුකරවනලද උ
න්වහන්සේගේ සුභාරංචියට වෙන්කරනු
4 ලැබූවාවූ පාවුල් යන මම දෙවියන්වහන්
සේට ප්‍රියවූ සුධවන්තව සිටිනනට කැඳ
වනලද්දාවූ රෝමයෙහි සිටින සියල්ලන්
වෙත ලියා එවමි. අපගේ පියවූ දෙවිය
න්වහන්සේගෙන්ද ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගෙන්ද කරුණාවත් සමාද
5 නයත් නුබලාට වේවා. ඒ යේසුස්වහන්
සේ මාංශාකාරයෙන් දාවිත්ගේ ගෝත්‍ර
යෙන් හටගෙන සුධකමෙහි ආත්මාකා
රයෙන් දෙවියන්වහන්සේගේ පුත්‍රයයි
මලවුන්ගෙන් නැගිටීම කරණකොටගෙ
න බලවත් ලෙස ප්‍රකාසකරනු ලැබූසේ
6 ක. උන්වහන්සේගේ නාමයෙන් සියළු
ජාතීන් අතරේ ඇදහිල්ලට කීකරුකරවී
ම පිනිස උන්වහන්සේගෙන් කරුණාවත්
7 ප්‍රේරිත තනතුරත් අපි ලැබීමුව. ඔවුන්
අතරේ නුබලාද යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ විසින් කැඳවනලද්දෝය.
8 පළමුකොට නුබලාගේ ඇදහිල්ල මුළු
ලෝකයෙහි ප්‍රසිධව තිබෙන නිසා නුබ
ලා සියල්ලන් ගැන යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කරණකොටගෙන මම මාගේ දෙ
9 වියන්වහන්සේට ස්තුති කරමි. මාගේ
යාඥාවල්හි කඩනැතුව නුබලා සිහිකර
මින් දූන්වත් දෙවියන්වහන්සේගේ කැ
මැත්තෙන් නුබලා වෙතට එනනට සඵ
10 ල ගමනක් ලැබෙන ලෙස ඉල්ලන බව
ට තමන් පුත්‍රයානන්වහන්සේගේ සුභා
රංචියෙහි මාගේ ආත්මයෙන් වැඩකරන්
නාවූ දෙවියන්වහන්සේ මට සාක්ෂිකාර
11 යෙක්ය. මක්නිසාද නුබලා ස්ථිරකරනු
ලබන පිනිස නුබලාට යම් කිසි ආත්මික
දානයක් දෙනනට බොහෝසෙසින් නු
12 බලා දක්නා කැමැත්තෙමි. මම මෙසේ
කියනෙන් නුබලාගෙත් මගෙත් එකමුතු
වූ ඇදහිල්ල කරණකොටගෙන අපි ඔ
වුනොවුන්ට සැනසිලල ලැබෙන පිනිස
13 ය. සහෝදරයෙනි ඉතිරි අන්‍යජාතීන් අ
තරෙහි මෙන් නුබලා අතරෙහිද මට
කිසියම් ඵලයක් ලැබෙන පිනිස මම නු
බලා වෙතට එන්ට බොහෝ වර සිතූ
බවත් මේ වන තෙක්ම වලකනු ලැබූ බ
වත් නුබලා නොදැන සිටිනවාට මම කැ
14 මති නැත. මම ග්‍රීක්වරුන්ටත් වනචර
යන්ටත් ඥානවන්තයන්ටත් අඥානයන්
15 ටත් නයකාරයෙක් වෙමි. ඒ නිසා රෝ
මයෙහි සිටිනනාවූ නුබලාටත් මාගේ පු
ළුවන්කමේ හැටියට සුභාරංචිය ප්‍රකාසක

16 රනාට සැදී සිටිමි. ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචියට මම ලැජ්ජා නොවෙමි. මක්
නිසාද ඒක අදහගන්නාවූ සියල්ලන්ටම
ඒනම් පළමුකොට යුදෙව්වන්ටද දෙව
නුව ග්‍රීක්වරුන්ටද ගැලවීම පිණිස දෙවි
17 යන්වහන්සේගේ බලය වන්නේය. කු
මක්හෙයින්ද ධර්මිෂ්ඨයා ඇදහිල්ලෙන් ජී
වත්වේයයි ලියවී තිබෙන ලෙස ඇදහිල්
ලෙන් ඇදහිල්ලට දෙවියන්වහන්සේගේ
ධර්මිෂ්ඨකම එහි එළිදරව්කරනලද්දේය.
18 තවද සැබෑකම අධර්මිෂ්ඨකමින් වළ
ක්වනනාවූ මනුෂ්‍යයන්ගේ සියළු අභක්
තියටද අධර්මිෂ්ඨකමටද විරුද්ධව දෙවිය
න්වහන්සේගේ උදහස ස්වර්ගයෙන් එ
19 ළිදරව් කරණලද්දේය. මක්නිසාද දෙවි
යන්වහන්සේ ගැන දැනගන්නට පුළුවන්
දේ උන්වහන්සේ ඔවුන්ට පෙන්වාදුන්
නිසා ඒ දේ ඔවුන් අතරේ පෙනෙනේන්
20 ය. තවද උන්වහන්සේගේ සදාකාලිකවූ
බලය සහ දෙව්කමද යන උන්වහන්සේ
ගේ අදෘශ්‍යමාන දේ ලෝකය මැවූ තැන්
පටන් මවනලද දේවලින් තේරුම්ගන්
නාලදුව පැහැදිලි ලෙස පෙනී යනේන්
ය. එබැවින් ඔවුන් උත්තරයක් නැතිව
21 සිටිති. මක්නිසාද ඔවුන් දෙවියන්වහන්
සේ ඇඳිනගත්ත් උන්වහන්සේ දෙවියන්
වහන්සේය කියා ගෞරවවත් ස්තුතිවත්
නොකොට තමන්ගේ කල්පනා කරණ
කොටගෙන නිරර්ථක බවට පැමුණු
නෝය. ඔවුන්ගේ අඥානවූ සිත් අඳුරුවි
22 ය. තමන් ප්‍රඥාවන්තයෝයයි කියනනා
වූ ඔවුන් අඥානව ජරාවට නොපැමිනෙ
23 නනාවූ දෙවියන්වහන්සේගේ තේජස ජ
රාවට පැමිනෙනනාවූ මනුෂ්‍ය පක්ෂි සිව්
පා බඩගාන ජාතීන්ගේ රූපවලට සමා
24 නකොට වෙනස් කලෝය. එබැවින්
දෙවියන්වහන්සේගේ සැබෑකම බොරු
වට පෙරලා සදාකල්හිම ප්‍රසංසනීයවූ මැ
වුන්කාරයානන්වහන්සේට වඩා මැවිලි
25 වලට වැඳ නමස්කාර කරමින් මෙහෙ
කලාවූ ඔවුන් තමතමන්ගේ සිත්වල ආ
සාව කරණකොටගෙන තමුතමන්ගේ
ශරීරවලට අවමානන කරගන්නා ලෙස
දෙවියන්වහන්සේ ඔවුන් අපවිත්‍රකමට
හැරියේක.
26 මේ නිසා දෙවියන්වහන්සේ ඔවුන් නී
චවූ කාම තෘෂ්ණාවලට හැරියේක. ඔ
වුන්ගේ ස්ත්‍රීහුද ස්වභා ව්‍යවහාරය අ
ස්වභා ව්‍යවහාරයට වෙනස්කලෝය.
27 එසේම පුරුෂයෝ ස්ත්‍රී සංසර්ගය හැර
ඔවුනොවුන් කෙරෙහි රාගයෙන් වෙනු
පුරුෂයෝ පුරුෂයන් සමග දූෂ්‍ය ක්‍රියා
කරමින් තමන්ගේ වරදවලට සුදුසුවූ
28 ඵල තමන්ම ලැබුවෝය. තවද ඔවුන්
ගේ සිත්වල දෙවියන්වහන්සේ දරා සි
ටින්ට ඔවුන් අකමැතිවූ නිසා ජඩ සිත්
ඇතුව සිටින්ටත් දුශ්චරිතයෙන් හැසි
රෙන්ටත් දෙවියන්වහන්සේ ඔවුන්ට අව
29 කාශ් හැරියේක. ඒකෙසේද ඔවුන් සි
යළු අධර්මිෂ්ඨකමින්ද කාමමිථ්‍යාචාරයෙ
න්ද දුෂ්ඨකමින්ද ලෝභයෙන්ද වෛරයෙ
න්ද සම්පූර්ණව කුඹුකේඩුකමෙන්ද මිනී
මැරීමෙන්ද විරුද්ධකමෙන්ද වංචාකමෙන්ද
30 නපුරුකමින්ද පිරී සිටියෝය. ඔවුන් කෙන
ට කොඳුරනෝව කේලාම්කියනෝ
ව දෙවියන්වහන්සේට වෛරවෙනෝ
ව හිංසාකරනෝව ආඩම්බරකාරයෝව
31 පාරට්ටුකරගන්නෝව නපුරු ක්‍රියා උප
දවන්නෝව මවුපියන්ට අකීකරුවෝව
අඥානයෝව පොරොන්දු කඩකරනෝ
ව ස්වභා ස්නේහ නැත්තෝව සමගිවීමට
අකමැත්තෝව දයා නැත්තෝව සිටිති.
32 මෙබඳුවූ දේ කරනෝ මරණයට සුදුස්
සෝය යන දෙවියන්වහන්සේගේ තීන්දුව
ඔවුන් දැනගත් නුමුත් ඔවුන් ඒ දේ කර
ති එපමනක්නොව ඒ දේ කරනනාන්
කෙරෙහි සතුටුද වෙති.

2. පරිච්ඡේ. එබැවින් විනිශ්චයකර
ණ මනුෂ්‍යය නුඹ කවරෙක් නුමුත් උත්ත
ර නැතිව සිටින්නේය. මක්නිසාද නුඹ
යමක් ගැන අනිකෙක් විනිශ්චය කෙ
රේද විනිශ්චයකරනනාවූ නුඹ එම දේ
කරණ නිසා නුඹටම දෝෂාරෝපනය ක
2 රගන්නේය. නුමුත් මෙබඳු දේ කරන්
නන්ට විරුද්ධව දෙවියන්වහන්සේගේ වි
නිශ්චය සැබෑවේ ප්‍රකාරයට පවත්නා බ
3 ව අපි දනිමුව. මෙබඳු දේ කරනනාවුන්
විනිශ්චය කරමින් එම දේම කරනනාවූ
මනුෂ්‍යය නුඹ දෙවියන්වහන්සේගේ වි
නිශ්චයෙන් ගැලවෙන්නේයයි සිතන්
4 නේද? නොහොත් නුඹ පසුතැවිල්ලට
පමුනුවන පිණිස දෙවියන්වහන්සේගේ
හොඳකම පවත්නා බව නොසලකා නු
බ උන්වහන්සේගේ බොහෝවූ හොඳක
5 මටත් ක්ෂාන්තියටත් බොහෝකල් ඉවසී
මටත් නින්දාකොට නුඹේ පසුතැවිලි නුවූ
දැඩි සිතින් දෙවියන්වහන්සේගේ උද

හසත් ධර්මිෂ්ඨවූ විනිශ්චයත් ප්‍රකාශකර
6 ණ දවසට උදහස රැස්කරනෙන්ද? උන්
වහන්සේ සියලු මනුෂ්‍යයන්ට තමතමන්
ගේ ක්‍රියාවලට සුදුසු විපාක දෙනසේක.
7 නොකඩව යහපත්කම් කරමින් මහිමය
ද ගෞරවයද අමරණභාවයද සොයන්
6 නන්ට සදාකාල ජීවනය දෙනසේක. නු
මුත් සැබෑකමට අකීකරුවූ අධර්මිෂ්ඨ
කමට කීකරුවූ විරුද්ධකාරයන්ට ක්‍රෝධ
9 යත් උදහසත් පැමිනෙනෙනේය. නපුරු
කම් කරනනාවූ සියලු මනුෂ්‍ය ප්‍රානීන්ට
10 ඒනම් පලමු කොට යුදෙව්වන්ටත් දෙ
වනුව ග්‍රීකයන්ටත් දුකත් කනගාටුවත්
11 පැමිනෙනෙනේය. නුමුත් යහපත්කම් ක
රනනාවූ සියලු මනුෂ්‍යයන්ට ඒනම් පලමු
කොට යුදෙව්වන්ටත් දෙවනුව ග්‍රීකයන්
ටත් මහිමයත් ගෞරවයත් සමාදානයත්
පැමිනෙනෙනේය. මක්නිසාද දෙවියන්ව
හන්සේ මනුෂ්‍යයන්ගේ තරාතිරම් නො
12 සලකනසේක. ව්‍යවස්ථාව නැතුව පව්ක
ලාවූ සියල්ලෝ ව්‍යවස්ථාව නැතුව විනා
13 සවෙනවා ඇත. ව්‍යවස්ථාව ඇතුව පව්ක
ලාවූ සියල්ලෝ ව්‍යවස්ථාවෙහි ප්‍රකාරයට
14 විනිශ්චයකරනු ලබනවා ඇත. තවද ව්‍ය
වස්ථාව අහන්නෝ දෙවියන්වහන්සේ
ගේ ඉදිරියෙහි ධර්මිෂ්ඨයෝ නොවෙති.
එහෙත් ව්‍යවස්ථාව පවත්වන්නෝ ධර්මිෂ්
15 ඨ කොට ගනන්ගනු ලබනවා ඇත. මක්
නිසාද ව්‍යවස්ථාව නොලැබූවාවූ අන්‍ය
ජාතීහු ස්වභාවෙන්ම ව්‍යවස්ථාවෙහි නි
යමකර තිබෙන දේ කරණ කල ව්‍යව
ස්ථාව නොලැබූවාවූ ඔවුන් තමන්ටම ව්‍ය
16 වස්ථාවක සිටිති. ඔවුන්ගේ හෘදය සාක්ෂි
දීමෙනුද ඔවුන්ගේ සිතිවිලි ඔවුනොවුන්
ට දෝෂාරෝපනය කිරීමෙන්ද නිර්දෝෂ
කිරීමෙන්ද ඔවුන්ගේ සිත්වල ව්‍යවස්ථා
වෙහි තත්වය තිබෙන බව දක්වන ල
ද්දේය. මා විසින් ප්‍රකාශකල සුභාරංචියේ
ප්‍රකාරයට දෙවියන්වහන්සේ ක්‍රිස්තුස්ව
හන්සේ ලවා මනුෂ්‍යයන්ගේ රහස් වි
නිශ්චයකරණ දවසේදී මේ කාරණ සි
ධවන්නේය.
17 නුබ යුදෙව්වෙකැයි කියනලදුව ව්‍ය
වස්ථාවෙහි විශ්වාසකොට දෙවියන්වහන්
18 සේ ගැන අහංකාර වනෙන්ය. ව්‍යවස්ථා
වෙන් උගන්වනලදුව උන්වහන්සේගේ
කැමැත්ත දැන වඩා උතුම් කාරණ පිලි
19 ගනෙන්ය. නුබ ව්‍යවස්ථාවේ පවත්නා
වූ දැනගැනීමේද සැබෑකමේද ආකාරය
ඇතුව අන්ධයන්ට මග පෙන්වන්නෙක්ව
20 අඳුරෙහි සිටිනනන්ට එලියක්ව අඥාන
යන්ට ගුරුකෙනෙක්ව බාලයන්ට ඉ
ගැන්නුම්කාරයෙක්ව සිටිනෙන්යයි නි
21 සැකව සිතන්නේය. එසේහෙයින් අ
නුන්ට උගන්වනනාවූ නුබ නුබටම උග
න්වානොගනීද? සොරකම් නොකරන්
නැයි ප්‍රකාශකරනනාවූ නුබ සොරකම්
22 කරනෙන්ද? පරදාර නොකරනැයි කි
යනනාවූ නුබ පරදාර කරන්නේද? දේ
ව රූපවලට පිලිකුල් කරනනාවූ නුබ
දේව සන්තක දේ හොරකම් කරනෙන්
23 ද? ව්‍යවස්ථාව ගැන පාරට්ටුකරගනනා
වූ නුබ ව්‍යවස්ථාව කඩකිරීමෙන් දෙවි
යන්වහන්සේට අගෞරව කරනෙන්ද?
24 මක්නිසාද ලියා තිබෙන ප්‍රකාරයට නු
බලා කරණකොටගෙන අන්‍යජාතීන් අ
තරෙහි දෙවියන්වහන්සේගේ නාමය
25 අපහාස කරණලද්දේය. නුබ ව්‍යවස්ථාව
රක්ෂාකරනෙන්නම් චර්මඡේදයෙන් නු
බට ප්‍රයෝජන ඇත. නුමුත් නුබ ව්‍යව
ස්ථාව කඩකරනෙන්නම් නුබේ චර්මඡේ
26 දය අචර්මඡේදයක් වේස්. එබැවින් ච
ර්මඡේදය නොවූ තැනැත්තේ ව්‍යවස්ථා
වෙහි නියෝගවල් පවත්වන්නේනම් ඔ
හුගේ අචර්මඡේදය චර්මඡේදය වශ
27 යෙන් ගනන්ගනු නොලබනෙන්ද? ස්ව
භාවෙන් අචර්මඡේදවූ තැනැත්තේ ව්‍ය
වස්ථාව රක්ෂාකරනෙන්නම් ව්‍යවස්ථාවේ
ලියවිල්ලේ ප්‍රකාරයට චර්මඡේදයව සිටි
න නුමුත් ව්‍යවස්ථාව කඩකරනනාවූ නු
28 බ වරදට පත්නොකරනෙන්ද? මක්නි
සාද පෙනීමට පමනක් යුදෙව්වෙකුව සි
ටිනනා යුදෙව්වෙක් නොවේය. මාංශයේ
පෙනෙනනාවූ චර්මඡේදය චර්මඡේදය
29 නොවේය. සිතින් යුදෙව්වෙක්ව සිටින්
නා යුදෙව්වෙක්ම වේ චර්මඡේදයනම්
ආත්මික ලෙස සිතින් වෙනනාවූ චර්
මඡේදයම මිස ව්‍යවස්ථාවේ ලියවිල්ලේ ප්‍ර
කාරයට පවතින චර්මඡේදය නොවේ
ය. එහි ප්‍රසංසාව මනුෂ්‍යයන්ගෙන් නො
ව දෙවියන්වහන්සේගෙන් වේ.

3. පරිච්ඡේ. එසේවීනම් යුදෙව්වන්ට
ඇති උතුම්කම මොකද? චර්මඡේද
2 යෙන් ඇති ප්‍රයෝජන කිමෙක්ද? සිය
ලු ආකාරයෙන් බොහෝය. ප්‍රධානකො
ට දෙවියන්වහන්සේගේ නියෝගවල්
3 ඔවුන්ට බාරදුන් බැවින. කිමෙක්ද?

ඔවුන්ගෙන් සමහර කෙනෙක් නොඇ
දහුනම් ඔවුන්ගේ නොඇදහිලිකම නි
සා දෙවියන්වහන්සේගේ විශ්වාසකම
4 නැතිවේද? එසේ නොවේවා. ඔබව
හන්සේගේ වාක්‍යවලින් නිර්දෝෂවෙන
පිණිසත් විනිශ්චයකරණකල ජයගන්නා
පිණිසත්යයි ලියා තිබෙනලෙස සියළු ම
නුෂ්‍යයෝ බොරුකාරයෝ වූනත් දෙවි
යන්වහන්සේ සැබෑ කෙනෙක් බව පෙ
5 නේවා. නුමුත් අපේ අධර්මිෂ්ටකමෙන්
දෙවියන්වහන්සේගේ ධර්මිෂ්ටකම ප්‍ර
සිද්ධකරණු ලැබේනම් අපි මක් කියමුද?
මම මනුෂ්‍යයෙක් ලෙස කථාකරමි පලි
ගන්නාවූ දෙවියන්වහන්සේ අධර්මිෂ්ට
6 කෙනෙක්ද? එසේ නොවේවා. එසේ
වූවොත් දෙවියන්වහන්සේ ලෝකය වි
7 නිශ්චයකරන්නේ කොහොමද? තව
ද දෙවියන්වහන්සේගේ මහිමය පිණිස
උන්වහන්සේගේ සැබෑකම මාගේ බො
රුවෙන් වැඩිවූයේනම් මම පව්කාර
යෙක් කොට විනිශ්චයකරණු ලබනෙත්
8 මක්නිසාද? තවද හොඳ සිද්ධවීම පිණිස
නරක කරමුයයි නොකියනෙත් මක්නි
සාද? එසේ කියනවාය කියා සමහරු අ
පට නින්දා පිණිස කියති. මෙසේ කියන්
9 නවුන් දඬුවමට පැමිනීම යුතුය. එසේ
වීනම් අපි ඔවුන්ට වඩා උතුම්ද? මුළුම
නෙම්ම නැත. මක්නිසාද යුදෙව්වරුද
ග්‍රීක්වරුද යන සියල්ලෝ පාපයට යටත්
ව සිටින බව අපි පලමු පෙන්වාදුනෙන
10 මුව. මෙසේම ලියා තිබෙනේය එනම්
ධර්මිෂ්ට කෙනෙක් නැත එකෙක්වත්
11 නැත. තේරුම් ගන්නාවූ එකෙකුත් නැ
ත. දෙවියන්වහන්සේ සොයන්නාවූ එ
12 කෙක්වත් නැත. ඔවුන් සියල්ලෝම මං
මුලාව ගියෝය. ඔවුන් ඒකාකාරම නිස්
ප්‍රයෝජන වූවෝය. යහපත්කම් කරන්
13 නෙක් නැත. එකෙක්වත් නැත. ඔවුන්
ගේ උගුර විවරවූ සොහොන් ගෙයක.
ඔවුන් තමන්ගේ දිව්වලින් රැවටිලි ක
ථාකලෝය. ඔවුන්ගේ තොල් යට සර්ප
14 විස ඇතෙත්ය. ඔවුන්ගේ කටවල් ශාප
කිරීමෙනුත් පරුෂ වචනයෙනුත් පිරී තිබෙ
15 නෙත්ය. ඔවුන්ගේ පාද ලේ වැගිරීමට
16 යුහුවෙති. ඔවුන්ගේ මාර්ගවල නාසති
17 යද කාලකන්නිකමද තිබෙනෙත්ය. ස
මාදානයෙහි මාර්ගවල් ඔවුන් දනෙත්
18 නැත. ඔවුන්ගේ ඇස් ඉදිරියෙහි දෙවි
යන්වහන්සේ කෙරෙහි භයක් නැතැයි
19 යුතුය. තවද සියල්ලන්ගේ කටවල් පිය
වෙන පිණිසද මුළු ලෝකයා දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි දඬුවමට යෝග්‍යවෙ
න පිණිසද ව්‍යවස්ථාවෙහි කියනලද සිය
ල්ලම ව්‍යවස්ථාවට ඇතුලත්වූවන්ට කිය
නලද්දේයයි දනිමුව.
20 තවද ව්‍යවස්ථාව කරණකොටගෙන
පව් ඇඳිනගැන්ම වන බැවින් කවර ම
නුෂ්‍යයෙකුත් ව්‍යවස්ථාවේ ක්‍රියාවලින්
දෙවියන්වහන්සේගේ ඉදිරියෙහි ධර්මි
ෂ්ටකොට ගනන්ගනු නොලබන්නේය.
21 දැන් ව්‍යවස්ථාව නැතුව දෙවියන්වහන්
සේගේ ධර්මිෂ්ටකම ව්‍යවස්ථාව සහ අනා
ගතවාක්‍යවලිනුත් සාක්ෂි ලැබ ප්‍රකාශකර
22 ණලදේය ඒනම් යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි ඇදහිල්ල කරණකොට
ගෙන අදහගන්නාවූ සියල්ලන්වද සිය
ල්ලන් කෙරෙහිද ප්‍රභේදයක් නැතුව ප
වත්නාවූ දෙවියන්වහන්සේගේ ධර්මිෂ්ට
23 කමය. සියල්ලෝම පව්කොට දෙවියන්ව
හන්සේගෙන් ලත් තේජස් හීනව සිටින
24 හෙයින් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි පවතිනනාවූ මිදීම කරණකොට
ගෙන දෙවියන්වහන්සේගේ කරුණා
වෙන්ම ඔවුන් නිකමට ධර්මිෂ්ටකොට
25 ගනන් ගන්නාලද්දෝ වෙති. දෙවියන්ව
හන්සේ තමන්වහන්සේගේ ඉවසීමෙන්
පසුගියාවූ පව් ක්ෂමාකිරීම ගැන තමන්ව
හන්සේගේ ධර්මිෂ්ටකම දක්වන්ට ක්‍රිස්තු
ස්වහන්සේගේ ලෙය කෙරෙහි ඇදහිල්
ල කරණකොටගෙන උන්වහන්සේ පව්
නසන පූජාවක් කොට පෙන්වා සිටිසේක.
26 දෙවියන්වහන්සේ මෙසේ කලේ උන්ව
හන්සේ ධර්මිෂ්ටකෙනෙක් හා යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි අදහන තැ
නැත්තා ධර්මිෂ්ටකොට ගනන් ගන්නා
කෙනෙක්ද වෙන පිණිස මේ කාලයේ
දී තමන්වහන්සේගේ ධර්මිෂ්ටකම ප්‍රකා
ශකරණ පිණිසය. එසේවීනම් පාරට්ටුක
27 රගැනීම කොයිද? එය බැහැර කරණ
ලදේය. මොන ව්‍යවස්ථාවෙනුද? ක්‍රියාව
ල ව්‍යවස්ථාවෙනුද? නැත ඇදහිලේ ව්‍ය
28 වස්ථාවෙන්ය. එහෙයින් මනුෂ්‍යයෙක්
ව්‍යවස්ථාවෙහි ක්‍රියාවලින් වෙන්ව ඇද
හිල්ලෙන් ධර්මිෂ්ටකොට ගනන්ගන්නා
29 ලදේයයි අපි තීන්දුකොට කියමුව. දෙ
වියන්වහන්සේ යුදෙව්වන්ගේ පමනක්
දෙවියන්වහන්සේද? අන්‍යජාතීන්ගේත්
දෙවියන්වහන්සේ නොවේද? එසේය

11 ජේදැයි බලාගනිවා. තෙලාතිබෙනනා
වූ අත්තිවාරම මිස වෙන අත්තිවාරමක්
තෙළන්ට කාටවත් බැරිය ඒ අත්තිවාර
12 මනම් යේසුස් ක්‍රිස්තුස්වහන්සේය. ඉදින්
කිසිවෙක් ඒ අත්තිවාරම පිට රන් රිදී
මැණික් ලී තණ පිදුරු ගොඩනගනොත්
නම් එකඑකාගේ කර්මාන්තය ප්‍රකාශ
13 කරනු ලැබේ. මක්නිසාද ගින්නෙන් එ
ළිදරව්කරණ දවසේදී එකඑකාගේ ක
ර්මාන්තය කොයි ආකාරදැයි ගින්නෙන්
14 පරීක්ෂාකරනු ලැබ ප්‍රකාශවේ. එහි ගො
ඩනැගුවාවූ යම් කෙනෙකුගේ කර්මාන්
තය පවතීනම් ඔහු විපාකය ලබනෙන්
15 ය. යම් කෙනෙකුගේ කර්මාන්තය දැ ගි
යේනම් ඔහුට අලාභවන්නේය. නුමුත්
ගින්නෙන් ඇදලා ගත්තාක්මෙන් ඔහුම
16 ගැලවෙයි. නුබලා දෙවියන්වහන්සේගේ
මාලිගාව බවද දේවාත්මයානන්වහන්
සේ නුබලා තුලෙහි වාසයකරණ බවද
17 නොදනිද්ද? යමෙක් දෙවියන්වහන්
සේගේ මාලිගාව නාස්තිකරන්නේනම්
දෙවියන්වහන්සේ ඔහු නාස්තිකරණසේ
ක. මක්නිසාද දෙවියන්වහන්සේගේ මා
ලිගාව පිරිසිදුය ඒ මාලිගාව නුබලාමය.
18 කිසිවෙක් තමාම රවටා නොගනිවා නු
බලා අතරෙහි යමෙක් මෙලොව ගැන
තමාම ඥානවන්තයෙකැයි කල්පනා ක
19 රන්නේනම් ඔහු ඥානවන්තයෙක් වෙ
න පිනිස අඥානයෙක් වේවා. මක්නිසා
ද මේ ලෝකයෙහි ඥානය දෙවියන්ව
හන්සේට මෝඩකමක්කොට පෙනෙන්
නේය. එලෙසම ඥානවන්තයන් ඔවුන්
ගේම ප්‍රයෝගයෙන් උන්වහන්සේ අල්
ලාගන්නාසේකැයි ලියා තිබෙන්නේය
20 නැවතද ස්වාමින්වහන්සේ ඥානවන්ත
යන්ගේ සිතිවිලි නිස්ඵලව තිබෙන බව
දන්නාසේකැයි ලියා තිබෙන්නේය.
21 එහෙයින් කවරෙක්වත් මනුෂ්‍යයන්
22 ගැන ගරුකම් කථාකොටකෙරේවා. මක්
නිසාද සියල්ල නුබලාගේය. පාවුල් හෝ
අපොල්ලොස් හෝ කේපස් හෝ ලෝ
කය හෝ ජීවනය හෝ මරණය හෝ
දැන් පවතින දේ හෝ මතු පැමිනෙන
23 දේ හෝ සියල්ල නුබලාගේය. නුබලා
ද ක්‍රිස්තුස්වහන්සේගේය. ක්‍රිස්තුස්වහන්
සේද දෙවියන්වහන්සේගේය.

4. පරිච්ඡේ. මනුෂ්‍යයෝ අප ක්‍රිස්තුස්
වහන්සේගේ සේවකයන් වශයෙන්ද
දෙවියන්වහන්සේගේ රහස්වල ගබඩා
2 කාරයන් වශයෙන්ද සිතන්වා. තවද ග
බඩාකාරයන් විසින් විශ්වාසව සිටිය යු
3 තුය. එහෙත් මම නුබලා විසින්වත් ම
නුෂ්‍ය විනිශ්චයෙන්වත් විනිශ්චයකරනු
ලබම්නම් ඒ මට වැදගත් දෙයක් නො
වේ මමම මා විනිශ්චය නොකෙරෙමි.
4 මා අත කිසි දෝෂයක් ඇති බව නොද
නිමි. එසේ නුමුත් එසේ නොදැන්මෙන්
මම නිර්දෝෂ නොවෙමි. මා විනිශ්චයක
රණ තැනැත්තේනම් ස්වාමින්වහන්සේ
5 ය. එහෙයින් ස්වාමින්වහන්සේ එනතුරු
කාලයට පලමුවෙන් කිසිවක් විනිශ්චය
නොකරල්ලාය. උන්වහන්සේ අන්ධකා
රයේ සැඟවුනු දේ ප්‍රකාශකොට හෘද සි
තිවිලි ප්‍රසිද්ධකරනසේක. එවිට දෙවිය
න්වහන්සේ කෙරෙන් එක එකා ප්‍රසංසා
6 ලබනෙන්ය. සහෝදරයෙනි ලියා තිබෙ
න තරමට වඩා යමෙක් ගැන නොසිත
න පිනිස නුබලා අප කෙරෙන් ඉගන
ගන්ටද නුබලාගෙන් කිසිවෙක් එකෙ
කු නිසා අනිකෙකුට විරුද්ධව උඩඟු නො
වෙන්ටද නුබලා උදෙසා මා හා අපොල්
ලොස්ද උපමාකොට මේ කාරණ කීමි.
7 මක්නිසාද නුබලා වෙනස්කරනොත් ක
වරෙක්ද? නොහොත් නුබට තිබෙන
දෙයින් අනිකෙකුගෙන් නොලැබුවේ
කිමෙක්ද? ඉදින් ලැබුයේනම් නොලැබු
කෙනෙක් මෙන් ගරුකම් කරගනෙන්
මක්නිසාද?
8 දැන් නුබලා සම්පූර්ණව සිටිති දැන්
නුබලා වස්තුකාරයෝ වෙති අප නැතු
ව නුබලා රජකම්කලෝය. නුමුත් නුබ
ලා සමඟ අප විසිනුත් රජකම් කරණ පි
නිස නුබලා රජකම් කරන්නම් යහපත.
9 නුමුත් අපි ලෝකයට හෙවත් දේවදූත
යන්ටද මනුෂ්‍යයන්ටද ක්‍රීඩාවක්ව වූ
නෙමුව. එබැවින් දෙවියන්වහන්සේ
ප්‍රේරිතවූ අප මරණයට නියෝග කල
වුන්මෙන් අන්තිමව දැක්වූසේකැයි සි
10 තමි. ක්‍රිස්තුස්වහන්සේ නිසා අපි මෝඩ
යෝය නුමුත් නුබලා ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි නුවනැත්තෝය. අපි දුර්වල
යෝය නුමුත් නුබලා බලවන්තයෝය.
11 නුබලා නම්බුකාරයෝය නුමුත් අපි නින්
දිතයෝය. මේ දක්වාම බඩගිනිද පිපාස
ද විඳ හිනවස්ත්‍ර ඇඳ පහර ලැබ නියම වා
12 සස්ථාන නැතුව සිටිමුව. අපේම අතින්
කර්මාන්තකොට වෙහෙස ගනිමුව.

13 නින්ද ලබනකල ආශීර්වාදකරමුව. පී
ඩා ලබනකල ඉවසමුව. මෙළාදැකීම ල
බනකල එසේ නොකරණලෙස ඉල්ලමු
ව. අද දක්වා ලෝකයෙහි කුණුමෙන් සි
යල්ලෙහි කසලමෙන් කරනුලබමුව.
14 මේ දේ තුබලා ලැජ්ජාකරණ පිනිස
නොව මාගේ ප්‍රිය පුත්‍රයන්ට මෙන් තු
බලාට දැනමුතුකම්දෙන පිනිස ලියමි.
15 මක්නිසාද තුහාරච්ය කරණකොටගෙ
න ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි
මම තුබලා උත්පාද කලබැවින් ක්‍රිස්තුස්
වහන්සේ කෙරෙහි දසදහසක් උගන්ව
නොතා ඇතිනමුත් බොහෝ පියවරු තු
16 බලාට නැත්තේය. එහෙයින් මගේ අ
ඩිපාරේ එනමෙන් තුබලාගෙන් ඉල්ල
17 මි. මේ කාරණාව නිසා ස්වාමින්වහන්සේ
කෙරෙහි විස්වාවූ මාගේ ප්‍රිය පුත්‍රවූ ති
මෝතියස් තුබලා ලඟට එව්මි. මම සිය
ළු තැන්වල සියළු සභාවලදී උගන්වන
ලෙස ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇත්
18 තාවූ මාගේ මාර්ගවල් ඔහු තුබලාට සි
හිකරවන්නේය. සමහරු මම තුබලා
වෙතට එන්නේ නැතකියා අහංකාර
19 වෙති. තුමූත් ස්වාමින්වහන්සේ කැම
තිසේක්නම් මම තුබලා ලඟට වහාම
ඇවිත් අහංකාරවූවන්ගේ වචන පම
20 නක් නොව බලයද දැනගනිමි. මක්නි
සාද දෙවියන්වහන්සේගේ රාජ්‍යය බල
21 යෙන් මිස වචනයෙන් නොවේය. තුබ
ලා කුමක් කැමතිද? තුබලා ලඟට වේ
වැල අරන් එම්ද? නොහොත් ප්‍රේමයෙ
නුත් මුදු සිතිනුත් එම්ද?

5. පරිච්ජ. තුබලා අතරෙහි මිථ්‍යා
චාරය ඇතැයි හරියටම ආරච්ය ඒනම්
යමෙක් තමාගේ පියාගේ භාර්‍ය්‍යාව ත
බාගන්නේයයි අන්‍යජාතීන් අතරෙහි ප
2 වා නැතතාවූ මිථ්‍යාචාරයෙක. මේ ක්‍රියා
ව කල තැනැත්තා ගැන තුබලාගෙන්
වෙන් කරන්ට ඕනෑව තිබෙද්දී තුබලා
3 අහංකාරවූවෝය. මම ශරීරයෙන් දුරුව
සිටින තුමූත් ආත්මයෙන් ලඟව සිට මේ
ක්‍රියාව කල තැනැත්තා ගැන ලඟ සිටි
4 යාක්මෙන්ම මෙසේ නියම කලෙමි. එ
නම් අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමයෙන් තුබලාද මාගේ ආත්
5 මයද රැස්වූකල මෙබඳුවූ තැනැත්තාගේ
ආත්මය ස්වාමිවූ යේසුස්වහන්සේගේ ද
වසේදී ගැලවෙන පිනිස අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ බලයෙන්
ඔහුගේ ශරීරය විනාසවීමට ඔහු සාතන්
ට පාවාදෙන්ට නියමකෙලෙමි.
6 තුබලාගේ ගරුකම් කරගැනීම හො
ඳ නැත. මුහුන් විකෙන් මුළු පිඩ පිපෙන
7 බව නොදනිද්ද? එබැවින් මුහුන් නැත්
තාවූ තුබලා අළුත් පිඩක් වෙන පිනිස
පරණ මුහුන් පහකරපල්ලාය. ක්‍රිස්තුස්
නම් අපගේ පාස්කුමංගල්‍ය බැටළුපැටි
8 යා අප නිසා යාගකරණලද්දේය. එබැ
වින් පරණ මුහුන්වලින් නපුරු අදහ
සද දුෂ්ටකමද නැමති මුහුන්වලින්වත්
මංගල්‍යය නොපවත්වා සාධාරණකම ස
හ සැබෑකමද නැමති මුහුන් නුමූහු රො
ටියෙන් මංගල්‍යය පවත්වමුව.
9 මිථ්‍යාචාරිකයන් සමග සමාගම් නො
වෙන්ට මා විසින් එව් ලියමනක ලියා
10 ඇත. එසේවීනමුත් මේ ලෝකයෙහි මි
ථ්‍යාචාරිකයන්වත් ලෝභයින්වත් කො
ල්ලකාරයින්වත් රූපවලට පුදනතනවත්
සමග සියළු ආකාරයෙන් සමාගම් නො
වෙන්ට නොලිවූයෙමි. එසේ කලොත්
තුබලා ලෝකයෙන් අහක්ව යන්ට ඕ
11 නෑය. තුමූත් සහෝදරයෙකැයි කියන
ලද අය මිථ්‍යාචාරිකයෙකුවත් ලෝභයෙ
කුවත් රූපවලට පුදනෙනක්වත් නින්ද
කරනෙනක්වත් බේබද්දෙක්වත් කො
ල්ලකාරයෙක්වත් වේනම් එයාකාර තැ
නැත්තා සමග සමාගම් නොවෙන්ටද
කෑමවත් නොකන්ටද තුබලාට ලිව්මි.
12 පිටත සිටිනතවුන් විනිශ්චයකරන්ට ම
ට කම මොකද? ඇතුලෙහි සිටිනතන්
13 තුබලා විනිශ්චය නොකරනෙනාද? පි
ටත සිටිනතන් දෙවියන්වහන්සේ විනිශ්
චය කරණසේක. එබැවින් ඒ දුර්ජනයා
තුබලා අතරෙන් පහකරපල්ලාය.

6. පරිච්ජ. තුබලා අතරෙහි යමෙකු
ට අනිකෙකු සමග යුක්තියක් ඇත්නම්
ඔහු සුධවන්තයන් වෙතට නොගොස්
අධර්මිෂ්ඨයන් ඉදිරියෙහි නඩු කියන්ට
2 සිතාද? සුධවන්තයෝ ලෝකයා විනිශ්
චය කරතියි නොදනිද්ද? ඉදින් ලෝක
යා තුබලාගෙන් විනිශ්චය කරනුලබත්
නේනම් ඉතා සුළු කාරණ විනිශ්චයක
3 රන්ට තුබලාට යුතු නැද්ද? අපි දූතයන්
විනිශ්චය කරමුයයි තුබලා නොදනිද්
ද? මේ ලෝකයට අයිති දේ විනිශ්චය
කරන්ට කොපමන වඩා සමතී නොවෙ

4 මුද? එසේවීනම් මේ ලෝකයට අයිති
දේ ගැන තුබලාට යුක්ති ඇත්නම් ඒ
වා විනිශ්වය කරන්ට සභාවෙහි කුඩා
5 ඇත්තන් නියමකරපල්ලාය. තුබලාට
ලැජ්ජ උපදවන පිනිස මෙසේ කිය
මි. කිමෙක්ද තමන්ගේ සහෝදරයන්
අතරේ විනිශ්වය කරන්ට සමත්වූ එක්
නුවන ඇත්තෙක් තුබලා අතරෙහි නැ
6 ද්ද? සහෝදරයා සමග සහෝදරයා
යුක්ති කියන්නේය ඒත් ඇදහිල්ල නැ
7 ත්තන් ඉදිරියෙහිය. එහෙයින් ඔවුනො
වුන් සමග තුබලාගේ නඩු කීම තුබලා
8 අතරෙහි වරදක්මය. එසේ නොකොට
අවනඩු සහ අලාභ නොඉවසන්නේ ම
න්ද? නුමුත් තුබලා අවනඩුත් අලාභයත්
9 කරති ඒත් සහෝදරයන්ටය. අධර්මි
ෂ්ඨයෝ දෙවියන්වහන්සේගේ රාජ්‍යය
හිමිනොවෙන බව තුබලා නොදනිද්
ද? මුලානොවෙල්ලාය වේශ්‍යා ක්‍රියාකා
10 රයොත් රූප අදහනනොත් පරදාරික
යොත් ස්ත්‍රීන් ලෙස හැසිරෙනනොත් පු
රුෂයන් සමග අනාචාර කරන්නොත් හො
රුත් ලෝභයොත් බීමත්කාරයොත් නි
න්‍දාකරනනොත් කොල්ලකනනොත් දෙ
වියන්වහන්සේගේ රාජ්‍යය හිමිනො
වෙති.
11 තුබලා අතරෙහි සමහරු එයාකාර
තැනැත්තෝව සිටියෝය. නුමුත් දූන්
ස්වාමිවූ යේසුස්වහන්සේගේ නාමයෙන්ද
අපගේ දෙවියන්වහන්සේගේ ආත්මයෙ
න්ද තුබලා සෝදනු ලැබුවෝය පිරිසිදු
කරනු ලැබුවෝය නිර්දෝෂකරනු ලැබු
12 වෝය. සියළු ආකාර කෑම මට කැපය නු
මුත් සියළු කෑම ඔබිනොත් නැත. සියළු
ආකාර කෑම මට කැපය නුමුත් මම කිසි
13 වකට වසඟනොවෙමි. බඩට කෑමද කෑ
මට බඩද ඔබිනෙන්ය. නුමුත් දෙවියන්
වහන්සේ ඒ දෙකම නැතිකරණසේක.
ශරීරය ස්වාමිනවහන්සේ පිනිස මිස වේ
ශ්‍යාකම පිනිස නොවේය ස්වාමිනවහන්
14 සේද ශරීරය පිනිස සිටිනසේක. දෙවිය
නවහන්සේ ස්වාමිනවහන්සේ නැගිටෙව්
සේක අපද තමන්වහන්සේගේම බල
15 යෙන් නැගුටුවනසේක. තුබලාගේ ශ
රීරය ක්‍රිස්තුස්වහන්සේගේ අවයවයයි
නොදනිද්ද? එසේවීනම් ක්‍රිස්තුස්වහන්
සේගේ අවයව අරගෙන වේශ්‍යාවක
ගේ අවයව කෙරෙම්ද? එසේ නොවේ
16 වා. මක්නිසාද දෙදෙනම එක ශරීර වෙ
තියි උන්වහන්සේ කිබැවින් වේශ්‍යාව
කට එක්වූ තැනැත්තෙත් එකම ශරීරයයි
17 නොදනිද්ද? නුමුත් ස්වාමීන්වහන්සේ
ට එක්වූ තැනැත්තෙත් එකම ආත්මය වේ.
18 වේශ්‍යාකමින් පහවෙයල්ලාය. මනුෂ්‍ය
යා කරනනාවූ සියළු පාපය ශරීරයෙන්
පිටතය නුමුත් වේශ්‍යාකම් කරණ තැ
නැත්තෙ තමාගේම ශරීරයට එදිරිව
19 පව්කරනෙන්ය. කිමෙක්ද? තුබලාගේ
ශරීරය දෙවියනවහන්සේගෙන් ලැබුවා
වූ තුබලා ඇතුලෙහි ඇත්තාවූ ශුද්ධාත්ම
යානනවහන්සේගේ මාලිගාව බවද තුබ
ලා මිලේට ගත් නිසා තුබලා තුබලාටම
20 අයිති නැතිබවද නොදනිද්ද? එබැවින්
දෙවියනවහන්සේට අයිතිවූ තුබලාගේ
ශරීරයෙන්ද තුබලාගේ ආත්මයෙන්ද දෙ
වි:නවහන්සේට ගෞරව කරපල්ලාය.

7. පරිච්ජ. තුබලා විසින් මට ලියන
ලද කාරණ ගැනය. ස්ත්‍රී සංසර්ග නො
කෙරීම මනුෂ්‍යයාට යහපත එසේවී නු
2 මුත් වේශ්‍යාකමෙන් වැලකෙන පිනිස
එක එක පුරුෂයාට තමතමාගේම භා
ර්‍යාවද එක එක ස්ත්‍රීයට තම තමාගේම
3 පුරුෂයාද වේවා පුරුෂයා භාර්‍යාවට සුදුසුවූ
ප්‍රීතිය පවත්වාවා භාර්‍යාවත් පුරුෂයාට එ
4 සේමය. පුරුෂයා මිස භාර්‍යාවට තමාගේ
ශරීරය කෙරෙහි බලය ඇතොත් නැත
එසේම භාර්‍යාව මිස පුරුෂයාට තමාගේ
ශරීරය කෙරෙහි බලය ඇතොත් නැත.
5 දෙදෙනාගේ කැමැත්තෙන් මද කලක්
නිරාහාරයෙන් සිටීමටද යාඥාවටද අව
කාශ ලැබෙන පිනිස මිස වෙන්ව නො
සිටිල්ලාය. තුබලාට කාමයෙන් වැලකී
සිටින්ට නුපුළුවන් හෙයින් සාතන් විසින්
නුබලා පරීක්ෂාකරනු නොලබන පිනිස
6 නැවත එක්වෙයල්ලාය. නුමුත් මේ කී
ම මම ආඥාවක්කොට නොව අවසරයක්
7 කොට කියමි. සියළු මනුෂ්‍යයෝ මා ලෙ
ස වූවොත් කැමැත්තෙමි. නුමුත් එකෙක්
මේ ප්‍රකාරයටද අනිකෙක් ඒ ප්‍රකාරයට
ද එක එක මනුෂ්‍යයාට දෙවියන්වහන්
8 සේගෙන් නියම වරය ඇතොත්ය. එහෙ
යින් අවිවාහකයෝද වැන්දඹුවෝද මා
ලෙස සිටිත්නම් ඔවුන්ට යහපතැයි කිය
9 මි. නුමුත් කාමදූහයට වඩා විවාහය හො
ද නිසා ඉවුන්ට වැලකී සිටින්ට බැරිනම්
10 විවාහ කෙරෙත්වා විවාහ කලවුන්ට ආ
ඥාකරමි නුමුත් මම නොව ස්වාමිනවහන්

11 සේ ආඥාකරණසේක. කෙසේද භාර්‍යා
ව පුරුෂයා කෙරෙන් අහක්ව නොයේවා.
නුමුත් ඈ අහක්ව ගියානම් විවාහ නො
කොට සිටීවා නොහොත් ඈගේ පුරුෂයා
සමග නැවත එක්වේවා. පුරුෂයාද තමන්
භාර්‍යාව අත්නොහරීවා.
12 සෙස්සන්ට ස්වාමීන්වහන්සේ නොව
මම කියමි. යම් සහෝදරයෙකුට ඇදහි
ලි නැත්තාවූ භාර්‍යාවක් ඇත්නම් ඈ
ඔහු සමග සිටින්ට කැමතිනම් ඔහු ඈ
13 නොඅරීවා. යම් ස්ත්‍රියකට ඇදහිලි නැ
ත්තාවූ පුරුෂයෙක් ඇත්නම් ඔහු ඈ හා
සමග සිටින්ට කැමතිනම් ඈ ඔහු නො
14 හරීවා. මක්නිසාද ඇදහිලි නැත්තාවූ පු
රුෂයා භාර්‍යාව කරණකොටගෙන පිරිසි
දුකරණලද්දේය ඇදහිලි නැත්තාවූ භා
ර්‍යාවද පුරුෂයා කරණකොටගෙන පිරිසි
දුකරණලද්දීය. එසේනුවූවොත් නුබලා
ගේ දරුවෝ අපිරිසිදුය. නුමුත් දැන් ඔ
15 වුන් පිරිසිදුය. ඇදහිලි නැති තැනැත්
තේ අහක යේනම් අහක යේවා. මෙ
බඳුවූ කාරණාවලදී සහෝදරියක්වත්
සහෝදරයෙක්වත් බැඳී සිටිනේ නැ
ත. එසේ නුමුත් දෙවියන්වහන්සේ සම
16 ගිතාවට අප කැඳවූසේක. මක්නිසාද එ
මා භාර්‍යාව නුබේ පුරුෂයා නුබ විසින් ග
ලවනු ලබන්නේයයි දන්නේ කොහො
මද? නොහොත් පුරුෂය නුබ විසින් නු
බේ භාර්‍යාව ගලවනු ලබන්නීයයි දන්
නේ කොහොමද?
17 නුමුත් දෙවියන්වහන්සේ එක එකාට
බෙදූ දුන් ප්‍රකාරයටද ස්වාමීන්වහන්සේ
එක එකා කැඳවූ ප්‍රකාරයටද හැසිරේවා.
18 මෙලෙසම සියළු සභාවලදී නියමකරමි.
යමෙක් චර්මඡේදිව කැඳවනලද්දේද ඔ
19 හු අචර්මඡේදි නොවේවා. යමෙක් අච
ර්මඡේදිව කැඳවනලද්දේද ඔහු චර්ම
ඡේදි නොවේවා. දෙවියන්වහන්සේගේ
ආඥාවන් රක්‍ෂාකිරීම මිස චර්මඡේදනය
20 වත් අචර්මඡේදනයවත් කිසිත් නැත. එ
කෙක් එකෙක් තම තමන් කැඳවනු ලැ
21 බූලෙස සිටීවා. නුබ වාලෙක්ව කැඳව
නු ලැබූයේද ඊට කනගාටු නොවෙන්
න. නුමුත් නිදහස්වෙන්ට පුළුවන්නම්
22 එයට කැමතිවෙයනන. මක්නිසාද වා
ලෙක්ව ස්වාමීන්වහන්සේ කෙරෙහි කැ
දවනු ලැබූ තැනැත්තේ ස්වාමීන්වහන්
සේගේ නිදහස්වූ තැනැත්තෙක්ය. එසේ
ම නිදහස්ව කැඳවනු ලැබූ තැනැත්තේ
23 ක්‍රිස්තුස්වහන්සේගේ වාලෙක්ය. නුබ
ලා මිලේට ගනනාලද්දෝය මනුෂ්‍යයන්
24 ගේ වාල්ළු නොවෙල්ලාය. සහෝදරයෙ
නි එකෙක් එකෙක් යම් ස්වභාවකින්
කැඳවනලදද ඒ ස්වභාවෙන් දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි සිටීවා.
25 විවාහ නොකලවුන් ගැන ස්වාමීන්ව
හන්සේගෙන් ආඥාවක් මට නැත. එසේ
නුමුත් විස්වාසයෙක්ව සිටින්ට ස්වාමීන්ව
හන්සේගෙන් කරුණාව ලද්දෙකු මෙන්
26 මාගේ අභිප්‍රාව කියමි. දැන් තිබෙන වි
පත්ති නිසා මෙසේම සිටීම මනුෂ්‍යයාට
27 යහපතැයි සිතමි. භාර්‍යාවකට නුබ බැ
ඳී සිටිනේනම් මිදෙන්ට නොසොයන්
න. භාර්‍යාවකට බැඳී නොසිටිනේනම්
28 භාර්‍යාවක් නොසොයනන. විවාහ කර
නේනම් එයින් නුබට පාපයක් නැත.
කන්‍යාවක් විවාහකරන්නීනම් එයින්
ඈට පාපයක් නැත. එසේවී නුමුත් එ
යාකාර අයවලට ශරීරික දුක් වන්නේ
ය. නුමුත් මම නුබලාට අනුකම්පා කෙ
29 රෙමි. සහෝදරයෙනි කාලය එහුබුය.
මේ ලෝකයේ කාරණා පසුවේවී යන
30 බැවින් භාර්‍යාවන් ඇත්තෝ භාර්‍යාවන්
නැත්තන් මෙන්ද අඬන්නෝ නාඬන්
නන් මෙන්ද සතුටුවෙන්නෝ නොස
තුටුවෙනනන් මෙන්ද මිලේට ගන්නෝ
31 අයිති නැත්තන් මෙන්ද මේ ලෝක
ය බුත්තිවිඳිනෝ අයුතු ලෙස බුත්ති
නොවිඳිනනන් මෙන්ද සිටියයුතුයයි කි
32 යමි. එහෙත් නුබලා කනගාටු වෙනවා
ට කැමැත්තෙමි. විවාහ නොකල තැනැ
ත්තේ ස්වාමීන්වහන්සේ කෙසේ සතුටු
කරම්දැයි ස්වාමීන්වහන්සේගේ කාරණා
33 වල් සලකන්නේය. විවාහ කල තැනැත්
තේ භාර්‍යාව කෙසේ සතුටුකරම්දැයි
ලෝකයෙහි කාරණාවල් සලකන්නේය.
34 එසේම විවාහකල ස්ත්‍රිය සහ කන්‍යාව අ
තරෙහිද වෙනසක් ඇත. විවාහ නො
කල ස්ත්‍රිය ශරීරයෙන්ද ආත්මයෙන්ද පි
රිසිදුව සිටින පිනිස ස්වාමීන්වහන්සේගේ
කාරණාවල් සලකන්නීය. විවාහ කල තැ
නැත්ති පුරුෂයා කෙසේ සතුටුකරම්දැ
යි ලෝකයේ කාරණාවල් සලකන්නීය.
35 මේවා මම නුබලාට මලපතක දලන පි
නිස නොව නුබලාගේ ඔබින හැසිරීම
පිනිසද නුබලා වියවුල් නොවී ස්වාමීන්
වහන්සේට සේවයකරණ පිනිසද යන
නුබලාගේ ප්‍රයෝජනය පිනිස කියමි.

36 තවද යමෙක් තමාගේ කන්‍යාදුවගේ
යෞවන කාලය ඉකුත්වූ බැවින් අවිවා
හකව සිටින්ට නුසුදුසුයයි ඇ සිතනොත්
නම් විවාහ කරන්ට යුතුවේනම් ඔහු ත
මාගේ කැමැත්ත ලෙස කෙරේවා ඔහුට
එයින් පාපයක් නැත. ඔවුන් විවාහ කෙ
37 රෙත්වා. එසේවී නමුත් ස්ථිර සිත් ඇත්
තාවූ විවාහ කරදෙන්ට ඕනෑකමක් නැ
ත්තාවූ තමාගේ කැමැත්ත ලෙස කරන්
ට බලේ ඇත්තාවූ අය තමාගේ කන්‍යා
දුව රක්‍ෂාකරනානට තමන්ගේ හෘදයෙන්
නියමකරගත්තේවීනම් ඔහු යහපතක්
38 කරනේය. එහෙයින් විවාහකරදෙන
තැනැත්තේ යහපතක් කරනේය. වි
වාහකර නොදෙන තැනැත්තේ වඩා
යහපතක් කරනේය.
39 භාය්‍යාව තමාගේ පුරුෂයා ජීවත්ව සිටි
නතෙක් ව්‍යවස්ථාවෙන් බැඳී සිටින්නීය.
නුමුත් ඇගේ පුරුෂයා මලොත් ඇ තමන්
කැමති තැනැත්තෙකු සමග විවාහ ක
රන්ට නිදහස්ව සිටින්නීය. නුමුත් ස්වා
40 මින්වහන්සේ කෙරෙහි පමනක්ය. ඇ
විවාහ නොකොට සිටින්නීනම් මාගේ
අභිප්‍රාව ලෙස ඉතා සැප ඇත්තීය. තව
ද දෙවියන්වහන්සේගේ ආත්මය මට ඇ
තැයි සිතමි.

8. පරිච්ජ. දේවතාවන්ට පුදනලද
දේ ගැන අප සියල්ලන්ට දැනීම ඇතැ
යි දනිමුව. දැනගැන්මෙන් උඩඟුකම උ
පදිනේය. නුමුත් ප්‍රේමයෙන් සුභසිඩ
2 වන්නේය. යමෙක් තමන් කිසිවක් දන්
නේයයි සිතන්නේනම් ඔහු දැනගන්ට
යුතුවූ ලෙස ඒතාක්කල් කිසිවක් දන්
3 නේ නැත. යමෙක් දෙවියන්වහන්සේ
ට ප්‍රේමකරන්නේනම් ඔහු උන්වහන්
4 සේ විසින් දන්නාලද්දේය. එහෙයින්
දේවතාවන්ට යාගකල කෑම ගැන දේ
වතාවෙක් ලෝකයෙහි කිසිත් නැති බ
වද එක්කෙනෙක්ම හැර වෙන දෙවි
5 කෙනෙක් නැතිබවද දනිමුව. ස්වර්ග
යෙහිත් පොලොවෙහිත් දෙවිවරු ඇ
තැයි කියනලද්දේය එබඳුවූ බොහෝ
දෙවිවරු සහ බොහෝ ස්වාමිවරුද ඇ
6 තැයි කියන නුමුත් අපට ඇත්තේම එක
ම පියානන්වූ දෙවියන්වහන්සේය සියල්
ල උන්වහන්සේගෙන්ය අපිද උන්වහන්
සේ උදෙසාය. යේසුස් ක්‍රිස්තුස්නම් එක
ම ස්වාමින්වහන්සේද අපට ඇත. සියල්ල
උන්වහන්සේ කරණකොටගෙනය. අ
පිත් උන්වහන්සේ කරණකොටගෙනය.
7 එසේවී නුමුත් සියල්ලන්ට මේ දැනුම නැ
ත. දැන් දක්වා සමහරු දේවතාවා කෙ
නෙකැයි යන අදහසින් දේවතාවෙකුට
යාගකලාවූ දේ කති. ඔවුන්ගේ දුර්වල
වූ සිත් කිළුටුවේ.
8 දෙවියන්වහන්සේ අප ඒත්තුගන්නේ
අපි කන කෑම නිසා නොවේය. කෑවාට
උතුම් නොවෙමුව නොකෑවාට අධම
9 නොවෙමුව. නුමුත් නුබලාගේ මේ බල
ය දුර්වලයන්ට බාධාවක් නොවන ලෙස
10 බලාගනිල්ලාය. දැනුම ඇත්තාවූ නුබ
දේවාලයේ කන්ට හිඳිනබව දුර්වලවූ ය
මෙක් දුටුවොත් ඔහුගේ සිත දේවතා
වන්ට යාගකලාවූ දේ කන්ට කැමතිවෙ
11 නොත් නැද්ද? යම් දුර්වලවූ සහෝදරය
කු නිසා ක්‍රිස්තුස්වහන්සේ මලසේක්ද ඔ
හු නුඹේ දැනීමෙන් විනාසයට පැමිනෙ
12 නොත් නැද්ද? නුමුත් සහෝදරයන්ට වි
රුඩව එසේ පව් කරමින් ඔවුන්ගේ දුර්ව
ලවූ සිතට පහර දෙනනාවූ නුබලා ක්‍රිස්
13 තුස්වහන්සේට විරුඩව පව්කරති. එබැ
වින් මාංස කෑමෙන් මාගේ සහෝදරයා
ට බාධා වේනම් මම මාගේ සහෝදරයා
ට බාධා නොකරණ පිනිස කිසි කලක
මාංස නොකමි.

9. පරිච්ජ. මම ප්‍රේරිතයෙක් නො
වෙම්ද? මම නිදහස්වූ තැනැත්තෙක්
නොවෙම්ද? මම අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ නුදුටිම්ද? ස්වාමින්ව
හන්සේ කෙරෙහි නුබලා මාගේ ක
2 ර්මාන්තය නොවේද? මම අනුන්ට ප්‍රේ
රිතයෙක් නොවෙන නුමුත් ඒකාන්ත
යෙන් නුබලාට ප්‍රේරිතයෙක් වෙමි ස්වා
මින්වහන්සේ කෙරෙහි නුබලා මාගේ
3 ප්‍රේරිතකමෙහි මුද්‍රය වෙති. මා විචාර
4 නනාවුන්ට මාගේ උත්තරයනම් කනනට
5 ද බොනනාවද අපට බලය නැද්ද? අ
නිත් ප්‍රේරිතයෝද ස්වාමිවහන්සේගේ
සහෝදරයෝද කේඵස්ද කරන්නාක්
මෙන් සහෝදරියක් ඒනම් භාය්‍යාවක්
කැඳවාගෙන හැසිරෙන්ට අපට බලය
6 නැද්ද? නොහොත් වැඩනොකර සිටින්
ට මටද බාර්ණබස්ටද පමනක් බැරිද?
7 තමාගේ වියදමෙන් යම් කලෙකත් යුඩ
කරනොත් කවුද? මිදිවත්තක් වවා එහි
ඵලයෙන් නොකන්නේ කවුද? නො

හොත් ගවරැල් කෑම කවා උන්ගේ කි
8 රි නොකන්නේ කවුද? මනුෂ්‍යයෝ කි
යන හැටියට මම මේ කාරණ කියම්ද
නොහොත් ව්‍යවස්ථා පොතෙහිත් එසේ
9 ම ලියවී නැද්ද? මක්නිසාද ගොයම්
පාගන ගොනාගේ කට නොබඳුවයි
මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙහි ලියා තිබෙ
නේය. දෙවියන්වහන්සේ ගොන් ස
10 ලකා එසේ කීසේක්ද? නොහොත් අප
නිසාම කීසේක්ද? නිසැකව අප නිසා
ලියනලද්දේය. හානනා තමන් බලාපො
රොත්තුවූ දේ ලබන්ට බලාපොරොත්තු
වීමෙන් හාන පිනිසද පාගනනා එම බ
ලාපොරොත්තුවීමෙන් පාගන පිනිසද
11 එසේ ලියනලද්දේය. අපි නුබලාට ආත්
මික දේ වපුලෙමුනම් නුබලාගේ ලෞකි
12 ක දේ කැපීම මහත් දෙයක්ද? අනුන් නු
බලා කෙරෙහි මේ බලය පවත්වතොත් ඊ
ට වඩා අපට යුතු නැද්ද? එසේ නුමුත්
අපි ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචියට කි
සි බාධාවක් නොකරණ පිනිස මේ බල
13 ය නොපවත්වා සියල්ල ඉවසමුව. දේව
මාලිගාවෙහි සේවයකරනෙනා් දේව මා
ලිගාව සන්තක දෙයින් කන බවද පූජා
සනය ලඟ සේවයකරනෙනා් පූජාසනය
සමග පංගුකාරයෝ වෙනබවද අනෙත්
14 නැද්ද? එසේම සුභාරංචිය දේසනාකර
නෙනා් සුභාරංචියෙන් ජීවිකාව ලබන්ට
15 ස්වාමින්වහන්සේ නියෝගකලසේක. ම
ම මෙයින් කිසි දෙයක් ලබාගනෙන් නැ
ත. තවද මම එසේ කරවාගනනා පිනිස
මේ කාරණ ලියන්නේ නැත. යමෙක්
මාගේ පාරට්ටුකරගැනීම හිස්කෙරේ
16 නම් ඊට වඩා මරණය මට යහපත. මම
සුභාරංචිය ප්‍රකාසකරන්ට බැඳී සිටිමි. ඒ
ක ප්‍රකාස නොකරතොත් මට දුක්වෙයි.
ඉන්නිසා මම සුභාරංචිය ප්‍රකාසකරණ නු
මුත් එයින් මට පාරට්ටුකරගන්ට කා
17 රණවක් නැත මේක මම කැමැතෙතාන්
කරනෙනම්නම් මට විපාකය ඇත. අක
මැතෙතාන් කරනෙනම් නමුත් සුභාරංචි
ය ප්‍රකාසකිරීමෙහි තනතුර මට තිබෙන්
18 නේය. එවිට මට ඵලය කිමෙක්ද? ඒ ඵ
ලයනම් සුභාරංචිය ප්‍රකාසකරණකල එ
හි මට දීලා තිබෙන බලය නුසුදුසු ලෙ
ස නොපවත්වා ක්‍රිස්තුස්වහන්සේගේ සු
භාරංචිය වියදම් නැතුව පිහිටුවීමය.
19 ඒ හැටියට මම සියල්ලන්ගෙන් නිද
හස්ව සිටියෙම් නමුත් වැඩි දෙනෙක් ල
බන පිනිස සියල්ලන්ට මා දාසකෙලෙ
20 මි. යුදෙව්වන් ලබන පිනිස ඔවුන් අත
රෙහි යුදෙව්වෙකු මෙන ව්‍යවස්ථාවට ය
ටත්වූ අයවල් ලබන පිනිස ඔවුන් අත
රෙහි ව්‍යවස්ථාවට යටත්වූ කෙනෙක්
21 මෙන වූයෙමි. දෙවියන්වහන්සේ කෙ
රෙහි ව්‍යවස්ථාව- නැත්තාවූ තැනැත්
තෙක් නොව ක්‍රිස්තුස්වහන්සේ කෙරෙ
හි ව්‍යවස්ථාවට ඇතුලත්වූ මම ව්‍යවස්ථාව
නැතතවුන් ලබන පිනිස ඔවුන් අතරෙ
හි ව්‍යවස්ථාව නැතතාවූ තැනැතෙතකු
22 මෙන් වූයෙමි. දුර්වලයන් ලබන පිනිස දු
ර්වල න් අතරෙහි දුර්වලයෙක් මෙන් වූ
යෙමි. මම සියළු ආකාරයෙන්ම සමහ
රෙක් ගලවාගනනා පිනිස සියල්ලන් අ
23 තරේ සියල්ල වූයෙමි. මම සුභාරංචිය නි
සාද එහි පංගුකාරයෙක් වෙන පිනිසද
මෙසේ කරමින් සිටිමි.
24 දුවන ස්ථානයෙහි දුවනනාවූ සියල්ලෝ
දුවති නුමුත් එකෙක්ම තෑග්ග ලබන
25 බව දනෙන් නැද්ද? නුබලා තෑග්ග ල
බන ලෙස දුවපල්ල දිනන පිනිස වෑ
යම්කරනනාවූ සියල්ලෝ සියල්ලෙහි පම
න දැන හැසිරෙති. ඔවුන් දිරනනාවූ ඔ
ටුනනක්ද අපි නොදිරනනාවූ ඔටුනනක්
26 ද ලබන පිනිස එසේ කරමුව. එහෙයින්
මම සැක ඇතෙතකු මෙන් නුදුවමි ආකා
සයට පහර දෙනෙනකුමෙන් යුඩ නො
27 කරමි. එහෙත් අනුන්ට දේසනාකරන්
නාවූ මම්ම අහකදමනලද්දෙක් නො
වෙන පිනිස මාගේ ශරීරය යටහත්කො
ට මැඩපවත්වාගනිමි.

10. පරිච්ඡේ. සහෝදරයෙනි අපගේ
පියවරු සියල්ලෝ වලාකුලෙන් යට සි
ටියෝය සියල්ලෝම මූද මැදින් ගියෝ
2 ය සියල්ලෝම වලාකුලෙන්ද මුහුදෙන
මෝසෙස් කෙරෙහි බව්තීස්මය ලැබූ
3 වෝය සියල්ලෝම එක ආත්මික කෑම
4 කෑවෝය සියල්ලෝම තමන් එක්ව ගි
යාවූ ආත්මික පර්වතයෙන් බී නිසා එම
ආත්මික පානය බීවෝය. ඒ පර්වතයනම්
5 ක්‍රිස්තුස්වහන්සේය. එසේ නුමුත් ඔවුන්
ගෙන් වැඩි දෙනෙකුට දෙවියන්වහන්
සේ සතුටු නුවූසේක. එහෙයින් ඔවුන් ව
නාන්තරයෙහි හෙළනුලැබුවෝයයි යන
කාරණ නුබලා නොදැන සිටිනවාට
6 නොකැමැතෙතම්. ඔවුන් ලෝභවූනාක්
මෙන් අපිත් නපුරු දේට ලෝභ නො

වෙන පිනිස ඒ කාරණ අපට ආදර්ශයක්
7 විය. සෙනග කන්ටද බොන්ටද හිඳ ක්‍රී
ඩා කරන්ටද නැගුටුනෝයයි ලියා තිබෙ
න ලෙස ඔවුන්ගෙන් සමහරෙක් දේව
තාවන්ට පූදනෝව සිටියෝය. නුඹලා
8 එසේ නොවෙල්ලාය. ඔවුන්ගෙන් සම
හරෙක් වෛශ්‍යාවන් සේවනයකොට එ
ක දවසෙහි විසිතුන් දහසක් දෙන ම
ළෝය. එසේ අපිද වෛශ්‍යාවන් සේව
9 නය නොකරමුව. ඔවුන්ගෙන් සමහ
රෙක් ක්‍රිස්තුස්වහන්සේ පරීක්ෂාකොට ස
ර්පයන්ගෙන් විනාසවූනෝය එසේම අ
10 පිත් උන්වහන්සේ පරීක්ෂා නොකරමුව ඔ
වුන්ගෙන් සමහරෙක් කෝලාහලකො
ට විනාසකයා විසින් විනාසකරනු ලැබූ
වෝය. එසේම නුඹලා කෝලාහල නො
11 කරල්ලාය. ඒ සියල්ල ආදර්ශයක් පිනිස
ඔවුන්ට සිද්ධවූනේය. අන්තිම කාලයේ
සිටින අපට අවවාද පිනිස ඒවා ලියා ති
12 බෙනේය. එහෙයින් කෙලින් සිටින්
නේයයි සිතන තැනැත්තේ නොවැ
13 ටෙන්ට බලාගනීවා. සාමාන්‍යයෙන් ම
නුෂ්‍යයාට පැමිනෙන පරීක්ෂා හැර වෙන
පරීක්ෂාවක් නුඹලාට පැමිණුනේ නැත.
නුමුත් දෙවියන්වහන්සේ විශ්වාස කෙ
නෙක. උන්වහන්සේ නුඹලාගේ බලය
ට වඩා නුඹලා පරීක්ෂාකරනු ලබන්ට නෑ
ර නුඹලාට පරීක්ෂාව පැමිනෙන කල ඒක
ඉවසන්ට පුළුවනෙවන පිනිස පරීක්ෂාව ස
මග ගැලවෙන උපායද කරණසේක. එ
14 හෙයින් මාගේ ප්‍රියවූ තැනැත්තනි දේ
වතාවන්ට පිදීමෙන් පහවෙයල්ලාය
15 නුඹලා නුවන ඇත්තෝයයි සිතා නු
ඹලාට කථාකෙරෙමි. මම කියන කාර
16 ණ විනිශ්චයකරපල්ලාය. අපි ස්තුතික
රණ ස්තුති කුසලාන ක්‍රිස්තුස්වහන්සේ
ගේ ලේවල පංගුකාරකම නොවේද?
අපි කඩන රොටිය ක්‍රිස්තුස්වහන්සේගේ
17 ශරීරයේ පඟුකාරකම නොවේද? එක
රොටියක් බැවින් බොහෝ දෙනාවූ අපි
එකම ශරීරයක් වමුව. මක්නිසාද අපි
සියල්ලෝම ඒ එකම රොටියට පංගුකා
18 රයෝව සිටිමුව. ශරීරික ඊශ්‍රායෙල් බලා
පල්ලාය. පූජාකරණලද දෙයින් කන අ
යවල් පූජාසනයට පංගුකාරයෝ නො
19 වෙද්ද? එසේවීනම් කුමක් කියම්ද? දේ
වතාවෙක් ඇති කෙනෙකැයි කියම්ද?
නොහොත් දේවතාවන්ට පූජාකල දේ
20 කුමක් ඇති දෙයකැයි කියම්ද? අන්‍ය
ජාතීහු පූජාකරණ දේ යක්ෂයන්ට මිස
දෙවියන්වහන්සේට පූජානොකරතියි කි
යමි. එබැවින් නුඹලා යක්ෂයන් සමග ප
ඟුකාරයෝව සිටිනවාට නොකමැත්තෙ
21 මි. නුඹලාට ස්වාමින්වහන්සේගේ කුසලා
නෙද යක්ෂයන්ගේ කුසලානෙද බො
න්නට බැරිය. ස්වාමින්වහන්සේගේ මේ
සයටද යක්ෂයාගේ මේසයටද පංගුකාර
22 යෝව සිටින්නට බැරිය. අපි ස්වාමින්ව
හන්සේ උදහස්කරමුව? අපි උන්වහන්
සේට වඩා බලවන්තයෝද?
23 සියළු කෑම මට කැපය නුමුත් සියල්ල
ඔබින්නේනැත. සියළු කෑම මට කැප
ය නුමුත් සියල්ලෙන් අනුන්ට ප්‍රයෝජ
24 නනැත. කිසිවෙක් තමාගේ ලාභම
නොසොයා එක එකා අනුන්ගේ ලාභද
25 සොයාවා. සිතේ නිදෝෂය පිනිස කිසි
වක් නොවිචාරා කඩේ විකුනන කො
26 යි දෙයක් නුමුත් අරන් කාපල්ලාය.
මක්නිසාද පොලවද එහි සම්පූර්ණකම
27 ද ස්වාමින්වහන්සේගේය. ඇදහිලි නැත්
තන්ගෙන් යමෙක් නුඹලාට කෑමට හඬ
ගැසුවොත් නුඹලා යන්ට කැමතිනම් හෘ
දසාක්ෂිය නුඹලාට විරුඬ නොවන පිනි
ස කිසිවක් නොවිචාරා නුඹලා ඉදිරියෙ
28 හි තැබූ දෙයින් කාපල්ලාය. කිසිවෙක්
මේක දේවතාවන්ට පූජාකල දේකැයි
නුඹලාට කියනොත්නම් දැන්වූ ඔහු නිසා
ද හෘදසාක්ෂිය නිසාද කන්නට එපාය.
මක්නිසාද පොලවත් එහි සම්පූර්ණක
29 මත් ස්වාමින්වහන්සේගේය. නුඹේම හෘද
සාක්ෂිය ගැන නොව අනුන්ගේ හෘදසා
ක්ෂිය ගැන කියමි. අන් කෙනෙකුගේ
හෘදසාක්ෂිය කරණකොටගෙන මාගේ
නිදහස්කම විනිශ්චයකරනුලබන්නේ
30 මක්නිසාද? මම කරුණාව කරණකො
ටගෙන ලැබ ස්තුති පැවැත්වීමෙන්
යුක්තව කනනාවූ දේ නිසා මොකට නි
31 න්‍දා ලබම්ද? එහෙයින් නුඹලා කනත්
බොනත් කොයි දෙයක් කරනත් ඒ සි
යල්ලෙන්ම දෙවියන්වහන්සේට ගෞර
32 ව පැමිනෙන ලෙස කරපල්ලාය. යම්සේ
මම මාගේම ප්‍රයෝජන නොසොයා බො
හෝ දෙන ගැලවෙන පිනිස ඔවුන්ගේ
ප්‍රයෝජන සොයා සියළු දෙයෙහි සියල්
33 ලන් සතුටුකෙරෙම්ද එසේම නුඹලාත්
යුදෙව්වන්ටවත් ග්‍රීකයන්ටවත් දෙවිය
න්වහන්සේගේ සභාවටවත් බාධා නො
කරල්ලාය.

11. පරිච්ජ. මම ක්‍රිස්තුස්වහන්සේ
ගේ අඩිපාරේ යනලෙස තුබලා මාගේ
2 අඩිපාරේ චරෙල්ලාය. සහෝදරයෙනි
මම තුබලාට කී සියල්ල තුබලා සිහිකො
ට මම දුන් පනත් රක්‍ෂාකරණ නිසා තු
3 බලාට ප්‍රසංසා කරමි. තවද එක එක පුරු
ෂයාගේ හිසනම් ක්‍රිස්තුස්වහන්සේය. එක
එක ස්ත්‍රියගේ හිසනම් පුරුෂයාය. ක්‍රිස්තු
ස්වහන්සේගේ හිසනම් දෙවියන්වහන්
සේය. මේ බව තුබලා දැනගන්නවාට
4 කැමැත්තෙමි. හිස වසාගෙන යාඥාකරන්
නාවූ නොහොත් දේසනාකරන්නාවූ තැ
නැත්තෙ තමාගේ හිසට අගෞරවකර
5 නෙන්ය. තුමූත් හිස නොවසා යාඥාක
රන්නාවූ නොහොත් දේසනා කරන්නා
වූ ස්ත්‍රියක් මුඩුකල හිස් ඇති තැනැත්ති
යකුට සමානව සිටින නිසා තමාගේ හි
6 සට අගෞරව කරන්නීය. ස්ත්‍රිය හිස ව
සා නොගනිතොත් කැපූ හිසකේ ඇත්
ති වේවා තුමූත් ස්ත්‍රියකුට ඉසකේ කැ
පීමවත් මුඩුකිරීමවත් ලැජ්ජාවක් වන්
නේනම් ඈ වසනලද හිස් ඇත්තී වේ
7 වා. පුරුෂයා දෙවියන්වහන්සේගේ රූප
යද ගෞරවයද බැවින් හිස වසන්ට ඔ
8 හුට නොවටියි. තුමූත් පුරුෂයා ස්ත්‍රියගෙන්
නොව ස්ත්‍රී පුරුෂයාගෙන් වූන බැවින්ද
9 පුරුෂයා ස්ත්‍රිය නිසා නොව ස්ත්‍රිය පුරුෂයා
නිසා මවනලද බැවින්ද ස්ත්‍රී පුරුෂයාගේ
10 ගෞරවය වන්නීය. එහෙයින් දූතයන්
නිසා ස්ත්‍රීන්විසින් හිස වැස්මක් දැරිය යු
11 තුය. එසේවීනමුත් ස්වාමින්වහන්සේ කෙ
රෙහි ස්ත්‍රිය නැතුව පුරුෂයා පමනක් සිටි
නෙන්වත් පුරුෂයා නැතුව ස්ත්‍රිය පමනක්
12 සිටින්නේවත් නැත. මක්නිසාද ස්ත්‍රී පුරු
ෂයාගෙන් වූනලෙසම පුරුෂයාත් ස්ත්‍රී කාර
ණකොටගෙන සිටින්නේය. තුමූත් සිය
ල්ල දෙවියන්වහන්සේගෙන්ය.
13 හිස නොවසා දෙවියන්වහන්සේට යා
ඥාකරන්ට ස්ත්‍රියකට සුදුසුදැයි කල්පනා
14 කරපල්ලාය. පුරුෂයෙකුට දික්වූ ඉසකේ
ඇත්නම් ඔහුට අගෞරවයක් බව ස්ව
15 භාවයෙන්ම තුබලා දන්නේ නැද්ද. ස්ත්‍රිය
කට ඉසකේ වැස්මක්කොට දී තිබෙන
බැවින් ස්ත්‍රියකට දික්වූ ඉසකේ ඇත්නම්
16 ඈට ගෞරවයක. එහෙත් කිසිවෙක්
වාදකරන්ට සිතනොත්නම් අපටවත් දෙ
වියන්වහන්සේගේ සභාවටවත් එයාකා
ර ව්‍යවහාරයක් නැත.
17 තුබලා අයහපතට මිස යහපතට රැස්
නොවෙතියි මම දන්නාවූ කාරණයෙ
18 හි තුබලාට ප්‍රසංසා නොකරමි. මක්නි
සාද පලමුකොට තුබලා සභාවෙහි රැස්
වෙන කල තුබලා අතරෙහි භේද ඇති
19 බව අසමි එයින් කිසිවක් අදහමි. මක්නි
සාද තුබලා අතරෙහි තෝරාගනු ලැබූ
වන් පෙනෙන පිනිස තුබලා අතරෙහි
20 භේදවෙන්ට ඕනෑය. තුබලා එක තැ
නකට රැස්වන කල්හි ඒක ස්වාමින්ව
හන්සේගේ රාත්‍රි භෝජනය කන පිනිස
21 නොවේය. කුමක්හෙයිනද ඒ කෑම කන
කොට එකිනෙකා තමුතමන්ගේ කෑම
ඉස්සරව කති. මෙලෙසින් එකෙක් බ
ඩගිනිව ඉන්දදී වෙන කෙනෙක් තෘප්
22 තියට පැමිනෙනෙන්ය. කිමෙක්ද? ක
න්නටත් බොන්නටත් තුබලාට ගෙද
රවල් නැද්ද? නොහොත් දෙවියන්ව
හන්සේගේ සභාව සුළුකොට දිලිඳුන්
ලැජ්ජාවට පමුනුවද්ද? තුබලාට කුමක්
කියම්ද? මේ ගැන තුබලාට ප්‍රසංසා කෙ
23 රෙම්ද? ප්‍රසංසා නොකරම්. මේ ගැන
මම තුබලාට කියාදුන් දේ ස්වාමින්වහන්
සේගෙන් ලැබීමි. ඒනම් ස්වාමිවූ යේසු
24 ස්වහන්සේ පාවාදෙනුලැබූ රාත්‍රියේම උ
න්වහන්සේ රොටි අරගෙන ස්තුතිකොට
කඩා මේක අරන් කාපල්ලාය තුබලා
නිසා කඩන මාගේ ශරීරය මේය. මා සි
හිවීම පිනිස මේක කරපල්ලායයි කීසේ
25 ක. එසේම කෑවායින් පසු උන්වහන්සේ
කුසලාන ගෙන මේ කුසලාන මාගේ
ලෙයෙහි අළුත් ගිවිසුමය. යම් පමන ව
ර මෙයින් බොන්නොද එපන වර මා සි
හිවීම පිනිස මේක කරපල්ලායයි කීසේ
26 ක. එලෙසම තුබලා යම් පමන වර මේ
රොටි කන්නොද මේ කුසලානෙන් බො
න්නොද එපමන වර ස්වාමින්වහන්සේ
ගේ මරණය උන්වහන්සේ එනතුරු ප්‍රකා
27 සකරති. එසේහෙයින් යමෙක් නුසුදුසු
ලෙස මේ රොටි කන්නේද ස්වාමින්වහන්
සේගේ කුසලානෙන් බොන්නේද ඔහු
ස්වාමින්වහන්සේගේ ශරීරය ගැනත් ලේ
28 ගැනත් වැරදිකාරයෙක්වේ. තුමූත් මනු
ෂ්‍යයා තමා පරීක්‍ෂාකොට ඒ රොටි කා ඒ
29 කුසලානෙන් බීවාවේ. නුසුදුසු ලෙස ක
න බොන තැනැත්තේ ස්වාමින්වහන්සේ
ගේ ශරීරය නොවිමසා තමා කෙරෙහිම
30 දඬුවම කන්නේය බොන්නේය. එහෙ
යින් තුබලා අතරෙහි බොහෝ දෙනා දු
ර්වලයෝද ලෙඩ්ඩුද වෙති බොහෝ දෙ

31 නදනැහුනෝය. අපි අපම විනිශ්චය කර
ගනිමූනම් විනිශ්චයකරනු නොලබමුව.
32 නුමුත් අපි විනිශ්චයකරනු ලැබිමූනම්
ලෝකයා සමග අච්චු නොලබන පිනිස
ස්වාමිනවහන්සේගෙන් දූන් තරවටුකර
33 නු ලබමුව. එබැවින් මාගේ සහෝදර
යෙනි කනනාටනුබලා රැස්වනකල ඔවු
34 නොවුන් එනකල් ප්‍රමාදවෙයල්ලාය. ය
මෙකුට බඩගිනි ඇත්නම් නුබලා දඬු
වම් ලබන ලෙස එක්නොවෙන පිනිස
ඔහු ගෙදරදී කෑවාවේ ඉතිරි කාරණ
වල් මම ආකල පිලිවෙලට තබම්.

12. පරිච්ඡේ. සහෝදරයෙනි ආත්මි
ක දේ ගැන නුබලා නොදූන සිටිනවා
2 ට මම නොකැමැතෙතම්. අන්‍යජාතිවූ නු
බලා යම් ආකාරයකින් හික්මුනෝද ඒ
ආකාරයෙන් ගොළු රූපවල් ලඟට ගෙ
3 නයනු ලැබූ බව නුබලා දනිති. එබැ
වින් දෙවියනවහන්සේගේ ආත්මය කර
ණකොටගෙන කථාකරනනාවූ කිසි
වෙක් යේසුසවහන්සේ සාපලත් කෙනෙ
කැයි නොකියනබවත් සුධාත්මයානනව
හන්සේ කරණකොටගෙන මිස යේසුස්
වහන්සේ ස්වාමිනවහන්සේයයි කියන්ට
4 බැරිබවත් නුබලාට දන්වම්. තවද ආත්
මයානනවහන්සේ එක්කෙනෙක්වම සි
ටිනනුමුත් නොයෙක්ප්‍රකාර දීමනාවල්
5 ඇත. එසේම ස්වාමිනවහන්සේ එක්කෙ
නෙක්වම සිටින නුමුත් නොයෙක් ප්‍ර
6 කාර මෙහෙවල් ඇත. සියළු දේ සියල්
ලන් කෙරෙහි කරණ තැනනවහන්සේ
එකම දෙවියනවහන්සේ නුමුත් නො
7 යෙක් ප්‍රකාර ක්‍රියා කෙරීමවල් ඇත. නු
මුත් ආත්මයානනවහන්සේගේ ප්‍රකාශය
වැඩ පිනිස එක එකාට දෙනලද්දේය.
8 කෙසේදයත් ආත්මයානනවහන්සේ ක
රණකොටගෙන එකෙකුට ඥනයෙහි
වචනයද එකෙකුට එම ආත්මයානනව
හන්සේ කරණකොටගෙන දූනීමෙහි ව
9 චනයද එකෙකුට එම ආත්මයානන්ව
හන්සේ කරණකොටගෙන ඇදහිල්ලද
එකෙකුට එම ආත්මයානනවහන්සේ ක
10 රණකොටගෙන සුවකරන්ට සමර්ථකම
ද එකෙකුට ආශ්චර්‍ය්‍ය කරන්ට සමර්ථකම
ද එකෙකුට අනාගත වචනයද එකෙකු
ට ආත්මයන්ගේ ප්‍රභේද දූනගැනීමද එ
කෙකුට නොයෙක් ආකාර භාෂාද එ
කෙකුට භාෂාවල් තේරුම්කර කීමද
11 දෙනලද්දේය. නුමුත් ඒ එකමවූ ආත්ම
යානනවහන්සේ කැමති ලෙස එක එකා
ට ඒ ඒ සමර්ථකම් බෙදා දී මේ සියල්ල
සිද්ධකරණසේක.
12 තවද ශරීරය එකක එහි නොයෙක් අ
වයවයන් ඇත. ඒ එකමවූ ශරීරයාගේ සි
යළු අවයව බොහෝ නුමුත් එක ශරීරය
13 ක. ක්‍රිස්තුසවහන්සේත් එසේමය. මක්
නිසාද යුදෙව්වෝ හෝ ග්‍රීකයෝ හෝ
දාසයෝ හෝ නිදහසයෝ හෝ යන අපි
සියල්ලෝ එකම ආත්මයානනවහන්සේ
කරණකොටගෙන එකම ශරීරයේ බව්
තීස්ම ලැබ සියල්ලෝද එකම ආත්ම
14 යෙන් පොවනු ලැබිමූව. එසේම ශරීර
ය එක අවයවයක් නොව නොයෙක් අ
15 වයව දරනෙන්ය. එහෙයින් කකුල මම
අත නොවන බැවින් ශරීරයට අයිති
නොවෙමියි කීවොත් ශරීරයට අයිති නැ
16 දද? කන මම ඇස නොවන බැවින් ශ
රීරයට අයිතිනොවෙමියි කීවොත් ශරී
17 රයට අයිති නැද්ද? මුළු ශරීරය ඇසනම්
ඇසීම කොයිද? මුළු ශරීරය ඇසීමනම්
18 ගඳ දූනීම කොයිද? දෙවියනවහන්සේ
තමන්ගේ කැමැත්ත ලෙස ඒ සියළු අව
19 යව ශරීරයේ තැබූසේක. ඒ සියල්ල එක
ම අවයවයක් වීනම් ශරීරය කොයිද?
20 දූනුත් නොයෙක් අවයවයන් ඇති නු
21 මුත් ශරීරය එකක. ඇස නුබෙන් මට
ප්‍රයෝජන නැතැයි අතට කියන්ටවත්
හිස නුබෙන් මට ප්‍රයෝජන නැතැයි ප
22 යට කියන්ටවත් නොහැකිවෙති. ශරීර
යේ අවයවයන්ගෙන් දුර්වලව පෙනෙන්
23 නාවූ අවයව ඕනෑමය. ශරීරයාගේ අව
යවයන්ගෙන් වඩා අවනම්බු සහිතයයි අ
පි සිතනනාවූ අවයවවලට බොහෝ න
ම්බු දෙමුව. අපගේ අසෝභනවූ අවයව
යෝ බොහෝ සෙයින් සෝභනකරනු
24 ලබති. අපගේ සෝභනවූ අවයවයන්ට
25 සෝභනකිරීමෙන් කමක් නැත. නුමුත්
ශරීරයෙහි කිසි භේදයක් නොව අවය
වයන් ඔවුනොවුන් ඒකාකාර ප්‍රවේසම්
කරගන්නා පිනිස දෙවියනවහන්සේ න
ම්බුව නැත්තාවූ අවයවවලට බොහෝ න
26 ම්බු දී ශරීරය සෑදූසේක. එක අවයවයක
ට වේදනාවක් ඇත්නම් ඒ හා සමග සි
යළු අවයවයෝ වේදනා විඳිති එක අව
යවයකට නම්බු ලැබේනම් ඒ සමග සිය
27 ළු අවයවයෝ සතුටුවෙති. නුබලා ක්‍රිස්
තුසවහන්සේගේ ශරීරයද වෙන් වෙන්

කලොත් කිවේ මොනවාද කියා දැනග
නොත් කොහොමද? නුබලා ආකාසයට
10 කථාකරනනාක්මෙන් වෙති. යම් පමන
වෙනස්වූ භාෂා ලෝකයේ ඇද්ද එයින්
එකක්වත් අර්ථ නැතුව ඇතොත් නැත.
11 මම වචන අර්ථ නොදනනාවිනම් කථා
කරනනාට පරදේසියෙක් වෙමි කථාක
12 රනනා මට පරදේසියෙක් වේ. එසේම
ආත්මිකවූ සමර්ථකම්වලට කැමැත්තාවූ
නුබලාත් සභාවෙහි වැඩසිඩවීම පිනිස
එයින් උතුම්වෙනනට උත්සාහකරපල්
13 ලාය. එබැවින් අන් භාෂාවෙන් යාඥා
කරන්නා තේරුම්කර දෙන්නට පුළු
14 වන්වන ලෙස යාඥාකෙරේවා. මම අ
නුන්ට නොතේරෙණ භාෂාවෙන් යාඥා
කරතොත් මාගේ සිතින් යාඥාකෙරෙමි
15 නුමුත් මාගේ දැනීමෙන් වැඩනැත. එ
සේවීනම් කුමක් කටයුතුද? සිතෙන් යා
ඥාකෙරෙමි තේරුම් දෙන ලෙසද යාඥා
කෙරෙමි. සිතෙන් ගීතිකා කෙරෙමි
තේරුම් දෙන ලෙසද ගීතිකා කෙරෙමි.
16 නැතහොත් නුබ ආත්මයෙන් සතුතිකර
ණකල නුගත් අය නුබ කියනොත් මො
කදැයි නොදනනා බැවින් නුබ සතුතික
ලවිට ආමෙන්යයි කියනොත් කොහො
17 මද? නුබ හොඳකාරයෙන් සතුතිකරන්
නේය නුමුත් අනිත් තැනැත්තාට වැඩ
18 සිඩවන්නේ නැත. නුබලා සියල්ලන්ට
වඩා මම අන් භාෂාවලින් කථාකරණවා
ට මාගේ දෙවියන්වහන්සේට සතුතික
19 රමි. එසේ නුමුත් මම සභාවේදී අනුන්ට
නොතේරෙණ භාෂාවකින් දසදහසක්
වචන කථාකරණවාට වඩා අනුන්ට උ
ගන්වන පිනිස තේරුම් ඇතුව වචන ප
20 හක් කථාකරන්ට කැමැත්තෙමි. සහෝ
දරයෙනි නුබලා නුවනින් නොව දුෂ්ඨ
කල්පනාවෙන් බාලයෝද නුවනින් පූ
21 රුෂයෝද වෙයල්ලාය. අන් භාෂාවලින්ද
අන්‍ය වචනවලින්ද මේ සෙනග සමග
කථාකරණ නුමුත් ඔවුන් මාගේ වචන
නාසතියි ස්වාමිවහන්සේ කියනසේකැ
22 යි ව්‍යවස්ථාවෙහි ලියනලද්දේය. එහෙ
යින් අන් භාෂා අදහනනාවුන්ට නොව
නොඅදහන්නවුන්ට ලකුනක් පිනිස
වේ. දේසනාකිරීම නොඅදහනනාවුන්ට
නොව අදහනනාවුන්ට ලකුනක් පිනිස
23 වේ. සියළු සභාව එකට රැස්ව සියලලෝ
ම අන් භාෂාවලින් කථාකරත්නම් නු
ගත් අයවල්වත් ඇදහිලි නැති අයවල්
වත් එහි පැමිණුනොත් නුබලා ඔල්මා
24 දයෝයයි කියන්නේ නැද්ද? සියල්
ලෝ දේසනා කරත්නම් නුගත් කෙනෙ
කුත් ඇදහිලි නැතිකෙනෙක්වත් පැමි
නුනොත් ඔහු සියල්ලන් විසින් තමාගේ
වරද හඟවාදෙනලදුව සියල්ලන් විසින්
25 විනිශ්චයකරනු ලැබේ. එසේම ඔහුගේ
සිතේ රහස්ද එළිදරව්වන්නේය. ඔහුද
මුහුනින් වැටී දෙවියන්වහන්සේට නමස්
කාරකොට දෙවියන්වහන්සේ ඒකාන්
තයෙන් නුබලා කෙරෙහි ඇතැයි ප්‍රසිඩ
කරනේය.
26 එසේවීනම් සහෝදරයෙනි කිමෙක්
ද? නුබලා රැස්ව ඉන්නාකල නුබලා
ගෙන් එක එකාට ගීතිකාවක්ද ගුරුක
මක්ද අන් භාෂාවක්ද එළිදරව්කිරීමක්
ද තෝරාදීමක්ද ඇත. සියල්ල දියුනුවී
27 ම පිනිස කරනු ලැබෙත්වා. යමෙක් අන්
භාෂාවකින් කථාකෙරේනම් දෙදෙනෙ
කු හෝ තුන්දෙනෙකු හෝ පිළිවෙ
ලින් කියාවා. එකෙක් තේරුම්කෙරේ
28 වා. තේරුම්කරනෙනෙක් නැත්නම් ඔහු
සභාවේදී කථානොකොට තමාටද දෙ
29 වියන්වහන්සේටද කථාකෙරේවා. දේස
නාකාරයෝ දෙදෙනෙක් හෝ තුන්දෙ
30 නෙක් හෝ කථාකෙරෙත්වා. අන්‍යයෝ
විචාරකෙරෙත්වා. ළඟ හිඳින තැනැත්
තෙකුට කිසිවක් එළිදරව්කරනු ලැබේ
නම් පළමු කථාකල තැනැත්තේ නිස්
31 ශබ්දවේවා. සියල්ලෝම ඉගනගෙන සැ
නසිල්ල ලබන පිනිස නුබලා සියල්ලන්
ටම එක එකා වසයෙන් දේසනාකරන්
32 නට පුළුවන. දේසනාකාරයන්ගේ ආත්
මයා දීමනාව දේසනාකාරයන්ට යටත්ව
33 තිබෙනේය. මක්නිසාද දෙවියන්වහන්
සේ විවාදයෙහි නොව සමගියාවෙහි
දෙවියන්වහන්සේව සිටිනසේක. පිරිසිදු
වූවන්ගේ සියළු සභාවල්හිද එසේම ව
නේය.
34 නුබලාගේ ස්ත්‍රීහු සභාවලදී නිශ්ශබ්ද
වෙත්වා මක්නිසාද ව්‍යවස්ථා පොත්හි ලි
යා තිබෙන ලෙස යටත්වවන්ට ඔවුන්ට
නුදුසුය. ඒ නිසා සභාවේ කථාකරන්ට ඔ
35 වුන්ට අවසර නැත. යමක් ඉගනගන්ට
ඔවුන් කැමතිනම් සභාවේදී කථාකරන්
ට ස්ත්‍රීන්ට නොහොබනා බැවින් ගෙද
රදී තමන් පුරුෂයන්ගෙන් විචාරත්වා.
36 කිමෙක්ද? දෙවියන්වහන්සේගේ වච
න නුබලා කෙරෙන් නිමත්වූනේද? නො

හොත් නුඹලා ලඟට පමනක් ආයේද?
37 යමෙක් තමන් දේසනාකාරයෙක කියා
වත් ආත්මික දීමනාව ලැබූ කෙනෙක
කියාවත් සිතනොත් ඔහු මා විසින් නුබ
ලාට ලියන කාරණ ස්වාමින්වහන්සේගේ
38 අඥාවල් වෙතියි දැනගනිවා. යමෙක්
මේක නොදනොත්නම් ඔහු නොදැනුව
39 තම සිටිවා. එබැවින් සහෝදරයෙනි දේ
සනා කරන්ට ඉතා කැමතිවෙයල්ලාය.
අන් භාෂාවලින් කථාකිරීම වලක්වන්ට
40 එපාය. සියල්ල හොබිනාලෙසද පිළි
වෙළිනු කරනු ලැබෙත්වා.

15. පරිචෙජ. තවද සහෝදරයෙනි
මම නුබලාට ප්‍රකාසකලාවූ නුබලා පිළි
ගත්තාවූ නුබලා පිහිටා සිටින්නාවූ සුභා
2 රංචි නුබලාට දන්වමි. නුබලා නිස්ප්‍රයෝ
ජනයේ නොඅදහා මම නුබලාට ප්‍රකාශ
කල කාරණ හිතේ තබාගනිත්නම් එ
3 සින් ගලවනු ලබති. මක්නිසාද ලියැවිලි
වල හැටියට අපේ පවු නිසා ක්‍රිස්තුස්ව
4 හන්සේ මරණට පැමින තැන්පත්කරන
5 ලදුව ලියවිලිවල හැටියට තුනෙවනි ද
නැගිට කෙඵස්ටද නැවත දොලොස්දෙ
නාටද පෙනුනසේකැයි යන මට බාරක
රණලද මේ කාරණ නුබලාට පලමුකො
6 ට බාරදුනිමි. එසේ පෙනුනු පසු උන්
වහන්සේ එකවිටම පන්සියේකට වඩා
සහෝදරයන්ට පෙනුනුසේක. ඔවුන්
ගෙන් වැඩි දෙනෙක් අද දක්වා ජීවත්ව
7 සිටිති සමහරු සැතපුනෝය. ඉන්පසු
උන්වහන්සේ යාකොබ්ටද එසින් පසු සිය
8 ළු ප්‍රේරිතයන්ටද පෙනුනුසේක. සියල්
ලන්ට පසු අකලට උපන් තැනැත්තෙක්
9 වැනිවූ මටද පෙනුනුසේක. මම ප්‍රේරිත
යන්ගෙන් ඉතා කුඩා තැනැත්තෙක් වෙ
මි. මම දෙවියන්වහන්සේගේ සභාවට
පීඩාකල බැවින් ප්‍රේරිතයෙකැයි කියනු
10 ලබන්ට නොවටිමි. මම කොයි කෙනෙ
ක සිටින නුමුත් එසේවී සිටිනොත් දෙවි
යන්වහන්සේගේ කරුණාවෙන්ය. උන්
වහන්සේ මට දුන් කරුණාව සිස්වූනෝ
නැත. මම ඔවුන් සියල්ලන්ට වඩා උත්
සාහකෙලෙමි. නුමුත් මා කෙරෙහි තිබූ
නාවූ දෙවියන්වහන්සේගේ කරුනාවමි
11 ස මම නොවෙමි. නුමුත් මම වූනත් ඔ
වුන් වූනත් එසේ අපි ප්‍රකාසකරමුව එ
සේම නුබලා අදහගත්තෝය.
12 තවද ක්‍රිස්තුස්වහන්සේ මලවුන්ගෙන්
නැගුටුනු බව ප්‍රකාසකරනු ලැබේනම් ම
ලවුන්ගෙන් නැගිටීමක් නැතැයි නුබලා
අතරෙහි සමහරු කියනොත් කොහො
13 මද? මලවුන්ගෙන් නැගිටීමක් නැත්
නම් ක්‍රිස්තුස්වහන්සේත් නොනැගුටුනු
14 සේක. ක්‍රිස්තුස්වහන්සේ නොනැගුටුනු
සේක්නම් අපගේ ප්‍රකාසකිරීමත් හිස්
15 ය නුබලාගේ ඇදහීමත් හිස්ය. මලාහු
නොනැගිටිත්නම් දෙවියන්වහන්සේ වි
සින් නොනැගිටෙව්වාවූ ක්‍රිස්තුස්වහන්
සේ උන්වහන්සේ නැගුටුවූසේකැයි උන්
වහන්සේ ගැන සාක්ෂි දුන් බැවින් අපිත්
දෙවියන්වහන්සේ ගැන බොරු සාක්කි
16 කාරයෝව පෙනෙමුව. මලාහු නොනැ
ගිටිත්නම් ක්‍රිස්තුස්වහන්සේත් නොනැ
17 ගුටුනසේක. ක්‍රිස්තුස්වහන්සේ නොනැගු
ටුනුසේක්නම් නුබලාගේ ඇදහීම නිස්ඵ
ලය දැන් දක්වා නුබලා තමන්ගේ පාපව
18 ල සිටිති. එපමනක් නොව ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි සැතපුනාවූ අයවල් විනාස
19 යට පැමිනියෝය. මේ ජීවිතයෙහි පම
නක් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි බලා
පොරොත්තුවීම අපට ඇත්නම් සියළු ම
නුෂ්‍යයන්ට වඩා අපි කාලකන්නියෝය.
20 නුමුත් ක්‍රිස්තුස්වහන්සේ මලවුන්ගෙන්
නැගිට සැතපෙනවුන්ට ප්‍රථම ඵලය වූ
21 සේක. මක්නිසාද මනුෂ්‍යයෙකු කරණ
කොටගෙන මරණය වූවාක්මෙන් මනු
ෂ්‍යයෙකු කරණකොටගෙන මලවුන්
22 ගෙන් නැගිටීමත් වූයේය. තවද ආදම්
කරණකොටගෙන සියල්ලෝ මරනට පැ
මිනෙන්නාක්මෙන් ක්‍රිස්තුස්වහන්සේ
කරණකොටගෙන සියල්ලෝ ජීවත්වනු
23 ලබනවා ඇත. නුමුත් එකඑකා තමත
මන්ගේ ක්‍රමයෙන්මය. ප්‍රථම ඵලවූ ක්‍රිස්
තුස්වහන්සේය එසින් පසු ක්‍රිස්තුස්වහන්
සේගේ ඊමේදී උන්වහන්සේගේ තැනැ
24 ත්තෝය. උන්වහන්සේ සියළු ආඥාවද මු
ලාදෑනිකමද බලයද යටත්කල කල්හිද
රාජ්‍යය පියවූ දෙවියන්වහන්සේට පාවා
25 දුන් කල්හිද සෙලවරවේ. මක්නිසාද
උන්වහන්සේ සියළු සතුරන් තමන්වහන්
සේගේ පාද යට දමනතුරු උන්වහන්සේ
26 විසින් රජකම් කටයුතුය සියල්ල උන්ව
හන්සේගේ පාද යට දැමූ බැවින් මරණ
යනම්වූ අන්තිම සතුරා විනාසකරනු ලැ
27 බේ එහෙත් සියල්ල උන්වහන්සේට ය
ටත්කරනලදයි යන කීමෙන් සියල්ල
උන්වහන්සේට යටත්කල පියානන්වහන්

සේ හැරය කියා පෙනෙන්නේය. ත
28 වද සියල්ල උන්වහන්සේට යටත්කර
නු ලබනකල දෙවියන්වහන්සේ සියල්
ලන් කෙරෙහි සියළු ආකාරයෙන් උතුම්
වෙන පිණිස පුත්‍රයාණන්වහන්සේද තමා
ට සියල්ල යටත්කරදුන් තැනන්වහන්
29 සේට යටත්වෙනවා ඇත. මලාහු මුළුම
නිම්ම නොනැගිටිත්නම් මලවුන් ගැන
බව්තීස්ම ලබනාන්ට මක්වේද? මල
30 වුන් ගැන මක්නිසා බව්තීස්ම ලබද්ද? අ
පිත් නිරන්තරයෙන්ම උපද්‍රවේ සිටින්
31 නේ මන්ද? දවස්පතා මියමියි අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කාරණකො
ටගෙන නුඹලා කෙරෙහි මට ඇතතාවූ
32 ගරුකමෙන් සැබෑවටම කියමි. තවද ම
ලාහු නොනැගිටිත්නම් ඒපිසයෙහිදී ම
නුෂ්‍යාකාරයෙන් තිරිසනුන් සමග මාගේ
පොර ඇල්ලීමෙන් මට ප්‍රයෝජන කි
33 මෙක්ද? හෙට මියන නිසා අද කමුව
බොමුව. මුලානොවෙල්ලාය නපුරු සමා
ගම් පැවැත්වීමෙන් හොඳ චාරිත්‍ර නරක්
34 කරනුලැබේ. නුඹලා පව් නොකොට ධ
ර්මිෂ්ඨකම් කිරීමට පිබිදියල්ලාය මක්නි
සාද සමහරු දෙවියන්වහන්සේ නාඳුන
ති. නුඹලාට ලැජ්ජා පිණිස මේක කියමි.
35 එහෙත් මලාහු නැගිටින්නේ කො
හොමද? කොයි ආකාර ශරීරයෙන් ඔ
36 වුන් එද්දැයි සමහරෙක් අසති. අඥානය
නුඹ වපුරණ දේ නොමලොත් ඒක පැ
37 ලවෙනෙත් නැත. නුඹ වපුරණකල නි
කම් වීඇටයක්වත් වෙන ඇට ජාතියක්
වත් මිස මතු අටගනනාවූ කඳ වපුරන්
38 නේ නැත. නුමුත් දෙවියන්වහන්සේ ත
මන්ට කැමති හැටියට පැලකොට එක
එක බිජුවටයට ඒවාගේ නියම කඳ අට
39 ගන්වනසේක. සියළු මාංශ ඒකාකාර නො
වේය. මනුෂ්‍යයන්ගේ මාංස ඒකාකාර
යෙක. සිව්පාවුන්ගේ මාංසය වෙන ආ
කාරයෙක. මසුන්ගේ මාංසය වෙන ආ
කාරයෙක. පක්ෂීන්ගේ මාංසය වෙන ආ
40 කාරයෙක. තවද ස්වර්ගීය ශරීරද භූමි
ක ශරීරද ඇත. නුමුත් ස්වර්ගීයයන්ගේ
තේජස ඒකාකාරයෙක. භූමිකයන්ගේ
41 තේජස වෙන ආකාරයෙක. සූර්‍ය්‍යයාගේ
තේජස ඒකාකාරයෙක චන්ද්‍රයාගේ තේ
ජස වෙන ආකාරයෙක. තාරකාවන්ගේ
තේජස වෙන ආකාරයෙක. තවද තේජ
සින් තාරකාවකට තාරකාවක් වෙනස
42 ඇත. මලවුන්ගේ නැගිටීම එසේමය. කු
ණුවෙන ආකාරයෙන් වපුරනු ලැබේ කු
ණුනොවෙන ආකාරයෙන් නැගුටුවනු
43 ලැබේ. අගෞරවයෙන් වපුරනු ලැබේ
තේජස ඇතුව නැගුටුවනු ලැබේ. දුර්වල
කමෙන් වපුරනුලැබේ බලයෙන් නැගු
44 ටුවනුලැබේ. ප්‍රාණික ශරීරයක්ව වපුර
නු ලැබේ ආත්මික ශරීරයක්ව නැගුටුව
නු ලැබේ. ප්‍රාණික ශරීරයක්ද ආත්මික
45 ශරීරයක්ද ඇත. එසේම පළමුවෙනි ම
නුෂ්‍යයාවූ ආදම් ජීවමාන ප්‍රාණයක්ව ම
වනු ලැබුයේයයි ලියනලද්දේය නුමුත්
අන්තිම ආදම් ජීවන දෙයනාවූ ආත්මයෙ
46 ක. එසේ නුමුත් ආත්මික එක නොව ප්‍රා
ණික එක පළමුවෙනි එකය. ඉන්පසු
47 ආත්මික එක වූයේය. භූමියෙන්වූ පළමු
වෙනි මනුෂ්‍යයා ධූලිමය වූනේය දෙවෙ
නි මනුෂ්‍යයා ස්වර්ගයෙන්වූ ස්වාමින්ව
48 හන්සේය. ඒ ධූලිමය තැනැත්තා සේම
ධූලිමය තැනැත්තෝත් වෙති. ස්වර්ගීක
49 තැනැත්තාසේම ස්වර්ගීකයෝද වෙති
අපි ධූලිමය තැනැත්තාගේ රූපය දැරුවා
සේම ස්වර්ගීක තැනැත්තාගේ රූපයද
50 දරන්නෙමුව. සහෝදරයෙනි ලේ මස්
ලට දෙවියන්වහන්සේගේ රාජ්‍යය උරුම
වෙන්ට බැරිබවත් කුණුවෙන ඒක කුණු
නොවීම උරුමනොවෙන බවත් කියමි.
51 නුඹලාට රහසක් කියමි. අපි සියල්ලෝ
නොසැතපෙන්නෙමුව අන්තිම හොර
නෑ ශබ්දය පවත්වනකල ඇසිපිය හෙ
ළන කෙනෙහිම අපි සියල්ලෝම අන්
52 වෙසක් වෙමුව. මක්නිසාද හොරනෑ
ශබ්ද පවත්වන්නේය. එකල මලාහු කු
ණුනොවී මේ ආකාරයෙන් නැගුටුවනු
ලබනවා ඇත. අපිද අන් වෙසක් වෙමු
53 ව. මක්නිසාද කුණුවෙනතාවූ මේක කු
ණුනොවීමද මරනීයවූ මේක අමරණය
54 ද පැලඳගන්ට ඕනෑය. කුණුවෙන්නාවූ
මේක කුණුනොවීමත් මරනීයවූ මේක
අමරණයත් පැලඳගත් කල්හි මරණය
සදකාලේටම ගිලිනාලද්දේයයි ලියා ති
55 බෙන වචනය සම්පූර්ණවෙයි. මරණය
තාගේ කටුව කොතනද? මිනීවල තා
56 ගේ ජය කොතනද? මරණයේ කටුව
නම් පාපයය. පාපයේ බලයනම් ආඥා
57 පනතය. නුමුත් අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කාරණකොටගෙන අ
පට ජය දෙනතාවූ දෙවියන්වහන්සේට
58 ස්තුතිවේවා. එසේහෙයින් මාගේ ප්‍රියවූ
සහෝ රයෙනි ස්වාමින්වහන්සේ කෙ

රෙහි නුඹලාගේ මෙහෙය සිස්නොවේ
යයි නුඹලා දන්නා බැවින් ස්ථිරව නිශ්
චලව ස්වාමින්වහන්සේගේ මෙහෙයෙහි
වැඩිවැඩිව පැවතියල්ලාය.

16. පරිච්ඡෙ. තවද පිරිසිදුවූවන් උ
දෙසා සමාදන්කිරීම ගැන ගලාතියේ ස
භාවලට මම නියමකල ලෙසම නුඹලාත්
2 සමාදන්කරපල්ලාය. මම ආකල සමා
දන්කිරීමක් නොවෙන පිණිස සතියේ ප
ලමුවෙනි දා නුඹලාගෙන් එක එකා ත
මතමන්ගේ පොහොසත්කමේ හැටියට
එකතුකොට තමතමන් ළඟම තබාගනි
3 ල්ලාය. මම ආකල නුඹලා හොඳයි කියා
මට ඔප්පුදෙනතවුන් මාගෙන් ලිවුම් ඇ
තුව නුඹලාගේ දානය සමග යෙරුසල
4 මට යවමි. මමත් යන්ට ඕනෑනම් ඔවුන්
5 මා සමග යනවා ඇත. මම මකිදෝනිය
මැදින් යන්නෙනම් මම මකිදෝනිය පසු
6 කොට නුඹලා ළඟට එන්නෙමි. මම කො
තනට යතත් නුඹලා මා සමග පසුගමන්
යන පිණිස නුඹලා සමග කලක් සිටිමි ස
මහරවිට සීත කාලයේ නුඹලා සමග වා
7 සයකරමි. මක්නිසාද මගදී නුඹලා ද
කින්ට නොකැමැත්තෙමි ස්වාමින්වහන්
සේ අවසරදෙනසේක්නම් නුඹලා සම
8 ග ස්වල්ප කලක් සිටින්ට සිතමි. නුමුත්
මහත්වූ සඵලවූ දොරක් මට ඇරලා ති
9 බෙන බැවින්ද එදිරිකාරයන් බොහෝ
දෙනෙක් සිටින බැවින්ද පෙන්තිකොස්තය
10 දක්වා එපීසයේ සිටිමි. තිමෝතියස් ආ
යේනම් ඔහු මා සේම ස්වාමින්වහන්සේ
ගේ වැඩ කරණහෙයින් ඔහු භයක් නැ
තුව නුඹලා ළඟ සිටින පිණිස බලාගනි
ල්ලාය, කවුරුවත් ඔහු සුළුකොට නො
11 සිතත්වා. සහෝදරයන් සමග ඔහු එන්
නේයයි මම බලා සිටිමි එබැවින් ඔහු මා
ළඟට එන පිණිස සමාදානයෙන් ඔහු ස
12 මග පසුගමන් වරෙල්ලාය. සහෝදර
යන් සමග නුඹලා ළඟට යන්ට සහෝද
රවූ අපොල්ලොස්ට බොහෝකොට කී
මි නුමුත් දැන් යන්ට ඔහු කොහෙත්ම
කැමති නැත. පහසු ලැබුනු ප්‍රස්තාවකදී
ඔහු එන්නේය.
13 අවදිව ඉඳිල්ලාය. ඇදහිල්ලේ ස්ථිරවෙ
යල්ලාය. පුරුෂයන් මෙන් සිටපල්ලාය
14 බලසම්පන්න වෙයල්ලාය. නුඹලා කර
15 ණ සියල්ල ප්‍රේමයෙන් කරපල්ලාය. ස
හෝදරයෙනි ස්තෙපනස්ගේ ගෙයි වැ
සියන් අඛායෙහි ප්‍රථම ඵලවූ බවද ඔ
වුන් පිරිසිදුවූවන්ගේ සේවයේ යෙදී සි
16 ටිනබවද නුඹලා දනිති. එබැවින් එබ
ඳුවූවන්ට සහායකාරීවූ මෙහෙකරන්නා
වූ සියල්ලන්ටද නුඹලා යටත්වෙන ලෙ
17 ස අවවාදකරමි. ස්තෙපනස්ද පෝර්තු
නාතුස්ද අඛායිකස්ද ආ බවට සතුටුවෙ
මි. ඔවුන් නුඹලාගෙන් අඩුඑහුබුව ති
18 බුනු දේ සම්පූර්ණකොට නුඹලාගේත්
මාගේත් හිත් සැනසුවෝය. එහෙයින්
19 එබඳුවූවන්ට නම්බු දීපල්ලාය. ආසියාවෙ
හි සභාවල් නුඹලාට ආචාර කරති. අකි
ලාද ප්‍රිස්කිලාද තමන්ගේ ගෙයි ඇත්තා
වූ සභාව සමග ස්වාමින්වහන්සේ කෙරෙ
හි නුඹලාට බොහෝසෙයින් ආචාරක
20 රති, සියළු සහෝදරයෝ නුඹලාට ආචා
රකරති. පිරිසිදුවූ සිඹීමකින් තම තමුන්
21 ආචාර කරගනිල්ලාය. පාවුල්නම්වූ මම
22 මා අතින් මාගේ ආචාරකිරීම ලියමි. කි
සිවෙක් ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේට ප්‍රේම නොකරන්නේනම් ඔහු නපු
රුශාප ලද්දෙක් වේවා ස්වාමින්වහන්
23 සේ එනසේක. අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ කරුණාව නුඹලා
24 සමග වේවා. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරෙහි ඇත්තාවූ මාගේ ප්‍රේමය නුඹ
ලා සියල්ලන් සමග වේවා. ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින්

## කොරින්තිසවරුන්ට ලියනලද දෙවෙනි පත්‍රය.

1. පරිච්ඡෙදය. දෙවියන්වහන්සේගේ
කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්නම් මමද ස
හෝදරවූ තිමෝතියස්ද කොරින්තියෙ
හි සිටින දෙවියන්වහන්සේගේ සභාව
ටද අඛායිය මුළුල්ලෙහි සිටින සියළු පිරි
2 සිදුවූවන්ටද අපේ පියානන්වූ දෙවියන්
වහන්සේගෙන්ද ස්වාමිවූ යේසුස් ක්‍රිස්තු

ස්වහන්සේගෙන්ද කරුණාවද සමාදාන
3 යද වෙනලෙස ලියා එවන වගනම් දෙ
වියන්වහන්සේගෙන් අපට ලැබුනාවූ සැ
නසිල්ල කරණකොටගෙන දුකක් විඳි
නාවුන් සනසන්ට අපට පුළුවන්වෙන
4 පිනිස අපේ සියළු දුක්වලදී අප සනසන්
නාවූ කරුණාවේ පියවූ සියළු සැනසිල්
ලේ දෙවිවූ අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගේ පියාවූ දෙවියන්වහන්
5 සේට ස්තුතිවේවා. අපි ක්‍රිස්තුස්වහන්සේ
නිසා විඳින දුක් වේදනා වැඩිවෙන ලෙ
සම උන්වහන්සේ නිසා අපේ සැනසිල්
6 ලද වැඩිවේ. තවද අපි විඳිනනාවූ වේද
නාවල් නුඹලාත් විඳිනකල එයින් නුඹ
ලාගේ සැනසීමද ගැලවීමද සිඬවෙන
නිසා අපි දුක් විඳිමූනම් ඒක නුඹලාගේ
සැනසීමද ගැලවීමද පිනිස විඳිමූව, අපි
සැනසීම ලබමූනම් ඒක නුඹලාගේ සැ
7 නසීමද ගැලවීමද පිනිස ලබමූව. නුඹ
ලා වේදනාවට පංගුකාරව සිටින ලෙස
සැනසීමටද පංගුකාර වන බව අපි දැන
ගත් බැවින් නුඹලා ගැන අපේ බලාපො
8 රොත්තුව ස්ථිරව පවත්නේය. තවද ස
හෝදරයෙනි ආසියාවේදී අපට පැමිණි
දුක් ගැන නුඹලා නොදැන සිටිනවාට
අපි නොකමැත්තමූව. ඒ දුකනම් අපි
ජීවත්නොවෙමූයයි සිතන තරම් උසු
ලන්ට බැරි පමන අප්‍රමාන ලෙස පීඩිත
9 ව සිටිමය. නුමුත් මලවුන් නැගුටුවනනා
10 වූ දෙවියන්වහන්සේ කෙරෙහි මිස අප
කෙරෙහි අපි විශ්වාස නොකරණ පිනිස
මරණයට පැමිනිමේ තීන්දුව අප තුලේ
ම තිබුනේය. උන්වහන්සේ මෙයාකාර
11 මහත් මරණයකින් අප ගැලවූසේක. අ
ප උදෙසා නුඹලාගේ යාඥාවීමේ උප
කාරයෙන් මෙයින් මතුද උන්වහන්සේ
අප ගලවනසේකැයි විශ්වාස කරමූව.
මෙසේ බොහෝ දෙනා කරණකොට
ගෙන අපට දෙනලද පිහිට නිසා බො
හෝ දෙනා අප ගැන ස්තුති පවත්වන
වාද ඇත.
12 තවද අපේ අහංකාරයනම් අපි ලෝ
කයා කෙරෙහිද ප්‍රධානකොට නුඹලා
කෙරෙහිද අවංකකම්ද දිව්‍යවූ ඇදහෑ
තිකම්ද ලෞකික ඥානයෙන් නොව
දෙවියන්වහන්සේගේ කරුණාවෙන් හැ
සුරුනෙමූයයි යන අපේ හෘදසාක්ෂියය.
13 ඇරත් නුඹලා කියවන්නාවූද දැනගන්
නාවූද කාරණයන් හැර වෙන කාරණ
14 යන් නුඹලාට නොලියමූව. ස්වාමිවූ යේ
සුස්වහන්සේගේ දවසෙහි නුඹලා අපේ
අහංකාරය වෙනලෙස අපිත් නුඹලාගේ
අහංකාරය වෙමූයයි නුඹලාගෙන් සම
හර දෙනෙක් අප දැනගත් ලෙස කෙල
වර දක්වාම දැනගන්නවා ඇතැයි විශ්වා
15 ස කෙරෙමි. මේ විශ්වාසයෙන් නුඹලාට
දෙවනුත් පිහිටක් ලැබෙන පිනිස පලමු
16 කොට නුඹලා ලඟට එන්ටද නුඹලා ල
ඟින් මකිදෝනියට යන්ටද නැවත මකි
දෝනියෙන් නුඹලා වෙතට එන්ටද මම
නුඹලා විසින් යුදයට පසුගමන් යවනු ල
17 බන්ටද සිතුයෙමි. මෙසේ සිතූ මම පෙ
රලෙන සිත් ඇත්තෙක් වෙම්ද? නො
හොත් එසේය එසේයයි කියාද නැත නැ
තැයි කියාද කල්පනාකර මම සිතන කා
රණවල් ලෞකික ආකාරයෙන් සිතම්
18 ද? දෙවියන්වහන්සේ සත්‍ය කෙනෙක්
ව සිටිනාසේම අපි එසේය කියාත් නැ
19 ත කියාත් කීවේ නැත. මක්නිසාද මම
ද සිල්වානුස්ද තිමොතියස්ද යන අප
විසින් නුඹලා අතරෙහි ප්‍රකාසකරණල
ද දෙවියන්වහන්සේගේ පුත්‍රවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ එසේයයි කියාද නැතැ
යි කියාද නොවූසේක එහෙත් ඒ ප්‍රකා
සවීම උන්වහන්සේ කෙරෙහි එසේයයි
20 කියාම වූනේය. තවද අප කරණකොට
ගෙන දෙවියන්වහන්සේට ගෞරව පැ
මිනෙන පිනිස උන්වහන්සේගේ සියළු
පොරොන්දුවල් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි එසේය කියාද ආමෙන් කියාද
21 වෙත්. නුඹලා සමග අප ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි ස්ථිර කරනෙනත් ආලේප
22 කලෙත් දෙවියන්වහන්සේය. උන්වහන්
සේ අප මුද්‍රකොට අපේ සිත්වලට ආත්
මයානන්වහන්සේ නැමති අත්තිකාරම
23 දුන්සේක. මමද නුඹලා කෙරෙහි කරු
ණාවෙන් මෙතෙක් කල් කොරින්තියට
නාවෙමියි මාගේ ප්‍රාණයට විරුඬව දෙ
වියන්වහන්සේ සාක්ෂිකාරයෙක්කොට
24 ගනිමි. නුඹලාගේ ඇදහිල්ලට අපි බල
ය නොපවත්වා නුඹලාගේ ප්‍රීතියට පං
ගුකාරයෝව සිටිමූව. මක්නිසාද නුඹලා
ඇදහිල්ලෙන් සිටිති.

2. පරිච්ඡේ. තවද ශෝක කරවන
ලෙස නුඹලා ලඟට නැවත නොඑන්ට
2 මාගේ සිතින් නියමකරගතිමි. මක්නිසා
ද මම නුඹලා ශෝකයට පත්කෙරෙම්

නම් මා විසින් ශෝකයට පත්කරණලද
තැනැත්තාම මිස මා සතුටුකරනේත් ක
3 වුද? මාගේ ප්‍රීතියනම් තුඹලා සියල්ලන්
ගේ ප්‍රීතියයයි තුඹලා සියල්ලන් ගැන
විශ්වාස ඇත්තෙමි. ඉන්නිසා මම ආකල
මා ප්‍රීතිකරවියයුතු තැනැත්තන්ගෙන්
ශෝකය මට නොපැමිණෙන පිණිස මේ
4 කාරණාවල් ලිව්මි. තුඹලා ශෝකයට පැ
මිණෙන පිණිස නොව තුඹලා කෙරෙහි
මට ඇත්තාවූ මහත් ප්‍රේමය තුඹලා දැන
ගන්නා පිණිස බොහෝ දුකින්ද සිත් වි
යවුලෙන්ද බොහෝ කඳුළු වගුරුවමින්
5 තුඹලාට ලිව්මි. නුමුත් මා විසින් තුඹලා
සියල්ලන් පිට බර නොතබන පිණිස ය
මෙක් ශෝක ඉපදවූයේනම් ඔහු මදක්
6 මා ශෝකයට පැමිනවූයේය. බොහෝ
දෙනා විසින් පමුනුවනලද මේ දඬුවම
7 එබඳු තැනැත්තාට සෑහේය. ඔහු ඉතා
ශෝක නැමති මුහුදේ නොගිලෙන පි
ණිස ඔහුට කමාවෙන්වද ඔහු සනසන්
8 වද තුඹලාට ඉතා හුඳුසුය. එබැවින් ඔහු
කෙරෙහි තුඹලාගේ ආදරය ස්ථිරකරන්
9 ට ඉල්ලමි. සියල්ලෙහි තුඹලා කීකරුව
සිටිද්දැයි විමසා දැනගන්නා පිණිස පලමු
10 කොට ලියා එව්මි. තුඹලා යමෙකුට ය
මක් කමාවෙත්නම් ඔහුට මමද කමාවෙ
මි. මමත් යමෙකුට යමක් කමාවීනම්
සාතන්ගෙන් අපි පරදු නොවෙන පිණි
11 ස ක්‍රිස්තුස්වහන්සේ ඉදිරියෙහි තුඹලා
නිසා කමාවීමි. මක්නිසාද සාතන්ගේ උ
පායවල් අපි නොදැන නොසිටිමුව.
12 ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචිය ප්‍රකා
සකරන්ට ත්‍රොවායට ආවාවූ මට ස්වාමි
න්වහන්සේ විසින් දොරක් ඇරියකල ම
ගේ සහෝදරවූ තීතස් නුදුටු බැවින් ම
13 ගේ සිතට කිසි සැපයක් නොලැබ මම
ඔවුන්ගෙන් අවසර ගෙන එසින් මකි
14 දොනියට ගියෙමි. තවද සෑම වේලේම
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි අප දිනවන්
නාවූ සියළු තැන්වල අප ලවා උන්වහන්
සේ ඇඳිනගැන්ම නැමති සුවඳ පතුරුව
න්නාවූ දෙවියන්වහන්සේට ස්තුති වේවා.
15 මක්නිසාද අපි ගැලවෙනනාවුන් කෙරෙ
හිද විනාසවෙනනාවුන් කෙරෙහිද දෙ
වියන්වහන්සේට ක්‍රිස්තුස්වහන්සේගේ
16 සුවඳ වෙමුව. විනාසවෙනනාන්ට මරණ
ය පිණිස මරණ සුවඳද ගැලවෙනනාන්ට
ජීවනය පිණිස ජීවන සුවඳද වෙමුව. මේ
17 කාරණාවලට සමර්ථ කවුද? නුමුත් අපි
දෙවියන්වහන්සේගේ වචනය නරක්ක
රණ බොහෝ අයවල් මෙන් නොව දෙ
වියන්වහන්සේගේ ඉදිරියෙහි ක්‍රිස්තුස්ව
හන්සේ ගැන අව්‍යාජකමෙන්ද දෙවියන්
වහන්සේ කෙරෙන්ද කථාකරමුව.

3 පරිච්ඡේ. අපි දෙවනු අපේම ගුණ
කියාගන්ට පටන්ගනිමුද? නොහොත්
සමහර අයවලට මෙන් තුඹලා වෙතට
වත් තුඹලාගෙන්වත් අපටත් ගුණ කී
2 මේ ලිවුම් ඕනෑද? අපේ හෘදයවල ලියන
ලද්දාවූ සියළු මනුෂ්‍යයන් විසින් කියවන
3 ලද්දාවූ අපගේ ලිවුම තුඹලාමය. මක්නි
සාද අප විසින් දැනගන ලියවනලද්දා
වූ තීන්තවලින් නොව ජීවමාන දෙවිය
න්වහන්සේගේ ආත්මය කරණකොට
ගෙන ගල් ලෑලිවල නොව හිතේ මාංස
නැමති ලෑලිවල ලියනලද්දාවූ ක්‍රිස්තුස්ව
හන්සේගේ ලිවුමනම් තුඹලායයි ප්‍රක
4 ශකර තිබෙනෙන්ය. මෙබඳු විශ්වාසය ක්‍රි
ස්තුස්වහන්සේ කරණකොටගෙන දෙවි
5 යන්වහන්සේ කෙරෙහි අපට ඇත. අප
විසින්ම කිසිවක් සිතන්ට අපි සමර්ථ නො
වමුව. නුමුත් අපගේ සමර්ථකම දෙවි
6 යන්වහන්සේගෙන්මය. ලියවිල්ලේ අකු
රෙන් මරණයත් ආත්මයෙන් ජීවිතයත්
පැමිණෙන බැවින් උන්වහන්සේ අප අ
කුරෙන් නොව ආත්මයෙන්වූ අළුත් ගි
විසුමෙහි සේවක වෙනනට සමර්ථකල
7 සේක. තවද ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්ට
මෝසෙස්ගේ මුහුනේ නැතිවියනනාවූ
තේජස නිසා ඔහුගේ මුහුන බලන්ට බැ
රිතරමට ගල්ලෑලිවල කොටනලද මර
ණයාගේ සේවය තේජවන්ත වූයේනම්
8 ආත්මයානන්වහන්සේගේ සේවය ඊට
වඩා කොපමන තේජවන්ත නොවන්
9 නේද? තවද අවිවූවේ සේවයකිරීම තේ
ජවන්තනම් ධර්මිෂ්ඨකමේ සේවය ඊට
10 වඩා තේජසින් උතුම්වේ. මේ උතුම්වූ
තේජස නිසා තේජස ඇතුව නියමකර
11 ණලද්දාවූ ඒ සේවයට තේජස නැත. නැ
තිවෙනනාවූ එක තේජවන්තනම් පවතී
නනාවූ එක ඊට වඩා බොහෝ තේජවන්
12 ත වේ. එබඳුවූ සැකනැතිකම ඇතිව අ
13 පි කිසිවක් නොසඟවා කථාකරමුව. නැ
තිවෙන දෙයෙහි කෙලවර ඊශ්‍රායෙල් පු
ත්‍රයන් විසින් නොබලන හැටියට මෝ
සෙස් තමන් මුහුනේ වැස්මක් තිබ්බාලෙ
ස අපි නොතබමුව. නුමුත් ඔවුන්ගේ

14 සිත් අඳුරුවූහේය. අද දක්වා පරණ ගි
විසුම කියවනකල ක්‍රිස්තුස්වහන්සේ කර
ණකොටගෙන පහකරණලද්දාවූ එම
වැස්ම ඔවුන්ගෙන් පහනොකරණලදුව
15 පවත්නේය. තවද අද දක්වාම මෝ
සෙස්ගේ ලියවිලි කියවනකල ඒ වැස්ම
16 ඔවුන්ගේ හිතේ තබා තිබෙනේය. එ
සේ නුමුත් ඔවුන්ගේ හිත ස්වාමීන්වහන්
සේට හැරෙණකල ඒ වැස්ම පහකරනු
17 ලැබේ. ඒ ස්වාමින්වහන්සේනම් ආත්ම
යානන්වහන්සේය. ස්වාමීන්වහන්සේගේ
ආත්මය ඇති තැන නිදහස්කම තිබේ.
18 අපි සියල්ලෝම මූන වැස්මක් නැතුව
ස්වාමින්වහන්සේගේ තේජස කැඩපත
කින් මෙන් දක ස්වාමිවූ ආත්මයානන්ව
හන්සේ විසින් තේජසින් තේජසට එම
රූපයට වෙනස්කරනු ලබමුව.

4. පරිච්ඡේ. එහෙයින් මේ සේවය
ලැබූවාවූ අපි කරුණාවත් ලැබූහෙයින්
2 ක්ලාන්ත නොවී නොහොබිනා රහස් ක්‍රි
යා අත්හැර දමා වංචාකමේ නොහැසිර
දෙවියන්වහන්සේගේ වචනය රැවටිල්
ලෙන් ව්‍යවහාර නොකොට සැබෑව
දක්වීමෙන් දෙවියන්වහන්සේ ඉදිරියෙ
හි සියළු මනුෂ්‍යයින්ගේ හෘදසාක්ෂියට එ
කඟවෙනසේ අපේ ගුණ ප්‍රකාසකරමුව.
3 තවද අපේ සුභාරංචිය සැඟවී තිබෙන්
නේනම් විනාසවූවන්ට ඒක සැඟවී ති
4 බෙන්නේය. දෙවියන්වහන්සේගේ රූ
පයවූ ක්‍රිස්තුස්වහන්සේගේ තේජවන්ත
වූ සුභාරංචියෙහි ආලෝකය ඔවුන් කෙ
රෙහි නොදිලිහෙන පිනිස මේ ලෝක
යාගේ දෙවියා ඇදහිලි නැත්තාවූන්ගේ
5 සිත් අඳුරුකෙලේය. අපි අප ගැනම ප්‍ර
කාස නොකොට ක්‍රිස්තුස් යේසුස්වහන්
සේ ස්වාමින්වහන්සේයයි කියාද අපි යේ
සුස්වහන්සේ වෙනුවට නුබලාගේ වැඩ
6 කාරයෝයයි කියාද ප්‍රකාස කරමුව. මක්
නිසාද අන්ධකාරයෙන් ආලෝකය දිලි
හෙන්ට ආඥාකලාවූ දෙවියන්වහන්සේ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ මුහුනේ ඇ
ත්තාවූ තමන්වහන්සේගේ තේජසේ දැ
නීමේ ආලෝකය දෙන්ට අපේ හෘදවල
7 බැබළුසේක. නුමුත් බලයෙහි උතුම්ක
ම අපේ නොව දෙවියන්වහන්සේගේ
වෙන පිනිස මේ වස්තුව මැටි භාජනව
8 ල දරමුව. සැම අතින්ම පීඩා ලැබෙතත්
පෙලනු නොලබමුව. කැලඹීමට පැමිනු
9 නත් පිහිට නැතුව නොසිටිමුව. හිංසා
ලබන නුමුත් අසරණව නොසිටිමුව. බි
ම හෙළනු ලැබූ නුමුත් විනාස නොලබමු
10 ව. යේසුස්වහන්සේගේ ජීවනයද අපේ
ශරීරයෙහි ප්‍රකාසවෙන්ට ස්වාමිවූ යේසු
ස්වහන්සේගේ මරණය නිතරම අපේ ශ
11 රීරයෙහි දරාගෙන හැසිරෙමුව. ඇරත්
අපේ නසිනාවූ ශරීරයෙහි යේසුස්ව
හන්සේගේ ජීවනයද ප්‍රකාසවෙන පිනි
ස ජීවත්වනාවූ අපි යේසුස්වහන්සේ
උදෙසා නිතරම මරණයට පාවාදෙනු ල
12 බමුව. මෙසේ මරණය අප කෙරෙහිද
ජීවනය නුබලා කෙරෙහිද බලවත්ව ප
13 වත්නේය. මම අදහගතිමි ඒ නිසා කථා
කෙලෙමියි ලියා තිබෙන ලෙස එම ඇ
දහිල්ලේ ආත්මය ඇති අපිත් අදහාගෙ
14 න කථාකරමුව. තවද ස්වාමිවූ යේසුස්ව
හන්සේ නැගිටවූ තැනන්වහන්සේ යේ
සුස්වහන්සේ කරණකොටගෙන අපද
නැගුටුවා නුබලා සමග ඉදිරියෙහි සිටුව
15 නසේකැයි දනිමුව. මක්නිසාද බොහෝ
වූ කරුණාව කරණකොටගෙන බො
හෝ දෙනාගේ ස්තුති කිරීමෙන් දෙවිය
න්වහන්සේගේ මහිමතාව වැඩිවෙන පි
16 නිස ඒ සියල්ල නුබලා උදෙසා වේ. එ
හෙයින් අපි ක්ලාන්ත නොවෙමුව. අපේ
පිටත මනුෂ්‍යයා ක්ෂයවෙන නුමුත් අපේ
ඇතුල් මනුෂ්‍යයා දවසින් දවස අළුත්ක
17 රනු ලබනේය. ක්ෂනයක් පමන පව
තිනා අපේ සැහැල්ළුවූ දුක තෙම පෙනෙ
න දේ නොව නොපෙනෙන දේ බලා
සිටිනාවූ අපට අපමන උතුම්වූ නිරන්
තරවූ තේජස්භාරයක් සාදා දෙන්නේ
18 ය. මක්නිසාද පෙනෙන දේ කලකටද
නොපෙනෙන දේ සදාකාලේටමද ප
වත්නේය.

5. පරිච්ඡේ. කූඩාරම වැනි භූමිකවූ
අපේ ගෙය විනාසවූනොත් දෙවියන්ව
හන්සේ විසින් සාදනලද අතින් නොක
ලාවූ සදාකාලවූ ගෙයක් ස්වර්ගවල අපට
2 ඇතැයි දනිමුව. අපි පලඳිනලද්දේව සි
3 ට නග්නවූ තැනැත්තන් නොවෙන නි
සා ස්වර්ගීයවූ අපේ ගෙයින් පලඳිනු ල
බන්ට ආසාවෙමින් මෙහි සුසුම්ලමුව.
4 මක්නිසාද මේ කූඩාරමේ සිටිනාවූ අ
පි බර උසුලමින් සුසුම්ලමුව. පැලඳීම ඉ
වත දමූ තැනැත්තෝ වෙන්ට නොක
මැතිව මරණ ගතිය ජීවනයෙන් ගිළිනු

ලබන හැවියට පලඳිනු ලබන්ට කැමති
5 වෙමුව එම් කාරණාවට අප යෙදූ තැන
න්වහන්සේ දෙවියන්වහන්සේය. උන්ව
හන්සේ ආත්මයානන්වහන්සේ නැමති
6 අත්තිකාරම අපට දුන්සේක. පෙනී
මෙන් නොව ඇදහිල්ලෙන් හැසිරෙන්
7 නාවූ අපි ශරීරයෙහි සිටිනවිට ස්වාමින්
වහන්සේගෙන් පහව සිටිමුයයි දැන නි
8 තරම භය නැතුව සිටිමුව. තවද ශරීර
යෙන් පහව ස්වාමින්වහන්සේ ලඟ සිටින්
9 ට ඉතා කැමතිව භය නැතුව සිටිමුව. එ
හෙයින් අපි ලඟ සිටින නුමුත් පහව
සිටින නුමුත් උන්වහන්සේ විසින් පිළි
ගතනාලද තැනැත්තන් වෙන්ට උත්සා
10 හ කරමුව. මක්නිසාද එක එකා තමත
මාගේ ශරීරයෙන් කලාවූ යහපතටවත්
නපුරටවත් සුදුසු දේ ලබන පිණිස අපි සි
යල්ලෝ ක්‍රිස්තුස්වහන්සේගේ නඩු ආස
නය ඉදිරියෙහි පෙනෙනහාට ඕනෑය.
11 එහෙයින් ස්වාමින්වහන්සේගේ භයාන
කකම දැන මනුෂ්‍යයන්ට අවවාද කරමු
ව. අපි දෙවියන්වහන්සේට ප්‍රකාශකර
නු ලබමුව ඇරත් නුබලාගේ සිත්වලට
12 ද ප්‍රකාසකරනු ලබමුයයි සිතමි. එසේ
නුමුත් අපේම ගුණ නොකියා නැවත
නුබලාට හිතෙන් නොව පෙනීමට ප
මනක් පාරට්ටුකරගන්නන්ට උත්තර
දෙන්ට නුබලාට පුළුවන්වෙන පිණිස අ
ප ගැන පාරට්ටුකරන්ට නුබලාට අවකා
13 ස දෙමුව. අපි පිස්සෝනම් ඒ දෙවියන්
වහන්සේ උදෙසාය. සිහි ඇත්තෝනම්
14 ඒත් නුබලා උදෙසාය. ක්‍රිස්තුස්වහන්සේ
ගේ ප්‍රේමය අප කෙරෙහි බලපවත්වන්
නේය. මක්නිසාද සියල්ලන් වෙනුවට
එක් කෙනෙක් මලසේක්නම් සියල්ලෝ
15 ම මල බවත් ජීවත්වෙනෝ මතු තමන්
උදෙසා ජීවත්නොවී ඔවුන් වෙනුවට
නැසී නැගුටුනාවූ උන්වහන්සේ උදෙසා
ජීවත්වෙන පිණිස සියල්ලන් වෙනුවට උ
න්වහන්සේ මල බවත් දැනගතිමුව. එහෙ
16 යින් අපි මෙතැන් පටන් කිසිවෙක් මාං
සාකාරයෙන් ඇඳිනනොගනිමුව. මාංසා
කාරයෙන් ක්‍රිස්තුස්වහන්සේ ඇදිනගත්
නුමුත් මෙතැන් පටන් එසේ ඇදිනනො
17 ගනිමුව. ඉන්නිසා යමෙක් ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි වේනම් ඔහු අළුත් මැවිල්
ලක. පරණ දේ ක්ෂයවූනේය සියළු දේ
18 අළුත්වූනේය. තවද යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ කරණකොටගෙන තමන්වහන්
සේට අපි සමගිකොට සමගිකිරීමේ සේ
වය අපට දුන්නාවූ දෙවියන්වහන්සේ
19 ගෙන් සියල්ල වේ. කෙසේදයත් දෙවි
යන්වහන්සේ ක්‍රිස්තුස්වහන්සේ කරණ
කොටගෙන ලෝවැස්සන්ගේ වරදවල්
ඔවුන්ගේ ගනනට නොතබා ලෝකය
තමන්වහන්සේට සමගිකොට සමගිකි
20 රීමේ වචනය අපට බාරදුන්සේක ඒ නි
සා දෙවියන්වහන්සේ අප ලවා නුබලා
ගෙන් ඉල්වනනාක්මෙන් අපි ක්‍රිස්තුස්ව
හන්සේගේ දූතයෝව දෙවියන්වහන්
සේ හා සමගිවෙයල්ලායයි ක්‍රිස්තුස්වහන්
සේ වෙනුවෙන් නුබලාගෙන් ඉල්ලමුව.
21 මක්නිසාද අපි උන්වහන්සේ කරණකො
ටගෙන දෙවියන්වහන්සේගේ ධර්මිෂ්ඨ
කම වෙන පිණිස දෙවියන්වහන්සේ පව්
නොකලාවූ උන්වහන්සේ අප නිසා පා
පයක්* කලසේක.

6. පරිච්. තවද නුබලා දෙවියන්ව
හන්සේගේ කරුණාව නිෂ්ප්‍රයෝජන
යේ නොලබනලෙස එක්ව වැඩකරන්
2 නෝවූ අපි නුබලාගෙන් ඉල්ලමුව. මක්
නිසාද පිළිගතයුතුවූ කාලයෙහි නුබේ
වචන අසා ගැලවීමේ දවසෙහි නුබට
උපකාරකෙලෙමියි දෙවියන්වහන්සේ
කියනසේක. බලව දැන් පිළිගතයුතු කා
3 ලය වේ දැන් ගැලවීමේ දවස වේ. සේ
වයට දෝස නොපැමිනෙන පිණිස කිසි
4 වකින් බාධාවක් නොකොට බොහෝ
ඉවසීමෙන්ද පීඩාවලින්ද දිළිඳුකම්වලින්ද
දුක්වලින්ද පහරවලින්ද හිරගෙයි දැමීම්
5 වලින්ද කෝලාහලවලින්ද වෙහෙසවලි
න්ද නොනිඳා හිඳීමෙන්ද කෑම නැතුව සි
6 ටීමෙන්ද පිරිසිදුකමින්ද දැනීමෙන්ද බො
හෝ කල් ඉවසීමෙන්ද කරුණාවෙන්ද ශු
ද්ධාත්මයෙන්ද වංචා නැති ප්‍රේමයෙන්ද සැ
7 බෑකමේ වචනයෙන්ද දෙවියන්වහන්සේ
ගේ බලයෙන්ද දකුනෙහිද වමෙහිද ධ
8 ර්මිෂ්ඨකමේ සන්නාහයෙන්ද ගෞරවයෙ
න්ද අගෞරවයෙන්ද අපකීර්තියෙන්ද කී
ර්තියෙන්ද වංචාකාරයන් මෙන් පෙනෙ
න නුමුත් සැබෑ තැනැත්තෝව සිටීමෙ
9 න්ද නාඳුනන්නු ලබන්නන්මෙන් පෙනෙ
න නුමුත් හොඳට අඳුනනු ලැබීමෙන්ද
මැරෙණවුන්මෙන් පෙනෙන නුමුත් ජී
වත්ව සිටීමෙන්ද අච්චුවට පත්කරනු

* හෙවත් පව් නසන පූජාවක්

ලබනනාක් මෙන් පෙනෙන නුමුත් මර
ණට පත්කරනු නොලැබීමෙන්ද දුක්
10 විඳිනාවුන් මෙන් පෙනෙන නුමුත් නිත
ර සතුටුවීමෙන්ද දිළිඳුන්මෙන් පෙනෙ
න නුමුත් බොහෝ දෙනා ධනවන්තකි
රීමෙන්ද කිසිවක් නැත්තාවුන් මෙන් පෙ
නෙන නුමුත් සියල්ල ඇත්තාවුන්ව සිටී
මෙන්ද යන මේ සියල්ලෙන් අපි දෙවිය
න්වහන්සේගේ සේවකව සිටින බව ප්‍ර
11 කාශකරමුව. කොරින්තිවරුනි නුඹලා
සමග කථාකරන්ට අපේ කට ඇරී තිබේ
12 අපේ සිත විශාලවේ. නුඹලාගේ සිත හැ
කිළී තිබෙනොත් නුඹලා නිසා මිස අප
13 නිසා නොවේ. මම මාගේ දරුවන්ට
මෙන් කථාකරමි කෙලෙසි ගුනය සැල
කීමෙන් නුඹලාගේ සිත් විශාලකරගනි
ල්ලාය.
14 ඇදහිලි නැත්තන් සමග බැඳීම අස
ම බැවින් නොබැඳෙල්ලාය ධර්මිෂ්ඨකම
සමග අධර්මිෂ්ඨකමේ පංගුකාරකම මො
කද? අන්ධකාරය සමග ආලෝකයේ එ
15 කතුකම මොකද? බෙලියල් සමග ක්‍රි
ස්තුස්වහන්සේගේ එකඟකම මොකද?
නොහොත් ඇදහිලි නැත්තා සමග ඇද
16 හිලි ඇත්තාගේ කොටස මොකද? දේ
වරූපයන් සමග දෙවියන්වහන්සේගේ
මාලිගාවේ එකඟවීම මොකද? මක්නි
සාද මම ඔවුන් කෙරෙහි වාසයකොට
හැසිරෙමි ඔවුන්ගේ දෙවියන්වහන්සේ
ද වෙමි ඔවුන්ද මාගේ සෙනග වෙතියි
දෙවියන්වහන්සේ කී ලෙස නුඹලා ජීව
මාන දෙවියන්වහන්සේගේ මාලිගාවය.
17 එහෙයින් නුඹලා ඔවුන්ගෙන් පිටත්ව
වෙන්ව සිට අපවිත්‍ර දෙයට නොහැපෙ
ල්ලායයි ස්වාමින්වහන්සේ කියනසේක.
18 එවිට මම නුඹලා පිළිගෙන නුඹලාට පි
යානෝ වෙමි නුඹලාත් මාගේ පුත්‍රයෝ
ද දූවරුද වෙතියි සර්වපරාක්‍රමවූ ස්වාමින්
වහන්සේ කියනසේක.

7. පරිච්ඡෙ. එහෙයින් ප්‍රේමවන්ත
යෙනි මෙයාකාර පොරොන්දුවල් ඇත්තා
වූ අපි දෙවියන්වහන්සේ කෙරෙහි භයින්
ශුද්ධකමේ සම්පූර්ණවෙමින් මාංසයෙහි
ද ආත්මයෙහිද සියළු කිළුටෙන් අපම
පවිත්‍රකරගනිමුව.
2 අප පිළිගනිල්ලාය. අපි කාටවත් අයු
තුක් නොකලෙමුව කවුරුවත් නරක්
නොකලෙමුව කාටවත් වංචා නොකලෙ
3 මුව. නුඹලා එක්ව මියන්ටද එක්ව ජීවත්
වෙන්ටද කැමැත්තෙන් අපි සිටිමුයයි ප
ළමුවෙන්ම මම කීබැවින් නුඹලාට දෝ
ෂපමුනුවන පිණිස මේ කාරණාවල් නො
4 කියමි නුඹලා කෙරෙහි බොහෝ විශ්වා
ස ඇතුව කථාකරමි නුඹලා ගැන මම
බොහෝකොට පාරට්ටුකරමි. සැනසිල්
ලෙන් සම්පූර්ණව සිටිමි. අපේ සියළු දු
5 ක්ලදී බොහෝසෙයින් සතුටුවෙමි. ඇ
රත් අපි මකිදෝනියට ආකල අපේ ශරී
රයට කිසි පහසුවක් නැතුව සියළු ආකා
රයෙන්ම දුක් විඳිදෙමුව. පිටත විරුද්ධ
6 කම්ද ඇතුලේ භයද තිබුනේය. එසේ
නුමුත් දුකට පත්වූවන් සනසනාවූ දෙ
වියන්වහන්සේ තීතස්ගේ ඊමෙන් අප
7 සැනසූසේක. ඔහුගේ ඊමෙන් පමනක්
නොව නුඹලාගෙන් ඔහු ලැබූ සැනසිල්
ලෙන්ද අපට සැනසීම ලැබුනේය. මක්
නිසාද නුඹලාගේ තද ආසාවද නුඹලා
ගේ වැලපීමද මා උදෙසා නුඹලාගේ අ
ධික සෝභයද ඔහු අපට කීකල මම ඉ
8 තාමත් සතුටුවෙයෙමි. ලියමනෙන් මම නු
බලා සෝකයට පැමිනෙව් නිසා තැවි
නු නුමුත් දැන් නොතැවෙමි ඒ ලියමන
කාලයකට නුඹලා සෝකයට පැමිනෙව් බ
9 ව මට පෙනෙන්නේය. නුඹලා සෝක
යට පැමිනෙව් බැවින් නොව පසුතැවිලි
වීමට නුඹලා සෝකවූ බැවින් දැන් මම
සතුටුවෙයෙමි. නුඹලා අප නිසා කිසි අලා
භයක් නොවිඳින ලෙස දෙවියන්වහන්
සේ කෙරෙහිවූ සෝකයට පැමුනුනෝ
10 ය. මක්නිසාද දෙවියන්වහන්සේ කෙ
රෙහිවූ සෝකයෙන් පශ්චාත්තාප නො
වියසුතුවූ ගැලවීමට පසුතැවිලිවීම උපදි
නේය. නුමුත් ලෞකික සෝකයෙන්
11 මරණය උපදිනේය. ඇරත් නුඹලා දෙ
වියන්වහන්සේ කෙරෙහිවූ සෝකයට පැ
මිනීමෙන් කොපමන ප්‍රවේසමත් කොප
මන උත්තර දීමත් කොපමන කෝපයත්
කොපමන භයත් කොපමන බලවත් ආ
සාවත් කොපමන ජ්වලිතයත් කොපමන
ප්‍රතිදඬුවමත් නුඹලා කෙරෙහි උපන්
නේද? මේ කාරණාව ගැන නුඹලා පවි
ත්‍රයෝයයි සියළු ආකාරයෙන්ම නුඹලා
12 පෙන්වාදුන්නෝය. දෙවියන්වහන්සේ
ගේ ඉදිරියෙහි නුඹලා ගැන අපේ ප්‍රවේ
සම ප්‍රකාශවෙන පිණිස ලිව්වා මිස අයුතු
කම් කල තැනැත්තා නිසාවත් අයුතුකම්
විඳි තැනැත්තා නිසාවත් ලිව්වා නො

13 වේය. එහෙයින් නුබලාගේ සැනසී
මෙන් අපිත් සැනසීම ලැබීමුව. තවද තී
තස්ගේ සිත නුබලා සියල්ලන් විසින් සැ
නසූ බැවින් ඔහුගේ සන්තෝසය නිසා අ
14 පිත් ඉතා සතුටුවූනෙමුව. නුබලා ගැන ඔ
හුට ගරුකමින් කිසිවක් කීවත් ලැජ්ජ
නොවෙමි. අපි නුබලාට සැබෑලෙස සිය
ල්ල කී හැටියටම තීතස් ඉදිරිපිට නුබලා
ගැන අපි පැවැත්වූ ගරුකම සැබෑයයි ද
15 නනාලද්දේය. තවද ඔහු නුබලා සියල්
ලන්ගේ කීකරුකමද භයින්ද වෙව්ලමෙ
න්ද තමන් පිළිගත් බවද සිහිකරණකල ඔ
හුගේ දයාබරකම නුබලා කෙරෙහි ඉතා
16 වැඩිව පවතිනේය. එබැවින් සියළු කා
රණවල් ගැන මම නුබලා විශ්වාසකර
ණ නිසා සතුටුවෙමි.

8. පරිච්. තවද සහෝදරයෙනි ම
කිදෝනියෙහි සභාවලට දුන් දෙවියන්
වහන්සේගේ කරුණාව නුබලාට දන්
2 වමුව. කෙසේද බොහෝ දුක් පැමිනි
මෙන්වූ පරීක්ෂාවේදී බොහෝ සන්තෝ
සයද ඔවුන්ගේ ඉතා දිළිඳුකමේදී ඔවුන්
3 ගේ තෑගිවන්තකමද බෝවූනේය. කු
මක්හෙයින්ද ඔවුන්ගේ පුළුවන්කමේ ප්‍ර
කාරයටත් ඊට වැඩිවසයෙනුත් දෙනන
ට ඔවුන් කැමතිව සිටියෝයයි සාක්ෂි දෙ
4 මි. ඔවුන්ගේ තෑගි අපි බාරගෙන ඒවා
පිරිසිදුවූවන්ට බෙදා දෙනලෙස හවුල්
කාරයෝ වෙන හැටියට අපෙන් බො
හෝසේ ඉල්ලුවෝය. ඇරත් අපි සිතූලෙ
5 ස නොකොට පලමුවෙන් ඔවුන් ස්වාමි
න්වහන්සේටද දෙවනුව දෙවියන්වහන්
සේගේ කැමැත්තෙන් අපටද තමන්ම
6 බාරදුනෝය. එහෙයින් තීතස් මෙම
සමාදන්කිරීම නුබලා අතරේ පටන්ගත්
ලෙසම නිමකරන්ටද අවවාද කලෙමුව.
7 එබැවින් නුබලා සියළු දෙයින් ඒනම් ඇ
දහිල්ලෙන්ද කීමේ දක්ෂකමින්ද දැනීමෙන්ද
සියළු උත්සාහයෙන්ද අප කෙරෙහි ප්‍රේ
මයෙන්ද වැඩිවෙනසේ මෙම කරුණා
8 වෙන්ද වැඩිවෙයල්ලාය. මම මේ කාරණා
ව අනක්මෙන් නොකියා වෙන අයව
ළුන්ගේ උත්සාහය නිසාද නුබලාගේ
ප්‍රේමයෙහි අවංකකම විමසන පිනිසද
9 කියමි. අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ කරුණාව නුබලා දනිති. උ
න්වහන්සේ වස්තුකාරයෙක්ව සිටිය නු
මුත් උන්වහන්සේගේ දිළිඳුවීමෙන් නු
බලා වස්තුකාරයෝ වෙන පිනිස නුබලා
10 උදෙසා දිළිඳුවූසේක. මේ තෑග්ග ගැන
නුබලාට අවවාද දෙමි. මක්නිසාද ඔවුන්
ට පලමුවෙන් ඒක කරන්ට පමනක්
නොව අවුරුද්දක සිට ඊට කැමතිවෙන්
11 වත් පටන්ගත් නුබලාට එය සුදුසුය. නු
බලා කැමතිව සිටිය ලෙස නුබලා සන්
තක දෙයින් ඉෂ්ටවෙන පිනිස දැන් ඒ
12 කාරණාව සම්පූර්ණකරපල්ලාය. කැමති
සිත මුල්වූනොත් යමෙකුට නැති දේ ප්‍ර
කාරයට නොව ඇති දේ ප්‍රකාරයට ඔ
13 හු පිළිගනු ලැබේ. අනුන්ට සැහැල්ලු
වත් නුබලාට බරත් පැමිනෙන පිනිස
14 නොව සමානත්වය පිනිස කියමි. බො
හොම එකතුකල තැනැත්තාට කිසිවක්
වැඩිවූනේ නැත ස්වල්පයක් එකතුකල
තැනැත්තාට කිසිවක් අඩුවූනේ නැතැ
යි ලියාතිබෙන හැටියට සමානත්වය වෙ
15 න පිනිසද මේ ප්‍රස්ථාවේදී නුබලාගේ
සම්පූර්ණකම ඔවුන්ගේ අඩුකමටද වෙ
න ප්‍රස්ථාවකදී ඔවුන්ගේ සම්පූර්ණකම
නුබලාගේ අඩුකමටද උපකාරවෙන පි
16 නිසද කියමි. නුබලා ගැන තීතස්ගේ හි
තට මෙම සැලකීම ගෙනදුනාවූ දෙවි
17 යන්වහන්සේට ස්තුතිවේවා. ඔහු මාගේ
ඉල්ලීම පිළිගෙන නුබලා ගැන ඉතා සැ
ලකීමෙන් තමාගේම කැමැත්තෙන් නු
18 බලා ලඟට ආයේය. තවද සියළු සභාවල්
හි සුභාරංචිය නිසා ස්තුති ලැබූවාවූ සහෝ
19 දරයා ඔහු සමග යවීමුව. එපමනක් නො
ව එම ස්වාමින්වහන්සේගේ ගෞරවය
පිනිසත් නුබලාගේ සිත් කැමති බව ප්‍ර
කාසවීම පිනිසත් අප විසින් බෙදාදෙන්
ට ගත් මේ තෑගි අරගෙන අප එක්ව
යන්ට ඔහු සභාවල් විසින් තෝරාගන්
20 නාලද්දේය. අප විසින් බෙදා දෙන්ට ති
බෙන මේ බොහෝවූ දානය නිසා කව
රෙක්වත් අපට වරද නොතබන පිනිස
21 ප්‍රවේසම් වෙමින් ස්වාමින්වහන්සේගේ
ඉදිරියෙහි පමනක් නොව මනුෂ්‍යයන්
ගේ ඉදිරියෙහි සෝභමාන දේ සලකාග
22 නිමුව. තවද නොයෙක් විට නොයෙක්
කාරණාවලදී උත්සාහ ඇත්තෙකැයි අප
විසින් පරීක්ෂාකොට දනනාලද්දාවූ දැන්
නුබලා කෙරෙහි ඇති මහත් විශ්වාසය
කාරණකොටගෙන ඉතා උත්සාහ ඇත්
තෙක්වූ අපේ සහෝදරයා ඔවුන් සමග
23 යවීමුව. තීතස් ගැන කිසිවෙක් ඇසු
වොත් ඔහු මාගේ පංගුකාරයාද නුබලා

ගැන මාගේ හවුල් වැඩකාරයාද වන්
නේය. නොහොත් අපේ සහෝදරයන්
ගැන කිසිවෙක් ඇසුවොත් ඔවුන් සභා
වන්ගේ ප්‍රේරිතයෝද ක්‍රිස්තුස්වහන්සේ
24 ගේ ගෞරවයද වෙති. එසේ හෙයින්
තුඹලාගේ ප්‍රේමයෙහිද තුඹලා ගැන අ
පේ ගරුකමෙහිද ඔප්පුව ඔවුන්ට සභා
වන් ඉදිරියේදී පෙන්වා දීපල්ලාය.

9. පරිච්ඡේ. පිරිසිදුවූවන්ට උපස්ථාන
කිරීම ගැන තුඹලාට මගේ ලිවීමෙන් ප්‍ර
2 යෝජන නැත. මක්නිසාද අඛායා අවුරු
ද්දක පටන් සැදී සිටියායයි මකිදෝනියෙ
හි වැසියන්ට කියා තුඹලා ගැන පාරට්
ටූකරනනාවූ මම තුඹලාගේ සිතේ කැම
තිකම දනිමි. තුඹලාගේ මහත් වීර්ය
යෙන් බොහෝ දෙනාට වීර්ය ඉපදුනෙ
3 ය. එසේ නුමුත් මේ කාරණාවේදී තුඹ
ලා ගැන අපේ පාරට්ටූව සිස්නොවෙන
පිනිසද මම කී හැටියට තුඹලා සැදී සිටි
4 න පිනිසද සහෝදරයන් යැවීමි. මම මෙ
සේ කෙලේ මකිදෝනි වැසියෝ මා සම
ග අවුත් තුඹලා සැදී නොසිටින බව ද
කිත්නම් මේ තද පාරට්ටූව නිසා තුඹලා
ම නොව අපිත් ලැජ්ජාවට නොපැමිනෙ
5 න පිනිසය. එබැවින් සහෝදරයෝ පල
මුකොට තුඹලා ලඟට යන පිනිසද ඉස්
සරහිට දන්වනලද්දාවූ තුඹලාගේ දන
ය ලෝභ සිතින් නොව දනය මෙන්
කලින් සැදී තිබෙන පිනිසද ඔවුන්ට අ
6 වවාදකරන්ට යුතුයයි සිතිමි. නුමුත් ම
ම මේක කියමි විකක් වපුරන්නාට වි
කක් ලැබෙන්නේය. බොහෝම වපුර
7 නනාට බොහොම ලැබෙනේය. එබැ
වින් කනගාටුවෙන්වත් බලාත්කාරය නි
සාවත් නොදී එක එකා තමතමන්ගේ
8 සිතින් නියමකරගත් ලෙස දේවා. මක්
නිසාද සතුටු සිතින් දෙනනාට දෙවියන්
වහන්සේ ප්‍රේමවනසේක. තවද තුඹලා
සියළු දෙයෙහි නිතරම සියළු සෑහීමට
පැමිනි සියළු යහපත් ක්‍රියාවෙහි වර්ධන
වෙන පිනිස දෙවියන්වහන්සේ තුඹලා
ට සියළු කරුණාව වැඩිකරන්ට සමර්ථ
9 සේක. එසේම ඔහු විසිරවූයේය. දිළිඳුන්
ට දුනේය ඔහුගේ ධර්මිෂ්ඨකම සඳකල්
10 පවතීයයි ලියනලද්දේය. අප කරණ
කොටගෙන දෙවියන්වහන්සේට ස්තුති
උපදවන්නාවූ සියළු තෑගිවන්තකමේ
සියළු ආකාරයෙන් තුඹලා පොහොසත්
වෙන පිනිස වපුරන්නාට බිජුවටද කෑ
ම පිනිස රොටිද දෙනනාවූ උන්වහන්සේ
11 තුඹලාගේ වපුලාවූ බිජුවට වැඩිකොට
තුඹලාගේ ධර්මිෂ්ඨකමෙහි ඵලද සඵල
12 කරණසේක්වා. මක්නිසාද මේ බෙදදී
මේ වැඩෙන් පිරිසිදුවූවන්ගේ හිඟකම
පිරිමසිනවා පමනක් නොව එසින් දෙවි
යන්වහන්සේට බොහෝ ස්තුති උපදින්
13 නේය. ඔවුන් මේ බෙදදීමේ ඔප්පුව කා
රණකොටගෙන ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචියට තුඹලාගේ ප්‍රකාශ කීකරුක
ම ගැනද තමන් සහ සියළු මනුෂ්‍යයන්
කෙරේද තුඹලාගේ තෑගිවන්තකම ගැ
14 නද දෙවියන්වහන්සේට ස්තුතිකොට තු
ඹලා උදෙසා යාඥාකරමින් තුඹලා කෙ
රෙහි ඇත්තාවූ දෙවියන්වහන්සේගේ
ඉතා මහත් කරුණාව නිසා තුඹලා කෙ
15 රෙහි ඉතා ඇළුම්වෙති. දෙවියන්වහන්
සේගේ කියා නිමකරන්ට නුපුළුවන්වූ
දීම ගැන උන්වහන්සේට ස්තුති වේවා.

10. පරිච්ඡේ. තුඹලා ඉදිරියෙහි සිටි
නකල යටහත්වූ අහක්ව සිටිනකල තු
ඹලා කෙරෙහි නිර්භීතවූ පාවුල්නම් ම
ම ක්‍රිස්තුස්වහන්සේගේ ක්ෂාන්තියද මුදු
කමද නිසා තුඹලාගෙන් ඉල්ලමි. කො
2 සේද අපි මාංස ප්‍රකාරයෙන් හැසිරෙණ
නැනැත්තෝයයි අප ගැන සිතනනාවූ
සමහරුන්ට විරුද්ධව නිර්භීතව සිටින්ට
සිතමි තුඹලා ඉදිරියෙහි සිටිනවිට එ
යාකාරයෙන් නොවෙන පිනිස තුඹලා
3 ගෙන් ඉල්ලමි. අපි මාංසයෙන් යුක්තව
හැසිරෙනනෝ නුමුත් මාංසප්‍රකාරයෙන්
4 යුද්ධ නොකරමුව. අපේ යුද්ධායුධ මාංසික
නොව බලකොටු බිඳහෙළීමට දෙවිය
5 න්වහන්සේ නිසා බලසම්පන්නය. එසින්
අපි විවාදවල්ද දෙවියන්වහන්සේ ගැන
දැනීමට විරුද්ධව උසස්වන්නාවූ සියළු උ
සස් දෙයද බිඳහෙළා සියළු සිතිවිලි ක්‍රිස්
තුස්වහන්සේට කීකරුවෙන පිනිස ය
6 ටත්කොට තුඹලාගේ කීකරුකම සම්පූ
ර්ණවූකල සියළු අකීකරුකමට අච්චු
7 දෙන්ට සැදී සිටිමුව. පිටතින් පෙනෙන
ලෙස කාරණාවල් තුඹලා සලකද්ද? ය
මෙක් තමා ක්‍රිස්තුස්වහන්සේට අයිතිය
යි අදහන්නේනම් තමන් ක්‍රිස්තුස්වහන්
සේට අයිති ලෙස අපිත් ක්‍රිස්තුස්වහන්
8 සේට අයිතියයි සිතාවා. ඇරත් තුඹලා
ගේ විනාසය පිනිස නොව වැඩසිද්ධවීම

පිනිස ස්වාමීන්වහන්සේ විසින් අපට දෙ
නලද බලය ගැන මම තව මදක් පාරට්
9 ටුකරතත් ලැජ්ජ නොවෙමි. මම එසේ
නොකරන්නේ ලිවුම්වලින් නුබලා භය
ගන්වන්නෙක් මෙන් නොපෙනෙන පි
10 නිසය. මක්නිසාද ඔහුගේ ලිවුම් තදය
බලවත්තය. ශරීරික රූපය දුර්වලය ක
ථාවද නින්‍ද කටයුතුයයි මා ගැන කිය
11 ති. අපි ලඟ නොසිටිනකල ලිවුම්වල වා
සගමින් යම්සේ පෙනෙමුද එසේම අපි
ලඟ සිටිනකල ක්‍රියාවලිනුත් පෙනෙමු
12 යයි එබඳු තැනැත්තා සිතාවා. මක්නිසා
ද තමන්ම වර්ණනාකරණ සමහරුන්ට
අපම සමානකරන්ටවත් එම පක්ෂයට
වෙන්ටවත් භයවෙමුව. තමන්ගේ මිම්
මෙන් තමන් මැනගන්නාවූ තමන් අත
රෙහි තමන් සමකර බලන්නාවූ ඔවුන්
13 නුවන ඇත්තෝ නොවෙති. අපි පමණ
ට වඩා පාරට්ටුකර නොගනිමුව නුබලා
ලඟට අපගේ පැමිණීම පිනිස දෙවියන්
වහන්සේ විසින් මැන අපට බෙදුදුන්
14 මිම්මේ හැටියට පාරට්ටුකරමුව. අපි ක්‍රි
ස්තුස්වහන්සේගේ සුභාරංචිය ප්‍රකාසක
රමින් නුබලා ලඟට ආවෙමුව. එයාකා
රයෙන් නුබලා ලඟට පැමිනෙනෙන් අ
පේ සීමාවෙන් ඈත යන්නාක්මෙන්
15 නොවේය. පමනට වඩා ඒනම් අනුන්
ගේ වැඩ ගැන පාරට්ටුකර නොගනිමු
ව. නුමුත් නුබලාගේ ඇදහිල්ල වැඩිවූන
විට අපේ සීමාව වඩා ලොකුවනෙන්යයි
16 බලා සිටිමුව. වෙන කෙනෙකුගේ සීමා
වක සාදනලදදේ ගැන පාරට්ටුකරගන්
ට නොව නුබලාට දුරුවූ දේසවලදී සු
17 භාරංචිය ප්‍රකාශකරන්ට බලා සිටිමුව. නු
මුත් තමාම වර්ණනාකරණ තැනැත්තා
නොව ස්වාමින්වහන්සේ විසින් වර්ණ
නාකරණ තැනැත්තා පිලිගනු ලබන බැ
18 වින් පාරට්ටුකරගන්නා ස්වාමීන්වහන්සේ
කෙරෙහි පාරට්ටුකරගනිවා.

11. පරිච්ඡේ. මාගේ අඥානකම ගැ
න ස්වල්ප වේලාවකට නුබලාට ඉවසන්
2 ට හැකිනම් යහපත. තවද මා කෙරෙහි
ඉවසාපල්ලාය. කුලය රකින කන්‍යා ස්ත්‍රි
යකුමෙන් නුබලා එකම පුරුෂයෙකුට
ඒනම් ක්‍රිස්තුස්වහන්සේට නුබලා පාවා
දෙන ලෙස මා විසින් විවාහබන්ද දුන් බැ
වින් දිව්‍යවූ ජ්වලිතකමෙන් නුබලා කෙ
3 රෙහි ජ්වලිතවෙමි. එහෙත් සර්පයා තමා
ගේ රැවටිල්ලෙන් ඒව රැවටූවාක්මෙන්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි පවතින ඇ
දනැතිකමෙන් වෙනව යම් ආකාරයකින්
නුබලාගේ සිත් නරක්වේදෝ කියා භ
4 යවෙමි. එන අය අපි ප්‍රකාශනොකල වෙ
න යේසුස් කෙනෙක් ගැන ප්‍රකාශකර
තොත් නොහොත් නුබලා නොලැබූ
වෙන ආත්මයක්වත් නුබලා පිලිනොගත්
වෙන සුභාරංචියක්වත් නුබලා ඔහුගෙන්
ලැබුවොත් නුබලා විසින් ඔහුගේ කීම
5 ඉවසියයුතුය. නුමුත් මම ඉතාමත් උතුම්
වූ ප්‍රේරිතයන්ට වඩා විකක්වත් අඩුනැ
6 තැයි සිතමි. මම කථාකිරීමට නිවට නු
මුත් නුවනට නිවට නැත. අපි සැම දෙ
යින්ම සියළු ආකාරයෙන් නුබලාට ප්‍ර
7 කාස වූනෙමුව. නුබලා උසස්වෙන ලෙ
ස මම්ම මා යටත්කරගන වියදම් නො
ලැබ දෙවියන්වහන්සේගේ සුභාරංචිය
නුබලාට ප්‍රකාශකිරීමෙන් වරදක් කෙ
8 රෙම්ද? නුබලාට මෙහෙකිරීම පිනිස
හොරකම් කරන්නාක්මෙන් වෙන ස
9 භාවලින් කුලී ගතිමි. තවද මම නුබලා
ලඟ සිටිද්දී නගවූකල කිසිවෙකුට කන
ගාටු නොකලෙමි. මකිදෝනියෙන් ආවා
වූ සහෝදරයෝ මාගේ නිගකම පිරිමැ
සුවෝය. නුබලාට වෙහෙස නොකොට
සියළු කාරණාවලදී ප්‍රවේසම් වීමි මතුද
10 ප්‍රවේසම් වෙමි. ක්‍රිස්තුස්වහන්සේගේ ස
ත්‍යකම මා කෙරෙහි පවත්නේනම් කි
සිවෙකුට අඛායේ දේසවලදී මාගේ මේ
පාරට්ටු කථාව වලක්වන්ට ඉඩනාරින්
11 නෙමි. ඒ මක්නිසාද? මම නුබලාට ප්‍රේ
ම නොකරණ නිසාද? ඒක දෙවියන්ව
12 හන්සේ දන්නාසේක. නුමුත් ප්‍රස්ථාව
සොයන්නන්ගෙන් ප්‍රස්ථාව සිඳදමන පි
නිසත් ඔවුන් පාරට්ටුකරගන්නාවූ කාර
ණාව ගැන ඔවුන් අප වාගේ පෙනෙන
පිනිසත් මම දැන් කරණ හැටියටම මත්
13 තටත් කරනෙනමි. එබඳුවූ අයවල් බො
රු ප්‍රේරිතයෝය. ක්‍රිස්තුස්වහන්සේගේ
ප්‍රේරිතයන්ගේ වෙස් ගත් රැවටිලිකාර
14 මෙහෙකරුවෝය. ඒක පුදුමයක් නො
වේය මක්නිසාද සාතන් පවා දිලිහෙන
15 දූතයෙකුගේ වෙස් ගන්නේය. එහෙ
යින් සාතන්ගේ සේවකයෝ ධර්මිෂ්ඨක
මෙහි සේවකයන්ගේ වෙස් ගනිත්නම්
ඒ ගත් පුදුමයක් නොවේය. ඔවුන්ගේ
කෙලවර ඔවුන්ගේ ක්‍රියාව ලෙස වන්
16 නේය. නැවත මම කියමි කිසිවෙක්වත්

මා අඥානයෙකැයි නොසිතාවා. නැත
හොත් මම මදක් පාරට්ටුකරණ පිනිස
අඥානයකු ලෙසත් මා ඒත්තුගනිල්ලාය.
17 මම දැන් කථාකරණ දේ ස්වාමින්වහන්
සේගේ අඥාවෙන් නොකියමි. නුමුත්
තදලෙස පාරට්ටුකරණ අඥානයෙක්
18 මෙන් කියමි. ශරීරය ලෙස බොහෝ දෙ
න පාරට්ටුකරගන්නා බැවින් මමද පා
19 රට්ටුකරගනිමි. තුබලා ඥානවන්තව සි
ටින බැවින් අඥානයන් ගැන ගුණෙන්
20 ඉවසති. කිසිවෙක් තුබලා වාල්කමට ප
මුනුවන්නේ නුමුත් කිසිවෙක් තුබලා
ගෙන් කොල්ලකන්නේ නුමුත් කිසි
වෙක් තුබලාගෙන් ගනෙන් නුමුත් කිසි
වෙක් තමන්ම උසස්කරගනෙන් නුමුත්
කිසිවෙක් තුබලාගේ මූහුනට පහර දෙ
නෙන් නුමුත් ඒ සියල්ල තුබලා ඉවසති.
21 අපි දුර්වලවූවාක්මෙන් අපට අවනම්බු කිරී
ම ගැන කථාකරමි එසේ නුමුත් කොයි
කාරණාවකටත් යමෙක් භය නැත්නම්
මමත් භය නැතෙමියි අඥාන ලෙසින්
22 කියමි. ඔවුන් හෙබ්‍රෙව්වරුද? මමත් එ
සේමය. ඔවුන් ඊශ්‍රායෙල්වරුද? මමත්
එසේමය. ඔවුන් ආබ්‍රහම්ගෙන් පැවත එ
23 නෙනෝද? මමත් එසේමය. ඔවුන් ක්‍රිස්තු
ස්වහන්සේගේ සේවකයෝද? එහිදී ම
ම ඔවුන්ට උතුම. මම අඥානයෙක් මෙන්
කියමි. මම වැඩිව වෙහෙසීමෙනුත් අප
මන පාරකෑමෙනුත් වැඩි වාරවල හිර
ගෙවල්වල හිඳිමෙනුත් බොහෝ වාර
වල මරණ උපද්‍රවෙනුත් පසුවූනෙමි. යු
දෙව්වරුන්ගෙන් පස් වරක් එකක් අඩු
24 සතලිසක් පාර කෑවෙමි. තුන් වරක් වේ
25 වැල්වලින් තැළුම්කෑවෙමි. එක් වරක්
ගල්ගසනු ලැබීමි. තුන් වරක් නැව් බි
ඳීමෙන් උපද්‍රවට පැමිණුනෙමි. රැයකුත්
26 දවාලකුත් ගැඹුරේ සිටියෙමි. බොහෝ
වර ගමන්වලටද ගංගා උපද්‍රවලටද සො
ර උපද්‍රවලටද මගේ ජාතීන්ගෙන් පැමි
ණි උපද්‍රවලටද අන්‍ය ජාතීන්ගෙන් පැමි
ණි උපද්‍රවලටද නුවරෙහි උපද්‍රවලටද ව
නාන්තරයේ උපද්‍රවලටද මූදේ උපද්‍රවලට
ද බොරු සහෝදරයන්ගෙන් පැමිනි උ
27 පද්‍රවලටද වෙහෙසයටද අමාරුවලටද
බොහෝ වර නිදිමැරීමටද සාපිපාසයට
ද බොහෝ වර කෑම හිඟකමටද සීතල
28 යටද නිර්වස්ත්‍රභාවයටද පැමිනියෙමි. බා
හිර දේ හැර සියළු සභාවල් ප්‍රවේසම්කි
29 රීමද දවස්පතා මට පැමිනෙනෙනේය. ය
මෙක් දුර්වලනම් මමත් දුර්වල නොවෙම්
ද? යමෙක් පැකිලේනම් මම නොදැ
30 වෙම්ද? මා විසින් පාරට්ටුකරගන්ට යු
තුනම් මාගේ දුර්වලකම් ගැන පාරට්ටුක
31 රගනිමි. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ පියවූ සදාකල්ම ප්‍රසංසනී
යවූ දෙවියන්වහන්සේ මම බොරු නො
32 කියන බව දන්නාසේක. දමස්කයේදී
අරෙතාස් රජුගේ සේනාපතියා මා අල්
වනු කැමතිව දමස්ක වැසියන්ගේ නුව
33 ර සේනාව සිටුවා ආරක්ෂාකලවිට කවුළු
දොරකින් කූඩයක ලා බිත්තියෙන් බ
ස්නනු ලැබ මම ඔහුගේ අතින් ගැලවූ
නෙමි.

12. පරිච්ඡේ. සත්තකටම මා විසින්
පාරට්ටුකරගන්ට ඔබින්නේ නැත. නු
මුත් ස්වාමින්වහන්සේ දක්වූ දර්ශනවල්
2 ද එළිදරව්කිරීම්ද කියමි. ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි පවතින එක මනුෂ්‍යයෙක්
දනිමි. ඔහු දහසතර අවුරුද්දකට ඉස්ස
ර තුන්වෙනි ස්වර්ගයට ඇදගනු ලද්දේ
ය. ඔහු ඇදගනු ලැබුවේ ශරීරය ඇතුව
ද ශරීරය නැතුවද නොදනිමි දෙවියන්
3 වහන්සේ දන්නාසේක. ඇරත් ඔහු පා
රාදීසයට ඇදගනු ලැබ කියන්ට බැරි
වූ මනුෂ්‍යයෙක් විසින් නොකියයුතුවූ
4 වචන ඇසුයේයයි මම දනිමි. ශරීරය ඇ
තුවද ශරීරය නැතුවද නොදනිමි. දෙවි
5 යන්වහන්සේම දන්නාසේක. එබඳු තැ
නැත්තෙක් ගැන පාරට්ටුකරමි නුමුත්
මාගේ දුර්වලකම් ගැන මිස මා ගැනම
6 පාරට්ටු නොකරමි. මම සැබෑවම කිය
න බැවින් පාරට්ටුකරගන්ට කැමතිවෙ
තත් අඥානයෙක් නොවෙමි. එසේ නු
මුත් කිසිවෙක් මා කෙරෙහි දකිනාවූ
මාගෙන් අසන්නාවූ ගුණයට වඩා මම
උතුමැයි නොසිතන පිනිස එසින් වල
7 කිමි. තවද මම එළිදරව්කිරීම්වල උතුම්
කමෙන් පමනට වඩා උසස් නොවෙන
පිනිස මට පහරදීමට සාතන්ගේ දූත
යෙක් වැනිවූ ශරීරයේ උලක් මට දෙන
ලද්දේය. ඒ උල මට පමනට වඩා උසස්
8 නොවෙන්ට දෙනලද්දේය. ඒක මා
ගෙන් දුරුවෙන පිනිස තුන් වරක් ස්වා
9 මින්වහන්සේට යාඥාවීමි. උන්වහන්සේ
ද මාගේ කරුණාව තුබට සෑහේය දුර්
ලකම කරණකොටගෙන මාගේ බලය
සම්පූර්ණව පෙනෙනෙනේයයි කීසේක.

එබැවින් ක්‍රිස්තුස්වහන්සේගේ බලය මා
කෙරෙහි පිහිටන පිණිස මාගේ දුර්වලකම්
ගැන ඉතා සතුටින් පාරට්ටුකර ගනිමි.
10 එහෙයින් ක්‍රිස්තුස්වහන්සේ උදෙසා පැ
මිණෙන දුර්වලකම්වලටත් අවමානනවල
ටත් දිළිඳුකම්වලටත් පීඩාවලටත් දුක්
වලටත් සතුටුවෙමි. මක්නිසාද මම දුර්වල
11 ව සිටිනකල බලවත්වෙමි. පාරට්ටුකිරී
මෙන් මම අඥානයෙක් වීමි එයට නුඹලා
මට බලාත්කාර කළෝය. නුඹලාගෙන්
ප්‍රසංසා ලැබිය යුතුවූ මම කිසිත් නො
වෙන නුමුත් ප්‍රධානවූ ප්‍රේරිතයන්ට කිසි
12 වකින්වත් අඩුනොවෙමි. සැබවින්ම ප්‍රේ
රිතයෙකුගේ ලකුණු සියළු ඉවසීමෙන්ද ල
කුණුවලින්ද පුදුමවලින්ද ආශ්චර්යවලින්ද
13 නුඹලා අතරෙහි ප්‍රකාශවූණේය. මම නු
ඹලාට බරක්ව නොසිටිය කාරණාව හැර
වෙන මොන කාරණයකින් අන් සභාව
14 ලට නුඹලා අඩුවූනෝද? ඒ වැරද්දට ම
ට කමාවෙයල්ලාය. තුන්වෙනි වතාවෙත්
නුඹලා ලඟට එන්ට සැදී සිටිමි. නුඹලා
මිස නුඹලා සන්තක දේ නොසොයන
නිසා නුඹලාට බර නොවෙමි. මෙසේ කි
වේ දෙමවුපියන් දරුවන්ට එකතුකර
තිබනවා මිස දරුවන් දෙමව්පියන්ට
එකතුකර තිබන්ට නිස්සක් නැතිනිසා
15 ය. මම නුඹලා කෙරෙහි ඉතා ප්‍රේමකර
ණකල නුඹලාගෙන් ඉතාමත් ස්වල්ප
යක් ප්‍රේමය ලබන නුමුත් නුඹලාගේ ප්‍රා
න උදෙසා ඉතා සතුටින් සන්තක දේප
16 මතක්නොව ජීවිතයත් ගෙවමි. ඔහු නු
ඹලාට බරනොවූ නුමුත් උපායෙහි දක්ෂ
යෙක්ව වචාවෙන් නුඹලා ඇල්ලුවේයයි
17 මා ගැන කියති. මම නුඹලා ලඟට එවූ
වන් අතරෙන් කවුරු ලවා නුඹලාගෙන්
18 ලාබ ගතිම්ද? මම තිතස්ගෙන් යනලෙ
ස ඉල්ලමින් ඔහු සමග සහෝදරයෙක්
යවිමි. තිතස් නුඹලාගෙන් යම් ලාබයක්
ගත්තේද? අපි එකාකාර සිතිවිලිවලින්ද
එකාකාර ක්‍රියාවලින්ද යුක්තව හැසුරු
19 නේ නැද්ද? නැවත අප ගැන නුඹලා
ඉදිරියේ උත්තර දෙමුයයි සිතද්ද? දෙ
වියන්වහන්සේ ඉදිරිපිට ක්‍රිස්තුස්වහන්සේ
කරණකොටගෙන කථාකරමුව. නුමුත්
ප්‍රියවූ තැනැත්තෙනි මේ සියල්ල නුඹලා
20 ට වැඩසිඩ්වීම පිණිස කරමුව. මම ආකල
නුඹලා මගේ සිත ලෙස සම්භනොවෙති
යි කියාත් නුඹලාගේ සිත ලෙස නුඹලා
ට මම සම්භනොවෙම්යි කියාත් විවාද
ඊර්ෂ්‍යා ක්‍රෝධ භේද කෝලාම් කනට කෙ
දිරීම් උඩඟු කථා කෝලාහල පවතින
වා ඇතැයි කියාත් මම නැවත නුඹලා
ලඟට ආකල මාගේ දෙවියන්වහන්සේ
21 නුඹලා අතරෙහි මා ලැජ්ජාවට පත්කර
ණසේකැයි කියාත් මීට ඉස්සරින් පව්
කොට තවම තමන් විසින් කරණලද අ
පිරිසිදුකමද මෛථුනකමද කාමරාගයද
ගැන පසුතැවිලි නොවූ බොහෝ දෙනා
උදෙසා මම වැලපෙමියි කියාත් සැකව
භයවෙමි.

13. පරිච්ඡේ. මේ තුන්වෙනි වරට නු
ඹලා ලඟට එමි සාක්කිකාර දෙනෙනකු
ගේවත් තුන්දෙනෙකුගේවත් කටින් සි
2 යළු වචන ස්ථිරකරනු ලැබේ. මම නැ
වත ආයෙම්නම් නුඹලාට අවිචූ නොක
ර නාරිමියි පව්කලවුන්ටද අනිකුත් සිය
ලුන්ටද පලමුව කීමි. ඒ හැටියටම මම
ඔවුන් ඉදිරියෙහි නැතිනුමුත් දෙවෙනි
වාරයෙක්ද ඉදිරිපිට සිටිනනාක්මෙන් ක
3 ලින් මෙක කියමි. මක්නිසාද නුඹලා
කෙරෙහි දුර්වල නොව නුඹලා කෙරෙ
හි බලවත්වූ ක්‍රිස්තුස්වහන්සේ මා ලවා
කථාකරවන බවට නුඹලා සාක්කි සො
4 යති. උන්වහන්සේ දුර්වලකමින් කුරුසි
යෙහි ඇනගසනු ලැබූනුමුත් දෙවියන්
වහන්සේගේ බලයෙන් ජීවත්වෙන
සේක. එසේම අපිත් උන්වහන්සේ කෙ
රෙහි දුර්වලව සිටිමෝනමුත් උන්වහන්
සේ සමග දෙවියන්වහන්සේගේ බල
යෙන් නුඹලා අතරෙහි ජීවත්වන්නෙ
5 මුව. නුඹලා ඇදහිල්ලේ සිටිද්දෝ කියා
තමන්ම පරීක්ෂාකොට විමසාපල්ලාය. නු
ඹලා නොපිලිගතයුතුවූ තැනැත්තෝ
නොවෙත්නම් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
නුඹලා කෙරෙහි ඇතැයි නුඹලාම නො
6 දනිද්ද? අපි නොපිලිගත යුතුවූ තැනැ
ත්තෝ නොවෙමුයයි නුඹලා දනිතියි ව්
7 ස්වාස කෙරෙමි. නුමුත් අපි පිලිගතයුතු
වූ තැනැත්තෝයයි ප්‍රකාසවෙන පිණිස
නොව අපි නොපිලිගතයුතුවූ තැනැත්
තෝ මෙන් ප්‍රකාසවමෝනමුත් නුඹලා
විසින් කිසි අයහපතක් නොකොට යුතු
දේම කරණ පිණිස දෙවියන්වහන්සේට
8 යාඥාවෙමි. මක්නිසාද සැබෑකම උදෙ
සා මිස සැබෑකමට විරුඬව කිසිවක් ක
9 රන්ට අපට බැරිය. අපි දුර්වලවද නු
ඹලා බලවත්වද සිටිනකල අපි සතුටු

වමුව. තවද තුබලා සඹන්ධවනලෙස අ
10 පියාශු පවත්වමුව. විනාසය පිණිස නො
ව වැඩසිඩවීම පිනිස ස්වාමින්වහන්සේ
විසින් මට දෙනලද බලය ලෙස තුබලා
ඉදිරියේදී තදකම නොපවත්වන්ට ඉදිරි
11 පිට නොසිට මේ කාරණ ලියමි. ඉතින්
සහෝදරයෙනි සුවසේ සිටපල්ලාය එක
ගව සිටපල්ලාය සැනසී සිටපල්ලාය එක්
සිත්ව සිටපල්ලාය සමගිතාවෙන් සිටප
ල්ලාය. එකල ප්‍රේමයේ සහ සමගිතාවේ
දෙවියන්වහන්සේ තුබලා සමග සිටි
12 නසේක. පිරිසිදුවූ සිඹීමකින් ඔවුනො
13 වුන්ට ආචාරකරගනිල්ලාය. සියළු සුධ
14 වන්තයෝ තුබලාට ආචාර කරති. ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ කරුණා
වද දෙවියන්වහන්සේගේ ප්‍රේමයද සු
ධාත්මයානන්වහන්සේගේ ඵංගුකාරක
මද තුබලා සියල්ලන් සමග වේවා.
ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින් ගලාතිවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. මනුෂ්‍යයන්ගෙණවත්
මනුෂ්‍යයා කරණකොටගෙනවත් නො
ව යේසුස් ක්‍රිස්තුස්වහන්සේ සහ උන්ව
හන්සේ මලවුන්ගෙන් නැගිටෙව් පියවූ
දෙවියන්වහන්සේ කරණකොටගෙන
2 ප්‍රේරිතයෙක්වූ පාවුල් නම් මා විසිනද මා
ලග සිටිත සියළු සහෝදරයන් විසින්ද
ගලාතියෙහි සභාවට ලියා එවන වග
3 නම්. පියවූ දෙවියන්වහන්සේගෙනද අ
පගේ පියවූ දෙවියන්වහන්සේගේ කැ
4 මැත්තෙන් දැන් පවතින දුෂ්ට ලෝකයා
ගෙන් අප ගලවන පිණිස අපේ පව් නිසා
තමන්ම පාවාදුන්නාවූ අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද තුබලා
5 ට කරුණාවද සමාදානයද වේවා. උන්
වහන්සේට සදාකාලයටම ගෞරව වේ
වා. ආමෙන්.
6 ක්‍රිස්තුස්වහන්සේගේ කරුණාවට තුබ
ලා කැඳවූ තැනැත්තාගෙන් තුබලා මෙ
පමන ඉක්මනින් වෙන්ව අන්‍යවූ සුභාර
7 ංචියකට ඇතුලත්වූ බවට පුදුමවෙමි. ඒත්
වෙන සුභාරංචියක් නොවේය තුමූත් තු
බලා වියවුල්කොට ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචිය පෙරලන්ට කැමතිවූ සමහ
8 රෙක් සිටිති. එහෙත් අපිවත් ස්වර්ග
යෙන් දූතයෙක්වත් අප විසින් තුබලා
ට ප්‍රකාශකල සුභාරංචිය හැර වෙන සුභා
රංචියක් තුබලාට ප්‍රකාශකරතොත් ඔහු
9 සාපලද්දෙක් වේවා. යමෙක් තුබලා පි
ලිගත් සුභාරංචිය හැර වෙන සුභාරං
යක් තුබලාට ප්‍රකාශකරතොත් ඔහු සා
පලද්දෙක් වේවයි අපි වරක් කීහැටියට
10 ම මම නැවතත් කියමි. මම දැන් මනුෂ්‍ය
යන් කැමතිකරවාගනිම්ද නොහොත්
දෙවියන්වහන්සේ කැමතිකරවා ගනිම්
ද? මනුෂ්‍යයන් සතුටුකරන්ට උත්සාහ
කරම්ද? ඉදින් මම තවම මනුෂ්‍යයන් ස
තුටුකෙරෙම්නම් ක්‍රිස්තුස්වහන්සේගේ
11 සේවකයෙක් නොවෙමි. සහෝදරයෙ
නි මම ප්‍රකාශකලාවූ සුභාරංචිය මනුසික
12 නොවේයයි තුබලාට දන්වමි. මක්නිසා
ද යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ එළිදරව්
කිරීමෙන් මම ඒක ලැබුවා මිස මනුෂ්‍ය
යාගෙන් ලැබුවේවත් ඉගනගත්තේවත්
13 නැත. තවද මම බොහෝසෙයින් දෙවි
යන්වහන්සේගේ සභාවට පීඩාකොට
14 එය විනාසකරමින් මගේම වර්ගයා අත
රෙහි මා තරමේ නොයෙක් දෙනාට ව
ඩා යුදෙව්වන්ගේ ආගමෙහි උගතෙක්
ව මගේ පියවරුන්ගේ ඉගැන්වීම් ගැන
ඉතා ජ්වලිතව යුදෙව්වන්ගේ ආගමෙහි
පලමු හැසුරුණු ආකාරය තුබලා ඇසු
15 වෝය. තුමූත් තමන්වහන්සේගේ පුත්‍ර
යා අන්‍යජාතීන් අතරෙහි ප්‍රකාශකරන්
ට මගේ මව්කුස පටන් මා වෙන්කොට
තමන්වහන්සේගේ කරුණාවෙන් මා කැ
16 ඳවූ දෙවියන්වහන්සේ තමන්ගේ පුත්‍ර
යානන්වහන්සේ මට එළිදරව්කරනු කැ
මතිවූ කල්හිම මාංසය හා රුධිරය සමග
17 කථානොකොට මට පලමුවෙන් ප්‍රේරිත
ව සිටියවුන් ලගට යෙරුසලමට නො
ගොස් අරාබියට පිටත්ව ගොස් දෙවනු
18 ව දමස්කයට හැරී ආයෙමි. ඉන්පසු තුන්
අවුරුද්දක් ගියකල පේත්‍රුස් දකින පිනි
ස මම යෙරුසලමට ගොස් ඔහු ලග ප
19 හලොස් දවසක් සිටියෙමි. තුමූත් ඔහු

සහ ස්වාමින්වහන්සේගේ සහෝදරයා
වන යාකොබ් හැර ප්‍රේරිතයන්ගෙන්
20 වෙන කවුරුවත් නුදුටිමි. මම නුඹලාට
ලියන මේ කාරණාවල් බොරුනොවෙ
න බව දෙවියන්වහන්සේ දන්නාසේ
21 ක. ඉන්පසු සිරියාද කිලිකියාද යන රට
22 වලට ආයෙමි. ක්‍රිස්තුස්වහන්සේ කෙරෙ
හි පවතින යුදෙව්වරුන්ගේ සභාවන්
විසින් දක අඳුනනලද්දෙක් නුවෙමි.
23 නුමුත් ඉස්සර අපට පීඩාකල තැනැත්තා
තමා පලමුකොට විනාසකලාවූ ආගම
24 දැන් ප්‍රකාශකරනෝයයි යන පමන අ
සා මා-ගැන දෙවියන්වහන්සේට සතුති
කලෝය.

2 පරිච්ඡේ. නැවත දහ හතර අවුරු
ද්දකට පසු තීතස් මා එක්ක රැගෙන බා
ර්ණබස් සමග යෙරුසලමට ගියෙමි
2 ගියෙමි. ඇරත් දෙවියන්වහන්සේ විසින්
එලිදරව් කල නියෝගයෙන් හොස් අ
න්‍ය ජාතීන් අතරෙහි ප්‍රකාසකරණ සුභා
රංචිය ඔවුන්ට දන්වා දුනිමි නුමුත් මාගේ
දිවි දිවීමත් දුවන දිවීමත් නිශ්ඵලනො
වෙන පිනිස ප්‍රධාන තැනැත්තන්ට රහ
3 සින් දැන්විමි. නුමුත් මා සමග සිටියාවූ ග්‍රී
කයෙක්වූ තීතස්වත් චර්මඡේදනය ල
4 බන්ට බලාත්කාරකලේ නැත. මෙසේ
උනේ අප දාසබවට පමුනුවන පිනිස ක්‍රි
ස්තුස් යේසුස්වහන්සේ කාරණකොටගෙ
න අපට ඇත්තාවූ නිදහස්කම පරීක්ෂා
කරන්ට අප්‍රසිඞ ලෙස හොරෙන් ඇතු
ලත්වුනු බොරු සහෝදරයන් නිසාය.
5 සුභාරංචියෙහි සැබෑකම නුඹලා අතරේ
පවතින පිනිස අපි පැයකටවත් යටත්වී
6 මෙන් ඔවුන්ට අවකාස නුදුනිමුව. ප්‍රධා
න තැනැත්තෝයයි පෙනෙනතන් කො
හොම අයවල් නුමුත් මට කම් නැතෙත්
ය. දෙවියන්වහන්සේ කවරෙකුගේවත්
තරාතිරම් නොබලනසේක. ප්‍රධාන තැ
නැත්තන් වැනිවූ ඔවුන් මා සමග කලා
7 වූ කථාවලදී කිසිවක් මට නුගණා චර්ම
ඡේදනයෙහි සුභාරංචිය පේත්‍රුස්ට පාවා
දෙනලද ලෙස අචර්මඡේදනයෙහි සුභා
රංචිය මට පාවාදෙන ලද්දේයයි දුටුවෝ
8 ය. මක්නිසාද චර්මඡේදනයෙහි ප්‍රේරිත
කමට පේත්‍රුස් තුලෙහි බලවත් ලෙස ක්‍රි
යාකලාවූ උන්වහන්සේම අන්‍ය ජාතීන්
ගේ ප්‍රේරිතකමට මා තුලෙහි බලවත්ලෙ
9 ස ක්‍රියාකලසේක. එවිට කණු මෙන් සිටි
යාවූ යාකොබ්ද කේඵස්ද යොහන්ද මට
දෙනලද කරුණාව දැක මටද බාර්ණ
බස්ටද පංගුකාරකමේ දකුනත දුන්
නෝය. එසේ කලේ අපි අන්‍ය ජාතීන් ල
ගටද ඔවුන් චර්මඡේදනයන් ලගටද යන
10 පිනිසය. නුමුත් දිලිඳුන් සිහිකරන්ට අප
ට කිවෝය. ඒක කරන්ට මම ඉතා කැ
මතිවූයෙමි
11 තවද පේත්‍රුස් අන්තියෝකියට ආක
ල ඔහුට දෝස් තැගිය යුතුබැවින් ඔහු ඉ
12 දිරිපිට ඔහුට විරුඬව සිටියෙමි. මක්නි
සාද යාකොබ් ලඟින් සමහරු එන්ට ප
ලමුවෙන් ඔහු අන්‍ය ජාතීන් සමග කෑ
යේය. නුමුත් ඔවුන් ආකල චර්මඡේදනවූ
වන්ට භයව අහක්ව හොස් වෙන්ව සිටි
13 යේය. අනිත් යුදෙව්වරුද ඔහු සේම ව
ංචාකම් කලෝය. තවද බාර්ණබස් පවා
14 වංචාකම් කිරීමට අදිනු ලැබුයේය. ඔවුන්
සුභාරංචියෙහි සැබෑකමට යුතුවූ ඇදනැ
ගිකමින් නොහැසුරුනු බව මම දැක
සියල්ලන් ඉදිරියේදී පේත්‍රුස්ට කථාකර
මින් නුඹ යුදෙව්වෙක්ව සිට යුදෙව්වන්
ලෙස නොව අන්‍ය ජාතීන් ලෙස හැසිරෙ
නොත් අන්‍ය ජාතීන් යුදෙව්වන් මෙන්
15 හැසුරුවනොත් මක්නිසාදැයි කීමි. තවද අ
න්‍ය ජාතීන් කෙරෙන් පව්කාරයෝ නො
16 වූ ස්වභාවෙන් යුදෙව්වරුවූ අපි යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇත්තාවූ ඇ
දහිල්ලෙන් මිස ව්‍යවස්ථාවේ ක්‍රියාවලින්
මනුෂ්‍යයෙක් ධර්මිෂ්ඨකොට ගනන්ගනු
නොලබනෝයයි දැන ව්‍යවස්ථාවේ ක්‍රි
යාවලින් නොව ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි ඇත්තාවූ ඇදහිල්ලෙන් ධර්මිෂ්ඨ
කොට ගනන්ගනු ලබන පිනිස අපිත්
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි අද
හගතිමුව. මක්නිසාද ව්‍යවස්ථාවේ ක්‍රියා
වලින් කවර මනුෂ්‍යයෙක්වත් ධර්මිෂ්ඨ
17 කොට ගනන්ගනු ලබන්නේ නැත. ත
වද ක්‍රිස්තුස්වහන්සේ කාරණකොටගෙ
න ධර්මිෂ්ඨකොට ගනන්ගනු ලබන්ට
සොයනනාවූ අපිම පව්කාරයෝව පෙ
නෙමුනම් එසින් ක්‍රිස්තුස්වහන්සේ පාප
18 යෙහි සේවකයෙක් වනසේක්ද? එසේ
නොවේවා. නුමුත් මා විසින් විනාසක
ලාවූ දේ නැවත පිහිටුවනොම්නම් ම
19 ම මා වරදකාරයෙක් කරගනිමි. ඇරත්
මම දෙවියන්වහන්සේ කෙරෙහි ජීවත්
වෙන පිනිස ව්‍යවස්ථාව කාරණකොටගෙ
20 න ව්‍යවස්ථාවට මලෙමි. මම ක්‍රිස්තුස්ව

හන්සේ සමග කුරුසියෙහි ඇනගසනු
ලැබීම් නුමුත් ජීවත්වෙමි. එසේ නුමුත්
මම නොවේය ක්‍රිස්තුස්වහන්සේ මා කෙ
රෙහි ජීවත්වනසේක. තවද ශරීරයෙහි
මට දැන් ඇති ජීවත්වීම මට ප්‍රේමකලා
වූ මා උදෙසා තමන්ම පාවාදුනාවූ දෙ
වියන්වහන්සේගේ පුත්‍රයානන්වහන්සේ
කෙරෙහි පවතින ඇදහිල්ලෙන් මට ඇ
21 ත්තේය. දෙවියන්වහන්සේගේ කරුණා
ව හිස්නොකරමි. ව්‍යවස්ථාවෙන් ධර්මිෂ්ඨ
කම පැමිනේනම් ක්‍රිස්තුස්වහන්සේගේ
මරණය හිස්වේ.

3. පරිච්ඡ. අඥනවූ ගලාතිවරුනි
කුරුසියෙහි ඇනගසනලද යේසුස්ක්‍රිස්
තුස්වහන්සේ නුබලා ඉදිරියෙහි පැහැ
දිලිලෙස ප්‍රකාසවූන නුමුත් නුබලා සැ
බෑවට කීකරුනොවෙන ලෙස නුබලා
2 මුලාකෙරෙව්වේ කවුද? නුබලාගෙන්
එක් කාරණයක් පමනක් දැනගන්ට කැ
මැත්තෙමි නුබලා කුමකින් ආත්මයාන
න්වහන්සේ ලැබුවෝද? ව්‍යවස්ථාවෙහි
ක්‍රියාවලින්ද නොහොත් ඇදහිල්ලේ ඇසී
3 මෙන්ද? නුබලා එබඳු අඥනයෝ වෙද්
ද? ආත්මයෙහි පටන්ගත් නුබලා දැන් මා
4 ංසයෙහි සම්පූර්ණවෙද්ද? නිෂ්ඵලලෙස
නම් මෙපමන දේ නුබලා නිෂ්ඵලලෙස
5 ඉවසුවෝද? එසේනම් ආත්මයානන්ව
හන්සේ නුබලාට දෙනනාවූ නුබලා අත
රෙහි ආශ්චර්යයන් කරනනාවූ තැනැත්
තා ඒ දේ කරනෙන් ව්‍යවස්ථාව පැවැත්වී
මෙන්ද නොහොත් ඇදහිල්ලේ ඇසීමෙ
6 න්ද? මෙසේ ආබ්‍රහම් දෙවියන්වහන්සේ
අදහගත්තේය ඒක ඔහුට ධර්මිෂ්ඨකම
7 කොට ගනන්ගන්නාලද්දේය. එහෙ
යින් ඇදහිලිවන්තයෝ ආබ්‍රහම්ගේ පුත්‍ර
8 යෝයයි දැනගනිල්ලාය. තවද දෙවියන්
වහන්සේ ඇදහිල්ලෙන් අන්‍ය ජාතීන්
ධර්මිෂ්ඨකොට ගනන් ගන්නාසේක්යයි
ලියවිල්ල පලමුවෙන් දැක තා කෙරෙහි
සියළු ජාතීහු ආශිර්වාද ලබන්නෝයයි සු
භාරංචිය පලමුකොට ආබ්‍රහම්ට ප්‍රකාශ
9 කොලේය. එබැවින් ඇදහිලිවන්තයෝ
ඇදහිලිවන්තවූ ආබ්‍රහම් සමග ආශිර්වාද
10 ලබති. ඇරත් ව්‍යවස්ථා පොතෙහි ලිය
නලද්දවූ සියළු කාරණාවල් කරන්ට එහි
නොපිහිටනනාවූ සියල්ලෝ සාපලද්දෝ
යයි ලියාතිබෙන නිසා යම් පමන දෙන
ව්‍යවස්ථාවේ ක්‍රියාවල පිහිටා සිටිද්ද එප
11 මන දෙන සාපයට යටත්ව සිටිති. තවද
ව්‍යවස්ථාවෙන් කවුරුවත් දෙවියන්වහන්
සේ ඉදිරිපිට ධර්මිෂ්ඨකොට ගනන්ගනු
නොලබන බව පැහැදිලි ලෙස පෙනෙන
නේය. මක්නිසාද ඇදහිල්ලෙන් ධර්මි
12 ෂ්ඨයා ජීවත්වන්නේය. ව්‍යවස්ථාව ඇද
හිල්ලෙන් නොවේය නුමුත් ඒ දේ කර
13 න මනුෂ්‍යයා එසින් ජීවත්වනේය. ග
හේ එල්වනලද සියල්ලෝ සාපලත්තෝ
යයි ලියා තිබෙන බැවින් ක්‍රිස්තුස්වහන්
සේ අප වෙනුවට සාප ලැබ ව්‍යවස්ථාවෙ
14 හි සාපයෙන් අප මිදූසේක. යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේ කරණකොටගෙන ආබ්‍ර
හම්ගේ ආශිර්වාදය අන්‍යජාතීන්ට පැමි
ණෙන පිනිසත් ඇදහිල්ලෙන් අපි සුධාත්
ම පොරොන්දුව ලබාගනනා පිනිසත්ය.
15 සහෝදරයෙනි මනුෂ්‍ය ව්‍යවහාර
යෙන් කථාකරමි. මනුෂ්‍යයෙකුගේ ගිවි
සුමක් නුමුත් ඒක ස්ථිරකරපු ලැබුයේ
නම් කවුරුවත් ඒක අවලංගුකරනෙත්
නැත ඒකට කිසිවක් යොදනෙත් නැත.
16 ආබ්‍රහම්ටද ඔහුගෙන් පැවත එනනාටද
පොරොන්දුව දෙනලද්දේය. පැවත එ
නනන්ටයයි බොහෝ දෙනා ගැන උන්
වහන්සේ නොකියා පැවත එනනාටය
යි කියමින් එක්කෙනෙක් ගැන කීසේ
17 ක. ඒ ක්‍රිස්තුස්වහන්සේමය. තවද දෙවි
යන්වහන්සේ විසින් ක්‍රිස්තුස්වහන්සේ ගැ
න පලමු කරණලද යම් ගිවිසුමක් ස්ථිර
කරණලද්දේද එහි පොරොන්දුව නිෂ්ඵ
ලවෙනලෙස ඒ ගිවිසුම අවලංගු කරන්
ට හාරසිය තිස් අවුරුද්දකට පසු කරණ
18 ලද ව්‍යවස්ථාවට නුපුළුවනැයි කියමි. ඇ
රත් උරුමය ව්‍යවස්ථාවෙන් වේනම් පො
රොන්දුවෙන් නොවේය. නුමුත් දෙවිය
න්වහන්සේ පොරොන්දුවෙන් ආබ්‍රහම්ට
19 ඒක දුන්සේක. එසේවීනම් ව්‍යවස්ථාව
කුමටද? පොරොන්දුවේ හිමියාවූ ඒ පැව
ත එනනා පැමිනෙනතුරු අපරාධයන්
නිසා ඒක වැඩිකොට දෙනලද්දුව දේව
දූතයන් ලවා මැදහත්කාරයෙකුගේ අ
20 තින් පිහිටුවනලද්දේය. තවද මැදහත්
තැනැත්තා එක්කෙනෙකුගේ නොවේ
ය. නුමුත් දෙවියන්වහන්සේ එක්කෙ
21 නෙක්මය. එසේනම් ව්‍යවස්ථාව දෙවිය
න්වහන්සේගේ පොරොන්දුවලට විරුද්ධ
වද? එසේ නොවේවා. ජීවන දෙන්ට
පුළුවන්වූ ව්‍යවස්ථාවක් දෙනලද්දිනම්
ධර්මිෂ්ඨකම ඒකාන්තයෙන් ව්‍යවස්ථා

22 වෙත් වන්නේය. යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි පවතින්නාවූ ඇදහිල්
ලෙන් අදහන්නවුන්ට පොරොන්දුව දෙ
න්නු ලබන පිණිස ශුද්ධ ලියවිල්ල සියල්ලන්
23 පාපයට යටත්කොට බැන්දේය. නුමුත්
ඇදහිල්ල පැමිණෙනත්ට පලමුවෙන් අපි
එලිදරව්වෙන්ට තිබෙන ඇදහිල්ල පැ
මිණෙනතුරු ව්‍යවස්ථාවට යටත්ව හිර
24 කරනුලදුව සිටියෙමුව. එහෙයින් අපි
ඇදහිල්ලෙන් ධර්මිෂ්ඨකොට ගනන්ගනු
ලබන පිණිස ව්‍යවස්ථාව අප ක්‍රිස්තුස්ව
හන්සේ ලඟට ගෙනයන්නෙක් වූයේ
25 ය. නුමුත් ඇදහිල්ල පැමිණිකල්හි එතැන්
පටන් ගෙනයනතා යටතේ නොසිටුමු
26 ව. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි
ඇදහිල්ලෙන් නුබලා සියල්ලෝ දෙවිය
27 න්වහන්සේගේ පුත්‍රයෝ වෙති. එපමන
කුත් නොව නුබලාගෙන් ක්‍රිස්තුස්වහන්
සේ තුලෙහි බව්තීස්ම ලැබුවාවූ එපම
න දෙන ක්‍රිස්තුස්වහන්සේ පැලඳගත්
28 තෝය. නුබලා සියල්ලෝ ක්‍රිස්තුස් යේ
සුස්වහන්සේ තුලෙහි එක්කෙනෙක්ව
සිටින නිසා යුදෙව්වෙක්වත් ග්‍රීකයෙක්
වත් නැත්තෝය. දාසයෙකුත් නිදීසයෙ
කුත් නැත්තේය පුරුෂයෙක්වත් ස්ත්‍රී
29 යෙක්වත් නැත්තේය. නුබලා ක්‍රිස්තුස්ව
හන්සේගේ තැනැත්තෝනම් නුබලා
ආබ්‍රහම්ගේ වංශයද පොරොන්දුවේ හැටි
යට උරුමක්කාරයෝද වෙති.

4. පරිච්ඡේ. උරුමක්කාරයා සියල්ල
ට ස්වාමියා නුමුත් ඔහු බාලව සිටිනතුරු
වැඩකාරයෙකුට කිසි වෙනසක් නැතු
ව පියා විසින් නියමකල කාලය දක්වා
2 ඔහු ගුරුවරයන්ගේද ප්‍රවේසම්කාරයන්
ගේද යටතේ සිටිනෝයයි මම කියමි.
3 එසේම අපිත් බාලව සිටිකල ලෞකිකවූ
ඉගැන්වීම්වලට යටත්ව දාසයෝව සිටි
4 යෙමුව. නුමුත් අපි ඇතිකිරීමේ පුත්‍රකම
ලබන පිණිසද ව්‍යවස්ථාවට යටත්ව සිටිය
5 වුන්ගෙන් මිදීම පිණිසද දෙවියන්වහන්
සේ සම්පූර්ණ කාලය පැමිණිකල්හි ස්ත්‍රී
යෙකුගෙන් උපනනාවූ ව්‍යවස්ථාවට ය
ටත්වූ තමන් පුත්‍රයානන්වහන්සේ එවූ
6 සේක. තවද නුබලා පුත්‍රයෝ බැවින් පි
යානනි පියානනි කියා හඬගසන්නාවූ
තමන් පුත්‍රයානන්වහන්සේගේ ආත්මය
7 නුබලාගේ හෘදවලට එවූසේක. එබැවින්
නුබ මතු දාසයෙක් නොව පුත්‍රයෙක්
වේ. ඉදින් පුත්‍රයෙක්නම් ක්‍රිස්තුස්වහන්
සේ කරණකොටගෙන දෙවියන්වහන්
8 සේගේ උරුමක්කාරයෙක් වේ. එසේ
වී නුමුත් නුබලා ඒ කාලයේදී දෙවියන්ව
හන්සේ නැඳින ස්වභාවෙන් දෙවිනො
9 වනනාවූන්ට දාසයෝව සිටියෝය. දැන්
නුබලා දෙවියන්වහන්සේ හැඳින නො
හොත් දෙවියන්වහන්සේ විසින් හඳුනනු
ලදුව දුර්වලවූ නිෂ්ප්‍රයෝජනවූ ඉගැන්
වීම්වලට නැවත දාසවෙන්ට කැමතිව ඒ
වාට මක්නිසා දෙවනුව හැරෙනෝද?
10 නුබලා දවස්ද මාසද කාලවල්ද අවුරුදුද
11 සලකති. නුබලා අතරෙහි කලාවූ මාගේ
වැයම නිෂ්ඵලවේද්ද කියා භය ඇත්
12 තෙමි. සහෝදරයෙනි මම නුබලා මෙන්
සිටිනහෙයින් නුබලාත් මා ලෙසම සිටි
න හැටියට ඉල්ලමි. නුබලා මට කිසිම
13 අයුත්තක් කෙලේ නැත. ශරීරයේ දුර්ව
ලකමෙන් සිට මම පලමුකොට නුබලා
ට සුභාරංචිය ප්‍රකාශකල හැටි නුබලා ද
14 නිති. මගේ ශරීරික පරීක්ෂාවේදී නුබලා
මට නින්ද නොකොට මා අත්නැර දෙවි
යන්වහන්සේගේ දූතයෙකු මෙන්ද ක්‍රිස්
තුස් යේසුස්වහන්සේ මෙන්ද මා පිළිග
15 ත්තෝය. එහෙනම් නුබලා විසින් කිය
කලද නුබලාගේ වාසනාව කොයිද? නු
බලාට පුළුවනම් නුබලාගේ ඇස් උගු
ලා මට දෙන්ට කැමතිවූවෝයයි නුබලා
16 ගැන සාක්ෂි දෙමි. මම නුබලාට සැබෑව
කියන බැවින් නුබලාට සතුරෙක් වෙම්
17 ද? ඔවුන් නුබලා කෙරෙහි ජ්වලිතවෙ
ති නුමුත් යුතුලෙස නොවේය. නුබලා
ඔවුන් කෙරෙහි ජ්වලිතවෙන පිණිස අ
18 ප අහක්කරන්ට කැමතිවෙති. එහෙත්
මම නුබලා ලඟ සිටිනකල පමනක් නො
ව නිතරම යහපත් දෙයෙක්හි ජ්වලිත
19 වීම යුතුය. මගේ ලදරුවෙනි ක්‍රිස්තුස්ව
හන්සේ නුබලා තුලෙහි පිහිටනතුරු නු
බලා නිසා නැවත විදන වේදනා විඳිමි.
20 මම නුබලා ගැන සැකව සිටිනහෙයින්
දැන් නුබලා ලඟ සිටින්ටද වෙන ආකා
රයකින් කථාකරන්ටද කැමතිවෙමි.
21 ව්‍යවස්ථාවට යටත්ව සිටින්ට කැමති
වූ නුබලා ව්‍යවස්ථාව අහනෙත් නැද්දැයි
22 මට කියාපල්ලාය. ආබ්‍රහම්ට පුත්‍රයෝ
දෙදෙනෙක් සිටියෝය දාසියගෙන් එකෙ
23 ක නිදීසියගෙන් එකෙක. නුමුත් දාසිය
ගෙන් උපන් තැනැත්තේ මාංශික ලෙස
ද නිදීසියගෙන් උපන් තැනැත්තේ

පොරොන්දුව ලෙසද උපනෝයයි ලියා
24 තිබෙනෝය. මේ දේ උපමාවක. මේ
ස්ත්‍රීහුනම් ගිවිසුම් දෙකය. සීනා පර්ව
යෙන් දූන් ගිවිසුම දාසබව උපදවනෝ
25 ය ඒ හාගර්නම් වේ. ඒ හාගර්නම් අර
බියෙහි සීනා පර්වතයය. ඒ දූන් පවතින්
නාවූ තමන් පුත්‍රයන් සමග දාසකමෙහි
26 සිටිනාවූ යෙරූසලමට උපමා වේ. නු
මුත් අප සියල්ලන්ගේ මව්වූ ඉහළ ති
27 බෙනාවූ යෙරූසලම නිදහස්ය. මක්
නිසාද සස්වාමික තැනැත්තියට වඩා අ
ස්වාමික තැනැත්තියට දරුවන් වැඩිවෙ
න නිසා නොවදන වඳ ස්ත්‍රිය සතුටුවෙ
ව වදන වේදනා නොවිඳිනාවූ තී ප්‍රීති
චවනයෙන් ශබ්ද පවත්වයි ලියා තිබෙ
28 නෝය. සහෝදරයෙනි ඊසාක්මෙන්
29 අපි පොරොන්දුවෙහි දරුවෝය. නුමුත්
මාංසික ලෙස උපන් තැනැත්තේ එකල්
හි ආත්මිකලෙස උපන් තැනැත්තාට පී
30 ඩාකලාසේම දැනුත් වනෝය. ඒ නුමුත්
ලියවිල්ල මක්කියනෝද? දාසියගේ පු
තා නිදීසියගේ පුතා සමග උරුමක්කා
ර නොවන හෙයින් දාසියද ඈගේ පුතා
31 දඅහක්කරපනායි කියනෝය. එහෙ
යින් සහෝදරයෙනි අපි දාසියගේ පුත්‍ර
යෝ නොවෙමුව නිදීසියගේ පුත්‍රයෝ
වෙමුව.

5. පරිච්. එහෙයින් ක්‍රිස්තුස්වහන්
සේ අප නිදහස්කල නිදීසකමෙහි පිහි
ටා සිට දාසකිරීමේ වියගහේ දෙවනුව
2 නොබැඳෙල්ලාය. නුබලා චර්මච්ඡේද
යෝ වෙත්නම් ක්‍රිස්තුස්වහන්සේගෙන්
නුබලාට කිසි ප්‍රයෝජනයක් නැති බව
3 පාවුල්නම් මම නුබලාට කියමි චර්මඡෙ
දිවූ සෑම මනුෂ්‍යයෝ මුළු ව්‍යවස්ථාව පැ
වැත්වීමට බැඳී සිටිතියි නැවත සාක්ෂි
4 දෙමි. නුබලා අතරෙන් ව්‍යවස්ථාවෙන්
ධර්මිෂ්ඨවෙනාවූ කවරෙක් නුමුත් ක්‍රි
ස්තුස්වහන්සේගෙන් වෙන්ව කරුණා
5 වෙන් අහක්වූනෝය. අපි ආත්මයානන්
වහන්සේ කරණකොටගෙන ඇදහිල්
ලෙන් ධර්මිෂ්ඨකම ලැබෙනලෙස බලා
6 පොරොත්තුව සිටිමුව. මක්නිසාද ප්‍රේම
යෙන් යුක්තව ක්‍රියාකරනාවූ ඇදහිල්
ලෙන් මිස චර්මඡේදයෙන්වත් අචර්ම
ඡේදයෙන්වත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
7 කෙරෙහි ප්‍රයෝජන නැත. නුබලා හො
ඳලෙස දිව්වෝය. නුබලා සැබෑකමට කී
කරු නොවෙන්ට නුබලා වැලැක්කුවේ
8 කවුද? මේ කල්පනාව නුබලා කැඳවා
9 ගත් තැනැත්තාගෙන් නොවේය. මුහුන්
ස්වල්පයෙන් මුළු පිටි පිඩ පිපී එනෝය.
10 නුබලා වෙන සිතකින් යුක්තව නොසිටි
තියි ස්වාමියානන්සේ කරණකොටගෙ
න මම නුබලා ගැන විශ්වාස කෙරෙමි.
එහෙත් නුබලා වියවුල්කරණ කවරෙක්
11 නුමුත් අවචූව විඳිනෝය. සහෝදරයෙ
නි මම චර්මච්ඡේදය තවම ප්‍රකාශ කෙ
රෙමිනම් මක්නිසා දුක් විඳිමිද? එසේ
විනම් කුරුසියෙහි බාධාව නැතිව තිබෙ
12 යි. නුබලා වියවුල් කරන්නෝ නුබලා
13 ගෙන් සිඳදමනු ලබත්නම් යහපත. ස
හෝදරයෙනි නුබලා නිදහස්කමට කැ
ඳවනු ලැබූවෝය. නුමුත් මාංසයේ තෘෂ්
ණාවලට අවකාස ලැබෙන ලෙස මේ නි
දහස්කම ව්‍යවහාර නොකොට ප්‍රේම
යෙන් ඔවුනොවුන්ට වැඩකරපල්ලාය.
14 මක්නිසාද තාගේ අසල්වාසියාට තම
මෙන් ප්‍රේමකරවයි යන එක ආඥාවෙන්
15 ම මුළු ව්‍යවස්ථාව සම්පූර්ණවන්නිය. නු
මුත් නුබලා ඔවුනොවුන් විකා කනොත්
නුබලා ඔවුනොවුන්ගෙන් විනාසයට පැ
මිනෙනවා ඇත ඒ ගැන බලාගනිල්ලාය.
16 එහෙයින් ආත්මයෙනි හැසිරියල්ලාය
එවිට මාංසයේ ආසාව නොපවත්වයි කි
17 යමි. මක්නිසාද මාංසය ආත්මයට එදිරි
වත් ආත්මය මාංසයට එදිරිවත් ආසා ක
රන්නේය. කැමති දේ නුබලා විසින්
නොකරණලෙස මොවුන් ඔවුනොවුන්
18 ට එදිරිවෙති. නුමුත් නුබලා ආත්මයෙන්
ගෙනයනු ලබත්නම් ව්‍යවස්ථාවට යටත්
19 නොවෙති. මාංසයෙහි ක්‍රියාවල් ප්‍රකාශ
වේ. ඒනම් පරදාරකමය වෙශ්‍යකමය
20 අපිරිසිඳුකමය කාමතෘෂ්ණාවය දේවතා
වන්ට පිදීමය යන්ත්‍ර මන්ත්‍ර කිරීමය සතු
රුකමය විරුඩකමය අභිමානනය ක්‍රෝ
ධය විවාදය භේදය වශීභ භේදය ඊර්ෂ්‍යා
21 වය මිනිමැරීමය බීමත්කමය නපුරු සෙ
ල්ලම් කිරීමය යනාදිවූ ක්‍රියාවල්ය. මෙ
බඳු දේ කරන්නෝ දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයේ උරුම නොලබන්නෝය
යි මම ඉස්සර නුබලාට කී ලෙසම දැනුත්
22 කියමි. නුමුත් ආත්මයාගේ ඵලනම් ප්‍රේ
මය සන්තෝෂය සමාදානය බොහෝ
කල් ඉවසීමය මෘදුකමය යහපත්කමය වි
ස්වාසකමය සංසුන්බවය පමන දැනීමය.
23 මෙබඳු දේව එදිරිව ආඥාවක් නැත.

24 තවද ක්‍රිස්තුස්වහන්සේගේ තැනැත්තෝ
ත්‍රිෂ්ණාවන් හා ආශාවන් සහිතවූ මාංසය
25 කුරුසියෙහි ඇණගැසූවෝය. අපි ආත්ම
යෙහි ජීවත්වෙමුනම් ආත්මයෙහිද හැ
26 සිරෙමුව. ඔවුනොවුන්ට කෝප උපදව
මින් ඔවුනොවුන්ට ඊර්ෂ්‍යා කරමින් නිස්
ඵලවූ ගරුකම් කීමට කැමති නොවමුව.

6. පරිච්ඡේ සහෝදරයෙනි මනුෂ්‍ය
යෙක් කිසි වරදකට අසුවුනොත් නුබ
ලා ඥානවන්තවූ ආත්මයෙන් යුක්තව ඔ
හු හරවාගනිල්ලාය. නුඹ පරීක්ෂාවට
නොපැමිනෙනන පිනිස තමාම බලාගනි
2 නන. ඔවුනොවුන්ගේ බර උසුලාපල්ලා
ය එසේ කිරීමෙන් ක්‍රිස්තුස්වහන්සේගේ
3 ව්‍යවස්ථාව සම්පූර්ණකරපල්ලාය. උතුම්
කමක් නැත්තාවූ කෙනෙක් තමන් උත්
තමයාය කියා සිතන්නේනම් ඔහු තමා
4 ම රවටාගන්නේය. නුඹුත් එක එකා ත
මතමාගේ ක්‍රියාව පරීක්ෂාකෙරේවා. එවි
ට ඔහු අනිකකු කෙරෙහි නොව තමන්
5 කෙරෙහිම ප්‍රිතියට පැමිනේ. මක්නිසා
ද එකඑකා තමතමාගේම බර උසුලන්
6 නේය. වචනය ඉගනගන්නා උගන්වන්
7 නාට සියළු සම්පතෙන් දේවා. මුළානො
වෙල්ලාය දෙවියන්වහන්සේ සුළුකරන්
ට කිසිවෙකුට ඉඩනොදෙනසේක. මනු
ෂ්‍යයෙක් වපුල දෙයක්ම කපන්නේය.
8 ඒ හැවියට තමාගේ මාංසයෙහි වපුරණ
තැනැත්තේ මාංසයෙන් කුනුවීම කපා
ගන්නේය. ආත්මයෙහි වපුරණ තැනැ
ත්තේ ආත්මයෙන් සදාකාල ජීවනය ක
9 පාගන්නේය. තවද යහපත්කම් කිරීම
ට කලාන්ත නොවෙමුව. මක්නිසාද අපි
කලාන්ත නොවෙමුනම් සුදුසු කාලයෙ
10 හි කපාගන්මුව. එසේහෙයින් අපට ප්‍රස්
ථා ඇතිකල්හි ඇදහිලිවන්ත පවුල ප්‍රධා
නකොට සියල්ලන්ටම යහපත්කම් කර
11 මුව. මා අතින් කොපමන මහත් ලිවුමක්
12 නුබලාට ලිව්මිද කියා බලාපල්ලාය. මාං
සයෙහි සෝභමානව පෙනෙන්ට කැම
ති සියල්ලෝ ක්‍රිස්තුස්වහන්සේගේ කුරු
සිය නිසා පීඩා නොලබන්ට පමනක් ච
ර්මඡේදනය ලබන පිනිස නුබලාට බලාත්
13 කාර කෙරෙති. චර්මඡේදවූ ඔවුන්ම ව්‍ය
වස්ථාව රක්ෂා නොකෙරෙති නුමුත් නුබ
ලාගේ මාංසය ගැන ඔවුන් පාරට්ටුකර
ණ පිනිස නුබලා චර්මඡේද්න් කරවාගන්
14 ට කැමති වෙති. එහෙත් අපගේ ස්වාමි
වූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ කුරුසිය
ගැන මිස වෙන කිසි දෙයක් ගැන පාරට්
ටුකරන්ට මට නොවේවා. එසින් ලෝ
කය මා කෙරෙහිද මම ලෝකය කෙරෙ
15 හිද කුරුසියේ ඇනගසනලද්දේය. මක්
නිසාද අළුත් මැවිල්ලෙන් මිස චර්මඡේද
යෙන්වත් අචර්මඡේදයෙනවත් ක්‍රිස්තුස්
වහන්සේ කෙරෙහි කිසි ප්‍රයෝජනයක්
16 නැත. තවද මේ ක්‍රමය ලෙස හැසිරෙ
නනවුන්ටද දෙවියන්වහන්සේගේ ඊස්‍රා
යෙල්ටද සමාදානයත් දයාවත් වේවා
17 මෙසින් මතු කිසිවෙක් මා කනගාටු
නොකෙරේවා. මක්නිසාද ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ ලකුනු මාගේ
18 ශරීරයෙහි දරමි. සහෝදරයෙනි අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ක
රුණාව නුබලාගේ ආත්මය සමග වේවා.
ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින් එපිසවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේගේ
කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්නම් මම එපි
සයෙහි සිටින පිරිසිදුවූ ක්‍රිස්තුස්වහන්සේ
2 කෙරෙහි අදහනනාවූ නුබලාට අපගේ
පියවූ දෙවියන්වහන්සේගෙන්ද ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙනද කරුණා
වත් සමාදානයත් වෙන ලෙස ලියාඑවන
3 වගනම්. ක්‍රිස්තුස්වහන්සේ කරණකොට
ගෙන ස්වර්ගීය කාරණ ගැන සියළු ආත්
මික ආශීර්වාදවලින් අපට ආශීර්වාද කලා
වූ අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ පියවූ දෙවියන්වහන්සේට ස්තුති
4 වේවා. මක්නිසාද අපි තමන්වහන්සේ
ගේ ඉදිරිපිට ප්‍රේමයෙන් පිරිසිදුව නිදෙ
ස්ව සිටින පිනිස ලෝකය මැවීමට පල
මුවෙන් ක්‍රිස්තුස්වහන්සේ කරණකොට
ගෙන උන්වහන්සේ අප තෝරාගත්

5 සේක. තවද ප්‍රේමවන්ත තැනන්වහන්
සේ කරණකොටගෙන අපට කරුණක
ලාවූ තමන්ගේ තේජවන්තවූ කරුණාව
6 ට ප්‍රසංසාවෙනපිනිස තමන්ගේ යහපත්
අභිප්‍රායේ හැටියට යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කරණකොටගෙන තමන්වහන්සේ
විසින් ඇතිකල පුත්‍ර බවට පලමුවෙන් අ
7 ප නියමකලසේක. සියළු ඥානයෙන්ද බු
ද්ධියෙන්ද අප කෙරේ වැඩිකලාවූ උන්වහන්
8 සේගේ කරුණාව නැමති වස්තුවේ ප්‍රකා
රයට ඒ ප්‍රේමවන්තවූ තැනැන්වහන්
සේගේ ලේයින් පව් කමාවීම යන මිදී
ම උන්වහන්සේ කරනකොටගෙන අප
9 ට ඇත. තවද සම්පූර්ණ කාලවල පවති
10 න නියමයේ හැටියට ස්වර්ගයෙහිත් භූ
මියෙහිත් ඇත්තාවූ සියල්ල ක්‍රිස්තුස්වහන්
සේ වෙත එකට රැස්කරන්ට තමන්වහන්
සේම නියමකල යහපත් කැමැත්තේ හැ
ටියට තමන්ගේ අභිප්‍රායේ රහස අපට
11 දැන්වූසේක. ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
පලමුකොට විශ්වාසකලාවූ අපි උන්වහන්
12 සේගේ ගෞරවයේ ප්‍රසංසාව වෙන පි
නිස තමන්ගේ කැමැත්තේ මන්ත්‍රනය
ලෙස සියල්ල සිද්ධකරන්නාවූ තැනැන්ව
හන්සේගේ නියමයෙන් අපි ඉස්සර හිට
නියමකරණලදුව ඒ ක්‍රිස්තුස්වහන්සේ
13 ගෙන් උරුමයක් ලැබීමුව. තුබලාගේ
ගැලවීමේ සුභාරංචියනම්වූ සැබෑකමෙ
හි වචන තුබලාත් අසා උන්වහන්සේ
14 කෙරෙහි ඇදහුවෝය. තවද අදහා උන්
වහන්සේගේ ගෞරවයේ ප්‍රසංසාව පිනි
ස සපයාගත් වස්තුව වැනිවූ අපේ උරු
මයෙහි අත්තිකාරම ගලවාගන්නාකල්
පොරොන්දුවේ සුද්ධාත්මයෙන් තුබලා
උන්වහන්සේ කෙරෙහි මුද්‍රකරනු ලැබූ
වෝය.
15 එබැවින් මමද ස්වාමිවූ යේසුස්වහන්
සේ කෙරෙහි ඇති තුබලාගේ ඇදහිල්
16 ලත් සියළු පිරිසිදුවූවන්ට ඇති තුබලා
ගේ ප්‍රේමයත් අසා මාගේ යාඥාවලදී තු
17 බලා සිහිකරමින් තුබලා වෙනුවට ස්තු
තිකිරීම අත්නෑර අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ දෙවිවූ මහිම
තාවයෙහි පියාතන්වහන්සේ තමන්ව
18 හන්සේ ඇඳිනගන්නා ඥානයේද එළිද
රව් කිරීමේද ආත්මය තුබලාට දෙන පි
නිසද උන්වහන්සේගේ කැඳවීමේ බලා
පොරොත්තුව කිමෙක්ද කියාත් පිරිසිදු
වූවන්ට ඇත්තාවූ තමන්වහන්සේගේ
19 උරුමයෙහි තේජස් වස්තුව කිමෙක්ද
කියාත් තමන්වහන්සේ විසින් ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි දක්වූවාවූ උතුම්වූ බ
ලයේ ප්‍රකාරයට අදහන අපකෙරෙහි
ඇත්තාවූ බලයේ උතුම් මහිමතාවය කි
මෙක්ද කියාත් තුබලා දැනගන්නා පිනි
සද උන්වහන්සේ විසින් තුබලාගේ නුව
20 න නැමති ඇස් පහදන්ට යාඥාවෙමි. ඒ
උතුම් බලයෙන් උන්වහන්සේ ක්‍රිස්තුස්ව
හන්සේ මලවූන්ගෙන් නැගුටුවා ස්වර්ගී
21 ය තැන්වල තමන්වහන්සේගේ දකුණු
පැත්තේ හිඳුවා සියළු අධිපතිකමටත් බ
ලයටත් පරාක්‍රමයටත් ස්වාමිකමටත් මේ
ලෝකයේ පමනක් නොව පරලෝක
යේත් කියවෙන සියළු නම්වලටත් වඩා
22 උතුම්කොට තබා සියල්ල උන්වහන්සේ
ගේ පාදවලට යටත්කොට උන්වහන්
සේගේ සභාව උදෙසා සියල්ලන්ට ප්‍රධා
නියා වෙන්ට උන්වහන්සේ නියමකල
23 සේක. ඒ සභාව උන්වහන්සේගේ ශරීර
යත් සියල්ලන් කෙරෙහි සියල්ල සම්පූ
ර්ණකරනතාවූ උන්වහන්සේගේ සම්පූ
ර්ණකමත් වේ.

2. පරිච්ඡේ. තවද අපරාධවලද පාප
වලද මලාවූ තුබලා උන්වහන්සේ ජීවත්
2 කලසේක. එහි පසුගියාවූ කාලයේදී මේ
ලෝක ව්‍යවහාරයේ හැටියටත් අකීක
රුකමේ දරුවන් තුලෙහි දැන් ක්‍රියාක
රනතාවූ ආකාසයේ බල පවත්වන අධිප
තිවූ ආත්මයාගේ කැමැත්තේ හැටියටත්
3 තුබලා හැසුරුනෝය. ඔවුන් අතරෙහි
අපි සියල්ලෝද පසුවූවූ කාලේදී අපේ
ශරීර ආසාවල් ලෙස පැවත ශරීරයටත්
සිතටත් නැමති දේ කරමින් ස්වභාවෙන්
අනුන් මෙන් උදහසේ දරුවෝව සිටි
4 යෙමුව. එහෙත් ඉතා කරුණාවන්ත දෙ
වියන්වහන්සේ අප කෙරෙහි පවතින ත
5 මන්වහන්සේගේ මහත් ප්‍රේමයෙන් පා
පවල්හි මලාවූ අප ක්‍රිස්තුස්වහන්සේ සම
ග ජීවත්කලසේක. කරුණාවෙන් තුබ
6 ලා ගැලවී සිටිති. තවද ක්‍රිස්තුස්වහන්
සේ කරණකොටගෙන අප කෙරේ පව
ත්වනලද දයාවෙන් තමන්ගේ කරුණා
7 ව නැමති මහත් වස්තුව එන කාලවලදී
පෙන්වන පිනිස ක්‍රිස්තුස්වහන්සේ සමග
නැගුටුවා ස්වර්ගීය තැන්වල හිඳුවූසේක.
8 ඇදහිල්ල කරණකොටගෙන කරුණා
වෙන් තුබලා ගැලවී සිටිති. ඒ තුබලා

කරණකොටගෙන නොවේය. ඒ දෙවි
9 යන්වහන්සේගේ දීමනාවය. කිසිවෙක්
ගරුකම් නොකියන ලෙස ඒක ක්‍රියා
10 වන් කරණකොටගෙන නොවේය. එ
සේ තුඹුත් දෙවියන්වහන්සේ පලමු කො
ට නියමකල ලෙස හොඳ ක්‍රියාවල් කර
මින් හැසිරෙන පිනිස අපි ක්‍රිස්තුස්වහන්
සේ කරණකොටගෙන මවනලැබූවාවූ
දෙවියන්වහන්සේගේ කර්මාන්තය වෙ
මුව.
11 ඒ නිසා පලමුවෙන් වශයෙන් අන්‍ය
ජාතියෝව සිටියාවූ අතින් ශරීරයෙහි ක
රණලද චර්මඡේදය ඇත්තන් විසින් අච
12 ර්මඡේදයෝයයි කියනලද්දාවූ තුඹලා
ඒ කාලයෙහි ක්‍රිස්තුස්වහන්සේ නැතුව
ඊශ්‍රායෙල්ගේ සමාගමෙන් වෙන්ව පො
රොන්දුවෙහි ගිවිසුම්වලට පංගුකාරයෝ
නොවී බලාපොරොත්තුවක් නැතුව මේ
ලෝකයෙහිදී දෙවියන්වහන්සේත් නැතු
13 ව සිටියබව සිහිකරපල්ලාය. පලමුවෙන්
දුරුව සිටියාවූ තුඹලා දැන් ක්‍රිස්තුස් යේසු
ස්වහන්සේ කරනකොටගෙන උන්වහන්
14 සේගේ ලෙයින් ලන්වී සිටිති. මක්නිසා
ද උන්වහන්සේ අපේ සමාදානකාරයාව
15 සිට වෙන්කරණ මැද බිත්තිය බිඳදමා
දෙගොල්ල එක්කොට සමාදානකරමින්
දෙගොල්ලගෙන් තමන්වහන්සේකෙ
16 රෙහි එක අළුත් මනුෂ්‍යයෙකු සාදන පි
නිසත් කුරුසියෙන් සතුරුකම නසා එ
සින් එක ශරීරයෙහි දෙගොල්ලම දෙවි
යන්වහන්සේ කෙරෙහි සමගිකරණ පි
නිසත් නියෝගයන් ගැන ආඥාකලාවූ
ව්‍යවස්ථාවනම්වූ සතුරුකම තමන්වහන්
17 සේගේ ශරීරයෙන් නසා ඇවිත් දුර සිටි
යාවූ තුඹලාටත් ලඟසිටියවුන්ටත් සමා
18 දානය ප්‍රකාශකලසේක. එබැවින් උන්ව
හන්සේ නිසා අප දෙගොල්ලට එක ආත්
මයානන්වහන්සේ කරණකොටගෙන
පියානන්වහන්සේ ලඟට පැමිනෙනනට
19 පුළුවන. ඒ නිසා තුඹලා මෙතැන් පටන්
විදේශියෝද පරදේශියෝද නොවෙති.
ශුද්ධවන්තයින් සමග එක නුවර වැසි
යෝද දෙවියන්වහන්සේගේ පවුලේ අ
20 යවල්ද වෙති. තවද ප්‍රේරිතයන්ගේත්
අනාගතවක්තෘන්ගේත් අත්තිවාරම පි
ට තුඹලා ඉදිකරණලද්දෝ වෙත් එහි
කොනෙන් ප්‍රධාන ගලකම් යේසුස් ක්‍රිස්තු
21 ස්වහන්සේමය. එයින් මුළු ඉදිකිරීම හො
ඳ හැඩියට එකතුකරණලදුව ස්වාමින්ව
හන්සේ උදෙසා ශුද්ධවූ මාලිගාවක්කො
22 ට ගොඩනගනු ලබනෙන්ය. උන්වහන්
සේ කෙරෙහි තුඹලාත් ආත්මයෙන් දෙ
වියන්වහන්සේගේ වාසස්ථානයක් වෙන
පිනිස ඉදිකරණලද්දෝ වෙති.

3 පරිච්ඡේ. පාවුල්නම්වූ මම අන්‍ය ජා
තිවූ තුඹලා උදෙසා යේසුස් ක්‍රිස්තුස්ව
2 හන්සේගේ සිරකාරයෙක් වෙමි. ශුද්ධාත්
මයානන්වහන්සේ විසින් දෙවියන්වහන්
සේගේ ශුද්ධවූ ප්‍රේරිතයන්ටත් අනාගත
වක්තෘන්ටත් දැන් එළිදරව්කරණ ලෙ
ස පලමු කාලවලදී මනුෂ්‍යපුත්‍රයන්ට දන්
3 වනු නොලද්දාවූ රහස මට එළිදරව්කො
ට දන්වා දෙමින් තුඹලා උදෙසා දෙවිය
න්වහන්සේ විසින් මට බාරදෙනලද උන්
වහන්සේගේ කරුණාවෙහි නියෝගය
4 කෙලෙසද කියා තුඹලා ඇසුවෝය. මම
ඉස්සර එහුඩෙන් ඒ ගැන තුඹලාට ලි
5 විමි. ඒ ලිවුම් තුඹලා කියවනකල ක්‍රිස්
තුස්වහන්සේගේ රහස ගැන මට ඇත්
තාවූ දැනිම කොහොමදැයි දැනගන්නට
6 තුඹලාට පුළුවන. ඒ රහසනම් සුභාරංචි
ය කරණකොටගෙන හවුල් උරුමක්
කාරයෝද එකම ශරීරයේ අවයවයෝ
ද ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි පවතින
දෙවියන්වහන්සේගේ පොරොන්දුවීමේ
පංගුකාරයෝද වෙන්ට අන්‍ය ජාතීන්ට
7 අවසර ඇතිබවය. මා කෙරෙහි ක්‍රියා ක
රන්නාවූ දෙවියන්වහන්සේගේ බල
යෙන් මට දුන් උන්වහන්සේගේ කරු
ණාවේ දීමනාවේ හැටියට ඒ සුභාරංචි
8 යෙහි සේවකයෙක් කරනු ලැබීමි. ක්‍රිස්
තුස්වහන්සේගේ සොයා බලා දැනගත
9 නොහැකිවූ වස්තුව අන්‍ය ජාතීන්ට ප්‍රකාශ
කරන්ටද යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ලවා
සියල්ල මැවෙව්වාවූ දෙවියන්වහන්සේ
වෙත ලෝකේ පටන්ගැන්මේ සිට සැ
ඟවී තිබුනාවූ ඒ රහසේ පංගුකාරකම
මොකද කියා සියල්ලන්ට දක්වන්ටද සි
යළු කුඩා ශුද්ධවන්තයන් අතරෙන් ඉතා
කුඩාවූ මට මේ කරුණාව දෙනලද්දේ
10 ය. ඒ කුමක් පිනිසදයත් අපගේ ස්වාමි
වූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි
දෙවියන්වහන්සේ විසින් නියමකලාවූ උ
11 න්වහන්සේගේ සදාකාල නියෝගයේ හැ
ටියට දැන් ස්වර්ගයෙහි සිටින ප්‍රධානීන්
ටද පරාක්‍රම ඇත්තන්ටද සභාව කරණ
කොටගෙන දෙවියන්වහන්සේගේ නො

යෙක් ආකාර ඥානය ප්‍රකාශකරණු ල
12 බන්ට පුළුවන්වෙන පිණිසය. එමක්‍රිස්තු
ස්වහන්සේ කෙරෙහිඇදහිල්ලෙන් භය
නැතිකමද විශ්වාසයෙන් දෙවියන්වහන්
සේ ළඟට පැමිනීමද උන්වහන්සේ කාරණ
13 කොටගෙන අපට ඇතොත්ය. ඉන්නිසා
තුඹලාට ගෞරව ඇත්තාවූ තුඹලා ගැ
න මම විඳින්නාවූ දුක්විලට කලාන්ත
14 නොවෙන පිණිස ඉල්වමි. මෙම කාරණ
15 ව නිසා මම ස්වර්ගයෙහිද පොලොවෙහි
ද වසන මුළු පවුලට නම් දුනනාවූ අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පි
16 යානන්වහන්සේට මාගේ දනනමා උන්ව
හන්සේගේ ආත්මයෙන් තුඹලාගේ ඇ
තුල් මනුෂ්‍යයා ඉතා ස්ථිරකරනු ලබන හැ
17 වියටත් ඇදහිල්ලෙන් ක්‍රිස්තුස්වහන්සේ
තුඹලාගේ හෘදවල වාසයකරණ හැවිය
18 ටත් තුඹලා ප්‍රේමයේ මුල්ඇද සවිව සිට
සියළු පිරිසිදුවූවන් සමග ක්‍රිස්තුස්වහන්
සේගේ ප්‍රේමයේ දිග පලල උස ගැඹුර
19 මොකදැයි දැනගන්නට පුළුවන්වෙන හැ
වියටත් ක්‍රිස්තුස්වහන්සේගේ නොසිතිය
හැකිවූ ප්‍රේමය දැනගනිමින් දෙවියන්ව
හන්සේගේ සියළු සම්පූර්ණකමෙන් සම්
පූර්ණකරනු ලබනා හැවියටත් තමන්ව
හන්සේගේ මහිමතාවෙහි ධනය ලෙස
20 තුඹලාට දෙන පිණිස යාඥාවෙමි. තවද
අප තුලෙහි ක්‍රියා කරනනාවූ බලය ලෙ
ස අපි ඉල්ලන සිතන සෑම දේට වඩා ඉ
තා වැඩිකොට කරන්ට සමර්ථවූ උන්ව
21 හන්සේට සියළු පරම්පරාවන් දක්වා යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ කරණකොටගෙ
න සභාවෙහිදී සදාකල්ම මහිමතාවය
වේවා. ආමෙන්.

4. පරිච්ඡේ. එබැවින් තුඹලා කැඳව
නලද කැඳවීමට සුදුසුවූ සෑම යටහත්ක
2 මෙනුත් මොලොක් ගුනයෙනුත් බො
හෝ කල් ඉවසීමෙනුත් පැවත ඔවුනො
වුන් ගැන ප්‍රේමයෙන් ඉවසා සමාදාන
3 බැම්මෙන් ආත්මයානන්වහන්සේගේ එ
කමුතුකම පවත්වන්ට උත්සාහ කරපල්
ලායයි ස්වාමින්වහන්සේ ගැන හිරකාර
4 යෙක්වූ මම තුඹලාගෙන් ඉල්ලමි. කැ
දවනලද තුඹලා එක බලාපොරොත්තු
වක් ඇතුව සිටීමට කැඳවනලද්දේ වෙ
ති එලෙසම එකම ශරීරයද එකම ආත්ම
5 යානන්වහන්සේද එකම ස්වාමීන්වහන්
6 සේද එකම ඇදහිල්ලද එකම බව්තීස්ම
යද සියල්ලන්ට උතුම්වූ සියල්ලන්කෙරෙ
හි පවත්වනනාවූ තුඹලා සියල්ලන් තුල
සිටිනනාවූ සියල්ලන්ට එකම පියවූ දෙ
7 වියන්වහන්සේද ඇත. නුමුත් අපගෙන්
එකඑකාට ක්‍රිස්තුස්වහන්සේගේ දීමෙහි
ප්‍රමානයේ හැවියට කරුණාව දෙනලද්
8 දේය. එහෙයින් උන්වහන්සේ උසස් තැ
නට නැගී අනුන් වාල්කමට ගත්තවුන්
වාල්කමට ගෙනගොස් මනුෂ්‍යයන්ට
තෑගි දුන්සේකැයි කියා තිබෙන්නේය.
9 උන්වහන්සේ පලමුකොට පොලොව
යටට නොබැස්සසේක්නම් නැගුනුසේ
කැයි යන බව හැගෙන්නේ කොහො
10 මද? බැස්සාවූ උන්වහන්සේම සියල්ල
සම්පූර්ණකරන්ට සෑම ස්වර්ගවලින් ඉ
11 හලට නැගුනුසේක. තවද අපි මින් මතු
මනුෂ්‍යයන්ගේ වංචාවෙන්ද රැවටීමට
12 යොදනලද ප්‍රයෝගවලින්ද නොයෙක්
ආකාර ඉගැන්වීම් නැමති හුලඟින්ද වව
ලවනනාවූ ඈත මෑත කම්පාකරනු ලබ
13 නනාවූ ලදරුවන් නොව ප්‍රේමය සහිත
ව සැබෑකමට ඇළුම්ව ඉස නැමති ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි සියළු ආකාර
14 යෙන් වැඩෙන පිණිස ඇදහිල්ලේහා දෙ
වියන්වහන්සේගේ පුත්‍රයා ඇඳිනගැන්
මේ එකඟකමටත් හරි පුරුෂකමට ඒ
නම් ක්‍රිස්තුස්වහන්සේගේ සම්පූර්ණවූ උ
ස මහතටත් අපි සියල්ලෝ පැමිනෙන
15 තුරු පිරිසිදුවූවන් සම්පූර්ණකමට පමු
නුවන්ටත් සේවකකමේ වැඩ කරන්ටත්
ක්‍රිස්තුස්වහන්සේගේ ශරීරය ගොඩන
ගන්ටත් සමහරුන් ප්‍රේරිතයන්ද සමහ
රුන් දේශනාකාරයන්ද සමහරුන් සුභා
රංචිය ප්‍රකාශකරන්නන්ද සමහරුන් ප්‍ර
16 වේසම්කරනනන්ද සමහරුන් උගන්වන්
නන්ද කොට නියමකලසේක. මුළු ශරී
රයේ එක එක අවයවයේ ප්‍රමානය ලෙ
ස උන්වහන්සේ විසින් ක්‍රියා කිරීමෙන්
සෑම පුරුකවලින් යහපත්කොට යොදා
සම්බන්ධ කරණලදුව තමන් ඉදිකිරීම පිනි
ස ප්‍රේමයෙන් වර්ධනකරනු ලබනොත්ය.
17 එබැවින් සෙසු අන්‍ය ජාතීහු තමන්
ගේ සිතේ වැඩනැතිකමේ ප්‍රකාරයට
හැසිරෙනනාක්මෙන් තුඹලා මතු නො
හැසිරියල්ලායයි ස්වාමින්වහන්සේ කරන
කොටගෙන අනාඥාවක්කොට කියමි.
18 ඔවුන්ගේ නුවන අඳුරුවී තමන් තුල ති
බෙන අඥානකමින් සහ සිත් දැඩිකමින්
19 දෙවියන්වහන්සේ කෙරෙහි ජීවනයෙන්

වෙන්වී සැලකිල්ලක් නැතුව සියළු අපි
රිසිදුකම් අල්ලයෙන් කරන පිනිස තමන්
20 ම කාමවිකාරයට බාරදුන්නෝය. නුමුත්
නුඹලා ක්‍රිස්තුස්වහන්සේගෙන් මෙසේ
21 ඉගෙනගත්තෝ නැත. මක්නිසාද ජේසුස්
වහන්සේ කෙරෙහි ඇත්තාවූ සැබෑක
මේ ප්‍රකාර නුඹලා උන්වහන්සේගෙන්
22 අසා ඉගෙනගත්තෝය. ඒ හැටියට නුඹ
ලාගේ පලමු කල්ක්‍රියාවේ වංචකවූ ආ
23 සාවලින් කිළුටුවෙමින් සිටි පරණ මනු
24 ෂ්‍යයා නුඹලා හැරදමා නුඹලාගේ හිත්
සිතු අභිප්‍රාවල් අළුත්කරනු ලැබ ධර්මිෂ්
ටකමෙනුත් සැබෑ පිරිසිදුකමෙනුත් දෙ
වියන්වහන්සේට සමානව මවනලද්දාවූ
25 අළුත් මනුෂ්‍යයා පැලදගනිල්ලාය. අපි ඔ
වුනොවුන් අවයවයෝය එහෙයින් බො
රු කීම හැරදමා එක එකා තම තමාගේ
අසල්වාසියා සමග සැබෑ වචන කියාප
26 ල්ලාය. කෝප වූනත් පව් නොකරල්ලා
27 ය. ඉර බහිනකල් නුඹලාගේ කෝපය
තිබෙන්ට නාරිල්ලාය. යක්ෂයාට ඉඩ නා
28 රිල්ලාය. සොරකම් කලාවූ අය තවත්
සොරකම් නොකෙරේවා. දුප්පත් අයට
දෙන්ට පොහොසත්වෙන පිනිස තමන්
අතින් යහපත් කර්මාන්ත කොට උත්සා
29 හ කෙරේවා. නුඹලාගේ කටින් නපුරු
වචන නොකියා වැඩසිඬීමට සුදුසුවූ අ
හන අයට සතුටු උපදවන්නාවූ යහපත්
30 වචනම කියාපල්ලාය. මිදීමේ දවස ද
ක්වා නුඹලා මුද්‍රකලාවූ දෙවියන්වහන්
සේගේ සුධාත්මයට දුක් නොදෙල්ලාය.
31 සියළු කර්කශකමත් ක්‍රෝධයත් තරහත්
දබරයත් අගුන කීමත් සියළු වෛරයත්
32 නුඹලාගෙන් දුරුවේවා. තවද ක්‍රිස්තුස්
වහන්සේ නිසා දෙවියන්වහන්සේ නුඹ
ලාට කමාවූන ලෙසම නුඹලාත් ඔවුනො
වුන්ට කමාවෙමින් ඔවුනොවුන්ට කරු
ණාවෙන් යුක්තව ආදර සිත් ඇතුව සිට
පල්ලාය.

5. පරිචෙ. එහෙයින් නුඹලා ප්‍රිය ද
රුවන්මෙන් දෙවියන්වහන්සේ පස්සේ
2 යන්නෝ වෙයල්ලාය. තවද ක්‍රිස්තුස්ව
හන්සේ අප වෙනුවට මිහිරි සුවඳවූ යා
ගයක්ද පූජාවක්ද වශයෙන් තමන්වහන්
සේම දෙවියන්වහන්සේට පූජාකරමින්
අපට ප්‍රේම කලාක්මෙන් නුඹලා ප්‍රේම
3 යෙන් හැසිරියල්ලාය. තවද කාමමිථ්‍යා
චාරයත් සෑම අපවිත්‍රකමුත් ලෝභක
මුත් නුඹලා අතරෙහි මතක්කරවන්ටත්
4 එපාය. ඒ මතක්කිරීම පිරිසිදුවූවන්ට නු
සුදුසුය. කිළුටුකම ප්‍රලාපකීම නැත කව
ටකම යන මේ නුසුදුසු දේ අත් ඇර දෙ
වියන්වහන්සේට ස්තුතිකිරීම නුඹලා අ
5 තරේ පවතීවා. කාමමිථ්‍යාචාරය කරන්
නෙකුත් අපවිත්‍ර තැනැත්තෙකුත් දේ
වතාවන් ඇදහිලිකාරයෙකුට සමානවූ
ලෝභයෙක්වත් ක්‍රිස්තුස්වහන්සේගේද
දෙවියන්වහන්සේගේද රාජ්‍යයෙහි උරු
6 ම නොලබන්නෝයයි නුඹලා දනිති. කි
සිවෙක් නුඹලා නිරර්ථක වචනවලින්
නොරවටාවා. මේ දේ නිසා දෙවියන්ව
හන්සේගේ උදහස අකීකරුකමේ පුත්‍ර
7 යන් කෙරෙහි පැමිනෙන්නේය. එහෙ
8 යින් ඔවුන්ට එකතු නොවෙල්ලාය. පලමු
වෙන් අඳුරෙහි සිටියාවූ නුඹලා දැන් ස්වා
මීන්වහන්සේ නිසා එළිය ලැබුවෝය. එ
ළියෙහි දරුවන් මෙන් හැසිරියල්ලාය.
9 ආත්මයාගේ ඵලය සියළු යහපත්කමෙ
හිද ධර්මිෂ්ටකමෙහිද සැබෑකමෙහිද පව
10 තින බැවින් ස්වාමින්වහන්සේට කැමති
11 දේ මොනවාදැයි පරීක්ෂා කරපල්ලාය. අ
ඳුරෙහි වැඩනැති ක්‍රියාවලට එකතුනො
12 ව එහි දොස කියාපල්ලාය. මක්නිසාද
ඔවුන් විසින් රහසින් කරනලද දේ ගැ
13 න කථාකිරීමවත් ලැජ්ජාවක. සියළු දේ
වල දොසය එළියෙන් ප්‍රකාශකරනු ලැ
බේ. මක්නිසාද ප්‍රකාශකරන යමක් ඇ
14 ද්ද ඒක එළිය වේ. එහෙයින් නිදන්
නාවූ නුඹ පිබිද මලවුන්ගෙන් නැගිටප
න්න එවිට ක්‍රිස්තුස්වහන්සේ නුඹට එළි
15 ය දෙනසේකැයි කියනලද්දේය. ඒ නි
සා නුඹලා අඥානයන් මෙන් නොව ඥා
නවන්තයන් මෙන් ප්‍රවේසමෙන් හැසි
16 රෙන්ට බලාගෙන දවස් අශුභ බැවින්
17 කාලය සඵලකරපල්ලාය. නුඹලා මෝඩ
යන් මෙන් නොවී ස්වාමින්වහන්සේගේ
කැමැත්ත කිමෙක්ද කියා දැනගනිල්ලා
18 ය. නපුරු ක්‍රියා උපදවන්නාවූ සුරාපා
නයෙන් මත්නොව ආත්මයෙන් සම්පූ
19 ර්ණවෙයල්ලාය. ගීතිකාවලින්ද ස්තුති
ගීතිකාවලින්ද ආත්මික කවිවලින්ද ඔවු
නොවුන් කථාකොට නුඹලාගේ සිත්ව
ලින් ස්වාමින්වහන්සේට ස්තුති ගීතිකා කි
20 යා අපගේ ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමයෙන් සියළු දේ ගැන පිය
වූ දෙවියන්වහන්සේට නිතරම ස්තුතික
රපල්ලාය.

21 දෙවියන්වහන්සේට භය ඇතුව ඔවු
22 නොවුන්ට යටත්ව සිටපල්ලාය. භාර්‍ය්‍යා
වරුනි ස්වාමීන්වහන්සේට මෙන් තුබලා
ගේ පුරුෂයන්ට යටහත්ව සිටපල්ලාය.
23 මක්නිසාද ක්‍රිස්තුස්වහන්සේ සභාවනැම
ති ශරීරයට හිසව සිටිනාසේම පුරුෂ
යාත් භාර්‍ය්‍යාවට හිසව සිටිනේය. උන්
වහන්සේද ශරීරයෙහි ගැලවුම්කාරයා
24 ය. එබැවින් සභාව ක්‍රිස්තුස්වහන්සේට
කීකරුව සිටිනසේම සියළු දෙයෙහිම භා
ර්‍ය්‍යාවන් විසින් තමතමන්ගේ පුරුෂයින්
25 ට කීකරුව සිටින්ට යුතුය. පුරුෂයෙනි
ක්‍රිස්තුස්වහන්සේ සභාවට ප්‍රේමකලාක්
මෙන් තුබලාගේ භාර්‍ය්‍යාවන්ටත් ප්‍රේම
26 කරපල්ලාය. උන්වහන්සේ සභාව පිරි
සිදුකරන්ටද වතුරෙන් සේදීමෙනුත් ව
27 චනයෙනුත් ශුඬකරන්ටද රැලි කැලල්
ආදිවූ කිසිවක් නැතුව පිරිසිදුවූ දොෂ නැ
තතාවූ තේජවන්තවූ සභාවක් කොට ඒ
ක තමන්වහන්සේට දක්වන්ටද ඒ සභා
28 ව නිසා තමන්ම බාරදුන්සේක. පුරුෂ
යන් විසින් තමන්ගේ භාර්‍ය්‍යාවන්ට ත
මන්ගේ ශරීරයට මෙන් ප්‍රේම කටයුතු
ය. තමාගේ භාර්‍ය්‍යාවට ප්‍රේමකරණ තැ
29 නැත්තා තමාටම ප්‍රේමකරන්නේය. ත
වද කිසිවෙක් කිසි කලෙකත් තමන්
ගේ ශරීරයට අප්‍රිය නොකොට ස්වාමීන්
වහන්සේ සභාව පෝෂ්‍යකොට රක්ෂාක
රණසේම ඒක පෝෂ්‍යයකොට රක්ෂාක
30 රනෝය. මක්නිසාද අපි උන්වහන්සේ
ගේ මාංස හා ඇට ඇතිව උන්වහන්සේ
31 ගේ ශරීරයෙහි අවයවයෝද වෙමුව. ඒ
කාරනයෙන් මනුෂ්‍යයෙක් තමාගේ මව්
පියන් හැර තමාගේ භාර්‍ය්‍යාවට ඇළුම්ව
දෙදෙනම එක ශරීරයවෙති. මේ මහත්
32 වූ රහසක. මම ක්‍රිස්තුස්වහන්සේද සභා
33 වද ගැන කථාකෙරෙමි. එසේ තුමුත්
තුබලා එක එකා තමතමාට මෙන් තමා
ගේ භාර්‍ය්‍යාවටත් ප්‍රේම කෙරේවා භාර්‍ය්‍යා
වද පුරුෂයාට ගෞරවකරන්ට බලාග
නිවා.

6. පරිච්ඡේ. දරුවෙනි තුබලාගේ දෙ
මව්පියන්ට ස්වාමීන්වහන්සේ කෙරෙහිද
කීකරුවෙයල්ලාය. මක්නිසාද එසේ ක
2 රන්ට යුතුය. තුඹට වැඩසිඬවෙන පිනි
සද ලෝකයේ බොහෝ ආයු ලබන පිනි
සද තුඹේ පියානන්ටත් මෑණියන්ටත්
ගෞරව කරපනහ. මේ පොරොන්දුවක්
3 ඇති පලමුවෙනි අඥාවය. තවද පියව
4 රුනි තුබලාගේ දරුවන්ට කෝප නූප
දවා ස්වාමීන්වහන්සේගේ හරුකම්න් ස
හ දුනිම්තිකම්න් ඔවුන් ඇතිකරපල්ලා
5 ය. දසයෙනි තුබලා ක්‍රිස්තුස්වහන්සේට
මෙන් තුබලාගේ හිත්වල ඇදනැතික
මින් ශරීරකාරයෙන් තුබලාගේ ස්වාමී
6 වරුන්ට භයෙනුත් වෙව්ළීමෙනුත් කීක
රුව මනුෂ්‍යයන් සතුටුකරන්නන් මෙන්
7 පෙනීමට වැඩ නොකොට ක්‍රිස්තුස්වහන්
සේගේ දසයන් මෙන් හිතින් දෙවිය
න්වහන්සේගේ කැමැත්ත කරපල්ලාය.
8 යමෙක් යහපත කරනවානම් ඔහු දසයා
නුමුත් නිදහසයා නුමුත් ස්වාමීන්වහන්සේ
ගෙන් ඔහුට එහි විපාක ලැබේයයි දැන
මනුෂ්‍යයන්ට නොව ස්වාමීන්වහන්සේට
9 යහපත් සිතින් වැඩකරපල්ලාය. තවද
ස්වාමීවරුනි තුබලාටත් ස්වර්ගයෙහි
ස්වාමීන්වහන්සේ ඇති බව සහ උන්ව
හන්සේ තරාතිරම නොබලන බව දැන
සැරකිරීමෙන් වැලකී ඔවුන්ට එම යුතු
කම් කරපල්ලාය.
10 තවද මාගේ සහෝදරයෙනි ස්වාමීන්
වහන්සේ කෙරෙහිද උන්වහන්සේගේ
අනුභාවේ පරාක්‍රමයෙහිද බලසම්පන්
11 නවෙයල්ලාය. තුබලා යක්ෂයාගේ උපා
වලට විරුඬව සිටින්ට පුළුවන්වෙන පි
නිස දෙවියන්වහන්සේගේ සියළු ආයුධ
12 වලින් සැරසියල්ලාය. මක්නිසාද අපි මස්
ලේ ඇත්තන්ට විරුඬ නොව අධිපතී
කම්වලටද පරාක්‍රමවලටද මේ ලෝක
යේ අන්ධකාරයේ ප්‍රධානීන්ටද ආකාසයෙ
හි දුෂ්ට ආත්මයින්ටද විරුඬව යුඬකරමු
13 ව. එබැවින් නපුරු දවසේ තුබලා සතු
රන්ට විරුඬව සිටින්ටත් සියල්ලන්
ගෙන් ජය ගෙන සිටින්ටත් පුළුවන්වෙ
න පිනිසද දෙවියන්වහන්සේගේ සියළු
14 ආයුධ අරගනිල්ලාය. එහෙයින් සැබෑක
ම නැමති ඉගපටියෙන් බැඳගෙන ධර්මි
15 ෂ්ටකම නැමති සනාහයෙන් ලය වසා
සමගිකමෙහි සුභාරංචියෙහි උත්සාහ නැ
16 මති වහන් පයලා සිටපල්ලාය. දුෂ්ටයා
ගේ සැම දිලිහෙන හෙල්ල නිවන්ට පු
ළුවන්වූ ඇදහිල්ල නැමති පලිහ සියල්
17 ලට ඉදිරිකොට ගනිල්ලාය. ගැලවීම නැ
මති ආරක්ෂා තොප්පියද දෙවියන්වහන්
සේගේ වචනය නැමති ආත්මයානන්ව
18 හන්සේගේ කඩුවද අරගනිල්ලාය. ආත්
මයෙහි සියළු යාඥාවෙන් ඉල්ලීමෙන්ද

නිතරම යාඥාකරපල්ලාය. තවද යම් සු
භාරංචියක් නිසා මම බැඳුම් ලැබ තානා
පතියෙක් වෙම්ද ඒ ගැන මා විසින් කි
19 යයුතු ලෙස භය නැතුව කියන්ටත් නි
ර්භීතව මාගේ මුඛය හැර සුභාරංචියෙ
හි රහස දන්වන පිනිස කිමෙහි දක්ෂක
20 ම මට ලැබෙන්ටත් මා නිසාද සියළු පිරි
සිදුවූවන් නිසාද සියළු උත්සාහයෙන්
21 හා ඉල්ලීමෙන් අවදිව සිටපල්ලාය. මා
ගේ පැවැත්මත් ක්‍රියාවත් තුඹලා විසින්
දැනගන්නා පිනිස ස්වාමීන්වහන්සේගේ
විශ්වාස වැඩකාරයාවූ තිකිකස්නම් ප්‍රිය ස
හෝදරයා සියල්ල තුඹලාට දන්වනවා
22 ඇත. තුඹලාට අපේ පැවැත්ම දැනෙන
පිනිසත් තුඹලාගේ හිත් සනසන පිනි
23 සත් ඔහු තුඹලා වෙතට එවීමි. පියවූ දෙ
වියන්වහන්සේගෙන් ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගෙන් සමාදානයද ඇදහි
ල්ලෙන් යුක්ත ප්‍රේමයද සහෝදරයන්ට
24 වේවා. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේට ඇද නැති සිතින් ප්‍රේමකරන
සියල්ලන්ට කරුණාව වේවා.

## ප්‍රේරිතවූ පාවුල් විසින් පිලිප්පිවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ මෙහෙකරුවූ පාවුල්ද තිමෝ
තියස්ද පිලිප්පියෙහි වසනනාවූ ක්‍රිස්තුස්
යේසුස්වහන්සේගේ සියළු පිරිසිදුවූවන්
ටද නායකයන් හා උපස්ථායකයන්ටද
2 අපගේ පියවූ දෙවියන්වහන්සේගෙන්
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්
කරුණාවද සමාදානයද වේවාලෙස ලි
3 යා එවන වගනම්. මම තුඹලා සිහිකර
4 ණ සියළු ප්‍රස්ථාවල පලමුවෙනි දවසේ ප
ටන් දැන්දක්වා සුභාරංචියෙහි තුඹලාගේ
5 පංගුකාරකම ගැන මාගේ දෙවියන්ව
6 හන්සේට ස්තුතිකරමි. තුඹලා කෙරෙ
හි යහපත් ක්‍රියාවක් පටන්ගත් උන්වහන්
සේ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ දවස
දක්වා ඒක සම්පූර්ණකරණසේකැයි වි
ශ්වාසකරමින් තුඹලා සියල්ලන් උදෙසා
මාගේ සැම යාඥාවලදී නිතරම සන්තෝ
7 ෂයෙන් යාඥාකරමි. මෙසේම තුඹලා සැ
ම දෙනා ගැන මා විසින් කල්පනා කට
යුතුය. මාගේ බැඳුම්වලදීද සුභාරංචිය
ගැන උත්තර දීමෙහිද ඒක ස්ථිර කිරීමෙ
හිද තුඹලා සියළු දෙන මට ලැබුන ක
රුණාවට පංගුකාරයෝයයි මාගේ හි
8 තේ දරමි. යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
දයාවන්තකමෙන් තුඹලා සියල්ලන්
කෙරෙහි බොහෝ ආසා ඇතෙමියි දෙ
9 වියන්වහන්සේ මට සාක්ෂිවනසේක. ත
වද තුඹලාගේ ප්‍රේමය දැනීමෙන් හා සැ
10 ම සිහියෙන් වැඩිවැඩිව වර්ධනවෙන පිනි
සද තුඹලා උතුම් දේවල් මොනවාදැයි
සෝදිසිකර බලා ක්‍රිස්තුස්වහන්සේගේ ද
වස වෙනතුරු ඇදනැති සිතින් නිවර
11 දිව සිටින පිනිසද යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කාරණකොටගෙන දෙවියන්වහන්
සේට ගෞරවය හා ස්තුතිය පිනිස පව
තිනනාවූ ධර්මිෂ්ඨකමේ ඵලවලින් තුඹ
ලා සම්පූර්ණවෙන පිනිසද යාඥාවෙමි.
12 සහෝදරයෙනි මට සිදුවූන කාරණ
සුභාරංචියෙහි දියුණුවීමට සිදුවූනේයයි
තුඹලා දැනගන්නවාට කැමැත්තෙමි.
13 මක්නිසාද ක්‍රිස්තුස්වහන්සේ නිසා මාගේ
බැඳුම් ලැබීම් රජගෙදර මුළුල්ලෙහිද අ
නිකුත් සියළු තැන්හිද ප්‍රකාසව තිබෙන්
14 නේය. තවද ස්වාමීන්වහන්සේ කෙරෙ
හිවූ සහෝදරයන්ගෙන් බොහෝ දෙ
නෙක් මගේ බැඳුම් ලැබීම නිසා ධෛ
ර්‍යය ලැබ වචනය කියන්ට අතිසයින් භ
15 ය නැතිවූවෝය. සමහරු ඊර්ෂ්‍යාවෙන්ද
විවාදයෙන්ද සමහරු යහපත් සිතින්ද
16 ක්‍රිස්තුස්වහන්සේ ප්‍රකාශකරති. ඒක පක්ෂ
යක් බැඳුම් ඇතුව සිටිනනාවූ මට දුක්
දෙන්ට සිතා ඇදනැතිකමින් නොව වි
වාදයෙන් ක්‍රිස්තුස්වහන්සේ ප්‍රකාසකර
17 ති. තුමූත් අනිත් පක්ෂය සුභාරංචිය ගැන
උත්තර කියන්ට නියමකරණලද්දෙමියි
දැන ප්‍රේමයෙන් ක්‍රිස්තුස්වහන්සේ ප්‍රකා
18 ශකරති. එසේවීනම් කිමෙක්ද? වංචා
වෙන්වත් සැබෑවෙන්වත් කොයි ප්‍රකාරය
කින්වත් ක්‍රිස්තුස්වහන්සේ ප්‍රකාශකරනු
ලැබේ ඊට දැනුත් සතුටුවෙමි මතුත් සතු
19 ටුවන්නෙමි. පසුගිය සැම ප්‍රස්ථාවලදී යම්
සේද දැනුත් එසේම මම කිසිවකින් ලැජ්
ජාවෙනොවී සියළු භයනැතිකමින් ජීවත්ව

මෙන්වත් මැරීමෙන්වත් මාගේ ශරීරය
කරණකොටගෙන ක්‍රිස්තුස්වහන්සේ ම
හිමතාවට පැමිණෙනසේකැයි මාගේ ත
ද ආසාවද ප්‍රාර්ථනාවද ලෙස නුඹලාගේ
20 යාඥාවෙන්ද යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ ආත්මය ලැබීමෙනුද මේ සියල්ල මා
ගේ ගැලවීම පිණිස වන්නේයයි දනිමි.
21 මක්නිසාද මාගේ ජීවත්ව සිටීම ක්‍රිස්තුස්ව
22 හන්සේය මරණයද මට ලාභයය. ශරී
රයෙහි ජීවත්වෙම්නම් එයින් මාගේ ක්‍රි
23 යාවට විපාක වන්නේය. කුමක් තෝරා
ගනිම්දැයි නොදන්න දෙකකින් මිරිකී සි
ටිමි. ශරීරයෙන් වෙන්ව ගොස් ක්‍රිස්තුස්ව
හන්සේ සමග සිටීම වඩා හොඳ නිසා ඊ
24 ට බොහෝ ආසා ඇත්තෙමි. නුමුත් ශරී
රයේ මාගේ සිටීමෙන් නුඹලාට ඉතා ප්‍ර
25 යෝජන ඇත. නුඹලා ලඟට නැවත ඊ
මෙන් මා නිසා නුඹලාගේ සන්තෝෂය
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි වැඩි
26 වෙන පිණිසත් නුඹලාගේ දියුණුවීම පිණි
සත් නුඹලාගේ ඇදහිල්ලේ සන්තෝෂ
ය පිණිසත් මේ විශ්වාසය ඇත්තාවූ මම
නුඹලා සියල්ලන් සමග සිටිනෙනමැයි
27 දනිමි. මම ඇවිත් නුඹලා දකිනෙනම් නු
මුත් ඉදිරිපිට නොසිටිනෙනම් නුමුත් නු
බලා එකම අදහසෙන් ස්ථිරව එක්සිත්
ව සුභාරංචියෙහි ඇදහිල්ල ගැන වෑයම්
28 කරමින් කොයි කාරණාවක් ගැනවත්
නුඹලාගේ එදිරිකාරයන්ට භයනොවී සි
ටිතියි නුඹලාගේ පැවතිම් අසන පිණිස
ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචියටම සුදුසු
ලෙස හැසිරියල්ලාය. ඒක ඔවුන්ට විනා
සයටද නුඹලාට ගැලවිල්ලටද ලකුනක්
වෙයි ඒත් දෙවියන්වහන්සේ කෙරෙන්
29 ම වේ. මක්නිසාද ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි අදහන්ට පමනක් නොව උන්ව
හන්සේ නිසා දුක් විඳින්ටත් කරුණා
30 වෙන් නුඹලාට දෙනලද්දේය. මට තිබූ
නායයි නුඹලා දුටුවාවූ දැන් මට ඇතැයි
අසනතාවූ එම සටනම නුඹලාටත් ඇත්
තේය.

2. පරිච්ඡේ. ඉදින් ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙන් යම් අස්වැසිල්ලක්වත් ප්‍රේම
යෙන් යුක්තවූ යම් සැනසිල්ලක්වත්
ආත්මයානන්වහන්සේ කෙරෙහි යම්
පංගුකාරකමක්වත් යම් දයාවක්වත් අනු
2 කම්පාවක්වත් ඇත්නම් නුඹලා එක්සිත්
ව එකම ප්‍රේම ඇතිව එක් ස්වභාව හා
එක අභිප්‍රායෙන් යුක්තව මාගේ ප්‍රීතිය
3 සම්පූර්ණකරපල්ලාය. විවාදයෙන්වත්
වැඩනැති ගරුකමෙනුවත් කිසි දෙයක්
නොකොට ඔවුනොවුන් ගැන හිත ය
4 ටත්කමින් අනිකෙක් තමන්ට උතුමැයි
සිතාපල්ලාය. එකඑකා තමතමාගේ කා
රණම නොබලා අනුන්ගේ කාරණත්
බලාපල්ලාය.
5 ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි පැ
වති සිතම නුඹලා කෙරෙහිද වේවා.
6 දෙවියන්වහන්සේගේ වේසය දරනනා
වූ උන්වහන්සේ දෙවියන්වහන්සේට ස
මානවීම සොරකමැයි නොසිතූසේක.
7 නුමුත් උන්වහන්සේ එයින් පිරිහී වැඩ
කාරයෙකුගේ වෙස් ගෙන මනුෂ්‍ය සමා
8 නකමට පැමිණිසේක. මනුෂ්‍ය වෙස් ඇ
තිවූ කෙනෙක් මෙන් දක්නාලදුව තම
න්වහන්සේම යටහත්කොට මරණය එ
නම් කුරුසියෙහි මරණයද දක්වා කීක
9 රුවූසේක. එබැවින් දෙවියන්වහන්සේ
10 උන්වහන්සේ ඉතා උසස්කොට ස්වර්ග
යෙහිද පොලොවෙහිද පොලොවෙන්
යටද සිටිනතාවූ සියල්ලන් යේසුස් යන
නාමයට දන නමන පිණිසත් යේසුස් ක්‍රි
11 ස්තුස්වහන්සේ ස්වාමියැයි පියවූ දෙවියන්
වහන්සේගේ මහිමතාව සඳහා සියල්
ලන්ගේ කටින් ප්‍රකාශවෙන පිණිසත් සි
යළු නම්වලට උසස්වූ නමක් උන්වහන්
12 සේට දුන්සේක. ඒ නිසා මගේ ප්‍රිය තැ
නැත්තෙනි නුඹලා නිතරම කීකරුව සි
ටියලෙස මගේ ඉදිරිපිට පමනක් නොව
දැන් මම දුරුව සිටිනවිටද ඉතා වැඩිවශ
යෙන් කීකරුව භයිනුත් වෙව්ලීමෙනුත්
නුඹලාගේම ගැලවීම සිඩකරගනිල්ලාය.
13 මක්නිසාද කැමතිවෙන්ටත් ක්‍රියාකරන්
ටත් තමන්වහන්සේගේම කැමැත්ත හැ
ටියට නුඹලා කෙරෙහි සිඩකරනනාවූ
තැනැන්වහන්සේ දෙවියන්වහන්සේමය.
14 ඇදවූ හිතුවක්කාර වර්ගයා අතරේ නි
වැරදිකාරයෝද අහිංසකයෝද දෙවිය
15 න්වහන්සේගේ නිදෝස්වූ පුත්‍රයෝද වෙ
න පිණිස දබරයත් විවාදයත් නැතුව සි
16 යල්ල කරපල්ලාය. මම නිෂ්ඵලව නො
දිවීමි නිෂ්ඵලව වෙහෙස නොදුරුයෙමි
යි යන සන්තෝෂය ක්‍රිස්තුස්වහන්සේ
ගේ දවසේදී මට තිබෙන පිණිස ජීවන
දායක වචන දරමින් ලෝකයෙහි ආලෝ
කවල් මෙන් ඔවුන් අතරෙහි බබලාපල්
17 ලාය. තවද නුඹලාගේ ඇදහිල්ල නැම

තී යාගයත් මෙහෙයත් පිට මම වගුරු
වනු ලබන නුමුත් නුබලා සියල්ලන් ස
18 මග ප්‍රීතිසන්තෝසවෙමි. නුබලා මෙම
කාරණාව ගැන මා සමග ප්‍රීති සන්තෝ
19 සවෙයල්ලාය. මමත් නුබලාගේ පැවැත්
ම දැන සැනසිලි ලබන පිණිස නුබලා ල
ඟට තිමෝතියස් නොබෝ කලකින් එ
වන්ට ස්වාමිවූ යේසුස්වහන්සේ කෙරෙ
20 හි විස්වාසකරමි. සියල්ලෝ ක්‍රිස්තුස්වහන්
සේගේ කාරණා නොතකා තමන්ගේ කා
21 රණා තකන බැවින් ඔහු සේම නුබලා
ගේ කාරණා හොඳින් සලකන ගුණ ඇ
22 ත්තාවූ වෙන කෙනෙක් මට නැත. පියා
සමග පුත්‍රයෙක් මෙන් ඔහු මා සමග සු
භාරචිරයෙහි වැඩ කෙලේයයි ඔහුගේ ය
23 හපත්කම නුබලා දනිති. ඉත්නිසා මා
ගේ කාරණා කොයි ආකාර වේදැයි කියා
මම දුටු වේලෙහිම ඔහු එවන්ට කල්ප
24 නා කරමි. මමම නොබෝ කලකින් එම්
සි ස්වාමින්වහන්සේ කෙරෙහි විස්වාස
25 ඇතෙතමි. තවද මාගේ සහෝදරවූ සම
ග වැඩකරන්නාවූ සමගි සේවායෙක්වූ
මගේ සිගයේදී උපස්ථානකලාවූ නුබලා
ගේ පණිවිඩකාරයාවූ එපප්‍රොදිතස් නුබ
26 ලා ලඟට යවිය යුතුයයි සිතිමි ඔහු ලෙ
ඩින් උන් බව නුබලාට ආරංචිවූ නිසා
ඔහු නුබලා සැම දෙනාම දකින්ට බො
හෝ ආසාවක් ඇතිව කනගාටුවූයේය.
27 සත්තකටම ඔහු මරණසන්න වෙනත
රම් ලෙඩින් සිටියේය. නුමුත් දෙවියන්
වහන්සේ ඔහුට අනුකම්පා කලසේක.
ඔහුට පමනක් නොව දුක් පිට දුක් නො
පැමිනෙන පිණිස මටත් කරුණාකලසේ
28 ක. එබැවින් නුබලා ඔහු නැවත දැක ප්‍රී
තියට පැමිනෙන්ටත් මාගේ සෝක අඩු
29 වෙන්ටත් වහාම ඔහු යැවීමි මා ගැන නු
බලාගේ වැඩෙහි අඩුකම පිරිමසන්ට ඔ
හු තමන්ගේ ජීවිතය නොසලකා ක්‍රිස්තු
ස්වහන්සේගේ මෙහෙය ගැන මරණස
30 න්නවූ බැවින් ස්වාමීන්වහන්සේ කෙරෙ
හි සියළු සන්තෝසයෙන් ඔහු පිළිගෙ
න එබඳු හැනැත්තෝ ගෞරවයට සුදුස්
සෝයයි සිතාපල්ලාය.

3. පරිචේ. තවද මාගේ සහෝදර
යෙනි ස්වාමින්වහන්සේ කෙරෙහි සතු
ටුවෙයල්ලාය. එම කාරණා නුබලාට ලි
2 යා එවන්ට මට කනගාටු නැත. එසින් නු
බලාට සුභසිද්ධවන්නේය. බල්ලන්ගෙන්
ප්‍රවේසම් වෙයල්ලාය. නපුරු ක්‍රියා කර
න්නන්ගෙන් ප්‍රවේසම් වෙයල්ලාය. ඡේ
3 දන කිරීමෙන් ප්‍රවේසම්වෙයල්ලාය. මක්
නිසාද මාංසයෙහි විස්වාසනොකරන්නා
වූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි ස
තුටුවෙන්නාවූ දෙවියන්වහන්සේට ආත්
මයෙන් සේවය කරන්නාවූ අපිම චර්මඡේ
4 දනයෝව සිටිමුව. එසේ නුමුත් මාංසයේ
විස්වාසය කරන්ට මටත් පුළුවන. වෙන
කවුරුවත් මංසයේ විස්වාසය කරන්ට පු
ළුවනැයි සිතතොත් මට ඊට වඩා පුළුව
5 නැයි සිතමි. මම උපන් අටවෙනි දා චර්ම
ඡේදිත වූයෙමි ඊශ්‍රායෙල්ගේ පෙලප
තෙන් බෙන්යමින්ගේ ගෝත්‍රයෙන්
හෙබ්‍රෙව්වන්ගෙන් හෙබ්‍රෙව්වෙක් වෙ
මි. ව්‍යවස්ථාවේ හැටියට ඵරිසියෙක් වෙ
6 මි තද භක්තියෙන් සභාවට පීඩාකෙලෙ
මි. ව්‍යවස්ථාවෙහිවූ ධර්මිෂ්ඨකමේ හැටිය
7 ට නිදෙස්ව සිටියෙමි. නුමුත් මට ලාභව
තිබුනු දේ ක්‍රිස්තුස්වහන්සේ උදෙසා අ
8 ලාභයයි සිතමි. එසේය මාගේ ස්වාමිවූ
ක්‍රිස්තුස් යේසුස්වහන්සේ ඇඳිනගන්නා
දැනීමෙහි උතුම්කම නිසා සියළු දේ අලා
9 භයයි අනුමාන නැතුව සිතමි. මම ක්‍රිස්තු
ස්වහන්සේ පිළිගන්නා පිණිසද ව්‍යවස්ථා
වෙන්වූ මාගේ ධර්මිෂ්ඨකම නොදර ක්‍රි
ස්තුස්වහන්සේ කෙරෙහි පවතින ඇද
හිල්ලෙන් එනම් ඇදහිල්ල කරනකොට
ගෙන දෙවියන්වහන්සේගෙන් පැමිනෙ
න ධර්මිෂ්ඨකම දරමින් ක්‍රිස්තුස්වහන්සේ
10 කෙරෙහි දක්නා ලබන පිණිසද උන්ව
හන්සේ ඇඳිනගෙන මලවුන්ගෙන් උ
න්වහන්සේගේ නැගිටීමේ බලයත් උන්
වහන්සේගේ වේදනාවල පංගුකාරක
11 මත් දැනගන්නා පිණිසද මම උන්වහන්
සේගේ මරණයට සමානව කොයි ප්‍රකා
රයකින්වත් මලවුන්ගෙන් නැගිටීමට පැ
මිනෙන පිණිසද උන්වහන්සේ උදෙසා
සියළු දේ අලාභයයි සිතා හැරියෙමි ඒ
දේ අසූචියයි සිතමි.
12 මම දැන් දිනුම ලැබූ කෙනෙක් මෙන්
වත් සම්පූර්ණවූ කෙනෙක් මෙන්වත්
නොසිට යම්කට ක්‍රිස්තුස්වහන්සේ මා අ
ල්ලාගත්සේක්ද මමත් ඒ දේ අල්වාගන්
13 ට එලවාගන යෙමි. සහෝදරයෙනි මම
ඒක අල්වාගතිමියි නොසිතා එකක් ක
රමි එනම් පසුවූ දේ සිහිනොකොට ඉදි
රිපිට තිබෙන දේ අල්ලන්ට උත්සාහ ක
14 රමින් ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කාරණ

කොටගෙන දෙවියන්වහන්සේගේ උ
තුම්වූ කැඳවීමේ දිනුම පිණිස දිනුම් ලකු
15 ණට ලංවෙන්ට දුවමි. එබැවින් අපෙන්
යම් පමණ දෙන සම්පූර්ණව සිටිද්ද එ
පමණ දෙන මේ අභිප්‍රාව ගනිමුව. ඇ
රත් තුබලා යම් කාරණවක් ගැන වෙ
න අභිප්‍රාවක් ගනිත්නම් ඒකත් දෙවිය
න්වහන්සේ තුබලාට එළිදරව්කරණසේ
16 ක. එසේ නුමුත් අපි යම පමණ දුරට පැ
මිනෙමුද එම සටහනේ ප්‍රකාරයට හැසි
17 ර එම අභිප්‍රාව ගනිමුව. සහෝදරයෙනි
මා පස්සේ වරෙල්ලාය අපේ ආදර්ශය
ලෙස හැසිරෙනනාවුන් බලාගනිල්ලාය.
18 බොහෝ දෙනාගේ හැසිරීම ගැන ම
වූත් ක්‍රිස්තුස්වහන්සේගේ කුරුසියට සතු
19 රෝයයි තුබලාට නොයෙක්වර කීමි. දැ
නුත් අඬ අඬා කියමි. ඔවුන්ගේ කෙල
වරනම් විනාසයය. ඔවුන්ගේ දෙවියෝ
නම බඩය. ඔවුන්ගේ ගරුකමනම් ත
20 මන්ම ලැජ්ජාවිය යුතු දේ ගැනය. ඔවුන්
ලෞකික දේ සලකති. නුමුත් අපේ නිය
ම රටනම් ස්වර්ගයය. එයින් ගැලවුම්කා
ර ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ එන
21 වා අපි බලා සිටිමුව. උන්වහන්සේ සියළු
දේම තමන්ට යටත්කරන්ට පුළුවන්වූ
බලය ලෙස අපේ නීච ශරීරය තමන්ව
හන්සේගේ තේජවන්ත ශරීරයට සමා
නවෙන පිණිස ඒක අන් වෙසක් කරණ
සේක.

4. පරිච්ජ. ඉන් නිසා මාගේ ප්‍රියවූ ඉ
තා සෙන්හවන්තවූ මාගේ සන්තෝස
යත් ඔටුනනත්වූ මාගේ ප්‍රේමවන්තවූ ස
හෝදරයෙනි මෙසේ ස්වාමින්වහන්සේ
2 කෙරෙහි ස්ථිරවෙයල්ලාය. ස්වාමින්වහන්
සේ කෙරෙහි එක්සිත් වෙන්ට එවෝදි
3 යස්ගෙනුද සින්තිකිගෙනුද ඉල්ලමි. තවද
මාගේ විශ්වාස හවුල්කාරවූ තුබ කෙල
මැන්ත් සහ අනිත් මාගේ උපකාරකාර
යින් සමගත් මා සමගත් සුභාරංචියෙහි
වැඩ කලාවූ ජීවන පොතේ නම් ලියා ති
බෙනනාවූ ඒ ස්ත්‍රීන්ට පිහිටවෙන හැටි
4 යට ඉල්ලමි. ස්වාමින්වහන්සේ කෙරෙ
හි නිතර සතුටුවෙයල්ලාය සතුටුවෙය
5 ල්ලායයි නැවතත් කියමි. තුබලාගේ ගු
නවන්තකම සියළු මනුෂ්‍යයන්ට දැනේ
වා ස්වාමින්වහන්සේ ලන්ව සිටිනසේක.
6 තුබලා කිසි දෙයකට කනගාටු නොසි
තා සියළු දේ ගැන ස්තුති සහ යාඥාවෙ
නුත් ආරධනාවෙනුත් තුබලාගේ ඉල්
ලීම් දෙවියන්වහන්සේට දන්වාපල්ලාය.
7 එවිට කිසි නුවනකින් දැනගන්ට බැරිවූ
දෙවියන්වහන්සේගේ සමාදානය ක්‍රිස්තුස්
යේසුස්වහන්සේ කරණකොටගෙන තු
බලාගේ හෘදවල්ද සිතිවිලිද රක්ෂාකරණ
8 වා ඇත. තවද සහෝදරයෙනි යම් පම
න දේ සැබෑද යම් පමන දේ සෝභමාන
ද යම් පමන දේ ධර්මිෂ්ඨද යම් පමන දේ
පිරිසිදුද යම් පමන දේ ප්‍රිය උපදීද යම්
පමන දේ ප්‍රසංසනීයද යම් ගුනයක් යම්
ප්‍රසංසා කටයුතු දෙයක් ඇද්ද ඒ ඒ දේම
9 සිතේ තබාගනිල්ලාය. තුබලා මගෙන්
උගත් පිළිගත් ඇසූ දුටු දේම කරපල්ලා
ය. එවිට සමාදානය දෙනනාවූ දෙවියන්ව
හන්සේ තුබලා සමග සිටිනසේක.
10 මා ගැන තුබලාගේ කල්පනාව මෙ
පමන කලකට පසු දිවුනුකලාට ස්වාමින්
වහන්සේ කෙරෙහි ඉතා සන්තෝසවී
මි. ඒ ගැන තුබලා පලමු කල්පනා ක
ලෝය. නුමුත් අවකාස නොලැබුවෝය
11 මම යම් තරමක සිටිම්ද එයින් සතුටු
වෙන්ට ඉගනගත් නිසා මාගේ තිගකම
12 ගැන මෙක නොකියමි. යටත්වෙන්වත්
සම්පූර්ණවෙන්වත් දනිමි. තෘප්තියට
පැමිනී සිටින්ටත් බඩගිනිවෙන්ටත් පො
හොසත්ව සිටින්ටත් දුප්පත්කම විඳින්
ටත් සියළු තැන්වල සියළු කාරණවලදී
13 හරියට ඉගනගතිමි. මට බලය දෙනනා
වූ ක්‍රිස්තුස්වහන්සේගේ පිහිටෙන් සැම
14 දේම කරන්ට හැකිවෙමි. එසේ නුමුත්
තුබලා මාගේ තිගයට උපකාර කිරී
15 මෙන් යහපතක් කලෝය. පිලිප්පිවරුනි
සුභාරංචියෙහි පටන්ගැම්මේදී මකිදෝ
නියෙන් මම ගියකල තුබලා මිස වෙන
සභාවක් ගනුදෙනු කිරීමේ කාරණවල්
ගැන මට උපකාර නොකල බව තුබ
16 ලාත් දනිති. තෙසලොනිකයේදී පවා
මාගේ තිගකම ගැන වරක් දෙවරක් තු
17 බලා මට දීලා එව්වෝය. දෙන දේට ආ
සාවෙන් මෙක නොකියමි එහෙත් තුබ
ලාගේ ගනනට ඵලය වැඩිවීමට ආසා ඇ
18 තෙනමි. මට සියල්ලම ඇත. ඕනෑවාටත්
වඩා ඇත. මිහිරි සුවඳත් දෙවියන්වහන්
සේට ප්‍රියවූ පිලිගනයුතුවූ තුබලා විසින්
එවනලද දේ නැමති යාගයත් එපප්‍රො
19 දිතස්ගෙන් ලැබ සම්පූර්ණව සිටිමි. එ
හෙත් මාගේ දෙවියන්වහන්සේ තමන්
ගේ තේජස් වස්තුව ලෙස තුබලාගේ

සියළු හිඟකම් ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කරණකොටගෙන සම්පූර්ණකරණසේ
20 ක. එබැවින් අපේ පියවූ දෙවියන්වහන්
සේට සදාකල් නිතරම මහිමතාවය වේ
වා. ආමෙන්.
21 ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහිවූ
සියළු පිරිසිදුවූවන්ට ආචාර කරපල්ලාය.
මා සමඟ සිටින සහෝදරයෝ තුබලාට
22 ආචාර කරති. කායිසර්ගේ පිරිවර ප්‍රධා
නකොට සියළු පිරිසිදුවූවෝ තුබලාට ආ
23 චාර කරති. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගේ කරුණාව තුබලා සිය
ල්ලන් කෙරෙහි වේවා. ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින් කොලොස්සිවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේගේ
කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්ද සහෝදරවූ
තිමෝතියස්ද ක්‍රිස්තුස්වහන්සේ කෙරෙ
2 හි කොලොස්සේ සිටින පිරිසිදුවූ ඇදහි
ලිවන්ත සහෝදරවූ තුබලාට අපගේ පි
යවූ දෙවියන්වහන්සේගෙන්ද ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද කරුණාවත්
සමාදානයත් වෙන ලෙස ලියා එවන ව
3 ගනම්. සුභාරංචියෙහි සැබෑවූ වචන
යෙන් තුබලා පලමු ඇසුවාවූ ස්වර්ගයෙ
4 හි තුබලාට තබා තිබෙනනාවූ බලාපො
රොත්තුව නිසා යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කෙරේ පවතින තුබලාගේ ඇදහි
ල්ල ගැනත් සියළු පිරිසිදුවූවන් කෙරේ
5 පවත්නා ප්‍රේමය ගැනත් අසා අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පි
යවූ දෙවියන්වහන්සේට ස්තුතිකොට තු
6 බලා උදෙසා නිතරම යාඥාකරමුව. ඒ
සුභාරංචිය මුළු ලොවට පැමිනා එල දෙ
නනාසේම තුබලා වෙතටත් පැමිනා තු
බලා දෙවියන්වහන්සේගේ කරුණාව අ
සා සැබෑ ලෙස දැනගත් දා පටන් තුබ
7 ලා අතරේත් එල දෙන්නේය. එසේම තු
බලා උදෙසා ක්‍රිස්තුස්වහන්සේගේ විශ්වා
ස සේවකයෙක්වූ අපේ ප්‍රියවූ එක්ක
වැඩකරනනාවූ එපාප්‍රස්ගෙන් තුබලාත්
8 ඉගනගත්තෝය. ඔහුම ආත්මයෙහි ප
වතින තුබලාගේ ප්‍රේමය අපට දැන්වූ
9 යේය. එබැවින් අපි ඒ ඇසූ දා පටන් තු
බලා උදෙසා කඩනැතුව යාඥාකරමින්
තුබලා සියළු ඥානයෙන්ද ආත්මිකවූ
තේරුම් ගැනීමෙන්ද යුක්තව උන්වහන්
සේගේ කැමැත්ත දැනගෙන එයින් සම්
10 පූර්ණවෙන පිනිසත් සියළු හොඳ ක්‍රියා
වලින් සඵලව දෙවියන්වහන්සේ ඇඳින
ගැනීමෙන් වඩිනව ස්වාමින්වහන්සේට
සුදුසුව සියළු ආකාරයෙන් සන්තෝස උ
11 පදවන ලෙස හැසිරෙණ පිනිසත් ප්‍රීති
සහිතව සියළු ක්ෂාන්තියටද බොහෝ
කල් ඉවසීමටද උන්වහන්සේගේ තේජ
වන්තවූ බලයෙන් සියළු ශක්තිමත්කම
12 ලැබ ස්ථිරවෙන පිනිසත් ආලෝකයෙහි
පවතින සුබවන්තයින්ගේ උරුමයට පං
ගුකාරයන්ව සිටින්ට අප සමර්ථ කලාවූ
පියානන්වහන්සේට ස්තුති කරමින් තු
13 බලා උදෙසා යාඥාකොට ඉල්ලමුව. උ
න්වහන්සේ අන්ධකාරයේ බලයෙන් අ
ප ගලවා තමන් ප්‍රිය පුත්‍රයාගේ රාජ්‍යය
14 ට පැමිනවූසේක. ඒ පුත්‍රයානන්වහන්
සේ කරණකොටගෙන උන්වහන්සේ
ගේ ලේ නිසා පව් කමාවනම්වූ මිදීම අ
පට ඇත.
15 උන්වහන්සේ නොපෙනෙනනාවූ දෙ
වියන්වහන්සේගේ ස්වරූපයව සියළු මැ
විල්ලන් කුළුඳුල්වූ තැනැන්වහන්සේව
16 සිටිනසේක. උන්වහන්සේ විසින් සිංහා
සනයත් ස්වාමිකමුත් අධිපතිකමුත් පරා
ක්‍රමත් ඇතුළුව ස්වර්ගයේ සහ පොලො
වේ ඇති පෙනෙන නොපෙනන සියල්
ලත් මවනලද්දේය. ඒ සියල්ල උන්වහන්
සේ කරණකොටගෙණ සහ උන්වහන්
සේ උදෙසා මවනලද්දේය උන්වහන්සේ
17 සියල්ලන්ටම පලමු සිටියසේක. උන්ව
හන්සේ කරණකොටගෙන සියල්ල පව
18 තින්නේය. උන්වහන්සේ සභාව නැම
ති ශරීරයට හිස වනසේක. සියල්ලෙහි
උන්වහන්සේට ප්‍රධානකම තිබෙන පිනි
ස උන්වහන්සේම පටන්ගැම්මද මලවුන්
කෙරෙන් කුළුඳුල් තැනැන්වහන්සේද ව
19 නසේක. ඇරත් උන්වහන්සේ කෙරෙහි
සියළු සම්පූර්ණකම පවතින්ටත් උන්ව

හන්සේගේ කුරුසියේදී වගුල ලේසින්
20 සමාදනය උපදවා උන්වහන්සේ කරණ
කොටගෙන පොලවේත් ස්වර්ගයේත්
සියල්ල සමගිකරගන්ටත් පියානන්වහන්
21 සේ සතුටුවූසේක. තවද කලක් වෙන්ව
සිටියාවූ නපුරු ක්‍රියාවල් නිසා සිතින් ස
තුරුවූ තුඹලා පිරිසිදුවූ නිවරදිවූ නිදෙස්
වූ තැනැත්තන් කොට තමන්වහන්සේ
22 ගේ ඉදිරිපිට සිටුවන පිණිස උන්වහන්සේ
පුත්‍රයානන්වහන්සේගේ මාංසිකාවූ ශරීර
යෙහි මරණය කරණකොටගෙන සමගි
23 කලසේක. තුඹලා විසින් ඇසුවාවූ ස්ව
ර්ගයෙන් යට සියල්ලන්ට ප්‍රකාශකරණ
ලද්දාවූ සුභාරංචියෙහි බලාපොරොත්තු
වෙන් අහක්නොවී ඇදහිල්ලෙහි ස්ථිරව
පිහිටනලදුව සිටිත්නම් එසේවනෙත්ය.
24 ඒ සුභාරංචියෙහි සේවකයෙක්වූ පා
වුල්නම් මම තුඹලා නිසා විදින දුක් ගැ
න සතුටුව ක්‍රිස්තුස්වහන්සේගේ ශරීරය
නම්වූ සභාව උදෙසා මාගේ ශරීරයෙහි
උන්වහන්සේගේ ඉතිරි දුක් සම්පූර්ණ
25 කරමි. ආදි කාලේ පටන් පරම්පරාවෙන්
පරම්පරාවට සඟවා තිබුනු දූත් දෙවිය
26 න්වහන්සේගේ පිරිසිදුවූවන්ට ප්‍රකාසව
තිබෙන රහසනම්වූ දෙවියන්වහන්සේ
ගේ වචනය සම්පූර්ණයෙන් කියාදෙන
පිණිස තුඹලා උදෙසා මට දී තිබෙන දෙ
වියන්වහන්සේගේ නියමය ලෙස ඒ සභා
27 වේ සේවකයෙක් වෙමි දෙවියන්වහන්
සේ අන්‍ය ජාතීන් කෙරෙහි මේ රහසෙහි
තේජස් වස්තුව කිමෙක්දැයි පිරිසිදුවූවන්
ට දන්වනු කැමතිවූසේක. ඒක තේජස
ලැබීමට බලාපොරොත්තුවනම්වූ තුඹ
ලා තුල වසනනාවූ ක්‍රිස්තුස්වහන්සේමය.
28 අපි ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි සියළු ම
නුෂ්‍යයන් සම්පූර්ණකොට සිටුවන පිණි
ස සියළු මනුෂ්‍යයන්ට දූනිම්තිකම් දෙ
මින් සියළු මනුෂ්‍යයන්ට සියළු ඥාන
යෙන් උගන්වමින් උන්වහන්සේ ගැන
29 ප්‍රකාස කරමුව. මෙසේ කරණ පිණිස
මමත් මා තුල බලවත් ලෙස ක්‍රියා කර
ණ උන්වහන්සේගේ බලයේ හැටියට
වෙහෙස දරමින් වෑයම්කරමි.

2. පරිච්ඡෙ. තවද තුඹලා නිසාත් ල
වෝදිකයෙහි සිටින්නන් නිසාත් ශරී
රාකාරයෙන් මාගේ මූන තුදුටු සියල්
ලන් නිසාත් කොපමන මහත් සටනක්
මට ඇත්තේදැයි තුඹලා දැනගන්නවාට
2 කැමැත්තෙමි. පියවූ දෙවියන්වහන්සේ
ගේත් ක්‍රිස්තුස්වහන්සේගේත් රහස දැන
ගැන්මටද තුවනේ සම්පූර්ණකමු නැම
ති සියළු වස්තුවටද ඔවුන්ගේ හෘද ප්‍රේම
යෙන් යොදනලදුව සැනසිල්ල ලබන පි
3 නිස ඒ සටන මට ඇතෙත්ය. ඒ ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි ඥානයෙහිත් දැනගැම්
මෙහිත් සියළු වස්තුව නිධානකරනලද්
4 දේය. තවද සිත පොලඹන වචනවලින්
කවුරුවත් තුඹලා නොරවටන පිණිස
5 මේක කියමි. මක්නිසාද මම තුඹලා ලඟ
ශරීරාකාරයෙන් නොසිටින නුමුත් සි
තින් තුඹලා ලඟ සිට තුඹලාගේ හරි පැ
වැත්මත් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි තු
ඹලාගේ ඇදහිල්ලේ ස්ථිරකමත් සන්
6 තෝසයෙන් බලබලා ඉදිමි. ඉත්නිසා තු
ඹලා ස්වාමිවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
7 පිළිගත්සෙයින් උන්වහන්සේ කෙරෙහි
මුල් ඇද උන්වහන්සේ පිට ගොඩනගන
ලදුව තුඹලා උගත් ලෙස ඇදහිල්ලෙන්
ස්ථිරව ස්තුති කිරීමෙන් එහි දිවුනුවෙමින්
උන්වහන්සේ කෙරෙහි හැසිරියල්ලාය.
8 ක්‍රිස්තුස්වහන්සේ කී ප්‍රකාර නොව මනු
ෂ්‍යයන්ගේ නියෝග ප්‍රකාරවූද ලෝක
ඉගැන්වීමේ ප්‍රකාරවූද ලෞකික තුවනි
න් නිස්ප්‍රයෝජන රැවටිල්ලෙන්ද කිසි
වෙක් විසින් තුඹලා කොල්ලයක් මෙන්
9 ගෙනනොයන්ට බලාගනිල්ලාය. උන්ව
හන්සේ තුල දේව ස්වභාවේදී සෑම සම්
පූර්ණකම ශරීරාකාරයෙන් වසනෙත්ය.
10 සියළු මූලාදූනිකමේද බලයේද හිසවූ උ
න්වහන්සේ තුල තුඹලා සම්පූර්ණව සි
11 ටිති. තවද උන්වහන්සේ තුල තුඹලා
මාංසයේ පව් කඳ හැරදැමීම නැමති ක්‍රි
ස්තුස්වහන්සේගේ චර්මඡේදනම්වූ අ
තින් නොකල ඡේදනයෙන් චර්මඡේදන
12 කරනු ලැබූවෝය. තුඹලා උන්වහන්
සේ සමග බව්තීස්මයෙහි තැම්පත්කර
ණලදුව උන්වහන්සේ මරනින් නැගි
ටෙව්වාවූ දෙවියන්වහන්සේගේ උතුම්
බලයෙහි ඇදහිල්ලෙන් උන්වහන්සේ
13 සමග නැගිට සිටිති. පාපවලින්ද මාංස
යේ අචර්මඡේදනයෙන්ද මලාවූ තුඹලා උ
න්වහන්සේ සමග ජීවත්කොට සෑම වර
14 දවල් කමාකලසේක. අපට විරුඬවූ අප
ට සතුරුව තිබුනාවූ පනත්වල ලියවිල්
ල මකා ඒක අහක්කොට කුරුසියෙහි
15 ඇනගැසූසේක. උන්වහන්සේ මූලාදූනි
න්ද බලසම්පන්නයින්ද මැඩපවත්වා ප්‍රසිඬ

යෙන් ඔවුන් පෙන්වා ඔවුන්ගෙන් ජය
16 ගත් බව එයින් ප්‍රකාශකලසේක. එබැ
වින් කෑම ගැනවත් බීම ගැනවත් මංග
ල්‍ය දවස් ගැනවත් අමාවක් ගැනවත් ස
බත් දවස් ගැනවත් කිසිවෙක් විසින් තු
17 බලා විනිශ්චය කරනු නොලබත්වා. ඒ
දේ මතු පැමිණෙන කාරණාවල ඡායාව ය
18 එහි ශරීරයනම් ක්‍රිස්තුස්වහන්සේය. තු
දුටු දේ සොය සොයා තමාගේ මාංසික
19 සිතින් නිෂ්ඵලව උඩඟුවී පුරුක්වලින්ද
නහරවලින්ද ගොතා සාදනලද දෙවිය
න්වහන්සේගේ වර්ධනයෙන් සියළු ශරීර
ය වඩන ඉස වැනිවූ ක්‍රිස්තුස්වහන්සේ
බැඳී නොසිටින කවරෙකුටවත් තමන්
ගේ කැමැත්තෙන් නිෂ්කාරණ යටත්වී
මෙන්ද දේවදූතයන්ට පූජා කිරීමෙන්ද
තුබලාගේ විපාකය නැතිකරණ ලෙස
20 තුබලා රවටන්ට ඉඩනොදීල්ලාය. ඇරත්
තුබලා ක්‍රිස්තුස්වහන්සේ සමග මැරී
ලෝක ඉගැන්වීම්වලින් වෙන්ව සිටිත්
නම් පාවිච්චිකිරීමෙන් විනාසවෙනනාවූ
21 සියළු දේවලට අත නොගසල්ලාය රස
නොබලල්ලාය අතින් අල්වා නොගනි
ල්ලායයි කියන්නාවූ මනුෂ්‍යයන්ගේ අ
22 ඥාත් ගුරුකමුත් ලෙස නියෝගවලට
මේ ලෝකේම ජීවත්වෙනනාවූන් මෙන්
23 තුබලා කීකරුවෙනෙත් මක්නිසාද? ත
මන්ගේම අභිප්‍රායේ හැටියට වැඳීමෙන්ද
යටත්වීමෙන්ද ශරීරයට හිංසාකරගැනී
මෙන්ද යුක්තවූ ඒ දේ ඥානවන්ත ලෙස පෙ
නෙන්නේය. තුමූත් එහි කිසි අගයක්
නැත. එයින් මාංස පෝෂ්‍යවෙනවා ප
මනක.

3. පරිච්ඡේ. ඉදින් තුබලා ක්‍රිස්තුස්ව
හන්සේ සමග නැගුටුවනලද්දෙදුනම් ක්‍රි
ස්තුස්වහන්සේ දෙවියන්වහන්සේගේ ද
කුණු පැත්තේ වැඩහිඳින තැන ඇත්තා
වූ උසස් තැන්හි තිබෙන දේ සොයාපල්
2 ලාය. ලෝකයෙහි තිබෙන දේ නොව
උසස් තැන්හි දේ මෙනෙහිකරපල්ලාය.
3 මක්නිසාද තුබලා මළෝය තුබලාගේ
ජීවිතය ක්‍රිස්තුස්වහන්සේ සමග දෙවිය
න්වහන්සේ කෙරෙහි සඟවා තිබෙනේ
4 ය. අපේ ජීවනයනම්වූ ක්‍රිස්තුස්වහන්සේ
පෙනෙනකල තුබලාත් උන්වහන්සේ
5 සමග තේජසින් පෙනෙනවා ඇත. එ
හෙයින් මේ ලෝකේ තුබලාගේ අවය
ව වැනිවූ මිථ්‍යාචාරකමත් අපිරිසිදුකමත්
කාමරාගයත් නපුරු තෘෂ්ණාවත් දේවතා
වුන් වැඳීම වැනිවූ ලෝභකමත් නසාප
6 ල්ලාය. මේ දේ නිසා දෙවියන්වහන්සේ
ගේ උදහස අකීකරුකමේ දරුවන්ට
7 පැමිණෙනේය. ඔවුන් සමග පලමු කා
ලේ තුබලා ජීවත්ව සිටිද්දී එම දේවල්
8 කරමින් හැසුරුණෝය. දැන් තුබලා කි
9 පීමත් තරහත් ද්වේෂයත් අපහාසයත් තු
බලාගේ කටින් සල්ලාල කථාවළුත් යන
මේ සියල්ල අත්අැර දමාපල්ලාය. තුබ
10 ලා පරණ මනුෂ්‍යයා ඔහුගේ ක්‍රියාවල් ස
මග හැරදමූ නිසාත් තමන් මැවූ තැනාව
හන්සේගේ ස්වරූපය ලෙස දැනීමෙන්
අළුත්කරනු ලබන අළුත්වූ මනුෂ්‍යයා පැ
ළඳගත් නිසාත් ඔවුනොවුන්ට බොරු
11 නොකියල්ලාය. එහි ග්‍රීකයෙක්වත් යු
දෙව්වෙක්වත් චර්මච්ඡේදයවත් අචර්ම
ච්ඡේදයවත් ම්ලේච්ඡයෙකුවත් සිතියෙක්
වත් නොවාලෙක්වත් වාලෙක්වත් නැ
ත. තුමූත් සියල්ලන් කෙරෙහි සියල්ලම
12 ක්‍රිස්තුස්වහන්සේ වේ. එහෙයින් දෙවි
යන්වහන්සේගේ තෝරාගත් පිරිසිදුවූ
ස්නේහ ඇත්තන් මෙන් හිතේ අනුකම්
පාවත් දයාවත් හිතේ යටත්කමත් මෘදු
කමත් බොහෝ කල් ඉවසීමත් පැළඳ
13 ගෙන ඔවුනොවුන් කෙරේ ඉවසමින් ය
මෙකුගෙන් යමෙකුට වැරද්දක් ඇත්
නම් ක්‍රිස්තුස්වහන්සේ තුබලාට කමාක
ළසේම තුබලාත් ඔවුනොවුන්ට කමා
14 වෙයල්ලාය. සම්පූර්ණකමේ පටියනම්වූ
ප්‍රේමය මේ සියල්ලටම උඩින් පැළඳග
15 නිල්ලාය. දෙවියන්වහන්සේගේ සමාද
නය තුබලාගේ හෘදවල අධිපතිකම් කෙ
රේවා එයට තුබලා එක ශරීරයෙහි කැ
දවනලද්දෙහුය. තවද ස්තුතිවන්තව සිට
16 පල්ලාය. ක්‍රිස්තුස්වහන්සේගේ වචනය
සියළු ඥානයෙන් තුබලා කෙරෙහි සම්
පූර්ණ වසයෙන් වාසය කෙරේවා. තුබ
ලා ගීතිකාවලින්ද ආත්මික කවිවලින්ද
ස්තුති ගීතිකාවලින්ද ඔවුනොවුන්ට උග
න්වමින් දැනිම්තිකම් දෙමින් තුබලාගේ
හෘදවල ප්‍රීතියෙන් ස්වාමින්වහන්සේට ගී
17 තිකා කියාපල්ලාය. තුබලා කියන කර
ණ සියල්ල ස්වාමිවූ යේසුස්වහන්සේගේ
නාමයෙන් කරමින් උන්වහන්සේ කර
18 ණකොටගෙණ පියවූ දෙවියන්වහන්සේ
ට ස්තුතිකරපල්ලාය.
19 භාර්යාවෙනි ස්වාමින්වහන්සේට සුදු
සු ලෙස තුබලාගේ පුරුෂයන්ට කීකරු

19 වෙයල්ලාය. පුරුෂයෙනි තුඹලාගේ භා
ර්‍යාවන්ට ප්‍රේමකොට ඔවුන්ට විරුද්ධව
20 කකිස නොවෙල්ලාය. දරුවෙනි සියළු
කාරණවලදී මව්පියන්ට කීකරුවෙයල්
21 ලාය ඒක ස්වාමීන්වහන්සේට ප්‍රියය. පියව
රුනි තුඹලාගේ දරුවන්ගේ සිත් ප්‍රමා
දනොවෙනපිනිස ඔවුන්ට කෝප නො
22 උපදවාපල්ලාය. වාළුනි ශරීරකාරයෙන්
වූ තුඹලාගේ ස්වාමිවරුන්ට සියල්ලෙහි
කීකරුවෙයල්ලාය. මනුෂ්‍යයන් සතුටුක
රනතන්මෙන් පෙනීමට වැඩ නොකො
ට සිතෙත් ඇදනැතිකමෙන් දෙවියන්ව
23 හන්සේට භය ඇතුව වැඩකොට තුඹලා
කරණ සියළු දේම මනුෂ්‍යයන්ට මෙන්
නොව ස්වාමීන්වහන්සේට මෙන් හොඳ
24 සිතින් කරපල්ලාය. තුඹලා ස්වාමිවූ ක්‍රිස්
තුස්වහන්සේට වැඩකරණ නිසා ස්වාමී
න්වහන්සේගෙන් උරුම නැමති විපාක
25 ය ලබතියි දනිති. දෙවියන්වහන්සේ ත
රාතිරම නොබලන නිසා අයුතුකම් ක
රනතා තමා කල අයුතුකමේ ඵලය ලබ
න්නේය.

4. පරිච්ඡේ. ස්වාමිවරුනි ස්වර්ගයෙ
හි තුඹලාටත් ස්වාමි කෙනෙක් ඇතැයි
දැන තුඹලාගේ වාළුන්ට ධර්මිෂ්ඨවූ සුද්
2 සු දේ දීපල්ලාය. තුඹලා යාඥාවෙහි ප්‍ර
මාද නොවී ස්තුති කිරීමෙන් එහි අවදිව
3 සිටපල්ලාය. ක්‍රිස්තුස්වහන්සේගේ රහ
ස උදෙසා විලංගුවලින් බඳනාලද්දාවූ
4 මා විසින් කියයුතු අන්දමෙන් ඒ රහස ප්‍ර
කාසකරණ පිනිසද දෙවියන්වහන්සේ ඒ
ක කියන්ට අපට වචන දොර හරින පි
5 නිසද අප ගැනත් යාඥාකරපල්ලාය. තු
ඹලා කාලය සඵලකරමින් පිටත සිටින්
නන් සමග ඥානයෙන් හැසිරියල්ලාය.
6 කොයි කෙනෙකුට තුමූත් උත්තරදෙන්
ට ඕනෑ හැටි තුඹලා දැනගන්නා පිනිස
තුඹලාගේ කථාව ලුණෙන් රස ඇතිව
නිතරම කරුණාවෙන් යුක්තවේවා. ප්‍රි
7 ය සහෝදරවූ විශ්වාස සේවකවූ ස්වාමීන්
වහන්සේට මා සමග වැඩකරන්නාවූ
තිඛිකස් මගේ සියළු පැවැත්ම තුඹලාට
8 දන්වන්නේය. තුඹලාගේ පැවැත්ම දැන
තුඹලාගේ සිත් සනසන්ට තුඹලාගෙන්
එකෙක්වූ විශ්වාස ප්‍රිය සහෝදරයෙක්වූ
ඔනේසිමස් සමග ඔහු තුඹලා ලඟට එ
9 ව්මී. මෙහි තිබෙන සෑම පැවැත්ම ඔවුන්
10 තුඹලාට දන්වනවා ඇත. මා සමග බැ
ඳුම් ලැබූ අරිස්තාකිස්ද බාර්ණබස්ගේ
බෑනාවූ මාකිස්ද තුඹලාට ආචාර කරති.
මාකිස් ගැන තුඹලා ආඥා ලැබූවෝය ඔ
හු තුඹලා ලඟට ආවොත් ඔහු පිලිගණි
11 ල්ලාය. යුස්තස් නම්වූ යේසුස්ද තුඹලාට
ආචාරකරන්නේය. චර්මඡේදීන්ගෙන්
මොවුන් පමනක් දෙවියන්වහන්සේගේ
රාජ්‍යය උදෙසා මා සමග සේවකවෙමින්
12 මට සැනසිල්ලක් වූනෝය. තුඹලාගෙන්
එකෙක්වූ ක්‍රිස්තුස්වහන්සේගේ වැඩකා
රවූ එපප්‍රස් තුඹලාට ආචාර කරන්නේ
ය. තුඹලා දෙවියන්වහන්සේගේ සියළු
කැමැත්තෙහි හරි ආකාර සම්පූර්ණව සි
ටින පිනිස ඔහු යාඥාවලින් තුඹලා ගැ
13 න නිතරම උත්සාහ කරන්නේය. තුඹ
ලා උදෙසාත් ලවොදිකයෙහිද හියර
පොලියෙහිද සිටිනතන් උදෙසාත් ඔහු
ට මහත් ආදරයක් ඇතිබවට සාක්ෂිවෙ
14 මි. ප්‍රියවූ ඇක්නම් වෙදුද දේමස්ද තුඹ
15 ලාට ආචාරකරති. ලවොදිකයෙහි සිටි
න සහෝදරයන්ටත් නිම්ඵස්ටත් ඔහු
ගේ ගෙදර සභාවටත් ආචාරකරපල්ලා
16 ය මේ ලියමන තුඹලා කියෙවූ පසු ල
වොදිකයන්ගේ සභාවෙහි කියවනු ල
බන්ටද ලවොදිකයෙන් එවන ලියමන
තුඹලාත් කියවන්ටද බලාගනිල්ලාය.
17 ස්වාමීන්වහන්සේගෙන් තුඹ ලැබූ මේ
හෙය සම්පූර්ණකරන්ට බලාගනිනැ
18 යි ආර්ඛිප්පස්ට කියාපල්ලාය. පාවුල්නම්
වූ මම මගේ අතින් ලියන ආචාරකිරීම
යි. මම බැඳි සිටින බව සිහිකරපල්ලාය.
කරුණාව තුඹලා සමග වේවා. ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින්

## තෙසලෝනිකයන්ට ලියනලද පලමුවෙනි පත්‍රය.

1. පරිච්ඡේදය. පාවුල්ද සිල්වානස්ද
තිමෝතියස්ද යන අප විසින් පියවූ දෙ
වියන්වහන්සේ කෙරෙහිත් ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහිත් සිටින
තෙසලෝනිකයන්ගේ සභාවට අපගේ
පියවූ දෙවියන්වහන්සේගෙන්ද ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද කරුණා
වත් සමාදානයත් වේන ලෙස ලියා එව
2 න වගනම්. දෙවියන්වහන්සේට ප්‍රියවූ
3 සහෝදරයෙනි උන්වහන්සේ විසින් නුබ
ලා තෝරාගත්බව දැන අපේ යාඥාවලදී
4 නුබලා මතක්කොට අපගේ පියවූ දෙවි
යන්වහන්සේ ඉදිරියෙහි නුබලාගේ ඇ
දහිල්ලේ ක්‍රියාවද ප්‍රේමයෙහි වෑයමද
අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි නුබලාගේ බලාපොරොත්තු
වෙන් යුක්තවූ ඉවසීමද නිතර සිහිකර
මින් නුබලා සියල්ලන් උදෙසා දෙවියන්
5 වහන්සේට නොකඩව ස්තුතිකරමුව. අ
පේ සුභාරචිය වචනයෙන් පමනක්නො
ව බලයෙන්ද සුද්ධාත්මයෙන්ද නිසැක වි
ස්වාසයෙන්ද නුබලා වෙතට පැමුනුනේ
ය. ඇරත් නුබලා නිසා අපි නුබලා අත
රෙහි කොයි ආකාර තැනැත්තෝ වීමුදැ
6 යි නුබලා දනිති. නුබලා බොහෝ දුක්
විඳිද්දී සුද්ධාත්මයානන්වහන්සේගේ සන්
තෝසයෙන් වචනය පිළිගෙන අපගේ
ද ස්වාමීන්වහන්සේගේද පාරේ යන්නෝ
7 වූවෝය. එසින් නුබලා මකිදෝනියෙහි
ද අඛායෙහිද සිටින සියළු ඇදහිලිවන්
8 තයන්ට ආදර්සව සිටියෝය. නුබලාගෙන්
ස්වාමින්වහන්සේගේ වචනය මකිදෝනි
යෙහිද අඛායෙහිද ප්‍රකාසකරණලද්දේ
ය. එපමනක් නොව අප විසින් කිසි දෙ
යක් කියන්ට ඕනෑ නොවෙන ලෙස දෙ
වියන්වහන්සේ කෙරෙහි ඇති නුබලා
ගේ ඇදහිල්ල සියළු තැනට පතලවූයේ
9 ය. මක්නිසාද නුබලා ළඟට අපි ආවේ
කොයි ආකාරද කියාත් ජීවමානවූ සැබෑ
10 වූ දෙවියන්වහන්සේට වැඩකරණ පිනි
සද උන්වහන්සේ විසින් මලවුන්ගෙන්
නැගුටුවනලද්දාවූ මතු පැමිණෙන උදහ
සින් අප ගලවන්නාවූ තමන් පුත්‍රවූ යේ
සුස්වහන්සේ ස්වර්ගයෙන් එනවා බලා
සිටින පිනිසද නුබලා දේවතාවන් ඇදහි
මෙන් වෙන්ව දෙවියන්වහන්සේ වෙතට
හැරුනේ කොහොමද කියාත් ඔවුන්
දන්වාදෙති.

2. පරිච්ඡේ. සහෝදරයෙනි නුබලා
වෙතට අපේ ඊම නිස්ඵලනූන බව නුබ
2 ලාම දනිති. නුබලා දන්නා හැටියට අපි
පලමුවෙන් පිලිප්පියෙහිදී දුක්ද නින්දා
විඳුමෝ නුමුත් මහත් සටනෙන් දෙවි
යන්වහන්සේගේ සුභාරචිය නුබලාට කි
යාදෙන්ට අපගේ දෙවියන්වහන්සේ ක
රණකොටගෙන භය නැතුව සිටියෙමු
3 ව. තවද අපේ දූනම්තිකම් ප්‍රයෝගයෙ
න්වත් අපිරිසිදුකමින්වත් රැවටිල්ලෙන්
4 වත් තිබුනේ නැත. නුමුත් සුභාරචි අප
ට භාරදෙන්ට දෙවියන්වහන්සේ අප
තෝරාගත්හෙයින් මනුෂ්‍යයන් නොව
අපේ සිත් විමසන දෙවියන්වහන්සේ ස
5 තුටුකරන්නාවුන් මෙන් කියමුව. අපි කිසි
කලකත් ඉච්චා වචන නොකී බව නුබ
ලා දනිති. ලෝභ අදහසක් අපට නො
තිබුනු බවට දෙවියන්වහන්සේ සාක්ෂි
6 කාරයෙක. අපි ක්‍රිස්තුස්වහන්සේගේ
ප්‍රේරිතයෝ බැවින් බලය පවත්වන්ට යු
තුව තිබෙද්දී නුබලාගෙන්වත් අන්‍යන්
7 ගෙන්වත් මනුෂ්‍ය ගෞරවය නොසො
යා කිරි මවක් ඇගේ දරුවන් උනු
හුම්කරගන්නාක්මෙන් නුබලා අතරෙ
8 හි මොලොක් ගුන ඇතිවූනෙමුව. මෙ
සේ අපි නුබලාට බොහෝ ආදරේ ඇති
බැවින් දෙවියන්වහන්සේගේ සුභාරචිය
ප්‍රකාසකරන්ට පමනක් නොව නුබලාට
ඇත්තාවූ අපේ ආදරය නිසා අපේ ප්‍රාන
වල්ද නුබලා උදෙසා දෙන්ට කැමතිවූ
9 නෙමුව. ඇරත් සහෝදරයෙනි අපේ වෑ

යමත් මාන්සියත් තුඹලාට සිහි ඇත.
මක්නිසාද තුඹලාගෙන් කාටවත් අපි
බර නොවෙන පිණිස රෑ දවල් කර්මාන්
ත කරමින් දෙවියන්වහන්සේගේ සුභාර
10 ංචිය තුඹලාට ප්‍රකාශ කෙළෙමුව. අදහන
තුඹලා අතරෙහි අපි කොපමණ පිරිසිදු
ව ධර්මිෂ්ඨව නිදෙස්ව හැසුරුණෙමුදැයි
තුඹලාත් දෙවියන්වහන්සේත් සාක්ෂිවෙ
11 ති. තමන් දරුවන්ට පියෙක්මෙන් තුඹ
ලා එකඑකාට අපි අවවාදකොට සනසා
තමන්වහන්සේගේ රාජ්‍යයටත් තේජස
12 ටත් තුඹලා කැඳවූ දෙවියන්වහන්සේට ඔ
බින ලෙස හැසිරියලූයයි කියා තුඹලා
13 ට අන දුන් හැටි තුඹලා දනිති. අපෙන්
තුඹලා දෙවියන්වහන්සේගේ වචනය අ
සා පිළිගත්කල්හි ඒක සැබෑවටම දෙවි
යන්වහන්සේගේ වචනය බැවින් මනුෂ්‍ය
යන්ගේ වචන ලෙස නොගෙන දෙවිය
න්වහන්සේගේ වචනය ලෙස පිළිගත් බ
වට අපි දෙවියන්වහන්සේට නිතරම ස්තු
තිකරමුව. අදහනනාවූ තුඹලා කෙරෙ
හි ඒ වචනය සම්පූර්ණවසයෙන් ක්‍රියා
14 කරනේය. තවද සහෝදරයෙනි තු
ඹලා ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙ
හි ඇතනාවූ යුදයෙහි සිටින දෙවියන්ව
හන්සේගේ සභාවල ආද්‍රිසය පසුව යන්
නෝව ඔවුන් යුදෙව්වන්ගෙන් විඳූ හැ
ටියට තුඹලාගේ රට වැසියන්ගෙන් තු
15 ඹලාත් වින්දෝය. ඒ යුදෙව්වරු ස්වාමි
වූ යේසුස්වහන්සේද තමන්ගේම අනාග
තවක්තෘන්ද නැසුවෝය අපටත් පීඩා ක
ළෝය. ඔවුන් දෙවියන්වහන්සේ සතුටු
නොකරති සියළු මනුෂ්‍යයන්ට විරුඬව
16 ද සිටිති. අන්‍ය ජාතීහු ගැලවීම ලබන
ලෙස ඔවුන් සමග කථාකිරීම වලක්වන්ට
උත්සාහ කරමින් තමන්ගේ පාපවල් නි
තරම සම්පූර්ණකරති. දැන්ම උදහස ඔ
වුන් කෙරෙහි සම්පූර්ණලෙස පැමිණෙ
17 නේය. සහෝදරයෙනි අපි හිතෙන්
නොව ශරීරවසයෙන් තුඹලාගෙන් ස්ව
ල්ප කාලයකට අහක්වූ බැවින් තුඹලා
ගේ මූණ බලන්ට ඉතා කැමැත්තෙන්
18 බොහෝ උත්සාහ කෙළෙමුව. එබැවින්
පාවුල්නම්වූ මා ප්‍රධානකොට අපි එක්
වරක් දෙවරක් තුඹලා ළඟට එන්ට කැ
මතිවූනෙමුව තුමුත් සාතන් අප වැළැක්
19 කුවේය. අපගේ ආසාවත් සන්තෝසයත්
ප්‍රීතියේ ඔටුන්නත් කිමෙක්ද? අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ඊ
මෙහිදී උන්වහන්සේගේ ඉදිරිපිටදී තුඹ
20 ලාම නොවෙද්ද? අපේ ගෞරවයත්
සන්තෝසයත් තුඹලාමය.

3. පරිචෙජ. එහෙයින් අපි තවත් ඉ
වසන්ට බැරිව කැමැත්තෙන්ම අතිනස
2 යෙහි තනියම සිටගන තුඹලාගෙන් ක
වුරුවත් පීඩාවලින් චචල නොවෙන
ලෙස අපේ සහෝදරවූද දෙවියන්වහන්
සේගේ සේවකාවූද ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචියෙහි අප සමග වැඩකරනනාවූ
ද තිමෝතියස් තුඹලා ස්ථිරකරණ පිණි
3 සත් ඇදහිල්ල ගැන තුඹලා සනසන පි
ණිසත් තුඹලා ළඟට යැව්මුව. අපි මේ පී
ඩාවලට නියමව සිටිමුයයි තුඹලාම දනි
4 ති. අපි තුඹලා ළඟ සිටිද්දී අපි දුක් වි
දින්ට ඕනෑ බව පළමුවෙන් තුඹලාට කී
මුව. එලෙසම සිඬවූන බව තුඹලා දනි
5 ති. එබැවින් මම තවත් ඉවසන්ට බැරි
ව අපේ වෑයම නිෂ්ඵලවෙනලෙස පරී
ක්ෂකයා තුඹලා පරීක්ෂාකෙළේදෝ කියා
තුඹලාගේ ඇදහිල්ල දැනගන්නා පිණිස
6 ඔහු යැවීමි. දැන් සහෝදරයෙනි තිමෝ
තියස් තුඹලා ළඟින් අප වෙතට ඇවිත්
තුඹලාගේ ඇදහිල්ලත් ප්‍රේමයත් තුඹ
ලා නිතරම අප යහපත් ලෙස සිහිකො
ට තුඹලා දකින්ට අපේ ආසාව සේම අ
ප දකින්ට තුඹලාගේ ආසාත් යන අපට
7 දැන්වූ හොඳ ආරංචි නිසා අපේ සියළු දු
කෙහිත් සෝකයෙහිත් තුඹලාගේ ඇද
හිල්ල නිසා තුඹලා ගැන සැනසිල්ල ලැ
8 බිමුව. ඉතින් තුඹලා ස්වාමින්වහන්සේ
කෙරෙහි පිහිටා සිටිත්නම් අපි ජීවත්වෙ
9 මුව. තුඹලාගේ මූණ දකින ලෙසද තු
ඹලාගේ ඇදහිල්ලේ හිඟකම සම්පූර්ණ
කරණ ලෙසදරෑ දවල් බොහෝසෙසින්
10 යාඥාකරනනාවූ අපි අපගේ දෙවියන්ව
හන්සේ ඉදිරියේ තුඹලා නිසා සතුටුවෙ
න සියළු සන්තෝසයට තුඹලා ගැන දෙ
වියන්වහන්සේට කොහොම ස්තුතිකරමු
11 ද? අපගේ පියවූ දෙවියන්වහන්සේත් අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේත්
තුඹලා ළඟට අපේ ගමන සිදුකරණසේ
12 ක්වා. අපි තුඹලාට ප්‍රේමකරණසේම ස්වා
මින්වහන්සේ තුඹලා ඔවුනොවුන්ටත්
සියල්ලන්ටත් ප්‍රේමයෙන් සම්පූර්ණවන
13 ලෙස වර්ධනකරනසේක්වා. අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ තමන් පිරි
සිදුවූවන් සමග එනකල තුඹලා අපගේ

පියවූ දෙවියන්වහන්සේ ඉදිරිපිට පිරිසිදුව
නිදෝෂව සිටින්ට නුඹලාගේ සිත් ස්ථිර
කරණසේක්වා.

4. පරිච්ඡේ. තවද සහෝදරයෙනි අ
පි ස්වාමිවූ යේසුස්වහන්සේගේ නමින් නු
2 ඹලාට කෙබඳු අනාඥාවල් දුනිමුදැයි නු
ඹලා දන්නා බැවින් නුඹලා විසින් දෙවි
යන්වහන්සේ සතුටුකරණ පිණිස කෙසේ
හැසිරිය යුතුදැයි අපෙන් දැනගත් ලෙස
ම නුඹලා වැඩි වැඩිව වර්ධනවෙන්ට ස්වා
මිවූ යේසුස්වහන්සේගේ නමින් නුඹලා
3 ගෙන් ඉල්ලමින් අවවාද කරමුව. තවද
නුඹලා ගැන දෙවියන්වහන්සේගේ කැ
4 මැත්තනම් නුඹලා පිරිසිදුව සිට වෛශ්‍යා
කමින් වැළකී නුඹලා ගෙන්.එක එකා
තමතමාගේ ශරීර නැමති භාජන දෙවි
යන්වහන්සේ නාදුනන්නාවූ අන්‍යජා
5 තීන් මෙන් කාමරාගයෙහි නොව පිරිසි
දුකමෙහිත් ගෞරවයෙහිත් තබාගැනී
6 මය. මේ කාරණාව ගැන කවුරුවත් ත
මන්ගේ සහෝදරයා නොරවටා වංචා
නොකරල්ලාය. මක්නිසාද පලමු අපි නු
ඹලාට ප්‍රසිද්ධකොට කියාදුන් ලෙස ඒ ස
යල්ලන්ට ස්වාමින්වහන්සේ විපාක දෙ
7 නසේක. දෙවියන්වහන්සේ ශුද්ධවන්තක
මට මිස අපිරිසිදුකමට අප කැඳෙව්වේ
8 නැත. එහෙසින් මේ වචන නොසලක
න තැනැත්තා මනුෂ්‍යයා නොව අපට ශු
ද්ධාත්මය දුන් දෙවියන්වහන්සේ නො
9 සලකන්නේය. ඔවුනොවුන්ට ප්‍රේමක
රන්ට නුඹලාම දෙවියන්වහන්සේගෙන්
ඉගනගත් බැවින් සහෝදර ස්නේහය
ගැන නුඹලාට මාගේ ලිවුමෙන් කමක්
10 නැත. නුඹලා මකිදෝනිය මුළුල්ලෙහි සි
ටින සහෝදරයන්ට ස්නේහකරති එ
හෙත් සහෝදරයෙනි එසි වඩවඩා වර්
11 ධනවෙන්ට නුඹලාගෙන් ඉල්ලමුව. තවද
අපි අනාදුන් ලෙස නිස්කලංකව සිටින්
ටත් තමන්ගේම කාරණාවල් සලකන්
12 ටත් පිටත සිටින්නන් කෙරේ නුඹලා
හොඳින් හැසිරෙමින් කිසි සිගයක් නුඹ
ලාට නොවෙන පිණිස තමන්ගේ අතින්
කර්මාන්ත කරන්ටත් උත්සාහකරපල්
13 ලාය. තවද සහෝදරයෙනි නුඹලා බලා
පොරොත්තුව නැති අන් තැනැත්තන්
මෙන් සෝකනොවෙන පිණිස සැතපෙ
න්නාවූන් ගැන දැනනොගෙන සිටිනවා
14 ට මම කැමති නැත. මක්නිසාද යේසුස්
වහන්සේ මැරී නැවත නැගුටුනුසේකැ
යි අපි අදහමුව එසේම යේසුස්වහන්සේ
කෙරෙහි සැතපෙන්නවුන් උන්වහන්
සේ සමග දෙවියන්වහන්සේ ගෙනෙන
15 සේක. ඇරත් ස්වාමින්වහන්සේ එන තු
රු ජීවත්ව ඉතිරිව සිටින අපි සැතපෙ
න්නාවූන්ට ඉස්සර නොවෙමුයයි ස්වාමි
න්වහන්සේගේ වචනයෙන් නුඹලාට කි
16 යමුව. මක්නිසාද ස්වාමින්වහන්සේම
ඝෝෂාවද ප්‍රධාන දූතයාගේ ශබ්දයද
ඇතුව ස්වර්ගයෙන් බස්නාසේක එවිට
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි මලාහු පලමු
17 කොට නැගිටිනවා ඇත. ඉන්පසු ජීවත්
ව ඉතුරුව සිටින අපි ඔවුන් සමග එක
විටම අහසේදී ස්වාමින්වහන්සේගේ පෙ
රමගට වලාකුලෙන් ගෙන යනු ලබමු
ව මෙසේ නිතරම ස්වාමින්වහන්සේ ස
18 මග සිටින්නෙමුව. එබැවින් මේ වචන
වලින් ඔවුනොවුන් සනසාගනිල්ලාය.

5. පරිච්ඡේ. සහෝදරයෙනි කාලය
ද වේලාවන්ද ගැන නුඹලාට ලියන්ට
2 කමක් නැත. මක්නිසාද රාත්‍රියෙහි සො
රෙක් එන්නාක්මෙන් ස්වාමින්වහන්සේ
ගේ දවස පැමිණෙන්නේයයි නුඹලාම
3 හොඳහැටි දනිති. මිනිස්සු සමාදානයයි
ආන්ත්‍රා නැතැයි කියනකල ගර්භිනියට
වදන වේදනාව පැමිණෙනාක්මෙන්
ඔවුන්ට ගැලවී යන්ට බැරිලෙස හදිස්
4 සියෙන් විනාසය පැමිණෙන්නේය. නු
ඹුත් සහෝදරයෙනි ඒ දවස සොරෙක්
මෙන් නුඹලා කෙරේ පැමිණෙන්ට නුඹ
ලා අන්ධකාරේ සිටින්නෝ නොවෙති.
5 නුඹලා සැම දෙන ආලෝකයෙහිද දවා
ලෙහිද දරුවෝ වෙති. අපි රාත්‍රියගේ
වත් අන්ධකාරයගේවත් තැනැත්තෝ
6 නොවමුව. එබැවින් වෙන තැනැත්තන්
ලෙස අපි නිදා නොගෙන අවදිව සිහි ඇ
7 තුව සිටිමුව. නිදාගන්නෝ රාත්‍රියෙහි නි
දාගනිති බීමත්වෙන්නෝ රාත්‍රියෙහි මත්
8 වෙති. එහෙත් දවාලගේ තැනැත්තෝ
වූ අපි සිහියෙන් යුක්තව ඇදකිල්ල සහ
ප්‍රේමය නැමති ලයවැස්මත් ගැලවීමෙ
හි බලාපොරොත්තුව නැමති ආරක්ෂා
9 තොප්පියත් පැලඳගනිමුව. මක්නිසාද
දෙවියන්වහන්සේ උදහසට නොව අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කා
රණකොටගෙන ගැලවීම ලබාගන්ට අ
10 පට නියම කලසේක. අපි නොනිදා සිටි

හත් නිදගනිතත් උන්වහන්සේ සමග
අපි ජීවත්වෙන පිනිස උන්වහන්සේ අප
11 උදෙසා මලසේක. එබැවින් නුඹලා ක
රනාක්මෙන් ඔවුනොවුන් සනසා ඔවු
12 නොවුන්ට වැඩසිඩකරපල්ලාය. තවද
සහෝදරයෙනි නුඹලා අතරෙහි ස්වාමි
න්වහන්සේ කෙරෙහි නුඹලාට ප්‍රධානිව
13 සිට වෙහෙස දරනානාවූ අවවාද කරන්
නවුන් සලකන්ටත් ඔවුන්ගේ වැඩ නිසා
ප්‍රේමයෙන් ඔවුන් අගේ කොට සිතන්
ටත් නුඹලාගෙන් ඉල්ලමුව. ඔවුනොවුන්
14 සමගිව සිටපල්ලාය සහෝදරයෙනි අනා
චාර කරනානන්ට අවවාද කරපල්ලාය
බෙලහින සිත් ඇත්තන් සනසාපල්ලාය
දුර්වලයන්ට පිහිටවෙයල්ලාය සියල්ලන්
කෙරේ බොහෝ කල් ඉවසාපල්ලායයි
15 නුඹලාට දැනමුතුකම් කියමුව. කිසිවෙක්
කාටවත් නපුරට නපුර නොකොට ඔවු
නොවුන්ටත් සියල්ලන්ටත් නිතරම යහ
16 පත්කම් කරණලෙස බලාගනිල්ලාය. සෑ
මදම සන්තෝසවෙයල්ලාය. නොකඩව
17 යාඥාකරපල්ලාය. සියල්ලෙහි ස්තුති ක
18 රපල්ලාය. මක්නිසාද ක්‍රිස්තුස් යේසුස්ව
හන්සේ කරණකොටගෙන නුඹලා ගැ
න දෙවියන්වහන්සේගේ කැමැත්ත මේ
19 ය. ආත්මයානන්වහන්සේ නොනිවල්ලා
20 ය. දේසනා පැවැත්වීම සුළුකොට නො
21 සිතල්ලාය. සියල්ල පරීක්ෂාකොට යහ
22 පත් දේ තදින් අල්වාගනිල්ලාය. නපුරැ
යයි පෙනෙන සියල්ලෙන්ම වැලකියල්
23 ලාය. තවද සමාදානයේ දෙවියන්වහන්
සේම සියළු ආකාරයෙන් නුඹලා පිරිසිදු
කරනසේක්වා. නුඹලාගේ මුළු ආත්මයත්
ප්‍රානයත් ශරීරයත් අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ ඊම දක්වා නි
24 දෝස්ව රක්ෂාකරනු ලැබෙත්වා. නුඹලා
කැඳවනානාවූ තැනන්වහන්සේ විශ්වාස
කෙනෙක උන්වහන්සේ ඒක ඉෂ්ටකර
25 දෙනසේක. සහෝදරයෙනි අප උදෙ
26 සා යාඥාකරපල්ලාය. සියළු සහෝදර
යන්ට පිරිසිදුවූ සිඹීමකින් ආචාර කරපල්
27 ලාය. මේ ලිවුම පිරිසිදුවූ සියළු සහෝදර
යන් ඉදිරියේ කියවන්ට ස්වාමින්වහන්
28 සේගේ නමින් නුඹලාට ආඥාකරමි. අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
කරුණාව නුඹලා සමග වේවා. ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින්

## තෙසලෝනිකයන්ට ලියනලද දෙවෙනි පත්‍රය.

1. පරිච්ඡේදය. පාවුල්ද සිල්වානස්ද
තිමෝතියස්ද යන අප විසින් අපගේ පිය
වූ දෙවියන්වහන්සේ කෙරෙහිද ස්වාමිවූ
2 යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහිද සි
ටින තෙසලෝනිකයන්ගේ සභාවට අප
ගේ පියවූ දෙවියන්වහන්සේගෙන්ද ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද කරු
නාවත් සමාදානයත් වෙනලෙස ලියා එ
3 වන වගනම්. සහෝදරයෙනි අප විසින්
නුඹලා උදෙසා දෙවියන්වහන්සේට නි
තරම ස්තුතිකරන්ට සුදුසුය නුඹලාගේ
ඇදහිල්ල බොහෝසෙයින් වැඩිවන නි
සාත් ඔවුනොවුන් කෙරේ නුඹලා සිය
ල්ලන්ගේ ප්‍රේමය බෝවන නිසාත් එසේ
4 කරන්ට යුතුය. එබැවින් නුඹලා විඳින්
නාවූ සියළු පීඩාවලදීත් දුක්වලදීත් නු
ඹලාගේ ඉවසීමද ඇදහිල්ලද නිසා අපි
ම නුඹලා ගැන දෙවියන්වහන්සේගේ
5 සභාවලදී ගරුකම් කියමුව. නුඹලා දෙ
වියන්වහන්සේගේ රාජ්‍යය නිසා දුක් වි
ඳිති ඒක නුඹලා ඒ රාජ්‍යයට පැමිනෙන්
ට සුදුස්සෝයයි ගනන් ගනු ලබන බවට
දෙවියන්වහන්සේගේ ධර්මිෂ්ට විනිශ්ච
6 යේ ඔප්පුවක. ඇරත් ස්වාමිවූ යේසුස්ව
හන්සේ තමන්ගේ බලවත්වූ දූතයන්
7 සමග ස්වර්ගයෙන් පෙනී දෙවියන්වහන්
සේ නාඳුනනානාවුන්ටත් අපගේ ස්වාමි
8 වූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරචී
යට අකීකරු වෙන්නන්ටත් ඇවිලෙන
ගින්නෙන් අචිචුකරණකල්හි දෙවියන්
වහන්සේ නුඹලාට දුක් දෙනානන්ට දු
කත් දුක් විඳින නුඹලාට අප සමග සැ
නසීමත් යන ප්‍රති ඵල දෙනසේක ඒක
දෙවියන්වහන්සේ ඉදිරියෙහි ධර්මිෂ්ටවූ
9 කාරණාවක්ය. ස්වාමින්වහන්සේ ඒ දව
සේදී තමන් පිරිසිදුවූවන් නිසා ගෞරව
යට පැමිනෙන්ටත් අපේ සාක්ෂිය අද
හගත් නුඹලා ඇතුළුව ඇදහිලිවන්ත

10 සියල්ලන් නිසා පුදුමවූ කෙනෙනෑයි කි
යනු ලබන්ටත් එනකල්හි ඒ අකීකරු
නැනැත්තෝ උන්වහන්සේගේ ඉදිරියෙ
න්ද තේජවන්ත බලයෙන්ද සදාකාල වි
නාසය නම්වූ අච්චුවට පැමිණෙනවා ඇ
11 ත. එබැවින් අපගේ දෙවියන්වහන්සේ
ගේත් ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේත් කරුණාව ලෙස නුබලා කෙරෙහි
අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ නාමයද උන්වහන්සේ කෙරෙහි නුබ
ලාද ගෞරවසට පැමිණෙන පිනිසත් අප
ගේ දෙවියන්වහන්සේ ඒ ගෞරවය ලැ
12 බීමට නුබලා කැඳවනු ලබන්ට සුදුස්
සෝයයි ගනන් ගෙන තමන්ගේ යහ
පත්කමේ සැම හොඳ කැමැත්තද ඇද
හිලෙලහි ක්‍රියාවද පරාක්‍රමයෙන් සම්පූ
ර්ණකරවන පිනිසත් නිතරම නුබලා උ
දෙසා යාඥාකරමුව.

2. පරිචෙජ. සහෝදරයෙනි අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ඊ
මද උන්වහන්සේ වෙත අපේ රැස්වීමද
2 ගැන ක්‍රිස්තුස්වහන්සේගේ දවස ලංවිය
යි ආත්මයෙන්වත් වචනයෙන්වත් අපෙන්
ලැබුනායයි කියන ලියමනෙන්වත් වහා
ම සිතින් චචල නොවෙන හැටියටද විය
වුල් නොවෙන හැටියටද නුබලාගෙන්
3 ඉල්ලමුව. කවර ප්‍රකාරයකින්වත් නුබලා
රවටන්ට කිසිවෙකුට අවකාස නොදෙ
ල්ලාය. මක්නිසාද පලමුවෙන් පසුබට
වීම වෙලා විනාසයෙහි පුත්‍රවූ පාපයේ
මනුෂ්‍යයා ප්‍රකාශනොවූවොත් ඒ දවස
4 නොපැමිණෙන්නේය. ඒ පාපයේ මනු
ෂ්‍යයා දෙවියෝයයි කියනු ලබන්නාවූ
නොහොත් නමස්කාර ලබන්නාවූ සි
යල්ලට විරුඬව සිට සියල්ලන්ට වඩා
තමන්ම උසස්කොට දේවමාලිගාවෙහි
දෙවියන්වහන්සේ මෙන් හිඳ තමෙම්ම
5 දෙවියන්වහන්සේයයි දක්වන්නේය. ම
ම නුබලා සමග සිටිද්දිම මේ කාරණා කි
බව නුබලාට සිහි නැද්ද? තවද ඔහු ත
6 මාගේම කාලයෙහි ප්‍රකාශවෙන පිනි
ස දැන් වලක්වන්නේ කිමෙක්දැයි නුබ
7 ලා දනිති. අධර්මිෂ්ඨකමේ රහසනම්වූ එ
ක දැන් ක්‍රියාකරන්නේය. නුමුත් වලක්
වන තැනැත්තේ අහක්කොට ගෙනය
8 නු ලබනතුරු වලක්වන්නේය. එකල
ඒ පාපිෂ්ඨයා ප්‍රකාශවෙයි. ස්වාමින්වහන්
සේ තමන් මුඛයෙහි හුස්මෙන් ඔහු නාස්
තිකොට තමන්වහන්සේගේ ඊමෙහි
9 තේජසින් විනාසකරණසේක. ඒ පාපිෂ්
ඨයාගේ ඊම සාතන්ගේ ක්‍රියාව ලෙස
බොරුවූ සියළු බලයෙන්ද ලකුනුවලින්ද
10 ආශ්චර්‍ය්‍යවලින්ද විනාසවෙන සියල්ලන්
කෙරෙහි අධර්මිෂ්ඨකමේ සියළු වචාවෙ
11 න්ද යුක්තවන්නේය. මක්නිසාද ඒ විනා
සවෙනතෝ ගැලවීම ලැබෙන පිනිස සැ
බෑකමේ ප්‍රේමය පිලිනොගත්තෝය.
12 මේ නිසා සැබෑව නොඇදහුවාවූ අධර්මි
ෂ්ඨකමේ සතුටුවූනාවූ සියල්ලෝම දඬුව
මට පත්වෙන පිනිස බොරුවක් අදහන
හැටියට දෙවියන්වහන්සේ ඔවුන්ට බ
13 ලවත්වූ මායාවක් පමුනුවනසේක. නු
මුත් ස්වාමින්වහන්සේ විසින් ප්‍රේමකලා
වූ සහෝදරයෙනි දෙවියන්වහන්සේ මු
ලපටන් ආත්මයානන්වහන්සේගේ පිරි
සිදුකිරීමෙන්ද සැබෑකමෙහි ඇදහිල්
ලෙන්ද ගැලවීම ලැබෙන පිනිස නුබලා
තෝරාගත් නිසා නුබලා ගැන අප විසින්
නිතරම දෙවියන්වහන්සේට ස්තුති කට
14 යුතුය. අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ ගෞරවය නුබලා ලබන පි
නිස අපේ සුභාරංචියෙන් උන්වහන්සේ
15 නුබලා ඒ ගැලවීමට කැඳවූසේක. එබැ
වින් සහෝදරයෙනි නුබලා ස්ථිරව සිට
අපේ වචනයෙන්වත් ලියමනෙන්වත් නු
බලා ඉගනගත් ගුරුකම් තදින් අල්ලාග
16 නිල්ලාය. තවද අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේද අපට ප්‍රේමකොට ක
රුණාවෙන් සදාකාල සැනසිල්ලත් යහ
පත් බලාපොරොත්තුවත් අපට දුන් අප
ගේ පියවූ දෙවියන්වහන්සේද නුබලාගේ
17 සිත් සනසා සියළු යහපත් වචනයෙහිත්
ක්‍රියාවෙහිත් නුබලා පිහිටුවනසේක්වා.

3. පරිචෙජ. තවද සහෝදරයෙනි නු
බලා අතරෙහි මෙන් අනුන් අතරේත්
ස්වාමින්වහන්සේගේ වචනය වැලකීමක්
නැතුව පතලවී ගෞරවයට පැමිණෙන
2 හැටියටද නුවන නැත්තාවූ දුෂ්ට මනුෂ්‍ය
යන්ගෙන් අපි ගැලවෙන හැටියටද අප
උදෙසා යාඥාකරපල්ලාය. මක්නිසාද සි
යළු මනුෂ්‍යයන්ට ඇදහිලි නැත්තේය.
3 එසේ නුමුත් ස්වාමින්වහන්සේ විශ්වාස
කෙනෙක උන්වහන්සේ නුබලා ස්ථිර
4 කොට නපුරෙන් රක්ෂාකරණසේක. අපි
නුබලාට අනාඥාකරණ දේ කෙරෙතියි
කියාද මතුත් කරණවා ඇතැයි කියාද

තුබලා ගැන ස්වාමීන්වහන්සේ කෙරෙ
5 හි විශ්වාස කරමුව. ස්වාමීන්වහන්සේ තුබ
ලාගේ සිත් දෙවියන්වහන්සේගේ ප්‍රේ
මයටත් ක්‍රිස්තුස්වහන්සේගේ ඉවසිල්ල
6 ටත් පමුනුවනසේක්වා. තවද සහෝද
රයෙනි අපෙන් ලබාගත් ගුරුකම්වල
හැටියට නොහැසිර අවචාරිත්‍රයෙන් හැ
සිරෙන්නාවූ සියළු සහෝදරයන්ගෙන්
වෙන්වෙන්ට අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගේ නාමයෙන් තුබලාට
7 අනාඥකරමුව. අප පස්සේ කෙසේ එන්
ට යුතුදැයි තුබලා දනිති. මක්නිසාද තු
බලා අතරෙහි අපි අවචාරිත්‍රයෙන් නො
8 හැසිර කාගෙන්වත් කෑම නික්මට නො
කා තුබලාගෙන් කාටවත් බර නොවෙ
න පිනිස වෙහෙසමාන්සිගෙනරෑ දවල්
9 වැඩකලෙමුව. බරවෙන්ට අපට යුතුක
ම නැතිනිසා නොවේය තුමූත් තුබලා
අප ලෙසම හැසිරෙන්ට තුබලාට අප ආ
දර්ශයක් කරණ පිනිස අපි මෙසේ කෙ
10 ලෙමුව. ඉන්නිසා වැඩකරන්ට අකමැති
තැනැත්තාට කෑම දෙන්ට යුතු නැතැ
යි අපි තුබලා ලඟ සිටිද්දිම තුබලාට ආ
11 ඥකලෙමුව. තුබලා අතරෙන් සමහ
රෙක් කිසි වැඩක් නොකොට අනුන්
ගේ කාරණ සොයමින් අවචාරිත්‍රයෙන්
12 හැසිරෙතියි අසිමුව. එබඳුවූවෝ නිස්ක
ලංකයෙන් වැඩ කරමින් තමන්ගේ කෑ
ම කන හැටියට අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ නමින් ඔවුන්ට ආ
13 ඥකොට අවවාද කරමුව. සහෝදරයෙ
නි තුබලා හොඳකිරීමෙහි පසුබට නො
14 වෙල්ලාය. කවුරුවත් මේ ලියමනේ ති
බෙන අපේ වචනයට කීකරු නොවෙ
තොත් තුබලා ඔහු සලකුනක්කොට ත
බා ඔහු ලැජ්ජාවෙන පිනිස සමාගමට
15 නොගනිල්ලාය. තුමූත් ඔහු ගැන සතු
රෙක් මෙන් නොසිතා සහෝදරයෙකුට
16 මෙන් අවවාද කරපල්ලාය. සමාදානය
දෙන ස්වාමින්වහන්සේම තුබලාට නිත
රම සියළු ආකාරයෙන් සමාදානය දෙන
සේක්වා. ස්වාමින්වහන්සේ තුබලා සියල්
17 ලන් සමග සිටිනසේක්වා. පාවුල්නම් මම
සියළු ලිවුම්වලට ලකුනක්කොට ලියන්
නාක්මෙන් මේ ලියමනෙහිත් මාගේ ආ
18 චාරකිරීම මාගේ අතින් ලියමි. අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ක
රුණාව තුබලා සියල්ලන් සමග වේවා.
ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# තිමෝතියස්ට ලියනලද පලමුවෙනි පත්‍රය.

1. පරිච්ඡේදය. අපගේ ගැලවුන්කා
රවූ දෙවියන්වහන්සේගේද අපගේ බලා
පොරොත්තුව නම්වූ ස්වාමිවූ යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගේද ආඥාවෙන් යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරිතවූ පාවුල්
2 නම් මා විසින් ඇදහිල්ලෙන් මාගේම පු
ත්‍රවූ තිමෝතියස්ට අපගේ පියවූ දෙවි
යන්වහන්සේගෙනුද අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගෙනුද කරුණාවත්
දයාවත් සමාදානයත් වෙනලෙස ලියා එ
3 වන වගනම්. වෙන කිසි ගුරුකමක් තු
ගන්වන්ටත් බොරු කථාද ඇදහිල්ලේ
4 දිව්‍යවූ දිවුනු කිරීමට වඩා විවාද උපද
වන කෙලවරක් නැති පරම්පරා කථාද
කල්පනාවට නොගන්ටත් තුබ විසින්
සමහරුන්ට ආඥකරණ පිනිස මම මකි
දෝනියට ගියකල තුබ එපිසසෙහි සිට
5 ගන තුබට කිලෙසම කරපන්න. ආඥ
වෙහි මුළු අභිප්‍රාවනම් පිරිසිදු සිතින් ය
හපත් හෘදසාක්ෂියෙනුත් වංචා නොවූ ඇ
6 දහිල්ලෙනුත් උපදින ප්‍රේමය වෙයි. එ
සින් සමහරෙක් අහක්ව වැඩනැති ක
7 ථාවට හැරී තමන් කියනෙත් කිමෙක්ද
සහතිකකරන්නේ කිමෙක්දැයි නොදැ
න සිට ව්‍යවස්ථාව උගන්වනෙතා් වෙන්
8 ට කැමතිවෙති. යමෙක් ව්‍යවස්ථාව යුතු
ලෙස පවත්වන්නේනම් ඒ ව්‍යවස්ථාව ය
9 හපත් බව අපි දනිමුව. මක්නිසාද ව්‍යව
ස්ථාව ධර්මිෂ්ඨයන් නිසා නොව ව්‍යවස්ථා
නොසලකනතුනුද අකීකරුවන්ද අභක්
තීන්ද පව්කාරයින්ද අපිරිසිදුවූවන්ද දු
ර්ජනයනුද මව්පියන් මරනතුනුද මිනිමර

10 නානඤ වෛශ්‍යාකම් කරනනඤ පිරිමින්
සමග දූෂ්‍ය ක්‍රියා කරන්නන්ද මිනිසුන්
හොරකම් කරනනඤ බොරුකාරයන්ද
11 බොරු දිවුරනනඤ නිසාත් මට බාරව ති
බෙන වාසනාවන්ත දෙවියන්වහන්සේ
ගේ තේජවන්තවූ සුභාරංචිය ලෙස ති
බෙන යහපත් ඉගැන්වීමට විරුඬවූ වෙ
න කිසිවක් ඇත්නම් ඒ නිසාත් පිහිටුවනලද්
12 දේයයි දනිමුව. මා විශ්වාසයෙකැයි සිතා
සේවකකමට පත්කොට සවිකලාවූ අ
පගේ ස්වාමිවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේට
13 ස්තුති කෙරෙමි. එසේ නුමුත් පලමුවෙන්
මම අපහාස කරන්නෙක්ද පීඩාකරන්
නෙක්ද හිංසා කරන්නෙක්දවී සිටියෙමි
එහෙත් මම කාරණා නොදැන ඇදහිලි
නැති කමින් එසේ කල බැවින් අනුකම්
පාව ලැබුයෙමි. ක්‍රිස්තුස් යේසුස්වහන්
14 සේ කෙරෙහි පවතින ඇදහිල්ලත් ප්‍රේම
යත් සමග අපගේ ස්වාමින්වහන්සේගේ
15 කරුණාව මා කෙරෙහි ඉතා අධිකවිය. ප
වූකාරයින් ගලවන්ට ක්‍රිස්තුස් යේසුස්ව
හන්සේ ලෝකයට ආසේකැයි යන කිම
සැබෑවූ සියළු ආකාරයෙන් පිලිගන්ට යු
තුවූ කිමක්ය. ඒ පව්කාරයන් අතරේ මම
16 ප්‍රධාන පව්කාරයෙක. එසේ නුමුත් සදා
කාල ජීවනය ලබන පිනිස යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේ කෙරෙහි මතු අදහනනා
වුන්ට ආදර්ශයක් කොට උන්වහන්සේ ප්‍ර
ධාන පව්කාරයාවූ මා කෙරෙහි බො
හෝ කල් මුළු ඉවසීම දක්වමින් අනුකම්
17 පාකලසේක. තවද සදාකාල රජවූ අමර
නියවූ අදෘශ්‍යමානවූ එකම ප්‍රඥාවන්තවූ
දෙවියන්වහන්සේට සදාකල් නිතරම
ගෞරවයද තේජසද වේවා. ආමෙන්.
18 පුත්‍රවූ තිමෝතියස් නුඹ ගැන පලමු
වෙන් පැවති අනාගත වචන ලෙස නුඹ
ඇදහිල්ලත් යහපත් හෘදසාක්ෂියත් දර
මින් යහපත්වූ යුඬකරපන්නැයි යන අ
19 ඥාව නුඹට දෙමි. සමහරු ඒ හෘදසාක්ෂි
ය අත්හැර දමා ඇදහිල්ල නැමති නැව
20 බිඳගත්තෝය. හිමෙනියස්ද අලෙක්සන්
ද්‍රද එබඳු තැනැත්තෝය. ඔවුන් මතු අ
පහාස නොකරන්ට ඉගනගන්නා පිනිස
ඔවුන් සාතන්ට බාර දුනුමි.

2. පරිච්ඡේ. තවද සියළු භක්තියෙන්
සහ ඔබිනාකමින් නිෂ්කලංක ලෙසද ස
මාදාන ලෙසද අපේ කල් යවීම පිනිස සි
යළු මනුෂ්‍යයනඤ රජ්ජුරුවනඤ අධිකාරයින්ද උ
2 දෙසා කන්නලව්ද යාඥාවල්ද ඉල්ලීම්ද
ස්තුතිදීම්ද පවත්වන්ට සියළු දේටම පල
3 මුවෙන් අවවාදකෙරෙමි. මක්නිසාද සි
යළු මනුෂ්‍යයෝ ගලවනුලැබ සැබෑක
4 ම් දැනගැනීමට පැමිණෙනවාට කැමති
වූ අපගේ ගැලවුන්කාර දෙවියන්වහන්
සේගේ ඉදිරියෙහි ඒක යහපතද පිලිග
5 නයුතුද වේ. එකම දෙවියන්වහන්සේද
දෙවියන්වහන්සේටත් මනුෂ්‍යයන්ටත්
අතරෙහි ක්‍රිස්තුස් යේසුස්නම් මනුෂ්‍යවූ
6 එකම මැදහත්කාරයෙක්ද ඇත. උන්ව
හන්සේ සියල්ලන් උදෙසා නිදහස්කම
උපදවන මිලයක්කොට තමන්වහන්
සේම පාවාදුන්සේක. ඒකේ සාක්ෂිය සු
7 දුසු කාලයෙහිදී දෙනුලබනෙන්ය. එයට
මම ප්‍රකාසකරනෙක්ද ප්‍රේරිතයෙක්ද
අන්‍ය ජාතීන්ට ඇදහිල්ල සහ සැබෑකම
උගන්වනකෙනෙක්ද කොට පත්කරනු
ලැබීමි. මම බොරු නොකියා ක්‍රිස්තුස්ව
8 හන්සේ කෙරෙහි සැබෑව කියමි. ඉන්
නිසා පුරුෂයෝ සෑමතැනම කෝපයත්
සැකයත් නැතුව පිරිසිඳුවූ අත් ඔසවා යා
9 ඥාකරණවාට කැමතිවෙමි. එසේම ස්ත්‍රී
හුද ලැජ්ජාවත් නුවනත් ඇතුව ඔබිනා
වස්ත්‍ර පැලඳ ඉසකේ ගෙතීමෙන්වත් ර
10 ත්‍රනෙන්වත් මුතුවලින්වත් අනර්ඝ වස්ත්‍ර
වලින්වත් නොව දේව භක්ති ස්ත්‍රීන්ට සු
දුසු ලෙස යහපත් ක්‍රියාවලින් සැරසෙන
11 වාටද කැමැත්තෙමි. ස්ත්‍රිය නිශ්ශබ්දව සි
12 යළු යටහත්කමින් ඉගනගනීවා. තවද
ස්ත්‍රිය කරබාගන ඉගනනවා මිස උගන්ව
නනාටවත් පුරුෂයා කෙරෙහි බල පවත්
වනනාටවත් මම ඉඩනාරිමි. මක්නිසාද
13 පලමුකොට ආදම්ද පසුව ඒවද මවනු
ලැබුවාය. ආදම් රැවටුනේ නැත නුමුත්
14 ඒව රැවටී වැරද්දට පැමුනුනාය. එසේ
15 නුමුත් ඔවුන් නුවනිනඤ ඇදහිල්ලෙන්ද
ප්‍රේමයෙනඤ පිරිසිදු සිතිනඤ යුක්තව සිටිත්
නම් දරුවන් වැදීමෙන් ගැලවෙනවා
ඇත.

3. පරිච්ඡේ. කිසිවෙක් සභාවේ නාය
ක තනතුර කැමතිවේනම් ඔහු යහපත්
මෙහෙයක් කැමතිවනෙන්යයි යනු සැ
2 බෑකිමක. එහෙයින් නායකයෙක් වි
සින් නිදෙස්ව එක භාර්‍යාවට ස්වාමිව ප්‍ර
වේසම්ව සංහිඳුන සිත් ඇතුව යහපත්
පැවතුම් ඇතුව ආගන්තුක සත්කාරයට
3 කැමතිව උගන්වන්ට සමර්ථව මද්‍යපාන

යට ඇළුම්නොව ගහගන්නෙක් නොව
කිළුටු වස්තුවට ආශාකාරයෙක් නොව ඉ
වසිලි ඇත්තෙක්ව දබරකාරයෙක් නො
ව ලෝභී නොව තමන්ගේ පවුල හො
4 දින් ආඩුකරන්නෙක්ව සම්පූර්ණ හික්
මීමෙන් තමන් දරුවන් යටත් කරගන්
5 නා තැනැත්තෙක්ව සිටිය යුතුය. යමෙක්
තමන් පවුල ආඩුකරන්ට නොදනීනම්
ඔහු දෙවියන්වහන්සේගේ සභාව ප්‍රවේ
6 සම් කරගන්නේ කොහොමද? ඔහු උඩ
ගුකමෙන් ඉල්ප සාතන් වැටුණු වරදට
නොවැටෙන පිණිස අළුත් ගෝලයෙක්
7 නොවිය යුතුය. නින්දාවෙහිද සාතන්ගේ
මලපතෙහිද නොවැටෙන පිණිස ඔහු වි
සින් පිටත සිටිනතන්ගෙන් යහපතෙක
කියනු ලැබිය යුතුය.
8 එසේම උපස්ථායකයන් විසින් සංසුං
ව දෙබස් නැතුව මද්‍යපානයට ඇළුම්
නොව කිළුටු වස්තු ආශාකාරයන් නො
ව ඇදහිල්ලේ රහස පිරිසිදුවූ සිතින් දැ
9 රිය යුතුය. ඔවුන් පළමුවෙන් පරීක්ෂාක
රනු ලැබ නිදොස්වූවෝනම් උපස්ථායක
10 නිලේ කරත්වා. එසේම ඔවුන්ගේ භා
11 ර්‍ය්‍යාවන් විසින් සංසුංව කේලාම් නොකි
යා ප්‍රවේසම්ව සියල්ලෙහි විශ්වාසව සිටි
12 ය යුතුය. උපස්ථායකයෝ එක එක භා
ර්‍ය්‍යාවට ස්වාමියෝව තමන් දරුවන්ද ත
මන්ගේම ගෙදර වාසීන්ද හොඳ හැටි ආ
13 ඩුකරන්නෝව සිටිත්වා. හොඳ ලෙස උ
පස්ථායක නිලේ කලාහු උතුම්කඃද ක්‍රි
ස්තුස්වහන්සේ කෙරෙහි පවතින ඇදහි
14 ල්ලේ භයනැතිකමද ලබති. මම නො
බෝ කලකින් නුඹ ළඟට එන්නට බලා
15 සිටිමි. නුමුත් බොහෝකල් ප්‍රමාදවූයෙම්
නම් ජීවමානවූ දෙවියන්වහන්සේගේ
සභාවත් සැබෑකමෙහි කණුවත් අත්ති
වාරමත් වැනිවූ දෙවියන්වහන්සේගේ
ගෙයි කෙසේ හැසිරිය යුතුදැයි නුඹ දැ
16 නගන්නා පිණිස මේ කාරණ ලියමි. ඒ
කාන්තයෙන් දේවභක්තියෙහි රහස උ
තුම්වූ කාරණවක. ඒ කෙසේද දෙවිය
න්වහන්සේ මාංසයෙහි ප්‍රකාසවූසේක.
ආත්මයානන්වහන්සේ කරණකොටගෙ
ණ ධර්මිෂ්ඨයෙක් කොට පෙන්වනු ලැ
බූසේක දූතයන් විසින් දක්නා ලැබූසේ
අන්‍ය ජාතීන් අතරේ ප්‍රකාශකරනු ලැබූ
සේක ලෝකයේ අදහනු ලැබූසේක තේ
ජසට ඔසවාගනු ලැබූසේක.

4. පරිච්ඡේ තවද අන්තිම කාලවල
දී සමහරූ ඇදහිල්ලෙන් පහව ගොස්
මුළාකරවන ආත්මයන්ටද යක්ෂයන්ගේ
ඉගැන්වීම්වලටද සිත් යොමුකරන්නෝ
යයි ශුද්ධාත්මයානන්වහන්සේ එළිදරව්
2 ලෙස කියනසේක. ඔවුන් එසේ කරන්
නේ ගිනියම් යකඩයකින් දැවීවාමැනි
සිත් ඇතුව බොරු කියන්නාවූ සරතපා
වා නොගන්ටද සැබෑකම දැන අදහන
3 තැනැත්තන් විසින් ස්තුති දීමෙන් කන
පිණිස දෙවියන්වහන්සේ විසින් මවනල
ද කෑමවලින් වැලකී සිටින්ටද අනාඥා
4 කරන්නාවූ මිනිසුන්ගේ වචාවෙන්ය. නු
මුත් දෙවියන්වහන්සේගේ සියළු මැවිල්
ල යහපත්ය ස්තුති කිරීම් සහිතව ලබන්
නාවූ කොයි දෙයක්වත් එපාකරන්ට යු
5 තු නැත. මක්නිසාද ඒක දෙවියන්වහන්
සේගේ වචනයෙන්ද යාඥාවෙන්ද පිරිසි
6 දු කරණලද්දේය. මේ දේ සහෝදරයන්
ට සිහිකරවන්නේනම් නුඹ ඇදහිල්ලේ
වචනවලින්ද ඉගනගත් හොඳ ගුරුකම්
වලින්ද පුහුණුකරනලද්දවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ යහපත් සේවකයෙක්
7 වෙයි. නුමුත් අසික්ෂිත කථාවන් හා මහ
ළු ස්ත්‍රීන්ගේ ප්‍රබන්ධයන්ද එපාකොට උත්
8 සාහයේ දේවභක්තිය ව්‍යවහාර කරප
නන ශරීරික උත්සාහයෙන් ප්‍රයෝජන
ටිකය දේවභක්තිය මෙලොවටත් පර
ලොවටත් පොරොන්දු ඇතුව සැම දෙ
9 යින්ම ප්‍රයෝජන වේ. මේක සැබෑවූ සි
යළු ආකාරයෙන්ම පිලිගතයුතුවූ කීමක.
10 මේ ගැන අපි වෙහෙස ගෙන නින්දා වි
දිමුව. එසේ විඳිනෙත් අදහන්නවුන් ප්‍ර
ධානකොට සියළු මනුෂ්‍යයන්ගේ ගැල
වුම්කාරවූ ජීවමානවූ දෙවියන්වහන්සේ
කෙරෙහි බලාපොරොත්තුව නිසාය.
11 මේ දේ අනාඥාකොට උගන්වාපන්න.
12 නුඹේ යව්වනකමට කවුරුවත් නින්දා
නොකෙරේවා. නුමුත් කථාවෙනුත් කල්
ක්‍රියාවෙනුත් ප්‍රේමයෙනුත් ආත්මික ගුන
යෙනුත් ඇදහිල්ලෙනුත් පිරිසිදුකමෙ
නුත් අදහන්නාවුන්ට ආදර්ශයක් වෙයන්
13 න. මම එනකල් කියවීමෙන්ද අවවාද දී
මෙන්ද ඉගැන්වීමෙන්ද යුක්තව සිටප
14 නන. වැඩිමහල්ලන්ගේ අත් තැබීමෙන්
අනාගත වචනය හැටියට නුඹට දුන්නා
වූ නුඹ කෙරෙහි පවතින්නාවූ ආත්මික
දීමනාව ව්‍යවහාර නොකොට සිටින්ට
15 එපාය. නුඹේ දියුණුවීම සියල්ලන්ට පෙ

තෙන පිනිස ඒ දේ අභ්‍යාසකරපන්න එ
16 හිම පැවතියන්න. තුබ ගැනද තුබේ ඉ
ගැන්වීම ගැනද ප්‍රවේසම්ව ස්ථිරව සිටප
න්න. එසේ කිරීමෙන් තුබත් තුබෙන්
අහන්නොත් ගලවනු ලබති.

5. පරිච්ඡේ. මහළු කෙනෙකුට තර
වටු නොකොට පියාට මෙන් ඔහුවත්
2 සහෝදරයන්ට මෙන් යෞවනයන්ටත්
මෑනියන්ට මෙන් මහළු ස්ත්‍රීන්ටත් ස
හෝදරීන්ට මෙන් සියළු පිරිසිදුකමින්
යෞවන ස්ත්‍රීන්ටත් අවවාදකරපන්න.
3 අසරනවූ වැන්දඹුවන්ට ගෞරවකරපන්
4 න. යම් වැන්දඹුවකට දරු මුනුබුරෝ
ඇත්නම් ඔවුන් පලමුකොට තමන් ගෙ
දර වාසින්ට භක්තිය පෙන්වා මව්පියන්
ට ප්‍රති උපකාර කරන්නට ඉගනගනිත්
වා. ඒක දෙවියන්වහන්සේගේ ඉදිරියේ
යහපත්වූ පිළිගත යුතුවූ කාරණාවක.
5 කාත් නැත්තාවූ අසරණවූ වැන්දඹුව දෙ
වියන්වහන්සේ කෙරෙහි බලාපොරොත්
තුවෙමින් රෑ දවල් කන්නලව් කිරීම්වලද
6 යාඥාවලද පිහිටා සිටින්නීය. තුමුත් සෙ
ලම් කරණ තැනැත්තී ජීවත්ව සිටිද්දි
7 ම මැරී සිටින්නීය. මොවුන් නිදෝස්වෙ
න පිනිස මේ දේ ගැන අනාඥාකරප
8 න්න. කවරෙක්වත් තමාගේ අයවල්ද
ප්‍රධානකොට තමාගේ පවුලේ අයවල්ද
රක්ෂා නොකරතොත් ඔහු ඇදහිල්ල
අත්ඇර ඇදහිලි නැත්තාට වඩා නරක
9 කෙනෙක්ය. වයසින් හැට අවුරුද්දට
අඩු නැත්තාවූ එකම පුරුෂයෙකුට භා
10 ර්‍යාව සිටියාවූ යහපත් ක්‍රියාවල් කලාය
යි ප්‍රසිද්ධවූ දරුවන් ඇතිකලාවූ ආගන්තු
ක සත්කාර කලාවූ පිරිසිදුවූවන්ගේ පා
ද සේදුවාවූ දුක් විඳිනවුන්ට උපකාර ක
ලාවූ සියළු යහපත් ක්‍රියාවල් කලාවූ වැ
11 න්දඹුව තෝරාගනු ලබාවා. තරුණ වැන්
දඹුවන් තෝරනොගනින්න. මක්නිසා
ද ක්‍රිස්තුස්වහන්සේට විරුද්ධව උඩඟුව ස
12 රණපාවාගෙන තමන්ගේ පලමු විශ්වා
සය අත්ඇර දොසාරෝපනයට පැමිණෙන
ති. තවද ඔවුන් ගෙයින් ගෙට ඇවිද
13 කම්මැලිවෙන්ට ඉගනගනිති. එපමන
කුත් නොව ඔවුන් වාචාලියෝව නුසුදු
සු දේ කථාකරමින් අනුන්ගේ කාරනා
14 සොයන්නියෝද වෙති. දැනටත් සමහ
ර තැනැත්තියෝ පසුබටව සාතන් පස්
15 සේ ගියෝය. එබැවින් යෞවන වැන්ද
ඹුවෝ සරණපාවාගෙන දරුවන් වදන
වාටත් පවුල අඹුකරනවාවත් එදිරිකාර
යින්ට නින්ද කථාකරන්ට අවකාශ නො
16 දෙනවාටත් කැමතිවෙමි. ඇදහිලිවන්
තවූ පුරුෂයෙකුටවත් ස්ත්‍රියකටවත් වැ
න්දඹුවන් ඇත්නම් ඔවුන් ඒ වැන්දඹුවන්ට
උපකාර කරත්වා. සභාව අසරණ වැන්
දඹුවන්ට උපකාර කරන්ට පුළුවන්වන පි
නිස ඒ බර සභාවට නොවේවා.
17 ගොයම් මඩින ගොනාගේ කට නො
බඳින්නැයි කියාද වැඩකරන්නාට තමා
ගේ කුලී ලැබෙන්ට සුදුසුයැයි කියාද ලි
යවිල්ලේ ලියා තිබෙන නිසා යහපත් ලෙ
18 ස අනුශාසනා කරන වැඩිමහල්ලෝද ප්‍ර
ධානකොට වචනයෙහිත් ඉගැන්වීමෙ
හිත් වෙහෙස ගන්නෝද දෙපංගුවක්
ගෞරව ලබන්ට යුතුයයි සිතනු ලබත්වා.
19 දෙතුන් දෙනෙකුගේ සාක්කිය පිට මිස
වැඩිමහල්ලෙකුට විරුද්ධව දොස් පැමිනි
20 මක් පිළිනොගන්න. අනුන් භයවෙනපි
නිස පව්කරනනන්ට සියල්ලන් ඉදිරියේ
21 තරවටු කරපන්න. යුතු විභාගයක් නැතුව
පක්ෂකමින් කිසි දෙයක් නොකර මේ සි
යල්ල පවත්වන්ට දෙවිවූ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේද තෝරාගත් දේව
දූතයන්ගේද ඉදිරියෙහි තුබට අනාඥා
22 කරමි. කිසිවෙක් කෙරෙහි ඉක්මන්ව අත්
නොතබන්න. අනුන්ගේ පාපවලට පඟු
කාරනොවී පිරිසිදුව තමන් රක්ෂාකරග
23 නින්න. මෙතැන් පටන් වතුර පමනක්ම
නොබී තුබේ අජීර්ණය නිසාද නැවත
නැවත පැමිනෙන දුර්වලකම් නිසාද මුද්‍රි
24 කපානය ටිකක් බීපන්න. සමහර මනු
ෂ්‍යයන්ගේ පව් පරීක්ෂා කිරීමට පලමු
වෙන් ප්‍රකාසවේ සමහරුන්ගේ පව් පස්
25 සේ දැනගන්ට ලැබේ. එසේම සමහ
රුන්ගේ යහපත් ක්‍රියා පැහැදිලි ලෙස
ප්‍රකාසවේ. එලෙස නොවෙන ඒවාත් සැ
ඟවී තිබෙන්ට බැරිය.

6. පරිච්ඡේ. දෙවියන්වහන්සේගේ නා
මයටද ගුරුකමටද නින්ද නොපැමිණෙ
න පිනිස වියගහට යටත්වූ යම් පමන වාල්
ළු ඇද්ද ඔවුන් තමන්ගේ ස්වාමිවරු සිය
2 ළු ගෞරවයට සුදුස්සෝයයි සිතත්වා. ත
වද ඇදහිලිවන්තවූ ස්වාමිවරු ඇත්තෝ
ස්වාමිවරු සහෝදරයෝයයි සිතා ඔවුන්
සුළුකොට නොසිතා තමන්ගෙන් ප්‍රයෝ
ජන ලබන්නාවූ ඔවුන් ඇදහිලිවන්ත

ගෙයද ප්‍රේමලත් තැනැත්තෝද වන බැ
වින් ඔවුන්ට වඩා යටහත්ව වැඩකරත්වා.
මේ කාරණා උගන්වා අවවාද කරපනන.
3 කවුරුවත් අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ සුභ වචනවලටද දේ
වභක්තිවූ ගුරුකමටද එකඟ නොව ඊ
ට විරුඬවසයෙන් උගන්වතොත් ඔහු
4 කිසිත් නොදැන ප්‍රශ්නවලින්ද විවාදව
ලින්ද සිත විකලවූ අහංකාර ඇත්තෙක්
වේ. ඊෂ්‍යාවද එදිරිකමද අගුන කීම්ද
නපුරු සිතීම්ද ලාබය දේවභක්තියයි
5 සිතන සැබෑකමෙන් දුරුව දුෂ්ටවූ සිත්
ඇති මනුෂ්‍යයන්ගේ නපුරු තරඟ එ
සින් උපදින්නේය එබඳුවූවන්ගෙන් අ
6 හක්වෙයන්න. අපි ලෝකයට කිසි දෙ
7 යක් ගෙනාවේ නැත. සැබෑවටම එසින්
කිසි දෙයක් ගෙන යන්ටත් අපට බැරි
ය. එබැවින් ලත් පමනකින් සතුටුවීම ස
මග දේවභක්තිය මහත් ප්‍රයෝජන වේ
8 තව්ද කෑම ඇඳිම අපට ඇත්නම් එසින්
9 සතුටුව සිටින්ට යුතුය. නුමුත් වස්තුකා
රයෝ වෙන්ට ආසා ඇත්තෝ පරීක්‍ෂා
වේත් මලපතෙත් මනුෂ්‍යයන් නාස්ති
යේ සහ විනාසයේ ගිල්වනනාවූ අඥාන
වූ ආන්ත්‍රා කරන්නාවූ නොයෙක් ත්‍රිෂ්
10 නාවලත් වැටෙති. වස්තු ත්‍රිෂ්නාව සියළු
නපුරේ මූලය. ඊට සමහරු ලෝභකො
ට ඇදහිල්ලෙන් මූලාව බොහෝ දුක්
නැමති ආයුධවලින් තමන්ම ඇනගත්
11 තෝය. නුමුත් දෙවියන්වහන්සේගේ ම
නුෂ්‍යයාවූ නුඹ මෙසින් දුරුව ධර්මිෂ්ට
කමද දේවභක්තියද ඇදහිල්ලද ප්‍රේම
යද ඉවසීමද මුදුකමද පවත්වාපන්න.
12 ඇදහිල්ලේ යහපත් යුඬයෙන් යුඬකො
ට අනන්ත ජීවනය අල්වාගනිනන. ඊට
නුඹ කැඳවනු ලැබ නොයෙක් සාක්ෂි
කාරයන් ඉදිරියේ හොඳ කීම කියා දුන්
13 නේය. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ පෙනෙනතුරු නුඹ මේ ආඥා
ව කැලලක්වත් වැරැද්දක්වත් නැතුව
රක්‍ෂාකරණ ලෙස සියල්ල ජීවත්කරන්
14 නාවූ දෙවියන්වහන්සේගේ ඉදිරියෙහිත්
පොන්තියුස් පිලාත්ගේ ඉදිරිපිට හොඳ
කීම කියා දුනනාවූ ක්‍රිස්තුස් යේසුස්වහන්
සේගේ ඉදිරියෙහිත් නුඹට අනාඥාකර
15 මි. වාසනාවන්තවූ එකමවූ අධිපතියාන
න්වහන්සේ වන රජුන්ගේ රජවූ ස්වාමිව
රුන්ගේ ස්වාමිවූ එකම අමරනියවූ කිසි
16 වෙකුට ලඟාවෙන්ට බැරි ආලෝකයේ
• වසන්නාවූ කිසි මනුෂ්‍යයෙකු විසින් නුදු
ටුවාවූ දකිනනට බැරිවූ තැනන්වහන්සේ
ඒ පෙනීම නියම කාලවලදී සලස්වන
සේක උන්වහන්සේට ගෞරවයත් සදා
කාල පරාක්‍රමයත් වේවා. ආමෙන්.
17 මේ ලෝකේ වස්තුකාරයෝ උඩඟු
සිත් ඇත්තෝ නොවී අපට සියලු බුත්
තිවිඳින පිනිස බොහෝකොට දෙනනා
වූ ජීවමානවූ දෙවියන්වහන්සේ මිසකර
කී මිස ස්ථිර නැති වස්තුව විස්වාස නො
18 කරන්ට ආඥාකරපනන. තවද ඔවුන් ය
හපත්කම් කරමින් යහපත් ක්‍රියාවලින්
වඩිනවෙන්ටත් ත්‍යාගිවන්තව් බෙද
19 දෙන්ට කැමතිවෙන්ටත් අනන්ත ජීව
නය අල්වාගනනා පිනිස මතු පැමිනෙන
කාලය බලා තමන්ට යහපත් අත්තිවාර
මක් තබාගන්ටත් ඔවුන්ට ආඥාකරපන්
20 න. තිමෝතියස්නි නුඹට බාර දෙනල
ද දේ රක්‍ෂාකොට පිලිකුල්වූ නිෂ්ඵල ක
ථාවල්ද බොරුවෙන් ශාස්ත්‍රයයි කියන
ලද විරුඬවූ ඉගැන්වීම්ද යන මෙසින් දු
21 රුව සිටපනන. ශාස්ත්‍රය අපේයයි ඒ ගැ
න සමහරු කියමින් ඇදහිල්ලෙන් මූලා
වූනෝය. කරුණාව නුඹ සමඟ වේවා.
ආමෙන්.

## ප්‍රේරිතවූ පාවුල් විසින් තිමෝතියස්ට ලියනලද දෙවෙනි පත්‍රය.

1. පරිච්ඡේදය. ක්‍රිස්තුස් යේසුස්වහන්
සේ කෙරෙහි තිබෙන ජීවනයෙහි පො
රොන්දුවේ ප්‍රකාරයට දෙවියන්වහන්සේ
ගේ කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්වහන්
2 සේගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්නම්වූ මා
විසින් ප්‍රිය පුත්‍රවූ තිමෝතියස්ට පියවූ
දෙවියන්වහන්සේගෙන්ද අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද ක
රුණාවත් දයාවත් සමාදානයත් වේවා
ලෙස ලියා එවන වගනම්.
3 මම රෑ දවල් කඩනැතුව මාගේ යාඥා
වලදී නුඹ සිහිකරමින් මුතුන්මුත්තන්

පටන් පිරිසිදු සිතින් මම සේවය කරණ
4 දෙවියන්වහන්සේට ස්තුති කරමි. නුඹේ
කඳුළුද අවංකවූ ඇදහිල්ලද සිහිකොට
සතුටින් සම්පූර්ණවෙන ලෙස නුඹ ද
5 කින්නට ඉතා කැමැත්තෙමි. ඒ ඇදහිල්
ල පළමුකොට ලොයිස්නම් නුඹේ ආත්
තා කෙරෙහිද එවුනිකිනම් නුඹේ මෑ
ණියන් කෙරෙහිද පැවතුනාය. නුඹ තු
ලේත් ඒක පවතිනෙත්යයි සැක නැතුව
6 දනිමි. මාගේ අත් තැබීමෙන් නුඹට ඇ
ති දෙවියන්වහන්සේගේ දීමනාව දිවුනු
7 කරණ හැටියට නුඹට සිහිකරවමි. මක්
නිසාද දෙවියන්වහන්සේ බලයෙනුද ප්‍රේම
යෙන්ද නුවණින්ද යුක්තවූ ආත්මයක්
මිස භයින් යුක්තවූ ආත්මයක් අපට නු
8 දුන්සේක. එබැවින් අපගේ ස්වාමින්ව
හන්සේගේ සාක්ෂිය ගැනවත් උන්වහන්
සේ නිසා හිරකාරයා වන මා ගැනවත්
ලැජ්ජා නොවී සුභාරංචියෙහි දුක්වලට
දෙවියන්වහන්සේගේ බලයෙන් පංගු
9 කාරයෙක් වෙයන්න. උන්වහන්සේ අ
පේ ක්‍රියාවල හැටියට නොව තමන්වහන්
සේගේ නියමයේ හැටියටද ක්‍රිස්තුස් යේ
සුස්වහන්සේ කරනකොටගෙන ලෝක
ය පටන් ගැනීමට පළමුවෙන් අපට දෙ
නලද කරුණාවේ හැටියටද අප ගලවා
10 පිරිසිදුවූ කැඳවීමෙන් කැඳවූසේක. මර
ණය නසා ජීවනයත් අමරණීයභාවයත්
සුභාරංචියෙන් ප්‍රකාශ කලාවූ අපගේ ගැ
ලවුම්කාරවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ පෙනීමෙන් දුන් ඒ කරුණාව එළි
11 දරව්කරණලද්දේය. ඒ සුභාරංචියට මම
ප්‍රකාසකරන්නෙක්ද ප්‍රේරිතයෙක්ද අ
න්‍ය ජාතීන්ට උගන්වන්නෙක්ද කොට
12 නියමකරනු ලැබීමි. ඒ නිසා මේ දේ ඉව
සමි. එසේ නුමුත් මම අදහගත් තැනන්ව
හන්සේ කවර කෙනෙක්ද කියා මම ද
න්නා බැවිනුද මා විසින් උන්වහන්සේට බා
ර දෙනලද දේ ඒ දවස දක්වා රක්ෂාකරන්
ට උන්වහන්සේ සමර්ථ කෙනෙකැයි නි
සැකව දන්නාබැවිනුද ලැජ්ජා නොවෙමි.
13 මගෙන් ඇසූ සුභ ඉගැන්වීම් ක්‍රමය ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි පිහිටුවනලද ඇ
දහිල්ලෙන් සහ ප්‍රේමයෙන් සිහියේ ත
14 බාගනින්න. නුඹට බාරදුන් යහපත් දෙ
ය අප තුලෙහි වසන සුද්ධාත්මයානන්ව
හන්සේගේ ආධාරයෙන් රක්ෂාකරපන්
15 න. පිගෙලුස්ද හර්මොගෙනිස්දඇතුළු
ව ආසියාවෙහි සිටින සියල්ලෝ මගෙන්
16 අහක්ව ගිය බව නුඹ දන්නෙහිය. ඔනේ
සිපොරස් බොහෝ වර මා සැනසූ නි
සාත් මම විලංගුවේ ඉන්නවාට ලැජ්ජා නූ
න නිසාත් ඔහුගේ පවුලට ස්වාමින්වහන්
17 සේ කරුණා කරණසේක්වා. ඔහු රෝ
මයට ආකල බොහෝ උත්සාහයෙන් මා
18 සොයා ගෙන මා ලගට ආයේය. විනිස්ච
ය දවසෙහිදී ස්වාමින්වහන්සේගෙන් ක
රුණාව ලැබෙන මෙන් ස්වාමින්වහන්
සේ ඔහුට කරුණාකරණසේක්වා. ඔහු
එපීසයෙහිදී මට කොපමන සත්කාර ක
ලේදැයි නුඹ හොඳ හැටි දන්නෙහිය.

2. පරිච්ඡ. ඒ නිසා මාගේ පුත්‍රය නු
බ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කරනකො
ටගෙන පවතින කරුණාවෙන් බලවත්
2 ව සිටපන්න. බොහෝ සාක්ෂිකාරයන් ඉ
දිරිපිටදී නුඹ මාගෙන් ඇසූ දේම අනුන්
ට උගන්වන්ට සමර්ථවූ විස්වාසවූ මනුෂ්‍ය
3 යන්ට බාරදීපන්න. නුඹ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ යහපත් හේවායෙක්
4 මෙන් දුක් ඉවසාපන්න. හේවාකම් කර
න්නාවූ කවුරුවත් තමන් හේවාකමට
තෝරාගත් අය සතුටුකරණ පිනිස මේ
ජීවත්වීමේ කර්මාන්තවලට බැඳෙන්නේ
5 නැත. යමෙක් පොර අල්ලනත් ඔහු යු
තු ලෙස පොර නැල්එවොත් මිස ඔටුන්න
6 පලඳිනු නොලැබේ. වෙහෙස ගන්න
ගොවියා පළමුවෙන් ඵල ලබන්ට යුතු
7 ය. මම කියන දේ කල්පනා කරපන්න
ස්වාමින්වහන්සේ සියල්ල ගැන නුඹට
8 තේරුම දෙනසේක්වා. මාගේ සුභාරංචි
යේ ප්‍රකාරයට දාවිත්ගෙන් පැවැත්තාවූ
මලවුන්ගෙන් නැගුටුවනලද්දාවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ සිහිකරපන්න.
9 ඒසුභාරංචිය නිසා නපුරු ක්‍රියා කරන්
නෙක් මෙන් බඳිනු ලැබ දුක් ඉවසමි.
නුමුත් දෙවියන්වහන්සේගේ වචනය බඳි
10 නු නොලැබේ. එබැවින් තෝරාගත්ත
වුන්ට ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙ
හි ඇත්තාවූ ගැලවීම අනන්ත ගෞරව
ය සමග ලැබෙන පිනිස ඔවුන් නිසා මම
11 සියල්ල ඉවසමි. ඉදින් අපි උන්වහන්සේ
සමග මැරෙමුනම් උන්වහන්සේ සමග
12 ජීවත්වමුව. අපි උන්වහන්සේ සමග ඉව
සමුනම් උන්වහන්සේ සමග රජකම් කර
මුව. උන්වහන්සේ එපාකරමුනම් උන්ව
13 හන්සේත් අප එපාකරණසේක. අපි අ
විස්වාසව සිටියත් උන්වහන්සේ විස්වා

සව සිටිනසේක උන්වහන්සේ කිකාරණ
ව වරද්දනතට උන්වහන්සේට බැරිය
14 යන මේ කීම සැබෑවූ කීමය. මේ කාර
ණ සිහිකරවාපන්න. අසන්නවුන්ගේ
සිත් පෙරලෙනවා මිස පලක් නැත්තාවූ
තරග කථාවෙන් වැලකී සිටින්ට ස්වාමි
න්වහන්සේ ඉදිරියේ ඔවුන්ට අණකරප
15 න්න. සැබෑකමේ වචන හොඳ හැටි බෙ
දා දෙන්නාවූ පිලිගන්ට සුදුසුවූ ලැජ්ජ
නොවූ කර්මාන්තකාරයෙක්ව දෙවියන්
වහන්සේ ඉදිරියේ පෙනෙන්ට උත්සා
16 හකරපන්න. නුමුත් පිලිකුල්වූ නිෂ්ඵලවූ
වාචාලකමින් දුරුව සිටපන්න. එසින්
දේවභක්ති නැතිකම බෝවන්නේය
17 ඔවුන්ගේ වචන පිලිකාවක්මෙන් කාව
18 දිනෙන්නේය. මොවුන් අතරෙන් හිමෙනි
යස්ද පිලේතස්ද මලවුන්ගෙන් නැගිටී
ම දැන් පසුගියේයයි කියමින් සැබෑක
මෙන් මුලාව සමහරුන්ගේ ඇදහිල්ල
19 පෙරලති. නුමුත් ස්වාමින්වහන්සේ ත
මන්ගේ අයවල් දන්නාසේක්‍යැයි යන කී
මත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ නාම
ය තමන් පිටට සියල්ලෝ අධර්මිෂ්ඨක
මෙන් දුරුවෙත්වයි යන කීමත් මුද්‍රකො
ට ඇත්තාවූ දෙවියන්වහන්සේගේ අත්ති
20 වාරම ස්ථිරව පවත්නේය· නුමුත් ලොකු
ගෙයක රන් රිදී භාජන පමනක් නො
වලිමැටි භාජනත් ඇත. එසින් සමහර
කට ගෞරව ඇත සමහරකට අගෞර
21 ව ඇත. ඉන්නිසා යමෙක් මේ දෙයින්
තමාම සුධකරගණිනම් ඔහු පිරිසිදුකර
ණ ලද්දාවූ තමාගේ ස්වාමියාට ප්‍රයෝජ
නවත්වූ සියළු යහපත් ක්‍රියාවට සූදානම්වූ
22 ගෞරවයට නියමවූ භාජනයවේ. යෞ
වන වයසේ ආසාවලින් දුරුව පිරිසිදු සි
තින් ස්වාමින්වහන්සේට යාඥාවෙන්න
වුන් සමග ධර්මිෂ්ඨකමත් ඇදහිල්ලත්
ප්‍රේමයත් සමාදානයත් පවත්වාපන්න.
23 නුමුත් මෝඩවූ අඥානවූ ප්‍රශ්නවලින් ද
බර උපදින්නේයයි දැන ඒවා දුරලාපන්
24 න. ස්වාමින්වහන්සේගේ වැඩකාරයා දබ
ර නොකරන්නාවූ සියල්ලන් කෙරෙහි
ගුනවන්තවූ උගන්වන්ට සමර්ථවූ ඉවසි
25 ලිවන්තවූ කෙනෙක්ව සිටගන විරුධව
සිටින්නන් විසින් සැබෑකම ඒත්තුගන්
නා පිනිසද සාතන් විසින් තමාගේ කැ
26 මැත්තෙන් අල්වනලද්දවුන් ඔහුගේ ම
ලපතින් ගැලවෙන පිනිසද දෙවියන්ව
හන්සේ ඔවුන්ට පසුතැවිල්ල දෙනසේක්
දෝ බලමින් මොලොක්වූ ගුනයෙන් ඔ
වුන්ට උගන්වන කෙනෙක්ද වේවා.

3. පරිච්ඡේ. අන්තිම දවස්වලදී උප
ද්‍ර ඇති කාලවල් පැමිනෙනවා ඇතැයි
2 දැනගනින්න. එවිට මනුෂ්‍යයෝ තමන්
ට ස්නේහ කරන්නෝද වස්තුලෝභීහුද
තමන්ම වර්ණනා කරගන්නෝද අහං
කාරීහුද අපහාස කරන්නෝද මව්පියන්
ට කීකරු නොවෙන්නෝද කෙලෙහි
3 ගුන නොදන්නෝද අධර්මිෂ්ඨයෝද ජම්
ම ස්නේහය නැත්තෝද පොරොන්දු කඩ
කරන්නෝද කේලාම් කියන්නෝද තෘෂ්
ණාව මැඩපවත්වා නොගන්නෝද කෲර
යෝද සත්පුරුෂයන්ට අනාදර කරන්
4 නෝද ද්‍රෝහිකම් කරන්නෝද හිතුවක්
කාරයෝද ආඩම්බරකාරයෝද දෙවියන්ව
හන්සේට වඩා සෙල්ලමට ඇළුම්ව සිටින්
5 නෝද දේවභක්තියේ ස්වරූපය දරණ
නුමුත් එහි බලය නැතුව සිටින්නෝද
6 වෙති. එබඳුවන්ගෙන් දුරුවෙයන්න.
තවද ගෙවල්වලට වැද පාපවලින් බර
7 වූ නොයෙක් තෘෂ්ණාවලින් මුලාකරණ
ලද්දාවූ නිතර ඉගනගන්නා නුමුත් කිසි
කලෙකත් සැබෑකම දැනගැම්මට පැමි
ණෙන්ට බැරිවූ අඥාන ස්ත්‍රීන් වාල්කමට
ගෙනයන්නෝ මෙබඳු තැනැත්තන්
8 ගෙන්මය. යන්නෙස් සහ යම්බ්‍රෙස් මෝ
සෙස්ට විරුධව සිටියාක්මෙන් මේ මනු
ෂ්‍යයෝ දුෂ්ට සිත් ඇතිව ඇදහිල්ල තේ
රුම් නොගෙන සැබෑකමට විරුධව සි
9 ටිති. නුමුත් ඔවුන්ගේ අඥානකම සියල්
ලන්ට එලිදරව් උනාසේම මොවුන්ගේ
අඥානකමත් සියල්ලන්ට එලිදරව්වෙන
10 නිසා මොවුන් තවත් දුර නොයති. මා
ගේ ඉගැන්වීමද හැසිරීමද අභිප්‍රායද ඇ
දහිල්ලද ක්ෂාන්තියද ප්‍රේමයද ඉවසිල්ල
11 ද අන්තියෝකියෙහිදීත් ඉකොනියෙහි
දීත් ලිස්ත්‍රායෙහිදීත් මට පැමුනුනු පීඩා
වල්ද දුක්ද නුඹ හොඳ හැටි දන්නේය.
මේ පීඩාවල් මම වින්දෙමි නුමුත් ඒ සි
යල්ලෙන්ම ස්වාමින්වහන්සේ මා ගැලෙව්
12 සේක. තවද ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරෙහි භක්තිය ලෙස හැසිරෙන්ට
කැමති සියල්ලෝම පීඩා විඳිනවා ඇත.
13 නුමුත් දුෂ්ට මනුෂ්‍යයන් සහ රැවටිලිකා
රයෝ රවටමින්නුත් රැවටෙමින්නුත් වැඩිවැ
14 ඩිව දුෂ්ට වෙනවා ඇත. එහෙත් නුඹ ඉ
ගනගත්තාවූ නිසැකව දරන්නාවූ කා

රණ කාගෙන් ඉගනගත්තේදැයි කියාද
15 ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි ඇ
දහිල්ලෙන් ගැලවීම පිණිස නුඹ ඥාන
වන්ත කරන්ට පුළුවන්වූ ශුද්ධ ලියවිලි බා
ල වයසේ පටන් නුඹ දැනගත්තේයයි
16 කියාද දැන එහි පිහිටා සිටපන්න. දෙ
වියන්වහන්සේගේ මනුෂ්‍යයා සියළු ය
හපත් ක්‍රියාවලට හොඳ හැටි සෑදී සම්
17 පූර්ණවෙන පිණිස දේවානුභාවයෙන්
දුන් සියළු ලියවිලි ඉගැන්වීමටද අවවා
දයටද හැසිරීම ශුද්ධකිරීමටද ධර්මිෂ්ටක
මෙහි ගුරුකම් දීමටද ප්‍රයෝජන ඇත.

4. පරිච්ඡේ. එහෙයින් කලටත් අක
ලටත් උත්සාහකර වචනය ප්‍රකාශකො
2 ට සියළු ආකාරයෙන් ඉගැන්වීමේදී බො
හෝ කල් ඉවසීමෙන් තරවටුකොට අව
වාදකොට දැනුමුතුකම් දීපන්නැයි යන
මේ අනාඥාව දෙවියන්වහන්සේගේ ඉදි
රියේදීද ජීවත්වෙන්නන්ට සහ මලවුන්
ටත් තමන්ගේ ප්‍රකාශවීමෙහිදීත් රාජ්‍ය
යෙහිදීත් විනිශ්චය කරන්නාවූ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ඉදිරියේදී
3 ද නුඹට දෙමි. මක්නිසාද මනුෂ්‍යයෝ
ශුභ ඉගැන්වීම දරන්ට අකමැතිව කස
න කන් ඇතුව තමන්ගේම කැමැත්ත
4 ලෙස ගුරුවරුන් රැස්කොට සැබෑකම
ට කන් නොදී බොරු කථාන්තරවලට
සිත් එලඹවති ඒ කාලය පැමිණෙනෙන්
5 ය. එසේ නුමුත් නුඹ සියළු කාරණාවලින්
සිහි ඇතුව සිට දුක් ඉවසා සුභාරංචිය ප්‍ර
කාශ කරන්නෙකුගේ වැඩකොට නුඹේ
6 සේවය සම්පූර්ණකරපන්න. මම දැන් යා
ග කරනු ලබන්ට සෑදී සිටිමි. මාගේ ඉ
7 කුත්වීමේ කාලය ළඟය. මම යහපත් යු
ධයෙන් යුධ කෙළෙමි. මාගේ දිවීම කෙ
ළවර කෙළෙමි. ඇදහිල්ල රක්ෂාකෙළෙ
8 මි. මෙතැන් පටන් ධර්මිෂ්ටකමේ ඔටුන්
න මට තබා තිබෙන්නේය. ඒ දවසෙ
හි ධර්මිෂ්ට නඩුකාරවූ ස්වාමින්වහන්සේ
ඒ ඔටුන්න මටද මට පමණක් නොව උ
න්වහන්සේගේ ප්‍රකාශවීමට ප්‍රියවූ සියල්
9 ලන්ටද දෙනසේක මා ළඟට ඉක්මනින්
10 එන්ට වෑයම් කරපන්න මක්නිසාද දේ
මස් මේ ලෝකයට ආලයව මා හැර තෙ
සලොනීකයට ගියේය. ක්‍රෙස්කෙන්ස් ග
ලාතියටත් තීතස් දල්මාතියටත් ගියෝ
11 ය. ලූක් පමණක් මා සමග සිටින්නේය.
මාර්ක් මාගේ වැඩට ඉතා ප්‍රයෝජන ඇත්
තෙක් බැවින් ඔහු නුඹ සමග කැඳවාග
12 න වරෙන්න. තීකිකස් එපීසයට යැවීමි.
13 ත්‍රෝවාසයෙහි කාපීස් වෙත මම තිබූ උ
තුරු සළුවද පොත්ද ප්‍රධානකොට සම්
පොත්ද නුඹ එනකොට අරගෙන වරෙ
14 න්න. අලෙක්සන්ද්‍ර නම් ලෝකුරුවා මට
නොයෙක් නරක්කම් කළේය ස්වාමින්ව
හන්සේ ඔහුගේ ක්‍රියාවට සුදුසු ඵල ඔහු
15 ට දෙනසේක්වා. ඔහු අතිශයින් අපේ ව
චනවලට විරුද්ධව සිටිය නිසා ඔහුගෙන්
16 නුඹත් ප්‍රවේසම්වෙයන්න. මාගේ පළමු
උත්තර දීමේදී කවුරුවත් මා සමග නො
සිට සියල්ලෝම මා අත්ඇරියෝය. ඒ කා
රණාව ඔවුන්ගේ ගණනට ගන්ට නො
17 යෙද්වා. එසේ නුමුත් සියළු අන්‍ය ජාතීන්
ට අහන්ට පුළුවන්වෙන ලෙසත් සුභාර
ංචිය මා විසින් දේශනාකරණලදුව හො
ඳ හැටි එළිදරව්වෙන ලෙසත් ස්වාමින්ව
හන්සේ මා සමග සිටමට බලය දුන්සේ
ක. මෙසේම මම සිංහයාගේ කටින් ගල
18 වනු ලැබීමි. තවද ස්වාමින්වහන්සේ සෑ
ම දුෂ්ට ක්‍රියාවලින් මා මුදා තමන්ගේ ස්ව
ර්ග රාජ්‍යයට පැමිණෙනතෙක් මා රක්
ෂාකරණසේක. ගෞරවය සදාකල්ම උ
න්වහන්සේට වේවා. ආමෙන්.
19 ප්‍රිස්කාටද අකුලාටද ඔනේසිපොරස්
ගේ ගෙදර වාසීන්ටද ආචාරකරපන්න.
20 එරස්තස් කොරින්තියෙහි සිටියේය.
රෝගාතුරවූ ත්‍රොපිමස් මිලේතයෙහි සි
21 ටින්ට හැරියෙමි. සීත කාලයට පළමු
වෙන් එන්ට වෑයම්කරපන්න. එවුබුලස්
ද පුදෙන්ස්ද ලිනස්ද ක්ලෞදියස්ද සිය
ළු සහෝදරයෝද නුඹට ආචාර කරති.
22 ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ නුඹේ
ආත්මය සමග වේවා. කරුණාව නුඹලා
සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින් තීතස්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. බොරු කියන්ට නුපුළු
වන්වූ දෙවියන්වහන්සේ විසින් ලෝ
2 කයේ පටන්ගැම්මට පළමුවෙන් පො
රොන්දුවූනාවූ අපගේ ගැලවුම්කාර දෙවි
යන්වහන්සේගේ ආඥාව ලෙස මට බාර
දෙනලද තමන්වහන්සේගේ වචනය ප්‍ර
කාශකිරීමෙන් සුදුසු කාලයෙහි එළිද
රව් කරණලද්දාවූ සදාකාල ජීවනයෙහි
3 බලාපොරොත්තුව ගැන දෙවියන්වහන්
සේගේ තෝරාගත්තාවුන්ගේ ඇදහිල්ල
ලෙසද දේවභක්තිය උපදවන්නාවූ සැ
බෑකම දැනගැනීම ලෙසද දෙවියන්වහන්
සේගේ වැඩකාරවූ යේසුස් ක්‍රිස්තුස්ව
4 හන්සේගේ ප්‍රේරිතවූ පාවුල්නම්වූ මා වි
සින් සාමාන්‍ය ඇදහිල්ලේ හැටියට මා
ගේම පුත්‍රවූ තීතස්ට පියවූ දෙවියන්වහන්
සේගෙන්ද අපගේ ගැලවුම්කාර ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද කරුණා
වත් දයාවත් සමාදානයත් වෙන ලෙස
5 ලියා එවන වගනම්. ඉතිරි දේ පිළිවෙ
ළට යොදන පිණිසද මා විසින් ආඥාකළ
ලෙස නුවරක් නුවරක් පාසා වැඩිමහල්
ලන් පත්කරණ පිණිසද නුඹ ක්‍රීතයෙහි
6 සිටින්ට ඇරියෙමි. නිදෝස්වූ එක භාය්‍යා
වට ස්වාමිපුරුෂයාවූ කෝලාහල සහ අ
සික්ෂිතකම ගැන දෝෂාරෝපනය නො
ලත් ඇදහිලිවන්ත පුත්‍රයන් ඇත්තාවූ
තැනැත්තන් වැඩිමහලුන්කොට පත්
7 කළ යුතුය. මක්නිසාද සභාවේ නායක
යෙක් විසින් දෙවියන්වහන්සේගේ ගබ
ඩා ඇමතියෙක් මෙන් නිදෝස්වූ හිතු
වක්කාර නොවූ ඉක්මනට තරහ නො
වෙන්නාවූ බීමත්කාර නොවූ බැට දෙන්
8 නෙක් නොවූ කිළුටු වස්තුවට ආසා නො
කරන්නාවූ ආගන්තුක සත්කාර කරන්ට
කැමතිවූ සත්පුරුෂයන්ට ප්‍රේම කරන්
නෙක්වූ යුතු චාරිත්‍ර ඇති ධර්මිෂ්ඨවූ පිරි
සිදුවූ පමන දන්නාවූ කෙනෙක්ව සිටිය
9 යුතුය. ඔහු යහපත් ඉගැන්වීමෙන් විරු
ඩකාරයින්ට අවවාද කර උත්තර නැති
කරන්ට පුළුවන් කෙනෙක් වෙන පිනි
ස තමාට උගන්වනු ලැබූ ලෙස සැබෑ
වචනය තදින් දරාගන්නෙක්ව සිටිය යු
10 තුය. මක්නිසාද ප්‍රධානකොට චර්මච්ඡේ
දිතයෝ ඇතුළුව හිතුවක්කාරවූ නිෂ්ඵ
ල වචන කියන්නාවූ රැවටිලිකාරවූ බො
හෝ දෙනෙක් සිටිති. ඔවුන්ගේ කට පි
11 යවන්ට යුතුය. ඔවුන් කිළුටු වස්තුවට
ආසාවෙන් නුසුදුසු දේ උගන්වමින් මුළු
12 පවුල් පෙරලති. ඔවුන්ගෙන්ම එකෙක්
වූ අනාගතවක්තෘ කෙනෙක් ක්‍රීත වැසි
යෝ නිතරම බොරුකාරයෝද දුෂ්ට මෘ
ගයෝද කෑදරයෝද වෙතියි කීයේය.
13 මේ සාක්ෂිය සැබෑය එබැවින් ඔවුන් යු
14 දෙව්වන්ගේ බොරු කථාන්තරවලටද සැ
බෑකමෙන් හැරියන මනුෂ්‍යයන්ගේ ආ
ඥාවලටද ඇහුම්කන් නොදෙන පිණිසත්
ඇදහිල්ලේ ස්ථිරව සිටින පිණිසත් ඔවුන්
15 ට තදින් තරවටුකරපන්න. පවිත්‍රයන්ට
සියළු දේම පවිත්‍රවෙයි. එහෙත් කිළුටුවූ
නොඅදහන්නාවූ තැනැත්තන්ට කිසි
වක් පවිත්‍ර නැත. ඔවුන්ගේ සිහියත් හෘ
16 දසාක්ෂියත් කිළුටුය. ඔවුන් දෙවියන්ව
හන්සේ අඳුනමුයයි කියති. නුමුත් ඔවුන්
පිළිකුල්ව අකීකරුව සියළු යහපත් ක්‍රි
යාවල් ගැන තේරුම් නැති තැනැත්
තෝව තමන්ගේ ක්‍රියාවලින් උන්වහන්
සේ එපාකරති.

2. පරිචෙ. නුඹ යහපත් ඉගැන්වීම
2 ට හොබිනා දේ කියාපන්න. මහළු පුරු
ෂයන් විසින් ප්‍රවේසම්ව සංසුංව පමන දැ
නීමෙන් යුක්තව ඇදහිල්ලෙනුත් ප්‍රේම
යෙනුත් ඉවසීමෙනුත් ස්ථිරව සිටින්ට යු
3 තුයයි කියාපන්න. එසේම දෙවියන්වහන්
සේගේ වචනයට නින්දා නොපැමිනෙන
4 පිනිස තරුණ ස්ත්‍රියෝ තමන්ගේ ස්වාමි
පුරුෂයන්ටත් දරුවන්ටත් ස්නේහ ඇතු
ව පමන දැනීමෙන් යුක්තව පිරිසිදුව ගේ
දොර බලාගන්නියෝව යහපත්ව තමන්
ගේ පුරුෂයින්ට කීකරුව සිටින තැ
5 නැත්තියෝ වෙන පිනිස ඔවුන්ට උගන්
වන ලෙස මහළු ස්ත්‍රීන් විසින් භක්තිවන්
තයින්ට සුදුසු ආකාරයෙන් හැසිරෙක්

ලාම් නොකියන්නියෝව බීමත්කාරියෝ
නොව යහපත් දේ උගන්වන්නියෝ
6 වෙන්ටද යුතුයයි කියාපන්න. එසේම
තරුණයන්ට පමන දැනීමෙන් යුක්තව
7 සිටින්ට අවවාදකරපනනා. සියළු යහපත්
දේ ගැන තුබම ආදර්ශයක්ව සිටපනනා.
8 යම් විරුඪකාරයෙක් ඇත්නම් තුබලා ගැ
න කිසි දොෂයක් කියන්ට ඔහුට අවකාශ
නෑර ඔහු ලැජ්ජාවෙන ලෙස තුබේ ඉ
ගැන්වීමෙන් පිරිසිදුකමත් සංසුංබවත්
ඇදනැතිකමත් නිවරදිවූ සාරවූ වචනත්
9 පෙන්වාපනනා. අපගේ ගැලවුම්කාරවූ
දෙවියන්වහන්සේගේ ආගම සියළු කා
10 රණවලදී බබලවන පිනිස එකට එක
නොකියා සොරකම් නොකොට සියළු
හොඳ විශ්වාසකම පවත්වා තමතමන්ගේ
ස්වාමිවරුන්ට යටහත්වෙන්ටද සියළු
කාරණවලින් ඔවුන් සතුටුකරන්ටද වැ
11 ඩකාරයන්ට අවවාදකරපනනා. මක්නි
සාද ගැලවීම දෙනනාවූ දෙවියන්වහන්
සේගේ කරුණාව සියළු මනුෂ්‍යයන්ට ප්‍ර
12 කාශව තිබෙනේය. දේව භක්ති නැ
තිකම සහ ලෞකික තෘෂ්ණා අත්හරින්ට
දපමන දැනීමෙන් යුක්තව ධර්මිෂ්ඨලෙ
සත් භක්තිවන්ත ලෙසත් මේ ලෝක
13 යේ හැසිරෙන්ටද බලාපොරොත්තුවෙ
න වාසනාවන්තකමද මහෝත්තමවූ දෙ
විවූ අපගේ ගැලවුම්කාර යේසුස් ක්‍රිස්තු
ස්වහන්සේගේ තේජවන්තවූ ප්‍රකාශවී
මද බල බලා සිටින්ටද යුතුයයි අපට උ
14 ගන්වනේය උන්වහන්සේ සියළු අධර්මි
ෂ්ඨකමෙන් අප මුදන පිනිසද යහපත් ක්‍රි
යාවලට ලැදිවූ උන්වහන්සේට අයිතික
රගත් සෙනඟක්කොට පවිත්‍රකරගනනා
15 පිනිසද අප උදෙසා තමන්ම පාවාදුන්
සේක. මේ දේ කියා අවවාදකොට සිය
ළු බලයෙන් තරවටුකරපනනා. කිසිවෙ
කුට තුබ හුළුකොට සිතන්ට අවකාශ
නොදෙනනා.

3. පරිච්ඡෙ. ප්‍රධානීන්ට සහ අධිප
තීන්ට යටත්වෙන්ටද නඩුකාරයින්ට කී
කරුවෙන්ටද සියළු යහපත් ක්‍රියාවට සෑ
2 දී සිටින්ටද කිසිවෙකුගේ අගුන නො
කියන්ටද දබරකාරයෝ නොවෙන්ටද
ගුනවන්තව සියළු මනුෂ්‍යයන්ට මො
ලොක් ගුනෙන් පවතින්ටද ඔවුන්ට සි
3 හිකරවාපනනා. අපිත් පළමුවෙන් අඥා
නව අකීකරුව මුලාව නොයෙක් ආකාර
තෘෂ්ණාවන්ටත් කාමයන්ටත් වාල්ව දු
ෂ්ටකම්ද ඊර්ෂ්‍යාවෙද හැසිරෙමින් වෛ
රකරනු ලබමින් අනුන්ට වෛර බදිමින්
4 හැසුරුනෙමුව. නුමුත් අපගේ ගැලවුම්
කාරවූ දෙවියන්වහන්සේගේ දයාවද ම
නුෂ්‍යයන් කෙරෙහි පවතින උන්වහන්
සේගේ ස්නේහයද ප්‍රකාශවූ කල්හි අප
විසින් කල ධර්මිෂ්ඨ ක්‍රියාවලින් නොව
5 තමන්වහන්සේගේ කරුණාව ලෙස නැව
ත ඉපදීම නැමති සේදීමෙන්ද ශුඬාත්ම
යානන්වහන්සේ විසින් අළුත්කිරීමෙන්ද
6 උන්වහන්සේ අප ගැලවූසේක. උන්ව
හන්සේගේ කරුණාවෙන් අපි නිදොස්
කරනුලැබ සදාකාල ජීවනය ගැන බලා
පොරොත්තුව ඉලස උරුමක්කාරයෝ
7 වෙන පිනිස උන්වහන්සේ අපගේ ගැල
වුම්කාරවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ක
රණකොටගෙන ශුඬාත්මයානන්වහන්
සේගේ සේදීම අප කෙරෙහි බොහෝ
සෙයින් වත්කලසේක. මේක සැබෑවූ
8 කීමක්ය. තවද දෙවියන්වහන්සේ කෙ
රෙහි අදහගනනාවූන් යහපත් ක්‍රියා කර
ණ ලෙස බලාගනනා පිනිස මේ කාරණ
තුබ විසින් ස්ථිරලෙස කථාකරණවාට කැ
මැතෙතම්. මේවා මනුෂ්‍යයන්ට යහපත්
9 වූ ප්‍රයෝජන ඇතතාවූ දේවල්ය. නුමුත්
අඥාන ප්‍රශ්ණද කුලගෝත්‍ර ගැන කථා
වල්ද විවාදවල්ද ව්‍යවස්ථාව ගැන විරෝ
ධයද නිෂ්ඵලවූ නිරර්ථකවූ කාරණ බැ
10 වින් ඒවා අත්හැරපනනා. දුර්ලබ්ධිගත්
මනුෂ්‍යයා මුලාවූ සිත් ඇතිව තමාම දො
11 සයට පැමින පව්කරන්නේයයි තුබ දැ
න පළමුවෙනි දෙවෙනි අවවාද දීමෙන්
12 පසු අහක්කරපන්න. මම නිකපොලිස්
නුවර සීත කාලයේ සිටින්ට නියමකර
ගත් නිසා අර්තිමස්වත් තිඛිකස්වත් තු
බ ලඟට එවූකල එහි මා වෙතට එන්ට
13 ඉක්මන්කරපනනා. ව්‍යවස්ථාවේ පඬිතවූ
සේනස්ටද අපොලොස්ටද කිසි හිඟයක්
නොවෙන ලෙස ඔවුන්ට මාගෝපා
14 කාර කරපන්න. තවද අපගේ මනුෂ්‍ය
යොත් නිෂ්ඵල නොවෙන පිනිස ප්‍රයෝ
ජන ලැබෙන යහපත් ක්‍රියා කරන්ට ඉ
15 ගනගනිත්වා. මා සමග සිටින සියල්ලෝ
තුබට ආචාර කෙරෙති. ඇදහිල්ලේ පි
හිටා සිට අපට ස්නේහකරනනන්ට ආ
චාර කරපනනා. කරුණාව තුබලා සියල්
ලන් සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# පිලෙමොන්ට ලියනලද පත්‍රය.

යේසුස් ක්‍රිස්තුස්වහන්සේ නිසා හිර
කාරයෙක්වූ පාවුල්ද සහෝදරවූ තිමෝ
තියස්ද යන අප විසින් අපේ ඉතා ප්‍රිය
2 වූ එක්ක වැඩකරනතාවූ පිලෙමොන්ට
ද ප්‍රියවූ ඇපියාටද අපේ සමගි සේවා
යෙක්වූ ආර්කිප්පස්ටද නුඹේ ගෙදර ස
3 භාවටද අපේ පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගෙන්ද කරුණාවද සමාදානයද වේවා ලෙ
4 ස ලියා එවන වගනම්. ස්වාමිවූ යේසුස්ව
හන්සේ කෙරෙහි නුඹේ ඇදහිල්ලත් සි
යළු පිරිසිදුවූවන් කෙරෙහි නුඹේ ප්‍රේම
5 යත් ගැන අසා නුඹලා කෙරෙහි පවති
න සියළු යහපත් දේ ප්‍රකාසවීමෙන් නු
ඹේ හවුල්වූ ඇදහිල්ල ක්‍රිස්තුස් යේසුස්
වහන්සේගේ ගෞරවයට සඵලවෙනපි
6 නිස මාගේ යාඥාවලදී නුඹ නිතරම සි
හිකරමින් මාගේ දෙවියන්වහන්සේට
7 ස්තුතිකරමි. සහෝදරය නුඹ විසින් පිරි
සිදුවූවන්ගේ හෘදය සනසනු ලබන බැ
වින් නුඹේ ප්‍රේමය නිසා මහත් සන්තෝ
8 සයද සැනසිල්ලද අපට ඇත. ඉන්නිසා
සුදුසු දේ නුඹට අඥාකරන්ට ක්‍රිස්තුස්ව
9 හන්සේගෙන් මට බලය ඇති නුමුත් ම
හළුවූද දැන් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
උදෙසා හිරකාරවූද පාවුල්නම් මම ප්‍රේ
10 මය නිසා නුඹෙන් ඉල්ලා සිටිමි. මම හිර
කාරයෙක්ව සිටිද්දී මට ජනකවූනාවූ මා
ගේ පුත්‍රවූ ඔනේසිමුස් ගැන ඉල්ලා සිටිමි.
11 ඔහු පලමුවෙන් නුඹට අලාභකල නුමුත්
දැන් නුඹටත් මටත් ලාභකරන්නාවූ තැ
12 නැත්තෙක. ඔහු නුඹ ලඟට නැවත එව
මි ඉන්නිසා මාගේ ප්‍රාණය සමානවූ ඔ
13 හු පිලිගනිතන. සුභාරංචිය නිසා බැඳී සි
ටිනනාවූ මට නුඹ වෙනුවෙන් උපස්ථාන
කරණ පිනිස ඔහු මා ලඟ සිටුවාගන්ට
14 කැමතිවීමි. නුමුත් නුඹේ උපකාර බල
යෙන් නොව කැමැත්තෙන් වෙන පිනි
ස නුඹේ අවසර නැතුව මොකවත් ක
15 රන්ට මම කැමතිවුනේ නැත. මෙතැන්
පටන් ඔහු වාලෙක් මෙන් නොව වාලෙ
කුටත් වඩා මට සහ ප්‍රධානකොට ශරීර
යෙහිත් ස්වාමින්වහන්සේ කෙරෙහිත්
16 නුඹට ප්‍රියවූ සහෝදරයෙකු මෙන් සදා
කාලේටම ඔහු නුඹට ලැබෙන පිනිස ඔ
හු නුඹ කෙරෙන් ස්වල්ප කාලයකට අ
17 හක්ව ගියේයයි සිතන්නට පුළුවන. ඉ
තින් නුඹ මා සමාගම්කාරයෙක් කොට
සිතන්නේනම් මා වාගේ ඔහු පිලිගනි
18 නන. ඔහු නුඹට අශුනනක් කොට නුඹට
නයක් ඇත්නම් ඒක මාගේ ගනනට න
19 බාපනන. මම ගෙවමියි කියා පාවුල්නම්
මම මාගේ අතින් ලියමි. එසේ නුමුත් නු
ඹේ ආත්මය පවා මට නය බව නුඹට
20 නොකියමි. සහෝදරය ස්වාමින්වහන්
සේ කෙරෙහි නුඹෙන් මට ලාභ ලැබේ
වා ස්වාමීන්වහන්සේ කෙරෙහි මාගේ හෘද
21 ය සනසාපනන. නුඹ මාගේ ඉල්ලීමට ව
ඩා කරන්නේයයි දැන නුඹේ කීකරුක
22 මෙහි විස්වාස ඇතුව ලිවීමි. නුඹලාගේ
යාඥාවල් නිසා නුඹලා ලඟට එන්ට මට ඉ
ඩ ලැබේයයි බලාපොරොත්තු වෙමි එ
බැවින් මට නවාතැනක් සූදානම්කරපන්
23 න. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ නිසා මා
24 එක්ක බැඳුම් ලැබූ ඒපප්‍රස්ද මාගේ හ
වුල් වැඩකාරවූ මාකිස්ද අරිස්තාකිස්ද
දේමස්ද ලූකස්ද නුඹට ආචාර කෙරෙ
25 ති. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ කරුණාව නුඹලාගේ ආත්ම
ය සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# හෙ බ්‍රෙ ව් ව රු න් ට ලි ය න ල ද ප ත්‍ර ය.

1. පරිච්ඡේදය. ආදි කාලයෙහිදී නො
යෙක් වර නොයෙක් ආකාරයෙන් අනා
2 ගතවක්තෘන් ලවා අපේ පියවරුන්ට ක
ථාකෙරෙව්වාවූ දෙවියන්වහන්සේ මේ
අන්තිම දවස්වලදී තමන්වහන්සේගේ පු
ත්‍රයා ලවා අපට කථාකෙරෙව්සේක. උ
න්වහන්සේ ඒ පුත්‍රයා සියල්ලට උරුමක්
කාරයෙක් කොට පිහිටෙවූසේක උන්ව
හන්සේ කරණකොටගෙන ලෝකවල්
3 ද මැවූසේක. උන්වහන්සේගේ තේජසෙ
හි ප්‍රභාවද උන්වහන්සේගේ ස්වභාවෙ
හි නියම රූපයදවූ ඒ පුත්‍රයානන්වහන්
සේ තමන්ගේ බලවත්වූ වචනයෙන්
සියල්ල ආරක්ෂාකරණසේක. උන්වහන්
සේම අපේ පව්වලින් පිරිසිදුවීමක් සාද
උසස්ථානයෙහි මහෝත්තමයානන්වහන්
4 සේගේ දකුණුපැත්තේ ඉඳගෙන දේව
දූතයන්ගේ නාමයට වඩා උතුම්වූ නාම
යක් උරුමයෙන් ලබාගෙන ඔවුන්ට ව
5 ඩා උතුම්ව සිටිනසේක. එසේම නුඹ මා
ගේ පුත්‍රයාය මේ දවසේ නුඹ ඉපදවීමි
කියාද ඔහුට මම පියෙක් වෙමි ඔහුද ම
ට පුත්‍රයෙක් වන්නේයයි කියාද දේවදූත
යන්ගෙන් කවරෙකුට කොයි කලක දෙ
6 වියන්වහන්සේ කීසේක්ද? ඇරත් උන්
වහන්සේ තමන්ගේ කුළුඳුල් පුත්‍රයා
ලෝකයට ගෙනෙනකල දෙවියන්වහන්
සේගේ සියළු දූතයෝ උන්වහන්සේට
නමස්කාර කෙරෙත්වයි උන්වහන්සේ කි
7 යනසේක. උන්වහන්සේ තමන්වහන්සේ
ගේ දූතයන් පවන් මෙන්ද තමන්වහන්
සේගේ සේවකයන් ගිනිදැලක්මෙන් ක
රණසේකැයි දේවදූතයන් ගැන කියන
8 සේක නුමුත් පුත්‍රයානන්වහන්සේට ක
ථාකරමින් දෙවියන්වහන්ස ඔබගේ සිං
හාසනය සදාකල්ම පවතින්නේය ඔබ
ගේ රාජ්‍යයෙහි ජයකොන්තය ධර්මිෂ්ඨ
9 කමෙහි ජයකොන්තයක. ඔබවහන්
සේ ධර්මිෂ්ඨකමට ප්‍රේමව අධර්මිෂ්ඨ ක
මට අප්‍රියවූසේක. එබැවින් දෙවියන්ව
හන්සේ එනම් ඔබවහන්සේගේ දෙවිය
න්වහන්සේම ඔබවහන්සේගේ සමාගම්
කාරයින්ට වඩා ප්‍රීති නැමති තෙලෙන්
ඔබවහන්සේ ආලේපකලසේකැයි කිය
10 නසේක. නැවතද ස්වාමිනි පටන්ගැම්
මේදී පොලොවෙහි අත්තිවාරම ඔබව
හන්සේ ඇසේක. ස්වර්ගවල් ඔබවහන්
11 සේගේ අතේ කර්මාන්තයවේ. ඒවා විනා
සවෙයි නුමුත් ඔබවහන්සේ පවතිනසේ
ක. ඒ සියල්ල වස්ත්‍රයක්මෙන් පරනවෙ
12 යි. ඔබවහන්සේ ඒ දේවල් වස්ත්‍රයක්
මෙන් අකුලනසේක ඒවා මාරුකරනු ල
බන්නේය. නුමුත් ඔබවහන්සේ වෙනස්
නොවනසේක ඔබවහන්සේගේ වයස
කෙලවරට පැමිනෙන්නේ නැතැයි කිය
13 නසේක. තවද නුඹේ සතුරන් නුඹේ පා
පුටුවක් කරණතුරු මාගේ දකුණුපැත්
තේ ඉඳගනිතැයි දේවදූතයන්ගෙන්
කවරෙකුට කොයි කලක කීසේක්ද?
14 ඔවුන් සියල්ලෝ ගැලවීමෙහි උරුමක්
කාරයින් උදෙසා සේවාකරන පිනිස එ
වනලද සේවක ආත්මයෝ නොවෙද්ද?

2. පරිච්. එහෙයින් අප විසින් ඇ
සූ කාරණා කවදාවත් මතකනැති නො
වෙන පිනිස ඒවා බොහෝසෙයින් සිහි
2 යට ගන්ට යුතුය. මක්නිසාද දේවදූත
යන්විසින් කියනලද වචනය ස්ථිරවීනම්
සියළු වරදවලටත් අකීකරුකම්වලටත්
3 සුදුසු අච්චුව ලැබුනේනම් පලමුවෙන්
ස්වාමින්වහන්සේ විසින් කියනලද්දාවූ උ
න්වහන්සේගේ වචනය ඇසූවන් විසින් අ
පට ස්ථිර කරණලද්දාවූ මෙපන මහත්ගැ
ලවීම අපි නොසලකා සිටියොත් කො
හොම ගැලවෙමුද? මේ ගැන දෙවියන්
වහන්සේ ලකුණුවලින්ද පුදුමවලින්ද නො
යෙක් ආකාර ආශ්චර්යවලින්ද ශුද්ධාත්ම
යානන්වහන්සේගේ දීමවලින්ද තමන්ව
හන්සේගේ කැමැත්ත ලෙස ඔවුන් සම
5 ග සාක්ෂි දුන්සේක. ඇරත් අපි යම් ලෝ

කයක් ගැන කථාකරමුද මතු විය යුතුවූ
ඒ ලෝකය දේවදූතයන්ට යටත් නො
6 කලසේක. නුමුත් එක්කෙනෙක් එක්
තැනක සාක්ෂි දෙමින් ඔබවහන්සේ වි
සින් මනුෂ්‍යයා සිහිකරණ පිනිසද මනු
ෂ්‍ය පුත්‍රයා දෙස බලන පිනිසද ඔහු මො
7 කෙක්ද? ඔබවහන්සේ ඔහු ටික කලක
ට දේවදූතයන්ට වඩා අඩුතරමට පමු
නුවා තේජසද ගෞරවයද නැමති ඔටු
නොතන් ඔහු පලඳවා ඔබගේ සියළු ක
ර්මාන්තය අඩුකිරීමට ඔහු පත්කොට සි
යල්ලම ඔහුගේ පාදවලට යටත්කලසේ
8 නැයි කීය. උන්වහන්සේ සෑම දේම ඔහු
ට යටත්කල බැවින් යටත් නොකල කි
සි දෙයක් නැත නුමුත් සෑම දේම ඔහු
ට යටත්කලබව තවම අපට පෙනෙන්
9 නේ නැත. නුමුත් දෙවියන්වහන්සේගේ
කරුණාවෙන් සියළු මනුෂ්‍යයන් උදෙ
සා මරණ රසය විඳින පිනිස ටික කලක
ට දේවදූතයින්ට වඩා අඩුතරමට පමුනු
වනලද යේසුස්වහන්සේ මරණය ඉවසූ
බැවින් තේජසද ගෞරවයද නැමති ඔ
ටුනොතන් පලඳවනු ලැබූ බව දකිමුව.
10 යම් කෙනෙක් නිසාද යම් කෙනෙක්
කරණකොටගෙනද සියළු දේ පවතීද
උන්වහන්සේ විසින් නොයෙක් පුත්‍රයන්
තේජසට ගෙනයනකල ඔවුන්ගේ ගැල
වීමේ ප්‍රධානියා දුක්විඳීමෙන් සම්පූර්ණ
11 සම්පූර්ණයෙක් කලයුතුය. එබැවින් පිරිසිදු
කරන්නාද පිරිසිදු කරනු ලබන්නෝද
එක සවභාවේය. ඒ කාරණාව නිසා උන්
වහන්සේ ඔවුන්ට සහෝදරයෝයයි කි
12 යන්ට ලැජ්ජා නැත. එලෙසම උන්ව
හන්සේ කථාකරමින් මම මාගේ සහෝ
දරයන්ට ඔබවහන්සේගේ නාමය දන්
වම් සභාව මැද ඔබවහන්සේට ස්තුති
13 ගීතිකා කියම්යි කීසේක. නැවතද මම
උන්වහන්සේ කෙරෙහි විශ්වාස කෙරෙ
මියි කීසේක. නැවතද මාත් දෙවියන්ව
හන්සේ විසින් මට දෙනලද දරුවනුත්
14 බලාපල්ලායයි කීසේක. එහෙයින් මර
ණ බලය ඇත්තාවූ යක්ෂයා මරණයෙන්
15 විනාශ කරණ පිනිසද මුළු ජීවිතයෙහිම
මරණ භයට වාල්ව සිටියවුන් ගලවන පි
නිසද දරුවන් ලේ මස් ඇතිව සිටිසේම
උන්වහන්සේත් එම ආකාර ලේ මස් ඇති
16 ව සිටිසේක. උන්වහන්සේ සැබෑවටම
දේවදූතයන් අල්ලා නොගෙන ආබ්‍රහම්
ගෙන් පැවත එන්නන් අල්ලාගත්සේක.
17 එබැවින් උන්වහන්සේ දෙවියන්වහන්
සේට අයිතිවූ කාරණ ගැන දයාවන්තවූ
විශ්වාසවූ නායක පූජකයෙක් වෙන පි
නිසද මනුෂ්‍යයන්ගේ පව් දුරලන සතුටු
කරණ යාගයක් වෙන පිනිසද සියළු දෙ
සින්ම තමන්ගේ සහෝදරයන්ට සමා
18 නවෙන්ට යුතුය. ඇරත් උන්වහන්සේ
පරීක්ෂාවට පැමින දුක් වින්ද බැවින් පරී
ක්ෂාවට පැමිනෙනනන්ට පිහිටවෙන්ට
උන්වහන්සේට පුළුවන.

3. පරිච්ඡේ. එහෙයින් ස්වර්ගීයවූ කැ
දවීමෙහි පංගුකාරවූ පිරිසිදුවූ සහෝදර
යෙනි අපේ ආගමේ ප්‍රේරිතද නායක පූ
ජකදවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ සිහි
2 කරපල්ලාය. මෝසෙස් දෙවියන්වහන්
සේගේ මුළු පවුලේ විශ්වාසව සිටිසේම
උන්වහන්සේද තමන් නියමකල දෙවි
3 යන්වහන්සේට විශ්වාසව සිටිසේක. පවු
ලට වඩා පවුල පිහිටෙව් කෙනෙක් උ
තුම්වන්නාක්මෙන් මුන්වහන්සේ මෝ
සෙස්ට වඩා ගෞරවය ලැබියයුතු කෙ
4 නෙක මක්නිසාද සියළු පවුල්ම කව
රෙක් විසින් නුමුත් පිහිටුවනලද්දේය
එහෙත් සියල්ලම පිහිටුවේ දෙවියන්ව
5 හන්සේමය. සැබෑවටම මෝසෙස් මතු
කියන්නාට තිබුනු දේ ගැන සාක්ෂිදෙන
පිනිස දෙවියන්වහන්සේගේ මුළු පවුලේ
සේවකයෙක් මෙන් විශ්වාසව සිටියේය.
6 නුමුත් ක්‍රිස්තුස්වහන්සේ උන්වහන්සේ
ගේ පවුලෙහි පුත්‍රයෙක් මෙන් වන
සේක. අපි අන්තිමය දක්වා විශ්වාසය
ද ප්‍රීතියෙන් යුක්තවූ බලාපොරොතුවද
ස්ථිරකොට දරමුනම් උන්වහන්සේගේ
7 පවුල වෙමුව. එබැවින් ශුද්ධාත්මයානන්ව
හන්සේ මෙසේ කියනසේක් අද දවසේ
නුබලා උන්වහන්සේගේ ශබ්දය අසන්
8 ට කැමතිනම් වනාන්තරයේදී උදහස් ඉප
දවීමේද පරීක්ෂාකිරීමේද දවසේ මෙන්
නුබලාගේ සිත් තදකර නොගනිල්ලාය.
9 නුබලාගේ පියවරු එහිදී මා පරීක්ෂාකො
ට විමසා හතලිස් අවුරුද්දක් මාගේ ක්‍රි
10 යාවල් දුටුවෝය. ඒ කාරණායෙන් මම
ඒ වර්ගය කෙරෙහි අප්‍රසන්නව ඔවුන්
මාගේ මාර්ගයන් නොසලකමින් නිතර
11 ම හෘදයෙන් මුලාවෙන බැවින් ඔවුන් මා
ගේ නිවාඩුවට නොපැමිනෙතියි මාගේ
12 උදහසෙන් දිව්ලෙමියි කීසේක. එබැ
වින් සහෝදරයෙනි ජීවමානවූ දෙවි

යන්වහන්සේ කෙරෙන් අහක් යන්නාවූ
ඇදහිලි නැත්තාවූ නපුරු සිතක් තුඹලා
අතරෙන් යමෙකුට නොතිබෙන පිනිස
13 බලාගනිල්ලාය. තුඹලාගෙන් යමෙක්
පාපයෙහි රැවටිල්ලෙන් දැඩිනොවෙන
පිනිස අද දවසයයි කියනකල්හි දවස්
පතාම ඔවුනොවුන්ට අවවාදකරපල්ලා
14 ය. මක්නිසාද අද දවසේ තුඹලා උන්
හන්සේගේ සැබ්දය අසන්ට කැමතිනම්
උදහස් ඉපදවීමේදී මෙන් තුඹලාගේ
සිත් තදකර නොගනිල්ලායයි කියා ති
15 බෙන හැවියට අපේ පටන්ගත් විශ්වාස
ය අන්තිමය දක්වා ස්ථිරකොට දරමුනම්
ක්‍රිස්තුස්වහන්සේගේ පවුලේ පංගුකාර
16 යෝ වෙමුව. එහෙත් සමහරු ඇසූකල්
හි උදහස් ඉපදෙව්වෝය තුමූත් මෝ
සෙස් විසින් මිසරයෙන් ගෙනයනලද සි
17 යල්ලෝම නොවෙති. එහෙත් උන්වහන්
සේ හතලිස් අවුරුද්දක් උදහස්ව සිටියේ
කා සමගද? පව්කලාවූ වනාන්තරයෙහි
මලමිනී දමනලද්දාවූ ඔවුන් සමග නො
18 වේද? තවද ඔවුන් මාගේ නිවාඩුවට
නොපැමිණෙතියි කා ගැන දිව්ලසේක්
ද ඇදහිලි නැත්තන් ගැන නොවේද?
19 මෙසේ ඇදහිලි නැතිකම නිසා නිවාඩු
වට පැමිණෙන්ට ඔවුන්ට බැරිවූන බව
මෙයින් අපට පෙනෙන්නේය.

4 පරිච්ඡ. එබැවින් උන්වහන්සේ
ගේ නිවාඩුවට පැමිනීම ගැන පොරෙ
න්දුවක් අපට තිබෙද්දී තුඹලාගෙන් ක
වරෙක්වත් ඒ නිවාඩුවට නොපැමිණේ
2 දැයි කියා භයවෙමුව. ඔවුන්ට මෙන්
අපටත් හොඳ ආරංචියක් ප්‍රකාශකරණ
ලද්දේය. තුමූත් ඔවුන් විසින් ඇසූ වච
නය ඇදහිල්ලෙන් යුක්තව නැසූහෙ
යින් ඔවුන්ට ප්‍රයෝජන ලැබුණේ නැත.
3 තුමූත් ඇදහිලි කලාවූ අපි උන්වහන්
සේගේ නිවාඩුවට පැමිණෙමුව. තවද
ඔවුන් මාගේ නිවාඩුවට නොපැමිණෙති
යි මාගේ උදහසින් දිවුලෙමියි උන්වහන්
සේ විසින් කියා තිබෙන්නේය තුමූත්
ලෝකය මැවූකල උන්වහන්සේගේ ක
4 ර්මාන්තය තීන්දුකරණලද්දේය. මක්නි
සාද උන්වහන්සේ එක් තැනක සත්වෙනි
දවස ගැන කථාකරමින් දෙවියන්වහන්
සේ සත්වෙනි දවසේදී තමන්වහන්සේ
ගේ සියළු කර්මාන්තවලින් නිවාඩු ගත්
5 සේකැයි කීසේක. නැවතත් මාගේ නිවා
ඩුවට ඔවුන් නොපැමිණෙතියි මේ ගීතී
6 කාවෙහි කියා තිබෙන්නේය. තවද ඒ
නිවාඩුවට පැමිණෙන්ට සමහරුන්ට ඕ
නෑව තිබෙන තුමූත් පලමුකොට හො
ඳරංචිය යමෙකුට ප්‍රකාසකරණලද්දද ඔ
වුන් ඇදහිල්ල නැතිකම නිසා එහි නො
7 පැමුණුනෝය. නැවතත් උන්වහන්සේ
බොහෝ කලකින් පසු අද දවසැයි කි
යමින් එක දවසක් නියමකොට අද දව
සේ තුඹලා උන්වහන්සේගේ ශබ්දය අ
සන්නාට කැමතිනම් තුඹලාගේ සිත් දැ
ඩිකර නොගනිල්ලායයි දාවිත් ලවා කිය
8 වූසේක. යෝෂුවා ඔවුන්ට නිවාඩුව දුන්
නේනම් ඉන්පසු උන්වහන්සේ වෙන දව
සක් ගැන කථාකරන්ට කමක් නැත.
9 එබැවින් දෙවියන්වහන්සේගේ සෙන
10 ගට නිවාඩුවක් ඉතුරුව ඇත. මක්නිසා
ද දෙවියන්වහන්සේ තමන්ගේ කර්මාන්
තවලින් නැවතුනු ලෙස නිවාඩුවට නො
පැමිණෙන තැනැත්තාද තමන්ගේ ක
11 ර්මාන්තවලින් නැවතුනෝය. එබැවින්
ඒ ඇදහිලි නැතිකමේ ආදර්ශය ලෙස කි
සිවෙක් නොවැටෙන පිනිස ඒ නිවාඩුව
12 ට පැමිණෙන්ට උත්සාහ කරමුව. මක්
නිසාද දෙවියන්වහන්සේගේ වචනය ජී
වමානය බලසම්පන්නය දෙමුවහත් ක
ඩුවකට වඩා සියුම් මුවහත්ය. ප්‍රාණය හා
ආත්මයේද සන්ධි හා නහරවලද විනිවි
ද ගොස් වෙන් වෙන් කරන්නේය. හි
තේ සිතිවිලිද කල්පනාවල්ද මනාකො
13 ට එළිදරව්කරන්නේය. උන්වහන්සේ
ගේ ඉදිරිපිට ප්‍රකාශ නොවූ කිසි මැවිල්
ලක් නැත. එහෙත් අපේ ගනන්ගන්
නාවූ උන්වහන්සේගේ ඉදිරිපිට වැස්මක්
නැතුව සියළු දේම ඇරී තිබෙන්නේය.
14 එබැවින් ස්වර්ගයට ගියාවූ දෙවියන්ව
හන්සේගේ පුත්‍රවූ යේසුස් නම් මහෝත්
තම නායක පූජකයෙක් අපට සිටින නි
සා අපේ ඇදහිල්ල තදින් අල්වාගනි
15 මුව. මක්නිසාද අපේ දුර්වලකම ගැන අ
නුකම්පා කරන්නට නුපුළුවන්වූ නායක
16 පූජකයෙක් අපට ඇත්තේ නැත. උන්
වහන්සේට කිසි පාපයක් නැති තුමූත් සි
යළු ආකාරයෙන් අප සේම පරීක්ෂාකර
නු ලැබූසේක. ඉන්නිසා අපි දයාබරකම
ද ඕනෑ කාලයේ සුදුසු පිහිටවීමට කරු
ණාවද ලබන පිනිස භය නැතුව කරු
ණාසනයට ලංවෙමුව.

5. පරිච්ඡෙ. මනුෂ්‍යයන් අතරෙන් ග
න්නා සියළු නායක පූජකයෝ දැනවල්ද
පව් නසන යාගවල්ද පූජාකරණ පිනිස
දෙවියන්වහන්සේට අයිති කාරණාවල්
ගැන මනුෂ්‍යයන් උදෙසා නියමකරනු
2 ලබති. ඔවුන් දුර්වලකමින් යුක්තව සිටි
න බැවින් අඥානයන්ටත් මංමුලා වෙන්
3 නන්ටත් අනුකම්පාකරන්ට හැකිවෙති
ඒ දුර්වලකම නිසා සෙනගගේ සහ ත
මුන්ගේද පව් නසන පිනිස ඔවුන් විසින්
4 පූජා කටයුතුය. තවද දෙවියන්වහන්සේ
විසින් ආරොන් මෙන් කැඳවනලද්දෙක්
මිස කවුරුවත් ඒ ගෞරවය තමාටමනො
5 ගන්නේය. එසේම ක්‍රිස්තුස්වහන්සේ
නායක පූජක වෙන්ට පිනිස තමන්ටම
ගෞරවය නොගත්සේක නුමුත් නුඹ මා
ගේ පුත්‍රයාය මම අද නුඹ ඉපදෙව්මියි කී
වාවූ තැනන්වහන්සේ ඒ ගෞරවය දුන්
6 සේක, ඇරත් වෙන තැනෙක මල්කිස
දෙක්ගේ පිලිවෙලින් සදාකල්ම නුඹ පූ
7 ජකයායයි උන්වහන්සේ කීසේක. උන්ව
හන්සේ මාංසයෙන් යුක්තව සිටි දවස්ව
ලදී මරණයෙන් ගලවන්නට පුළුවන්වූ
තැනන්වහන්සේට මහත් හඬිනුත් කඳු
ලෙනුත් යාඥාවිම් සහ කන්නලව් කිම්
8 නැමති පූජාවක් පුදා අභය ලැබූසේක. උ
න්වහන්සේ පුත්‍රවන නුමුත් ඉවසූ දුකින්
9 කීකරුවෙන්ට ඉගනගෙන සම්පූර්ණක
මට පැමින උන්වහන්සේට කීකරුවෙන්
නාවූ සියල්ලන්ටම සදාකාල ගැලවීමේ
10 කාරකවූසේක. ඇරත් මල්කිසෙදෙක්ගේ
පිලිවෙලින් නායක පූජකයයි දෙවියන්ව
හන්සේ උන්වහන්සේට නම් තැබූසේක.
11 මල්කිසෙදෙක් ගැන බොහෝ දේ කියන්
නට අපට ඇත. නුමුත් නුඹලා ඇසිමට අ
ලස බැවින් ඒ දේ කියාදෙන්ට අමාරුය.
12 මක්නීසාද නුඹලා ගුරුවරයෝ වෙන්ට
දැනට කල් හරිය නුමුත් දෙවියන්වහන්
සේගේ වචනයේ මුල් කාරණා මොනවා
දැයි නැවතත් නුඹලාට උගන්වන්ට නිසි
ව තිබෙනේය. තවද නුඹලා තද කෑ
මකනොකා නොව කිරි බොනතට ඕනෑ
13 කම් ඇති අයවල්ව සිටිති. කිරි බොන
14 සියල්ලෝම ළදරු බැවින් ධර්මිෂ්ඨකමේ
වචනයෙහි අසමර්ථයෝය නුමුත් යහප
ත අයහපත දැනගන්ට පුරුදුවූ සිත් ඇ
ති වයස් සම්පූර්ණවූවන්ට තද කෑම සු
දුසුය.

6. පරිච්ඡෙ. ඉන්නිසා මරණය උපද
වන ක්‍රියාවල් ගැන පසුතැවිලිවීමද දෙ
2 වියන්වහන්සේ කෙරෙහි ඇදහිල්ලද බව්
තීස්මය ගැනත් අත් තැබීම ගැනත් ම
ලවුන්ගේ නැගිටීම ගැනත් සදාකාල වි
නිශ්චය ගැනත් ඉගැන්වීමද නැමති අ
ඩිතාලම නැවත නොතබා ක්‍රිස්තුස්වහන්
සේගේ ආගමේ මුල් කාරණා පසුකොට
3 සම්පූර්ණවීමට පැමිනෙමුව. දෙවියන්ව
හන්සේ අවසර දුන්සේක්නම් අපි මේ
4 ක කරමුව: මක්නිසාද වරක් ආලෝකය
ලැබූවාවූ ස්වර්ගීය දීමනාවේ රසය වින්
දවූ සුද්ධාත්මයානන්වහන්සේගෙන් ලැ
5 බූ ආනුභාවට පංගුකාර වූනාවූ දෙවියන්
වහන්සේගේ යහපත් වචනයේ සහ අ
නාගත ලෝක බලයෙහි රස විඳිවූ තැ
නැත්තෝ එසින් වැටී පහව ගියෝනම්
6 ඔවුන් පසුතැවිල්ලට පමුනුවන්ට නුපුළු
වන. මක්නිසාද ඔවුන් දෙවියන්වහන්
සේගේ පුත්‍රයා තමන් කෙරෙහි දෙ
වනුත් කුරුසියෙහි ඇනගසා ප්‍රකාශ
7 යෙන් නින්දාකරති. මෙසේ නොයෙක්
වර වහින වතුර උරමින් වවන්නාන්ට
කෑමට සුදුසු හෝග අටගන්වනනාවූ පො
ලොව දෙවියන්වහන්සේගෙන් ආශිර්වාද
8 ලබන්නේය. නුමුත් කටු ගස් සහ ගො
කටුද අටගන්වනනාවූ පොලොව අත්අ
රිනු ලැබ සාපයට ළංව කෙලවරදී දව
9 නු ලැබේ. ප්‍රේමවන්තයෙනි අපි මෙසේ
කියන නුමුත් නුඹලා ගැන යහපත්වූ ගැ
ලවීමට එකඟවූ දේ සැක නැතුව සිතමු
10 ව. නුඹලා පිරිසිදුවූවන්ට කලාවූද දුන්
කරනනාවූද සත්කාරයෙන් නුඹලා වි
සින් දෙවියන්වහන්සේගේ නාමයට පෙ
න්වන ප්‍රේමය සහ වෙහෙසය නොසල
කන්ට දෙවියන්වහන්සේ අධර්මිෂ්ට නො
11 වනසේක. තවද බලාපොරොත්තුවේ
සම්පූර්ණවීමට පැමිනෙන පිනිස නුඹලා
සියල්ලෝම කෙලවර දක්වා එම උත්
12 සාහය පෙන්වමින් කම්මැලි නොව ඇ
දහිල්ලෙන්ද ඉවසිල්ලෙන්ද පොරොන්දු
වල උරුමක්කාරයන්ගේ පස්සේ යන්
නෝව සිටින්නම් ඊට අපි කැමැත්තෙමු
13 ව. තවද දෙවියන්වහන්සේ ආබ්‍රහම්ට
පොරොන්දුව දුන් කල්හි තමන්ට වඩා
උතුම් කෙනෙක් ගැන දිවුරන්ට නුපුළු
14 වන් බැවින් තමන් ගැනම දිවුරමින් සැ
බැවට ආශිර්වාදයෙන් නුඹට ආශිර්වාද
කෙරෙමි වැඩිකිරීමෙන් නුඹ වැඩිකරමි

15 යි කියේක. ආබ්‍රහම් ඉවසමින් සිටිය පසු
16 පොරොන්දු ලබාගත්තේය. සැබැවට ම
නුෂ්‍යයෝ උතුම් කෙනෙකක් ගැනම දිවු
රති ස්ථිරකරණ දිවුරුමෙන් සියළු විවා
17 ද නිවුනුවේ. ඒ නිසා දෙවියන්වහන්සේ
පොරොන්දුවෙහි උරුමක්කාරයින්ට තු
මන්වහන්සේගේ අභිප්‍රායෙහි ස්ථිරකම
විස්තරලෙස පෙන්වන්ට කැමතිව දිවු
18 රුමකින් ඒක ස්ථිරකලසේක. වෙනස්
වෙන්ට බැරිවූ යම් කාරණ දෙකක් ගැ
න දෙවියන්වහන්සේ බොරු කියන්ට
නොහැකිවනසේක්ද අප ඉදිරියේ තබ
නලද බලාපොරොත්තුව අල්ලාගෙන ආ
රක්‍ෂාවෙන්ට දිව්වාවූ අපට ඒ කාරණ
දෙකින් මහත් සැනසිල්ලක් ලැබෙන
පිනිස උන්වහන්සේ මෙසේ කලසේක.
19 ඒ බලාපොරොත්තුව ප්‍රාණයට නිශ්චල
වූ ස්ථිරවූ තිරයේ ඇතුලට ගෙනයනු ලැ
20 බුවාවූ නැංගුරමක් මෙන් අපට ඇත අ
ප උදෙසා ඉස්සරව යන්නාවූ යේසුස්ව
හන්සේ මල්කිසදෙක්ගේ පිලිවෙලින්
සදාකල්ම නායක පූජකයෙක්වී ඒ තිර
යේ ඇතුලට පැමිනුනුසේක.

7. පරිච්ඡෙ. තවද සාලමෙහි රජවූ
මහෝත්තම දෙවියන්වහන්සේගේ පූජ
කයෙක්වූ මෙකී මල්කිසදෙක් ආබ්‍රහම්
රජුන් මැරීමෙන් හැරී එනකල ඔහුගේ
පෙරමගට ගොස් ඔහුට ආශිර්වාදකෙලේ
2 ය. ආබ්‍රහම්ද සියල්ලෙන් ඔහුට දසයෙන්
කොටසක් දුනේය. පලමුවෙනුව ඔහු
ගේ නාමය අර්ථ වශයෙන් ධර්මිෂ්ඨකමේ
රජය. දෙවනුව ඔහු සමාදානයේ රජයයි
3 අර්ථ ඇති සාලමෙහි රජ්ජුරුවෝය. තව
ද පියාවත් මව්වත් පෙලපතවත් දවසව
ල පටන්ගැම්මකවත් ජීවිතයෙහි කෙලව
රකවත් නැත්තාවූ ඔහු දෙවියන්වහන්සේ
ගේ පුත්‍රයා සමානව නිතරම පූජකයෙ
4 ක සිටින්නේය. එබැවින් කොල්ලගත්
දේවලින් දසයෙන් කොටස කුලජ්‍යෙෂ්ඨ
වූ ආබ්‍රහම්ගෙන් පවා ලැබූ මොහු කො
පමන උතුම් කෙනෙක්දැයි කල්පනාක
5 රපල්ලාය. ඇරත් ලෙවීගේ පුත්‍රයන් අ
තරෙන් පූජක තනතුර ලබන්නෝ ව්‍යා
වස්ථාව ලෙස සෙනගගෙන් එනම් ආබ්‍ර
හම්ගෙන් පැවතාවාවූ තමන්ගේ සහෝ
දරයන්ගෙන් දසයෙන් කොටසක් ගන්
6 ට ආඥාව ඇතුව සිටිති. නුමුත් ඔවුන්
ගෙන් පැවත නාවාවූ ඔහු පොරොන්දුවි
මවල් ඇත්තාවූ ආබ්‍රහම්ගෙන් දසයෙන්
කොටසක් ලැබ ඔහුට ආශිර්වාද කෙලේ
7 ය. ඇරත් අඩුතරම් තැනැත්තාට වැඩිත
රම් තැනැත්තාගෙන් ආශිර්වාද ලැබෙන්
8 ට යුතුය. ඒට විරුඩ කථාවක් නැත. ත
වද නසින මනුෂ්‍යයෝ මෙහිදී දසයෙන්
කොටස ගනිති නුමුත් ජීවත්වෙන බව
ට සාක්ෂි ලැබූ තැනැත්තා එහිදී ඒ දේ
9 ලබන්නේය. මල්කිසදෙක් ආබ්‍රහම්ගේ
10 පෙරමගට ගියකල ලෙවී තමන්ගේ මු
ත්තා වන ආබ්‍රහම්ගේ තුනටියෙහි සිටි
යේය ඒ නිසා දසයෙන් කොටස ලබන්
නාවූ ඔහු ආබ්‍රහම් ලවා දසයෙන් කො
11 ටස දෙවූයේයයි කියන්ට පුළුවන. ලෙ
වීගේ පූජකකමෙන් සෙනග ව්‍යවස්ථාව
ලැබූ නිසා එයින් සම්පූර්ණකම ඇතොත්
වීනම් ආරොන්ගේ පිලිවෙලින් නොව
මල්කිසදෙක්ගේ පිලිවෙලින්යයි කියන
වෙන පූජකයෙක් ඇතිවෙන්ට කාම මො
12 කද? පූජක තනතුරු වෙනස්වූ බැවින්
13 ව්‍යවස්ථාවද වෙනස්විය යුතුය. මක්නිසා
ද යමෙක් ගැන මේ දේ කියනලද්දේද
ඒ තැනැත්වහන්සේ වෙන ගෝත්‍රයකට
අයිතිවනසේක. ඒ ගෝත්‍රයෙන් කිසි
වෙක් පූජාසනය ලග සේවය නොකෙලේ
14 ය. තවද මෝසෙස් විසින් පූජක තනතු
ර ගැන කිසිවක් නොකියනලද යූදා
ගේ ගෝත්‍රයෙන් අපගේ ස්වාමින්වහන්
15 සේ උපන් බව පැහැදිලිය. ඇරත් මල්
කිසදෙක්ගේ පිලිවෙල ලෙස අන් පූජ
කයෙක් පහලවෙන බව බොහෝසෙ
16 යින් පැහැදිලිව පෙනෙන්නේය. ඒ පූ
ජකයා මාංසිකවූ පනත ලෙස නොව ස
දාකාල ජීවනයේ බලය ලෙස නියමක
17 රණලද්දේය. ඒ හැටියට උන්වහන්සේ
නුඹ මල්කිසදෙක්ගේ පිලිවෙලින් සදා
කාලේටම පූජකයෙකැයි සාක්ෂිදෙනසේ
18 ක. පලමු තිබුනාවූ ව්‍යවස්ථාව බල නැති
බැවින්ද නිෂ්ප්‍රයෝජන බැවින්ද ඒක අව
19 ලංගුකරණ ලද්දේය. මක්නිසාද වැඩි
හොඳ බලාපොරොත්තුව පැමිනීමෙන්
මිස ව්‍යවස්ථාවෙන් කිසිවක් සම්පූර්ණ
නොකරණලද්දේය. ඒ බලාපොරොත්
තුවීමෙන් අපි දෙවියන්වහන්සේ ලගට
20 පැමිණෙනමුව. තවද අන් පූජකයෝ දිවු
රුමක් නැතුව පූජක තනතුරට නියමක
21 රනු ලැබුවෝය. නුමුත් නුඹ මල්කිස
දෙක්ගේ පිලිවෙලින් සදාකාලේටම පූ
ජකයෙකැයි කියා වෙනස් නොවෙන

ලෙස ස්වාමීන්වහන්සේ දිව්ලසේකැයි කි
තැනන්වහන්සේ දිව්රුමකුත් ඇතුව මු
න්වහන්සේ පූජකයෙක් කොට නියමක
22 ලසේක. එබැවින් දිව්රුමක් ඇතිව පූජ
ක තනතුරට පත්කරණලද්දාවූ යේසුස්
වහන්සේ පලමු ගිවිසුමට වඩා යහපත්
ගිවිසුමක මැදහත්කාරයෙක් කරනු ලැ
23 බූසේක. ඒ පූජකයන්ට මරණය නිසා
පවතිනතට නුපුළුවන් බැවින් බොහෝ
24 පූජකයෝ සිටියෝය. නුමුත් මුන්වහන්
සේ සදාකාලේටම පවතිනහෙයින් මා
රු නොවෙන පූජක තනතුරක් දරණ
25 සේක. එබැවින් තමන්වහන්සේ කරණ
කොටගෙන දෙවියන්වහන්සේට ලන්
වෙනනාවුන් උදෙසා මැදහත්කම් කර
ණ පිනිස උන්වහන්සේ සදාකාලේටම ජී
වත්වන හෙයින් කෙලවර දක්වාම ඔවුන්
27 ගලවන්ට උන්වහන්සේට පුළුවන. සැ
බැවටම පිරිසිදුවූ අහිංසකවූ නිදොස්වූ
පව්කාරයින්ගෙන් වෙන්වූ ස්වර්ගවලට
වඩා උසස්වූ නායක පූජකයෙක් අපට ඕ
27 නෑවූනේය. නායක පූජකයන්ට මෙන්
පලමුකොට තමුන්ගේ පව් නිසාත් නැ
වත සෙනගගේ පව් නිසාත් දවස්පතා
යාගපූජා කරන්ට උන්වහන්සේට කමක්
නැත උන්වහන්සේ එකවිටම තමන්ම
පූජා කිරීමෙන් සෙනගගේ පව් නිසා පූ
28 ජාකලසේක. තවද ව්‍යවස්ථාව දුර්වල මනු
ෂ්‍යයන් නායක පූජකයන් කොට පත්ක
රන්නේය. නුමුත් ව්‍යවස්ථාවට පසු පැව
තුනාවූ දිවුරුමේ වචනය සදාකල්ම සම්
පූර්ණව සිටිනනාවූ පුත්‍රයානන්වහන්සේ
පූජක තනතුරට පත්කරන්නේය.

8. පරිච්ඡේ. දැන් අපි කී කාරණයන්
අතරෙන් ප්‍රධාන කාරණවනම් ස්වර්ග
වල සිටින මහෝත්තමයානන්හන්සේ
ගේ සිංහාසනයෙහි දකුනු පැත්තෙහි හිඳි
නනාවූ මනුෂ්‍යයන් විසින් නොව ස්වාමී
2 න්වහන්සේ විසින් පිහිටුවනලද සැබෑවූ
මන්ඩපයේද ශුද්ධ ස්ථානයේද සේවක
යෙක්වූ නායක පූජකයෙක් අපට ඇති
3 වගය. සියළු නායක පූජකයෝ දීන හා
යාග පූජාකරණ පිනිස නියමකරණ ලද්
දෙය. ඒ නිසා පූජාකරණ පිනිස මේ තැ
නැත්තාටත් යම් දෙයක් තිබෙන්ට ඕ
4 නෑය. ව්‍යවස්ථාව ලෙස පූජා පවත්වන
පූජකයන් ඇතිහෙයින් උන්වහන්සේ
පොලොවේ සිටිසේක්නම් පූජක නො
වෙන්ට උන්වහන්සේට බැරිය.
5 මෝසෙස් මණ්ඩපය සාදන්ට හදනකල
කන්දේදී තට පෙන්වනලද ආදර්ශය
මෙන් සියළු දේම කරන්ට බලාගනුවයි
දෙවියන්වහන්සේ අනාඥාකලහෙයින්
ඒ පූජකයෝ ස්වර්ගීයවූ දේවල ආදර්ශ
යක් කොටද ඡායාවක් කොටද පවතින
6 දේ ගැන සේවය කෙරෙති. නුමුත් දැන
ට වඩා යහපත් පොරොන්දුවලින් ස්ථිර
කරණලද්දාවූ වඩා උතුම්වූ ගිවිසුමක මැ
දහත්කාර කෙනෙක්ව සිටින උන්වහන්
සේ වඩා උතුම්වූ සේවයක් ලැබූසේක.
7 පලමුවෙනි ගිවිසුම නිදොස්වූයේනම්
දෙවෙනි එකට ඉඩ නොසොයනු ලැ
8 බේ. ඒකේ දොස් දැක උන්වහන්සේ කිය
නසේක් ඊශ්‍රායෙල්ගේ වංශය සමගද යූද
ගේ වංශය සමගද මා විසින් අළුත් ගිවිසු
මක් කරණ දවස් පැමිනෙනෙනේයයි ස්වා
9 මීන්වහන්සේ කියනසේක. ඔවුන් මාගේ
ගිවිසුම නොපැවැත්වූ බැවින්ද මම ඔවුන්
නොසැලකූ බැවින්ද මිසරදේසයෙන් ඔ
වුන්ගේ පියවරුන් ගෙනෙන පිනිස මම
ඔවුන්ගේ අත අල්ළූ දවසේදී ඔවුන් ස
මග කල ගිවිසුම මෙන් මේ ගිවිසුම නො
වනේයයි ස්වාමීන්වහන්සේ කියනසේ
10 ක. එදවස්වලින් පසු ඊශ්‍රායෙල්ගේ වංශ
ය සමග මා විසින් කරණ ගිවිසුමනම් මා
ගේ පනත් ඔවුන්ගේ සිත්වල පිහිටුවමින්
ඔවුන්ගේ හෘදවල ලියනෙනම් මම ඔවුන්
ට දෙවිවෙම් ඔවුන් මාගේ සෙනග වෙ
11 ති. මක්නිසාද කුඩා අය පටන් ලොකු
අය දක්වා සියල්ලෝම මා ඇඳිනගෙන
එක එකා තමතමාගේ අසල්වාසියාටද
සහෝදරයාටද ස්වාමින්වහන්සේ හැඳි
නගනිල්ලායයි කියා නූගන්වති ඔවුන්ගේ
12 අධර්මිෂ්ඨකම් ගැන කරුණාකොට ඔ
වුන්ගේ පාපවල්ද අපරාධවල්ද කිසි ක
ලෙකත් මතක්නොකරමියි ස්වාමින්ව
13 හන්සේ කියනසේකැයි කීසේක. අළුත්
ගිවිසුමයයි කීමෙන් පලමුවෙනි ගිවිසුම
පරණකලසේක. පරණ ක්ෂයවෙනනාවූ
යමක් ඇද්ද ඒක නෙපෙනී යාමට ලංවේ.

9. පරිච්ඡේ. පලමුවෙනි ගිවිසුමේ දේ
ව පූජාවෙහි චාරිත්‍රවල්ද ලෞකික ශුද්ධ
2 ස්ථානයද තිබුනේය. මක්නිසාද සාදන
ලද මඩපයෙහි පලමු කොටසට පිරිසිදු
ස්ථානයයි කියනු ලැබේ එහි පහන් රුක
3 ද මේසයද පිදූ රොටිද තිබුනේය. තවද

දෙවෙනි තිරයට ඇතුලෙහි ඉතා පිරිසි
දු ස්ථානයයි කියනලද කොටස වූයේය.
4 එහි රන්මය දුන් භාජන සහ වටකරින්
රනින් වැසූ ගිවිසුම් පෙට්ටියද තිබුනේ
ය. ඒ පෙට්ටියේ මනනා දැමූ රන් භාජ
නයත් ආරොන්ගේ දළු හටගත් සැරයටි
5 යත් ගිවිසුමෙහි ලෑලිත් තිබුනේය. එ
හි උඩ තේජසෙහි කෙරුබිම් දෙදෙනා
කරුණාසනය වසාගෙන සිටියෝය. දැන්
මේවා ගැන විස්තරයෙන් කියන්ට ක
6 මක් නැත. මෙසේ මේ දේ පිහිටවූකල
පූජකයෝ දේව මෙහෙය කරන්ට නිත
රම මඬපයේ පලමුවෙනි කොටසට ගි
7 යෝය. එහෙත් නායක පූජකයා පමනක්
මඬපයේ දෙවෙනි කොටසට අවුරුද්ද
ට වරක් ගියේය. ලේ නොගෙන ගියේ
නැත. ඒ ලේ තමාගෙත් සෙනගගෙත්
8 පව් උදෙසා පූජාකෙලේය ඒ පලමුවෙ
නි මඬපය පිහිටා තිබෙද්දී ඉතා පිරිසිදු
ස්ථානයට පැමිනෙන මාර්ගය ප්‍රකාශ
නොකල බව ශුද්ධාත්මයානන්වහන්සේ
9 මෙයින් පෙන්වූසේක. ඒ මඬපය දැන්
පවතින කාලය ආදර්ශයක්විය. හරිගැස්
සීමෙහි කාලය දක්වා පිහිටුවනලද්දාවූ
කෑම බීම පූජාවලින්ද නොයෙක් සේදීම්
10 වලින්ද මාංසික සිරිත්වලින්ද පමනක්ම
යුක්තවූ පූජාකරන්නන්ගේ හෘදසාක්ෂිය
නිදොස්කරන්ට බැරිවූ දීනවල්ද යාග
11 වල්ද ඒ කාලයේ පූජාකරණලද්දේය. නු
මුත් ක්‍රිස්තුස්වහන්සේ මතු පැමිනෙනනා
වූ යහපත් දේවල නායක පූජකයෙක්
කොට පැමින අතින් නොකරණලද්දාවූ
එනම් මෙලොව එකක් නොවූ ඊට වඩා
12 උතුම්වූ ඉතා යහපත්වූ මඬපයෙහිදී එළු
වන්ගේත්වස්සන්ගේත් ලෙයින් නොව
තමන්වහන්සේගේම ලෙයින් එක් වරක්
පිරිසිදු ස්ථානයට ඇතුල්ව අප උදෙසා
13 සදාකාලවූ මිදීම ලබාගත්සේක. මක්නි
සාද ගොනුන්ගේත් එළුවන්ගේත් ලෙ
සින්ද තරුණ එලදෙනගේ අළුයෙන් අපි
රිසිදුවූවන්ට ඉසීමෙන්ද ශරීරය පවිත්‍රවී
14 ම පිනිස ශුද්ධකරනොත්නම් පලදුවක් නැ
තුව සදාකාලවූ ආත්මයානන්වහන්සේ
කරණකොටගෙන තමන්ම දෙවියන්ව
හන්සේට පූජාකලාවූ ක්‍රිස්තුස්වහන්සේ
ගේ ලෙයින් ජීවමානවූ දෙවියන්වහන්
සේට සේවයකරණ පිනිස මරණය උප
දවන ක්‍රියාවලින් තුඹලාගේ හෘදසාක්ෂිය
කොපමන වඩා පිරිසිදුවෙනොත් නැද්ද?

15 මේ කාරණාව නිසා පරණ ගිවිසුම පැවි
තුනකල කරණලද අපරාධවලින් මිදීම
පිනිස වින්දාවූ උන්වහන්සේගේ මරණ
ය කරණකොටගෙන කැඳවනු ලැබූවන්
ට සදාකාල උරුමය ගැන පොරොන්දු
ව ලැබෙන ලෙස උන්වහන්සේ අළුත්
16 ගිවිසුමේ මැදහත්කාරයා වූසේක. ගිවි
සුමක් තිබෙන තැන ගිවිසුම් සතාගේ
17 මරණයත් වියයුතුය. මක්නිසාද ගිවිසුම
සතා මැරුවායින් පසු සවිවනෝය. ගි
විසුම් සතා පනපිටින් සිටිනතුරු ගිවිසුම
18 ට කිසි බලයක් නැත. ඒ හැවියට පලමු
වෙනි ගිවිසුමවත් ලේ නැතුව පිහිටුවනු
19 නොලද්දේය. මක්නිසාද මෝසෙස් ව්‍ය
වස්ථාව ලෙස සියළු සෙනගට සෑම ආඥා
වල් කියා පසුව වස්සන්ගේත් එළුවන්
20 ගේත් ලේ වතුර සමග ගෙන දෙවියන්
වහන්සේ විසින් තුඹලාට නියෝගකල
ගිවිසුමේ ලේ මේයයි කියමින් රතු බැට
ළු ලොම් සහිත හිසොපින් පොතටත්
21 සියළු සෙනගටත් ඉස්සේය. එසේම මඬ
පයටත් සියළු පූජා භාජනවලටත් ලේ
22 ඉස්සේය. තවද ස්වල්පයක් හැර සියළු
දේ ව්‍යවස්ථාවේ හැටියට ලෙයින් පවිත්‍ර
කරණ ලද්දේය ලේ වැගිරීම නැතුව ක
23 මාවක් නැත. එබැවින් ස්වර්ගීය දේවල
ආදර්ශවල් මේ දෙයින් පවිත්‍රකරනු ල
බන්ට යුතුය එහෙත් ස්වර්ගීය දේ මේ
දෙයට වඩා යහපත් යාගවලින් පවිත්‍ර
24 කරනු ලබන්ට යුතුය. ඉන්නිසා ක්‍රිස්තුස්
වහන්සේ සැබෑ පිරිසිදු ඉඩම්වල ආදර්ශ
වූ අත්වලින් සෑදූ පිරිසිදු ඉඩම්වලට ඇ
තුල්නොව අප උදෙසා දෙවියන්වහන්
සේගේ ඉදිරියෙහි දැන් පෙනෙන පිනි
25 ස ස්වර්ගයට ඇතුල්වූසේක. තවද නාය
ක පූජකයෝ අනුන්ගේ ලේ අරගෙන අ
වුරුදු පතා ශුද්ධස්ථානයට ඇතුල්වෙන්
නාක්මෙන් උන්වහන්සේ කීප වරක් ත
26 මන්ම පූජාකරන්ට කම් නැතෝත්ය. එ
සේ ඕනෑනම් උන්වහන්සේ ලෝකය මැ
වීමේ පටන් කීප වරක් වදවිඳින්ට යුතු
ව සිටිසේක. එහෙත් තමන්ම පූජාකිරී
මෙන් පාපය පහකරණ පිනිස ලෝකේ
කෙලවරදී එක වරක් උන්වහන්සේ පෙ
27 නුනුසේක. තවද එක් වරක් මරණයත්
ඉන්පසු විනිශ්චයත් මනුෂ්‍යයන්ට නිය
28 මව තිබෙන්නාක්මෙන් ක්‍රිස්තුස්වහන්
සේත් බොහෝ දෙනාගේ පව් උසුලන
පිනිස වරක් පූජාවී උන්වහන්සේගේ ඊම

බලා සිටිනවුන්ගේ ගැලවීම පිණිස පව්
නැතුව * දෙවෙනි වර ඔවුන්ට පෙනෙ
නසේක.

10. පරිච්. තවද ව්‍යවස්ථාව මතු
පැමිණෙන යහපත් දේවල සම්පූර්ණවූ
රූපය නොව ඒ කාරණාවල ඡායාවක්‍ෂ
තිබෙන බැවින් අවුරුදුපතා නිතරම පූ
ජාකල යාගවලින් යාගකරන්ට පැමිණෙන
නාවුන් සම්පූර්ණලෙස නිදොස්කරන්
2 ට කිසිකලෙකත් නොහැකිවේ. නැත්
නම් පූජාකරන්නෝ වරක් පවිත්‍රකරණ
ලදුව පව් ගැන දොස් ඇති හෘදසාක්‍ෂිය
තවත් නොදරණ බැවින් ඒ යාගවල්
3 නවතින්නේ නැද්ද? නුමුත් ඒ යාගව
ලින් අවුරුදුපතා පව් ගැන සිහිවීමක් ඇ
4 ත. මක්නිසාද ගොනුන්ගේත් එළුවන්
ගේත් ලෙයින් පව් දුරුවෙන්ට බැරිය.
5 ඒ නිසා උන්වහන්සේ ලෝකයට එන
කල කියනසේක් ඔබවහන්සේ යාගය
ටත් පූජාවටත් කැමති නොව මට ශරීර
6 යක් පිළියෙලකලසේක. දවන පූජාවල
ටත් පව් නසන පූජාවලටත් සතුටුවූවූ
7 සේක. දෙවියන්වහන්ස පොත් කාඩයෙ
හි මා ගැන ලියවී තිබෙනලෙස ඔබගේ
කැමැත්ත කරන්ට එම්සි මම කීම්සි කී
8 සේක. ඉහතදී ඔබවහන්සේ ව්‍යවස්ථාව
ලෙස කරණ යාගවලටත් පූජාවලටත්
දැවූ පූජාවලටත් පව් නසන පූජාවලටත්
9 කැමතිවෙන්නේවත් සතුටුවෙන්නේ
වත් නැතැයි කීකල දෙවියන්වහන්ස ඔ
බගේ කැමැත්ත කරන්ට මම එම්සි උන්
වහන්සේ කීසේක. උන්වහන්සේ දෙ
වෙනි එක පිහිටුවන පිණිස පළමුවෙනි
10 එක අහක්කලසේක. මේ කැමැත්තෙන්
ක්‍රිස්තුස්වහන්සේගේ ශරීරය වරක් පූජා
11 කිරීම නිසා අපි පිරිසිදුවෙමුව. තවද සෑ
ම පූජකයෝ කිසි කලෙකත් පව් දුරුක
රන්ට නොහැකිවූ ඒආකාර යාග නො
යෙක්වර පූජාකොට දවස්පතා මෙහෙ
12 කරමින් සිටිති. එහෙත් මූන්වහන්සේ
පව් නසන එක යාගයක් පූජාකොට දෙ
වියන්වහන්සේගේ දකුණුපැත්තේ සදා
13 කල්ම වැඩහිඳිනසේක. එවක් පටන් ත
මන්ගේ සතුරන් තමන් පාපුටුවක් කර
14 ණතුරු බලාසිටිනසේක. මක්නිසාද ඒ
කම පූජාකිරීමෙන් පිරිසිදුකරණු ලබන්

* මෙවත් පව් නසන පූජාවක් නැතුව.

තන් සදාකාලේටම සම්පූර්ණකලසේ
15 ක. ඇරත් පළමු කියා තිබෙන ලෙස ශු
16 ද්ධාත්මයානන්වහන්සේම අපට සාක්‍ෂි දෙ
නසේක් ඒ දවස්වලින් පසු මම ඔවුන්
සමග කරණ ගිවිසුමනම් මේය මාගේ
පනත් ඔවුන්ගේ හිත්වල පිහිටුවා ඔවුන්
17 ගේ හෘදවල ලියම්. ඔවුන්ගේ පාපවල්ද
වරදවල්ද තවත් සිහිනොකරම්සි ස්වා
මින්වහන්සේ කියනසේකැයි කීසේක.
18 පාපවලින් මිදීම තිබෙන තැන පව් නස
19 න පූජාවක් තවත් නැත්තේය. එබැවින්
සහෝදරයෙනි යේසුස්වහන්සේ තිර
යෙන් එනම් තමන්ගේ මාංසයෙන් අප
උදෙසා සැපකලාවූ අළුත්වූ ජීවමානවූ
20 මාර්ගයෙන් උන්වහන්සේගේ ලේ කර
ණකොටගෙන ශුද්ධස්ථානයට භයනැතු
ව ඇතුල්වෙන්ට අපට අවසර තිබෙන
21 බැවින්ද දෙවියන්වහන්සේගේ මාලිගා
22 වේ නායක පූජක කෙනෙක් සිටින බැවි
න්ද අපේ දුෂ්ටවූ හෘදසාක්‍ෂිය දිය ඉසීමෙන්
පවිත්‍රකරණු ලැබ අපේ ශරීරවල් පවිත්‍ර
වතුරෙන් සෝදනු ලැබ ඇදහිල්ලේ සම්
පූර්ණ විශ්වාසයෙන්යුත් සැබෑ සිතින්යුත්
23 ලඟට යමුව. පොරොන්දුවී දුන් තැනන්ව
හන්සේ විශ්වාස කෙනෙක් බැවින් අපේ
බලාපොරොත්තුවේ ප්‍රකාශකිරීම චචල
24 නොව ස්ථිරකොට කරමුව. ප්‍රේමයද යහ
පත් ක්‍රියාවල්ද උපදවන්ට අපි ඔවුනො
25 වුන් බලාගනිමුව. සමහරුන්සේ අපේ
රැස්වීම අත්නෑර ඒ දවස ළංවෙන බව
නුබලා දකිනහෙයින් ඔවුනොවුන්ට වැ
26 ඩි වැඩිව අවවාද කරගනිමුව. මක්නිසා
ද සැබෑකමේ දැනීම ලැබුවායින් පසු අපි
27 කැමැත්තෙන්ම පව් කරනෙමුනම් වි
නිශ්චයටත් සතුරන් විනාසකරණ උද
හස් ගින්නටත් භයානකවූ බලාසිටීමක්
මිස පව් නසන තවත් පූජාවක් අපට නැ
28 ත්තේය. මෝසෙස්ගේ ව්‍යවස්ථාවට නි
න්‍දාකල තැනැත්තේ දෙදෙනෙකුගේවත්
තුන්දෙනෙකුගේවත් සාක්‍ෂිය පිට ක
29 රුණා නැතුව මරණට පත්වූයේය. ඒ
හෙයින් දෙවියන්වහන්සේගේ පුත්‍රයාන
න්වහන්සේ පාගාදමා තමන් පිරිසිදුකල
ගිවිසුමේ ලේ අපිරිසිදු දෙයක්කොට
හිතා කරුණාවන්ත ආත්මයට නින්‍දාකලා
වූ තැනැත්තා කොපමණ මහත් රුදු ද
ඬුවමට සුදුස්සෙක් නොවේදැයි කල්ප
30 නා කරපල්ලාය. ඇරත් ප්‍රතිඵල දීම මා
ගේ ක්‍රියාවක මම විපාක දෙම්යි ස්වාමින්

වහන්සේ කියනසේකැයි කියාද ස්වාමි
න්වහන්සේ තමන්ගේ සෙනග විනිශ්චය
කරණසේකැයි කියාද කී තැනන්වහන්
31 සේ අපි දනිමුව. ජීවමානවූ දෙවියන්ව
හන්සේගේ අත්වලට අසුවීම භයානක
32 කාරණාවක. තවද නුඹලාගේ සිත්වල
ට ආලෝකය පහළවූනායින් පසු නින්
33 දුවලින් හා පීඩාවලින් ක්‍රීඩා රූපයක්
කොට කරනු ලැබූ කල්හිද එසේ කරනු
ලැබූවන්ට පංගුකාරවූ කල්හිද පීඩා නැ
මති මහත්වූ සටනක් ඉවසූ ඉස්සර දවස්
34 සිහියට ගනිල්ලාය. මක්නිසාද නුඹලා
මා බඳිනු ලැබූකල නුඹලා ඒ ගැන මා ස
මග දුක්වෙමින් වඩා යහපත්වූ නොපිරි
හෙනනාවූ වස්තුව ස්වර්ගයෙහිදී නුඹලා
ට ඇති බව දන නුඹලාගේ වස්තුව පැ
35 හැරගැනීම ප්‍රීතියෙන් ඉවසූවෝය. එබැ
වින් මහත් විපාක ඇතනාවූ නුඹලාගේ
ඒකාන්ත බලාපොරොත්තුව පහනො
36 කරල්ලාය. එනනාවූ තැනන්වහන්සේ
ප්‍රමාදනොවී තව ස්වල්ප කාලයකින් එන
37 නිසා නුඹලා දෙවියන්වහන්සේගේ කැ
මැත්ත කොට පොරොන්දුවූ දේ ලබන
38 පිනිස ඉවසීමෙන් සිටිය යුතුය. ධර්මිෂ්ට
යා ඇදහිල්ලෙන් ජීවත්වේ නුමුත් ඔහු
පසුබටවූයේනම් ඔහු කෙරෙහි මාගේ
ආත්මය සතුටුනොවෙනේයයි ලියා ති
39 බේ. එසේ නුමුත් අපි විනාසයට පමුනු
වනනාවූ පසුබටවෙනනාවුන්ගෙන් නො
ව ප්‍රාන ගැලවීමට අදහන්නවුන්ගෙන්
වෙමුව.

11. පරිච්ජ. තවද ඇදහිල්ලනම් ප්‍රා
ර්ථනාකල දේවල සැකනැතිකමද නුදු
2 ටු දේවල ඔප්පුවද වේ. ආදි කාලයේ සි
ටියාවූ මනුෂ්‍යයෝ එයින්ම යහපත් සා
3 ක්ෂිය ලැබූවෝය. දකිනු ලබන්ට පුළු
වන් දෙයින් පෙනෙන දේ මවන්ට නො
යෙදෙන ලෙස දෙවියන්වහන්සේගේ ව
චනයෙන් ලෝකවල් මවනලද්දේයයි
4 ඇදහිල්ලෙන් තේරුම්ගනිමුව. ආබෙල්
කායින්ට වඩා උතුම් යාගයක් ඇදහිල්
ලෙන් දෙවියන්වහන්සේට පූජාකෙලේ
ය එයින් ඔහුගේ පූජාවල් ගැන දෙවිය
න්වහන්සේ සාක්කි දුන් නිසා ඔහු ධර්මි
ෂ්ටයෙකැයි සාක්ෂි ලැබූයේය. තවද ඔහු
මල නුමුත් ඒ ඇදහිල්ලෙන් තවම කථාක
5 රනේය. එනොක් ඇදහිල්ලෙන් මර
ණය නොවිඳ ගෙනයනු ලැබූයේය දෙ
වියන්වහන්සේ ඔහු ගෙනගියහෙයින්
ඔහු දකිනු නොලැබූයේය. ඔහුගේ ගෙ
නයාමට ඉස්සර ඔහු දෙවියන්වහන්සේ ස
6 තුටු කල බවට ඔප්පු ලැබූයේය. එහෙත්
ඇදහිල්ල නැතුව දෙවියන්වහන්සේ සතු
ටුකරන්ට බැරිය. මක්නිසාද දෙවියන්ව
හන්සේ ලඟට පැමිනෙනනා විසින් දෙ
වියන්වහන්සේ සිටිනසේකැයි කියාද උ
න්වහන්සේ සොයනනාන්ට විපාක දෙන
7 සේකැයි කියාද ඇදහිය යුතුය. ඇදහි
ල්ලෙන් නෝවඃ පෙර නුදුටු දේ ගැන දෙ
වියන්වහන්සේ විසින් දන්වනු ලැබ භය
වෙමින් තමාගේ පවුල රක්ෂාකරගන්
නා පිනිස නැවක් සෑදුවේය. එයින් ඔ
හු ලෝකයා වරදට පත්කරවා ඇදහි
ල්ලෙන්වූ ධර්මිෂ්ටකමට උරුමක්කාර
8 යෙක් වූයේය. ඇදහිල්ලෙන් ආබ්‍රහම් ප
සුව උරුමයක් ලැබෙන තැනට යන්ට
කැඳවනු ලැබූකල කීකරුව කොතනට
9 යනවාදැයි නොදැන පිටත්ව ගියේය. ඇ
දහිල්ලෙන් ඔහු දෙවියන්වහන්සේ විසින්
10 අභිප්‍රාකොට ගොඩනගනනාවූ අත්තිවා
රම ඇති නුවරක් බලා සිට විදේශියෙකු
මෙන් පොරොන්දුවූ රටේ තමන් සමග ඒ
ම පොරොන්දුවට උරුමක්කාරවූ ඊසාක්
ද යාකොබ්ද සමග කූඩාරම්වල වාසය
11 කෙලේය. ඇදහිල්ලෙන් සාරාද පොරො
න්දුවූනු තැනන්වහන්සේ විශ්වාසකෙනෙ
කැයි සිතා නිසි වයස පසුවූකල ගර්භිනි
වෙන්ට බලය ලැබ පුත්‍රයෙකු වැදුවාය.
12 එහෙයින් අහසේ තරු මෙන් බොහෝ
වූ මුහුදු වෙරල වැලිමෙන් ගනන්කරන්ට
බැරිවූ මනුෂ්‍යයෝ මල එකෙක් වැනි තැ
13 නැත්තාගෙන්ම පැවත ආවෝය. ඇදහි
ල්ලෙන් ඒ සියල්ලෝම පොරොන්දුවූ දේ
දුරදී දැක සැක නොකොට ඒවා වැලඳ
ගෙන පොලොවෙහි තමන් විදේසීන්
බවත් ගමන් යනනාන් බවත් ප්‍රකාසකො
14 ට කියාදී ඒ දේ නොලැබ මලෝය. මේ
දේ කියන තැනැත්තෝ සියරට සොයන
15 බව හොඳහැටි පෙන්වාදෙති. තවද ඔ
වුන් නික්ම ආවාවූ රට සිහිකලෝවීනම්
නැවත එහි යන්ට ඔවුන්ට ප්‍රස්ථා තිබූ
16 නේය. නුමුත් ඔවුන් ඊට වඩා යහපත්වූ
ස්වර්ගීය රටට කැමති ඇතෙත්තෝය. එබැ
වින් දෙවියන්වහන්සේ ඔවුන්ගේ දෙවි
යන්වහන්සේයයි කියනු ලබන්ට ලැජ්
ජා නොවනසේක. මක්නිසාද උන්වහන්
17 සේ ඔවුන්ට නුවරක් සෑදූසේක. ආබ්‍රහම්

පරීක්ෂාකරනු ලැබූකල ඇදහිල්ලෙන් ඊ
18 සාක් පූජාකලේය ඊසාක්ගෙන් නුඹේ ව
ංශය කියනු ලැබේයයි යමෙකුට කියන
ලදද්ද පොරොන්දු ලැබූ ඔහු තමන්ගේ
19 ඒකජාතක පුත්‍රයා පූජාකලේය. ඔහු මල
වුන්ගෙන් නැගුටුවන්ට දෙවියන්වහන්
සේ සමර්ථසේකැයි සිතා ආද්‍රිස වශයෙන්
20 ඔහු මරනින් නැවත ලබාගත්තේය. ඇද
හිල්ලෙන් ඊසාක් මතු පැමිනෙන දේ ගැ
න යාකොබ් සහ ඒසව්හටද ආශිර්වාදකෙ
21 ලේය. යාකොබ් නශින ප්‍රස්ථාවේදී ඇද
හිල්ලෙන් යෝසැප්ගේ පුතුන් දෙනනා
ට ආශිර්වාදකොට තමාගේ සැරම්ටිය පි
22 ට හාන්සිව නමස්කාරකොලේය. යෝ
සැප් නසිනකල ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ
පිටත්ව යාම ගැන ඇදහිල්ලෙන් කථා
කොට තමන් ඇට ගැන අනාඥ දුනෙත්
23 ය. මෝසෙස් උපන්කල ඔහුගේ මව්පි
යෝ ලක්ෂන පුත්‍රයෙකු බව දැක රජහු
ගේ ආඥාවට භයනොව ඇදහිල්ලෙන්
24 ඔහු තුන් මාසේකට සැඟවූවෝය. මෝ
සෙස් වැඩිවිය පැමිනිකල ඵාරාවෝගේ
දුවගේ පුත්‍රයයි කියනු ලබන්ට ඇදහිල්
25 ලෙන් නොකැමතිව ස්වල්ප කාලයකට
පාපයෙහි සැප විඳිනවාට වඩා දෙවිය
න්වහන්සේගේ සෙනග සමග දුක් විඳීම
26 තෝරාගෙන ඵලවිපාකය සැලකීමෙන්
මිසරයෙහි වස්තුවට වඩා ක්‍රිස්තුන්වහන්
සේ නිසා ඇතතාවූ නින්දාව මහත් වස්තුව
27 කැයි සිතුයේය. අද්‍රිශ්‍යමාන තැනන්ව
හන්සේ දුටුවාක්මෙන් නිස්චල සිතින්
රජහුගේ කෝපයට භයනොවී ඇදහිල්
28 ලෙන් මිසරය අත්හැර ගියේය. කුළුඳු
ලන් විනාසකල තැනැත්තේ ඔවුන්ට
නොගහනපිනිස පාස්කුමංගල්‍යයද ලේ
29 ඉසීමද ඇදහිල්ලෙන් පැවැත්වූයේය. ඔ
වුන් ඇදහිල්ලෙන් රතු මුහුද මැදින් ගො
ඩ බිම්න් මෙන් ගියෝය. මිසර වැසි
යෝ එසේ කරන්ට උත්සාහකොට ගිලී
30 මලෝය. ඔවුන් සත් දවසක් යෙරිකෝ
ව වටකර ඇවිද්දකල ඇදහිල්ලෙන් එ
31 හි පව්රු වැටුනේය. රාහබ්නම් වේ
ශ්‍යා ස්ත්‍රිය ඔත්තුකාරයන් මිත්‍රකමෙන් පි
ළිගත්කල නොඅදහන්නන් සමග ඇද
හිල්ලෙන් විනාස නුවූවාය. තව මක් කි
32 යම්ද! ගෙදෙයොන් බාරක්ද සම්සොන්
යෙප්තාද දාවිත්ද සාමුවෙල්ද අනාගත
වක්තෘන්ද ගැන මට කථාකරන්ට කල්
33 මදිය. ඔවුන් ඇදහිල්ලෙන් රාජ්‍යවල්
ජයගත්තෝය ධර්මිෂ්ඨකම් කලෝය
34 පොරොන්දුවල් ලබාගත්තෝය සිංහයන්
ගේ මුඛ බැන්දෙව්වෝය ගිනි උෂ්ණය
නිව්වෝය කඩු මුවහතින් ගැලවුනෝ
ය දුර්වලව බල ලැබූවෝය යුද්ධයෙහි දක්ෂ
යෝව සතුරු සේනාවන් එලෙව්වෝය.
35 ස්ත්‍රීන්ගේ මලවුන් ජීවත්කරනලදුව නැ
වත ඔවුන් ලැබූවෝය. වෙන ඇතෙනෝ
ළිට වඩා හොඳ නැගිටීමක් ලබන පිනි
ස මිදීම පිළිනොගෙන වේදනාවට පමු
36 නුවනු ලැබූවෝය. අන්‍යයෝ නින්දාව
ලින්ද පහරවලින්ද බැඳුම්වලින්ද හිරගෙයි
37 ලිම්වලින්ද පරීක්ෂාකරනු ලැබූවෝය. ඔ
වුන් ගල්ගසනු ලැබූවෝය. කියතෙන්
ඉරනු ලැබූවෝය. පරීක්ෂාකරනු ලැබූ
වෝය. කඩුවෙන් මරනු ලැබූවෝය. දිළි
ඳුකමට පැමින දුක්ද වේදනාද විඳිමින්
38 බැටළුවන්ගේත් එළුවන්ගේත් සම් ඇඳ
වනාන්තරවලද කඳුවලද ගුහාවලද පො
ළොවේ වලවල්හිද ඇවිද්දෝය. ඔවුන්
ගේ විසීමට ලෝකය නොවටින්නේය.
39 ඒ සියල්ලෝම ඇදහිල්ල කරණකොට
ගෙන යහපත් සාක්ෂිය ලැබත් පොරෙ
40 න්දුව නොලැබූවෝය. ඔවුන් අපෙන් වෙ
න්ව සම්පූර්ණ නොවෙන පිනිස දෙවිය
න්වහන්සේ ඊට වඩා යහපත් දෙයක් අ
පට සැදූසේක.

12. පරිච්ඡ. එබැවින් මෙපමන ම
හත් සාක්ෂිකාර සමූහයකින් වටව සිටි
නනාවූ අපි සියළු බරත් ලේසියෙන් අප
2 අනුකරණ පාපයත් අහක තබා ඇදහිල්
ලේ මුල්කාරවූද සම්පූර්ණකරනනාවූද
යේසුස්වහන්සේ දෙස බලමින් අපට නි
යමකල දිවීම ව්‍යයාමයෙන් දුවමුව. උන්ව
හන්සේ තමන්වහන්සේගේ ඉදිරියෙහි
තිබෙන ප්‍රීතිය බලා ලැජ්ජාව නොසල
කා කුරුසියෙහි වධවිඳ දෙවියන්වහන්
සේගේ සිංහාසනයෙහි දකුනු පැත්තේ
3 වැඩහිඳගත්සේක. ඒ නිසා නුබලාගේ
සිත් වෙහෙසව කලාන්ත නොවෙන පි
නිස තමන්ට එදිරිවූ පව්කාරයින්ගේ ම
හත් විරුඬ කථාව ඉවසූ තැනන්වහන්සේ
4 කල්පනාකරපල්ලාය. පාපයට විරුඬව
යුඬකරණ නුබලා ලේ වැගිරෙනතුරු
5 සටන්නොකලෝය. ඇරත් මාගේ පුත්‍ර
ය ස්වාමින්වහන්සේගේ දඬුවම් කිරීම සු
6 ළුනොකරනන. උන්වහන්සේගෙන් දඬු
වම්කිරීම් ලබනකල කලාන්තනොවෙ

නහ. මක්නිසාද ස්වාමින්වහන්සේ ප්‍රේ
ම කරනනාවූ හැනැත්තාට දඬුවම්කරන
සේක උන්වහන්සේ පිලිගණනාවූ සියළු
ම පුත්‍රයින්ට තලනසේකැයි දරුවන්ට
මෙන් තුබලාට කියන දූනිමිතිකම සිහි
7 නැතිකලෝද? තුබලා දඬුවම ඉවස
තොත් දෙවියන්වහන්සේ පුත්‍රයින්ට ක
රන්නාක්මෙන් තුබලාටත් කරණසේ
ක. පියානන් දඬුවම් නොකරණ පුත්‍රයා
8 කවරෙක්ද? සියළු පුත්‍රයෝ ලබන දඬු
වම තුබලා නොලබා සිටිනොත් තුබලා
9 පුත්‍රයෝ නොව අවජාතකයෝ වෙති. ත
වද අපේ මාංසයේ පියවරු අපට දඬුවම්
කලෝය අපි ඔවුන්ට ගෞරව කෙලෙ
මුව. එබැවින් අපි ජීවනය ලබන ලෙස
ආත්මවල පියානන්වහන්සේට කොපම
10 න වැඩිතරම් යටත් නොවෙමුද? ඔවුන්
තමන්ගේ කැමැත්ත ලෙස ස්වල්ප දවස
කට දඬුවම්කලෝය. එහෙත් උන්වහන්
සේ තමන්ගේ පවිත්‍රකමට අපි පංගුකා
රයෝ වෙන පිනිස අපේ ප්‍රයෝජනයට
11 දඬුවම්කරණසේක. කිසි දඬුවමක් විඳි
නකල සතුටුවීමට නොව දුක්වීමට කා
රණයක් මෙන් පෙනෙනෙනෝය. තුමුත්
ඉන්පසු ඒ දඬුවම විඳිනනන්ට ධර්මිෂ්ඨක
12 මේ සමාදාන ඵල උපදවනෙනෝය. එබැ
වින් හෙළන අත්ද සවි නැති දනහිස්ද
13 සවිකරගනිල්ලාය. ඇරත් කොර කකුල්
සුවවෙන පිනිස මිස උළුක්කු නොවෙන
පිනිස තුබලාගේ පාදවලට සමතලා මා
14 ර්ගවල් සාදගනිල්ලාය. සියල්ලන් සමඟ
සමාදානයෙන්ද පිරිසිදුකමින්ද සිටින්ට
වෑයම්කරපල්ලාය. මක්නිසාද පිරිසිදුක
ම නැතුව කාටවත් ස්වාමින්වහන්සේ ද
15 කින්ට බැරිය. දෙවියන්වහන්සේගේ ක
රුණාවෙන් කවුරුවත් අහක්ව නොසි
ටින පිනිසද තිත්ත මූලක් අවගෙන තු
බලා නොසලඹන පිනිසද එයින් බො
හෝදෙන පිලිකුල් නොවෙන පිනිසද
16 වේශ්‍යාකම් කරනොක්වත් කෑමවික
කට තමාගේ කුළුඳුල්කම වික්කාවූ ඒ
සව් මෙන් අභක්තියෙක්වත් නොවෙ
17 න පිනිසද ප්‍රවේසමින් බලාගනිල්ලාය. ඔ
හු කුළුඳුල්කම වික්කායින් පසු ආශීර්වාද
ය හිමිකරගන්ට කැමතිවූකල ඔහු එපා
කරණලදුව අඬ අඬා පසුතැවිලිකරවන්
ට සෙවූ නුමුත් එය ඉෂ්ටකරන්ට නුපුළු
වන්වූ බව තුබලා දනිති.
18 තවද අතගසන්ට පුළුවන්වූ පර්වතය
ටත් දිලිහෙන ගින්නටත් දුමාරයටත්
19 අන්ධකාරයටත් කුනාටුවටත් හොරනෑ
ශබ්දයටත් යම්හඬක් ඇසුවාහු තවත්බ
වුන්ට කියනු නොලබන්ට යාඥාවූනෝ
ද ඒ වචනෝ අඬටත් තුබලා නොපැමි
20 ණියෝය. ඔවුන්ට අණකල දේ දරන්ට
නොහැකිවූවෝය. තිරිසනෙක් තුමුත්
පර්වතයේ හැපුනොත් ඌට ගල්ගසාවත්
21 ඊයකින් විදලාවත් මැරිය යුතුය. මම අති
සයින් භයවෙමි වෙව්ලමියි මෝසෙස් කි
යනතරම් ඒ පෙනීම ඉතා භයංකාරවිය.
22 එහෙත් තුබලා සියෝන් පර්වතයටත් ජී
වමාන දෙවියන්වහන්සේගේ නුවරටත්
23 ස්වර්ගීය යෙරුසලමටත් ගනන් නැති
දේවදූතයන්ගේ පොදුවූ රැස්වීමටත් ස්ව
ර්ගයෙහි ලියනලද කුළුඳුලන්ගේ සභා
වටත් සියල්ලන්ගේ විනිශ්චයකාරවූ දෙ
වියන්වහන්සේ ලඟටත් සම්පූර්ණලෙස
24 පිරිසිදුකරණලද ධර්මිෂ්ඨයන්ගේ ආත්ම
යන් ලඟටත් අළුත් ගිවිසුමේ මැදහත්
කාරවූ යේසුස්වහන්සේ ලඟටත් ආබෙල්
ගේ ලේවලට වඩා යහපත් දේ කියන ඉ
සීමගී ලේ ලඟටත් පැමිණ සිටිනෝ
25 ය. පොලොවේදී කථාකලාවූ උන්වහන්
සේ එපාකලාවූ තැනැත්තෝ ගැලවුනේ
නැත්නම් ස්වර්ගයෙන් කථාකරණ උන්
වහන්සේගෙන් අපි අහක්ව ගියොත්
කොහෙත්ම ගැලවීම ලබන්ට බැරිහෙ
යින් කථාකරන උන්වහන්සේ එපා නො
26 කරන්ට බලාගනිල්ලාය. උන්වහන්සේ
ගේ ශබ්දයෙන් ඒ කාලයේදී පොලො
ව කම්පාවූනේය. දැන් උන්වහන්සේ
පොලොව පමනක්නොව ස්වර්ගයත් ත
ව වරක් කම්පාකෙරෙමියි පොරොන්
27 දුවූනුසේක. තව වරක් කී වචනෝ තේ
රුමනම් සෙල්වෙන්ට බැරිවූ දේවල් ප
වතින පිනිස සෙලවෙන දේවල් සාදන
28 ලද දේවල් මෙන් මාරුකිරීමය. එහෙ
යින් නොසෙලවෙන රාජ්‍යයක් ලබන්
නාවූ අපි ගෞරවයෙන්ද දේව භයින්ද
දෙවියන්වහන්සේ ප්‍රසන්නවන ලෙස මෙ
29 හෙකරණ පිනිස කරුණාව ධරමුව. මක්
නිසාද අපගේ දෙවියන්වහන්සේනම් වි
නාසකරණ ගින්නක.

13. පරිච්ඡේ. සහෝදරවූ ස්නේහය ප
2 වතීවා. සමහරු නොදැනම දේවදූතයන්
ට සත්කාර කල නිසා ආගන්තුක සත්
කාර කිරීම සිහිනැති නොකරල්ලාය

3 සිරේ බැඳී සිටින්නාවුන් සමග බැඳිසිටින්
නාක්මෙන් නුඹලාත් ශරීරයෙහි සිටින
බැවින් පීඩා විඳින්නන් සිහිකරපල්ලාය.
4 විවාහය සියල්ලන්ට නම්බුවක් වේවා. ය
හන පවිත්‍රවේවා. නුමුත් වේශ්‍යාකම් ක
රන්නන්ද පරදර කරන්නන්ද දෙවිය
5 න්වහන්සේ විනිශ්චයකරණසේක. ලෝ
භ නැතුව නුඹලාට ඇති දෙයින් සන්
තෝෂවෙයල්ලාය. මක්නිසාද කිසි ක
ලෙකත් මම නුඹ නාරිමි එපා නොක
රෙමියි උන්වහන්සේ කීසේක. එබැ
6 වින් ස්වාමින්වහන්සේ මට පිහිටව සිටි
නාසේක. මනුෂ්‍යයා මට කරණ දේට භ
ය නොවෙමියි සැක නැතුව අපට කියන්
7 ට පුළුවන. දෙවියන්වහන්සේගේ වච
නය නුඹලාම දැන්වූ නුඹලාවී අනුශාස
නා කරන්නන් සිහිකරපල්ලාය. ඔවුන්
ගේ හැසිරීමේ කෙලවර කල්පනාකර
ඔවුන්ගේ ඇදහිල්ල ආදර්ශයක්කොට ග
8 නිල්ලාය. තවද ඊයෙත් අදත් සදාකාල
යටත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ඒකාකා
9 රව සිටිනසේක. නොයෙක් අන්‍යාකාර
ඉගැන්වීම්වලින් මුලා නොවෙල්ලාය.
මක්නිසාද කෑවුන්ට ප්‍රයෝජන නුවූ
කෑම්වලින් නොව කරුණාවෙන් සිත
10 ස්ථිරකරනු ලැබීම යහපත. පූජාසනයක්
අපට ඇත. මන්ඩපයේ සේවය කරන්
11 නන්ට එයින් කන්ට අවසර නැත. නා
යක පූජකයා විසින් පව් නසන පිනිස
යම් මෘගයෙකුගේ ලේ සුධ ස්ථානයට ගෙ
නයනු ලැබේද ඒ මෘගයන්ගේ මලක
12 දන් කඳවුරෙන් පිටත ලා දවති. එසේ
හෙයින් යේසුස්වහන්සේ තමන් ලෙයින්
සෙනග පිරිසිදුකරණ පිනිස වාසල් දො
13 රින් පිටදී වදවිඳිසේක. ඉන්නිසා මෙ
14 හි පවතින නුවරක් නැත්තාවූ මතු පැ
මිණෙන නුවරක් සොයන්නාවූ අපි උන්
වහන්සේගේ නින්දාව දරාගෙන කඳවු
රෙන් පිටත උන්වහන්සේ ලඟට යමුව.
15 එබැවින් උන්වහන්සේ කරණකොටගෙ
න දෙවියන්වහන්සේගේ නාමයට ස්තුති
කරණ අපේ තොල්වල ඵලවූ ස්තුති යා
ගය නිතරම උන්වහන්සේට පූජාකරමු
16 ව. තවද යහපත්කම් කරන්නාටත් අනුන්
ට උපකාර කරන්ටත් සිහිනැති නොක
රල්ලාය එයාකාර යාගවලට දෙවියන්ව
17 හන්සේ සතුටුවනසේක. නුඹලාට අනු
ශාසනා කරන්නෝ ගනන් දෙන්නන්
මෙන් නුඹලාගේ ප්‍රාණ රැකවල්කර ඉඳි
ති. ඔවුන් ඒ ගනන් දුකින් දුනොතාත් නු
ඹලාට අලාභ බැවින් ඒ ගනන් දුකින්
නොව ප්‍රීතියෙන් දෙන්ට ඔවුන්ට පුළු
වන්වෙන පිනිස ඔවුන්ට කීකරුවෙමින්
18 යටත්වෙයල්ලාය. සියල්ලෙහි හොඳකා
ර ජීවත්වෙන්ට කැමතිවෙමින් යහපත්
හෘදසාක්ෂියක් අපට තිබෙන බව අපි වි
ශ්වාසකරණ නිසා අප උදෙසා යාඥාවෙ
19 යල්ලාය. මම නුඹලා වෙතට ඉක්මනින්
නැවත එන පිනිස එසේ යාඥාකරන්ට
නුඹලාගෙන් බොහෝසෙයින් ඉල්ලමි.
20 සදාකාල ගිවිසුමේ ලේ නිසා උතුම් බැට
එපාලවූ අපගේ ස්වාමිවූ යේසුස්වහන්
සේ මලවුන්ගෙන් නැවත ගෙනාවාවූ ස
මාදානයේ දෙවියන්වහන්සේ තමන් ස
21 තුටුවූ දේ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරණ
කොටගෙන නුඹලා තුලෙහි උපදවමින්
තමන් කැමැත්ත ලෙස සියළු හොඳ ක්‍රියා
වල් කරන්ට නුඹලාට සම්පූර්ණ ලෙස
පුළුවන්කරණසේක්වා. යේසුස් ක්‍රිස්තුස්
වහන්සේට සදාකාලේටම මහිමතාවය
වේවා. ආමෙන්.
22 තවද සහෝදරයෙනි ස්වල්ප වචනව
ලින් ලිවූමක් නුඹලාට මම ලිව්නිසා මේ
අවවාදයෙහි වචනය පිළිගන්නා හැටිය
33 ට නුඹලාගෙන් ඉල්වමි. අපේ සහෝදර
වූ තිමෝතියස් මුදා හැරිය බව දැනගනිල්
ලාය. ඔහු වහාම ආවොත් ඔහු සමග නු
24 ඹලා බලන්ට එමි. නුඹලාගේ සියළු ප්‍ර
ධානීන්ටත් සියළු පිරිසිදුවූවන්ටත් ආචා
ර කරපල්ලාය. ඉතාලියෙහි ඇත්තෝ
25 නුඹලාට ආචාර කෙරෙති. කරුණාව නු
ඹලා සියල්ලන් සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ යාකොබ් විසින් ලියහලද සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේ
ගේත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේත්
මෙහෙකරුවූ යාකොබ් විසින් විසිර ගියා
වූ දොළොස් ගෝත්‍රවලට සුභසිද්ධවෙන
2 පිනිස ලියා එවනවගනම්. මාගේ සහෝ
3 දරයෙනි තුඹලාගේ ඇදහිල්ලේ පරීක්ෂා
වීම කරණකොටගෙන ඉවසීම උපදින්
නේයයි දැන නොයෙක් පරීක්ෂාවලට පැ
නිකල සියළු ආකාරයෙන් සතුටුවීමට කා
4 රණයකැයි සිතාපල්ලාය. තුඹලා කිසි අ
ඩුකමක් නැතුව සියල්ලෙන් සම්පූර්ණව
සිටින පිනිස ඉවසිල්ලේ ක්‍රියා සම්පූර්ණ
5 කරනු ලැබේවා. තුඹලාගෙන් කිසිවකු
ටවත් ඥානය අඩුනම් දොස ගෙනහැර
නොදකින්නාවූ සියල්ලන්ට බොහෝ
කොට දෙන්නාවූ දෙවියන්වහන්සේ
ගෙන් ඉල්ලාවා එවිට ඔහුට දෙනුලැබේ.
6 තුමුත් සැක නැතුව ඇදහිල්ලෙන් ඉල්
ලාවා මක්නිසාද සැක සිතන්නා සුළඟින්
ගෙනයන සෙල්වෙන්නාවූ මූදේ රළක්
7 මෙන් වන්නේය. එබඳු මනුෂ්‍යයාට ස්වා
මින්වහන්සේගෙන් කිසිවක් ලැබේයයි
8 නොසිතාවා. දෙසිත් ඇති මනුෂ්‍යයා ත
මාගේ සියළු මාර්ගවලදී සවි නොවේ.
9 දිළිඳු සහෝදරයා තමාගේ උසස්වීමට
10 සතුටුවේවා. එසේම වස්තුකාරයා තමා
ගේ යටත්වීමට සතුටුවේවා. මක්නිසාද
11 ඔහු තනමලක් මෙන් වන්නේය. තද
ග්‍රීෂ්ම ඇතුව ඉර පායනකල ඉක්මනින්
තනකොළ වේලී එහි මල්ද වැටී ලක්ෂ
නද විනාසවේ. එසේම වස්තුකාරයා ත
12 මාගේ මාර්ගවලදී මලානිකවේ. පරීක්ෂා
ව ඉවසන මනුෂ්‍යයා වාසනාවන්තයෙ
ක මක්නිසාද ඔහු පරීක්ෂාකරනු ලැබූක
ල ස්වාමින්වහන්සේ විසින් තමන්ට ප්‍රේ
මවෙන්නාවුන්ට පොරොන්දුවූනාවූ ජීව
13 නයෙහි ඔටුන්න ලබන්නේය. දෙවියන්
වහන්සේ නපුරෙන් පරීක්ෂානොවෙන
නිසාත් කිසිවකු පරීක්ෂා නොකරණ නි
සාත් කිසිවෙක් පරීක්ෂාවට පැමිණිවිට දෙ
වියන්වහන්සේ විසින් පරීක්ෂාකරනු ලබ
14 මියි නොකියාවා. එහෙත් සියළු මනුෂ්‍ය
යෝ තමන්ගේ ත්‍රිෂ්ණවෙන් අදිනු ලැ
බ පොළඹනකල පරීක්ෂාවට පැමිණෙති.
15 ත්‍රිෂ්ණාව පිළිසිඳගත් කල පාපය වදන්
නීය පාපයද සම්පූර්ණවූ කල මරණය උ
16 පදවන්නේය. මාගේ ප්‍රිය සහෝදරයෙ
17 නි මුළානොවෙල්ලාය. සියළු යහපත්
සම්පූර්ණ දීම ඉහළින් පැමින තිබි පෙ
රළිමක්වත් හැරීමේ ඡායාවක්වත් නැත්
තාවූ ආලෝකයෙහි පියානන්වහන්සේ
18 ගෙන් බසින්නේය. අපි උන්වහන්සේ
ගේ මැවිලිවල නාඹුල් ඵල වෙන පිනි
ස තමන්වහන්සේගේ කැමැත්ත ලෙස
සැබෑකමේ වචනයෙන් අප ඉපදෙව්සේ
19 ක. එහෙයින් මාගේ ප්‍රිය සහෝදරයෙ
නි මනුෂ්‍යයන්ගේ කෝපයෙන් දෙවිය
න්වහන්සේගේ ධර්මිෂ්ඨකම සිද්ධනොවෙ
න බැවින් තුඹලා සියල්ලෝම ඇසීමෙහි
පමානොව කථාවටත් කෝපවීමටත් ප
20 මාවෙත්වා. එහෙයින් සියළු අපිරිසිඳුක
21 මද නපුරු ක්‍රියා රැසියද පහකොට තු
බලාගේ ප්‍රාණ ගලවාගන්ට හැකිවූ පිහි
ටුවනලද වචනය මෘදුභාවයෙන් පිළිග
22 න්නලාය. තුඹලා තමන්ම මුළාකරගනි
මින් වචනය අසනෝ පමනක් නොවී
23 ඒක පවත්වන්නෝ වෙයල්ලාය. මක්නි
සාද කිසිවෙක් වචනය අසාත් ඒ වචන
නොපවත්වන්නේනම් ඔහු කැඩපතින්
මූනේ හැටි බලන පුරුෂයෙකුට සමාන
24 ය. ඔහු තමාම බලාගනිමින් සිට අහක
ගියකල තමා කෙබඳු මනුෂ්‍යයෙක්දැයි
25 වහාම සිහිනැතිවෙයි. තුමුත් යමෙක් නි
දහස්කමේ සම්පූර්ණවූ ව්‍යවස්ථාව බලා
සිහි නැතුව අසනෙනක් නොවී ක්‍රියාව
කරනෙනක්ව එහි පිහිටා සිටින මනුෂ්‍ය
26 යා තමාගේ ක්‍රියාවට ආශීර්වාදලබයි. තව
ද තුඹලා අතරෙහි භක්තිවන්තයෙක්
ලෙස පෙනෙන කෙනෙක් තමාගේ දි
ව වලක්වා නොගෙන තමාගේ සිත මු
ළාකරගනීනම් ඒ මනුෂ්‍යයාගේ භක්ති
27 ය නිෂ්ඵලය. පියවූ දෙවියන්වහන්සේ
ගේ ඉදිරියේ පිරිසිදුවූ ශුද්ධවූ භක්තිය
නම් දුක් විඳින්නාවූ මව්පියන් නැති දරු

වන්ටද වැසුඹු ස්ත්‍රීන්ටද උපස්ථාන කිරී
මත් ලෝකයා කෙරෙන් නොකිළුටුව ත
මා රක්‍ෂාකරගැනීමත් වේ.

2. පරිච්ජ. මාගේ සහෝදරයෙනි
අපගේ තේජවන්ත ස්වාමිවූ යේසුස් ක්‍රි
2 ස්තුස්වහන්සේ කෙරෙහි ඇදහිල්ල මනු
ෂ්‍යයන්ගේ තරාතිරම් සැලකීමෙන් නො
දරල්ලාය. අතේ රන් මුදු ලා යහපත් ඇ
දුම් ඇඳි මනුෂ්‍යයෙකුත් කිළුටුවූ ඇඳුම්
3 ඇඳි මනුෂ්‍යයෙකුත් නුඹලාගේ සභාව
ට ආවොත් නුඹලා අලංකාර වස්ත්‍ර ඇඳි
පුරුෂයාට ගෞරවකොට මෙහි උතුම්
අසනේ ඉඳගනිතානැයි කියාද දුප්පත්
පුරුෂයාට එහිවත් මෙහි මාගේ පාපුටු
ව යටවත් ඉඳගනින්නැයි කියාද කි
යත්නම් නුඹලා පක්‍ෂපාතවූවෝ නො
4 වෙද්ද? දුෂ්ට කල්පනාවලින් යුක්ත වි
5 නිශ්චයකාරයෝ නොවෙද්ද? මාගේ ප්‍රි
ය සහෝදරයෙනි අහපල්ලාය. දෙවියන්
වහන්සේ තමන්ට ප්‍රේමකරන්නවුන්ට
පොරොන්දුවූ රාජ්‍යයෙහි උරුමක්කාර
යෝ වෙන පිනිසත් ඇදහිල්ලෙන් පො
හොසත්වෙන පිනිසත් මේ ලෝකයෙ
හි දිලිඳුවූ තැනැත්තන් තෝරාගත්
සේක්ද? නුමුත් නුඹලා දිලිඳුන්ට නින්
6 දාකලෝය. පොහොසත්තු නුඹලාට පී
ඩාකොට නඩුසාලාවට ඇදගෙන යන්
7 නෝ නොවෙද්ද? නුඹලා දරණ උතුම්
නාමයට ඔවුන් අපහාසකරනෝ නො
8 වෙද්ද? නුඹලා තමාට මෙන් තමාගේ අ
සල්වාසියාට ප්‍රේමකරවයි යන ලියවිල්
ල ලෙස උතුම්වූ ව්‍යවස්ථාව පවත්වන
වානම් නුඹලා යහපතක් කරන්නෝ
9 වෙති. නුමුත් තරාතිරම් බලන්වානම්
නුඹලා පව්කොට ව්‍යවස්ථාවෙන් වරද
10 ට පත්වෙති. යමෙක් එක අනාඥාවක්
කඩකොට ඉතිරි සියළු ව්‍යවස්ථාව රක්‍ෂා
කරණ නුමුත් ඔහු සියළු ව්‍යවස්ථාවෙ
11 හිම වරදකාරයෙක. මක්නිසාද පරදා
ර නොකරවයි කී තැනන්වහන්සේම
මිනී නොමරවයි කීසේක. ඉදින් නුඹ
පරදර නොකොට මිනී මරනොත් ව්‍ය
12 වස්ථාවෙහි වරදකාරයෙක. නිදහස්ක
මෙහි ව්‍යවස්ථාවෙන් විනිශ්චයකරනු ලැ
බිය යුතු තැනැත්තන් මෙන් කථාවත්
13 ක්‍රියාවත් කරපල්ලාය. මක්නිසාද කරු
ණා නොපැවැත්වූ තැනැත්තා කරුණාව
නැති විනිශ්චයක් ලබන්නේය. නුමුත්
කරුණාව විනිශ්චය පරදවා සතුටුවේ.
14 මාගේ සහෝදරයෙනි යමෙක් ඇදහිල්
ල ඇතැයි කියනා නුමුත් ක්‍රියාවල් නො
පවත්වන්නේනම් ඔහුට ප්‍රයෝජන කි
මෙක්ද? ඒ ඇදහිල්ලෙන් ඔහුට ගැල
15 වෙන්ට පුළුවන්ද? සහෝදරයෙක්වත්
සහෝදරියෙක්වත් ඇඳුම් නැතුව දවස්
16 පතා කෑම නැතුව සිටිනම් නුඹලාගෙන්
කිසිවෙක් සමගිතාවෙන් ගොස් වස්ත්‍ර
ඇඳගෙන සෑගෙන පමන කාපල්ලායයි ඔ
වුන්ට කියා ශරීරයට ඕනෑ දේවල් නො
දෙනොත් ඔවුන්ට ප්‍රයෝජන කිමෙක්
17 ද? එසේම ඇදහිල්ල ක්‍රියාවල් නූපද
18 වා තනිවූනොත් මලානම් වේ. නුඹට
ඇදහිල්ල ඇත්තේය මට ක්‍රියා ඇත්
තේය. ක්‍රියාවල් නැතුව නුඹේ ඇදහි
ල්ල මට පෙන්වාපනා මම මාගේ ක්‍රියා
වලින් මාගේ ඇදහිල්ල පෙන්වමියි ය
19 මෙකුට කියන්ට පුළුවන. එකම දෙවි
කෙනෙක් ඇතැයි නුඹ අදහනෙහිය. ඒ
ක හරිය. නුමුත් යක්‍ෂයෝ පවා විශ්වාස
20 කොට වෙව්ලති. සිස්වූ මනුෂ්‍යය ක්‍රියා
නැත්තාවූ ඇදහිල්ල මල බව දැනගන්
21 ට කැමතිද? අපේ පියවූ ආබ්‍රහම් තමන්
පුත්‍රවූ ඊසාක් පූජාසනය පිට පිදූකල ක්‍රියා
වෙන් ධර්මිෂ්ඨකොට ගනන්ගනු ලැබූ
22 වේ නොවේද? ඇදහිල්ල ඔහුගේ ක්‍රියා
වල් සමග ක්‍රියාකල හැටිද ක්‍රියාවල් නි
සා ඇදහිල්ල සම්පූර්ණවූන හැටිද පේ
23 නවා නොවේද? ආබ්‍රහම් දෙවියන්ව
හන්සේ කෙරෙහි ඇදහුයේය ඒක ඔහු
ට ධර්මිෂ්ඨකම වෙනුවට ගනන්ගන්ට
යෙදුනේය කියාද දෙවියන්වහන්සේගේ
මිත්‍රයයි කියනුලැබූයේයයි කියාද ලියා
24 තිබුන ලියවිල්ල සම්පූර්ණවූනේය. මෙ
සින් මනුෂ්‍යයෙක් ඇදහිල්ල පමනකින්
නොව ක්‍රියාවලිනුත් ධර්මිෂ්ඨකොට ග
නන්ගනු ලබන්නේයයි නුඹලාට පෙ
25 නෙන්නේය. එසේම රාබ්නම් වෙ
ශ්‍යාව පනිවිඩකාරයන් පිළිගෙන අන්
මගකින් ඔවුන් යන්ට ඇරියකල ක්‍රියා
වල්වලින් ධර්මිෂ්ඨකොට ගනන්ගනු ලැ
26 බුවා නොවේද? ආත්මය නැත්තාවූ ශරීර
ය මලාක්මෙන් ක්‍රියා නැති ඇදහිල්ල ම
ලානම් වේ.

3. පරිච්ජ. මාගේ සහෝදරයෙනි
බොහෝ ගුරුවරයෝ වෙන්ට එපාය. එ
සේ වූවොත් එයින් බලවත් අවවුව අපට

2 ලැබෙන්ට පුළුවන් බව දනිමුව. මක්නි
සාද බොහෝ දේ ගැන අපි සියල්ලෝ
ම පැකිලෙමුව. යමෙක් වචනයෙන්
නොපැකිලේනම් ඔහු සම්පූර්ණ ලෙස
යහපත් මනුෂ්‍යයෙක්ව සියළු ශරීරය ය
3 ටත්කරගන්නට ඔහුට පුළුවන. අශ්ව
යන් අපට කීකරුකරගන්නා පිණිස කට
කලියා ඔවුන්ගේ කටේ දමා එයින් ඔ
4 වුන්ගේ සියළු ශරීරය හරවාගනිමුව. නැ
වු මහත් නමුත් තදහුලඟින් ගෙනයන
කල ඉතා කුඩාවූ සුක්කානමෙන් නැවි
5 යාට කැමති ලෙස හරවනු ලබති. එලෙ
සම දිව කුඩා අවයවයක් නුමුත් මහත්
ලෙස ගරුකම් කථාකරන්නේය. කුඩා
ගින්න කොපමන මහත් දේ දවන්නේ
6 ද? දිව ගින්නක්ද අධර්මිෂ්ඨකමේ ලෝ
කයක්ද වෙයි. එසේම අපේ අවයව අත
රෙහි තිබෙන දිව සියළු ශරීරය කිළුටු
කොට සියළු ශරීර ධාතු දවන්නේය. ඒ
7 කත් නිරා ගින්නෙන් දවෙන්නේය. සිය
ළු ආකාර මෘගයෝද පක්ෂීහුද සර්පයෝද
මුහුදෙහි සත්තුද මනුෂ්‍යයන් විසින් දැන්
දමනයකරනු ලබති ඉස්සරත් දමනයක
8 රනු ලැබුවෝය. එහෙත් දිව වලක්වන්
ට කාටවත් බැරිය ඒක දමනයකරන්ට
බැරිවූ මරණ පමුණුවන විසයෙන් පි
9 රුන නපුරු දෙයක. එයින් පියවූ දෙවි
යන්වහන්සේට අපි ස්තුතිකරමුව එයිනුත්
දෙවියන්වහන්සේගේ ස්වරූපය ලෙස
මවනලද මනුෂ්‍යයන්ට අපි සාපකරමුව.
10 ස්තුතියද සාපයද එම කටින් පිටත්වෙ
යි. මාගේ සහෝදරයෙනි මේ කාරණ
11 මෙසේ වෙන්ට යුතු නැත. මිහිරි දියද
කරදියද එකම උල්පතින් පිටත්වේද?
12 මාගේ සහෝදරයෙනි දිඹුල් ගසක් ඔ
ලීව ඵලද මිදිවැලෙහි දිඹුල් ඵලද අට
ගන්ට පුළුවන්ද? එලෙස කිසි උල්පත
කින් මිහිරි දියද කරදියද උනනට බැ
13 රිය. දැනගැන්ම ඇත්තාවූ ඥානවන්ත
යෙක් තුබලා අතරෙහි ඇත්නම් ඔහු
යහපත්වූ හැසිරීමෙන් ඥානයෙහි මො
ලොක්නම ඇතුව ඔහුගේ ක්‍රියාවල් ප්‍ර
14 කාසකෙරේවා. එහෙත් තුබලාගේ හිත්
වල අරිෂ්ට ඊර්ෂ්‍යාවද විවාදයද තිබේනම්
පාරට්ටු නොකරල්ලාය සැබෑවට විරුධ
15 ව බොරු නොකියල්ලාය. මේ ඥානය
ලෞකිකවූ මාංසිකවූ යක්ෂාකාරවූ ඥාන
ය මිස ඉහලින් බසින ඥානය නොවෙයි.
16 ඊර්ෂ්‍යාවත් විවාදයත් ඇති තැන දබර
17 යත් සියළු නපුරු ක්‍රියාවළුත් ඇත. නු
මුත් ඉහලින් පැමිනෙන ඥානය පලමු
කොට පිරිසිදුය දෙවනුව සමාදනවූ මෘ
දුවූ ගුනවන්තවූ යහපත් ඵලවලිනුත් අ
නුකම්පාවෙනුත් පූර්ණවූ පක්ෂ නුවූ වංචා
18 නැත්තාවූ ඥානයක්ය. ඇරත් සමාදන
කරනනන් විසින් ධර්මිෂ්ඨකමේ ඵල සමා
දනකමින් වපුරනලද්දේය.

4. පරිචෙ. තුබලා අතරෙහි යුධයත්
පොරත් කොයින්ද? තුබලාගේ අවයව
යන් කෙරෙහි යුධකරණ තුබලාගේ තෘ
2 ෂ්ණාවලින් නොවේද? තුබලා ආසාවෙ
ති නුමුත් නොලබති. තුබලා මරවති
ඊර්ෂිත වෙති නුමුත් ලබන්ට නොහැකි
වෙති. තුබලා පොරද යුධයද කෙරෙති
නුමුත් නොඉල්වන බැවින් නොලබති.
3 තුබලා ඉල්වති නුමුත් තුබලාගේ තෘෂ්
ණාවලට වියදම්කිරීම පිණිස නපුරු ලෙ
4 ස ඉල්වන බැවින් නොලබති. පරදාරික
ස්ත්‍රී පුරුෂයෙනි ලෝකයෙහි මිත්‍රකම
දෙවියන්වහන්සේට සතුරුකමැයි නොද
නිද්ද? යමෙක් ලෝකයට මිත්‍රවෙන්ට
කැමතිනම් ඔහු දෙවියන්වහන්සේට සතු
5 රෙක. ලියවිල්ල නිරාර්ථකලෙස කියන්
නේයයි කියාවත් අප තුලෙහි වසන
ආත්මය ඊර්ෂ්‍යාවට ආසාවෙන්නේයයි කියා
6 වත් සිතද්ද? එහෙත් උන්වහන්සේ වැඩි
ය කරුණාව දෙනසේක. ඉන්නිසා දෙ
වියන්වහන්සේ උඩගුවූවන්ට එදිරිව සිට
යටහත්තන්ට කරුණාව දෙනසේකැයි කි
7 යනසේක. එහෙයින් දෙවියන්වහන්සේ
ට යටහත් වෙයල්ලාය. යක්ෂයාට එදිරිව
සිටපල්ලාය එවිට ඔහු තුබලා වෙතින් ප
8 ලා යන්නේය. දෙවියන්වහන්සේට ලං
වෙයල්ලාය එවිට උන්වහන්සේ තුබලා
ට ලංවනසේක. පව්කාරයෙනි තුබලා
ගේ අත් පවිත්‍රකරගනිල්ලාය. දෙසිත් ඇ
ත්තනි තුබලාගේ හෘදයන් සුධකරගනි
9 ල්ලාය. දුක්වෙමින් සෝකවෙමින් හඬා
පල්ලාය. තුබලාගේ සිනාසීම හැඬීමටත්
ප්‍රීතිය සෝකයටත් පෙරලනු ලබත්වා.
10 ස්වාමින්වහන්සේ ඉදිරිපිට යටත්වෙයල්
ලාය එවිට උන්වහන්සේ තුබලා උසස්
11 කරණසේක. සහෝදරයෙනි ඔවුනො
වුන්ට එදිරිව කථානොකරල්ලාය. තමා
ගේ සහෝදරයාට එදිරිව කථාකරන්
නාවූ තමාගේ සහෝදරයා විනිශ්චයක
රන්නාවූ තැනැත්තේ ව්‍යවස්ථාවට විරු

ඛව කථාකොට ව්‍යවස්ථාව විනිශ්චයක
රනෙන්ය. තුබ ව්‍යවස්ථාව විනිශ්චයකර
තොත් තුබ ව්‍යවස්ථාව පවත්වනෙනක්
12 නොව විනිශ්චය කරනෙනක්වේ. ගල
වන්ටත් විනාශකරන්ටත් සමත්වූ ව්‍යව
ස්ථාදායකවූ එකම කෙනෙක් සිටිනසේ
ක. අනුන් විනිශ්චයකරණ තුබ කවුද?
13 අදවත් හෙටවත් යම් නුවරකට ගොස්
වෙළදාම්කොට ලාභ උපදවමින් අවුරුද්
දක් එහි සිටිමුයයි කියන්නාවූ තුබලා
14 අහපල්ලාය. හෙට මක් වේදැයි තුබලා
නොදනිති. තුබලාගේ ජීවිතය කිමෙක්
ද? ඒක ස්වල්ප කාලයක් පෙනී එවලේ
15 ම මැකීයන මීදුමක් වැනිය. ඉන්නිසා
ස්වාමීන්වහන්සේ කැමතිනම් අපි ජීවත්
ව මේකවත් ඒකවත් කරමුයයි තුබලා වි
16 සින් කියයුතුය. දැන් තුබලාගේ අහං
කාරයෙන් පාරට්ටුකරගනිති එබඳුවූ සි
17 යළු පාරට්ටුකිරීම් නපුරුය. එහෙයින්
යමෙක් යහපත්කම් කරන්ට දැන නො
කරතොත්නම් ඔහුට පාපය වේ.

5. පරිච්ඡේ. වස්තුකාරයෙනි අසාපල්
ලාය තුබලාට පැමිණෙනන විපත්ති නිසා
2 අඩා වැලපියල්ලාය. තුබලාගේ වස්තුව
දිරාගියේය තුබලාගේ ඇඳුම් කාවෝ
3 කෑවෝය. තුබලාගේ රන් රිදී මලකඩ
උනේය. ඒ මලකඩ තුබලාට එදිරිවූ සා
ක්ෂියක්ව ගිනක් මෙන් තුබලාගේ මා
ංශ දවන්නේය. කෙළවර දවස්වලට
තුබලා වස්තුව රැස්කොට තැබුවෝය.
4 තුබලාගේ ගොයම් කැපූ වැඩකාරයින්
ට තුදුන් කුලී මොරගසනෙන්ය. ගොයම්
කැපූවන්ගේ මොරගැසීම සේනාවන්ගේ
ස්වාමීන්වහන්සේගේ කන්වලට ඇසු
5 නේය. තුබලා පොළොවේදී සැප සන්
තෝසයෙන් ජීවත්ව සෙලම්කාලෝය
මංගල්‍ය පිනිස සතුන් මරණ දවසේදි
මෙන් තුබලාගේ සිත් පෝෂ්‍යකරගත්
6 තෝය. තුබලා ධර්මිෂ්ඨයා අව්වුවට පත්
කොට මැරූවෝය. ඔහු තුබලාට විරු
7 ඛව සිටිනෙන් නැත. එබැවින් සහෝද
රයෙනි ස්වාමීන්වහන්සේ එනතුරු ඉව
සාපල්ලාය. ගොවියා පොළොවෙහි අන
ර්ඝ ඵල උදෙසා බොහෝසේ බලාසිටි
මින් පළමුවෙනි දෙවෙනි වරුෂා කාලය
8 පැමිණෙනතුරු ඉවසනෙන්ය. තුබලාත්
ඉවසීම ඇතුව සිටපල්ලාය. ස්වාමීන්වහන්
සේගේ ඊම කිට්ටු නිසා තුබලාගේ සිත්
9 ස්ථිරකරගනිල්ලාය. සහෝදරයෙනි තු
බලා අව්වුවට නොපැමිණෙනන පිනිස ඔ
වුනොවුන්ට එදිරිව නොකොඳුරල්ලා
ය. විනිශ්චයකාරයානන්වහන්සේ දොර
10 කඩ සිටිනසේක. මාගේ සහෝදරයෙ
නි ස්වාමීන්වහන්සේගේ නමින් කථාක
ළ අනාගතවක්තෘන් පීඩා විඳීමත් ඉවසී
මත් ගැන ආදර්ශයක්කොට ගනිල්ලාය.
11 ඉවසන්නාවූන් වාසනාවන්තයන්කොට
අපි කල්පනාකරමුව. යෝබ්ගේ ඉවසීම
ගැන තුබලා ඇසුවෝය ස්වාමීන්වහන්
සේ විසින් කල තීන්දුව දැනගන උන්ව
හන්සේ අතිසයින් අනුකම්පා ඇති දයා
වන්ත කෙනෙක් බව තුබලා දුටුවෝ
12 ය. එහෙත් මාගේ සහෝදරයෙනි සිය
ළු දෙයට වඩා කියම් ස්වර්ගය ගැනවත්
භූමිය ගැනවත් අන් කිසි දෙයක් ගැන
වත් නොදිවුර අව්වුවට නොපැමිණෙනන
පිනිස තුබලා ඒසේය කීකල එසේම වේ
13 වා නැත කීකල නැත්තම වේවා. තුබ
ලා අතරෙහි දුක් විඳිනෙනක් ඇත්නම් ඔ
හු යාඥාකෙරේවා සන්තෝසවෙන කෙ
14 නෙක් ඇත්නම් ගීතිකා කියාවා. තුබ
ලා අතරෙහි කිසි රෝගාතුරයෙක් ඇත්
නම් ඔහු සභාවෙහි වැඩිමහල්ලන්ට අඬ
ගසාවා ඔවුන් ස්වාමීන්වහන්සේගේ නා
මින් ඔහුට තෙල් ආලේපකොට ඔහු උ
15 දෙසා යාඥාකෙරෙත්වා. ඇදහිල්ලෙන්
කරණ යාඥාවෙන් රෝගාතුරයාට සුවව
නෙන්ය. ස්වාමීන්වහන්සේ ඔහුට ක්ෂමාක
රනු ලැබේ. ඔහු නිරෝගීකරණසේක ඔ
හු පව් කෙළේනම් ඒවා ඔහුට ක්ෂමාකර
16 නු ලැබේ. තුබලාගේ වරද ඔවුනොවුන්
ට කියාදී සුවවෙන පිනිස ඔවුනොවුන් උ
දෙසා යාඥාකරපල්ලාය. ධර්මිෂ්ඨ මනුෂ්‍ය
යාගේ භක්තිවන්ත යාඥාව බලසම්පන්
17 න වෙයි. එලියස් අප සමාන සැප දුක් වි
ඳින මනුෂ්‍යයෙක ඔහු වරුෂාව නොවසි
න පිනිස ඕනෑකමෙන් යාඥාකෙළේය.
එවිට තුන් අවුරුදු සමසක් මුළුලෙහි ර
18 ටට වැසි නොවැස්සේය. නැවත ඔහු යා
ඥාකෙළේය එවිට අහසින් වැසි වැස බි
19 මේ භෝග හටගත්තේය. සහෝදරයෙ
නි තුබලා අතරෙහි සැබෑකමෙන් මුලා
වූ මනුෂ්‍යයෙක් යමෙක් විසින් හරවා
ගත්තොත් පව්කාරයෙක් මුලාවූ මාර්ග
20 යෙන් හරවාගත් තැනැත්තා ආත්මයක්
මරනින් ගලවාගන පව් රාසියක් වසන්
නේයයි ඔහු දැනගනිවා.

# ප්‍රේරිතවූ පේතෘස් විසින් ලියනලද

## පලමුවෙනි සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ ප්‍රේරිතවූ පේතෘස් නම්ලත් මා
විසින් පොන්තස්හිද ගලාතියෙහිද කප්
පදෙකියෙහිද ආසියායෙහිද බිතීනියා
යෙහිද විසිර ගොස් සිටිනවුන්ට ලියා එ
2 වන වගනම් ආත්මයානන්වහන්සේ වි
සින් පිරිසිදුකරනු ලැබීමෙන් කීකරුවී
මටත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ලේ
ඉසිනුලැබීමටත් පියවූ දෙවියන්වහන්සේ
ගේ පෙර දැනගැනීමේ ප්‍රකාරයට තෝ
රාගත් තුඹලාට කරුණාවත් සමාදාන
3 යත් වැඩිවේවා. අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ පියවූ දෙවියන්ව
හන්සේට ස්තුතිවේවා. උන්වහන්සේ
අන්තිම කාලයෙහි එළිදරව්වෙන්ට සෑ
දී තිබෙන ගැලවීමට තමන්වහන්සේගේ
බලයෙන් ඇදහිල්ල කාරණකොටගෙන
4 ආරක්ෂාකරණලද්දාවූ අප උදෙසා ස්වර්ග
යෙහි ප්‍රවේසම්කලාවූ නොදිරනනාවූ
නොකිළුටුවූ මලානික නොවෙන්නාවූ
5 උරුමයෙහි ජීවමානවූ බලාපොරොත්
තුවට යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ මල
වුන්ගෙන් නැගිටීමෙන් තමන්ගේ ම
හත් දයාව ලෙස අප දෙවනුව උත්පාද
6 කලසේක. ඕනෑ ප්‍රමාණයට ස්වල්ප කා
ලයක් බොහෝ පරීක්ෂාවලින් තුඹලා
දුක් විඳින නමුත් ඒ ගැලවීම බලා තුඹ
7 ලා ඉතා ප්‍රීතියට පැමිණෙති. එසේ දුක්
විඳිනෝ ගින්නෙන් පිරිසිදුකල නමුත්
නාස්තිවී යන රත්‍රනට වඩා අගේවූ තුඹ
ලාගේ ඇදහිල්ලෙහි පරීක්ෂාකිරීම යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ එළිදරව්වෙන කා
ලයේ ප්‍රසංසාවටත් ගෞරවයටත් තේජ
8 සටත් පැමිණෙනන පිනිසය. තුඹලා උන්
වහන්සේ නුදුටුවෝ නමුත් උන්වහන්
සේට ප්‍රේම කරති. තුඹලාගේ ඇදහිල්
ලේ විපාකයවූ තුඹලාගේ ප්‍රානවල ගැ
ලවීම ලබමින් උන්වහන්සේ නුදුටු නු
9 මුත් උන්වහන්සේ කෙරෙහි විශ්වාසකො
ට සම්පූර්ණ ලෙස උතුම්වූ ප්‍රකාශක
රන්ට නුපුළුවන්වූ සන්තෝසයකින් තු
10 බලා ප්‍රීතිවෙති. තුඹලාට පැමිණිය යුතු
කරුණාව ගැන මතු වන කාරණ කී අ
නාගතවක්තෘවරු ඒ ගැලවීම ගැන උත්
11 සාහයෙන් විභාකොට සෙව්වෝය. ඔ
වුන් තුලෙහි විසූ ක්‍රිස්තුස්වහන්සේගේ
ආත්මය ක්‍රිස්තුස්වහන්සේගේ වධවිඳීම්ද
ඒ ලඟට පැමිණෙන තේජසද පලමු
වෙන් සාක්ෂිදුන්විට ඒවා කවර කාරණ
යක් ගැන කොයි කාලයක් ගැන ප්‍රකා
12 ශවේදැයි කියා ඔවුන් සෙව්වෝය. තව
ද ස්වර්ගයෙන් එවනලද්දාවූ සුධාත්මයා
නන්වහන්සේගේ පිහිටෙන් සුභාරංචිය
තුඹලාට ප්‍රකාශකලවුන් විසින් කියන
ලද කාරණ ගැන ඒ අනාගතවක්තෘව
රු තමන්ටම නොව අපට මෙහෙකල
බව ඔවුන්ට එළිදරව්කරණලද්දේය. ඒ
කාරණ බලන්නට දේවදූතයෝ පවා ඉ
13 තා කැමතිව සිටිති. එබැවින් යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේගේ එළිදරව්වීමේදී තුඹ
ලා වෙතට පැමිණෙන කරුණාව උදෙ
සා තුඹලාගේ සිත් නැමති තුනටි බැඳ
සිහි ඇතුව කෙලවර දක්වා බලා සිටප
14 ල්ලාය. තුඹලාගේ අඥානකමේ පලමු
තෘෂ්ණා ලෙස නොහැසිර කීකරු දරු
15 වන් මෙන් තුඹලා කැඳවූ තැනන්වහන්
සේ සුධව සිටිනාක්මෙන් තුඹලාත් සි
16 යළු පැවැත්මෙන් සුධවෙයල්ලාය. මක්
නිසාද මම සුධව සිටින බැවින් තුඹලාත්
17 සුධවෙයල්ලායයි ලියා තිබෙනනේය. ත
වද මනුෂ්‍යයන්ගේ තරම නොබලා එක
එකාගේ ක්‍රියා ලෙස විනිශ්චයකරණ තැ
නැන්වහන්සේට පියානන්ට මෙන් තුඹ
ලා යාඥාකරණහෙයින් මේ ලෝකයේදී
තුඹලා විදේශීව සිටින කාලය භයින්
18 යුක්තව පසුකරපල්ලාය. තුමක්හෙයින්ද
තුඹලාගේ පියවරුන්ගෙන් ලැබූ නිශ්ප්‍ර
19 යෝජන සිරිත්වලින් රන් රිදී යනාදී දි
රණ දෙයින් නොව වැකරැලිවත් කැ
ලල්වත් නැති බැටළු පැටවෙක් වැනිවූ
ක්‍රිස්තුස්වහන්සේගේ අනර්ඝවූ ලෙයින්
20 මිදීම තුඹලා ලැබූ බව දනිති. උන්වහන්

සේ මලවුන්ගෙන් නැගුටුවා මහත්තත්
වය දුන්නාවූ දෙවියන්වහන්සේ කෙරෙ
හි උන්වහන්සේ කරණකොටගෙන විශ්
වාසකරණ තුබලාගේ ඇදහිලිත් බලා
පොරොත්තුවත් දෙවියන්වහන්සේ කෙ
21 රෙහි පවතින පිනිස ලෝකය මැවීමට
පලමුවෙන් නියෝගකරණලද උන්ව
හන්සේ මේ අන්තිම දවස්වලදී තුබලා
22 උදෙසා ප්‍රකාශවූනසේක. එවා නැතුව
සහෝදරයන්ට සෝභාවෙනලෙස ආත්
මයානන්වහන්සේගේ පිහිටෙන් සැබෑ
කමට කීකරුවෙමින් තුබලාගේ සිත් පි
රිසිදුකලහෙයින් ඒ පිරිසිදු සිතින් ඔවු
නොවුන්ට ඉතාමත් ප්‍රේම කරපල්ලාය.
23 මක්නිසාද තුබලා කුනුවෙනනාවූ බීජව
ලින් නොව ජීවමානවූ සදාකල් පවතින්
නාවූ දෙවියන්වහන්සේගේ වචනය නැ
මති කුනුනොවෙනනාවූ බීජවලින් දෙ
24 වතු උපනෙනොය. තවද සියළු මනුෂ්‍ය
යෝ තනකොල මෙන් මනුෂ්‍යයන්ගේ
සියළු ඓශ්වර්‍ය්‍ය තනමල් මෙන් වෙති.
තනකොල මලානිකවෙයි එහි මල්ද වැ
25 ටී යයි. තුමූත් ස්වාමින්වහන්සේගේ වච
නය සදාකාලේටම පවතින්නේය. සුභා
රංචියෙන් තුබලාට ප්‍රකාශකරණලද වච
නය මේය.

2. පරිච්ඡෙ. එහෙයින් සියළු දුෂ්ටක
මත් සියළු වංචාවත් කපටකමත් ඊර්ෂ්‍යා
2 වත් සියළු අගුණ කීමත් හැරදමා ස්වාමි
න්වහන්සේ ගුණවන්ත කෙනෙකැයි දැ
නගත්හෙයින් වචනය නැමති අමිශ්‍රවූ
3 කිරෙන් තුබලා වඩිනවෙන පිනිස අළු
ත උපන් දරුවන් මෙන් එයට ආසාවෙ
4 යල්ලාය. යේසුස් ක්‍රිස්තුන්වහන්සේ කර
ණකොටගෙන දෙවියන්වහන්සේ විසින්
පිලිගත යුතුවූ ආත්මිකවූ යාගවල් පූජා
5 කරණ පිනිස සුඬවූ පූජක සමූහයක් කො
ට නියමකරණලද්දාවූ තුබලා මනුෂ්‍ය
යන් විසින් එපාකල තුමූත් දෙවියන්ව
හන්සේ විසින් තෝරාගන්නාලද්දාවූ අ
නඝවූ ජීවමානවූ ගලක් වැනිවූ උන්ව
හන්සේ වෙතට පැමිණ ජීවමාන ගල් ව
ශයෙන් ආත්මික දේවමාලිගාවක් කො
6 ට ඉදිකරණලද්දෝය. ඒ හැවියට ලියවී
ලෙල් ලියා තිබෙන්නේය කෙසේද? ම
ම සියොන්හි තෝරාගත් අනර්ඝවූ කො
නේ ප්‍රධාන ගලක් තබමි උන්වහන්සේ
කෙරෙහි විශ්වාසකරන්නා ලැජ්ජවට
7 නොපැමිනෙන්නේය. එහෙයින් විශ්වා
සකරණ තුබලාට උන්වහන්සේ අනර්ඝ
ය තුමූත් ගෙවල් සාදනනන් විසින් එපා
කල ගල කොනේ ප්‍රධාන ගලක් කරණ
8 ලදුව පැකිලීමේ ගලක්හා බාධාවේ පව්
තයක් කොට අකීකරුවූවන්ට කරනු
ලැබේ. ඔවුන් වචනයට අකීකරුව පැ
කිලෙති එයට ඔවුන් නියමකරණලද්
9 දෝය. තුමූත් අන්ධකාරයෙන් තමන්ගේ
තේජවන්ත ආලෝකයට තුබලා කැඳ
වාගත් තැනන්වහන්සේගේ ගුණවන්ත
කම් ප්‍රකාශකරණ පිනිස තුබලා තෝ
රාගත් වංශයක්ද රාජනීය පූජක සමූ
හයක්ද පිරිසිදුවූ ජාතියක්ද දෙවියන්ව
10 හන්සේ සන්තක සෙනගක්ද වෙති. ප
ලමු කාලයේ තුබලා සෙනගක් සිටියේ
නැත තුමූත් දැන් දෙවියන්වහන්සේගේ
සෙනගක්ව සිටිති. දයාව ලැබුවේ නැ
11 ත තුමූත් දැන් දයාව ලැබුවෝය. ප්‍රිය තැ
නැත්තෙනි විදේශීන් මෙන් වන්දනාකා
රයන් මෙන් ආත්මයට විරුඬව යුඬකර
ණ මාංසිකවූ තෘෂ්ණාවලින් වැලකී සිටි
12 න ලෙස තුබලාගෙන් ඉල්ලමි. අන්‍ය
ජාතිහු තුබලා නපුර කරනනන්කොට
තුබලාට විරුඬව කථාකරණ තුමූත් ඔ
වුන් තුබලාගේ හොඳ ක්‍රියාවල් දැක වි
භාගකරණ දවසේදී දෙවියන්වහන්සේ
ට ප්‍රසංසාකරන්ට පුළුවන්වෙන පිනිස ඔ
වුන් අතරේ යුතුලෙස කල් යවාපල්ලාය.
13 මනුෂ්‍ය අධිපතියන්ට ඒනම් උතුම් රජ්
ජුරුවන්වත් නපුරුකම් කරන්නන්ට
14 අඩුවූකරණ පිනිසද යහපත්කම් කරන්
නන්ගේ ප්‍රසංසාව පිනිසද රජ්ජුරුවන් වි
සින් නියමකල ආඥාකාරයින්ටත් ස්වාමි
න්වහන්සේ උදෙසා යටත්වෙයල්ලාය.
15 මෙසේ තුබලා විසින් හොඳ ක්‍රියා කිරී
මෙන් මෝඩයන්ගේ අඥාන කථා වැ
ලැක්වීමට දෙවියන්වහන්සේ කැමතිසේ
16 ක. නිදහස්ව සිටිනාවූ තුබලා නපුරු
කම් කිරීමට මුවාවක්කොට නොව දෙ
වියන්වහන්සේගේ වැඩකාරයින්ට සුදු
සු ලෙස තුබලාගේ නිදහස්කම පවත්වා
17 පල්ලාය. සියල්ලන්ටම ගෞරවකරපල්
ලාය. සහෝදර සමාගමට ප්‍රේමකරපල්
ලාය. දෙවියන්වහන්සේට භයවෙයල්ලා
ය. රජ්ජුරුවන්ට ගෞරව කරපල්ලාය.
18 වාළුනි යහපත්වූ ගුණවන්තවූවන්ට පම
නක් නොව සැරකරනනාවූ තුබලාගේ
ස්වාමිවරුන්ට සියළු යටත්කමෙන් කීක

19 රුවෙයල්ලාය. යමෙක් දෙවියන්වහන්
සේ කෙරෙහි හෘදසාක්ෂිය උදෙසා අයුතු
ලෙස වේදනා විඳිමින් දුක් ඉවසනොත්
20 නම් ඒක ප්‍රසංසනීය වේ. නුබලාගේ ව
රද ගැන පහර ලබනකල ඉවසිලෙලන්
වින්දෙත් මොන ප්‍රසංසාවක්ද? නුමුත්
යහපත්කම් කරණකල ඒ ගැන දුක් වි
ඳ ඉවසූවොත් ඒක දෙවියන්වහන්සේ
21 කෙරෙහි ප්‍රසංසනීය වේ. ඇරත් එයට
නුබලා කැඳවනු ලැබුවෝය. මක්නිසාද
නුබලා උන්වහන්සේගේ අඩිපාරේ ඇ
විදින පිනිස ක්‍රිස්තුස්වහන්සේ අපට ආදි
සයක් දෙමින් අප උදෙසා වධ වින්දේ
22 ක. උන්වහන්සේ කිසි පවක් නොකල
සේක උන්වහන්සේගේ මුඛයෙහි වංචා
23 වක් නුවූයේය. උන්වහන්සේ නින්දාක
රනු ලැබූකල ඊට නින්දා නොකලසේක.
දුක් විඳිනකල සැර නොකලසේක. යුතු
ලෙස විනිශ්චයකරණ තැනැත්තාණවහන්සේ
24 ට තමන්ගේ යුක්තිය බාරදුන්සේක. අ
පි පාපයට නැසී ධර්මිෂ්ඨකමට ජීවත්වෙ
න පිනිස උන්වහන්සේම තමන් ශරීර
යෙන් ගස පිට අපේ පාපවල් ඉසුළුසේ
ක. උන්වහන්සේගේ පහරවලින් නුබ
25 ලා සුවකරනු ලැබුවෝය. නුබලා මංමු
ලාව ගිය බැටළුවන් මෙන් සිටියෝය නු
මුත් දැන් නුබලාගේ ප්‍රානවල බැටළු එ
ඬේරාද නායකයාද වෙතට හැරුනෝය.

3. පරිච්. එසේම භාර්‍යාවෙනි නු
බලාගේ පුරුෂයන්ගෙන් කිසිවෙක් ව
2 චනයට කීකරු නොවිනම් නුබලාගේ
යටහත්වූ යහපත් හැසිරීම ඔවුන් දුටුකල
වචනය නැතිව නුබලාගේ හැසිරීමෙන්
ඔවුනුත් හරවාගනනාලෙස ඔවුන්ට කී
3 කරු වෙයල්ලාය. නුබලාගේ අලංකාර
විට ඉසකෙස් ගෙතීමෙන්ද රතුන් පැ
4 ළඳීමෙන්ද වස්ත්‍ර හැඳීමෙන්ද කරන්
නාවූ පිටත අලංකාරය නොව හෘදයෙ
හි ඇතුලතවූ මනුෂ්‍යයාගේ අලංකාරය
එනම් දෙවියන්වහන්සේ ඉදිරිපිට ඉතා
අනර්ඝවූ මුදුවූ සමාදානවූ හිතේ නො
5 දිරණ අලංකාරය වේවා. පලමු කාලයෙ
හි දෙවියන්වහන්සේ කෙරේ බලාපො
රොත්තුවූ සුධ ස්ත්‍රීයොත් තමන්ගේ පුරු
ෂයන්ට යටත්ව මෙලෙස අලංකාරවූ
6 නෝය. මෙසේ සාරා ආබ්‍රහම්ට ස්වාමියයි
කියා කීකරුවූනාය. නුබලාත් කිසිවක
ට භය නොව යහපත්කම් කරත්නම් සා
7 රාගේ දූවරු වෙති. එසේම පුරුෂයෙනි
නුබලා භාර්‍යාවන් සමග ජීවිතයෙහි කා
රුණාවේ උරුමක්කාරයෝවූ බැවින් නු
බලාගේ යාඥාවල් නොනවතිනපිනිස දු
ර්වල භාජනයට සමානවූ භාර්‍යාවට ගෞ
රවකොට නුවණින් වාසයකරපල්ලාය.
8 තවද නුබලා සියල්ලෝම එක්සිත්ව ඔවු
නොවුන්ගේ දුකේ සැපේ බැඳී සහෝ
දර සෙනෙහයෙන් යුක්තව අනුකම්පා ඇ
9 තුව මිත්‍රකමින් වාසයකරපල්ලාය. නුබ
ලා ආශිර්වාදයෙහි උරුමක්කාරයෝ වෙ
න පිනිස කැඳවූ බව දැන නපුරට සහ
නින්දාවටද ආශිර්වාදය මිස නපුරවත් නි
10 න්දාවවත් සිලව්නොකරල්ලාය. ජීවිතය
ට ඇළුම්ව යහපත් දවස් දකිමට කැම
තිවූ තැනැත්තේ තමාගේ දිව නපුරෙන්
ද තමාගේ තොල් වංචා කථාවෙන්ද ව
11 ලක්වාගෙන නපුරෙන් දුරුව යහපත්
කම්කොට සමගිතාව සොයමින් ඒක
12 පස්සේ යේවා. මක්නිසාද ස්වාමීන්වහන්
සේගේ ඇස් ධර්මිෂ්ඨයන් කෙරෙහිය උ
න්වහන්සේගේ කන් ඔවුන්ගේ යාඥාවල
ට යොමුකර තිබෙයි. උන්වහන්සේගේ
මුහුණ නපුරු ක්‍රියා කරනනන්ට විරුඬව
13 පවතින්නේය. නුබලා යහපත් දෙය ප
වත්වතොත් නුබලාට නපුර කරන්නේ
14 කවුද? නුමුත් නුබලා ධර්මිෂ්ඨකම උදෙ
සා පීඩා විඳිතොත් වාසනාවන්තයෝය.
ඔවුන් නුබලා භයගන්වන දේට භය
වෙන්ටවත් වියවුල්වෙන්ටවත් එපාය.
15 නුමුත් ස්වාමිවූ දෙවියන්වහන්සේ පිරිසිදු
වසයෙන් නුබලාගේ සිත්වල තබාගනි
ල්ලාය. තවද නුබලාට ඇත්තාවූ බලා
පොරොත්තුව ගැන නුබලාගෙන් අහන
සියල්ලන්ට සිහියෙනුදු මුදුකමෙනු උත්
16 තර දෙන්ට නිතර සැදී සිටපල්ලාය දු
ෂ්ටකම් කරන්නෝයයි නුබලා ගැන අ
ගුන කීමෙන් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙ
හි නුබලාගේ යහපත් හැසිරීමට නින්ද
පමුනුවන්නන් ලැජ්ජාවෙන පිනිස යහ
පත් හෘදසාක්ෂියෙන් යුක්තව සිටපල්ලා
17 ය. ඇරත් නුබලා දුක් විඳිනවාට දෙවිය
න්වහන්සේ කැමතිසේක්නම් අයහපත්
ක්‍රියාවල් නිසා නොව යහපත් ක්‍රියාවල්
18 නිසා දුක් විඳීම යහපත. එලෙසම දෙවි
යන්වහන්සේ ලඟට අප ගෙනෙන පිනි
ස ධර්මිෂ්ඨවූ ක්‍රිස්තුස්වහන්සේම අධර්මි
ෂ්ඨයන් වෙනුවට පාපය ගැන වරක් වධ
වින්දසේක. උන්වහන්සේ ශරීරයෙන්

මරනු ලැබ ආත්මයානන්වහන්සේ කරණ
19 කොටගෙන ජීවත්වනු ලැබූසේක. එම
ආත්මයානන්වහන්සේ කරණකොටගෙ
20 න උන්වහන්සේ ගොස් නෝවාගේ දව
ස්වල නැව සාදනතුරු දෙවියන්වහන්සේ
ඉවසීමෙන් බලා සිටි කාලයෙහි අකීක
රුව සිරගෙයි සිටි ආත්මවලට දේසනා
කලසේක. ඒ නැවේ සිටිය ස්වල්පය එ
නම් අටදෙන වතුරෙන් ගැලවුනෝය.
21 ඊට ආදිසයක් වැනිවූ බව්තීස්මයෙන්
ඒනම් ශරීරයෙහි අපවිත්‍රකම පහකිරී
මෙන් නොව දෙවියන්වහන්සේ කෙරෙ
හි යහපත් හෘදසාක්ෂියෙන් යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ මලවුන්ගෙන් නැගිටී
ම කරණකොටගෙන දැනුත් අපි ගැල
22 වෙමුව. උන්වහන්සේ ස්වර්ගයට ගොස්
දෙවියන්වහන්සේගේ දකුනු පැත්තේ
සිටිනසේක. දේවදූතයෝද ස්වාමීහුද
ද බලවත්තයෝද උන්වහන්සේට යටත්
කරනලද්දෝ වෙති.

4. පරිච්ඡ. ක්‍රිස්තුස්වහන්සේ ශරීර
යෙන් අප උදෙසා වධ වින්ද බැවින් නුඹ
2 ලාත් එබඳු සිතින් සැරසියල්ලාය. මක්
නිසාද ශරීරයෙන් වධ වින්ද තැනැත්තේ
තමන්ට ඉතිරිව තිබෙන ආයුෂයේදී ත
වත් මනුෂ්‍යයන්ගේ ආසාවල් ලෙස නො
ව දෙවියන්වහන්සේගේ කැමැත්ත ලෙස
ජීවත්වෙන්ට පුළුවන්වෙන පිනිස පාප
3 යෙන් වැලකුණේය. කාමයෙහිද ආසා
වෙහිද බොහෝකොට සුරාපානයෙහිද
සෙල්ලම් කිරීමෙහිද කෑම බීමෙහිද දේ
වතාවුන් කෙරෙහි පවත්වන පිලිකුල්වූ
ඇදහීමෙහිද හැසිර අන්‍ය ජාතීන්ගේ
කැමැත්ත කරමින් අපේ ජීවිතයෙහි ප
4 සුගියාවූ කාලය අපට ඉතා ඇත. දැන්
නුඹලා ඔවුන් සමග එම අනාචාර දේ කි
රීමට නොයන බැවින් ඔවුන් පුදුමව නු
5 ඹලාගේ අගුන කියති. ඔවුන් ජීවත්වෙ
නාන්ද මලවුන්ද විනිශ්චයකරන්ට සූදා
සිටින තැනන්වහන්සේට ගනන්දෙනවා
6 ඇත. තවද මේ නිසා මලාවූ මනුෂ්‍යාකා
රයෙන් මාංසයේදී විනිශ්චයකරනු ලැ
බූ නමුත් දේවාකාරයෙන් ආත්මයෙහි ජී
වත්වෙන පිනිස ඔවුන්ට සුභාරංචිය ප්‍රකා
7 ශකරනලද්දේය. නුඹුත් සියළු දේවල
ම කෙලවර ලන්වූ බැවින් හොඳ සිහි
යෙන් යුක්තව යාඥාවීමට පිබිදසිටිල්ලා
8 ය. ඇරත් ප්‍රේමය බොහෝ පාපවල් ව
සාගනවා බැවින් සියළු දේටම වඩා නු
බලා ඔවුනොවුන්ට ඉතා ප්‍රේමවෙයල්
9 ලාය. ලෝභ නැතුව ඔවුනොවුන්ට ආ
10 ගන්තුක සත්කාර කරපල්ලාය. දෙවියන්
වහන්සේගේ නානාප්‍රකාර කරුණාවෙ
හි යහපත් ගබඩාකාරයන් මෙන් එක
එකා තෑගි ලැබූ ලෙස එයින් ඔවුනො
11 වුන්ට උපකාර කෙරෙත්වා. යේසුස් ක්‍රි
ස්තුස්වහන්සේ කරණකොටගෙන සිය
ළු කාරණාවලින් දෙවියන්වහන්සේ ගෞ
රවයට පැමිනෙන පිනිස කථාකරන තැ
නැත්තෝ දෙවියන්වහන්සේගේ වචනය
ලෙස කථාකෙරේවා සේවය කරණ තැ
නැත්තෝ දෙවියන්වහන්සේ විසින් දුන්
සමර්ථකම ලෙස සේවය කෙරේවා. එම
යේසුස් ක්‍රිස්තුස්වහන්සේට සදාකාලේ
ටම ප්‍රසංසාවද පරාක්‍රමයදවේ ආමෙන්.
12 ප්‍රේමවන්තයෙනි නුඹලා පරීක්ෂාකිරීම
පිනිස තිබෙන ගිනි වැනිවූ පරීක්ෂාව ගැ
න යම් අපූර්වවූ කාරණාවක් නුඹලාට පැ
මිනුනාක්මෙන් පුදුම නොවෙල්ලාය.
13 නුඹුත් ක්‍රිස්තුස්වහන්සේගේ තේජවන්ත
කම එලිදරව්වෙනකල ඉතා මහත් ප්‍රීති
යකින් නුඹලා සතුටුවෙන පිනිස උන්ව
හන්සේගේ වධවිදීමෙහි නුඹලාත් පංගු
14 කාරයෝ බැවින් සතුටුවෙයල්ලාය. නු
බලා ක්‍රිස්තුස්වහන්සේගේ නාමය උදෙ
සා නින්දාකරනු ලබතොත් වාසනාවන්ත
යෝය. මක්නිසාද තේජවන්තකමෙහි
දෙවියන්වහන්සේගේ ආත්මය නුඹලා
කෙරෙහි පවතිනෝය. ඔවුන් විසින් උ
න්වහන්සේ අපහාසකරනු ලබනසේක
නුඹුත් නුඹලා විසින් ගෞරවකරනු ල
15 බනසේක. නුඹලාගෙන් කිසිවෙක් මිනී
මරන්නෙක් මෙන්වත් සොරෙක් මෙන්
වත් නපුරු ක්‍රියා කරන්නෙක් මෙන්වත්
අනුන්ගේ කාරණ බලා ඇවිදින්නෙක්
16 මෙන්වත් අවවු නොවිඳීවා. නුඹුත් ක්‍රිස්
තියානිකාරයෙක් මෙන් කිසිවෙක් අවි
වූ විඳිතොත් ඔහු ලැජ්ජා නොව මේ කා
රණාව නිසා දෙවියන්වහන්සේට ප්‍රසංසා
17 කෙරේවා. දෙවියන්වහන්සේගේ පවු
ලේ විනිශ්චය පටන්ගත යුතු කාලය පැ
මිනුනේය. විනිශ්චය අප ලඟ සිට පටන්
ගත්තොත් දෙවියන්වහන්සේගේ සුභා
රංචියට අකීකරු වෙන්නවුන්ගේ අන්
18 තිමය මක්වේද? ධර්මිෂ්ටයෝ අමාරු
වෙන් ගලවනු ලබතොත් දේවභක්ති
නැත්තෝත් පව්කාරයෝත් කොතන

19 පෙනෙනද්ද? එබැවින් දෙවියන්වහන්
සේගේ කැමැත්ත ලෙස පීඩා විඳින්නෝ
විශ්වාස මැවුම්කාරවූ උන්වහන්සේට
යහපත්කම් කිරීමෙන් තමන්ගේ ප්‍රාන
වල් භාරදෙත්වා.

5. පරිච්. වැඩිමහල්ලෙක්ද ක්‍රිස්
තුස්වහන්සේගේ වධවිඳීමේ සාක්ෂිකාර
යෙක්ද මතු එළිදරව්වියයුතුවූ මහත්ත
ත්වයෙහි පංගුකාරයෙක්ද වන මම තුඹ
ලා අතරෙහි වැඩිමහල්ලන්ට අවවාද
2 කෙරෙමි. බලාත්කාරයක් නිසා නොව
කැමැත්තෙන් කිළුටු වස්තුව උදෙසා
නොව යහපත් සිතින් තුඹලා අතරෙහි
දෙවියන්වහන්සේගේ රැළ බලාගන ප්‍ර
3 වේසම්කරපල්ලාය. තවද දෙවියන්ව
හන්සේගේ උරුමය ආඬුකරනනන් වශ
යෙන් නොව රැළට ආදිසව සිටපල්ලා
4 ය. එවිට ප්‍රධානවූ එඬේරා ප්‍රකාශවූකල
තුඹලා තේජසෙහි මලානික නොවෙන්
5 නාවූ ඔටුන්න ලබනවා ඇත. එසේම
යෞවනයෙනි වැඩිමහල්ලන්ට යටත්
වෙයල්ලාය. දෙවියන්වහන්සේ උඩඟු
නැනැත්තන්ට විරුද්ධව සිටින බැවින්ද උ
ඩඟු නැති නැනැත්තන්ට කරුණා කරණ
බැවින්ද තුඹලා සියල්ලෝම උඩඟු නැති
කම පැළඳගෙන ඔවුනොවුන්ට යටත්
6 වෙයල්ලාය. දෙවියන්වහන්සේ විසින් සුදු
සු කලට තුඹලා උසස්කරණ පිණිස උන්
වහන්සේගේ බලවත් අතට යටත්වෙය
7 ල්ලාය. උන්වහන්සේ තුඹලා සලකන
බැවින් තුඹලාගේ සියළු කනගාටු උන්
8 වහන්සේ කෙරෙහි තබාපල්ලාය. තුඹ
ලාගේ සතුරුවූ යක්ෂයා ගොරවන සිංහ
යෙක් මෙන් කවරකු ගිලිම්දැයි සො
යමින් ඇවිදින බැවින් සිහි ඇතුව සිට පි
9 බිද හිදිල්ලාය. ලෝකයෙහි සිටින තුඹ
ලාගේ සහෝදර සමූහයා අතරෙහි එම
දුක්විඳීම් සම්පූර්ණයෙන් සිද්ධවෙන බව
දැන ඇදහිල්ලෙහි ස්ථිරව සිට යක්ෂයාට
10 විරුද්ධව සිටපල්ලාය. ක්‍රිස්තුස් යේසුස්ව
හන්සේ කරණකොටගෙන තමන්ගේ
සදාකාල තේජසට අප කැඳවූ සියළු කා
රණාවෙහි දෙවියන්වහන්සේ තුඹලා ටි
ක වේලාවක් වධවින්දයින් පසු තුඹ
ලා සම්පූර්ණ ලෙස පිරිසිදුකොටද ස්ථි
රකොටද බලවත්කොටද පිහිටුවනසේ
11 ක්වා. උන්වහන්සේට මහිමතාවයත් පරා
ක්‍රමයත් සදාකාලේටම වේවා. ආමෙන්.
12 තුඹලා පිහිටා සිටින මේ කරුණාව දෙ
වියන්වහන්සේගේ සැබෑවූ කරුණාවයයි
සාක්ෂි දෙමින් තුඹලාට අවවාදකරමින්
විශ්වාස කෙනෙකැයි මට හිතෙන සිල්
වානස්නම් සහෝදරයා අත එසුමෙන්
13 ලියා එව්මි. තුඹලා සමග තෝරාගත් බ
බිලෝනියෙහි සිටින සභාවද මාගේ පු
ත්‍රවූ මාක්ද තුඹලාට ආචාර කෙරෙති.
14 ප්‍රේමවූ සිඹීමකින් ඔවුනොවුන්ට ආචාර
කරපල්ලාය ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරෙහි පවතින තුඹලා සියල්ලන් ස
මග සමාදානය වේවා. ආමෙන්.

## ප්‍රේරිතවූ පේත්‍රුස් විසින් ලියනලද දෙවෙනි සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ මෙහෙකරුවෙක්ද ප්‍රේරිත
යෙක්දවූ සීමොන් පේත්‍රුස්නම්වූ මා වි
සින් අපේ දෙවිවූ ගැලවුම්කාරවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ ධර්මිෂ්ඨකමෙන් අ
නර්ඝවූ ඇදහිල්ල අප සේම ලැබූවන්ට
2 දෙවියන්වහන්සේ ගැනත් අපගේ ස්වා
මිවූ යේසුස්වහන්සේ ගැනත් දැනගැනී
මෙන් කරුණාවත් සමාදානයත් වැඩිවේ
3 න ලෙස ලියා එවන වගනම්. තේජස
වත් සත්පුරුෂකමටත් අප කැඳවූ තැන
න්වහන්සේ ගැන දැනගැනීම කරණකො
ටගෙන තමන්ගේ දේව බලයෙන් ජීවි
තයටත් දේව භක්තියටත් සුදුසුවූ සිය
4 ළු දේ අපට දෙනලද්දේය. තෘෂ්ණාව නි
සා ලෝකයේ තිබෙන කිළුටුකමෙන්
තුඹලා මිදීම ලැබ දේව ස්වභාවට පංගු
කාරයෝ වෙන පිණිස ඉතා මහත් අන
ර්ඝවූ පොරොන්දුවල් අපට දෙනලදේ
5 ය. තුඹලාත් මේ ගැන සියළු උත්සාහය
පවත්වමින් තුඹලාගේ ඇදහිල්ලට ධෛ
6 ර්යයත් ධෛර්යයට දැනගැනීමත් දැන
ගැනීමට පමන දැනීමත් පමන දැනීමට
ඉවසීමත් ඉවසීමට දේවභක්තියත් දේව

7 භක්තියට සහෝදර ස්නේහයත් සහෝ
දර ස්නේහයට ප්‍රේමයත් එකතුකරපල්
8 ලාය. මේ දේ තුබලා කෙරෙහි තිබී අ
ධිකවශයෙන් පවතිනම් අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ගැන දැනගැනී
මෙහි කම්මැලි බවටවත් අඵල බවටවත්
9 නොපැමිණෙති. තුමුත් මේ දේ නැති
තැනැත්තේ අන්ධව දුර දක්නට නොහැ
කිව තමා විසින් කරණලද පව්වලින් ප
විත්‍රකරනු ලැබූ බව සිහිනැති කලෝය
10 එබැවින් සහෝදරයෙනි තුබලාගේ කැ
දවීමද තෝරාගැනීමද ස්ථිරකරණපිනිස
ඉතා වියඝ්‍රකරපල්ලාය. මෙසේ කලොත්
තුබලා කිසි කලෙකත් පසුබට නොවෙ
11 ති. තවද අපගේ ස්වාමිවූද ගැලවුම්කා
රවූද යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සදා
කාලවූ රාජ්‍යයට පහසුවෙන්ම ඇතුල්වී
12 ම තුබලාට ලැබෙනවා ඇත. එබැවින්
තුබලා මේ දේ දැනගත් තුමුත් දැනට ප
වතින සැබෑකමෙහි ස්ථිරව සිටින තුමුත්
තුබලාට මේ දේ නිතර සිහිනොකරවා
13 නොසිටිමි. තවද අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ මට පෙන්වූ ලෙසම මා
ගේ මේ කූඩාරමෙන් ඉක්මනින් අහක්
14 වෙන්ට ඕනෑ බව දැන මේ කූඩාරමෙහි
සිටිනතුරු සිහිකරවීමෙන් තුබලා පුබුදු
15 වන්ට සුදුසුයයි සිතමි. ඇරත් මාගේ ඇ
වෑමෙන් තුබලාට මේ දේ නිතර සිහි
වෙන්ට පුළුවන්වෙන පිනිස උත්සාහක
16 රන්නෙමි. මක්නිසාද අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පරාක්‍රම
යත් ඊමත් අපි තුබලාට දැන්වූකල උන්
වහන්සේගේ මහත්තත්වය ඇසින් දුක
ලා භිසප්‍රයෝගයෙන් යොදනලද ප්‍රබන්
17 ධ කථාවල් කියාදුන්නේ නැත. මක්නි
සාද මේ මාගේ ප්‍රිය පුත්‍රයාය මොහු කෙ
රේ බොහොකොට සතුටුවෙයිමියි යන
ශබ්දයක් උතුම්වූ තේජසෙන් උන්වහන්
සේ කරා පැමිණි කල්හි පියවූ දෙවියන්
වහන්සේගෙන් ගෞරවයත් තේජසත්
18 උන්වහන්සේ ලැබූසේක. උන්වහන්
සේ සමග අපි සුද්ධවූ පර්වතයෙහි සිටිද්
දී ස්වර්ගයෙන් ආවාවූ මේ ශබ්දය ඇ
19 සිමුව. තවද ඉතා ස්ථිරවූ අනාගත වච
නයකුත් අපට ඇත. දවහළ පැමිණ ප
හන්තාරකාව තුබලාගේ හෘද තුලෙහි
පායනතුරු අඳුරු තැනක බබලන එලි
යක් මෙන් ඒ වචනය මනාකොට සැල
කුවොත් තුබලා යහපතක් කෙරෙති.
20 සුද්ධ ලියවිල්ලෙහි කිසි අනාගත වචන
යක් මනුෂ්‍යයෙකුගේ අභිප්‍රායෙන් හට
ගත්තේ නැතැයි පලමුකොට දැනගත
21 යුත්තේය. මක්නිසාද පූර්ව කාලයෙහි අ
නාගත වචනය මනුෂ්‍යයන්ගේ කැමැත්
තෙන් කියනු නොලැබූයේය. දෙවියන්
වහන්සේගේ සුද්ධවූ මනුෂ්‍යයෝ සුද්ධාත්
මයානන්වහන්සේ නියමකල ලෙසම කී
වෝය.

2. පරිච්ඡේ. සෙනග අතරේ බොරු
අනාගතවක්තෘවරු සිටියෝය. එලෙස
ම විනාසයට පමුනුවන දුෂ්ඨ භේදවල්
තුබලා අතරට ගෙනෙනනාවූ තමන් මු
දවාගත් ස්වාමීන්වහන්සේ පහකොට ත
මන් පිටට කඩිනමින් විනාසය පමුනුවා
ගන්නාවූ බොරු උගන්වන්නෝ තුබලා
2 අතරෙත් සිටිනවා ඇත. ඔවුන්ගේ විනා
සවෙන මාර්ගවල බොහෝ දෙනෙක්
යනවා ඇත. ඔවුන් නිසා සැබෑකමෙහි
3 මාර්ගය නින්දාකරනු ලබන්නේය. ලෝ
භකම නිසා ඔවුන් වචා වචනවලින් තු
බලා වෙළදාම් කරති. බොහෝ කලක
පටන් ප්‍රකාසවූ ඔවුන්ගේ විනිශ්චය ප්‍රමා
ද නොවේ. ඔවුන්ගේ විනාසයද නිදා
4 නොවැටේ. තවද පව් කල දූතයන්ට
දෙවියන්වහන්සේ අනුකම්පා නොකො
ට ඔවුන් නිරයෙහි හෙලා විනිශ්චය දව
ස වෙනතුරු ප්‍රචණ්ඩසම්වීමට අන්ධකාරයේ
5 විලංගුවලට පාවාදුන්සේක. ඇරත් උන්
වහන්සේ පුරාණ ලෝකයට අනුකම්පා
නොකොට ධර්මිෂ්ඨකමෙහි දේශනාකා
රයෙක්වූ නෝවෑ තවත් සත්දෙනෙක්
සමග ගලවාගෙන අධර්මිෂ්ඨවූ ලෝකය පි
6 ටට වතුරගැල්ම එව්වසේක. තවද උන්ව
හන්සේ සොදොම් සහ ගොමොරා දෙ
නුවර අළුකොට මතු දේවභක්ති නැත්
තන් ලෙස ජීවත්වෙනතන්ට ආදර්ශයක්
කොට ඔවුන්ට අච්චුදෙමින් විනාසකො
7 ට දුෂ්ටයන්ගේ අපවිත්‍රවූ හැසිරීම නිසා
කනගාටුවූනාවූ ධර්මිෂ්ඨවූ ලොත් ගැලවූ
8 සේක. ඒ ධර්මිෂ්ඨයා ඔවුන් අතරෙහි ව
සමින් ඔවුන්ගේ අධර්මිෂ්ඨ ක්‍රියාවල් දව
සින් දවස දැකීමෙනුත් ඇසීමෙනුත් ත
මන්ගේ ධර්මිෂ්ඨවූ සිතට දුක් පැමිණුනේ
9 ය. එබැවින් දේවභක්තියන් පරීක්ෂාවලින්
ගලවන්ටත් අනාචාරවූ කාම තෘෂ්ණා
වෙන් හැසිරෙනනාවූ අඹුවට නින්දාක
රනනාවූ අයවල් ප්‍රධානකොට අධර්මිෂ්

වයන් දඬුවම් ලැබීම පිණිස විනිශ්චයෙ
හි දවස දක්වා ප්‍රවේසම්කරන්ටත් ස්වා
10 මින්වහන්සේ දන්නාසේක. මොවුන් අ
කීකරුවූ හිතුවක්කාරවූ උත්තමයින්ට
නින්දාකරන්ට භය නැත්තාවූ අයවල්ය.
11 නුමුත් බලපරාක්‍රමයෙන් උතුම් දූතයෝ
වත් ස්වාමීන්වහන්සේ ඉදිරියෙහි උත්ත
මයන්ට විරුද්ධව නින්දිත චෝදනා නොනැ
12 ඟති. මොවුන් අල්වා නාස්තිකරනු ල
බන්ට උපන් නුවන නැති වන මෘගයන්
මෙන් තේරුම් නැති දේ ගැන නපුරු
කථාකරමින් අධර්මිෂ්ඨකමේ විපාක ලැ
බ තමන්ගේම අපවිත්‍රකමෙහි සම්පූර්ණ
13 යෙන්ම විනාසවෙති. මොවුන් දවල් ප
වා කාමාධ්‍යාස සෙල්ලමට සතුටුවෙති.
ඔවුන් නුඹලා සමග මගුල් කෑම කනක
ල ඔවුන්ගේ වංචා ප්‍රයෝගයෙන් සැපලැ
14 බ කැලැල් හා දොස ඇත්තෝ වෙති. ඔ
වුන් පාපයෙන් නොවලකින පරදාර
යෙන් පිරුනු ඇස් ඇතිව ස්ථිර සිත් නැ
ත්තන් රවටමින් ලෝභවූ ක්‍රියාවලට කැ
මති සිත් ඇති සාපයට පත්කරනු ලැබූ
15 වෝ වෙති. ඔවුන් හරි මාර්ගය අත්හැ
ර බොසෝර්ගේ පුත්‍රවූ බාලම්ගේ අධි
16 පාරේ ගොස් මුලාවූවෝය. ඒ බාලම් අ
ධර්මිෂ්ඨකමේ කුලියට ආසාවී තමාගේ වා
හනයවූ තමාගේ ගොළු කොටළුවා මනු
ෂ්‍ය හඬින් කථාකොට අනාගතවක්තෘ
හුගේ අඥානකමට තරවටුකලවිට ඔහු
ගේ දුෂ්ටකම නිසා අවවාද ලැබුයේය.
17 ඔවුන් වතුර නැති ලින්ය. තද සුලඟින්
ගෙනයන වලාපටලයෝය. ඔවුන්ට ස
නාන්ධකාරය සදාකාලේටම තබා තිබෙ
18 නේය. ඔවුන් ගාම්භීරවූ නිෂ්ඵලවූ ව
චන කථාකරමින් මුලාවූවන්ගෙන් සිය
ළු ආකාරයෙන්ම මිදී සිටින්නන් මාංසික
ආසාවලිනුත් කාම විකාරයෙනුත් රවට
19 ති. වෙන අයට නිවාල්කම දෙන්ට පො
රොන්දුවෙන අතර ඔවුන් අපිරිසිදුකමට
වාල්ව සිටිති. මක්නිසාද යමෙක් යම්
දෙයකින් පරාදවූනොත් ඔහු ඊට වාල්
20 ව සිටිනේය. නුමුත් ස්වාමිවූ ගැලවුම්
කාරවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ දැ
නගැනීමෙන් ලෝකයෙහි අසූචිකමින් මි
දුනු තැනැත්තෝ නැවත ඊට අසුවී පැ
රදුනොත් ඔවුන්ගේ පටන්ගැන්මට වඩා
21 කෙලවර නපුරුවේ. ඔවුන් ධර්මිෂ්ඨක
මේ මාර්ගය දැනගත් පසු ඔවුන්ට භාර
වුනු සුද්ධවූ ආඥාවෙන් වෙන්වීමට වඩා ඒ
22 මාර්ගය දැනනොගැනීම යහපත. බල්
ලා තමාගේ වමනයටද සෝදනලද ඌ
රා මඩේ පෙරලීමටද හැරී ගියේයයි
යන සැබෑවූ උපමාව ඔවුන්ට වැටෙන්
නේය.

3. පරිච්ඡේ. ප්‍රේමවන්තයෙනි මම
මේ දෙවෙනි ලියමන නුඹලාට ලියමි.
2 මේ ලියුම් දෙකෙන් පිරිසිදුවූ අනාගත
වක්තෘන් විසින් පලමුවෙන් කියනලද ව
චනද ස්වාමිවූ ගැලවුම්කාරයානන්වහන්
සේගේ ප්‍රේරිතවූ අපේ ආඥාවද නුඹලා
ට මතක්වෙන පිණිස නුඹලාට සිහිකරව
මින් නුඹලාගේ පවිත්‍රවූ සිත් පුබුදුකරමි.
3 අන්තිම දවස්වලදී තමන්ගේ තෘෂ්ණා
ලෙස හැසිරෙන්නාවූද පියවරු මැරුනු
පසු මැව්මේ පටන්ගැන්මේ සිට සියළු දේ
4 තිබුනාක් මෙන් පවතින බැවින් උන්ව
හන්සේගේ ඊමෙහි පොරොන්දුව කො
තැන්හිදැයි කියන්නාවූද කවටකම් කර
න්නෝ පැමිනෙනවා ඇතැයි පලමුකො
5 ට දැනගනිල්ලාය. නුමුත් අහසද වතුර පි
ටත් වතුර අතරෙත් පිහිටි පොලොවද
දෙවියන්වහන්සේගේ වචනයෙන් පුරා
න කාලේ පැවති බව ඔවුන් කැමැත්
6 තෙන් නොදැන සිටිති. එසින් එකල ති
බුන ලෝකය වතුරෙන් වැසී විනාසවූ
7 නේය. එහෙත් දැන් පවතින අහසද
පොලොවද විනිශ්චයේත් අධර්මිෂ්ඨයන්
ගේ විනාසයේත් දවස දක්වා ගින්නෙන්
දැවීමට එම වචනයෙන් ඉතුරුකර තිබෙ
8 න්නේය. නුමුත් ප්‍රේමවන්තයෙනි ස්වා
මින්වහන්සේට එක දවස අවුරුදු දහ
සක් මෙන්ද අවුරුදු දහස එක දවසක්
මෙන්ද වේයයි යන මේ එක කාරණාව
9 නුඹලා නොදැන සිටින්ට එපාය. සමහ
ර මනුෂ්‍යයෝ ප්‍රමාදයයි සිතන හැටියට
ස්වාමින්වහන්සේ තමන්ගේ පොරොන්දු
ව ඉෂ්ටකිරීම ප්‍රමාද නොකරනසේක. නු
මුත් සියල්ලෝම පසුතැවිලි වෙනවාට මි
ස කිසිවෙක් විනාසවෙනවාට උන්වහන්
සේ නොකැමතිව අප කෙරෙහි ඉතා ඉ
10 වසිලි ඇතුව සිටිනසේක. එහෙත් රාත්‍රි
යෙහි සොරෙක් එන්නාක්මෙන් ස්වාමි
න්වහන්සේගේ දවස පැමිනෙන්නේය.
ඒ දවසේදී අහස මහත් ශබ්දයෙන් පහ
ව යන්නේය මහ භූතයෝද තද උෂ්ණ
යෙන් දියව යන්නෝය. පොලොවද එහි
11 සියළු කර්මාන්තද දලා යන්නේය. මේ

තවක්ශූන්ටත් පවිත්‍රයන්ටත් ඔබවහන්
සේගේ නාමයට භයවෙන කුඩා මහත්
තැනැත්තන්ටත් විපාක දෙනතාවූ පො
ලොව විනාසකරනතන් විනාසකරනනා
19 වූ කාලයද පැමිණුනේයයි කීවෝය. දෙ
වියන්වහන්සේගේ මන්දිරය ස්වර්ගයෙ
හි අරිනු ලැබුයේය. උන්වහන්සේගේ
මන්දිරයෙහි තමන් ගිවිසුමේ පෙට්ටිය
පෙනුනේය. විදුලියත් ශබ්දයත් ගර්ජ
නාවත් පොලොව කම්පාවත් මහත් පා
න වැස්සත් වූනේය.

12. පරිච්ඡේ. තවද මහත් ආශ්චර්යයක්
ස්වර්ගයෙහි පෙනුනේය. කෙසේද සූ
ර්‍යයා පැලඳගෙන පාද යට චන්ද්‍රයාද හිස
පිට තාරකා දොලසකින් ඔටුනනක්ද ඇ
2 ති ස්ත්‍රියෙක් වූවාය. ඈ ගර්භිනිව වද
න වේදනා විඳිමින් වදන්ට කෑගැසුවා
ය. ස්වර්ගයෙහි තවත් ආශ්චර්යයක් පෙ
3 නුනේය. බලව හිස් සතක්ද අං දසයක්
ද හිස් පිට ඔටුනු සතක්ද ඇති මහත් ර
4 තු සර්පයෙක් වූනේය. උගේ වල්ගයෙන්
අහසේ තාරකාවන්ගෙන් තුනෙන් කො
ටසක් ඇද බිම හෙළුවේය. ඒ සර්පයාද
වදන්ට ආසන්නව සිටිය ස්ත්‍රීගේ ලදරු
වා උපදිනකොටහිම කන්ට ඈ ඉදිරිපි
5 ට සිටියේය. ඈද සියළු ජාතීන්ට යද
ඬකින් ආඥාකරණ පිරිමි දරුවකු වැදුවා
ය. ඇගේ ඒ ලදරුවා දෙවියන්වහන්
සේ වෙතටත් උන්වහන්සේගේ සිංහාස
6 නය වෙතටත් ඔසවාගනු ලැබුයේය. ස්ත්‍රී
වනාන්තරයෙහි සැඟවී ගියාය. එහි එක්
දහස් දෙසිය සැට දවසකට පෝෂ්‍යය ල
බන පිනිස දෙවියන්වහන්සේ විසින් පිළි
යෙලකරණලද ස්ථානයක් ඈට තිබුනේ
7 ය. තවද ස්වර්ගයෙහි යුද්ධයක් විය මිඛා
යෙල් සහ තමන්ගේ දූතයෝද සර්පයාට
8 විරුද්ධව සටන්කලෝය. සර්පයාද තමා
ගේ දූතයෝද සටන්කොට ජයනොලැ
බුවෝය. ස්වර්ගයෙහි ස්ථානය ඔවුන්ට
9 තවත් නොවිය. යක්ෂයාය සාතන්යයි කි
යනලද මුළු ලෝකය රවටන මහත් ස
ර්පනම් ඒ මහළු සර්පයා පිටතට හෙළනු ලැ
බුයේය. ඔහු බිම හෙළනුලැබුයේය. ඔ
හුගේ දූතයෝද ඔහු සමග පිටතට හෙ
10 ළනුලැබුවෝය. තවද ගැලවීමද බලය
ද අපගේ දෙවියන්වහන්සේගේ රාජ්‍යයද
තමන් ක්‍රිස්තුස්වහන්සේගේ පරාක්‍රමයද
පැමිණුනේය. අපේ සහෝදරයන්ට වර
ද තබන අපගේ දෙවියන්වහන්සේ ඉදිරි
පිට රෑ දවල් දෙක්හි ඔවුන්ට වරද තැබූ
තැනැත්තා පහත හෙළනු ලැබුයේය.
11 ඔවුන් බැටළුපැටියාගේ ලෙයින්ද තමන්
සාක්ෂියෙහි වචනයෙන්ද ඔහුගෙන් ජය
ගෙන මරණය දක්වා තමන් ප්‍රානවලට
12 ප්‍රෙමවූනේ නැත. එබැවින් ස්වර්ගයෝ
ද එහි වසනනෝද ප්‍රීතිවෙයල්ලාය. ය
ක්ෂයා තමාට ඇතොත් ස්වල්ප කාලයයි ද
නනා බැවින් මහත් ක්‍රෝධ ඇතුව නුඹ
ලා වෙතට පහත ආනීසාත් ගොඩත් මූ
දේත් වසනනන්ට දුක් වෙනවා ඈතැයි
ස්වර්ගයෙහි කියන මහත් ශබ්දයක් ඇ
13 සිමි. සර්පයා බිම හෙළනු ලැබූ බව දුටුක
ල පිරිමි දරුවා වැදූ ස්ත්‍රීට පීඩාකෙලේ
14 ය. වනාන්තරයෙහි ඈගේ ස්ථානයට ඉගි
ලෙන පිනිස මහත් ගිජුලිහිනියෙකුගේ
පියාපත් දෙක ඒ ස්ත්‍රීට දෙනලදේය. එ
හි කාලයකටත් කාලවලටත් කාල භාග
යකටත් සර්පයාගේ ඉදිරියෙන් අහක්ව ඇ
15 පෝෂ්‍යයකරනු ලබන්නීය. සර්පයා වතු
රගැලීමෙන් ඒ ස්ත්‍රිය ගෙනයන පිනිස
වතුර ගැලීමක් ලෙස තමන් කටින් ඈ
16 පස්සේ වතුර පිටතට දැම්මේය. පොලො
ව ඒ ස්ත්‍රීට උපකාරව තමාගේ කට ඇ
රී සර්පයා ඔහුගේ කටින් හෙළනලද වතු
17 ර ගැලීම ගිල්ලාය. සර්පයා ස්ත්‍රීට විරුද්ධව
ක්‍රෝධවී දෙවියන්වහන්සේගේ ආඥාවල්
රක්ෂාකරණ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ සාක්ෂිය ඇතනාවූ ඈගේ වංශයෙහි
ඉතිරි අයට එදිරිව යුද්ධකරන්ට ගියේය.

13. පරිච්ඡේ. මම මුහුදු වෙරළේ සිටි
යෙමි. හිස් සතක්ද අං දසයක්ද ඒ මතු
පිට ඔටුනු දසයක්ද ඇත්තාවූ වන මෘග
යෙක් සමුද්‍රයෙන් නගින බව දුටිමි. ඔ
හුගේ හිස මතුයෙහි අපහාසය යන නා
2 මවල් තිබුනේය. මම දුටු වන මෘගයා අ
ඳුන් දිවියෙකුට සමානවිය. උගේ කකුල්
ද වලසකුගේ කකුල් වැනිය. උගේ ක
ටද සිංහයෙකුගේ කට වැනිය. සර්පයා ඔ
හුගේ පරාක්‍රමයත් ආසනයත් මහත් ආඥා
3 භාවත් ඌට දුනේය. මම උගේ හිස්ව
ලින් එකක් නසනනාක්මෙන් තුවාලක
රනු ලැබූ බව දුටිමි. උගේ මහත් තුවාල
යද සුවවිය. සියළු ලෝකයාද පුදුමව ව
4 න මෘගයා පස්සේ ගියෝය. ඔවුන් වන මෘ

ගයාට බලය දුන් සර්පයාට වැඳනමස්කාර
කොට කවරෙක් වඩ මෘගයාට සමානද?
ඌ සමඟ යුද්ධකරන්ට කවරෙකුට හැ
කිවේදැයි කියා වඩ මෘගයාට නමස්කාර
5 කලෝය. අහංකාරයද අපහාසයද කථා
කරණ මුඛයක් ඌට දෙනලද්දේය. මා
ස හතලිස් දෙකක් සිටින්ට ඌට බලය
6 දෙනලද්දේය. දෙවියන්වහන්සේගේ
නාමයටත් උන්වහන්සේගේ මඩපයටත්
ස්වර්ග්ග වැසියන්ටත් අපහාසකරන පිනි
ස දෙවියන්වහන්සේට විරුද්ධව උගේ ක
7 ට හැරියේය. පවිත්‍රයන්ට විරුද්ධව යුද්ධ
කරන්ටද ඔවුන් ජයගන්ටද බලය ඌට
දෙනලද්දේය. සියළු ගෝත්‍රයන් කෙරෙ
හිද භාෂාවල් කෙරෙහිද වර්ග්ගවල් කෙ
8 රෙහිද බලය ඌට දෙනලද්දේය. තව
ද ලෝක පටන්ගැන්මේ සිට මරණලද
බැටළු පැටියාගේ ජීවන පොතේ නම
නොලියවුන පොළවේ වසන සියල්ලෝ
9 ඌට නමස්කාර කරති. යමෙකුට කන්
10 ඇද්ද ඔහු අසාවා. දාසකමට ගෙනයන්
නා දාසකමට යනෙන්ය. කඩුවෙන් මර
නනා කඩුවෙන් මරනු ලබනෙන්ය. පවි
ත්‍රයන්ගේ ඉවසීමත් ඇදහිල්ලත් මෙහි
11 ය. අන් වඩ මෘගයෙක් පොළොවෙන්
නගින බව දුටිමි. බැටළුපැටියෙකුගේ
අං වැනි අං දෙකක්ද ඌට තිබුණේය.
12 ඌද සර්පයෙක් මෙන් කථාකෙලේය. ප
ළමුවෙනි මෘගයාගේ සියළු පරාක්‍රමය ඌ
ඉදිරිපිට පවත්වනෙන්ය. තුවාලය සුවවූ
පළමුවෙනි මෘගයා කෙරෙහි පොළවත්
එහි වැසියොත් ඇදහිලිකරන්ට සලස්ව
නෙන්ය. ඌ මහත් ලකුණුද කරවන්
13 නේය. මනුෂ්‍යයන් ඉදිරිපිට ස්වර්ග්ගයෙන්
14 පොළවට ගිනි බස්වනෙන්ය. කඩුවෙන්
තුවාලය ඇති නුමුත් ජීවත්වෙන මෘගයා
ට රූපයක් සාදන්ට ලෝවැසියන්ට කි
යා මෘගයා ඉදිරිපිට යම් ආශ්චර්ය්‍යයක් ක
රන්ට බලය ඌට තිබුණේද ඒ ආශ්ච
ර්ය්‍ය කරණකොටගෙන ලෝවැසියන් ර
15 වටන්නේය. මෘගයාගේ රූපය කථාකර
වන්ටද මෘගයාගේ රූපය නොඅදහන සි
යල්ලන් මරවන්ටද මෘගයාගේ රූපයට
ප්‍රාණය දෙනනට ඌට බලය දෙනලද්
16 දේය. කුඩා මහත් ධනවන්ත දිළිඳු දාස
නිදිස යන සියල්ලන්ට තමන් දකුනතේ
17 වත් නලලේවත් ලකුණක් කරවූයේය. මෘ
ගයාගේ ලකුණවත් නාමයවත් උගේ නා
මයෙහි ගනනවත් ඇත්තන්ට මිස අන්
කිසිවෙකුට ගනුදෙනු කරන්ට නොදෙ
18 නෙන්ය. ඥානය මෙහිය නුවන ඇති අය
මෘගයාගේ ගනන ගනන්කෙරේවා. මක්
නිසාද ඒක මනුෂ්‍යයෙකුගේ ගනනය.
උගේ ගනනද හසිය හැටහයක.

14. පරිච්ඡේ. තවද මම බැලීම් එවිට සි
යොන්පර්වත මතුයෙහි බැටළු පැටියෙක්
සිටියේය. ඔහුගේ පියානන්ගේ නාමය
නලල්වල ලියනලද්දාවූ එක්ලක්ෂ සත
ලිස් හාරදහසක් දෙනා ඔහු සමඟ සිටි
2 යෝය. එවිට වතුරගැලීමේ ශබ්දය මෙ
න් මහත් ගර්ජනාවක ශබ්දයමෙන් ස්ව
ර්ග්ගයෙන් ශබ්දයක් ඇසිමි. තමන්ගේ වී
නාවල් ගායනාකරණ ගායකයන්ගේ
3 ශබ්දය ඇසිමි. ඔවුන් සිංහාසනයද සත්ව
යන් සතරදෙනාද වැඩිමහල්ලන්ද ඉදිරි
පිට අළුත් ගීතිකාවක් ගායනාකලෝය.
ඒ ගීතිකාව භූමියෙන් මිදුනාවූ එක් ල
ක්ෂ හතලිස් හාරදහස මිස කිසිවෙකුට
4 ඉගනගන්ට නොහැකිවිය. බ්‍රහ්මචාරීවූ
මොවුන් ස්ත්‍රීන්ගෙන් අපවිත්‍රනොවූවෝ
ය. බැටළු පැටියා යන තැනට ඔහු සම
ග යනෙත්තෝ මොවුන්ය. මොවුන් මනුෂ්‍ය
යන්ගෙන් මිදී දෙවියන්වහන්සේටත් බැ
ටළු පැටියාටත් නාඹුල් ඵලයෝ වෙති.
5 මොවුන්ගේ කටේ වචාවක් තිබුණේ නැ
ත. මොවුන් දෙවියන්වහන්සේගේ සිං
හාසනය ඉදිරියෙහි නිදොස්වෙති.
6 පොළවේ වසනනන්ටත් සියළු වර්ග්ග
යන්ටත් ගෝත්‍රයන්ටත් භාෂාවලටත් ජ
නයන්ටත් එලිදරව්කරන පිනිස සදාකා
ලවූ සුභාරංචිය දරණ අහස මැද පියාසර
7 කරන වෙන දූතයකු දුටිමි. ඔහු කථාක
රමින් දෙවියන්වහන්සේගේ විනිශ්චයෙ
හි පැය පැමිනුන නිසා උන්වහන්සේට
භයව උන්වහන්සේට ස්තූතිකරපල්ලාය.
අහසත් පොළවත් මුදත් උල්පතුත් මැ
වූ තැනැන්වහන්සේට නමස්කාර කරප
ල්ලායයි මහත් ශබ්දයකින් කීයේය.
8 වෙන දූතයෙක්ද පස්සේ ඇවිත් බබි
ලෝන් වැටි ගියාය. ඒ මහ නුවර තමා
ගේ වේශ්‍යාකමෙහි කෝපය නැමති මි
දිරසය සියළු වර්ග්ගයන්ට පෙවූබැවින් ඇ
වැටි ගියායයි කීයේය.
9 ඉන් පසු තුන්වෙනි දූතයාද ඇවිත් කි
සිවෙක් මෘගයාටවත් උගේ රූපයටවත්

නමස්කාර කරනෙන්ද උගේ ලකුන න
10 ලලින්වත් අතින්වත් පිලිගනෙන්ද ඔහු
දෙවියන්වහන්සේගේ කෝප නැමති කු
සලානට මිශ්‍ර නැතුව වත්කරණලද උන්
වහන්සේගේ කෝප නැමති මිදිරසය
බොනෙන්ය. ඔහු පවිත්‍රවූ දූතයන්ද බැ
ටළු පැටියාද ඉදිරිපිට ගිනෙනනුත් කෙ
න්දගම්වලිනුත් පීඩා විඳිනු ලබනෙන්ය.
11 ඔවුන්ගේ පීඩාවෙහි දුමද සදාකල්ම නැ
ගෙනෙන්ය. මෘගයාටවත් උගේ රූපය
ටවත් නමස්කාර කරනෙනෝද උගේ නා
මයෙහි ලකුන පිලිගනෙනෝද දිවාරාත්‍රි
දෙක්හි නිවාඩු නොලබතියි මහත් ශබ්
12 දයකින් කීයේය. පවිත්‍රයන්ගේ ඉවසීම
මෙහිය. දෙවියන්වහන්සේගේ ආඥාවල්
ද යේසුස්වහන්සේගේ ඇදහිලිලද රක්‍ෂා
13 කරනෙනෝ මෙහි ඇත. මෙතැන් පටන්
ස්වාමින්වහන්සේ කෙරෙහි නසිනා මල
වුන් වාසනාවන්තයෝය කියා ලියාපන්
නැයි ස්වර්ගයෙන් මට කියන ශබ්දයක්
ඇසීමි. ඒ එසේමය. ඔවුන් තමන්ගේ
උත්සාහවලින් නිවාඩු ලබති. ඔවුන්ගේ
ක්‍රියාවල් ඔවුන් කැටුව යෙතියි ආත්මයා
නන්වහන්සේ කියනසේක.
14 නැවතත් මම බැලීමි එවිට සුදු වලා
පටලයක්විය. ඒ වලාපටලය මතුයෙහි
ඉසේ රන් ඔටුනනක්ද අතේ මුවහත් ඇ
ති දෑකැත්තක්ද දරණ මනුෂ්‍ය පුත්‍රයා
15 වැනි කෙනෙක් වැඩඋනෙන්ය. එවිට අ
නික් දූතයෙක් දේවමන්දිරයෙන් නික්
ම ඇවිත් වලාපටලය මතුයෙහි වැඩ
උන් උන්වහන්සේට මහත් ශබ්දයකින්
හඬගසා ඔබවහන්සේගේ දෑකැත්ත රැ
ගෙන ගොයම් කැපුවමැනව. පොලො
වේ ගොයම් පැසුන බැවින් ඔබවහන්
සේට ගොයම් කපන කාලය පැමිනු
16 නේයයි කීයේය. එවිට වලාපටලයෙහි
වැඩහුන් උන්වහන්සේ තමන්ගේ දෑ
කැත්ත භූමියට දිගුකලසේක. පොල
17 වේ ගොයම්ද කැපුනේය. අනික් දූත
යෙක්ද ස්වර්ගයෙහි දේවමන්දිරයෙන්
පිටත්ව ආයේය. ඔහුද මුවහත් ඇති දෑ
18 කැත්තක් දැරූයේය. ගින්නට අධිපති අ
නික් දූතයෙක් පූජාසනයෙන් පිටතව ඇ
විත් මුවහත් ඇති දෑකැත්ත දැරූ දූතයා
ට ඔබගේ මුවහත් ඇති දෑකැත්ත දිගු
කොට පොලොවේ මිදිවැලේ වළු කපා රැස්
කලමැනව. ඵල හොඳට පැසුනේයයි කී
19 යා මහත් හඬකින් හඬගෑසුයේය. දූත
යාද තමන් දෑකැත්ත පොලොවට දිගු
කොට පොලොවේ මිදිඵල රැස්කොට දෙවි
යන්වහන්සේගේ කෝපය නැමති මහත්
20 මිදි පැසට හෙළුයේය. නුවරින් පිටත
මිදි පැස මඩිනලදේය. එවිට හැතැක්ම
දෙසීයයක් දුර අශ්වයන්ගේ කටකලි
යාවල් දක්වා මිදිපැසෙන් ලේ පිටත්වූ
යේය.

15. පරිච්ඡේ. ස්වර්ගයෙහි මහත් පුදු
මවූ තව ලකුනක් දුටිමි. කෙසේද අන්
තිම පීඩාවල් සතක් දරණ දූතයෝ සත්
දෙනෙක් සිටියෝය. මක්නිසාද එයින්
දෙවියන්වහන්සේගේ උදහස පිරී තිබෙ
2 නෙන්ය. ගිනෙනන් මිශ්‍රවූ වීදුරු සාගර
යක් දුක මෘගයාගෙනුත් උගේ රූපයෙ
නුත් උගේ ලකුනෙනුත් උගේ නාමේ ග
නනෙනුත් ජයගනෙනෝ වීදුරු සාගර ම
තුයෙහි දෙවියන්වහන්සේගේ ගායනා
3 වල් රැගෙන සිටිනවා දුටිමි. සර්වපරාක්‍ර
මවූ දෙවිස්වාමිනි ඔබවහන්සේගේ ක්‍රියා
වල් මහත්ය විස්මපත්ය. පවිත්‍රයන්ගේ
රජ්ජුරුවෙනි ඔබවහන්සේගේ මාර්ග
4 වල් ධර්මිෂ්ඨය සැබෑය. ඔබවහන්සේ ප
මනක්ම පවිත්‍ර නිසාත් ඔබවහන්සේගේ
විනිශ්චයන් ප්‍රකාශව තිබෙන නිසාත් සි
යළු වර්ගයෝ ඇවිත් ඔබවහන්සේ ඉදි
රියෙහි නමස්කාර කරති. ඒ නිසා ස්වා
මීන්වහන්ස ඔබවහන්සේට භයව ඔබව
හන්සේගේ නාමයට ප්‍රසංසා නොකරන්
නේ කවරෙක්දැයි කියා දෙවියන්වහන්
සේගේ මෙහෙකරු මෝසෙස්ගේද බැ
ටළු පැටියාගේද ගීතිකාව ගායනාකර
5 ති. නැවත බැලීමි ස්වර්ගයෙහි තිබෙන
සාක්‍ෂියෙහි මඩපයාගේ මන්දිරය අරිනු
6 ලැබුයේය. දූතයෝ සත්දෙන පවිත්‍රවූ සු
දු වස්ත්‍ර හැඳ තමන්ගේ තන මතුයෙහි
රන් පටිවලින් බඳිනාලදුව පීඩා සතක්
රැගෙන මන්දිරයෙන් පිටතව ආවෝය.
7 සතරින් සතරදෙනාගෙන් එකෙක් සෑ
ම සදාකාලේටම ජීවතව සිටින දෙවියන්
වහන්සේගේ උදහසින් පිරුණාවූ රන්
කරඬු සතක් දූතයන් සත්දෙනාට දුන්
8 නේය. දෙවියන්වහන්සේගේ තේජසින්
හා පරාක්‍රමය කාරණකොටගෙන මන්දි
රය දුමින් පිරීගියේය. දූතයන් සත්දෙ
නාගේ පීඩා සත සම්පූර්ණවෙනතෙක්

මන්දිරයට ඇතුල්වෙන්ට කිසිවෙක් ස
මර්ථ නුවූයේය.

16. පරිච්ඡෙ. නුඹලා ගොස් දෙවියන්ව
හන්සේගේ උදහසෙහි කරඬු පොළො
වේ වගුරුවාපල්ලායයි දූතයන් සත්දෙ
නාට කියන මන්දිරයෙන් නික්මෙන ම
2 හත් ශබ්දයක් ඇසිමි. පළමුවෙනි දූතයා
ගොස් තමන් කරඬුව පොළොවෙහි වැ
ගිරෙව්වේය. එවිට මෘගයාගේ ලකුන ඇ
තතන් කෙරේත් ඔහුගේ රූප අදහනතා
වුන් කෙරේත් අරිෂ්ටවූ දුක් උපදවන්
3 නාවූ ගඩු හටගත්තේය. දෙවෙනි දූත
යා තමන් කරඬුව මූදේ වැගිරෙව්වේය.
එවිට මූද මලමිනිසකුගේ ලේ මෙන් වි
4 ය. මූදේ සියළු සත්වයෝ මලෝය. තුන්
වෙනි දූතයා තමන් කරඬුව ගංගාවල්පි
ටද උල්පත් පිටද වැගිරෙව්වේය. එවිට
5 ඒවා ලේ විය. දියෙහි දූතයා කණාකො
ට සිටිනනාවූ සිටියාවූ මතු සිටිනනාවූ ස්වා
මින්වහන්ස ඔබවහන්සේ මෙසේ විනිශ්
චයකල බැවින් ඔබවහන්සේ ධර්මිෂ්ට
6 සේක. ඔවුන් ශුද්ධවන්තයන්ගේද අනා
ගතවක්තෘන්ගේද ලේ වැගිරවූ බැවින්
ඔබවහන්සේ ඔවුන්ට බොන්ට ලේ දුන්
සේක. ඔවුන් ඊට සුදුසුයයි කියන බව
7 ඇසිමි. වෙන දූතයෙක් පූජාසනයෙහි
සිට සර්වපරාක්‍රමවූ දෙවිස්වාමින්වහන්ස
එසේම වේවා. ඔබවහන්සේගේ විනිශ්
චය සැබෑය ධර්මිෂ්ඨයයි කියනබව ඇසි
8 මි. සතරවෙනි දූතයා තමන් කරඬුව ඉර
පිට වැගිරෙව්වේය ගින්නෙන් මනුෂ්‍ය
යන් දවන්ට ඔහුට බලය දෙනලද්දේය.
9 තවද මහත් උෂ්ණයෙන් මනුෂ්‍යයෝ ද
වනු ලැබ මේ පීඩාවල් කෙරේ බලය ඇ
ති දෙවියන්වහන්සේගේ නාමයට අපහා
ස කලෝය. ඔවුන් උන්වහන්සේට ගෞ
රව පැමිනෙන ලෙස පශ්චාත්තාප වූනේ
10 නැත. පස්වෙනි දූතයා තමන් කරඬුව
මෘගයාගේ ආසනය පිට වැගිරෙව්වේය.
ඔහුගේ රාජ්‍යය අන්ධකාරයෙන් පිරී ගි
යේය. ඔවුන් වේදනා නිසා තමන් දිව් වි
11 කා කෑවෝය. ඔවුන් තමන්ගේ වේද
නාත් ගඩුත් නිසා ස්වර්ගයෙහි දෙවියන්ව
හන්සේට අපහාස කලෝය. තමන්ගේ
ක්‍රියාවල් ගැනද පශ්චාත්තාපවූනේ නැ
12 ත. සවෙනි දූතයාද තමන් කරඬුව එ
ප්‍රාත්නාම් මහත් ගංගාවෙහි වැගිරෙව්වේ
ය. එවිට පූර්ව දිසාවෙහි රජුන්ගේ මාර්ගය
සාදනු ලබන පිනිස එහි වතුර සිඳීගියේ
13 ය. තවද සර්පයාගේ කටින්නුත් මෘගයාගේ
කටින්නුත් බොරු අනාගතවක්තෘහුගේ
කටින්නුත් මැඩියන් වැනිවූ අශුද්ධාත්මයෝ
14 තුන්දෙනෙක් නික්මෙන බව දුටිමි. මක්
නිසාද ඔවුන් සර්වපරාක්‍රමවූ දෙවියන්ව
හන්සේගේ මහත්වූ දවසේ යුද්ධයට පො
ළොවෙහිද මුළු ලෝකයෙහිද රජුන්
රැස්කරණ පිනිස ඔවුන් ලඟට යනනාවූ
පුදුමවල් කරනනාවූ යක්ෂයින්ගේ ආත්ම
15 යෝ වෙති. බලව සොරෙක් මෙන් මම
එමි. නිර්වස්ත්‍රව ඇවිද තමන්ගේ ලැජ්ජා
ව මනුෂ්‍යයින්ට නොපෙනෙන පිනිස අ
වදිව සිට තමන්ගේ වස්ත්‍රයන් රක්ෂාකර
16 නනා වාසනාවන්තයෙක. ඔහු හෙබ්‍රෙව්
භාෂාවෙන් හර්මගෙදොන් යන ස්ථානය
17 ට ඔවුන් රැස්කලේය. සත්වෙනි දූතයා
තමන් කරඬුව අහසේ වැගිරෙව්වේය.
එවිට නිමවනලදැයි කියන මහත් ශබ්ද
යක් ස්වර්ගීය මන්දිරයේ සිංහාසනයෙන්
18 නික්මුනේය. ශබ්දද ගර්ජනාද විදුලිද
මහත් භූමිකම්පාවක්ද විය. පොළොව
19 මනුෂ්‍යවාසවූ තැන් පටන් මෙබඳු බලව
ත්වූ මහත් භූමිකම්පාවක් වූනේ නැත.
මහා නගරයද තුන් කොටසකට බෙදු
නේය. අන්‍යජාතීන්ගේ නුවරවල් වැටී
ගියේය. මහා බබිලෝනියද දෙවියන්ව
හන්සේගේ ක්‍රෝධයෙහි දැඩිකම නැම
ති මිදිරස කුසලාන ඈට දෙනපිනිස දෙ
වියන්වහන්සේ ඉදිරියෙහි සිහිවීමට පැමි
20 නුනාය. සියළු දිවයින්ද පලා ගියේය. ප
21 ර්වතද නොපෙනී ගියේය. අහසෙන් ම
හත් පාන වැස්සක් මනුෂ්‍යයන් පිට වැස්
සේය. එක එක ගල තලෙන්තයක බර
ඇත්තේය. මනුෂ්‍යයෝද පාන වැස්සේ
පීඩාව නිසා දෙවියන්වහන්සේට අපහාස
කලෝය. මක්නිසාද එහි පීඩාව ඉතා
මහත්විය.

17. පරිච්ඡෙ. කරඬු සත දැරූ දූතයන්
සත්දෙනාගෙන් කෙනෙක් ඇවිත් මෙ
හි වරෙනතා මහත් දියපිට සිටින මහත්
වූ වෛශ්‍යාවගේ විනිශ්චය නුඹට පෙන්
2 වමි. පොළොවේ රජවරු ඈ සමග වෛ
ශ්‍යාකම කලෝය. පොළොවේ වැසියෝ
ද ඈගේ වෛශ්‍යාකම නැමති මිදිරස
3 යෙන් මත්වූනෝයයි මට කීයේය. එවිට

ඔහු ආත්මයෙන් වනාන්තරයට මා ගෙ
නගියේය. එවිට අපහාස නම්වලින් පි
රුණාවූ ඉස් සතක්ද අං දසයක්ද ඇත්
තාවූ රතු පාට මෘගයෙක් පිට ස්ත්‍රියක් හි
4 මින බව දුටිමි. ඒ ස්ත්‍රිය තමාගේ අතින්
තමාගේ වේශ්‍යාකම නැමති අපවිත්‍රක
මිහුත් කිළුටුකම්හුත් පිරුණු රන් කුසලා
නක් දරමින් තඹපාට සහ රතු පාට ව
ස්ත්‍රයන් හැඳ රත්‍රනෙන්ද මුතුමැණික්ව
5 ලින්ද සැරසී සිටියාය. ඇගේ නලල පිට
රහසද වේශ්‍යාවන්ගේද පොළොවේ
කිළුටුකමේද මව්වූ බබිලෝනියද යන
6 නාමයක් ලියනලද්දේය. ඒ ස්ත්‍රී ශුද්ධවන්
තයන්ගේද ජේසුස්වහන්සේගේද සාක්
ෂිකාරයින්ගේද ලෙයින් මත්වූ බව දුටි
මි. මම ඈ දුටුවිට මහත්වූ පුදුමයෙන්
7 විස්මපත්වූනෙමි. දූතයා මක්නිසා විස්ම
පත්වෙනෙහිද? ස්ත්‍රියේද ඈ ගෙනයන
ඉස් සතකුත් අං දසයකුත් ඇති මෘගයා
ගේද රහස තුඹට කියමියි මට කීයේය.
8 තුඹ දුටු මෘගයා සිටියේය දැන් නැත පා
තාලයෙන් නැගී විනාශයට යනවා ඇත.
ලෝකේ පටන්ගැන්මේ සිට ජීවන පො
තේ නම නොලියවුන පොළොවේ වැ
සියෝද සිටියාවූ දැන් නැත්තාවූ මතු සිටි
නතාවූ මෘගයා දුටුකල විස්මපත්වෙන
9 වා ඇත. ප්‍රඥාව දරණ චිත්තය මෙහි ඇ
ත. ඉස් සතනම් ස්ත්‍රිය හිඳින පර්වත සත
10 ය. රජවරු සත්දෙනෙක් ඇත පස්දෙ
නෙක් වැටිගොස් එක්කෙනෙක් දැන් සි
ටිනේය ඉතිරි තැනැත්තා තව ආවේ
නැත. ඔහු ආකල ස්වල්ප කාලයක් පැව
11 තිය යුතුය. සිටියාවූ දැන් නැත්තාවූ මෘග
යා අටවෙනියාය. ඔහු සත්දෙනාගෙන්
12 ය විනාශයටත් යනවා ඇත. තුඹ දුටු
අං දසයනම් තවම රාජ්‍යය නොලැබූ නු
මුත් මෘගයා සමග එකවිටම රජුන් මෙන්
බලය ලබන රජදරුවෝ දසදෙනා වේ
13 ති. මොවුන් එක්සිතව තමන්ගේ පරාක්‍ර
මයත් බලයත් මෘගයාට දෙති. මොවුන්
බැටළුපැටියා සමග සටන්කරණවා ඇ
14 ත. බැටළුපැටියා ඔවුන් පරාජයකරණ
සේක මක්නිසාද උන්වහන්සේ ස්වාමිව
රුන්ගේ ස්වාමිය රජුන්ගේ රජය. උන්
වහන්සේ සමග සිටින්නෝ කැඳවනල
ද තෝරාගත් විශ්වාසවූ තැනැත්තෝය.
15 වේශ්‍යාව සිටින තැන තුඹ දුටු වතුර
නම් ජාතීහුද සමූහයෝද වර්ගයෝද භා
16 ෂාවෝද වෙති. මෘගයා පිට තුඹ දුටු අං
දසය වේශ්‍යාවට වෛර ව ඈ අසරණද
නිර්වස්ත්‍රද කොට ඇගේ මස් කා ඈ ගින්
17 නෙන් දවනවා ඇත. මක්නිසාද දෙවි
යන්වහන්සේ තමන්වහන්සේගේ වචනය
සම්පූර්ණවෙනතෙක් උන්වහන්සේගේ
කැමැත්ත කරන්ට ඔවුන් එක්සිතව සිටින්
වත් මෘගයාට තමන් රාජ්‍යය දෙන්ටත්
18 ඔවුන්ගේ සිත් කැමතිකරවූසේක. තුඹ
දුටු ස්ත්‍රීනම් පොළොවේ රජුන් ආඥාකර
න මහත් නුවර වේයයි මට කීසේක.

18. පරිච්ඡේ. මින්පසු මහත්වූ පරාක්‍ර
මය ඇති වෙන දූතයෙක් ස්වර්ගයෙන්
බසින බව දුටිමි. ඔහුගේ තේජසින් පො
2 ළොව දිලිහුනේය. ඔහු මහත් ශබ්දය
කින් හඬගසා මහත්වූ බබිලෝනිය වැ
ටී ගියේය වැටීගියේය. ඈද යක්ෂයින්ට
වාසස්ථානයද සියළු අශුද්ධාත්මයන්ට හිර
ගෙයද සියළු අපවිත්‍ර අප්‍රියවූ පක්ෂීන්ට මැ
3 දිරියක්ද විය. මක්නිසාද සියළු වර්ග
යෝ ඇගේ වේශ්‍යාකමෙහි කෝප නැ
මති මිදිරස බිවෝය. පොළොවේ රජව
රුද ඈ සමග වේශ්‍යාකම්කලෝය. පො
ළොවෙහි වෙළෙන්දෝ ඇගේ සැප ජීවි
කාව නිසා ධනවන්ත වූනෝයයි කියා ත
4 දින් ශෝකකලෝය. මාගේ ජනයෙනි
ඇගේ පාපයට එකතුනොවෙන්ටත් ඈ
ගේ පීඩාවලින් කිසිවක් නොලබන්ටත්
ඇගෙන් පිටත් වරෙල්ලායයි කියන වෙ
5 න හඬක් ස්වර්ගයෙන් ඇසිමි. ඇගේ පව්
ස්වර්ගයට නැගුනේය ඇගේ අධර්මිෂ්ඨ
6 කම් දෙවියන්වහන්සේ සිහියට ගත්සේ
ක. ඈ තුඹලාට විපාක දුන්ලෙස ඈට
විපාක දෙමින් ඇගේ ක්‍රියාවල් ලෙස දෙ
පංගුවක් ඈට දිපල්ලාය. ඈ පිරූ කුසලා
7 න ඈට දෙපංගුවක් පුරවාපල්ලාය. මම
වැන්දඹු ස්ත්‍රියක් නොව මෙහෙසිකාවක්
මෙන් ඉඳ කිසි දුකක් නොදක්නෙමියි
ඈ සිත තුළෙහි සිතා තමාටම ප්‍රසංසාක
රමින් සැපයෙන් ජීවත්වූවාය. ඒ තරමේ
8 වේදනාවද දුක්ද ඈට දිපල්ලාය. එබැ
වින් මරණයද ශෝකයද දුර්භික්ෂයද ය
න ඇගේ පීඩා එක දවසේම පැමිණෙන්
නේය. ඈ විනිශ්චයකරණ දෙවිස්වාමින්
වහන්සේ බලවත් සිටින නිසා ඈ ගින්
9 නෙන් සහමුලින්ම දැවෙන්නීය. ඈ සම
ග වේශ්‍යාකම්කොට සැපයෙන් ජීවත්

වූ පොළොවේ රජවරු ඇගේ වේදනා
10 වට භයව දුරින් සිට අහෝ අහෝ බබි
ලෝනනම් මහත් නුවර බලසම්පන්න නු
වර ක්‍ෂනයකින් නුඹේ විනිශ්චය පැමිනු
ණේයයි කියමින් ඇගේ දැවීමෙහි දුම ද
11 කිනකල ඈ නිසා අඬා වැලපෙති. පො
ළොවේ වෙළෙන්දෝ ඈ නිසා අඬා වැ
12 ලපෙති. මක්නිසාද රන් රිදී මුතු මැනික්
සිනිඳු වස්ත්‍ර දම්බූ වස්ත්‍ර පටරෙදි රතු වස්
ත්‍ර සියළු සුවඳ ලී ජාති සියළු ඇත්දත් භා
ජන ඉතා අනඝ ලීයෙන් පිත්තලෙන්
යකඩෙන් කළුගලින් සෑදූ සියළු ආකාර
13 භාජන කුරුඳු සුවඳ ද්‍රව්‍ය සුවඳ තෙල් තු
වරලා මිදිරස තෙල් සිහින් පිටි ධාන්‍ය ග
ව බැටළු අශ්ව රථවාහන දාස මනුෂ්‍යයන්
ගේ ප්‍රාන යන මේ ඔවුන්ගේ වෙළඳාම්
කිසිවෙක් මතු මිලේට ගන්නේ නැත.
14 තීගේ ආත්මය විසින් ආසාකල ඵල මිහි
රීව දීප්තිමත්ව තිබුන සියළු දේවල් තී
ගෙන් නාස්තිවී ගියේය. නුඹ ඒවා කි
15 සිත් මතු නොලබන්නිය. ඈ විසින් පො
හොසත්කරනලද මේ දේවල වෙළෙන්
දෝ ඇගේ වේදනාවට භයව අඬමින්
16 වැලපෙමින් අහෝ අහෝ සිනිඳු දම්බූ
රතු වස්ත්‍ර ඇන්දවූ රත්‍රෙනන්ද මුතුමැ
නික්වලින්ද පැළඳගත් ඒ මහ නගරය.
ක්‍ෂනයකින් එපමන මහත් ධන නැතිවූ
17 ණේයයි කියමින් දුරින් සිටිති. සියළු නැ
වුමුලාදෑනීද නැව්වල සිටින සමූහයෝද
නාවිකයෝද සමුද්‍රයෙහි වෙළඳාම්කර
18 නනෝද දුරින් සිට ඇගේ දැවීමෙහි දුම
දුටුකල මේ මහත් නුවරට සමාන කො
19 යි නුවරදැයි කියමින් කෑගැසුවෝය. ඔ
වුනොවුන්ගේ හිස මතුයෙහි දූවිලි හෙ
ළා අහෝ අහෝ මූදේ නැව් ඇත්තෝ
යම් නගරයක ධනයෙන් පොහොසත්වූ
නෝද ඒ මහා නගරය ක්‍ෂනයකින් පා
ළුකරනු ලැබුවායයි කියා අඬමින් වැල
20 පෙමින් කෑගසති. ස්වර්ගය සහ සුධවූ
ප්‍රේරිතයෙනි අනාගතවක්තෘවරුනි නු
බලා වෙනුවට දෙවියන්වහන්සේ ඇට
විපාක දුන් නිසා ඈ ගැන ප්‍රීතිවෙයල්ලා
21 ය. තවද බලවත් දූතයෙක් මහත් ඇඹ
රුම් ගලක් වැනිවූ ගලක් ගෙන මූදට ද
මා බබිලෝනිය ඒ මහත් නගරය මෙ
සේ බලාත්කාරයෙන් පහත හෙළනු ලැ
බ මතු කවදාවත් නොපෙනෙන්නේය.
22 ගායකයන්ගේද තූර්යනාද පවත්වන්
නන්ගේද නලාහොරනෑකාරයින්ගේද
හඬ තී තුළෙහි මතු කිසිත් නොඇසෙ
නේය. කිසි කර්මාන්තකාරයෙක් තමා
ගේ කර්මාන්තය කෙලෙස නුමුත් තී තු
ළෙහි තවත් නොසිටිනේය. ඇඹරුම්
ගලේ හඬ තී තුළේ කිසිත් නොඇසෙ
23 නේය. පහන් එළිය තී තුළේ මතු කි
සිත් එළිය නොකරනේය. මනමාලයා
ගේවත් මනමාලියගේවත් හඬ තී තුළේ
මතු කිසිත් නොඇසෙන්නේය. තීගේ
වෙළෙන්දෝ පොළොවේ මහත්තෑන්
වූනෝය. තීගේ මායමින් සියළු වර්ග
24 යෝ රැවටුනෝය. අනාගතවක්තෘන්
ගේද සුධවන්තයන්ගේද පොළොවේ
මරණලද සියල්ලන්ගේද ලේ ඈ තුළෙ
හි දක්නාලද්දේයයි කීයේය.

19. පරිච්ඡේ. මින් පසු ස්වර්ගයෙහි
සිටින බොහෝ ජනයන්ගේ මහත් ශබ්
දයක් ඇසිමි ඔවුන් කථාකොට හල්ලේලූ
යා ගැලවීමද මහන්තත්වයද ගෞරව
යද පරාක්‍රමයද අපගේ ස්වාමිවූ දෙවියන්
2 වහන්සේට වේවා. තමාගේ වෛශ්‍යාක
මෙන් පොළොව කිළිටුකල මහත් වෛ
ශ්‍යාව උන්වහන්සේ විනිශ්චයකොට ත
මින් මෙහෙකරුවන්ගේ ලේ ගැන ඈ
ට විපාක දුන් නිසා උන්වහන්සේගේ වි
නිශ්චයෝ සැබෑද ධර්මිෂ්ඨද වෙතියි කී
වෝය. නැවතද ඔවුන් හල්ලේලූයා කීවෝ
3 ය. ඇගේ දුම සදාකාලේටම නගිනෝ
4 ය. වැඩිමහල්ලෝ සුවිසි දෙනාද සත්ව
යෝ සතර දෙනාද වැටී ආමෙන් හල්ලේලූ
යා කියමින් සිංහාසනය පිට හුන් දෙවි
5 යන්වහන්සේට නමස්කාරකලෝය. ත
වද අපගේ දෙවියන්වහන්සේගේ සිය
ළු මෙහෙකරුවෙනි උන්වහන්සේට භය
ඇති කුඩා මහත් තැනැත්තෙනි උන්ව
හන්සේට ප්‍රසංසාකරපල්ලායයි කියන
ශබ්දයක් සිංහාසනයෙන් නික්මුනේය.
6 සර්වපරාක්‍රමවූ ස්වාමිවූ දෙවියන්වහන්සේ
ආඩුකරණ නිසා හල්ලේලූයා බැටළු පැටියා
ගේ මංගල්‍යය පැමින උන්වහන්සේගේ
7 භාර්යාව සැරසුන නිසා අපි සතුටුව ප්‍රී
තියට පැමින උන්වහන්සේට ගෞරව
8 යද දෙමුව. පවිත්‍රවූ සුදු සිහින් වස්ත්‍ර
යෙන් සැරසෙන්ට ඈට දෙනලද්දේය.
සිහින් වස්ත්‍රනම් පවිත්‍රයන්ගේ ධර්මිෂ්ඨ
කමයයි කියනනාවූ මහත් ජන සමූහයන්

ගේද බොහෝ ජලයන්ගේද තද ගජ්ජ
නාවන්ගේද ශබ්ද මෙන් මට ඇසුණේ
9 ය. බැටළුපැටියාගේ මංගල්‍යයෙහි රා
ත්‍රි භෝජනයට කැඳවනලද්දෝ වාසනා
වන්තයෝය කියා ලියාපන්නැයි ඔහු ම
ට කීයේය. ඔහුද දෙවියන්වහන්සේගේ
10 සැබෑවූ වචන මෙයයි මට කීයේය. මම
ඔහුට නමස්කාර කරණ පිණිස ඔහුගේ
පාමුල වැටුණෙමි ඔහුද ඒක නොකරන්
ට බලාගනිතන මම යේසුස්වහන්සේගේ
සාක්ෂිය දරණ නුඹේ සහෝදරයන්ගේ
ද නුඹේද හවුල් වැඩකාරයාය දෙවියන්
වහන්සේට නමස්කාර කරපන්න. යේ
සුස්වහන්සේගේ සාක්ෂියනම් අනාගත
වාක්‍යයෙහි ආත්මයයි මට කීයේය.
11 එවිට ස්වර්ගය විවරවෙන බව දුටිමි
සුදු අශ්වයෙක් විය. ඔහු පිට වැඩහුන්
තැනැන්වහන්සේ විශ්වාසයයි සැබෑයයි
කියනුලබනසේක. උන්වහන්සේ ධර්මි
ෂ්ටකමින් විනිශ්චයත් යුඬයත් කරණසේ
12 ක. උන්වහන්සේගේ ඇස් ගිනිදලක්
මෙන් විය. උන්වහන්සේගේ ඉසේ නො
යෙක් ඔටුනු තිබුණේය. උන්වහන්සේම
මිස අන් කිසිවෙක් නොදන්නාවූ නමක්
උන්වහන්සේ කෙරෙහි ලියා තිබුණේ
13 ය. උන්වහන්සේද ලේ පෙවූ වස්ත්‍ර ඇ
ඳසේක. දෙවියන්වහන්සේගේ වාක්‍ය
යයි උන්වහන්සේගේ නාමය කියනුලැ
14 බේ. ස්වර්ගයෙහි සේනාවල් සිනිඳුවූ සු
දු පවිත්‍ර වස්ත්‍ර හැඳ සුදු අශ්වයන් පිටින්
15 උන්වහන්සේ කැටුව ගියෝය. උන්ව
හන්සේගේ මුඛයෙන් ජාතීන්ට පහර
දීමට මුවහත් ඇති කඩුවක් නික්මෙයි.
උන්වහන්සේ යදඬකින් ඔවුන් ආන්ඩු
කරණසේක. උන්වහන්සේ සර්වපරාක්‍රම
දෙවියන්වහන්සේගේ බලවත් ක්‍රෝධ
16 නැමති මිදිපැස පාගනසේක. උන්වහන්
සේ නමන් වස්ත්‍රයෙහිද කලවයෙහිද ර
ජුන්ගේ රජය ස්වාමිවරුන්ගේ ස්වාමිය
17 යි යන නමක් ලියා තිබෙනේය. තව
ද සූර්‍ය්‍යා තුළේ දූතයෙක් සිටින බව දු
ටිමි. ඔහුද මහත් ශබ්දයකින් අහසා
නුබලා රජුන්ගේද සේනාධිපතීන්ගේද
18 බලවත් මනුෂ්‍යයන්ගේද අශ්වයන් සහ
ඔවුන් පිට හිඳිනාවුන්ගේද නිදහසයන්ගේ
ද දාසයන්ගේද කුඩා මහත් තැනැත්තන්
ගේද යන සියල්ලන්ගේ මාංස කන පිණි
ස මහත්වූ දෙවියන්වහන්සේගේ රාත්‍රි
භෝජනයට ඇවිත් රැස්වෙයල්ලායයි අ
හස මැද පියාසරකරණ සියළු පක්ෂීන්
19 ට කීයේය. අශ්වයා පිට වැඩහුන් තැනැ
න්වහන්සේටත් උන්වහන්සේගේ සේනා
වටත් විරුඬව යුඬකිරීමට මෘගයාද පො
ලොවේ රජවරුද ඔවුන්ගේ සේනාවල්
20 ද රැස්වුණු බව දුටිමි. මෘගයාගේ ලකුණු
ලැබූ අයත් ඔහුගේ රූපයට නමස්කාර
කල අයත් රවටෙනසේ ඔහු ඉදිරිපිට පු
දුම ක්‍රියාවල් කලාවූ බොරු අනාගත
වක්තෘද මෘගයාද අල්ලනුලැබ ඔවුන් දෙ
දෙනම පනපිටින්ම කෙන්දගමින් ඇවි
ලෙන කිනි විලට හෙළනු ලැබූවෝය.
21 අශ්වයා පිට වැඩහුන් තැනැන්වහන්සේ
ගේ මුඛයෙන් නික්මුන කඩුවෙන් ඉතු
රුවූවෝ මරනුලැබූවෝය. ඔවුන්ගේ
මාංසයෙන් සියළු පක්ෂීහු තෘප්තියට පැමි
ණුණෝය.

20. පරිච්ජ. තවද පාතාලයෙහි ය
තුරද අතේ මහත් දම්වැලක්ද ඇති ස්ව
2 ර්ගයෙන් බසින දූතයෙක් දුටිමි. ඔහු ම
හළු සර්පයාද යක්ෂයාද සාතන්දවූ සර්පයා
3 අල්වා අවුරුදු දහසකට බැන්දේය. අවු
රුදු දහස සම්පූර්ණවෙනතෙක් ජාති
යන් තවත් මුලානොකරණ පිණිස ඔහු
පාතාලයට හෙළා වසමින් මතුපිට මුද්‍ර
යක් තැබුයේය. ඉන්පසු මඳකලකට ඔහු
4 මුදනු ලැබියයුතුය. සිංහාසනද එහි හිඳි
නාවුන්ද දුටිමි. විනිශ්චයද ඔවුන්ට දෙන
ලද්දේය. යේසුස්වහන්සේගේ සාක්ෂිය
හා දෙවියන්වහන්සේගේ වචනය ගැන
හිස් කපනුලැබූවන්ගේද මෘගයාටවත් ඔ
හුගේ රූපයටවත් නමස්කාර නොකලා
වූ මෘගයාගේ ලකුන නලල්වලවත් අත්
ලවත් නොලැබූවාවූ තැනැත්තන්ගේද
ආත්මයන් දුටිමි. ඔවුන් ජීවත්ව ක්‍රිස්තුස්
වහන්සේ සමග දහසක් අවුරුදු ආඩුක
5 ලෝය. මලවුන්ගෙන් ඉතිරිවූවෝ අවු
රුදු දහස කෙලවරවෙනතෙක් ජීවත්වූ
යේ නැත. මේ පලමුවෙනි නැවත නැ
6 ගිටීමනම් වේ. පලමුවෙනි නැවත නැගි
ටීමේ පංගුකාරකම ඇති තැනැත්තෝ වා
සනාවන්තද පවිත්‍රද වෙයි. එබඳුවූවන්
කෙරෙහි දෙවෙනි මරණය බලයක්
නොදරනේය. ඔවුන් දෙවියන්වහන්
සේගේත් ක්‍රිස්තුස්වහන්සේගේත් පූජක
යෝව උන්වහන්සේ සමග දහසක් අවු

7 රුදු අඬුකරති. අවුරුදු දහස කෙලවර
වූකල සාතන් සිරගෙයින් මුදහුලැබ
8 පොලොවේ සතර දිග සිටින මුදේ වැලි
මෙන් ගනන් නැති ගොග් මාගොග් ය
න වර්ගයන් රවටන්ටත් ඔවුන් යුඬයට
9 රැස්කරන්ටත් නික්මෙයයි. ඔවුන් පො
ලොවේ මතුපිට ඇවිද සුඬවන්තයන්ගේ
අඬුයමද ප්‍රියවූ නුවරද වටකරගතෙතෝ
ය. එවිට දෙවියන්වහන්සේගෙන් ස්වර්ග
යෙන් ගිනි බැස ඔවුන් විනාසකලේය.
10 ඔවුන් රැවටූ යක්ෂයාද මෘගයාද බොරු අ
නාගතවක්තෘද වසන ගිනෙතනාහුත් කෙ
න්දගම්හුත්වූ විලෙහි හෙළනු ලැබ සදා
කාලේටම දිවාරාත්‍රී දෙක්හි නිතර හිංසා
11 විඳිනවා ඇත. නැවත මහත් සුඬවූ සිංහා
සනයක්ද එහි වැඩහුන් තැනැන්වහන්
සේද දුටිමි. උන්වහන්සේ ඉදිරියෙන්
පොලොවත් ස්වර්ගයත් සැඟවී ගියේය.
12 ඒවාට තැනක් නොවිය. කුඩා මහත්වූ
මලාහු දෙවියන්වහන්සේ ඉදිරියෙහි සි
ටින බව දුටිමි. පොත්ද විදහනු ලැබුවේ
ය. ජීවනනම්වූ අනික් පොතක්ද විදහ
නලද්දේය. මලාහු තමන්ගේ ක්‍රියාවල්
ලෙස පොත්වල ලියනලද දෙයින් විනිශ්
13 චයකරනු ලැබුවෝය. සමුද්‍රය එහි මල
වුන් පාවා දුනෙන්ය. මරණයත් මලවුන්
ගේ වාසස්ථානයත් තමන් තුලෙහි ඇති
මලවුන් පාවාදුනෙන්ය. ඔවුන් සියල්ලෝ
ම තමන්ගේ ක්‍රියාවල් ලෙස විනිශ්චය
14 කරනු ලැබුවෝය. මරණයත් මලවුන්
ගේ වාසස්ථානයත් ගිනිවිලට හෙළනල
ද්දේය. මේ දෙවෙනි මරනයනම් වෙයි.
15 යමෙකුගේ නම ජීවන පොතේ ලියා
නොතිබුනේද ඔහු ගිනි විලෙහි හෙළ
නු ලැබුවේය.

21. පරිච්ඡේ. අළුත් ස්වර්ගයක්ද අ
ළුත් පොලොවක්ද දුටිමි. පලමු ස්වර්ග
2 යද පලමු පොලොවද දුරුව ගියේය. ස
මුද්‍රයද තවත් නොවිය. තවද මනමාලි
තමාගේ ස්වාමි පුරුෂයාට අලංකාර ක
රනලද්දක්මෙන් පිළියෙලකරනු ලැබූ
පවිත්‍ර නුවරනම් අළුත් යෙරුසලම දෙවි
යන්වහන්සේ වෙතින් ස්වර්ගයෙන් බ
3 සින බව යොහනනම් මම දුටිමි. දෙවිය
න්වහන්සේගේ මඬපය මනුෂ්‍යයන් අත
රේ තිබෙන්නේය. උන්වහන්සේ ඔවුන්
සමග සිටිනසේක ඔවුන්ද උන්වහන්සේ
ගේ සෙනග වෙති. දෙවියන්වහන්සේ
ඔවුන් සමග සිට ඔවුන්ගේ දෙවියන්ව
4 හන්සේව සිටිනසේක. දෙවියන්වහන්
සේ ඔවුන්ගේ ඇස්වලින් සියළු කඳුළු පි
සදමනසේක. පලමු දේ පහව ගියනිසා
මරණයත් දුකත් ඇඬීමත් වෙහෙසත් ම
තු නොවනෙන්යයි ස්වර්ගයෙන් කියන
5 මහත් හඬක් ඇසිමි. සිංහාසනය පිට වැ
ඩහුන් තැනැන්වහන්සේ සියළු දේ අළුත්
කරමියි කීසේක. තවද මේ වචන සැබෑ
ද විශ්වාසද වන බැවින් නුබ ලියාපතනැ
6 යි උන්වහන්සේ මට කීසේක. උන්වහන්
සේ කියනසේක් නිමවූනේය. අල්පා හා
ඔමෙගාද පටන්ගැම්ම හා අන්තිමයාද
මමය. පිපාස ඇත්තාට ජීවන දෙන උල්
7 පතින් වතුර නොමිලයේ දෙමි. ජයග
න්නා සියළු දේවල උරුමක්කාරයා වන්
නේය. මම ඔහුගේ දෙවි වෙමි ඔහුද මා
8 ගේ පුත්‍ර වන්නේය. එහෙත් භය ඇත්
තෝද ඇදහිලි නැතෙත්තෝද අපවිත්‍රයෝ
ද මිනී මරන්නෝද වේශ්‍යාකම්කරන්
නෝද මායම්කාරයෝද දේවතාවන් අ
දහනෙතාද සියළු බොරුකාරයෝද ගි
නෙතනුත් කෙන්දගම්හුත් දැවෙන විලේ
තමන් පංගුව ලබති. දෙවෙනි මරණය
9 නම් මේය. අන්තිම පීඩා සතින් පිරුනු
කරඬු සත ඇති දූතයෝ සත්දෙනා
ගෙන් එකෙක් මා ලඟට ඇවිත් මෙහෙ
වරෙනන බැටළු පැටියාගේ භාර්‍ය්‍යාවූ ම
නමාලී නුබට පෙන්වමියි කියා මා එක්
10 ක කථාකෙලේය. ඔහු මහත් උස් පර්වත
යකට ආත්මයෙන් මා ගෙනගොස් දෙ
වියන්වහන්සේ වෙතින් ස්වර්ගයෙන් බ
සිනනාවූ දෙවියන්වහන්සේගේ තේජස
ඇත්තාවූ සුඬවූ යෙරුසලම්නම් මහත්නු
11 වර මට පෙන්නුවේය. ඈගේ එළිය ඉ
තා අනර්ඝවූ මැණික් ඒනම් පලිඟු මෙන්
ප්‍රසනනවූ සූර්‍ය්‍යකාන්ති මැණික් සමාන වි
12 ය. මහත්වූ උස්වූ බිත්තියක්ද දොරවල්
දොලසක්ද තිබුනේය. දොරවල් ලඟ දූ
තයෝ දොලොස් දෙනෙක් සිටියෝය.
ඊශ්‍රායෙල් දරුවන්ගේ දොලොස් ගෝ
ත්‍රයන්ගේ නාමවල් ඒවා පිට ලියනලද්
13 දේය. පූර්ව දිශාවේ දොර තුනක්ද උතුරු
දිශාවේ දොර තුනක්ද දකුනු දිශාවේ
දොර තුනක්ද බස්නාහිර දිශාවේ දොර
14 තුනක්ද විය. නුවර බිත්තියට පදනම්
දොලසක් විය. ඒවා තුලෙහි බැටළු පැටි

යාගේ ප්‍රේරිතයන් දොළොස් දෙනාගේ
15 නම් ලියනලද්දේය. මා සමග කථාකල
තැනැත්තාට නුවරද එහි දොරවල්ද බිත්
තියද මනින පිනිස රත්‍රන් දඬක් තිබු
16 ණේය. නුවර සතරැස්විය දිගත් පලලත්
එක සමානය. ඔහු නුවර ඒ දඬෙන් මැන්
නකල හැතැක්ම එක්දහස් පන්සියයක්
විය. දිගත් පලලත් උසත් එක සමානය.
17 බිත්තිය මැන්නකල ඒක මිනිසකුගේ
එනම් දූතයෙකුගේ මිම්මෙන් එක්සිය
18 සතලිස් සතර රියනක් විය. ඒක ගොඩ
නගනලද්දේ සූය්‍යකාන්ති මැණිකෙලින්
ය. නුවරද පවිත්‍ර වීදුරු මෙන් පවිත්‍ර ර
19 නින් විය. නුවර බිත්තියේ අත්තිවාරම්
සර්වාකාර මැණික්වලින් අලංකාරකරණ
ලද්දේය. පලමුවෙනි අත්තිවාරම සූය්‍ය
කාන්ති මානික්‍යයෙනද දෙවෙනි අත්ති
වාරම නීලකාන්ති මානික්‍යයෙනද තුන්
වෙනි අත්තිවාරම වජ්‍ර මානික්‍යයෙන්ද
20 සතරවෙනි අත්තිවාරම ගරුඬපාෂාන
යෙනද පස්වෙනි අත්තිවාරම වෛඩූය්‍ය
යෙනද සවෙනි අත්තිවාරම චන්ද්‍රකාන්ති
යෙනද සත්වෙනි අත්තිවාරම ලෝහිතං
කයෙනද අටවෙනි අත්තිවාරම ගෝමේ
දයෙනද නමවෙනි අත්තිවාරම පද්මරා
ගයෙනද දසවෙනි අත්තිවාරම ලසුනිය
මානික්‍යයෙනද එකොළොස්වෙනි අත්ති
වාරම මරකතයෙන්ද දොළොස්වෙනි
අත්තිවාරම සෙව්වන්දි පාෂානයෙනද වි
21 ය. දොරවල් දොළස මුතු දොළසක්විය.
එක එක දොර එක එක මුතුඇටයකින්
විය. නුවර වීදිය ප්‍රසන්න වීදුරු මෙන් ප
22 විත්‍ර රනින් විය. සර්වපරාක්‍රමවූ ස්වාමිවූ දෙ
වියන්වහන්සේද බැටළු පැටියාද එහි මන්
දිරයවන නිසා කිසි මන්දිරයක් එහි නු
23 දුටිමි. තවද දෙවියන්වහන්සේගේ තේ
ජස එය කෙරෙහි එළියකල නිසාද බැ
ටළු පැටියා එහි එළියවන නිසාද නුවර
තුලේ එළියකිරීමට සූය්‍යගෙනවත් චන්ද්‍ර
24 යාගෙන්වත් ප්‍රයෝජන නැත. ගලවනු
ලබන වර්ගයෝ එහි එළියෙහි ඇවිදි
ති. පොළොවේ රජදරුවෝ තමන්ගේ
ගෞරවයත් නම්බුවත් එහි තුලට ගෙන
25 යති. එහි දොරවල් දවහල් කොහෙත්ම
නොපියා තිබෙනෙත්ය. රැව්මක්ද එහි
26 නැත. ඔවුන් වර්ගයන්ගේ ගෞරවයත්
27 නම්බුවත් ඒ තුලට ගෙනයති. බැටළු පැ
ටියාගේ ජීවන පොතේ ලියනලද්දවුන්
මිස කිළුටුකරණ කිසි දෙයක්වත් පිළි
කුල් කරණ කිසි දෙයකුත් බොරුවක්
වත් එහි තුලට කොයිප්‍රකාරයකින්වත්
ඇතුල් නොවෙයි.

22. පරිච්ඡේ. තවද දෙවියන්වහන්
සේගේද බැටළු පැටියාගේද සිංහාසන
යෙන් නික්ම එන නිර්මලවූ පළිඟු මෙන්
ප්‍රසන්නවූ ජීවනය දෙන වතුර ඇති ගං
2 ගාවක් ඔහු මට දැක්විය. එහි වීදිය මැද
ද ගඟ එතර මෙතරද දොළොස් වර්ග
යක ඵල දරණ මස්පතා ඵල දෙන ජීව
නදායක ගහ විය. එහි කොල වර්ගයන්
3 සුවකිරීමට විය. එහි සාපයක් මතු නො
වන්නේය. එහි දෙවියන්වහන්සේගේද
බැටළුපැටියාගේද සිංහාසනය තිබෙන්
නේය. උන්වහන්සේගේ මෙහෙකරු
වෝ උන්වහන්සේට සේවය කෙරෙති.
4 ඔවුන් උන්වහන්සේගේ මුහුන දකිති උ
න්වහන්සේගේ නමද ඔවුන්ගේ නලල්ව
5 ල තිබෙනෙත්ය. ස්වාමිවූ දෙවියන්වහන්
සේ ඔවුන්ට එළිය දෙන නිසා එහි රෑ
නොවෙයි. පහනක්වත් සූය්‍යාලෝකය
වත් ඔවුන්ට කම් නැත. ඔවුන් සදාකල්
6 ම රජකම් කරති. උන්වහන්සේ මට ක
ථාකොට මේ වචන විශ්වාසද සැබෑද වේ
යයි කීසේක. වික කලකින් කල යුතු දේ
පවිත්‍රවූ අනාගතවක්තෘන්ගේ ස්වාමිවූ
දෙවියන්වහන්සේ තමන්ගේ මෙහෙක
රුවන්ට දක්වන්ට තමන් දූතයා එවූසේ
7 ක. කඩිනමින් මම එමි. මේ පොතේ අ
නාගත වචනයේ බස් රක්ෂාකරන්නා වා
සනාවන්තයෙකැයි උන්වහන්සේ මට කී
8 සේක. තවද යොහන්නම්වූ මම මේ දේ
දුටිමි ඇසිමි. මම අසා දැක නමස්කාර ක
රන්ට මේ දේ මට දැක්වූ දූතයාගේ පා
9 මුල වැටුනෙමි. එවිට මම නුඹේද නුඹේ
සහෝදරවූ අනාගතවක්තෘන්ගේද මේ
පොතේ වචන රක්ෂාකරන්නන්ගේද ස
හසේවක වන නිසා මට නමස්කාර නො
කරන්ට බලාගනින්න දෙවියන්වහන්
සේට නමස්කාර කරපන්නැයි මට කීයේ
10 ය. ඔහු කථාකොට කාලය ළංවූ බැවින්
මේ පොතේ අනාගත වචනයේ බස් මු
11 ද්‍ර නොකරන්නැයි මට කීයේය. අධර්මි
ෂ්ඨයා මතුත් අධර්මිෂ්ඨවේවා. අපවිත්‍ර තැ
නැත්තා මතුත් අපවිත්‍රවේවා. ධර්මිෂ්ඨ
යා මතුත් ධර්මිෂ්ඨ වේවා. පවිත්‍ර තැනැ

12 තනා මතුත් පවිත්‍ර වේවා. කඩිනම්න්ම එ
ම් සියළු දෙනාට තමන්ගේ ක්‍රියාවල් ලෙ
13 ස දීමට විපාක මා සමග ඇත. මම අල්
ඵා හා ඕමෙගාද පටන්ගැම්ම හා කෙල
වරද පලමුවෙනියාද අන්තිමයාද වෙමි.
14 ජීවන දෙන ගසේ කොටසක් ලබන්
ටත් දොරවලින් නුවරට ඇතුල්වෙන්
ටත් අවසර ලබන පිනිස උන්වහන්සේ
ගේ ආඥාවල් කරන්නෝ වාසනාවන්ත
15 යෝය. බල්ලෝද මායම්කාරයෝද වෙ
ශ්‍යාකම් කරන්නෝද මිනී මරන්නෝද
දේවතාවන් අදහන්නෝද බොරු කි
යන ඊට ප්‍රේමවෙන සියල්ලෝද පිට
16 ත සිටිති. යේසුස් නම්වූ මම සභාව
ලදී මේ දේ නුබලාට සාක්ෂිදෙන්ට මා
ගේ දූතයා එවීමි. දාවිත්ගේ මූල සහ ව
ශයද දීප්තිමත්වූ පහන්තාරකාවද මම
17 වෙමි. තවද ආත්මයද මනමාලීද වරෙ
න්නෑයි කියති. අසන්නා වරෙන්නෑයි කි
යාවා. පිපාස ඇත්තෝ ඒවා කැමතිවූ සා
වරෙක් නුමූත් ජීවන දෙන වතුර නො
18 මිලයේ ගනීවා. යම් මනුෂ්‍යයෙක් මීට
කිසිවක් එකතුකෙලේවීනම් දෙවියන්ව
හන්සේ මේ පොතේ ලියනලද පීඩාවල්
19 ඔහුට එකතුකරණසේක. යම් මනුෂ්‍ය
යෙක් මේ පොතේ අනාගත වචනයේ
බසවලින් අඩුකෙරේනම් දෙවියන්වහන්
සේ ජීවන පොතෙන්ද පවිත්‍ර නුවරින්ද
මේ පොතේ ලියනලද දෙසින්ද ඔහුගේ
කොටස අහක්කරණසේකැයි මේ පො
තේ අනාගත වචනයේ බස් අසන සිය
20 ල්ලන්ට සාක්ෂි දෙමි. මේ කාරණ ගැන
සාක්ෂි දෙන තැනැන්වහන්සේ ඒකාන්
තයෙන් හනික එමියි කිසේක. ආමෙන්.
ඒ එසේමය. ස්වාමිවූ යේසුස්වහන්ස වැ
21 ඩියමැනව. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ කරුණාව නුබලා සිය
ල්ලන් සමග වේවා. ආමෙන්.

නිමි.

